මක්සිම් ගෝර්කිගේ "අම්මා" නව කතාව තරම් පොදු ජනජීවිතය කෙරෙහි බල පෑ තවත් සාහිත්‍ය කෘතියක් ජගත් සාහිත්‍යයේ නැති තරම්ය. එය දසලක්ෂ සංඛ්‍යාත ජනකායකගේ ඉරණම කෙරෙහි නියම ලෙස බල පෑවේය. 1905 පළමුවැනි රුසියානු විප්ලවය ඇතිවූ කාලයේදී ලියනලද මේ නවකතාව ලෝක වාසීන් අතර ජනප්‍රිය විය. විදේශීය භාෂාවන් 127 කත් හා සෝවියට් සමාජවාදී සමූහාණ්ඩු සංගමයට අයත්



ජාතීන්ගේ භාෂාවලින්ද "අම්මා" පළවී ඇත. එහි පිටපත් සංඛ්‍යාව කෝටියකට අධිකය.

"කම්කරු ජනතාවට අතිශයින්ම අවශ්‍ය පොතකි. මුලදී කම්කරුවන් විප්ලවයට සහභාගි වූයේ හැඟීමකින් හා ඉවකිනි. දැන් ඔවුන් 'අම්මා' නව කතාව කියවා ඉමහත් ප්‍රයෝජන ලබා ගනු ඇත... 'අම්මා' වූකලී කාලෝචිත කෘතියෙකි" වී. අයි. ලෙනින්.

කතාව ලිවීම සඳහා ගෝර්කි ආදර්ශ රූප වශයෙන් ගත්තේ ආන්නා කිරිලොව්නා සලෝමොවා සහ ප්‍යෝතර් සලෝමොවය. මේ දෙදෙනාගේ ඡායාරූප හා ගෝර්කිගේ ඡායාරූපද, ලියවිලිද මෙයට ඇතුළත්ය.

# මක්සිම් ගෝර්කි
# අම්මා

පටුන

# නව මුද්‍රණයට පෙර වදන

අසහාය සෝවියට් ගත්කරු මක්සිම් ගෝර්කිගේ, අම්මා, නමැති විප්ලවවාදී නවකථාව මුල් රුසියන් බසින් සිංහලට පරිවර්තනය කරන ලද්දේ අභාවප්‍රාප්ත (වෛද්‍ය) දදිගම වී. රුද්‍රිගු මහතා විසිනි

ඔහු 1986 වසරේ මොස්කව් නුවරදී අභාවප්‍රාප්ත විය. ඒ වන විට ඔහු සම්භාව්‍ය රුසියන් සාහිත්‍ය, මාක්ස්වාදී දර්ශනය, සමාජ විද්‍යා සහ ළමා සාහිත්‍ය යන විවිධ විෂයයන් යටතේ ලියැවී ඇති පොත් සිය ගණනක් රුසියන් බසින් සිංහලට පරිවර්තනය කර තිබුණි. එසේ එම පරිවර්තන කිරීමට තමා පොළඹවනු ලැබුවේ සිංහල හා රුසියන් දෙබසටත් දෙරටේ සංස්කෘතීන්ටත් තමා තුළ වූ සහජ ලැදියාව විසින් බව තම හදිසි අභාවයට මාස කිහිපයකට කලින්, පැවැති එක්තරා සාදයකදී ඔහු පැවසීය. ඔහු තමා කී දේ එලෙසින්ම අනුගමනය කළ, විරළ ගණයේ මානව හිතවාදියෙකු බව වෛද්‍ය රුද්‍රිගු මහතා පිළිබඳව කෘතඥ පූර්වකව සටහන් කර තැබීම අපේ යුතුකමකි. අප ආයතනයේ අවශ්‍යතාව පරිදි යටකී පරිවර්තන සියල්ල ඔහු විසින් කර දෙන ලද්දේ ඉතා සුළු මුදලක් අයකරමිනි. මෙම පොතට අන්තර්ගත වන්නේද වෛද්‍ය රුද්‍රිගු මහතාගේ මුල් පරිවර්තනයයි.

මෙය නැවත පළකරවීමට කටයුතු කරන මෙන් අපට නිරතුරුවම බලපෑම් කළ, ශ්‍රී ලංකාවේ කොමියුනිස්ට් පක්ෂයේ ප්‍රධාන ලේකම් රාජා කොල්ලුරේ, ශ්‍රී ලංකා රූපවාහිණී සංස්ථාවේ සභාපති, ඩීව්. ගුණසේකර, ලංකා වෘත්තීය සමිති සම්මේලනයේ ප්‍රධාන ලේකම් ඩී. ඩබ්ලිව්. සුභසිංහ සහ නිවාස හා නාගරික සංවර්ධන අමාත්‍යාංශයේ සම්බන්ධීකරණ ලේකම් අ.ග. ජයසේන යන මහත්වරුන්ට අපගේ ස්තූතිය හිමිවේ.

මේ හා සම්බන්ධයෙන් අප උනන්දු කළ බොහෝ වූ පාඨකයින්ටත්, විශේෂයෙන්ම ප්‍රකට ගත් කතුවරයෙකු මෙන්ම, ගෝර්කි, චෙකොව්, හා බර්ටෝල්ට් බ්‍රෙෂ්ට්, වැනි රුසියන් හා ජර්මන් සාහිත්‍ය කරුවන් ගේ කෘති පදනම් කරගෙන දේශීය නාට්‍ය ක්ෂෙත්‍රය පොහොසත් කළ සම්මානලාභී නාට්‍ය වේදියෙකු වන, දනට ටවර්හෝල් පදනමේ සභාපති රංජිත් ධර්මකීර්ති මහතාටත් කෘතඥතාවය පළකරමු.

මෙම පොත නැවත පළකරවා ගැනීම අරභයා අපගේ අගනා උපදෙස් හා නොමසුරු සහයෝගය දුන් මද්‍රාසියේ පීමාසහිත නිව් සෙන්චරි බුක් හවුස් ආයතනයට ද අපගේ ස්තූතිය හිමි වේ.

පීමාසහිත පීපල්ස් පබ්ලිෂිං හවුස්
124 කුමාරන් රත්නම් පාර,
කොළඹ 2.

# පෙරවදන

සමාජ සත්තා යථාර්ථවාදී සාහිත්‍යයේ ආදි කර්තෘවරයා වශයෙන් සැලකෙන රුසියානු මහා ගත්කරු — මක්සිම් ගෝර්කි (ඇලෙක්සේයි මක්සීමොවිච් පෙෂ්කොව්ගේ සාහිත්‍ය ආරූඪ නාමය) 1868 දී නිෂ්නි නොව්ගොරොද් හි (දැන් ගෝර්කි නගරය) උපන්නේය. ඔහුගේ පියා දිළිඳු වඩුවෙකි. පුංචි ඇලෙක්සේයි සතරවැනි අවුරුද්දට පා තබත්ම පියා කොළරා රෝගයට ගොදුරුව මිය ගියේය. මව මිය යන විට ඔහුගේ වයස අවුරුදු දහයකි. පුංචි ඇලෙක්සේයි සීයා ළඟ ඇතිදැඩි විය. ඔහුගේ සීයා, එනම් මවගේ පියා කුඩා තීන්ත සාප්පුවක අයිතිකරුවෙකි. කෂිරින් නමින් හැඳින්වුණු හෙතෙම මසුරෙකි, නිතර කිපෙන්නෙකි, කුරිරු ගති ඇත්තෙකි, ගොර හැඩියෙකි. මුනුබුරා කෙරෙහි දැඩි ගතියක් පෑ ඔහු සමහර විට ඔහුට තදබල ලෙස දඬුවම් කළේය. ආච්චි අම්මා මුදු, සෙනෙහෙබර, කෙනෙකි. කතා ගෙතීමෙහි සමත් ඇ සුරඟනා කතා අනර්ඝ ලෙස කීවාය. කෂිරින් ගෙදර අනාථ කොලුවාගේ ජීවිතය අලංකාර කළේ ඒ කතාය. පුංචි ඇලෙක්සේයි පෙෂ්කොව්ට තුන්වැනි පංතිය දක්වා පමණකි ඉගෙන ගැනීමට ලැබුණේ. සීයාගේ වෙළඳාම පරිහානියට මුණ පෑවේය. ඉගෙනීම නවත්වා ''ජනතාව වෙත'' යාමට ඔහුට සිදු විය.

ඉක්බිති අවුරුදු කීපයක්ම නොයෙක් රුකියාවල යෙදීමට අනාගත ගත්කරුවාට සිදු විය. කඩයක ''ආවතේව කාරයෙකු වශයෙන්ද'' නැයෙකුගේ ගෙදර ''බෝයි'' කොලුවෙකු වශයෙන්ද, නැවක පිඟන් කෝප්ප සෝදන්නෙකු හැටියට සහ දේවරූප සුරුවම් පාටකරන තැනක අත් උදව්කාරයෙකු හැටියටද, බේකරියක පාන් පුළුස්සන්නෙකු හැටියටද සේවය කරමින් ජීවිතයේ තිත්ත අරුත් දැන ගත්තේය. .හත් හොඳ මිනිසුන්, අවංක පිරිසුදු හදවත් ඇතියවුන් මුණ ගැසීම නිසා ඔහු තුළ

ආත්මවිශ්වාසය ඇති විය. නව දිවියක් සඳහා සටන් කළ යුතුය, එය අත්‍යාවශ්‍යය යන අධිෂ්ඨානය ඔහු තුළ පැන නැගිණ. 1884 දී පෙෂ්කොව් කසාන් නගරයේ විප්ලවවාදී සංවිධානයකට බැඳෙයි. 1889 දී ඔහු විප්ලවවාදී වැඩ නිසා හිරබාරයට ගන්නා ලදී. 1891 දී හෙතෙම රුසියාව පුරා ඇවිදීමට පටන් ගත්තේය. ඒ කාලයේදී තම සිත තුළ ඇඳී ගිය චිත්‍ර, ගත්කරුගේ පළමුවැනි කතාවලට වස්තු බීජ විය. අනුරාගික හැඟීම් යථාර්ථවාදය, සමාජමය ගති පැවතුම් ආදිය අළලා ලියන ලද කතා වැලකි. ''ඉසෙර්ගිල් මැහැල්ල'', ''රාජාලි ගීතය'', ''වැහි ලිහිණියා,'' ''එමිල්යාන් පිල්යායි,'' ''කනවාලව්'', ''චිල්කාෂ්'' ආදි කතා මින් ප්‍රකටය. 1892 දී ''මකාර් චූද්රා'' ලියූ හෙතෙම, එද රුසියාව නොදක් මක්සිම් ගෝර්කි නමින් එය පළ කළේය. එද සිට කෙමෙන් රුසියාව පුරා පැතිර ගිය ගෝර්කි නාමය පසුව ලොව පතළවිය. කෙටි කතා, නව කතා, නාට්‍ය ආදී කෘතීන් එක පිට එක පළ විය. මේ හැම කෘතියක් තුළින්ම ගතකරුවා අළුත් අදහස්වලින් පිරි ලොවක් පාඨකයා ඉදිරියේ මැවිය. මිනිස් සංහතිය විකෘති කරන සමාජමය තත්වයන්ට එදිරිව නැගී සිට කතා කරන වීරයෝ එහි වූහ.

මක්සිම් ගෝර්කිගේ පළමුවැනි සම්භාවනීය නවකතාව ''පොමා ගර්දේයෙව්'' 1889 දී පළවිය. රුසියාවේ වෙළඳ පැළැන්තියේ සම්භවය හා එහි විකාශනය විදිහා පෙන්වන මේ නවකතාව එම සමාජ තට්ටුව විවේචනය කරයි. පංති නියෝජිතයින් පැහැදිලිව නොපෙණුනද, කම්කරු පංතිය සාහිත්‍යයට ඇතුළු කළේය. පසු කලෙක එනම 1924 දී ''අර්තමොනොව්ලා'' නවකතාව තුළින් ගෝර්කි ප්‍රාග් විප්ලවීය රුසියාවේ වෙළඳ පැළැන්තිය ගැඹුරු ලෙස විශ්ලේශණයට භාජන කරයි. එ තුළින් ඔහු තම පළමුවැනි නව කතාවේ මාතෘකාව තව දුරටත් වර්ධනය කරයි.

''පොමා ගර්දේයෙව්'' කතාවට පසු, විසිවැනි සියවස මුලදී නාටක කතා කීපයක්ම ගෝර්කි විසින් ලියන ලදී. ''සුළු ධනපතියෝ'', ''පතුළ'', ''හිරුගේ ළමයි'', ''ගිම්හානයේ මිනිස්සු'', ම්ලේච්ජයෝ'', ''හතුරෝ'' යනාදි නාටක විප්ලවයට පෙර රුසියාවේ සමාජ තට්ටු හා පංතීන් ගැන අවබෝධයක් ලබා දෙයි.

ගත්කරුගේ ක්‍රියාශීලි සාහිත්‍ය හා සමාජ ජීවිතයට බාධා කිරීමට සාර් ආණ්ඩුව ඉදිරිපත් වන්නේ මෙතැනදීය. 1898 සිට ගෝර්කි කීප වාරයක්ම සිර අඩස්සියට පත්වේ. එහෙත් ගෝර්කිගේ දේශපාලන හා නිර්මාණාත්මක ජීවිතයට බාධා කිරීමට බැරි විය. 1905 පළමුවැනි



රුසියානු විප්ලව සමයේදී ගෝර්කි වී. අයි. ලෙනින් මුණ ගැසුණේය. එද සිට මේ දෙදෙනා අතර ඇති වූයෙ සුහද මිත්‍රත්වයකි. ''ගෝර්කි මහා කුසලතාවයක් ඇති සාහිත්‍යකාරයෙකි'', ''නිර්ධන පංති කලාවේ අතිශය සම්භාවනීය නියෝජිතයා වශයෙන් කොන්දේසි රහිතව පිළිගත හැකි'' යැයි වී. අයි. ලෙනින් ලිවේය.

1905 විප්ලවය විනාශ වීමෙන් පසු ගෝර්කි විදේශ ගතවිය. මවබිමෙන් ඈත ජීවත් වූවද පක්ෂයේ කටයුතුවල නිරත වෙමින්ම සාහිත්‍ය කෘතීන් නිර්මාණය කළේය. ''සුන්දර ප්‍රංශය'', ''කහ යකාගේ නගරය'', වැනි දේශපාලන සමාජමය කතා ප්‍රබල ධනපති රජයන් වන ප්‍රංශයේ හා අමෙරිකාවේ නියම තතු හෙළි කර පෙන්වා දෙයි. අළුත් සමාජවාදී කලාවකට මුල පිරූ සුප්‍රසිද්ධ ''අම්මා'' ලියා නිම කළේ 1906 දී අමෙරිකාවේදීය. විප්ලවවාදී නිර්ධන පංති ව්‍යාපාරයට ආධාර කරන මාහැඟි සාහිත්‍ය කෘතියක් වශයෙන් ගෝර්කිගේ සමකාලීනයෝ ''අම්මා'' වැනූහ. ''ළමා කාලය'', ''ජනතාව වෙත'' සහ ''මගේ සරසවි'' නමින් සිය ජීවන චරිතය ලියා පළ කළේද මේ කාළයේදීය. ළමා කාලයේදී සහ තරුණ වියේදී තමා මුණ පෑ දුක් කම්කටොලු සහිත අමිහිරි ජීවිතය මේ කතා තුළින් ගෝර්කි විස්තර කළේය. ''ඉතාලි කතාන්තර'', ''අකුරව් නගරය'', ''මත්වෙයි කොෂෙථයාකින්'', ''වාස්සා ජෙලෙෂ්නෝවා'' ආදි කතා ඊට පසු ලියන ලදී.

එද තිබූ රුසියානු සමාජ ජීවිතය විග්‍රහ කළ ගෝර්කි රුසියානු ජනතාවගේ අනාගතය ගැන විශ්වාසය තබමින් මෙසේ පැවසීය: ''මිහිතලයේ ඉතාම දීප්තිමත් ප්‍රජාතන්ත්‍රවාදය රුසියාවේ ගොඩ නැගෙනු ඇත''. ගත්කරුගේ සිහිනය 1917 ඔක්තෝබරයේදී සැබෑවිය. අළුත් රජය බිහිවූ ද සිටම ගෝර්කි සාහිත්‍ය පෙරමුණේ ප්‍රධාන තැනක් ගත්තේය. මේ කාලයේදී උගුරෙන් ලේ ගැලීම නිසා බරපතල ලෙස රෝගාතුරව් සිටි ගෝර්කි, තම සැප පහසුව නොතකා තරුණ ලේඛකයින් සංවිධානය කරමින් ඔවුන්ගේ නිර්මාණාත්මක ශක්තිය එක්රැස් කළේය. රුසියානු හා විශ්ව සාහිත්‍යයේ උසස් කෘතීන් මුද්‍රණය කර ජනතාව අතර බෙදදීමද, අළුත් නැටුම් කවයන් සංවිධානය කිරීමද, සාහිත්‍ය සංගම් සහ අළුත් සඟරා පටන් ගැනීමද සංවිධානය කළේය. තමා ළඟින් ඇසුරු කළ විප්ලවවාදීන්ගේ හා ලේඛකයන්ගේ සිතුම් පැතුම් අළලා ගෝර්කි ලිපි කීපයක්ම පළ කළේ මේ දිනවලදීය. වී. අයි. ලෙනින්, ලෙව් තොල්ස්තෝයි, ඇන්ටන් චෙකොව්, සෙර්ගෙයි යෙසේනින් ආදීන් ගැන හෙතෙම අගනා ලිපි ලිවේය. විශාල නවකතාවක් වූ ''අර්තමොනොව්ලා'' සම්පූර්ණ කළේය. කාංඩ හතරකින් යුත් මහා නව කතාව ''කලීම්

සම්ගින්ගේ ජීවිතය'' ලියා නිම කිරීම සඳහා හෙතෙම අවුරුදු දහයක් ගත කළේය. ගෝර්කි විසින් ලියන ලද ''යෙගෝර් බුලිචොව්'' වැනි නාට්‍ය අද වුවද සෝවියට් සංගමයේ මහ නගරවල උසස් රඟහල්වලින් ඉවත් වී නැත. පැසිස්ට්වාදය හෙළි කරමින් ගෝර්කිගේ අතින් නිමවුණු ලිපි අන්තර්ජාතික වැදගත්කමක් දරුවේය. ''පැසිස්ට්වාදය වූකලී කුණුවී යන ධනවාදයේ පිළිකාවකි'' යි ඔහු කීවේය.

බරපතළ ලෙස රෝගාතුර වී සිටි මක්සිම් ගෝර්කි සමස්ත සෝවියට් ලේඛක සංගමයේ පළමුවැනි සම්මේලනය පැවැත්වීම සඳහා 1934 වෙහෙස මහන්සි වී කටයුතු කළේය. මේ සම්මේලනයට ලෝකයේ බොහෝ රට වලින් ප්‍රගතිශීලි ලේඛකයෝ පැමිණ සිටියාහ. මරණ මොහොත දක්වා හෙතෙම සෝවියට් ලේඛක සංගමයේ ප්‍රධාන ලේකම් ධූරය දැරුවේය.

ගෝර්කි සටන්කාමියෙකි, එඩිතර නිර්මාණකයෙකි. තමා මහත ආයාසයෙන් ලබා ගත් දැනීම ගෝර්කි ජනතාව අතට දුන්නේය. ''මගේ වීරයෝ මිනිස්සු. ඔවුහු වැඩෙහි දක්ෂ වැඩ කිරීමට කැමති අය වෙති. නිර්මාණාත්මතාවය පිණිස මිනිස් බලවේගයන් මුදවාලීම සඳහාත්, අපේ මිහිතලය අලංකාර කිරීම සඳහාත්, මිනිසාට ආඩම්බර විය හැකි ක්‍රම හා විධි සංවිධානය කිරීම සඳහාත් වෙහෙසෙන මිනිස්සු වීරයෝය'' යැයි හෙතෙම ලිවේය. මක්සිම් ගෝර්කි එම සංඛ්‍යාවෙහි ලා ගැණෙන බවට සැක නැත.

* * *

රුසියානු හා ලෝක සාහිත්‍යයේ උසස් තැනක් දරන මාහැඟි කෘතියකි මක්සිම් ගෝර්කිගේ ''අම්මා''. අද වුවද එය විප්ලවවාදී සාහිත්‍යයේ, මුදුන් මල්කඩකි. ලෝක සාහිත්‍යයේ පළමුවැනි වරට අතිශයින්ම පැහැදිලි ලෙසත් දයාන්විත ලෙසත් කම්කරු පංතියේ ජීවන තතු පැහැදිලි කළ පළමුවැනි කෘතිය ''අම්මා'' ය. කම්කරු පංති සටන්වල වැදගත්කම ඔප් නගා පෙන්වා දුන් මේ කෘතිය රුසියාවේ ශ්‍රේෂ්ඨ ඔක්තෝබර් සමාජවාදී විප්ලවයේ ජයග්‍රහණය සඳහාත්, සාර්ථක ලෙස සමාජවාදය ගොඩනැගීම සඳහාත් මහඟු සේවයක් ඉටු කළේය.

''අම්මා'' ලිවීමට ගෝර්කි සිතා ගත්තේ 1905 පළමුවැනි රුසියානු විප්ලවයට පෙරාතුව ඇති වූ සිද්ධීන්වලින් ගහණ වූ 1903 දීය. 1906 දී ලියා අවසාන කළ මේ කතාව එද සුප්‍රසිද්ධ සාහිත්‍ය සඟරාවක් වූ ''ස්නෑනියෙ'' (නුවණ) පළ විය. පොතේ පළමුවැනි කොටස පළ වූ විගස



සාර් රාජාණ්ඩුව හා එහි සේවකයෝ තැති ගත්හ. සඟරාව මහජනයා අතට පත්වීමට පෙර එහි පිටපත් රාජ සන්තක කරන ලදී. දෙවෙනි කොටස ප්‍රවෘත්ති හා සාහිත්‍ය පාලකයාගේ පැනවූ අසුව දුෂ්ට ලෙස විරූපී විය. එවකට ගෝර්කි රුසියාවේ නොසිටි බැවින් ඔහු සාර්ගේ රාජාධිකරණයෙන් ගැළවිණි.

'අම්මා'' නවකතාව සම්පූර්ණයෙන් රුසියාවේ පළ වූයේ ඔක්තෝබර් විප්ලවයෙන් පසුවය.

ගෝර්කිගේ සාහිත්‍ය කෘතිය කෙරෙහි කෝපාන්විත ලෙස බැලුවේ සාර් රාජාණ්ඩුව පමණක් නොවේ, ''අම්මා'' ප්‍රකාශ කිරීමත් සමගම ලේඛකයෙකු වශයෙන් ගෝර්කිගේ කුසලතාවය දිරාපත් වීමට පටන් ගත්හයි ධනපති විචාරකයෝ බෙරිහන් දුන්හ. එහෙත් කම්කරුවෝ සහ පොදු ජනතාව මහත් වූ ආස්වාදයකින් යුතුව ''අම්මා'' පිළිගත්හ. ''ගෝර්කි වෙත විවෘත සන්දේශයක්'' යැවූ පීටර්බුර්ගයේ බොල්ෂෙවික් — කම්කරුවෝ මෙසේ පැවසූහ: '' 'අම්මා' පොත අපි මහත් වූ ප්‍රීතියෙන් හා සොම්නසකින් යුතුව පිළිගනිමු. අප වඩාත් සතුටු වන්නේ ඒ පොතේ කර්තෘ හිටපු කම්කරුවෙකු වන ඔබ නිසාය. ජීවිතයේ අරුණලෝකය හා ප්‍රීතිය ගීතයට නැගීමට ඔබ ඉදිරිපත් වූ නිසාය...''

ශ්‍රේෂ්ඨ ඔක්තෝබර් සමාජවාදී විප්ලවයේ නායකයාණන් වූ වී. අයි. ලෙනින්, ''අම්මා'' දෘෂ්ටිමය හා දේශපාලනමය අතින් දැවැන්තමය වැදගත්කමක් ගෙනදෙන බව පැවසීය. පොත පළ කිරීම සඳහා ගෝර්කි ඉක්මන් වූ බව පැවසූ ලෙනින්, ගොර්කි මුණ ගැසුණු අවස්ථාවකදී ඔහුට මෙසේ කීය: ''ඉතාම අවශ්‍ය හොඳ පොතකි... බොහෝ කම්කරුවන් විප්ලවවාදී ව්‍යාපාරයේ නිරත වූයේ හැඟීමෙන් තොරව ඉබේට මෙනි. ඔවුන් දැන් 'අම්මා' කියවා විපුල ප්‍රයෝජන ලබා ගනු ඇත. ඉතාම කාලෝචිත, පොතකි.'' ලෙනින්ගේ පැසසුම පසු කලෙකදී මතක් කළ ගෝර්කි ''ලෙනින්, ''අම්මා'' ගැන ප්‍රශංසා මුඛයෙන් කළ එකම, එහෙත් ඉතාම වැදගත් ප්‍රකාශය එයයැ'' යි කීවේය.

මේ කෘතියට වස්තු වූයේ ඓතිහාසික තාත්වික සිද්ධියකි. 1902 දී සෝර්මවෝ නගරයේ ඇති වූ මැයි දින පෙළපාලිය සහ එහි පාක්ෂික කටයුතු ඇතුළු නඩු විභාගයකි. ගෝර්කි වරෙක ඒ ගැන මෙසේ පැවසීය: ''සෝර්මවහි පෙළපාලිවලින් පසුව එවැන්නක් ලිය යුතු බව මට හැඟී ගියේ නිජ්නි නොව්ගොරොද් වලදීය. එද සිට උවමනා කරුණු එකතු කිරීමට පටන් ගත්තෙමි.'' ගෝර්කිගේ නවකතාව ඓතිහාසික වාර්තාවකි. එසේ වුවද ඓතිහාසික සිද්ධීන් ගත්කරු අතින් චෙතස්වී සාහිත්‍යමය මුහුණුවරක් ගත්තේය. වීරයෝ ඔහුගේ පැනෙන් පණ ලබා අමුතු

වෙස්ගෙන, අළුත් පරිසරයක අළුත් වීරයින් බවට පත් වූහ. මෙහි ප්‍රතිඵලය වූයේ 1905 විප්ලවයට පෙරාතුව රුසියන් සමාජයේ කම්කරු පංති අරගලය හා ජන ජීවිතය සැකෙවින් පෙන්වා දෙන කෘතියක් බිහිවීමය.

සාර් රුසියාවේ කම්කරු ජනතාව විඳි දුක් බර වහල් ජීවිතය යථාර්ථවාදී ලෙස විස්තර කැරෙන මෙහි ධනපති කම්හල්වල කම්කරුවන්ගේ සවි ශක්තිය තලා පෙලා උරා ගන්නා සැටිත්, ඔවුන්ට හිඟනකම හා සාර්ගේ අධිකරණය හැර වෙන කිසිම අයිතියක් නොමැති බවත්, නිළධාරීන්ගේත්, පොලිස් ජගතුන්ගේත් රජයේ අයිතිය ආරක්ෂා කරන්නවුන්ගේත් අතෝරවලට මුහුණ පාන ඔවුන් මර්දනයට හා බලාත්කාරයට ගොදුරු වන සැටිත් පෙන්වා දෙයි. කතාවේ නායිකාව පෙලගේයා නීලව්නාය. ඈ වාම් කම්කරු කතකි. ඈ වටා සිටින්නන් ඇය අමතන්නේ ''නීලව්නා'' නමිනි. ''අම්මා'' නමින් හැඳින්වෙන්නේ මේ වීරවරිය ය. පාවෙල් ව්ලා-සව් නම් වූ කමකරු ගැටවරයාගේ මව පළමුව කම්කරු මව්වරුන් අතරින් කැපී නොපෙනේ. ඔරොත්තු නොදෙන වැඩවල යෙදීම, බැණ වැදීම හා හිඟන අගුවල සුරාමතින් කෙරෙන ගුටිබැට හුවමාරු වලට, සැමියන්ගේ පහරට හා පුතුන්ගේ ඇනුම් බැනුම්වලට භාජන වන මව්වරුන්ට ඇද සමාන වේ. එහෙත් එම කම්කරු ජනපද ජීවිතයෙන් ඇගේ පුතා පාවෙල් ඉවත්වෙයි. හෙතෙම නීතිවිරෝධී සාහිත්‍ය කියැවීමට පටන් ගනී. ඔහුට අළුත් යාළුවෝ ඇති වෙති. හැඟීමකින් යුතු අධිෂ්ඨානයෙන් පිරි දිවියක් කරා ඔහු පා තබයි.

පාවෙල් ව්ලාසව් විප්ලවවාදියෙක් විය. ඔහුගේ මව ඔහු සමඟ උරෙනුර ගැටී වැඩ කරයි. ඈ පුතාගේ විප්ලවවාදී කාරිය තම 'කාරිය ලෙස සලකා ගෙන ක්‍රියා කරයි. ඉස්සර නොදියුණු ගැහැණියක වූ නීලව්නා අඩියෙන් අඩිය, පිටුවෙන් පිටුව, සිද්ධියෙන් සිද්ධිය දික්වා වර්ධනය වන සැටි ක්‍රමවත් ලෙස විදහා පෙන්වයි. නවකතාවේ නීලව්නාගේ මග කම්කරුවෙකු විප්ලවවාදී මගට පිවිසෙන සැටි කියා පායි. ඒ කාලයේ පැවති අසිරු සංකීර්ණ මග ඔස්සේ කම්කරු පංතිය තුළ විප්ලවීය හැඟීම් හටගන්නා සැටි ගෝර්කි පෙන්වා දෙන්නේ ශූර විලාසයකිනි. විප්ලවවාදී සටන්කාමී දිවියක් සඳහා ගෙනයන සටනේදී කම්කරු පංතියේ හිතවතුන් මෙයැයි පෙන්වා දී තිබේ. නතාෂා සහ සාෂාගේ චරිත තුළින් විප්ලවවාදී බුද්ධිමතුන්ගේ නියෝජිත චරියන් දෙදෙනෙකු සුපැහැදිලි ලෙස ලේඛකයා ඇඳ පෙන්වයි. රිබින් චරිතය මැවීමෙහි ලා ගත්කරු වෙහෙස මහන්සියකි දරා තිබෙනුයේ. සටන්වලට සහභාගි වීමට ඉබේ පැන නගින හැඟීමද,තීරණ ගැනීමේදී ඇති වන දෙගිඩියාවද, එද ගොවීන් තුළ පැවති සහජ ගුණයෙකි. විප්ලවවාදී නායක පාවෙල් අසල අරාජිකවාදී මතවලට



ගොදුරු වූ වෙසොව්ෂිකොවද, පංති අරගලවලදී කලාතුරකින් වුවද නිවැරදි දේශපාලන මග නොගන්නා නිතර පාහේ එවැනි තීරණයන්වලදී පමා වෙන අන්ද්‍රේ නහෝද්කාද අපි දකිමු.

ගෝර්කි තම කෘතිය තුළින්, රුසියාවේ අරගලය අසිරු, අමාරු බව කියා සිටී. එහෙත් ඒ මග ඒකායන නිවැරදි මගය. එය අනාගතයේ මාර්ගයයි. කම්කරු පංතිය අළුත් ඓතිහාසික බලවේගයක් ලෙසත් අනාගතය සඳහා කරන සටනේ පොදුජන නායකයා ලෙසත් ''අම්මා'' නවකතාව ස්ථිර කළේය.

# I

කම්හලේ නළා හඬ දුමෙන් වැසීගත් තෙල්ගඳ සහිත අවට වාතය රැව දෙමින් විනිවිද යයි. හැමදම උදෑසන කම්කරු ජනපදය තුළ ඒ නළා හඬ පැතිර යත්ම, ඇඳිරි කුඩා ගෙවල්වල සිටින මිනිස්සු බියගත් කැරපොත්තන් මෙන් පාරට දිව එති. විඩාපත් මස් පිඩුවලට නිසි විවේකයක් ඉකුත් රැය තුළදී ලබාදීමට අපොහොසත් වූ ඔවුහු මූසලයන් මෙන් හිමිදිරි පාන්දර, ගුරු පාර ඔස්සේ උස් තාප්පවලින් වටවූ කම්හල කරා ගමන් කරති. කම්හල ඔවුන් බලාපොරොත්තු වූයේ උදසීන ගතියකිනි. කම්හලේ විදුලි පහන් කිපය, අවට අඳුර නැතිකිරීම වස් මලානික ආලෝකයක් ඇති කළේය. කුණු සහිත මඩ ගොඩේ යන්නවුන්ගේ පා ගැටීම නිසා 'චර', 'චර' යන හඬක් නැගෙයි. නිදි බර වුවන්ගේ ගොරහැඩි හඬ අතරින් පතර ඇසේ. පරුෂ වචන හා දෙස් තැබීම් අවට වාතය විනිවිද යන්නේ කෝපවූ විටෙක මෙනි. කම්හල බලා යන මිනිසුන් මුණගැසීමට ඉදිරියට එන්නේ වාෂ්ප බලෙන් ක්‍රියා කරන යන්ත්‍රවල අම්හිරි හඬය. කම්කරු ජනපදය මැද සිටවූ රුස්ස ලී කඳන් මෙන් නැගී සිටි කළු පැහැති දුම් කුළුණු අහස දෙසට එල්ල වූ පහන් කණු සේය.

සවස, බැස යන හිරු විඩාපත් වූ කලෙක මෙන් ගෙවල්වල ජනේල වීදුරු මත රත් පැහැති එළියක් ඇති කළේය. මිරිකා ගත් රොඩු විසිකරන්නාක් මෙන් හවස, කම්හල සිය ගල් ගුහා වලින් මිනිසුන් එළියට දමයි. යන්ත්‍ර වල තෙල් ගඳ පතුරුවමින්, නැවත මග දිගේ යන ඔවුන්ගේ මුහුණු දුමින් කළු වී ඇත. බඩගින්න නිසා ඔවුන් දත් විලිස්සන්නාක් මෙනි. දුන් ඔවුන්ගේ කටහඬ ප්‍රාණවත් බවක් පමණක් නොව ප්‍රීතිමත් බවක්ද උසුලයි. දවසේ වැඩ නැමති වදබන්දනය ඉවරය. ගෙදර ගිය පසු රෑ කෑම සහ විවේකයකි

දවස කම්හල විසින් ගිලගන්නාලදී. යන්ත්‍ර තමන්ට උවමනා ශක්තිය මිනිසුන්ගෙන් උකහා ගත්තේය. සටහන් නොතබාම දවස ජීවිතයෙන් වෙන්වී ගියේය. සිය මිනීවළ කරා මිනිසා තවත් අඩියක් ඉදිරියට තැබුවේය. එහෙත් දවස අවසානයේ නිවාඩුවත්, දුමින් පිරී ඇති තැබෑරුමත් සිහියට නගාගන්නා මිනිසා ප්‍රීතිවෙයි.

නිවාඩු, උත්සව සහ මංගල දිනවල උදේ දහය වනතුරු ඔවුහු නිදගනිත්. සැලකියයුතු උදවිය සහ විවාහවූවෝ තමන් සතු හොඳම ඇඳුම්වලින් සැරසී මංගල දේවමෙහෙයට සහභාගි වෙති. තරුණයන් පල්ලිය දෙස බලන්නේවත් නැතැයි කියමින් බැණවැදීමටද ඔවුහු අමතක නොකරති. දේවමෙහෙයෙන් පසු ගෙදර එන ඔවුහු රොටී කා නැවත නින්දට යති. මෙසේ හවස් වන තෙක්ම ඔවුහු නිදති.

අවුරුදු ගණනක් තිස්සේ එක්රැස්වුණු මහන්සිය විසින් නැතිකර දමනු ලැබූ අහාර රුචිය නැවත ලබා ගණුවස් ඔවුහු බඩ දවන වොඩ්කා බොහෝ සේ බිවෝය.

හවස කම්මැලියන්සේ විදිගානේ ඇවිද්දහ. වැහි තිබුනා හෝ නොතිබුනා හෝ ගලෝෂ්* නැමති රබර් කවර, සපත්තු වැසෙනසේ හැඳ, දිප්තිමත් ලෙස ඉරු පැව්වද එය ගණනකට වත් නොගෙන, කුඩ අතින් ගෙන මහ මහට බටහ.

එකිනෙකා හමුව කම්හල ගැනත්, යන්ත්‍ර සූත්‍ර ගැනත්, කතා බහ කළහ. ෆෝර්මන්වරුන්ට බැණ වැදුනාහ. වැඩ සමග සම්බන්ධවී තිබෙන දේ ගැන පමණක් කතා කළහ. කොන්වූ අදහස් වරෙක ගිනි පුපුරු සේ නැඟී ආවද, ශක්තියෙන් තොරවූ බැවින් නිරසෙන් පිරි විඩාපත් දවස විසින් එය ගිලදමනලදී. ගෙදර හැරී එන මොවුහු නිතර බිරියන් සමග කලහ ඇති කරගනිත්. අනුකම්පා රහිත ලෙස ගැහැණුන්ට පහර දෙන වාර අපමණය. තැබෑරුම්වලට වී සවස් කාලය ගෙවූ තරුණ පෙළ එකිනෙකාගේ ගෙවල්වල හමුවීම් සංවිධානය කළහ. ඇකෝඩියන් වැනි සංගිත භාණ්ඩයක් වාදනය කළ මොවුහු අශීලාචාර, කැත ගී සින්දු ගයමින් නැටූහ. මත්පැන් බොමින් හා පරුෂ වචන දෙඩමින් බැණගත්හ. විඩාපත්ව සිටි මිනිස්සු ඉක්මනින් බීමත්වූහ. හැම එකෙකුගේම හදවත් තුළ නොතේරෙන පුදුම සහගත කෝපයක් බුරමින් පැන නැංගේය. මෙසේ නැඟී ආ කෝපය පිට කිරීම වස් මං සෙවිය. කිසිදු හේතුවක් නැතිවැ යකුන් මෙන් ඇණකොටා ගැනීමට ඉදිරිපත් වීමෙන්, මිනිස්සු තමන් තුළ නැඟී ආ ඒ හැඟීම්වලට යටවූහ. මේ ඇණකොටා ගැනීම නිතර පාහේ කෙළවර වූයේ තුවාල වීමෙනි. ඉඳ හිට මිනී මැරුම්ද ඇති විය.

එකිනෙකා අතර තිබූ සබඳකම් කෝපයෙන් හා කුහකකමින් පිරී පැවති අතර එයද සුවකළ නොහැකි රෝගයක් සේ නිදන්

* ගලෝෂ්: සාමාන්‍ය සපත්තු තෙතමනයෙන් ආරක්ෂා කිරීම සඳහා අඳිනු ලබන රබර් සපත්තු කවර වර්ගයකි. අනුවාදක



ගතවිය. කෝපය හා ක්‍රෝධය නැමති රෝගයන් සමගම උපන් මිනිස්සු එය පිය මුතු පරම්පරාවෙන් ලැබූ දායාදයක් කරගත්තෝය. කළු පැහැති සෙවනැල්ලක් මෙන් මිනිසා මිනීවළ කරා ගෙනගිය එම කෝපාග්නිය අරමුණක් හා තේරුමක් නැති පිළිකුල් සහගත දුෂ්ටකම් කිරීමට ඔහු පොළඹවාලිය.

උත්සව, මංගල හා නිවාඩු දිනවල තරුණයන් ගෙදර ආවේ රෑ බෝවීය. කුණු සහ දූවිලි සහිත ඔවුන්ගේ ඇඳුම් ඉරිගොස් තිබිණි. මුහුණු තැළී පොඩිවී තිබිණි. සිය සගයාට ගැසූ පහරක් නිසා එකෙක් ඊර්ෂ්‍යා සහගත ලෙස ප්‍රීතිවෙයි නින්දවට භාජන වූ තවෙ' කෙක් සිය කෝපය කඳුළුවලින් සහ මත්පැනින් සෝද හැරීමට ඉදිරිපත් වෙයි. වෙරිමත් වූ, කණගාටු, අප්‍රියජනක සහ පිළිකුල් ජවනිකාවකි, ඔවුන් මවා පෑවේ. සමහර දිනවල මෙසේ වෙරිමත් වූ තරුණයෝ දෙමව්පියන්ගේ ආධාරයෙන් ගෙවල්වලට ළඟාවූහ. තවත් සමහරුන් සොයාගැනීම සඳහා මහපාරේ වැටවල් අයිනේ හෝ තැබෑරුම්වල හෝ රස්තියාදු වීමට ඔවුන්ට සිදුවිය. බීමත්ව සිහිසන් නැතිවැ වැටී සිටින පුතුන්ට නොසැහෙනසේ පරුෂ වචන වලින් බැන වදින මව්පියවරු, වොඩ්කාවලින් ඉදිමී තිබෙන ඔවුන්ගේ ශරීරයන්ට මෙළවූ මිටින් පහර දෙති. පසුව ප්‍රවේසමින් ඔවුන්ට නිදගැනීමට පිළියෙළ කිරීමටද වගබලා ගනිති. අඳුරු උදෑසන කෝපාන්විත ලෙස කම්හලේ නලාව හඬනගන විට, වැඩට පිටත්කර හැරීම සඳහා ඔවුන් අවදි කරවීමද දෙමාපියන්ගේ කාරියකි.

පුතුන්ට තැලීම හා බැණවැදීම කළ නමුදු, තරුණයන්ගේ මත්පැන් බීම සහ ගුටිකෙළි නිරතයෙන්ම සිදුවිය යුතු ලක්ෂණයන් සේ මහල්ලෝ දුටහ. පියවරුන් තරුණයන්වැ සිටි කාලයේදී ඔවුන්ද වෙරිමත් වී ගුටි කෙළගත් අතර, ඔවුන්ට තමන්ගේ දෙමව්පියන්ගෙන් එලෙසම දඬුවම් ලැබිණි. ජීවිතයේ හැටි ඔහොම තමයි. සෙමින් ගලායන මඩ ගොහොරු මුසු දියකඳක්සේ ජීවිතය අවුරුදු එකතු කරමින් කොහේදෝ සෙමින්, සෙමින් ගලාබයි. එය දිනපතාම එකම දෙයක් කිරීමටත්, එකම දෙයක් ගැන කල්පනා කිරීමටත් එකිනෙකට දැඩිලෙස වෙළුනු පැරණි පුරුද්දක් ලෙස පැවතිණි. මේ ක්‍රියාදමය වෙනස්කිරීම සඳහා කිසිවෙක් ඉදිරිපත් නොවූහ, නොපැතූහ.

කලාතුරකින් කම්කරු ජනපදයට පිටස්තර මිනිස්සු ආවෝය. ඔවුන් ගැන සැලකිල්ලක් දක්වනු ලැබුවේ පිටතින් ආ එවුන් නිසාය. ඔවුහු තමන් රක්ෂාව කළ තැන්වල විස්තර හා තොරතුරු කීමෙන් තරමක කුතුහලයක් ඇවිස්සීමෙහි සමත් වූහ. පසුව ඒ නවතාවය සිදී බිඳී ගොස් ජනපදවාසීන්ගේ ගොඩටම ඔවුහු ඇතුළු වූහ. ඔවුන්ගේ කතා වලින් එකක් පැහැදිලි විය:

කම්කරු ජීවිතය හැමතැනම එක වගෙයි. එසේවූ කල මොනවා ගැන කතා කරන්වද?

එහෙත් ඉඳහිට ජනපදයේ එවුන් නොඇසූ විරූදේ සමහරු කීවෝය. ඔවුන් සමග වාද නොකර කියන දේ නිහඬව අසා සිටීම ජනපද වාසීන්ගේ පුරුද්දකි. ඔවුන්ගේ පුදුම කතාවලට කන් දුන්නේ අවිශ්වාසයකිනි. ඒ කතා ඇසූ සමහරුන් තුළ අන්ධ කෝපාග්නියක් ඇවිස්සිණි. අන් සමහරුන් තුළ හටගත්තේ නොපැහැදිලි අනතුරු හැඟවීමකි. තවත් සමහරුන් තුළ නොපැහැදිලි බලාපොරොත්තුවක සේයාවක් ඇතිවිය. නුවූවමනා අනතුරු හැඟවීම් එළවා දැමීම වස් ඔවුහු වැඩියෙන් මත්පැන් බීවෝය.

පිටතින් පැමිණි අර මිනිහාගේ අසමාන ගතිගුණ දකින ජනපද වාසීහු, බොහෝ කල්යන තුරු ඒවා අමතක කිරීමෙහි අපොහොසත්වන අතර, හේතු රහිතව බියපත්ව, ඔහුගෙන් බේරීමට මානබලති. තමන්ගේ අඹිහිරි, දුක්බර එහෙත් නිසොල්මන් දිවිපෙවෙත නැතිකර දමනුවස් අර මිනිහා මොනවා හෝ කරතියි ඔවුහු බියපත් වෙති. ජීවිතය හැමදම එකලෙස තමන්ට පීඩාකරන්නේයැයි සිතන මිනිස්සු, එය හොඳ අතට හැරෙතියි කිසිදිනක කල්පනා නොකරන අතර, ඇතිවන වෙනස්වීම්වල එකම විපාකය මර්දනය වැඩිවීමයැයි සිතති.

අලුත් දේ ගැන කතාකළ මිනිසුන්ගෙන් ඈත්වීමට, නිසොල්මන්ව ඈත්වීමට ජනපද වාසීහු කල්තබාම වගබලාගත්හ. එවිට අර මිනිස්සු අතුරුදහන් වී නැවත වෙනත් තැන් බලා ගියෝය. අයෙක් කම්හලේ නැවතී වැඩ කළහ. එහෙත් ඔවුහු, කම්කරු වාසී පොදු ජනකාව සමග එකට වෙළීමට අපොහොසත් වූ විට, වෙන්වූ කොන්වූ ජීවිත ගත කළෝය...

මෙවැනි ජීවිතයක් ගතකරන ජනපද වාසියා අවුරුදු පනහක් අයුවලදා මෙලොව හැර යයි.

## II

මිහයිල් ව්ලාසව්ද එලෙසම ජීවත්වූ කෙනෙකි. ඇඟපුරා මයිල් ඇත්තෙකු වූ ඔහුගේ ඇස් කුඩාය. ගොරහැඩි පෙනුමකින් හෙබි ඔහු යකඩ කම්කරුවෙකි. දිගැති කෙස්වලින් වැසිගත් ඇස් බැම් වලට යටින් සැක උපදවන බැල්මක් හෙළන ඔහුගේ ඇස් උපහාසාත්මක ලෙස ඉඟි කරයි. කම්හලේ ඉතාම හොඳ යකඩ කම්කරුවා වන හෙතෙම ජනපදයේ සවි ශක්තිය ඇති එවුන් අතුරෙන් පළමුවැනි තැන ගනී. ලොක්කන්ට ගරු සැලකිලි නොදක්වූ බැවින් ඔහු හරි හම්බ කළේ අඩු මුදලකි. හැම



උත්සව දවසකදීම වෙරිමත් වන තුරු මත් පැන් බී කිසිවෙකුට තැලුවේය. මිනිස්සු ඔහුට ඇලුම් නොකළ නමුදු බියවූහ. ඔහුට තැළීමට උත්සාහ ගත් නමුදු එය සාර්ථක නොවිය. මිනිසුන් තමාට පහර දීමට එන විට ව්ලාසව් ලොකු ගල් ගෙඩියක්, ලෑල්ලක්, හෝ යකඩ පොල්ලක් හෝ අතින් ගනී. දෙපා පළල් කොට තබා වාරුවී සතුරන් ළංවන තුරු නිශ්චලව බලාසිටී. මුණ පුරා වැඩුණු කළු රැවුලත්, මයිල් වලින් ගහන අත්දෙකත් සතුරන් වෙත ගෙනාවේ භීතියකි. ඔවුන් වැඩියෙන්ම බය වූයේ ඔහුගේ කුඩා ඇස්වලටය. වානේ කට කටු මෙන් විනිවිද යන ඇස් දකින සතුරා තමා ඉදිරියේ සිටින්නේ සමාව නොදී පහර දීමෙහි සමත් බිය කුමක්දැයි නොදත් වනචාරී බලයක් බව වටහා ගනියි.

"වල් ඌරෝ, පලයව් යන්ට!" ඔහු කීවේ ගොළු හඬකිනි. දැලි කළු රැවුළ අතරින් කහ පැහැති ලොකු දත් දිලිසෙයි. බියපත්වන මිනිස්සු විසිර ගොස් නිවටයන් සේ බැන වදිති.

"වල් ඌරෝ!" යැයි පසුබසිනවුන් දෙස බලා ඔහු කීවේය. තියුණු ලෙස දිලිසෙන ඔහුගේ ඇස් උපහාසාත්මක බැල්මක් හෙළීය. උඩඟු ලෙස අභියෝග කරන්නාක්සේ හිස කෙළින් කරගත් ඔහු විසිර යන්නවුන් පස්සේ ගමන් කරයි.

"කවුද බොලව් මැරෙන්ට කැමති?"

කිසිවෙක් කැමති නොවූහ.

ඔහු කතා කළේ වචන ස්වල්පයකි. "වල් ඌරෝ" ඔහුගේ ප්‍රියතම වචනයයි. කම්හලේ ලොකු — ලොක්කන්, හා පොලිසිය හැඳින්වීමට පාවිච්චි කළේත් ඒ වචනයමය. සිය බිරිඳට අඬගැසීමට පවා එම වචනයම භාවිතා කළේය.

"වල් ඊරි, කොට ජේන්නේ නැද්ද මගෙ කලිසම ඉරිලා!"

දහ හතර හැවිරිදි තම පුත් පාවෙල්ගේ හිස කෙස් වැටියෙන් අල්ලා ඇදීමට වරක් ව්ලාසව්ට සිත් විය. එහෙත් බරැති යකඩ මිටියක් අතින් ගත් පාවෙල්,

"අත තියන්ට එපා" යැයි කෙටියෙන් කීය.

"මොකෝ?" යැයි ඇසූ තාත්තා සිහින්ව සහ උසට වැඩුණු තම පුතා වෙත ළංවූයේ, සුදු බර්ච ගහක් වෙත එන කළු සෙවනැල්ලක් මෙනි.

"වදිව්! මීට පස්සෙ යටත් වෙන්නේ නැහැ" කියමින් පාවෙල් යකඩ මිටිය ඒ මේ අත වනන්ට විය.

මයිල්වලින් වැසිගත් දෑත් පිටිතලා කොට බැඳගත් තාත්තා උපහාසාත්මක ලෙස සිනාසෙමින් මුමුණුවේය:

"හා, හොඳා..."

අනතුරුව දුක්වූ කලෙක මෙන් සුසුම් ලමින් මෙසේ කීය:

''අනේ තෝ වල් ඌරා...''

වැඩිකල් නොගොස් බිරිඳට කතාකළ හෙතෙම, ''මින් පස්සෙ මගෙන් සල්ලි ඉල්ලන්ට එපා, පාවෙල් උඹට කන්ට දේවි'' යැයි කීය.

'' උඹ ගන්න පඩිය බීමට වියදම් කරන්වද හදන්නෙ?'' ඈ ඔහුගෙන් නොබියව ඇසුවාය.

''ඒක තොගෙ වැඩක් නෙවි, වල් ඊරි! වෙනිං ගැනියෙක් ගන්නවා...''

එහෙත් ඔහු අන් ස්ත්‍රියක් නොගත් නමුදු. සිය මරණය දක්වා, එනම් අවුරුදු දෙකක් පමණ යනතුරු පුතා දෙස බැලුවේවත් ඔහු සමග කතා කළේවත් නැත.

ඔහුට බල්ලෙක් සිටියේය. ඔහු මෙන් උඩු ලොමින් ගැවසි ගත් විශාල එකෙකි. බල්ලා හාම්පුතා සමග දිනපතා උදෑසන කම්හල් ගේට්ටුව දක්වා යයි. හවස ඔහු එන තුරු ගේට්ටුව අසල සිටී. උත්සව දවස් වලදී තැබෑරුම් ගානේ යාම විලාසිට ඇබ්බැහි වූ පුරුද්දකි. කිසිවෙකු සොයන්නාක් මෙන් මෙසේ ඇවිදින ඔහු ඇසට හමුවන මුහුණු දෙස බලන්නේ මහත් ඕනෑකමිනි. ලොමින් වැසිගත් වල්ගය වකුටු ගසාගන්නා බල්ලා මුළු දවසම ඔහු සමග ඇවිද්දේය. රෑවී, වෙරිමත්ව ගෙදර එන හෙතෙම රෑ කෑම සඳහා වාඩි වී, තමාගේ පිඟාන බල්ලාගේ කට ළඟටද කිට්ටු කරමින් ඌටද කන්ට දෙයි. ඔහු බල්ලාට පහර ගැසුවේවත්, බැන්නේවත් නැත් නමුදු කිසිදිනෙක ඌ හුරතල් කළේද නැත. කෑම ගෙන අවසානවූ විගසම බිරිඳ පිඟන් සහ භාජන අස්පස් කළේ නැතිනම් ඒවා සියල්ලම පෙළොවේ ගසන ඔහු වොඩ්කා බෝතලයක් ගෙන නැවත බොන්ට පටන් ගනී. ඉක්බිති බිත්තියට හේත්තු වන ඔහු නෙත් පියාගෙන, පළල් ලෙස කට හැර ගනිමින් ශෝකාන්විත ගීයක් ගයන්නේ ගොරෝසු හඬකිනි. රාග තාල රහිත ඒ ගීත ගයන ගායකයාගේ කටින් පිටවන අමිහිරි හඬ ඔහුගේ රැවුලේ හැපෙන්නේ කුඩාවට සැපු පාන් කැබලිත් සමගය. එවිට ගායක තෙමේ සිය අත්වල ඇඟිලි වලින් උඩු සහ යටි රැවුල හරි-බරි ගස්සා නැවත ගයයි. ඔහුගේ ගීතවල වචන තේරුම්ගත නොහැකිය. ගායනය සීත සමයේ බඩගිනි වෘකයෙකුගේ අඳෝනාවකට සමාන බවක් දූරිය. අන්තිම වොඩ්කා උගුර බී බෝතලය හිස් කරන තුරු මෙලෙස ගයන හෙතෙම, පසුව බංකුව මත දිගාවී හෝ හිස මේසය මත තබාගෙන හෝ, උදෑසන නළා හඬ ඇසෙන තුරු නිදගනී. බල්ලාද හාම්පුතා අසලට වී නිදයි.

අණ්ඩ වාත රෝගය අසාධ්‍ය වීමෙන් ඔහු මිය ගියේය. ලේ ගමන් නොකිරීම නිසා නිල් පැහැගත් සිරුරකින් හෙබි, හෙතෙම දවස් පහක්



තිස්සේ ඇඳෙහි වැතිර වේදනාව උහුලාගත නොහී ඇස් පියාගෙන දත්මිටි කෑවේය. ඉඳහිට බිරිඳ අමතා කොඳුරමින්, ''පාසනාම් දිපන්'' යැයි ඉල්ලා සිටියේය.

ලෙඩාට බෙහෙත් නියම කළ දොස්තර වහාම රෝහලට ගෙනගොස් සැත්කමක් කරනලෙස කීවේය.

''පලයව් යකාව, මම මැරෙනවා!.. වල් ඌරෝ!'' මිඛයිල් දුබල හඬින් මුමුණුවේය.

දොස්තර ගිය පසු ඇඩූ කඳුලෙන් යුත් බිරිඳ සැත්කමක් කිරීමට කැමති වන මෙන් ඉල්ලා සිටියාය. අත මිට මොළවා ඈට පෙන්වමින් තර්ජනය කළ ඔහු මෙසේ කීය:

''සනීප වුණොත් උඹට තමයි අමාරු!''

නළා හඬ වැඩ පටන්ගන්නා බව දන්වා සිටි ඒ මොහොතේදී ඔහු මිය ගියේය. මිනී පෙට්ටිය තුළ බහා තිබූ සිරුරේ කට විවෘතව තිබිණි. දෙනෙත් හකුළුවාගෙන තරහ වූ බවකි, ඔහුගේ මුහුණ පළකළේ. ඔහුගේ මෘත දේහය වළ දැමීම සඳහා ඔහුගේ බිරිඳත්, පුතාත්, බල්ලාත්, කම්හලෙන් පන්නා දමනු ලැබූ හොරදෙටුවෙකු සහ බේබද්දෙකු වන දනිල වෙසොව්ෂිකොව් සහ හිඟන්නෝ කීපදෙනෙකුත් ගියහ. බිරිඳ සෙමින් තරමක් හැඬුවාය. පාවෙල් හැඬුවේ නැත. අවමඟුල් පෙරහැර මුණගැසෙන ජනපද වාසීහු කුරුසියේ ලකුණ ඇඳගනිමින් එකිනෙකා අමතමින් මෙසේ කියාගත්හ:

''පෙලගේයා අද හොඳටම සතුටු වෙනවා ඇති, ඒ මිනිහා මැරුණ හන්ද.''

සමහරු මෙසේ විග්‍රහ කළාහ:

''මැරුණේ නෑ, මකබෑ වුණා...''

අවමඟුල් කටයුතු වලින් පසුව සියලු දෙනාම ගෙවල් කරා ගියෝය. බල්ලා පමණක් මිනීවළ අසලට වී ඉව අල්ලමින් බොහෝ වෙලා සිටියේය. ඊට දවස් කීපයකට පසු කිසිවෙකු විසින් ඌ මරාදමන ලදී...

## III

තාත්තාගේ මරණින්, සති දෙකකට පසු ඉරිදා දවසක පාවෙල් විලාසව හොඳටම වෙරිමත්වී ගෙදර ආවේය. ඒ මේ අත වැනෙමින් ගෙට ඇතුළු වූ ඔහු තාත්තා මෙන් මිට මෙලවූ අතින් මේසයට ගසා අම්මාට ඇසෙනසේ කෑ ගැසිය:

''ඊ කැම!''

අම්මා විත් පුතා වැළඳගෙන ඔහුගේ හිස ඇගේ ළය මත තබා ගත්තාය. ඇගේ උරහිස මත දැත් තබා නැගී සිටින්ට වෑයම් කළ ඔහු කෑ ගැසීය:

''අම්මේ, ඉක්මනට!..''

''නුඹ ළපටි මෝඩයෙක්!'' ඔහුගේ වෑයම වළක්වා දැමූ අම්මා ශෝකාන්විත, එහෙත් සුරතල් ලෙස කීවාය.

''මිට පස්සෙ දුම් බොනවා! මට දීපන් තාත්තාගෙ දුම්කොළ පයිප්පෙ...'' යැයි ගොත ගසමින් පාවෙල් දෙඩුවේය.

ඔහු පළමුවැනි වරට මත්පැන් බීවේ එදය. වොඩ්කා ඔහුගේ ගත දුර්වල කිරීමෙහි සමත් වූ නමුදු සිත හා කල්පනා ශක්තිය දුර්වල නොකළේය. ඔහුගේ සිත තුළ පැන නැගුනු ප්‍රශ්නයකි:

''බේබද්ද? බේබද්ද?''

අම්මාගේ සුරතල් බස නිසා ලැජ්ජාවට පත් මෙතෙම ඇගේ දුක්බර දෑස් දැකීම නිසා ශෝක විය. ඔහුට කෑ ගසා හැඬීමට සිත්වූ නමුදු එම හැඟීම යටපත් කර දැමීම සඳහා නැති වෙරිමතක් ආරූඪ කරගත්තේය.

දහඩියෙන් තෙමී තිබුණු ඔහුගේ හිසකෙස් අත ගෑ අම්මා පහත් හඬින් මෙසේ කීවාය:

''හැසිරෙන්ට ඕන හැටි නොවෙයි ඔය...''

ඔහුට ඔක්කාරයක් දැනිණි. පසුව සැහෙන්ට වමනය කළේය. සුදුමැලි වූ ඔහුගේ නළල මත තෙතැති තුවායක් තැබූ අම්මා ඔහුට නිදගැනීමට සැලැස්වූවාය. වෙරි තරමක් සිඳීගිය නමුදු තමා වැතිර සිටින ඇඳ ඒ මේ අත පැද්දෙන සැටියකි ඔහුට දැනෙන්නේ. ඇසි පිය බර බවකි. උගුර කට පුරා ඇඹිරි රසයකි. ඇස් පිහාටු අතරින් බලන ඔහුට අම්මාගේ මුහුණ පෙනෙයි. එකිනෙකට සම්බන්ධ නැති සිතුවිලි රැසක් ගලාඑයි:

''මම තවම මෝරලා නැහැ. අනිත් එවුන් බොනවා, මම වමනෙ දනව...''

තරමක් ඈත සිට කතාකරන අම්මාගේ මුදු හඬ ඇසේ:

''බේබදුකමට පුරුදු වුණොත් කොහොමද උඹ මට කන්ට-අඳින්ට දෙන්නෙ...''

දෙනෙත් තදින් වසාගත් ඔහු මෙසේ කිය:

''හැම එකාම බොනවා...''

අම්මා දුක්බර සුසුමක් හෙළුවාය. ඔහු කියන්නේ ඇත්ත. ප්‍රීතිය ලබාගැනීමට තැබෑරුම හැර අන් තැනක් මිනිසුන් නොදන්නා බව ඈ දන්නිය. කෙසේ වුවද ඈ කොඳුලාය:



''ඒ වුණාට උඹ බොන්ට එපා! උඹටත් එක්ක සැහෙන්ට තාත්තා බීවා. එයා මට හොඳටම වද දුන්නා... ඒ නින්ද උඹ අම්මාට අනුකම්පා කරපන්, ඇහුනද?''

මවගේ දුක්බර මැසිවිලි අසන පාවෙල්ට, තාත්තා ජීවත්ව සිටි කාලයේදී අම්මා ගෙදර ජීවත්වන බවක් හෝ දැනගැනීම අපහසු වූ බව මතක්විය. ඈ සිටියේ දුන් දුන් විපතක් වේය යන බියෙනි. තාත්තා සමග මුණගැසීම හැකිතරම් දුරට මගහැරවීම වස් ගෙදර නොපැමිණි ඔහු අම්මාගෙන් ඈත්විය: ක්‍රමයෙන් වෙරි හිඳී යයි. ඔහු ඇය දෙස මහත් ඕනෑකමකින් බලන්ට පටන් ගනී.

උසැති සිරුරකින් හෙබි ඈ කුදුය. වැඩපල වලට සහ ස්වාමි පුරුෂයාගේ වද හිංසාවලට ගොදුරු වූ ඇගේ සිරුර දුර්වලවෙලාය. යමක හැපෙනී යන බියකින් මෙන් හැසිරෙන ඈ ශබ්ද නොකර එක්තරා හැඩයකට ගමන් කරන්නීය. අණ්ඩාකාර හැඩයකින් යුත් ඇගේ මුහුණ පළල්ය. රැලි වැටී තරමක් ඉදිමී තිබූ ඒ මුහුණ ආලෝක කළේ කළු පැහැති ඇස් වලිනි. ජනපදයේ බොහෝ ගැහැණුන්ගේ මෙන් ඇගේ බැල්මද බිය මුසු ශෝකයක් පළකළේය. දකුණු ඇස්බැමට උඩින් තුවාලයක කැළලක් විය. මේ නිසා ඇස් බැම යම්තමින් උස්වී තිබුණ අතර දකුණු කන වම් කනට වඩා උස් බවද පෙනෙන්නට තිබිණි. ඈ නිතරම වාගේ බියෙන් යමකට යවන් දෙන සැටියක් ඇගේ මුණ කියා පෑවේ එබැවිනි. කළු හිසකෙස් අතරින් පැසුණු කෙස් ගස්ද මතුවී පෙනිණි. සියලු ලක්ෂණ එකට, ගොණුකර ගත් කල ඈ මුදුය, සංවේගාත්මක යටහත් බවක් දැරූවාය...

ඇගෙ දෙනෙතින් කඳුළු බිංදු කඩා හැලුනේ සෙමිනි.

''අඬන්ට එපා. මට වතුර ටිකක් දෙන්ට'' පුතා සෙමින් කිය.

''මං නුඹට අයිස් කෑට එක්ක වතුර වීදුරුවක් ගේන්නම්...''

එහෙත් වතුර වීදුරුව රැගෙන ඈ පැමිණි නමුදු ඔහුට නින්ද ගොස් තිබිණි. වතුර වීදුරුව අතින් ගත් ගමන් ඈ ඔහු ළඟ මිනිත්තුවක් පමණ සිටගෙන සිටියාය. ඇගේ අත් වෙව්ලන බවක් ඈට දැනිණි. වීදුරුව තුළ පාවෙමින් තිබූ අයිස් කෑට හැප්පෙන හඬ ඇසුණේය. වතුර වීදුරුව මේසය උඩ තැබූ ඈ දේව රූප ඉදිරියේ දණගසා නිසලව යාච්ඤා කළාය. බේබදු ජීවිතයේ හඬ ජනේල වීදුරු මත හැප්පෙයි. හේමන්තයේ අඳුර සහ තෙතමනය බිඳගෙන ඇකෝඩියනයක් හඬ නගයි. කවුදෝ එකෙක් බෙරිහන් දී ගයන අතර තවෙ' කෙක් තිත්ත වචන වලින් බැණ වදියි. කෝපාන්විත වූ සහ විඩාවට පත් වූ ගැහැණුන්ගේ හඬ අනාතුරක ලකුණු පැලකළේය...

ව්ලාසව්ලාගේ ගෙදර ජීවිතය පෙරට වඩා බෙහෙවින් වෙනස්, නිසලතාවයක් දරූ අතර ජනපද වාසීන්ගේ ජීවිතවලට වඩා එය වෙනස් බවක් දැරීය. ඔවුන්ගේ ගෙදර පිහිටියේ ජනපදයේ කෙළවර බෑවුමකය. ගෙදරින් තුනෙන් පංගුවක් කුස්සියට අයත් අතර එහි වෙන්කළ කුඩා කොටසක අම්මාගේ නිදන කාමරය විය. ඉතිරි තුනෙන් දෙපංගුව ජනේල දෙකකින් යුත් හරි හතරැස් කාමරයකි. එහි එක මූල්ලක පාවෙල්ගේ ඇඳ තබා ඇති අතර අනිත් මූල්ලේ හා ඉදිරිපස කොටසේ මේසයක්ද බංකු දෙකක්ද තිබිණි. පුටු කීපයක්ද කුඩා කන්නාඩියක් සහිත අල්මාරියක් සහ පෙට්ටගමක්ද, බිත්තියේ එල්ලා තිබූ ඔර්ලෝසුවක් සහ මූල්ලක තබා තිබුණු දේව රූප දෙකක්ද පමණකි, එම ගේ හරියට තිබුණේ.

ගැට-ඉළන්දරියෙකුට උවමනා සියලු දේ පාවෙල් මිලදී ගත්තේය. ඇකෝඩියනයක්, කර සහ ළය කැද දමා මසනලද කමිසයක්, ගෙලෝෂ් කුට්ටමක්, තද පාවැති ටයි පටියක් සහ සැරයටියක්මිලදී ගත් හෙතෙම, තම වයසේ උන් ගැටවරයන්ට සමාන විය. සවස් කාලයේ හමුවීම්වලට ගොස් කද්රිල් සහ පොල්කා නැටුම්* ඉගෙනගත් හෙතෙම උත්සව දවස්වලදී රෑ බෝවී, වෙරිමත්ව ගෙදර ආවේය. වොඩ්කා නිසා පිඩා විඳ ඔහු පසුවද හිස රදයෙන්ද, උගුර දැවිල්ලෙන්ද පෙළුණේය. ඔහුගේ මුහුණ සුදුමැලි මුසල බවක් දරුවේය.

දවසක් ද අම්මා ඔහුගෙන් මෙසේ ඇසුවාය:

"කොහොමද ඊයෙ උඹ සන්තෝෂ වුණාද?"

"හරිම පාළු ගතියක් දැනෙනවා! මාලු මාන්ට යාම වඩා හොඳයි. නැතිනම් තුවක්කුවක් ගන්නවා."

නිකරුණේ ගෙදර නොසිට, දඩ නොකා හොඳින් වැඩ කළ ඔහු නිසල පුද්ගලයෙක් විය. අම්මාගේ මෙන් නිල් පැහැති ඔහුගේ විශාල ඇස් සෑහීමත් බවක් පළ නොකළේය. ඔහු තුවක්කුවක් මිලදී ගත්තේවත් මාලු බෑමට ගියේවත් නැති නමුදු, අන් සියලු දෙනාම යන මඟින් ඈත්වන බවක් පෙණෙන්ට තිබිණ. සවස් කාලයේ හමුවීම් වලට කලාතුරකින් ගිය ඔහු නිවාඩු දවස්වලදී කොහේදෝ ගොස් ගෙදර ආවේ රෑ බෝවීය. එහෙත් මත්පැන් බිවූ බවක් දකින්ට නොතිබිණි. පුතා ගැන විමැසිල්ලකින් බලන අම්මාට, ඔහුගේ තළෙලලු මුහුණ තවත් තියුණු වන සැටිත්, බැල්ම වඩාත් බැරෑරුම් බවක් පළ කරන සැටිත්, දෙතොල් පුදුමලෙස එකිනෙකට තැවී තිබෙන සැටිත් පෙනෙයි. ඔහු නිසොල්මන්ව යමක් ගැන සිතමින්

* කද්රිල් සහ පොල්කා නැටුම්: ජෝඩු බැගින් එකතුවී නටන යුරෝපීය බෝල් නැටුම්ය. අනුවාදක



කෝපවන බවක් හෝ කිසියම් රෝගයක් ඔහු තුළට කාවදින සැටියක් හෝ පළවෙන්නාක් මෙනි. ඉස්සර ඔහු සොයා සගයින් ආ නමුදු, ඔහු ගෙදර නැති බැවින් ඔවුන්ගේ ගමන්ද ක්‍රමයෙන් අඩු විය. වැඩපළේ තරුණයන්ගෙන් සිය පුතා වෙන්වීම අම්මාට සතුට ගෙන දෙන කාරියකි. එහෙත් පුතා සමාධියට පැමිණ මුරණ්ඩු ලෙස වෙන අතකට පාවෙමින්, අඳුරු ජීවිතයෙන් ඈත් වෙමින් සිටින සැටි දකින අම්මා තුළ හටගන්නේ ශෝකාන්විත අනතුරුදායක හැඟීමකි.

"පවිලූෂා* — පුතේ, උඹ අසනීපයෙන්ද?" අම්මා හිඳිව ඔහුගෙන් අසන්නීය.

"නැහැ, මම සනීපෙන්!" පුතා උත්තර දෙයි.

"උඹ හොඳටම කෙට්ටු වෙලා!" මෙසේ කියන ඇ දිග සුසුමක් හෙළයි.

ගෙදරට පොත් ගෙනෙන්නට පටන් ගත් හෙතෙම මහත් වූ ඔනැකමකින් කියවා ඒවා සඟවා තබයි. සමහර විට ඔහු පොත්වලින් කිසියම් පාඨ කීපයක් පිටපත් කොට එයද සඟවයි...

අම්මා සහ පුතා අතර කතා බහ අඩු වූ අතර මුණගැසීම්ද අඩු වන්නට පටන් ගත්තේය. නිසොල්මන්ව උදේ තේ බොන ඔහු වැඩපලට යයි. දවල් බතට විත් වචන කීපයක් ඇ සමඟ කතා කරයි. පසුව රෑ බෝ වන තුරු අතුරුදහන් වෙයි. සවස් කාලයේ හොඳහැටි මුණ-කට සෝද ගන්නා ඔහු බොහෝ වේලා යන තුරු පොත් පත් කියවයි. උත්සව දවස්වලදී දුර බැහැර ගොස් මැදියම් රෑ ගෙදර එයි. ඔහු නගරයට යන බවත්, එහි රඟහල්වලට යන බවත් ඇ දන්නා නමුදු ඔහු බැලීමට නගරයේ සිට කිසිවකු ආවේ නැත. කල් යත් යත්ම පුතා අඩුවෙන් තමා සමඟ කතා කරන බව ඇට වැටහුණ අතර, ඔහු ඇට තේරුම් ගත නොහැකි අලුත් වචන පාවිච්චි කරන සැටිද ඇ දුටුවාය. ඇයට පුරුදු ගොරහැඩි තද වචන ඔහුගේ කතාවෙන් අතුරුදහන් වී ගියේය. ඇගේ සිත ඇදගැනීමෙහි සමත්වූ ලක්ෂණයන් බොහොමයක් ඔහුගේ හැසිරීමේදී දක්නට ලැබිණි: පුරාජේරුවට ඇඳ-පැලඳීම විසි කර දැමූ ඔහු ශරීරය හා ඇඳුම් පිරිසුදුව තබාගත්තේය. නිදහස් ලෙස ඉක්මනින් ගමන් කළේය. බාහිර පෙනුම වඩාත් චාම් සහ මුදු බවක් දක්විය. මේ සියල්ල දකින අම්මා තුළ ඇති වූයේ කුතුහලයකින් පිරි කැලකිල්ලෙකි. ඔහු අම්මා කෙරෙහි දක්වන සබඳකම්වලද වෙනසක් ඇති විය. සමහර දවස්වලට ඔහු කාමරය අතුපතු ගා අස්පස් කළේය. නිවාඩු දවස්වලදී ඇඳ ඇතිරිලි ආදිය අස් කරනු ලැබුවේත් ඔහු විසිනි. පොදු වශයෙන් ඇගේ ගෙදර වැඩ පළ සැහැල්ලු කළේය. ජනපදයේ කිසිවෙක් මෙවැනි දෙයක් නොකළහ...

* පවිලූෂා: පාවෙල් යන්නෙහි බිඳුනු සුරතල් නමකි. අනුවාදක

පුද්ගලයන් තිදෙනෙකු ප්‍රීතියෙන් කතා කරමින් කොහේදෝ යන සැටි පෙන්වන පින්තූරයක් ගෙනැවිත්, ඔහු දවසක් ද බිත්තියේ එල්ලුවේය.

"මළවුන්ගෙන් නැගී සිටි ජේසු තුමා එම්මාවුස්වලට යනවා!" යැයි පින්තූරය පෙන්වමින් පාවෙල් පැහැදිලි කළේය.

අම්මා ඒ පිංතූරය දැක පැහැදුණු නමුදු කල්පනා කළාය:

"ජේසු තුමාට ගරු කරනවා, ඒ වුණාට පල්ලි යන්නේ නැහැ..."

පාවෙල්ගේ යාළු වඩුවෙකු විසින් සාදනලද අලංකාර පොත් රාක්කය පොත් වලින් පිරී යන අතර කාමරය වඩාත් ප්‍රියංකර දර්ශනයක් මවා පෑවේය.

ඔහු ඇට "ඔබ" යනුවෙන් අමතයි. ඉද හිට බොහෝ කරුණාවන්ත ලෙස සුරතල් බසින් කතා කරයි:

"අම්මා කලබල වෙන්ඩ එපා, අද මම ගෙදර එන්නේ රෑ වෙලා, හොඳේ..."

ඔහුගේ කාරුණික වදන් ඇගේ සිත් ගත්තාය. බැරෑරුම් ශක්තිමත් හැඟීමකි, ඇ තුළ ඇති වූයේ.

එහෙත් ඇ තුළ හටගත් අනතුරු හැඟවීමේ සලකුණු වැඩි වෙන්ට පටන් ගත්තේය. කාලය විසින් ඒවා නිරවුල් නොකරන ලදින් නොදුටු විරූ, නොඇසූ විරූ යමක් දත් දත් සිදුවෙතියි යන හැඟීම ඇගේ සිත තියුණුලෙස කිති කැවීය. කල් යත් යත්ම අම්මා සිය පුතා කෙරෙහි කලකිරුණාය:

"හැම කෙනෙක්ම මිනිස්සු හැටියට හැසිරෙවා, එයා හරියට තාපසයෙක් වගේ. බොහොම තදයි. වයසට ඔබින්නේ නැහැ...'

සමහර විට ඇ මෙසේ සිතුවාය:

"බාගෙ වෙලාවට එයා කාව හරි ලමිස්සියෙකු අල්ලාගෙනද?"

එහෙත් තරුණියන් සමග හාදවීමට මුදල් උවමනා කෙරේ. ඔහු වැටුප් සම්පූර්ණයෙන්ම වාගේ අම්මාගේ අතට දෙයි.

සති, මාස ගණන් පසුවී මේ විදියට අවුරුදු දෙකක්ම ගෙවී ගියේය. නොපැහැදිලි කල්පනාවලින් සහ නැගී එන අනතුරක අසුබ ලකුණු තියන නිසල ජීවිතයකි එය.

## IV

දවසක් ද රෑ කෑමෙන් පසු ජනේල රෙද්ද පහළට ඇද දැමූ පාවෙල්, තුම්බෙල් ලාම්පුව තමාගේ හිසට උඩින් බිත්තියේ එල්ලා, ගෙයි මුල්ලක ඉඳගෙන පොතක් කියවන්ට පටන් ගත්තේය. කුස්සියේ තිබූ පිඟන්



කෝප්ප අසුරා තැබූ අම්මා ප්‍රවේසමෙන් ඔහු වෙත ළංවූවාය. හිස ඔසවා ඇ දෙස බැලූ පාවෙල්ගේ දෙනෙත්වල ප්‍රශ්න කිරීමේ බැල්මක් දකින්නට තිබිණි.

"පවිලූෂා, මම නිකම් බැලුවා!" යැයි කී අම්මා ලජ්ජාවූ කලෙක මෙන් තළල රැලි ගසා ගෙන ඉක්මනින් ඉවතට ගියාය. මෙසේ කුස්සියට වැදුණු ඇ මොහොතක් නිසොල්මන්ව සිට මහත් චින්තාකමින් කල්පනා කරන්ට වූවාය. පසුව දැත් හොඳින් සෝද ගෙන නැවත සිය පුතා වෙත ආවාය.

"මං උඹෙන් අහන්ට හිටියා, මොනවද උඹ හෙමිහිට කියවන්නේ?" ඇ පහත් ස්වරයකින් ප්‍රශ්න කළාය.

ඔහු කියවීම නවත්වා පොත වැසුවේය.

"අම්මා, ඔහොම ඉඳ ගන්න..." නුහුරු ලෙස ඔහු ළඟින් වාඩි වූ ඇ වැදගත් යමක් දැන ගැනීමට සූදානම් වූ කලෙක මෙන් ප්‍රවේසම් සහිත වූවාය.

ඇ දෙස නොබැලූ පාවෙල් පහත් හඬින් කතා කළේය. ඔහුගේ හඬ තද ගතියක් ඇති කළේ ඇයිදැයි කිව නො හැක.

"මම කියවන්නේ තහනම් කරපු පොත්. අපේ කම්කරු ජීවිතය ගැන ඇත්ත කියන නිසා ඒ පොත් තහනම් කරලා තියනවා... ඒ පොත් හොර රහසේ මුද්‍රණය කරනවා. මට ඇත්ත දැනගන්ට ඕන නිසා ඒවා කියැව්වාට මොකද, මගෙ ළඟ ඒ පොත් තිබිලා අහුවුනොත් මාව හිරේට දමාවී. අම්මාට තේරුණද?"

හුස්ම ගැනීමට පවා අපහසු බවකි ඇට දැනුණේ. විදහාගත් දෙනෙත්වලින් යුතුව, ඇ ඔහු දෙස බැලුවාය. ඔහු පිටස්තර පුද්ගලයෙකු හැටියටය, ඇට පෙනෙන්නේ. ඔහුගේ කටහඬ වෙනස්ය — එය පහත්ය, කැටිය, එහෙත් ප්‍රාණවත් බවක් දැරීය. ඇඟිලි තුඩුවලින් තමාගේ සිහින් උඩු රැවුළ අතගාමින්, ඔහු යටැසින් කාමරයේ මුල්ලක් දෙස හෙලුවේ පුදුම බැල්මකි. පුතා නිසා බියගත් අම්මා තුළ අනුකම්පාවක්ද හටගත්තේය.

"පවිලූෂා, මොකටද උඹ ඕවා කියවන්නේ?"

හිස ඔසවා ඇ දෙස බැලූ ඔහු කලබල නොවී මෙසේ කීය:

"ඇත්ත දැනගන්ට ඕන."

ඔහුගේ කටහඬ මුදුය, එහෙත් ස්ථිරය, දෙනෙත් මුරණ්ඩු බවක් කියාපෑය. පුතා සදහටම යම්කිසි රහස් බියකරු දේකට කැපවී තිබෙන බව ඇගේ හදවත ඇට කියා සිටියේය. ජීවිතයේ හැම දෙයක්ම නියත බව ඇට සිතේ. ඒවා සියල්ලටම කරබාගෙන යටත්වීමට පුරුදුවී සිටි ඇ කඳුළු වගුරවමින් කිසිවකුට නොඇසෙන සේ හඬන්නට වූවාය. දුකෙන් හා හුදකලා බවකින් පිරී ගිය ඇගේ හදවතින් පැන නැගී අදහස් වචනවලට පෙරලීමට ඇයට නොහැකි විය.

''අඩන්ට එපා!'' පාවෙල් සුරතල් බසින් ඇට කීය. එහෙත් අම්මාට දැනුණේ ඔහු සදහටම වෙන්වීමට යන්නාසේය. ''අම්මා කල්පනා කරල බලන්ට අපේ ජීවිතවල හැටි. වයස අවුරුදු හතලිහක් වුණාට අම්මා හරියට ජීවත් වුණාද? තාත්තා, අම්මාට හොඳටම ගැහුවා. එහෙම කළේ ඇයිද යන්න දැන් මට තේරෙනවා. එයාගෙ දුක එයා අම්මා පිටින් යැව්වා;ඒ දුක තාත්තාව පාගලා දැම්මා, නමුත් එයා දැනගිටියෙ නෑ ඒ දුක්බර ජීවිතය පැන නැග්ගෙ කොහැනින්ද කියල. කම්හල ගොඩනැගිලි දෙකක තිබුණ කාලෙදී; එතන මීට අවුරුදු තිහකට ඉස්සෙල්ලා එයා වැඩ කරන්ට පටන් ගත්තෙ. දැන් කම්හල ගොඩනැගිලි හතක් දක්වා විශාල වෙලා තියෙනවා.''

බියපත් වූ කලෙක මෙන් ඔහුගේ කතාවට සවන්දුන් ඇ තුළ එය ඇසීමට ආසාවක්ද උපන්නේය. පුතාගේ දෙනෙත් අලංකාරව දිලිසෙයි. මේසය දෙසට වාරුවෙමින්, ඇ වෙත වඩාත් ළංවී කඳුළු පිරි දෙනෙතින් යුත් මුහුණ දෙස බලා තමාට තේරුම් ගිය ඇත්ත පිළිබඳ පළමුවැනි කතාව මෙහිදී ඔහු විසින් පවත්වන ලදී. ඔහුට පැහැදිලි දේ ඔහු කීවේ සත්‍යය පිළිබඳ අචල භක්තියකින් යුතුව තරුණ ශක්තිය සහ සිසු දක්ෂතාවය පාමිනි. තමා දන්නා දේ ගැන ඔහු කතාකළේ අම්මා සඳහාම නොවේ. ඔහු තමා දන්නා දේ පරීක්ෂණයටද භාජන කළේය. සමහර විට උවමනා වචන සොයාගැනීමට බැරිවීමෙන් හෙතෙම ගොළු විය. එවිට තමා ඉදිරියේ සිටින මවගේ බලාපොරොත්තු කඩවූ විලාසයද කඳුළුවලින් පිරි ඇගේ කරුණාබර දෙනෙත්ද දුටුවේය. බියගත් හා ව්‍යාකූල බවකි, ඒවා කියා පෑවේ. අම්මා කෙරෙහි අනුකම්පා කළ ඔහු නැවතත් කතා කරමින් ඇගේ ජීවිතය ගැන විස්තර කරන්ට විය.

''අම්මා, තමාගේ ජීවිත කාලෙදී විඳපු සැප කොපමණද? ගෙවිගිය ජීවිතය මතක් වන්නෙ මොන ආකාරයටද?''

හිස වනමින් ඇ ඔහුගේ කතාවට සවන් දෙන්නී, ඇ තුළ මින් පෙර නොවූ විරූ දුක මුසු ප්‍රීතිදායක හැඟීම පහළ වෙයි. වේදනාවට පත් ඇගේ හදවතට ඉන් ලැබුනේ මෘදු සහනයකි. ඇ ගැන, ඇගේ ජීවිතය ගැන, මෙවැනි කතාවක් ඇසූ පළමුවැනි වාරය එය විය. මීට බොහෝ කලකට පෙර නින්දට ගිය හැඟීම් ඇවිස්සී, ජීවිතය කෙරෙහි කලකිරුණු බව සෙමින් තියන්ට පටන් ගත්තේය. ඈත තරුණ කාලය සිහියට නගන හැඟීම් හා අදහස් පණ ගැසී පෙරමුණ ගත්තේය. ඇ සිය මිතුරියන් සමග ජීවිතය ගැන දිගට — විස්තර සහිතව බොහෝ වේලා කතා කළාය. එහෙත් ඔවුන්ද ඇය මෙන් පැමිණිලි කළා පමණකි. ජීවිතය මෙතරම් අමාරු — අසීරු මන්ද යන්න කිසිවෙක් කියා නොදුන් හ. එහෙත් දැන් තමා ඉදිරියෙහි සිටින තම පුතා ජීවිතය ගැන විස්තරයක් කරයි. ඔහුගේ දෙනෙත්හි



බැල්මද, කටින් පිටවන වචනද නිසා ඇගේ හදවත පුතා නිසා ආඩම්බරයෙන් ඉපිල යයි. අම්මාගේ ජීවිතය නියම ලෙස අවබෝධ කරගත් පුතා නිසා මහත් සේ සතුටු වූවාය. ඇගේ ජීවිතය ගැනත්, ඇ විඳි දුක් කම්කටොලු ගැනත් කියන ඔහු අම්මාට අනුකම්පා කරයි. ධනවතුන් වෙත අනුකම්පා නොදක්වයි.

ඒ බව ඇ දන්නීය. ස්ත්‍රී ජීවිතය ගැන පුතා කී හැම දෙයකම දන්නා හඳුනන කටුක සත්‍යය තිබෙන බව ඇ වටහා ගත්තාය. තමා මින් පෙර නොවිඳි මෘදු — මොළොක් හැඟීමක් ඇතිකරවමින් එම කතාව හදවත පුරා පැතිර ගියේය.

''ඉතින් උඹ ඒ ගැන මොනවද කරන්ට යන්නෙ?'' ඇ ඔහුගේ කතාවට බාධා කරමින් ඇසුවාය.

''මම ඉගෙනගෙන පසුව අනිත් අයට උගන්වනවා. අපේ ජීවිතය මෙතරම් දුක්බර ඇයිද යන්න අප දැනගත යුතුයි, තේරුම් ගත යුතුයි.''

හැමදම තද ගතියක් දක්වමින් බැරෑරුම් ලීලාවකින් කටයුතු කළ තම පුතාගේ නිල් පැහැති දෙනෙත්වල මෘදු මොළොක් බවක් ඇති වීම දුටු ඇ තුළ ඇති වූයේ ප්‍රීතියකි. ඇ සතුටු සිතින් මඳ සිනා පෑවාය. එහෙත් ඇකිලී ගිය කම්මුල්වල කඳුළු බිංදු තිබිණි. ඇගේ සිත තුළ දෙයාකාර අදහස් උපනී. ජීවිතයේ කටුක දුක් දකින තම පුතා නිසා ඇ ආඩම්බර වූවාය. එහෙත් ඔහුගේ තරුණකම අමතක කිරීමට අපොහොසත් වූ ඇ ඔහු අනිත් අය මෙන් කතාබහ නොකරන සැටිත්, හැම දෙනාටම සහ ඇටද පුරුදු ජීවිතයට එදිරිව සටන් කිරීමට තීරණය කර තිබෙන සැටිත් දැක්කාය. ඔහු අමතා මෙසේ කීමට ඇට සිත්විණ:
''රත්තරං පුතේ, උඹට මොනවද කරන්ට පුළුවන්?''

පුතා අමතා සුරතල් බස් දෙඩීමට ඇ මැලි වූවාය. ඇට තරමක් පිටස්තර පුද්ගලයෙකු සේ දැනුනද, ඔහු නිවිහැටියේම බුද්ධිමතෙකු වීම එයට හේතු විය.

අම්මාගේ මඳ සිනා රැල්ලද, සැලකිල්ල සහ දයාබර බැල්මද දුටු පාවෙල්, ඇට ඇත්ත අවබෝධ කර දීමට තමාට පුළුවන් වූ බවක් වටහා ගත්තේය. ඔහුගේ තරුණ ආඩම්බරත්වය සහ ආත්මවිශ්වාසයද මින් වැඩි විය. ප්‍රමෝදය නිසා කැළඹුණු සිත් ඇති හෙතෙම වරෙක උපහාසාත්මක ලෙස සිනාසෙමින්ද, වරෙක නළල රැලි ගන්වා ගනිමින්ද කතා කරයි. ඉදහිට ඔහුගේ වචනවල කෝපය හා වෛරය ගැබ් වී තිබිණි. ඒ කෝපාන්විත තද වචන අසන අම්මා බියවී හිස ඒ මේ අත වනමින් පහත් හඬින් පුතාගෙන් මෙසේ අසයි:

''හා, එහෙමද පව්ලුෂා?''

"ඔව් එහෙමයි" ඔහු කියන්නේ ස්ථිර ශක්තිමත් වි ලාසයකිනි. ජනතාවගේ යහපත පිණිස ඔවුන් වෙත සත්‍යයේ පණිවුඩය ගෙනා මිනිසුන් ජීවිතයේ සතුරන් විසින් අල්ලා ගනු ලැබ, සතුන්ට මෙන් ඔවුන්ට දස වධදී හිරගෙවලට දැමූ සැටිත්, පිටුවහල් කළ සැටිත් ඔහු චමත්කාර ලෙස විස්තර කළේය...

"මා ඒ වගේ මිනිසුන් දැක තිබෙනවා! ඒ ගොල්ල ලෝකයේ ඉන්න ඉතාම හොඳ මිනිස්සු!" යැයි ඔහු කීවේ වේගයෙනි.

ඒ මිනිස්සු අම්මා තුළ මහ බියක් ඇති කළෝය. "එහෙමද පුතේ?" යැයි නැවතත් වරක් ඇසීමට ඇට සිත්විණ.

සිය පුතාට කතා කිරීමට හා සිනීමට උගන්වන, එහෙත් තමාට අවබෝධ කරගැනීමට බැරි ඒ මිනිසුන් ගැන අම්මා අසා සිටියේ බියගත් කුතුහලයකිනි. අම්මා ඔහුගේ කතාව අසන ගමන් කල්පනා කළේ පුතා මුහුණ පා සිටින අවදානම් තත්ත්වය ගැනය. අවසානයේදී ඇ මෙසේ කීවාය:

"දැන් එළිවෙන්නත් ළඟයි. නිද ගනින්!"

"ඔව්, මම දැන් නිද ගන්නම්!" කී ඔහු ඇ වෙත නැඹුරු වෙමින් මෙසේ ඇසුවේය: "අම්මා මාව තේරුම් ගත්තාද?"

"මට තේරෙනවා!" අම්මා කීවේ දිග සුසුමක් හෙළමින්. දෙනෙත්වලින් නැවත කඳුළු වැගිරෙන්ට විය. උගුර පාදගත් ඇ කොඳුළාය: "උඹ නැති වෙන්ටයි යන්නෙ!"

නැගිට සිටි ඔහු කාමරයේ ඒ මේ අත ඇවිදිමින් සිට, මෙසේ කීය:

"ඔන්න ඉතින් අම්මා දන්නවා මම මොනවා කරනවද, කොහෙ යනවද කියල. මම කියන්න තියන දේ ඔක්කොම කිව්වා! අම්මා මට ආදරේ නම් මගේ වැඩවලට බාධා කරන්න එපා!"

"මගෙ රත්තරං පුතේ, ඔව ගැන නොදැනගෙන ඉදිම වැඩිය හොඳයි කියලයි මට හිතෙන්නේ"

ඔහු ඇගේ අතක් ගෙන තමාගේ අත්ලෙහි තබා තදින් මිරිකීය.

"අම්මෙ" යැයි ඔහු උණුසුම් ලෙස ඇමතූ විට ඇ තුළ අසීමිත පුත ස්නේහයක් උපන්නේය.

"මම කිසි දෙයක් කරන්නේ නැහැ" යැයි ඇ කීවේ බිඳිගිය හඬිනි. "උඹ පරිස්සම් වෙයන්, පරස්සම් වෙයන්!"

ප්‍රවේසම් විය යුත්තේ කුමකින්දැයි නොදත් ඇ කනස්සල්ලකින් යුතුව මෙසේ කීවාය:

"උඹ කොටවුනු වෙලා..."

උණුසුම් සෙනෙහෙබර බැල්මකින් ඔහුගේ සිහින් හැඩැති සිරුර දෙස බැලූ අම්මා ඉක්මනින් කොඳුළාය:



"උඹට දෙයියන්ගෙ පිහිටයි. ඔන හැටියකට ජීවත් වෙයන්. මම උඹට බාධා කරන්ට එන්නෙ නැහැ. මම උඹෙන් එක ඉල්ලීමක් කරනවා. මිනිස්සු එක්ක බයසැක නැතුව කතා කරන්ට එපා! එකිනෙකාට වෛර කරන මිනිසුන්ගෙන් බේරිලා ඉන්ට ඕන! උන් ජීවත් වෙන්නෙ කැදරයොවගෙ ඊර්ෂ්‍යාවෙන්. නපුරුකම් කරන්ට හැමදෙනාම සතුටුයි. උඹ උන්ට චෝදනා කරන්ටයි, උන්ව විවේචනය කරන්ටයි ගියොත්, උඹට ඊර්ෂ්‍යා කරල, උඹව විනාශ කරාවි!"

දොර ළඟ සිටගෙන අම්මාගේ කණස්සලු අයැදුමට කන්දී සිටි පුතා, ඇ කතාව අවසන් කළ විගසම මද සිනා පාමින් කතා කළේය:

"මිනිස්සු නරක බව ඇත්තයි. ඒ වුණාට මේ ලෝකෙ ඇත්තක් කියා දෙයක් තිබෙන බව දැනගත්තට පස්සෙ, මිනිස්සු හොඳ බව මට වැටහුණා!.."

නැවත කට කොනකින් සිනාසුණු හෙතෙම මෙසේද කීවේය:

"මෙහෙම වෙනස් වීමේ හේතුව මටම තේරුම් ගන්ට බැහැ! ළමා කාලෙදී මිනිසුන්ට බයවී හිටියා. ගැටවර කාලෙදී උන්ට ඊර්ෂ්‍යා කරන්ට පටන් ගත්තා. එහෙම හැඟීම් ඇති වුණේ උන්ගේ නීචකම් නිසාද නැතිනම් වෙන කිසිවක් නිසාදැයි දන්නෙ නැහැ. සමහර විට නිකම්ම වෙන්ට පුළුවනි. දැන් ඒ හැඟීම් වෙනස්වෙලා අමුතුම හැඟීමක් ඉපදිලා තියනව. ඔවුන්ට මම අනුකම්පා කරනවා වෙන්ට බැරි නැහැ? ඒක තේරුම් ගන්ට බැහැ. ඒ වුණාට හදවත මොළොක් වෙන්ට පටන් ගත්තෙ මිනිසුන්ගෙ නීච වැඩවලට වැරදිකාරයො උන් හැම දෙනාම නොවන බව දැනගත්තාට පසුව..."

තම හදවතින් පැන නැඟුණු යමකට සවන් දෙන්නා සේ ඔහු නිහඬව සිට කල්පනාකාරී ලෙස, සෙමින් පැවසීය:

"ඇත්ත නැමති ජීවමාන බලවේගයෙ හැටි ඔහොම තමයි!"

ඔහු දෙස බැලූ ඇ කොඳුළාය:

"උඹේ වෙනස් වීම හරිම බයානකයි. අනේ දෙවියනේ!"

ඔහු නිදගත් පසු තමාගේ ඇඳෙන් නැගිට අම්මා ඔහු ළඟට ආවාය. උඩු බැලි අතට නිදසිටි පාවෙල්ගේ හැඩැ'ති, මුරණ්ඩු තළෙලලු මුහුණ, සුදු පැහැති කොට්ටය සහිත පසුබිම වෙන්කර පෙන්වීය. පාවහන් නැතිව නිදන ඇඳුමෙන් සැරසී සිටි අම්මා දැත් පපුව මත තබාගනිමින් නිදසිටි පුතා දෙස බලා සිටියේ වෙව්ලන තොල් ඇතිවය. දෙනෙතින් නොනවත්වා කඳුළු ධාරා ගලා එන්නට විය.

ඔවුහු නිසොල්මන්ව වරෙක ඔවුනොවුනට ළංවෙමින්ද තවත් වරෙක ඈත්වෙමින්ද නැවත ජීවත් වූහ.

# V

සතියේ මැදට යෙදුණු උත්සව දවසක් විය. ගෙදරින් පිටව යමින් සිටි පාවෙල් එදු අම්මා අමතමින් මෙසේ කීය:

''නගරයේ සිට අමුත්තෝ සෙනසුරාදට අපේ ගෙදරට ඒවි.''

''නගරයේ ඉඳල?'' පාවෙල්ගේ වචන නැවත වරක් කී අම්මා සුසුම් ලෑවාය.

''අම්මේ මොකද?'' යි ඇසූ පාවෙල් කලකිරුණු ගතියක් පෙන්විය.

හැඳ සිටි ඒප්රනයෙන් මුණ පිසදගත් ඇ පිළිතුරු දුන්නාය:

''දන්නේ නැහැ, මොකද කියල...''

''බයද?''

''බයයි!'' ඈ පිලිගත්තාය.

කෝප වූ ඔහු ඇ වෙත නැඹුරු වෙමින් කතා කළේය. දුන් ඔහු තමාගේ පියාට සමාන බවක් දැරිය.

''ඔය බය නිසා තමයි අපි විනාශ වෙන්නෙ! අපට අණ දෙන එවුන් අපේ බය ප්‍රයොජනයට අර ගෙන තව තවත් වැඩියෙන් අප බය කරනවා.''

දුක්බර හඬකින් අම්මා කතා කළාය:

''තරහ වෙන්ට එපා! බය නොවී කොහොමද? මුළු ජීවිතේම බයෙන් තමයි ජීවත් වුණේ. බයෙන් පිරි ආත්මයක් ඇතිවයි වැඩුනේ!''

මුදු ලෙස සෙමින් කතා කළ ඔහු:

''අනේ අම්මේ, මට සමා වෙන්න, වෙන විදියකට බැහැ!'' යැයි කියමින් ගෙදරින් පිටවිය.

භයානක පිට මිනිසුන් වගයක් අමුත්තන් ලෙස තමාගේ ගෙදරට එන බව සිහිවන සෑම වාරයකදීම අම්මාගේ හදවත කිලි පොලා යමින් සැලෙයි. මෙවැනි හැඟීම්වලින් යුතුව ඇ දවස් තුනක්ම ගත කළාය. පුතා ගමන් කරමින් සිටින මග ඔවුන් විසිනි පෙන්වා දෙන ලද්දේ...

සෙනසුරාද සවස කම්හලේ සිට ගෙදර ආ පාවෙල් මුහුණ සෝද ගෙන අලුත් ඇඳුම් හැඳ ගනිමින් අම්මා දෙස නොබලාම මෙසේ කීවේය:

''ආවොත් කියන්න, මම හනික ගෙදර එනවයි කියල, බය වෙන්ට එපා..''

තමා තුළ තිබූ ශක්තිය හිඳී ගියාක් මෙන් ඇට දැනුණෙන් ඉබේටම ඇ බංකුව මත වාඩි වුණාය. ඇ දෙස මඳ අමනාපයෙන් මෙනි, පුතා බැලුවේ.

''අම්මා වෙන දිහාවකට යාම හොඳයි නේද?''

ඒ කීම නිසා ඇ අමනාපයට පත් වූවාය. පුතාගේ අදහසට පටහැණි වූ ඇ හිස වනමින්:



''මොකටද එහෙම යන්නේ?'' යැයි ඇසුවාය.

එය නොවැම්බර් මාසයේ අවසාන කොටස විය. දවල් කාලයේදී දුටි ශීත නිසා වියලී ගොස් තිබුණු පොළොව මත වියලි හිම වැටිණ. දුන් ඒ හිම පුතා පාගන විට 'කිස්' යන හඬක් පිට වෙයි. ජනේල වීදුරු මත නොසෙල්වෙන දුඩි අඳුරක් පතිත විය. බංකුව මත දැත් තබා ගෙන වාඩිවී සිටි අම්මා දොර දෙස බලා ගෙන අමුත්තන් බලාපොරොත්තුවෙන් සිටියාය...

අඳුරේ දස'තින් සිය නිවෙස කරා දුෂ්ට මිනිසුන් එන සැටිත්, ඔවුන් ප්‍රවේසමින් වටපිට බලමින් දෙකට නැමී ගමන් කරන සැටිත්, පදම් ලෙස හැද-පැළඳ ගෙන සිටින සැටිත් ඇට දැනෙයි ඔන්න දනවමත් එකෙක් බිත්තිය අතගාමින් ගේ වටේ ඇවිදියි.

උරුහන් ඛාන හඬක් ඇසේ. නිසලතාවය බිඳ ගෙන, ශෝකාන්විත ගීතමය හඬක් නගන ඒ උරුහන් බැම අඳුරු කාන්තාරයේ කල්පනාකාරීව පැටලී යමක් සොයමින් ළං ළංව එන්නා සේ දැනේ. හිටිහැටියේම එය කවුළුවට යටින් අතුරුදහන් වූයේ ලී දොරට කා වැදුනාක් මෙනි.

කිසිවෙකු පිළිකන්නට අතුළු වුණු සබ්දයක් ඇසුනෙන්, ඇස් බැමි රැලි ගසා ගත් අම්මා වෙව්ලමින් නැගී සිටියාය.

දොර හැරිණ. ලොම් කළ හිම තොප්පියකින් වැසී ගත් හිසක් කාමරයට පළමුවෙන්ම ඇතුළු විය. ඉන්පසු දෙකට නැමුණු පිටකොන්ද සහිත දේහයක් නෙදෙරින් ඇතුළට රිංගා සෙමින් දිග හැරී සිට ගත්තේය. මෙසේ ගෙට වැදුණු අමුත්තා දකුණු අත සෙමින් උස්සා ශබ්ද නගා හුස්ම ගනිමින් ගැඹුරු හඬකින් කතා කළේය:

''සුබ සැන්දෑවක් වේවා!''

අම්මා හිස පාත් කරමින් ආචාර කළාය.

''පාවෙල් ගෙදර නැතිද?''

ගෙතුළට වන් මිනිසා ලොම් සහිත හිම කබාය ගලවා උසැති හිම සපත්තුවල තැවරී තිබුණු හිම, තොප්පියෙන් පිස දමා, ලොමින් කළ තොප්පිය කාමරයේ මුල්ලකට විසි කොට දිගැති කකුල් වලින් වැනෙමින් කමරය තුළට ආවේය. කාමරය මැද තිබූ පුටුව දෙස ඔහු බැලුවේ හරියට එහි සවිශක්තිය පරීක්ෂා කරන්නාක් මෙනි. අන්තිමේදී ඒ මත වාඩිගත් ඔහු එක අතකින් කට වසා ගනිමින් ඇඹුමක් හැරියේය. ඔහුගේ හිස වටකුරුය. හිසකේ කොටට කපා තිබිණ. දෙකම්මුල් දිගේ වැවී තිබුණු උඩු රැවුල පහතට වැටිලාය. මොර ගෙඩි මෙන් වටකුරු අළු පාට ඇස්වලින් ඔහු කාමරය හැම තැනම බැලීය. අනතුරුව කකුලක් පිට කකුලක් දමා ගත් හෙතෙම පුටුව ඒ මේ අත පද්දවමින් මෙසේ ඇසුවේය:

"මේ පැළ ඔය ගොල්ලන්ගෙද, නැතුව කුලියට අරගෙනද?"

ඔහු ඉදිරිපස වාඩිවී සිටි අම්මා පිළිතුරු දුන්නාය:

"කුලියටයි ඉන්නෙ."

"ගෙපැල හොඳ නැහැ" ඔහු කීවේය.

"පව්ලුෂා ඉක්මනට ඒවි, පොඩියක් නවතින්න!" අම්මා ඉල්ලා සිටියාය.

"ඔව් එයා එනතුරු ඉන්නවා" යැයි උස මිනිහා කීවේ සංසුන් ගතියකිනි.

ඔහුගේ ශාන්තබවද, මුදු කටහඬ සහ වාම් මුහුණද අම්මාගේ සිත ගත්තාය. ඔහු අම්මා දෙස බැලුවේ විදහා ගත් ඇස් ඇතිවය. එහි වූ කාරුණික බැල්ම සහ ලෙලදෙන ගිනිදළු සේ නටන කළු ඉංගිරියාවන්ද ප්‍රීතිමත් බවක් කියාපෑය. ඔහුගේ උරහිස් කෝණාකාරය, පිටිකොන්ද තරමක් වක්වී තිබුණද, ඔහුගේ කකුල් දිගය. පෙනුමෙන් හාස්‍යජනක බවක් දරූ හෙතෙම, නිල්පාට කමිසයක් සහ කළු පාට කලිසමක් හැඳ සිටියේය. කලිසමේ කකුල්, උස්වූ සපත්තුවලට ඔබා තිබිණි. ඔහු කවුද, ආවේ කොහේ සිටද, පුතා හඳුනන්නේ බොහෝ කාලයක සිටදැයි ඔහුගෙන් අසා දැනගැනීමට ඇය සිත්විය. එහෙත් එවිටම වාගේ හිස වැනූ ඔහු ඇගෙන් මෙසේ ඇසිය:

"කවුද නෙන්කො*, ඔබේ නළල පැලුවේ?"

ඔහු එම ප්‍රශ්නය ඇසුවේ පසන් කටහඬකිනි, ඔහුගේ ඇස්වල මුදු සිනහවක් තිබුණා සේය. එහෙත් එය ඇගේ සිත විදවීමට සමත්විය. යටිතොල විකාගත් ඇ මොහොතක් නිහඬව සිට සුවිනීත ලෙස පිළිතුරු දුන්නාය:

"අනේ උන්නැහෙ, ඒ ගැන තමුසෙට ඇති උවමනාව මොකක්ද?"

ඔහු ඇ ළඟට කිට්ටු විය:

"ඔබ තරහ වෙන්න එපා! මම එහෙම ඇහුවේ, මාව හදාගත්ත අම්මාගෙත් ඔළුව ඔය විධියටම පැලිලා කැළලක් තිබුණු නිසයි. ඇගේ ස්වාමි පුරුෂයා ඇට සපත්තු ලොකු කරන යකඩ අච්චුවකින් ගැහුවා. ඔහු සපත්තු මහන්නෙක්. ඇ රෙදි සෝදමින් ජීවත් වුණා. ඇ මාව පුතා වශයෙන් හදාගන්න පටන්ගත්තට පස්සෙ ඇගෙ කරුමෙට ඒ බේබදු සපත්තු මහන්නා සමග පවුල් වුණා. එ මිනිහා ඇට ගහපු හැටි කොතරම් බියානකදැයි කියතොත් මගේ ඇඟේ මයිල් කෙලින් හිටියා..."

ඔහුගේ අගති විරහිත සිත නිසා ඇ නිරුත්තර වූවාය. මේ පුදුම මිනිහාගේ ප්‍රශ්නවලට තද පිළිතුරු දුන්නොත් පාවෙල් තරහ වේය යන බියක් ඇ

* නෙන්කො — උක්රයින් බසින් අම්මා ඇමතීම සඳහා භාවිතා කරන සුරතල් වචනයකි. අනුවාදක



තුළ උපන්නේය. වැරද්දක් කළ එකියක මෙන් මඳ සිනා පෑ ඇ මෙසේ කීවාය:

"මා තරහ් වුණේ නැහැ. තමුසෙ එක පාරටම ප්‍රශ්න කරපු හැටි! ඒ තුවාලෙ කැළැල මගෙ ස්වාමිපුරුෂයාගෙන් ලැබුණු තෑග්ගක්, එයාට සුවර්ග සම්පත් ලැබේවා. තමුසෙ ටටාර් ජාතිකයෙක්ද?"

දිගු කකුල් දිගහැර, කට දෙකන් දක්වා පළල් කරමින් සිනාසුණු පුද්ගලයා බැරෑරුම් ලෙස කතා කළේය:

"තවම නැහැ."

"තමුසෙ කතා කරන්නෙ රුසියන් කාරයෙක් වගෙ නෙවි"යි අම්මා සිනාසෙමින් කීවේ ඔහු කළ විහිළුව තේරුම් ගනිමිනි.

"රුසියන්කාරයන්ට වඩා හොඳට මම කතා කරනවා" තුටු ලෙස කී හෙතෙම /"මම හොහොල්* ජාතිකයෙක්, ගම — කානෙව්"යි පැවසිය.

"මෙහෙ ඇවිත් හුඟක් කල්ද?"

"අවුරුද්දක් විතර නගරෙ පදිංචි වෙලා හිටියා. දැන් මෙහෙ ආවා, මාසෙකට විතර ඉස්සෙල්ලා ෆැක්ටරියෙ වැඩ කරන්න. මෙහෙදී හොඳ මිනිස්සු හම්බ වුණා. ඔබගේ පුතා ඉන් එක්කෙනෙක්. මෙහෙ පදිංචි වෙනවා" යැයි ඔහු කීවේ උඩුරැවුල කරකවමිනි.

ඔහුගේ කතාව ඇගේ සිත් ගත්තේය. පුතා පිළිබඳ කී හොඳ වචන නිසා අමුත්තාට සංග්‍රහ කළ යුතුයැයි ඇට සිතිණි.

"තේ හදන්ට, බොනවද?"

"මට විතරක් සංග්‍රහ කරන්න එපා!" යැයි හෙතෙම දෙවුර සොලවමින් පිළිතුරු දුන්නේය: "අනිත් උදවියත් ආවාම ඔක්කොටම එකට සංග්‍රහ කරන්න."

ඔහු නිසා අතුරුදහන් වූ බිය ඇ තුළ යළි උපන්නේය.

"හැම එක්කෙනෙක්ම උඹ වගේනම්!" යැයි ඇ උණුසුම් ලෙස පැතුවාය.

නැවත හනික දෙර ඇරෙන හඬක් ඇසුණෙන් අම්මා යළිත් නැගී සිටියාය. එහෙත් ඇගේ පුදුමයට මෙන් කුස්සියට මේ වර ගොඩ වැදුණේ ගෙවිලියකගේ පෙනුමක් ඇති මිටි තරුණියකි. රත් පැහැති කෙස් වැටිය කරල් දෙකක් වනසේ ගොතා සිටි ඇ සෙමින් මෙසේ ඇසුවාය:

"මම පමා වුණාද?"

කාමරය තුළ සිට පිටත බැලූ හොහොල්, "නැහැ. පයින්ම ආවාද?" යි ප්‍රශ්න කළේය.

* "හොහොල්" යනු උක්රයින ජාතිකයින් හැඳින්වීම සඳහා යොදන වචනයකි. අනුවාදක

''සත්තකින්ම! ඔබ, පාවෙල් මිහායිලවිච්ගේ අම්මාද? ආයුබෝවන්. මගෙ නම නතාෂා...''

''තාත්තාගෙ නම අනුව?''

''වසිල්යෙව්නා. ඔබේ නම?''

''පෙලගේයා නිලව්නා'', අම්මා කිවාය.

''ඉතින් අපි හඳුනා ගත්තා...''

''ඔව්'' යැයි කී අම්මා දිග සැනසුම් සුසුමක් හෙළමින්, තරුණිය දෙස විපරම් ඇයින් බැලුවේ මද සිනා පාමිනි.

හිම සබාය ගැලවීමට හොහොල් තරුණියට උදව් වුණේය.

''හීතලද?''

''ඔව්, කෙත හරහා සැරට හුළං හමනවා''.

ඇගේ කටහඬ ප්‍රාණවත්ය. කුඩා මුවක් හා මහත් වූ කම්මුල් සහිතවූ ඈ වටකුරුය, ප්‍රණීතබවක් දරුවාය. සබාය ගලවා දැමූ ඈ තද රත්පැහැ ගත් තමාගේ කම්මුල් සීතලව ගිරිවැටී තිබූ කුඩා ඇඟිලිවලින් වේගයෙන් පිරිමදිමින් කාමරය තුළට වැදුණාය. ඈ කාමරය තුළට යද්දී, ඇගේ සපත්තු ලි පොළොවට ගැටීම නිසා 'කිස්' යන හඬක් උපණි.

''ගලෝෂ නැතිව ඇවිදින හැටි!'' අම්මාගේ හිත තුළ උපන් හැඟීමකි ඒ.

''ඔට-ව'' කියමින් තරුණිය වෙව්ලන්නට වූවාය. ''මාව වෙව්ලන්ට පටන් අරගෙන...''

''මම හනිකට සමොවාරය* රත් කරන්නම්!'' කියමින් අම්මා කුස්සියට සැණෙකින් ගියාය. ''හනික ගේන්නම්...''

ඒ තරුණිය තමා බොහෝ කල් සිට දක පුරුදු ඇත්තියක බවත්, තමාට මවකට මෙන් ඒ තරුණිය ආදරය කරන බවත් අම්මාට දැනේ. සිනා මුහුණින් යුතුව ඈ කාමරය තුළ කෙරෙන කතාවට සවන් දී සිටියාය.

''මොකෝ උදසින වෙලා, නහෝද්කා?'' තරුණිය ඇසුවාය.

''නෑ, නිකං'' යැයි පහත් හඬින් කතා කළ හොහොල් මෙසේ කීවේය: ''අර මනුස්සයගෙ ඇස් දෙක දැකපු වෙලාවෙ සිට මට හිතෙන්නෙ අපේ අම්මාගේ ඇස් දෙකත් හරියට ඒ වගෙ වෙන්න ඕනයි කියල. මම අම්මා ගැන නිතර හිතනවා, මට හිතෙන්නෙ ඈ ජීවත්ව ඉන්න බවයි''.

''එහෙනම්, ඔයා කීවෙ ඈ මළා කියල?''

''මා හදපු අම්මා මළා. මා වදපු අම්මා ගැනයි මට එහෙම හිතෙන්නෙ.

* සමොවාරය: තේ උණුකිරීම සඳහා රුසියාවේ භාවිතයට ගනුලබන කේතල විශේෂයකි. එම කේතලය තුළ ලිපක්ද ඇත්තේය. අනුවාදක.



මට හිතෙන්නෙ ඈ කියෙව් නගරෙ හිඟා කනවයි කියල. ඈ වොඩ්කා බොනවා ඇති. බීමත් වූ ඈට පොලිස්කාරයෝ කම්මුල් පහරවල් දෙනවා ඇති''.

''අනේ, උඹේ අනුකම්පාව!'' යැයි සිතූ අම්මා සුසුමක් හෙළුවාය.

නතාෂා යමක් උණුසුම් ලෙස හා ඉක්මනින් කොඳුළාය. නැවතත් හොහොල්ගේ පණැති කටහඬ ඇසිණි.

''අනේ, ඔයා තවම ළපටි සහෝදරියක්. ඇනු කැවා මදි. ඉපදීම — අමාරුයි, මිනිහෙකුට හොඳ සිරිත් පුරුදු කරවීම ඊට වැඩිය අමාරුයි...''

''අනේ බාං!'' යැයි අම්මාගේ යටි සිත කෑ ගැසීය. හොහොල් අමතා සෙනෙහස ඇති වචන කීමටද ඈට සිත්විණ. එහෙත් එවිටම වාගේ දෙර හැරී ගෙට ඇතුළු වුණේ මිනිසුන් හොරුස්සන දනිල වෙසොව්ෂිකොව්ගේ පුත් නිකොලායිය. මහලු සොරදෙටුවාගේ පුතා ගැන මුළු කම්කරු ජනපදයම දනී. මිනිසුන්ට මුණ දීමට අකමැති ඔහු ජනයාගෙන් ඈත් වූ නිසාම ඔහුට සමච්චල් කළහ.

''නිකොලායි උඹ මොකද?'' විමතියට පත් ඕ ඇසුවාය.

ඔහු තමාගේ පළල් අත්ලෙන් පළල් හකු ඇට සහිත කැළැල්වලින් පිරි මුහුණ පිස දමමින් ආයුබෝවන් නොකියාම ගොරෝසු හඬකින් ප්‍රශ්න කළේය.

''පාවෙල් ගෙදරද?''

''නැහැ.''

කාමරය දෙස එබී බැලූ ඔහු ඒ දෙසට යමින්,

''ආයුබෝවන් සහෝදරවරුනි!'' යැයි කීවේය.

''මේකාත්!'' යැයි සිතූ අම්මා, ප්‍රීතියෙන් හා සතුටින් නතාෂා ඔහුට අත දෙන සැටි දකින්නී, පුදුමයට පත් වූවාය.

ඊට පසු ගෙදරට ආවේ තරුණ වියට පවා පා නොතැබූ කොල්ලන් දෙදෙනෙකි. මින් එකෙකු අම්මා දනී. ඔහු පැරණි කම්හල් කම්කරුවෙකුවූ සිසෝව්ගේ බෑනා වන පියෝද්ර්ය. උල්වූ මුහුණක්ද, පළල් නළලක් සහ කැරලි ගැසුනු හිසකෙස්ද ඔහුට තිබිණි. අනිකා හිස තෙල් ගා පීරන ලද්දකි. ඔහුගේ පෙනුම නිහතමානීය. ඔහු, ඈ මීට පෙර නොදක්කද එය බියවීමට කාරුණක් නොවීය. අනතුරුව ගෙට ගොඩ වැදුණේ පාවෙල්ය. ඔහු සමග තවත් ගැටවරයින් දෙදෙනෙකි. ඔවුන් කම්හලේ වැඩ කරන බව අම්මා දනී. පුතා ඈ අමතා මෙසේ කීය:

''සමොවාරය ලෑස්ති කළාද? බොහොම ස්තුතියි.''

''වොඩ්කා ගේන්ටද''යි ඇසූ අම්මා, තමාට තවම නොතේරෙන යමක් ගැන ඔහුට ස්තුති වන්නේ කෙසේදැයි නොදැන සිටියාය.

''නෑ ඒව ඕන නැහැ'' සුහද ලීලාවෙන් මඳ සිනා පාමින් පාවෙල් පිළිතුරු දුන්නේය.

රුස්වීමේ බියජනක බව ගැන පුතා හිතාමතා අතිශයෝක්තියට නැගුවේ ඇට කවට කමක් කරන අදහසිනැයි යනු ඇගේ වැටහීම විය.

''මේ ගොල්ලද නීතිවිරෝධී මිනිස්සු?'' අම්මා පුතාගෙන් රහසෙන් මෙන් ඇසුවාය.

''ඔව්, ඒ ගොල්ල තමයි!'' පාවෙල් කීවේ කාමරය තුළට යමිනි.

''අනේ බා!..'' යැයි ඔහු දෙස බලමින් කී අම්මා, නිහතමානී ලෙස සිතාගත්තාය: ''තවම ළදරුවෝ!''

# VI

සමොවාරය උතුරන්ට පටන් ගත්තේය. අම්මා එය කාමරය තුළට ගෙනාවාය. සියලු දෙනාම මේසය වටා රොක්වී හිඳගත් අතර පොතක් අතැතිව නතාෂා කොණක තිබූ ලාම්පුවට පහළින් වාඩිවී සිටියාය.

''මිනිස්සු ඇයි මේතරම් නරක විධියට ජීවත් වෙන්නේ යන්න අවබෝධ කරගැනීමට නම්...'' නතාෂා තෙපලාය.

''මොනවා නිසාද එගොල්ල නරක් වෙලා තියන්නෙ,'' යැයි හොහොල් කතාවට බාධා කළේය.

''...ඉස්සෙල්ලා හොයල බලන්ට ඕන උන් කොහොම ජීවත් වීමට පටන් ගත්තද කියල...''

''බලපල්ලා සැදැහැවතුනි, බලපල්ලා!'' යැයි තේ උණු කරමින්සිටි අම්මා තොල මතුලාය.

හැමදෙනාම නිසොල්මන් වූහ.

''අම්මේ, මොකද''යි පාවෙල් ඇසුවේ ඇස් බැම රැලි ගන්වමිනි.

''මං?'' අම්මා ගැහෙමින් අසන්නී, ඇ දෙස හැම දෙනාගේම නෙත් යොමුවී තිබෙන බැවින් ලජ්ජාවට පත් වූවාය. ''මට නිකම් කියැවුණා බලාපල්ලා!''

නතාෂා සිනාසුණු අතර පාවෙල් කොක් හඬ ලෑවේය. හොහොල් කතා කරමින්,

''අම්මේ, තේවලට බොහොම ස්තුතියි'' කීවේය.

''තවම තේ බීවේ වත් නැහැ. ඒ වුණාට දැනටම ස්තුති කරනවා'' යැයි කී ඇ පාවෙල් දෙසට හැරෙමින්: ''මම උඹලට බාධා කරනවද''යි ඇසුවාය.

ඊට පිළිතුරු ලැබුනේ නතාෂාගෙනි:

''ඒ කොහොමද ගෙදර අයිතිකාරිය අමුත්තන්ට බාධා කරන්නෙ?''



ඉන්පසු ඇ ළදරුවෙකු මෙන් තේ ඉල්ලුවාය:

''අනේ නැන්දෙ, මට ඉක්මනින් තේ හදල දෙන්ට. ඇඟපත වෙව්ලන්ට පටන් අරගෙන. කකුල් ගිනල වෙලා.''

''හනිකට දෙන්නම්!'' යැයි අම්මා කීවාය.

තේ කෝප්පයක් බීව නතාෂා ශබ්ද පිටවන සේ හුස්ම ඉහළට ඇද ගොතා තිබුණු කෙස් කැරලි දෙවුර මත වැටෙන්නට හැර, කහ පාට කවරය සහිත පින්තූර පොතක් ගෙන කියවන්නට පටන් ගත්තාය. තරුණියගේ ගලායන කතාවට බාධා නොවන සේ ශබ්ද නොකර අම්මා තේ වත්කළාය. ඇගේ ප්‍රාණවත් කටහඬ සමොවාරයේ වතුර උතුරන ශබ්දය සමග එකට වෙළීයයි, ගල්කැටවලින් ගයා සතුන් මරාගෙන කමින් ගල්ගුහාවල ජීවත් වූ වනචාරී මිනිසුන් පිළිබඳ කතාව කාමරය තුළ වැලක් මෙන් මැවී පෙනේ. එය කතන්දරයක් මෙනි. මෙවැනි ඉතිහාසයක් නීතිවිරෝධී වන්නේ මන්දැයි පුතාගෙන් අසා දැනගැනීමට ආසාවක් උපන්නෙන්, අම්මා කීප වරක්ම ඔහු දෙස බැලුවාය. කතාව අසා සිටීම ඇට වීඩා ගෙනදෙන්නක් වූයෙන්, ඇ සවන් දීම පසෙක තබා පුතාටත් අමුත්තන්ටත් නොපෙනෙන සේ ඔවුන් දෙස බලන්නට වූවාය.

පාවෙල් වාඩිවී සිටියේ නතාෂා ළඟය; ඔහු, ඔවුන'තරින් කඩවසම් පෙනුමැත්තාය. පොත දෙසට නැඹුරු වී සිටි නතාෂා නිතර නිතර කඩා හැලෙන කෙස් කැරලි හරිගස්සන්ට වූවාය. වරෙක හිස පිටුපසට හරවා ඇදහැලෙන කෙස්වැටිය පෙර තිබූ තැනට යවන ඇ පහත් හඬකින් යිය මතය කියා පෑවාය. ඇ මෙසේ පොත දෙස නොබලාම, අසා සිටින්නන් දෙස දයාබර බැල්මක් හෙළුවාය. මේසය මත පපුව තබාගෙන සිටින හොහොල් කතා කරන විට තමාගේ රැවුලේ තුඩු-අග බලනුවස් වප'රුස් බැල්මක් හෙළයි. සජු ලෙස පුටුවේ වාඩිවී හුන් වෙසොව්ෂිකොව් ගල් ගැසුණාක්මෙන් දැත් දණහිස් මත තබාගත්වනම සිටියේය. ඇස්බැම් රහිත ඔහුගේ මුහුණ තුෂ්නිම්භූතව බලාගෙන සිටින බවක් පෙන්වීය. වෙස් මුහුණක් පැළඳි කලෙක මෙන් තොල කට නොසොල්වා, ඇසි පිය නොහෙළා සවන්දී සිටි ඔහු දිලිසෙන සමොවාරයේ පිළිබිඹු වෙමින් පවතින තමාගේම මුහුණ දෙස බලාගෙන සිටියේ හුස්ම නොගනිමිනි. පුංචි පියෝදර් සවන් දී සිටියේ කියවන හැම වචනයක් පාසාම ශබ්ද රහිතව තමාටම උච්චාරණය කරගනිමිනි. ඔහුගේ සගයා නමාගත් පිටිකොන්ද සහිතව, වැළමිටි දණහිස් මත තබා ගෙන හකු ඇට දෙඅත්ලෙන් අල්ලා ගනිමින්, කල්පනාකාරී ලෙස මඳ සිනාවක් පාමින් සවන් දුන්නේය. පාවෙල් සමග පැමිණි රතු හිස කෙස් සහ කොළපාට ඇස් ඇති ගැටවරයාට යමක් කියන්ට උවමනාවක් තිබුණද, ඔහු එසේ නොකියා, කලබල නොවී ඇදෙන්ට — පැදෙන්ට

විය. රන්පැහැති හිසකේ ඇති අනිකා තමාගේ හිස අතගා ගනිමින් බිම බලාගත්වනම සිටියෙන් ඔහුගේ මුහුණ නොපෙනිණි. කාමරය තුළ ඉතා හොඳ වාතාවරණයකි. තමාට නොතේරන වචන එකපිට එක හඬ නගන නතාෂාගේ කටහඬ, අම්මාට සිය තරුණ විය හා එකල පැවැත් වූ සැන්දෑ — හමුවීම් මතක් කළේය. එවැනි හමුවීම්වලට ආ තරුණයන්ගේ ගොරහැඩි බසද වොඩ්කා ගඳ සහ ඔවුන්ගේ නින්ද සහගත ඇනුම් පද ආදියද ඇට මතක් විය. එවිට ඈ තුළ උපන්නේ ස්වයං අනුකම්පාවකි. ඇගේ හදවත නිසලව සැලෙන්ට විය.

මියගිය ඇගේ සැමියා කළ යෝජනාවද සිහියට නැගිණි. එක් සැන්දෑවක අඳුරු ඉස්තෝප්පුවක හමුවූ ඔහු, ඈ තදින් බද අල්ලාගෙන කෝප වූ විටක මෙන් ගොරෝසු හඬකින් ඇගෙන් මෙසේ ඇසුවේය:

''මා සමග දීගෙ යන්ට එනවද?''

වේදනාවට පත් ඕ දුක් වූවාය. ඔහු ඇගේ ළය තමාවෙත ළංකර ගනිමින් බදගත්තේ කොතරම් වේගයකින්ද යත්, ඇගේ පපුව පොඩිවී ගිය කලෙක මෙන් වේදනාවක් පැන නැගිණ. ඈ වැරයොද ග්‍රහණයෙන් මිදී පසෙකට වූවාය.

''කොහෙද යන්නෙ? උත්තර දීපන්!''

සංවේගයට හා වේදනාවට පත් ඈ උත්තර නොදුන්නාය.

කිසිවෙක් ආලින්දයට ආහ. කලබල නොවී ඇව යාමට ඉඩදුන් ඔහු මෙසේ කීය:

''ඉරිදට මඟුල් කපුවෙක් එවන්නම්...''

කපුවා පැමිණියේය.

දෙනෙත් වසාගත් අම්මා දිග සුසුමක් හෙළුවාය.

''මිනිස්සු ජීවත් වුණු හැටි දැනගන්ට මට ඕන නැහැ. ජීවත් විය යුත්තේ කෙසේදැයි දැනගනිමටයි මා කැමති!'' නොසන්සුන් හඬකින් වෙසොව්ෂිකොව් පැවසීය.

''අන්න හරියට හරි!'' යැයි රත්නා ඔහුට අනුබල දුන්නේය.

''මම එකඟ නැහැ!'' පියෝදර් කෑ ගැසීය.

විවාදයක් පැන නැගිණි. වචන හුවමාරු වීමට පටන් ගත්තේ ගිනි මැලයක ගිනි පුපුරු මෙනි. කෑ ගසන්නේ මොනවා ගැනද යන්න තේරුම් ගැනීමට අම්මාට බැරිය. හැම දෙනාගේම කම්මුල් රත් පැහැ ගත් නමුදු එකෙක්වත් කෝපයට පත් වූයේ නැත. තමාට හුරු-පුරුදු ගොරහැඩි වචන හුවමාරු නොවිණ.

''නෝනාවරුන් නිසා ලජ්ජා වෙනවා!'' ඈ ඉවා ගත්තාය.

බැරෑරුම් විලාසයක් පෑ නතාෂාගේ මුහුණ ඈ සිත් ගත්තාය. මේ



හැටවරයන් තුඩා ළමයින් යැයි සිතමින් හැමදෙනා දෙසම නතාෂා බැලුවේ සැලකිල්ලෙනි.

''සහෝදරවරුනි, නැවතියල්ලා!'' හිටිහැටියේම නතාෂා කීවාය. ඈ දෙස බැලූ සියල්ලෝම නිහඬ වූහ.'

''හැම දෙයක්ම දැනගන්ට ඕනෑ යැයි කියන සහෝදරවරු හරි. නුගත් උදවිය අප වෙතට ගෙන්වා ගන්නට නම්, අපි බුද්ධිය ලබා ගත යුතුය. හැම ප්‍රශ්නයකටම අවංක සහ නියම ලෙස පිළිතුරු දිය යුතුය. සම්පූර්ණ බොරුව සහ සම්පූර්ණ ඇත්ත දැනගත යුතුය...''

හොහොල් ඒ වචන අනුමත කරමින් හිස වැනුවේය. වෙසොව්ෂිකොව්, රත්නා සහ පාවෙල් සමග පැමිණි කම්කරුවා යන තිදෙනාම එක පැත්තක් ගත්තෝය. කුමක් නිසාදෝ අම්මාට මොවුන් තිදෙන පියකරු නොවීය.

නතාෂා කතා කර අවසන් වූ විට පාවෙල් නැගිට සංසුන්ව මෙසේ ඇසුවේය:

''බඩ-කට පුරවා ගෙන ඉන්ට විතරද අපේ එකම අදහස? නැහැ!'' ඔහු අර තිදෙනා දෙස තියුණු ලෙස බලමින් තමාටම උත්තර දුන්නේය. ''අපේ කරේ ඉඳ ගෙන ඇස් වසන උන් කවුදැයි අපි පෙන්වා දෙමු. බඩ-කට පමණක් පුරවා ගන්ට හදන මිංග රැළක් නොවේ අපි. මෝඩයන් නොවන අපි සියල්ල දකිමු. මිනිසුන් ජීවත් විය යුතු විධියට අපි ජීවත් විය යුතු වෙමු. අපේ හතුරන් විසින් අප පිට පටවා තිබෙන දුක්බර කටුක ජීවිතය නිසා බුද්ධිය අතින් අප පහත් නො විය යුතුයි. අපි ඔවුන්ට වඩා බුද්ධිමත් විය යුතුයි!..''

ඔහුගේ කතාව අසන අම්මාගේ හදවත ආඩම්බරයෙන් පිනා යයි:

''කොහොමද එයාගෙ කතාවෙ ලස්සන!''

''බඩ පුරා කාපු බීපු එවුන්ට වඩා අවංක අය අඩුයි. කුණු වී යන වර්තමාන ජීවිතය නැමති මඩගොහොරුවෙ සිට අනාගත සුහද රජය දක්වා පාලමක් සෑදීමයි අපේ කාරිය, සහෝදරවරුනි!'' මෙසේ කීවේ හොහොල්ය.

''සටන් කිරීමට වෙලාව ඇවිල්ලා තියෙනවා, ඔය විධියට අත්වලට සාත්තු කරන්ට බැහැ!'' විරුද්ධ වෙමින් වෙසොව්ෂිකොව් කීය.

මැදියම් රෑ ගෙවී ගියෙන් ඔවුහු විසිර යන්ට වූහ. පළමුවෙන්ම පිටවී ගියේ රත්නා සහ වෙසොව්ෂිකොව්ය. මෙයද අම්මාගේ හිතට ඇල්ලුවේ නැත.

''මදැයි ඉක්මන් වෙලා දුවනවා''යි සිතමින් අම්මා පිටව යන ඔවුන්ට ආයුබෝවන් කීවාය.

''ඔයා මාව ගෙනිහිං ඇරලනවාද, නහෝද්කා?'' නතාෂා ඇසුවාය.

''සත්තකින්ම!'' යනු හොහොල්ගේ පිළිතුර විය.

නතාෂා කුස්සියට වී හිම කබාය ඇඳ ගන්නට වූ විට ඇට කතා කළ අම්මා මෙසේ කීවාය:

''මේ කාලෙට ඔබින මේස් නොවී ඔයා ඇඳගෙන ඉන්නෙ, ඔයාගෙ මේස් බොහොම තුනියි. මම ඔයාට වූලන් මේස් ගොතා දෙන්නම්.''

''බොහොම ස්තුතියි, පෙලගේයා නීලව්නා! වූලන් මේස් ඇඳ ගත්තාම කඩියො කන්නාවගෙ දැනෙනවා!''යි නතාෂා කීවේ සිනාසෙමිනි.

''මම ඔය ළමයට දෙන්නම් කඩියො කන්නා වගෙ නොදැනෙන වර්ගයේ මේස් කුට්ටමක්!'' යැයි විලාසොවා යළිත් කීවාය.

දෙනෙත් හකුළුවා ගත් නතාෂා පුදුම වූ විටෙක මෙන් අම්මා දෙස බැලුවාය. මෙයින් වූයේ අම්මා තරමක ව්‍යාකූලයට පත් වීමය.

''ඔය ළමය, තරහ වෙන්ට එපා, මගේ මෝඩකමක හැටි. මම කීවේ අවංක හිතකින්!''

''ඔයා හරිම දයාබරයි!'' කී නතාෂා අම්මාට අතට'ත දෙමින් ඇගෙන් සමුගත්තාය.

''සුබ රාත්‍රියක්, නෙන්කො,'' යැයි කී හොහොල් අම්මාගේ දෙනෙත් දෙස එක එල්ලේම බලා සිට, පසුව පිටකොන්ද නමාගෙන කාමරයෙන් පිටවී නතාෂා පිටුපස ගමන් ගත්තේය.

කාමරයේ දොර ළඟ සිටගෙන මද සිනා පාමින් හුන් පුතා දෙස අම්මා බැලුවාය:

''උඹ මොකද හිනාවෙන්නෙ?'' තරමක් ලජ්ජාවට පත් අම්මා ප්‍රශ්න කළාය.

''සන්තෝෂෙ නිසා!''

''සත්තකින්ම මම මෝඩයි, මහලුයි. ඒ වුණාට හොඳ දේ මට තේරෙනවා!'' යැයි ඇ කීවේ මදක් අමනාප වූ බවක් පෙන්වමිනි.

''ඒක හරි හොඳයි! දැන් ඉතින් අම්මා, ගිහිං නිදගන්නෑ''යි ඔහු කීය.

''දැන්ම නිදගන්නම්!''

මේසය වටේ යමින් කෝප්ප අස්-පස් කළ ඇ තුළ ඇතිවූ ප්‍රීතිය හා කැළඹීම නිසා ඩහදිය බිංදු පවා වැහිරෙන්ට විය. සියල්ල මෙතරම් හොඳින් සහ සාමකාමී ලෙස අවසන් වීම ගැන ඇ සන්තෝෂ වූවාය.

''උඹ කල්පනා කළ හැටි හොඳයි, පවලූෂා: හොහොල් කරුණාවන්ත හාදයෙක්! අර නෝනා හරිම නුවණක්කාරියක්! ඇ කවුද?''

''ස්කෝල හාමිනේ කෙනෙක්!'' යැයි පාවෙල් පිළිතුරු දුන්නේ කාමරය තුළ සක්මන් කරමිනි.

''එ වුණාට හරිම දුප්පත්. ඇඳ ගෙන ආපු ඇඳුම්වල හැටි දැක්කද! වැඩි



දවස් යන්න ඉස්සල්ලා හෙම්බිරිස්සාව හද ගනීවි නේද? ඒ ළමයාගෙ දෙමාපියෝ කොහෙද?..''

''මොස්කව්වල'' යැයි කී පාවෙල් මැරුණු මුහුණක් ඇතිව අම්මා ඉදිරිපිට සිට ගත්තේය:

''ඉන්න බලන්න: ඒ ළමයගෙ තාත්තා යකඩ බාල්ක වෙළෙන්දෙක්. ගෙවල් කීපයක්ම අයිතිකාර පොහොසතෙක්. ඒ ළමය ඔය මග ගත්තු නිසා තාත්තා ඇව එළෙව්වා දැම්මා. ඒ ගැනු ළමය හැදී — වැඩුණෙ බොහොම හොඳින්. පුංචි කාලෙදී අතට — පයට වැඩකරුවො හිටිය. ඕන කියාපු දේ ලබා දුන්නා. දැන් මහ රෑ හැතැප්ම හත අට පයින් යනවා තනියම...''

ඒ කතාව නිසා අම්මා පුදුමයට පත් වූවාය. කාමරය මැද නිසලව සිට ගත් ඇ ඇස්බැම් නටවමින් පුතා දෙස බලන්නී, මෙසේ ඇසුවාය:

''නගරෙටද යන්නෙ?''

''ඔව්, නගරෙට.''

''අනේ, එහෙම යන්ට බය නැතිද?''

''ජේනවා නොවැ — බය නැහැ'' පාවෙල් මද සිනා පෑවේය.

''ඇයි හියෙ? අපේ ගෙදර ඉඩ තියනවා නේද. මගේ ඇඳේ නිද ගන්ට තිබුණා නොවැ!''

''ඒක හොඳ නෑ! උදේට මිනිස්සු එයාව දකින එක අපට හොඳ නෑ.''

කල්පනාකාරී ලෙස ජනේලයෙන් ඉවත බලා සිටි අම්මා සෙමින් ඇසුවාය:

''මට තේරෙන්නෙ නැහැ, පාෂා*, ඔය වැඩවල තියන අවදානම් ගැනයි, නීතිවිරෝධිකම ගැනයි? ඔය වැඩවල නරක ගතියක් නැහැ නොවෙද?''

ඒ ගැන ඇ තුළ සැකයක් පහළ වූයෙන්, තම පුතාගෙන් ඒ පිළිබඳ ස්ථිර පිළිතුරක් ඇ බලාපොරොත්තු වූයේ. කලබල බවක් නොපෙන්වූ හෙතෙම ඇ දෙස බලාගත්වනම මෙසේ පිළිතුරු දුන්නේය:

''නරක දෙයක් නොවන බව නම් ඇත්තයි. ඒ වුණාට සියලු දෙනාගෙම අනාගතය හිරගෙදර බව මතක තබා ගන්න...''

දැත් පණ නැතිව ගියාක් මෙන් ඇට දැනිණි. සිත් හඬකින් ඇ ප්‍රශ්න කළාය:

''දෙවියන්ගේ පිහිටෙන් කොහොම හරි එයින් වැළකී ඉන්ට හැකි වේවි?..''

''බැහැ! අම්මා රවටන්ට මට බැහැ. වැළකී සිටින්ට පුළුවන්කමක් නැහැ!'' මුදු ලෙස ඔහු කීය.

---

* පාෂා: පාවෙල් යන්න කෙටියෙන් හැඳින්වීමකි. අනුවාදක

ඔහු මද සිනාවක් පෑවේය.

"නිදගන්ට, අම්මාට මහන්සි ඇති නේද. සුබ රාත්‍රියක් වේවා!"

ඇ තනිවම ජනේලය අසලට ගොස් ඈත පෙනෙන පාර දෙස බලාගෙන උන්නාය. ගෙයින් පිටත අඳුරුය, ශීතලය. නිදි කිරා වැටෙන කුඩා ගෙවල්වල වහලවලින් කුඩා හිම කැට බිමට වැටුනේ සුළං පාරට අසු වූ බැවිනි. එසේ වැටෙන හිම බිත්තියට වැදී රහසක් කියන්නාක් මෙන් කොඳුරයි. නැවත පාරට වැටී සුදු වලාකුළු මෙන් ගමන් කරයි...

"ජේසු ස්වාමි දරුවෙනි, අපට සමාවෙන්න!" යැයි ඇ තොල මතුළාය.

ඇගේ හදවත අඩා වැළපෙන්නට වූවාය. සිය පුතා සංසුන්ව හා ස්ථිරව ඒ අනාගත දුෂ්කරදරය බලාපොරොත්තුවෙන් අන්ධ වූ ඇස් ඇත්තියක මෙන්,සිටි ඇගේ හදවත රෑ සමතලයෙකුගේ මෙන් සැලෙන්නට වූවාය. ඇගේ දෙනෙතට මෙවර හමුවූයේ හිමෙන් වැසිගත් සමතලා භූමියකි. හු හඬ නගමින් සීත සුළං පාර නැගී සිටින්නේ හිම කැට අවුස්සමින් සුදු පලසක් ඇති කරමිනි. සමතලා බිම මැද්දටවී ඒ මේ අත වැනෙමින් ගමන් කරන තොළුස් තරුණියකගේ රූපයක් ඇගේ මනසට හසු වෙයි. ඇ වෙත හමන කුණාටුව නිසා ඇට ගමන් කිරීම අපහසු වී දෙපා පටලැවී යන්නාක් මෙනි. වරෙක සුළං පහර ඇ හැද සිටින සාය පුම්බා දමයි. තවත් වරෙක කුඩා හිම කැට ඉඳිකටු තුඩු මෙන් ඇගේ මුහුණට අනියි. දණක් උසැති හිම ගොඩවල එරෙන කුඩා පාදයන්ට ගමන් කිරීම අමාරු වෙයි. සීත හා බිය වැඩි වෙයි. තරුණිය ඉදිරියට නැමෙන්නේ තණ පතක් අඳුරු සමබිමක හේමන්ත කුණාටුවට අසු වූ කලෙක මෙනි. ඇට දකුණෙන් මඩගොහොරු බිමක් සහිත අඳුරු තාප්පයක් බඳු වනයකි. කොළ රහිත සිඛින් උස බර්ච් සහ ඇස්ප් ගස් මූසලයන්සේ හඬ දෙති. ඈත නගරයක අඳුරු ආලෝකයක් ඉදිරියෙහි පෙනේ...

බියෙන් සැලෙන්නට වූ අම්මා "දෙවියන්වහන්සේ, සමාවන සේක්වා!" යැයි යැදුවාය.

## VII

දවස් එකිනෙක ගෙවී ගොස් සති හා මාසද පසුවිය. හැම සොහුරාදවකම පාවෙල්ගේ ගෙදර රැස්වීමකි. මේ හැම රැස්වීමක්ම දිගැති හිණි මගෙක පෙති මෙනි. ජනතාව සෙමින් පුබුදුවාලමින් ඒවා ක්‍රියාකාරී විය.

අලුත් මිනිස්සු ඇදී ආහ. විලාසොව්ලාගේ කුඩා කාමරය තුළ හුස්ම ගැනීම පවා අපහසු වන තරමට ඉඩ-කඩ මදි විය. සීතලෙන් ගැහෙමින්



පැමිණෙන නතාෂා මහන්සි වී සිටියද සතුටෙන් හා ප්‍රීතියෙන් හැසුරුණාය. අම්මා මේස් කුට්ටමක් ගොතා ඇගේ කකුල්වලට ඇන්දෙව්වාය. පළමුව සිනාසුණු නතාෂා පසුව නිසොල්මන්ව සෙමින් කතා කරමින් මෙසේ කීවාය:

"මා බලාගන්ට කිව්වා ආයා කෙනෙක්. එයා හරිම කරුණාවන්තයි! පෙලගේයා නිලව්නා බලන්න, කම්කරුවෝ කොතරම් දුක්බර ජීවිත ගත කළත් ඒ ගොල්ලන්ගෙ හදවත් කරුණාවෙන් අර ගොල්ලන්ට වැඩිය පිරිලා තියෙනවා!"

ඇ අතක් ගස්සා දමමින් යම් කිසි දෙයක් පෙන්වන්නාක් වැනි ඉඟියක් පෑවාය.

"අනේ ඔයාට. වෙලා තියෙන දෙයක හැටි! දෙමාපියන්ගෙන් වෙන් වුණා, දේපලත් නැතිව ගියා!" විලාසවා කීවාය. ඇට උවමනා දේ කියාපෑමට නොහැකි වූයෙන්, ඇ නතාෂාගේ මුහුණ දෙස බලමින් නිසොල්මන්ව කල්පනා කරන්නී, කුටු-පහටු බවක් පළ කළාය. අම්මා ඇ ඉදිරිපිට බිම වාඩිවී උන් අතර, තරුණිය පහන් කරගත් හිසින් ප්‍රහුව මද සිනා පෑවේ කල්පනාවෙක යෙදෙමිනි.

"දෙමාපියන්ගෙන් වෙන් වුණා?" ඇ නැවත වරක් කීවාය. "ඒකට කමක් නැහැ. මගේ තාත්තා ගොරහැඩි මිනිහෙක්. අයියත් ඒ වගේමයි. එයා බේද්බදෙක්. අක්කා හරිම අවාසනාවන්තියක්... ඇට වඩා වයසින් බොහොම වැඩි මිනිහෙකුට කසාද බැඳ ගත්තා... ඒ මිනිහා හරිම කැදර, මුසල පොහොසතෙක්. අම්මා ගැන හරිම දුකයි! එයා හරියට ඔයා වගෙ බොහොම වාමි. පුංචි හාවෙක් වගෙ ගමන් කරනවා, හැමදෙනකුටම බයයි. සමහර වේලාවට අම්මාව බලන්ට යන්ට ලොකු ආසාවක් ඇති වෙනවා..."

"අනේ මිය ළමය ගැන හරිම කණගාටුයි!" හිස වනමින් අම්මා කීවාය.

හිස මසවා බැලූ තරුණිය, යමක් ඉවතට තල්ලු කරන්නාක් මෙන් හනික අතක් දිගු කර කතා කළාය.

"නැහැ! ඒ වුණාට මට මේ වැඩ නිසා හිතේ ලොකු සතුටක් දැනෙනවා!"

මුහුණ සුදුමැලිව ගොස් ඇගේ නිල්පැහැති ඇස් වඩාත් දීප්තිමත්ව බැබලෙන්ට විය. අම්මාගේ උරහිසට අත තැබූ ඇ වශී කරන සුලු මිහිරි හඬකින් කතා කළාය:

"අපි මේ කරන වැඩවල ශ්‍රේෂ්ඨත්වය ගැන ඔබට අවබෝධයක් තිබෙනවනම්, ඔබ ඒවා ගැන දන්නවානම්!.."

විලාසවාගේ හදවත තුළට ඒ වචන කා වැදුනාක් මෙන් විය. වාඩිවී උන් තැනින් නැගී සිටගත් අම්මා පිළිතුරු දුන්නේ ශෝකාන්විත හඬකිනි:

"ඔවට මම මහලු වැඩියි, ඒ මදිවට අකුරු දන්නෙත් නැහැ..."

පාවෙල් වැඩි වැඩියෙන් කතා කළේය, වාද-විවාද කළේය. ඔහු වඩාත් කෙට්ටු වීමට පටන් ගත්තේය. ඔහු නතාෂා සමග කතාබහ කරන විට, ඔහුගේ ඇස්වල කාන්තිමත් බව වඩාත් දීප්තිමත් වන අතර කටහඬ වඩාත් සුරතල් වන බවත්, ඔහු වඩාත් චාම් ලෙස පෙනී සිටින බවත් අම්මාට හැඟෙන්නේය.

''දෙවියන්ගේ පිහිටයි!'' අම්මා යදින්නී, මඳ සිනා පෑවාය.

රැස්වීම්වලදී උණුසුම් වාද-විවාද පැන නැගී විගසම හොහොල් නැගිට ඒ මේ අත හැරෙමින් කතා කරයි. ඔහුගේ පිදිවත් කටහඬ සීනුවක් මෙනි. වෙගවත් ලෙස විවාදයට බසින ඔහු අතිශය චාම්, මෙත් උපදවන යමක් කියයි. ඉන්පසු විවාදය වඩාත් නිසල බවක් හා බැරෑරුම් ස්වරූපයක් ගනී. වෙසොව්ෂිකොව් සහ රතු හිසකෙස් ඇති, සමෝයිලොව්ද නිතරම කොහේදෝ යාම සඳහා ඉක්මන් වූහ. විවාදය හැමදම පටන් ගත්තේ ඔවුන් දෙදෙනාය. රන් පැහැති හිසකෙස්වලින් යුත්, වටකුරු හිස් ගෙඩියක් ඇති, ඉවාන් බූකින්ද අර දෙදෙනා සමග එක්වෙයි. යාකොව් සෝමොව් හෙමින් පැහැදිලිව මඳ වශයෙන් කතා කළේය. ඔහුගේ පෙනුමද බැරෑරුම්ය. ඔහු සහ පළල් නළල් තලයකින් හෙබි පියෝදර් මාසින්ද එවැනි වාද-විවාදවලදී පාවෙල්ගේ සහ හොහොල්ගේ පැත්ත ගත්තෝය.

සමහර දවස්වලට නතාෂා වෙනුවට නගරයේ සිට පැමිණියේ නිකොලායි ඉවානවිච්ය. රන්වන් පාට යටිරැවුලකින් හෙබි ඔහුතෙම කණ්ණාඩි කුට්ටමක් පැළඳ සිටි අතර, ඈත ප්‍රදේශයක සිට පැමිණියෙන් 'ඕ' ශබ්දය වඩා දිග්ගසමින් කතා කළේය. ඔහුගේ පෙනුම හා හැසිරීමද පිට පළාතක සිට ආ බවකී, කියා පෑවේ. ඔහු සාමාන්‍ය දේ ගැන කතා කළේය. පවුල් ජීවිතය, ළමයි, වෙළදාම, පොලීසිය, ආහාර මිළ, එදිනෙද පැන නගින ප්‍රශ්න ආදිය ගැනය, ඔහු කතා කළේ. මේ හැම ප්‍රශ්නයක්,ගැනම ඇතිව් තිබෙන වැරදි හැකිම් ව්‍යාකූලත්වය ආදිය ගැන හෙළි කරමින් සහ මෝඩකම් පෙන්වා දෙමින්, හැමදම පොදු ජනතාවට පාඩු ගෙන දෙන ප්‍රශ්නයන් උපහාසයට ලක්කරමින් ඔහු කතා කළේය. ඔහු පැමිණියේ ඈත රජයක සිටය, එහි හැම එකෙක්ම අවංකය, එහෙත් මෙහි හැම දෙයක්ම ඔහුට නුහුරු දේය, ඔහුට මේ ජීවිතයට පුරුදු වීමට බැරිවාක් මෙනි, එම ජීවිතය අනිවාර්ය දෙයක් සේ පිළිගැනීමට ඔහු මැලි වෙති යන හැඟීමකි, ඔහු දෙස බලා සිටි අම්මා තුළ හටගත්තේ. අද පවතින හැම දෙයක්ම තමාට රිසිසේ නැවත පෙරළා හද ගැනීමේ අභිලාෂයෙන් කතා කළ ඔහු ගැන අම්මා අමනාප වූයේ යටි සිතිනි. ඔහුගේ මුහුණ කහ පැහැතිය. ඇස් වටා සිහින් රැලි ගැසී හැකිලී තිබිණි. කටහඬ සිහින් වූ



නාඹුරු අත් උණුසුම්ය. විලාශවා සමග අතට'ත දෙනා ඔහු ඇගේ අත ඔහුගේ මහතැති ඇඟිලිවලින් මිරිකයි. එවැනි අතට'ත දීමකින් පසු හදවත තුළ සැහැල්ලු බවක් ඇති වෙයි.

නගරයේ සිට නිතර පැමිණි අමුත්තන් අතුරෙන් කෙනෙකි, සාශෙන්කා*. ඕ උසය, සිහින්ය, ලොකු ඇස් ඇත්තියකි. ඇගේ මුහුණ සුදුමැලිය. ඇ ගමන් කරන විට පිරිමියෙකු සේය. කළු පැහැති සිය ඇස් බැමි හකුළුවා ගනිමින් බලන ඇ කතා කරන විට නාස් පුඩු කාලයකට නැවෙයි.

උස් හඬින් හා ස්ථිර ලෙස සාශෙන්කා පළමු වරට කතා කළාය:

''අපි සමාජවාදියෝ...''

අම්මා ඒ වචනය පළමු වරට ඇසූ විට බියෙන් සිහින් ඇගේ මුහුණ දෙස බැලුවාය. සාර් රජු මරා දැමුවේ සමාජවාදීන් විසින් බව ඇ අසා තිබෙ. ඒ සිද්ධිය ඇති වූයේ ඇ තරුණ කාලයේදිය. සාර් රජ ගොවීන්ට නිදහස දුන් නිසා කෝපයට පත් රදළ ඉඩම් හිමියෝ, ඔහු මරා දමනතුරු රැවුල් සහ කොණ්ඩා කපා නොසිටිමට දිවරුම් දුන් බව එද කීහ. මෙසේ දිවරුම් දුන් බැවින් ඔවුන්ට සමාජවාදීන් යැයි කී බව ඇ අසා තිබෙ. ඇගේ පුතා සහ සගයෝ සමාජවාදීන් වීමේ හේතුව ඇට නොවැටහිණි.

රැස්ව සිටියවුන් විසිර ගිය පසු අම්මා පාවෙල්ගෙන් ප්‍රශ්න කළාය:

''පවිලූෂා, උඹ සමාජවාදියෙක්ද?''

''ඔව්!'' යැයි කී ඔහු ඇ ඉදිරිපිට වෙනද මෙන්ම සිටගනිමින් ස්ථිර හඬකින් ඇසුවේය: ''ඉතින් මොකද?''

බැරෑරුම් සුසුමක් හෙළූ අම්මා දෙනෙත් බිමට හරවා ගනිමින් කතා කළාය:

''එහෙමද, පවිලූෂා? ඒගොල්ල සාර්ට විරුද්ධයි. එක සාර් රජෙකුව මරා දැම්මා.''

කාමරය තුළ ඇවිදිමින් සිටි පාවෙල් කම්මුලක් අතගාමින් සිනාසුණේය:

''අපිට එයාව මරල වැඩක් නැහැ!''

ඔහු ඇට ඇසෙන සේ පහත් හඬකින් බැරෑරුම් යමක් විස්තර කළේය. ඇ, ඔහුගේ මුහුණ බලාගත්වනම සිටින්නී කල්පනා කළාය:

''මගේ පුතා එහෙම දේවල් කරන්නේ නෑ!''

පසුව ඒ බියජනක වචනය නිතර නිතර කියන්ට විය. එහි මුවහත්බව කෙමෙන් නැතිව් ගොස් එය කනට හුරු-පුරුදු වචනයක් විය, ඇට නො

* සාශෙන්කා: සාශා නමින් බිඳගත් සුර තල් නමකි. අනුවාදක

තේරෙන වචන පුරුදු වූවාක් මෙනි, එයද හුරු වූයේ. සාෂෙන්කා ඇ සිත් නො ගත්තිය. ඇ පැමිණෙන හැම වාරයකදීම අම්මා තුළ ඇති වූයේ අපහසු අවදනම් සහිත හැඟීමකි.

අසතුටකින් යටි තොල විකාගත් ඇ දවසක් ද හොහොල් වෙත පැමිණිලි කළාය:

“සාෂෙන්කා බොහොම තද වැඩියි! අරක කළ යුතුයි මේක කළ යුතුයි කියමින් එයා අණ කරනවා!”

හොහොල් හඬ නගා සිනාසුණේය:

“කතාව හරියට හරි, නෙන්කො! ඉලක්කයට වැදුනා! පාවෙල්, එහෙම නේද?”

අම්මා දෙස බැලූ හොහොල් ඇසක් අඩවන් කරගනිමින් මෙසේ කිය:

“ආදිපාද දේවියක්!”

පාවෙල් ඇ පිළිබඳ සිය අදහස් පැවසිය:

“එයා හොඳ කාන්තාවක්.”

“ඒක ඇත්ත. ඇ කළ යුතු අතර අපට කරන්ට ඕන, කරන්ට පුළුවන් යන්න ඇට තේරෙන්නේ නැහැ!” එලෙස කීවේ හොහොල්ය.

ඉක්බිති ඔවුහු නොතේරෙන බසකින් වාද කළහ.

සාෂෙන්කා වඩාත් වැඩි දැඩි ගතියක් පෙන්වන්නේ පාවෙල් කෙරෙහි බවත්, සමහර විට ඇ ඔහු වෙත කඩා පණින බවත් අම්මා දකී. එවිට පාවෙල් සිනාසී ඉස්සර නතාෂා දෙස බලන ඒ මුදු-මොළොක් බැල්මෙන්ම ඇ දෙස බලයි. මෙයද අම්මාගේ සිත් නො ගත්තේය.

සමහර විට රුස්ව හුන් හැමදෙනාම මහත් වූ ප්‍රීතියෙන් පිනා යන සැටි දකින අම්මා පුදුමයට පත්වෙයි. පිටරටවල කම්කරු ජනතාවගේ තත්ත්වය ගැන පත්‍රයක තිබූ ලිපි කියැවූ ද ඒ ප්‍රීතිය පෙනෙන්ට තිබිණ. හැමදෙනාම කුඩා දරුවන් සේ ප්‍රීතියට පත්වෙමින් සිනාසෙමින් එකිනෙකාගේ උරහිස්වලට තට්ටු කරමින් සන්තෝෂ වූහ. ඔවුන්ගේ ඇස් දීප්තිමත්ව බැබලිණ.

නිම්-හිම් නැති ප්‍රීතිය උසුලා ගැනීමට බැරි වූයෙන් එකෙක්, “ජර්මන් සහෝදරයො හරි දක්ෂයෝ!” යැයි කෑ ගැසිය.

“ඉතාලි කම්කරුවන්ට ජය වේවා!” යි වරෙක කෙනෙක් හඬ නැගූහ.

ඔවුන්ගේ බස නො තේරෙන, එය නො දන්නා, කොහේදෝ ඈත රටවල සිටින සෝයුරන් වෙත මිත්‍ර ලීලාවෙන් ශබ්ද නගා කතා කළ ඔවුහු, තමන්ගේ උනන්දුව සහ මිත්‍ර ආයාචනය ඔවුන්ට ඇසෙනු ඇතැයි විශ්වාස කළහ.



බද වැළඳ ගැන්මට තරම් මහත් වූ සෙනෙහසකින් පිරි ගිය හදවතක් ඇති හොහොල් දීප්තිමත්ව බැබලෙන ඇස් ඇත්තේ, සිය හැඟීම් විස්තර කරමින් කතා කළේය:

“අපි ඒ ගොල්ලන්ට ලියමු, හොඳේ? ඔවුන් විශ්වාස කරන ධර්මය, විශ්වාස කරමින් එය පතුරුවා හරිනුවස් ක්‍රියාකරන ඔවුන්ගේ යාළුවෝ රුසියාවේත් ඉන්න බව ඔවුන් දැනගන්නාවෙ. එකම පරමාර්ථයක් ඇති අය ඔවුන්ගේ ජය නිසා ප්‍රීති වන බව දැනුම් දෙමු!”

බලාපොරොත්තු සහිතව, සිනා මුහුණුවලින් යුතුව, ප්‍රංශයන් සහ ඉංගිරිසින් ගැනද, ස්විඩන්වරුන් ගැනද ඔවුන් බොහෝ වේලා කතා කළේ, ඔවුන් තමන්ගේ කිට්ටු මිතුරන් සේ සලකාගෙනය. හිතවත් මිතුරන්ගේ ජයේදී ප්‍රීති වෙමිනුත්, පරාජයේදී දුක් වෙමිනුත් අන්‍යොන්‍ය ගෞරවය දක්වමිනුත් ඔවුන් ගැන ඔවුහු කතා කළහ.

ලෝකයේ සියලුම රටවල කම්කරු ජනතාව අතර සහෝදරාත්මක හැඟීම එම කුඩා කාමරයේ තදබද පරිසරය අතරින් පැන නැංගේය. එම හැඟීම සියලු දෙනාගේම සිත් සතන් පිනවූ අතර අම්මාද ඒ නිසා සුහද හැඟීම තම සිත තුළ හටගත්තේ කැළඹීමට පත්වූවාය. මේ ප්‍රීතිමත් හැඟීම තම සිත තුළ හටගත්තේ මන්ද යන්න ඇට අවබෝධ නුවූවද, එයින් ඇයට තරුණ ප්‍රීතියකුත් සම්පූර්ණ සුහද බලාපොරොත්තුවකුත් සහිත ශක්තියක් හා නව ජීවනයක් ඇති විය.

“උඹල හරි මිනිස්සු, උඹලට හැම දෙනාම සහෝදරයො අර්මීනියන් වරු, යුදෙව්වො, ඔස්ත්‍රියානුත් මේ ගොල්ල හැම දෙනාම උඹලට එකයි. උන් ගැන කණගාටු වෙනවා, සන්තෝෂ වෙනවා!” යැයි දවසක් ද අම්මා හොහොල්ට කීවාය.

“සියලු දෙනාම වෙනුවෙන්, නෙන්කො, සියලු දෙනා සඳහා! අපි ජාති, ගොත්‍ර බේද සලකන්නේ නැහැ. අපිට ඉන්නව සහෝදරයොයි, හතුරොයි, එපමණයි. සියළුම කම්කරුවො අපේ සෝයුරො. ධනපතියෝ සහ සියලුම ආණ්ඩු අපේ හතුරො. මෙත් සිතින් ලෝකය දිහා බලන්න. එතකොට පෙනේවි කම්කරුවො කොපමණද, උන්ගෙ බලය කොපමණද කියල. එවිට අපේ හදවත් ප්‍රීතියෙන් උතුරා යනවා. හදවත ඇතුළෙ ලොකු උත්සවයක්-ප්‍රීතියක් දැනෙනවා, නෙන්කො, ප්‍රංශුවත්, ජර්මානුවා සහ ඉතාලිකාරයාත් ඒ විධියටම ජීවිතය දෙස බලා ප්‍රීතිවෙන බව හැඟෙනවා. අපි හරියට එක අම්මගෙ දරුවො වගෙ. ලෝකයේ සියලුම රටවල කම්කරු ජනතාවගෙ සහෝදරත්වය බිඳින්ට බැරි ජයක්. එය තමයි සාධාරනත්වයේ සූරියාලෝකය. එය අපට උණුසුමක් ගෙනදෙනවා. ඒ හැඟීමෙන් අහස දක්වා හදවත පිරී යනවා. සමාජවාදියා මොකක් හෝ

කිවත්, නොකිවත් දූනට ඇති වේගන යන මේ සහෝදරත්වය සත වරුස ගණනාවක්ම ශක්තිමත් වෙමින් පවතිනවා!''

ඒ ළමා හැඟීම ඔවුන් තුළ නිතර පැන නැංගේ විශ්වාසයකින් යුතුවය, ක්‍රමයෙන් වැඩුණු එම විශ්වාසය දුවැන්තමය බලයක් බවට පරිවර්තනය විය. ඒ දුටු අම්මා, නිත්‍ය වශයෙන්ම ලෝකයේ මහා බලයක් පැන නැගී තිබෙන බවත්, නිර්මල වූ ඒ මහා බලවේගය තමාට පෙනෙන හිරුට සහ ආකාශයට සමාන බවත් වටහා ගත්තාය.

ඔවුහු නිතර ගී ගැයූහ. කවරුත් අසා තිබෙන ජනප්‍රිය ගී-සින්දු සියලු දෙනාටම ඇසෙන සේ ගායනා කරන ලදි. එහෙත් සමහර දවස්වල අමුතු විශේෂ ගීතයන් ගායනා කළාහ. ඒවා ප්‍රීතිය ගෙන දුන්නේ නැති නමුදු ඒවායේ ස්වරමාලා එක්තරා හැඟීමක් ගෙන දීමෙහි සමත් විය. පල්ලියේ කන්තාරු පූජාවට ගයන ගී මෙන් ලතාවක් අනුව මෙවා ගයන ලද්දේ අඩ ස්වරයෙනි. ගායකයන්ගේ මුහුණු වරෙක මැළවී යති, තවත් වරෙක පණ ලබා ප්‍රබෝධමත් වෙති. එම ගීතවල වචන තුළ සැඟවී ගත් මහා බලයක් තිබෙන බවකි, ඇයට දැනුණේ.

අම්මාගේ සිත කළඹා වේදනාව ගෙන දුන් එක් අළුත් ගීතයකි. එම ගීතය දුකින් හදවත පුරවාලූයේ නැත, අස්ථිර බව නැමති අඳුරු දෙමනයෙහි වල්මත් වූ බවක් හෝ හුදකලා බවක් හෝ අමනාපයට පත්වූ බවක් හෝ එම ගීතය කියා පෑවේ නැත. දුකින් බර සුසුම්ලෑම්ද, වටපිටාව කෙරෙහි ලෝබයෙන් කරන කෑ ගැසීම්ද, ප්‍රකෝපකාරී වීරත්වය ගැනද නපුර සහ හොඳ මෙයැයි සොයා නොබලා සියල්ල විනාශ කර දැමීම ගැනද එහි කිසිවක් නොවීය. සියල්ල සුණු විසුණු කර දැමීමෙහි සමත්, එහෙත් කිසිවක් නිර්මාණය කිරීමෙහි අසමත් අන්ධ වූ පළිගැනීම හෝ වෛරය ගැනද, පැරණි වහල් ලෝකයේ කිසිදු වත-ගොතක් ගැන හෝ එම ගීතයෙහි සඳහන් නො විය.

තද වචන සහ දැඩි ගායනය අම්මාගේ සිත් නොගත්තාය. එහෙත් එම ගීතය, ස්වරමාලා රචනය හා හඬ අමුතු බලයකට හරවා ලමින් හිතින් මවා ගැනීමෙහි අපොහොසත් යමක අනාගතයක් ගැන කියා පාමින් හදවත පිබිදෙව්වේය. තරුණයින්ගේ මුහුණු හා නෙත්වල එය දකින්නට තිබුණද, ගීතයට අමුතු පණක් ලබාදෙන එම බලය ඔවුගේ හදවත් තුළ තිබෙන බව ඇට හැඟිණි. අන් සියළු ගීතයන්ට වඩා ගැඹුරු හැඟීමකින් හා විශේෂ සැලකිල්ලකින් යුතුව ඈ එම ගීතයට නිතර සවන් දුන්නාය.

අන් ගීවලම වඩා පහත් හඬින් එම ගීය ගැයූවද එහි රාවය වසන්තයේ පළමුවැනි දවස්වල — මාර්තු මාසයේ කුණාටුව මෙන් සියලු දෙනාම වෙළා ගැනීමෙහි සමත් විය.



''මහ පාරට ගිහිං ගායනා කරන්ට වෙලාව ඇවිල්ල තියෙනවා!'' යැයි වෙසොව්ෂිකෝව් කීවේ මූසල හඬකිනි.

ඔහුගේ පියා කිසිවක් සොරකම් කොට සිරගෙට නියම වූ විට ඔහු සංසුන් ලෙස සිය සගයන් අමතා මෙසේ කීය:

''දූන් අපේ ගෙදර රැස්වෙන්න පුළුවනි...''

හැමදම, දවසේ වැඩ හමාර වීමෙන් පසු කවුරුන් හෝ පාවෙල්ගේ ගෙදර පැමිණියේය. ඔවුහු කියැවූහ. අයෙක් පොතකින් යමක් පිටපත් කරගත්හ. මොවුන්ගෙන් සමහර දෙනා දවසේ වැඩ හමාර වීමෙන් පසු මූණ-කට පවා සෝදා ගැනීමට පෙර මෙවැනි වැඩවල යෙදුණාහ. පොත් කියවමින් රෑ කෑම ගැනීම සහ තේ බීමද කළෝය. ඔවුන්ගේ කතාබහ අම්මාට වඩාත් වටහා ගැනීමට බැරි විය.

''අපට පත්තරයක් ඕනා!'' පාවෙල් නිතර කීවේ මෙයයි.

ජීවිතය වේගයෙන් ගෙවී ගියේය. මී මැස්සෙක් මලින් මලට යන්නාක් මෙන්ම, පොතින් පොතට යමින් ඔවුහු වේගයෙන් කියැවූහ.

''අප ගැන කතා කරනවලු ඉක්මනින් අපි විනාශ වේවි'' දවසක්ද වෙසොව්ෂිකොව් කීය.

''දැලට අසු වෙන කලියෙන් නැවුව මදැ!'' මෙසේ කීවේ හොහොල්ය.

ඔහු වඩාත් අම්මාගේ සිත් ගත්තේය. ඔහු'' නෙන්කො'' යැයි කියන විට ළදරුවෙක් ශිහිනි සිනිඳු අතින් ඇගේ කම්මුල අත ගාන්නක් මෙනි, ඇට දැනෙන්නේ. ඉරිද දවස්වල පාවෙල්ට වැඩ බහුලව තිබුනොත්, හොහොල් දර පළයි. දවසක්ද ඔහු ලොකු ලෑල්ලක් කරගසා ගෙනැවිත් දක්ෂ ලෙස එය කපා, එළිපත්තේ දිරා ගොස් තිබුණු පඩි පෙල ගලවා දමා, අළුත් පඩි පෙලක් සෑදුවේය. තවත් දවසක ඔහු අළුත් වැටක් බැන්දේය. මෙසේ ගෙදර වැඩවලට උදව් වෙන විට ඔහු රමණීය ලෙස උරුහන් බැවේය. එය කියා පෑවේ ශෝකාන්විත ගීතයකි.

පුතා අමතා කතා කළ අම්මා දවසක්ද ඔහුට මෙසේ කීවාය:

''හොහොල්ව අපි ගෙදර නවත්වා ගෙන එයාට කෑම දෙමු, එතකොට උඹල දෙන්නට නිතර එකිනෙකා හමු වෙන්න දුවන්ට වෙන්නෙ නැහැ.''

''අම්මා මොකටද කරදර වෙන්නෙ?'' දෙළර සොලවමින් පාවෙල් ඇසුවේය.

''කරදර විඳින්නෙ මොකටද යන්න නොදන මුළු ජීවිතේම කරදර වින්ද. හොඳ මිනිසුන් නිසා කරදර වුණාට කමක් නැහැ.''

''කැමති දෙයක් කරන්න! එයා මෙහෙ එනවනම් මම සතුටුයි...'' පුතා කීය.

හොහොල්, පාවෙල්ගේ ගෙදර පදිංචියට ආවේය.

# VIII

ජනපදය කෙළවර පිහිටා තිබුණු කුඩා ගෙය මිනිසුන්ගේ සැලකිල්ලට යොමු විය. එහි බිත්ති දෙස සැක සිතින් බැලූවන් කීපදෙනෙකි කුඩා සඳු මුදුනෙහ පිහිටා තිබෙන ඒ ගෙදර කිසියම් දෙයක් සඟවා තිබේ යැයි සිතන්නෝ බොරු ආරංචි පතුරුවා හරිමින් මිනිසුන් බිය ගැන්වීටම යත්න දැරූහ. රෑ බෝවූ විට ජනේල තුළට එබිකම් කොට බලන්වත් ජනේල වීදුරුවට තට්ටු කොට බියවී නිවටයන්සේ පැන යාමටත් සමහරු ඉදිරිපත් වූහ.

දවසක් ද විලාසවා මාතාවට තැබැරුම් අයිතිකාරයෙකු වන බෙගුන්සෙව් මුණ ගැසුණේය. හොඳ පෙනුමක් ඇති මහල්ලෙකු වූ හෙතෙම තම වැහැරි ගිය රත් පැහැති බෙල්ල වැසෙනසේ කළු මප්ලරයක් නිතරම හැඳ සිටියේය. ඔහුගේ කබාය තද නිල් පාට විල්ලූද වැනි රෙදි වගයකින් සැදුවකි. ඔහුගේ නහය හරහා ඉබිකටුවලින් සැදූ ඇස් කණ්ණාඩි කුට්ටමකි. මෙ ඔහුට ''කටු-ඇස්සා'' කිවෙෝය.

විලාසවා මාතාව නැවතුණු පසු ඇ වෙත ගොස් කතා කළ හෙතෙම ඇගෙන් පිළිතුරු බලාපොරොත්තු නොවී දිගට හරහට තියුණු වචන ඔය කියමින් දෙඩුවේය.

''පෙලගේයා නිලූවනා, ආයුබෝවන්! පුතා හොඳින් ඉන්නවද? ඔය මිනිහට කසාදයක් බන්දවල දෙනව හොඳ නොවැ? ඉලන්දරියාට විවාහ වෙන්ට සුදුසු වයස. වෙලාසනින් කටයුත්තක් කරල දීපුවාම දෙමාපියන්ට නිවිහැනේ ඉන්ට පුළුවනි. පවුල් වුණාම මිනිහෙක් හොඳට ආරක්ෂා වෙනවා, අද්දියාත්මික ලෙස. හරියට විනාකිරිවල දමාපු හතු වගෙ! මට ඔහොම පුතෙක් හිටියා නම් මිනිහට හිරයක් ගේනව. මිනිහාගෙ පැවැත්ම ගැන දැඩි පරීක්ෂාවෙන් හිටිය යුතු යැයි කාලයා ඉල්ලා සිටිනවා. දැන් කාලෙ එවුන් කල්පනා නොකර ජීවත් වෙන්ට හදන්නෙ. අදහස් වල්මත් වෙන්ට පටන් අරගෙන තියන නිසා ඒවා හෙළා දකින්ට ඕන. දෙවියන්ගෙ පල්ලියට යන්නෙ නෑ, තේ කඩවලට, තැබැරුම්වලට එන්නෙ නැහැ. රහසෙ රැස් වෙනවා, මුළුවලට වෙලා කසු කුසු ගානවා. මොකටද කසු කුසු ගාන්නේ? අවසර දෙන්න දැනගන්ට. ඇයි මිනිසුන්ගෙන් ඔහු හැංගෙන්නෙ? මිනිස්සු ඉස්සරහපිට යමක් කියන්ට බය ඇයි? උදහරණයක් වගයෙන් තැබැරුමට ඇවිත් කියන්න බැරිද කියන්ට ඕන දේවල්. රහස! රහස් ස්ථානයක් තමයි, අපේ පරම පවිත්‍ර පරිශුද්ධ දේවස්ථානය. අනිත් තැන්වල හොර රහසේ රැස්වෙන්නෙ මොළේ නරක් වුණාම! ඔබ නිරෝගී වේවා!''



කෘත්‍රිම ලෙස අතක් නමා පැළඳ සිටි තොප්පිය ඔසවා වරක් වනා ඔහු සිටි තැනින් නික්ම ගියේ, අම්මා තුෂ්නිම්භූත කරවමිනි.

විලාසව්ලාගේ අසල්වැසි මරියා කර්සුනෝවා, සිය සැමියා වූ කම්මල් බාස්ගේ මරණින් පසු කම්හල් ගේට්ටුව අසල ආහාර වර්ග තබා වෙළඳාම් කරමින් දිවිපෙවෙත රැක ගත්තාය. වෙළඳ පොලේදී අම්මා හමු වූ ඇ මෙසේ කීවාය:

''පුතාව බලා ගනින්, පෙලගේයා!''

''මොකද හේතුව?'' අම්මා ප්‍රශ්න කළාය.

''ආරංචි පැතිරිලා යනවා'' යැයි මරියා අම්මාගේ කනට කොඳුලාය. ''නරක ආරංචි, මගෙ හොඳ අම්මේ, මොකක්දෝ නිසන්ය නිකායක් එයා හදනවලු. ඒවාට කියන්නෙ නිකාය. එක එකාට කසපාර දීලා දුක්විඳින නිකායක්ලු...''

''ඇති, මරියා, ගල්පැලෙන බොරු!''

''බොරු කියන්නේ ඉරන්නා, මහන්නා බොරු කියන්න්නෙ නැහැ!

මේ කතා සියල්ල අම්මා පුතාට දන්වා සිටි විට ඔහු උරහිස් සොලවමින් නිශ්ශබ්ද විය. එහෙත් හොහොල් තමාට පුරුදු මිදු සිනාවෙන් මුව සරසා ගත්තේය.

''තරුණියො පවා තුඹලා හින්ද අමනාපයට පත්වෙලා ඉන්නවා'' යැයි ඇ කීවාය. ''ඕනෑම තරුණියක් දිනා ගැනීමට තරම් උඹලා හොඳ ඉලන්දරි. ඉස්තරම් වැඩකාරයො. මත්පැන් බීමක් නැහැ. ඒකට මොකද කෙල්ලො ගැන සලකන්නේ නැහැ. නරක ගෑණු වගයක් නගරෙ ඉඳල උඹලගෙ ගෙවල්වලට එනව කියල කියනව...''

නළල රැලි ගසා ගත් පාවෙල් ''සත්තකින්ම!'' යැයි කීය.

''මඩ ගොහොරුවෙ දිරාපත් වෙන ගඳ පැතිරී යනවා'' දිග සුසුමක් ගත් හොහොල් පැවසීය. ''ඒ මෝඩ කෙල්ලන්ට නොන්දො පැහැදිලි කළේ   තිද, මිනිහෙක් එක්ක දිගෙ යනවයි කියන්නෙ ඉළ ඇට කඩා ගන්න   ක් බව...''

''අනේ ඉලන්දරියා! දුක උන්ට පේනව. උන්ට ඒ ගැන තේරෙනව. ඒ වුණාට දිගෙ යනව හැර වෙන දෙයක් නැහැ නෙව!''

''ඒ ගොල්ල නියම ලෙස අවබෝධ කර ගෙන නැහැ. නැතිනම් නිසි මග තෝරා ගෙන!'' පාවෙල් කීවේය.

අම්මා ඔහුගේ බැරෑරුම් මුහුණ දෙස බැලුවාය.

''එහෙනම් උඹලා ඒ මෝඩ කෙල්ලන් ගෙන්වා ගෙන උන්ට හොඳට උගන්වාපල්ලා!''

''ඒක හිරිහැර කාරියක්!'' යනු පුතාගේ නිගමනය විය.

''හොඳයි, අපි වැයම් කළොත්?'' හොහොල් ඇසුවේය.

නිශ්ශබ්දව සිටි පාවෙල් පිළිතුරු දුන්නේය:

''ජෝඩු බැගින් ඇවිදින්න උගැන්නුවාම උන්ගෙන් සමහරු කසාද බැඳ ගෙන, අයින් ගහවි!''

අම්මා කල්පනා කරන්ට වූවාය. පාවෙල්ගේ දැඩි තපස් ජීවිතය නිසා ඇ තුළ හට ගත්තේ කළකිරීමකි. පාවෙල්ට වඩා වයසින් වැඩිමහල් හොහොල් වැන්නවුන් පවා ඔහුගේ බසට කීකරු වන සැටි ඇ දකින්නීය. හැම කෙනෙක්ම ඔහුට බියවී සිටිනවා මිස, ඔහුගේ රළු ගති නිසා කිසිවෙකු ඔහුට ආදරය නො කරන බව ඇට පෙනේ.

එක දවසක් අම්මා නින්දට යන විට පාවෙල් සහ හොහොල් කියවමින් සිටියෝය. පහත් හඬින් කෙරුණු ඔවුන්ගෙ දෙබස අම්මා නිද සිටි තැන අහුරා තිබෙන කඩතුරාව විනිවිද යමින් ඇගේ කන්හි වැටෙි. ඇ මහත් උවමනාවකින් සවන් දුන්නාය.

''නතාෂාට මම බොහොම කැමතියි, ඇහුනද?'' හිටි හැටියේම හොහොල් කීවේය.

''දන්නවා'' යැයි පාවෙල් උත්තර දුන්නේ එකවරම නොවේ.

හොහොල් සෙමින් නැගිට කාමරය තුළ ඔබ මොබ ඇවිදින්නට පටන් ගත් සැටි ඇසේ. පාවහන් රහිත ඔහුගේ කකුල් ගැටෙන හඬද ඇසිය හැකිය. සෙමින් උරුවම්බාන හඬද ඇසේ. අනතුරුව ඔහු නැවත කතා කළේය.

''ඇ ඒ බව දන්නවද?''

පාවෙල් නිහඬව සිටියේය.

''උඹ මොකද ඒ ගැන හිතන්නෙ?'' හොහොල් ඇසුවේ පහත් හඬිනි.

''ඇ දන්නවා! ඒ නිසා ඇ අප සමග පංති ගැනීම නැවැත්තුවා...'' පාවෙල් කීවේය.

හොහොල්ගේ අඩි කාමරයේ පොළොව ස්පර්ශ කර ගන්නා සැටි පවා ඇසෙයි. නැවතත් කාමරය තුළ ඔහු හෙමින් උරුහන් බාන්නට විය. ඉක්බිතිව ඔහු මෙසේ ඇසිය:

''මම ඒ බව ඇට කියන්නද...''

''මොනවා?''

''මම ඇට...'' යැයි හොහොල් මුල පිරුවේය.

''මොකටද?'' පාවෙල් ඔහුගේ කතාවට බාධා කරමින් ඇසුවේය.

හොහොල් නිසොල්මන්ව සිටින බවත්, ඔහු පුරුදු ලෙස හිනාවෙන සැටිත් අම්මාට ඇසේ.

''උඹට තේරුණද, කෙල්ලෙකුට ආලය කරනවනම් ඒ බව ඇට කියන්න ඕන. නැතිනම් එයින් තේරුමක් නැහැ!'' හොහොල් කීවේය.



'පවස්' යන ශබ්දය කාමරය පුරා පැතිර යන සේ අත තිබූ පොත විසා දමූ පාවෙල් නැගූ ප්‍රශ්නය අම්මාටද ඇසිණි:

''මොන තේරුමක්ද උඹ බලාපොරොත්තු වෙන්නේ?''

දෙදෙනාම බොහෝ වේලා නිහඬව උන්හ.

''ඉතින්'' හොහොල් ඇසිය.

''තමන්ට ඕන මොනවද කියල ඉස්සෙල්ලාම පැහැදිලි කර ගන්ට ඕන, අන්ද්‍රේ'' පාවෙල් සෙමින් කියන්නට විය. ''හොඳයි, අපි හිතමු. ඇ උඹට ආදරෙයි කියල, මම එහෙම හිතන්නේ නැහැ. එහෙම සලකා බලමු. උඹලා කසාද බැන්ද. දකුම්කලු මඟුලක්. බුද්ධිමත් ගැණි, කම්කරු මිනිහා! ළමයි ඉපදෙන්ට පටන් ගන්නවා. ඉතින් උඹට වැඩ කරන්ට සිද්ද වෙනව, සෑහෙන්ට. උඹලගෙ ජීවිතෙ පාන් කැල්ලක් හොයා ගන්ටයි, ළමයින් හා ගෙදර වැඩවලටයි සීමා වේවි. ව්‍යාපාරයට කිසි ප්‍රයෝජනයක් නැහැ. දෙදෙනෙක් නැති වෙලා ගියා!''

නිහඬතාවය පැතිර ගියේය. ඊට පසු පාවෙල් මුදු ගතියක් දක්වමින් කතා කළේය.

''අන්ද්‍රේ, උඹ ඔය අදහස අත හැර දාපන්. ලජ්ජා වෙන්ට ඉඩ තියන්ට එපා...''

නැවත නිහැඬියාවකි. තත්පර එකිනෙක ගෙවෙමින් බිත්ති ඔරලෝසුවේ බට්ටා 'ටක් ටක්' ගාමින් පැද්දෙයි.

හොහොල් කතාව ඇරඹිය:

''හදවතින් බාගයක් ආලය කරනවා, බාගයක් වෛර කරනවා. ඔහොම හදවතකට ජීවත් වෙන්න බැහැ, නෙවද?''

පොතක පිටු පෙරලන හඬ ඇසේ, පාවෙල් නැවත කියවන්ට පටන් ගන්නා විය යුතුය. දෙනෙත් පියා ගෙන වැතිර සිටි අම්මා සෙලවීමට පවා බිය වූවාය. හොහොල් නිසා කඳුළු පෙරෙනතුරු හැඬීමට තරම් දුකක් ඇ තුළ හට ගත්තේ. පුතා වෙනුවෙන් උපන් ශෝකය ඊටත් වඩා වැඩිය. ඇ සිතුවේ ඔහු ගැනය:

''දයාබර මගෙ පුතේ...''

හිටිහැටියේම හොහොල් ප්‍රශ්න කළේය:

''ඔහොම නිහඬව ඉන්වද?''

''ඒ විධිය වඩා අවංකයි'' පාවෙල් සෙමින් පිළිතුරු දුන්නේය.

''හොඳයි, ඒ පාර ඔස්සේ යමු'' මෙසේ කී හොහොල් කනගාටුව නිසා නිසොල්මන්ව සිට නැවත කතා කළේය: ''උඹට හරි අමාරුකම්වලට මූන පාන්ට වේවි. පාෂා, උඹ හරි තද...''

''මට දැනටමත් අමාරුයි...''

ගෙයි බිත්තිවලට වැදෙන හුළං පාර හඬ නගයි. බිත්ති ඔර්ලෝසුවේ බට්ටා නොකඩවා තත්පර කියයි.

''ඔය ගැන මතක් කරල හිනාවෙන්ට එපා!'' ඡ්හොහොල් සෙමින් කීවේය.

කොට්ටයට තමාගේ මූණ ඔබාගත් අම්මා නිහඬව හැඬුවාය.

අන්ද්‍රේ පසුදු උදේ වන විට උසෙන් අඩුව ගොස් වඩාත් දයාන්විත වූ සැටියකි, අම්මාට හැඟෙන්නේ. පුතා හැමද මෙන්ම කෙට්ටුය, නිහඬය. ඉස්සර අම්මා හොහොල්ප ආමන්ත්‍රණය කළේ අන්ද්‍රේයි ඔනිසිමෝවිච් කියාය. අද ඇ ඉබේටම මෙන් ඔහු අමතා මෙසේ කීවාය:

''අන්ද්‍රූෂා* උඹගේ සපත්තු අළුත් වැඩියා කරගන්න එක හොඳයි, නැතිනම් හෙම්බිරිස්සාව හැදේවි''

''මම පඩි ගත්තම අළුත් සපත්තු කුට්ටමක් ගන්නවා!'' මෙසේ කී අන්ද්‍රේ සිනාසී එක් අතක් ඇගේ උරය මත තබා යළිත් කතා කළේය. ''ඔබ වෙන්න ඇති මා වදපු අම්මා. මම අවලස්සන නිසා ඔබ ඒ බව මිනිස්සු ඉදිරියෙ පිළිගන්ට සූදානම් නැහැ, නේද?''

නිහඬවසිටි ඇ ඔහුගේ අතට තට්ටු කළාය. ඔහු අමතා දයාබර, සෙනෙහස ඇති වචන රාශියක් කීමට ඇට සිත්වූවද හදවත දුක් බරින් මිරිකී, අඩපණව ගිය හෙයින් වචන පිට නොවිය. දිව ගොත ගැසී පටලැවී තිබුණාක් මෙනි, ඇට දනුණේ.

## IX

නිල් පාට තීන්තෙන් ලියන ලද කැලෑ පත්තර බෙදාහැර තිබෙන බව කම්කරු ජනපදයේ කතාවට ලක් විය. කම්හලේ අසාධාරණ වැඩ ගැනද, පීටර්බර්ගයේ හා දකුණු රුසියාවේ කම්කරු වැඩ නැවැත්වීම් ගැනද සඳහන් කළ මේ කැලෑ පත්තරවල සිය අයිතිවාසිකම් සඳහා එක්සත්ව අරගල කරන ලෙස ආයාචනා කර තිබිණි.

උසස් පඩි ලබන තලතුනා මිනිස්සු බැන වැදුනහ.

''කරදරකාරයෝ! ඔය වගෙ වැඩවලට හොම්බ පොඩි කරන්න ඕනා!''

කැලෑ පත්තර, කාර්යාලයට ගෙනෙන ලදී. තරුණයෝ උවමනාවෙන් ඒවා කියැවූහ.

''ඇත්ත .''

---

* අන්ද්‍රූෂා: අන්ද්‍රේ නමෙන් බිඳගත් සුරතල් නමකි. අනුවාදක



වැඩ කිරීම නිසාම හෙම්බත්වී සිටි බහුතර කොටස උදාසීනත්වයෙන් හා අලස බවෙන් යුතුව මෙසේ කීවෝය:

''කිසි දෙයක් වෙන්නෙ නැහැ.. ඕවත් කරන්ට පුළුවන් දේවල්ද?''

එහෙත් කැලෑ පත්තර මිනිසුන්ගේ සිත් ගත්තේය. සතියක් කැලෑ පත්‍ර නැතිව තිබුණොහොත් ඒ ගැන ඔවුහු කතා කරති:

''පත්තර ගැසීම නවත්තලා වගෙ...''

එහෙත් සඳුද නැවත පත්‍ර පිට විය. කම්කරුවෝ ඇවිස්සුණහ.

කම්හලේ හා තැබෑරුමේ කිසිවකු විසින් නොහඳුනන මිනිසුන්ගේ සංඛ්‍යාව සොයා බැලිණි. ඔවුහු ප්‍රශ්න කළහ, පරීක්ෂා කළහ, ඉව ඇල්ලූහ, සැණෙකින් සිත් යොමු කළහ. එකෙක් යැකසිතින් ප්‍රවේසම් වූයේ, අනිකා උවමනාවට වඩා පෙරැත්ත කළ බැවිනි.

මේ ගෝසාව ඇතිවී තිබෙන්නේ සිය පුතා කළ වැඩ නිසා බව අම්මාට අවබෝධ විය. ඔහු වටා මිනිසුන් එක්රැස් වන සැටි ඇ දකී. පාවෙල්ගේ ඉරණම පිළිබඳ ඇතිවූ බිය ආඩම්බරය සමග මුසුවිය.

එක් රැයක මරියා කර්සුනෝවා පාරේ සිට ගෙන ජනේලයට තට්ටු කළාය. අම්මා ජනේල පියනක් හැරිය විට, ඇ කොඳුරමින් මෙසේ තෙපළාය:

''පෙලගේයා, ප්‍රවේසම් වෙයන්! කොල්ලන්ගෙ වැඩ දුර ගිහිං. උඹගේ, මාසින්ගේ සහ වෙසොව්ෂිකොව්ගේ ගෙවල් හෝදිසි කරන්ට පොලිසිය අද ඒවි...''

මරියාගේ දෙතොල් මේ වචන ඇදබැවේ වේගයෙනි. ඇ ඇස් හරව, හරවා වට පිට බලමින් කතා කරන විට ඇගේ පැතලි නාස් පුඩු වරෙක පිම්බෙයි, නවත් වරෙක හැකිළෙයි. මේ පුවත අම්මාට දනුම් දුන් ඕ ඇත සිටින කිසියම් කෙනෙකු සොයන්නාක් මෙන් හැසුරුණාය.

''මම කිසි දෙයක් දන්නෙත් නැහැ, දක්කෙත් නැහැ, කීවෙත් නැහැ, ඇහුනද?'' මෙසේ කී ඕ අතුරුදහන් වූවාය.

ජලෙන්ය වසා දැමූ අම්මා හෙමින් පුටුව මත හිඳ ගත්තාය. පුතා වෙත එල්ලවී තිබෙන අවදානමේ බියජනක බව වැටහුනෙන් ඇ සැණෙකින් නැගී සිට ගත්තී, හනික හැද ගෙන, හිස වැසෙන සේ සළුවක් පොරවා ගෙන, පියෝද්ර් මාසින් වෙත දිව ගියාය. ලෙඩවී සිටි මාසින් තාවකාලිකව වැඩට නොගියේය. අම්මා එහි ආ විට මාසින් ජනේලය අසල හිඳ ගෙන පොතක් කියවමින් හුන්නේය. තුවාල වූ දකුණතේ මාපට ඇඟිල්ල තොරාසිටින සේ වම් අතින් අල්ලා ගනිමින් ඔහු එය, ඒ අත මේ අත පැද්දවීය. පුවත දැන ගත් විගසම, හෙතෙම වාඩිවී සිටි පුටුවෙන් නැගිට සිට ගත්තේය. ඔහුගේ මුහුණ මලානික විය.

"මදැ! හරියට වෙලාවට..." ඔහු තොල මතුළේය.

වෙව්ලන අත ඔසවා මුහුණින් වැගිරෙන දහඩිය පිසදමාගත් වලාසවා "මොනවද කරන්ට ඕන?" යැයි ඇසුවාය.

"නවතින්න, බය වෙන්ට එපා!" පියෝද්ර් මාසින් උත්තර දුන්නේ, වම් අතින් සිය බොකුටු හිස කෙස් අත ගාමිනි.

"ඇත්තටම බය වෙලා ඉන්නේ තමුසෙ නොවැ!"

රත් පැහැගත් කම්මුල් සහිත ලජ්ජා ගතියක් පෙන්වමින් කතා කළ ඔහු "මම?" දැයි ඇසුවේය. මොහොතක් නිහඬව සිට පසුව හෙතෙම මෙසේ කීය: "යක්ස වැඩක්... පාවෙල්ට කියන්ට ඕන. මම ඉක්මනින් පණිවුඩයක් යවන්නම්! අම්මා, යන්න. කිසිදෙයක් වෙන්නේ නැහැ: උන් අපට ගහන්ට එන්නේ නෑ නේද?"

ගෙදර හැරී ආ අම්මා පාවෙල්ගේ පොත් මිටිය අප්පුව මත තබා ගෙන කාමරය තුළ ඒ මේ අත ඇවිදින්නී වරෙක ලිප දෙසද, තවත් වරෙක, යටි උදුන දෙසද, වතුර පීප්පය දෙසද බලයි. පාවෙල් වැඩපලේ සිට වහාම ගෙදර දුව එතැයි ඕ බලාපොරොත්තු වූවාය. ඔහු නොපැමිණියේය. අම්මා අන්තිමේදී වෙහෙසට පත්වූයෙන්, පොත් කුස්සියේ බංකුව යට තබා ඒ මත හිඳ ගත්තී, පාවෙල් සහ හොහොල් වැඩ හමාර කොට කම්හලේ සිට ගෙදර එනතුරු එලෙසම හුන්නාය.

"දන්නවාද?" ඔවුන් ගෙදර ආ විගසම ඈ ඇසුවාය.

"දන්නවා!" යැයි සිනා මුහුණින් පිළිතුරු දුන් පාවෙල් "බයවුණාද?" යි ප්‍රශ්න කළේය.

"මම හරියටම බය වුණා, දැනුත් බයෙන් තමයි ඉන්නෙ!"

"බය වෙන්ට එපා, බය වීමෙන් කිසි ප්‍රයෝජනයක් නැහැ." මෙසේ කීවේ හොහොල්ය.

"සමෝවාරයවත් රත් කරල නැහැ නොවැ" පාවෙල් පැවසීය.

නැගී සිටි අම්මා පොත් ගොඩ දෙසට අත දිගු කරමින් වැරද්දක් කළ එකියක් සේ කතා කළාය:

"මෙන්න මේව නිසා තමයි..."

පුතා සහ හොහොල් කොක් හඬලමින් සිනාසුණහ. එයින් ඈට ලැබුනේ ධෛර්යයකි. පොත්වලින් සමහර ඒවා තෝරාගත් පාවෙල් ගෙවත්තට ගියේ ඒවා සඟවා තැබීමටය. හොහොල් සමෝවාරය රත් කරමින් මෙසේ කීවේය:

"බය වෙන්ට කිසිම දෙයක් නෑ. මේ වගෙ පුහු දේවල් ගැන කාලය නාස්ති කරන අර මිනිස්සු ගැන සිහි වෙන විට ලජ්ජා හිතෙනවා. කඩු එල්ලාගත්, සපත්තුවලට විශේෂ අඩි පැළඳගත් වැඩිහිටි පිරිමි ඇවිත් අලු



මුළුවල රිංගන්ට පටන් ගනීවි. ඇඳ යටත්, යටි උදුනෙත් බලාවි. බිම්ගෙයක් තියෙනවා නම් ඒකටත් රිංගාවි. අට්ටාලයක් තිබුණොත් ඒකටත් බඩ ගානවා. එතැනදී උන්ගෙ අංවලට මකුළුවො වහනවා. උන් එවිට තරහෙන් පුම්බනවා. උන්ට හරි පාළු ගතියක් දැනෙනවා වගේම ලැජ්ජා හිතෙනවා. ඉතින් උන් නපුරු මුහුණු ඇති කරගෙන අප ගැන තරහ වුණු බවක් පෙන්වනවා. කැත වැඩ. ඒ බව උන් දන්නවා. එක වතාවක් මා සිටි ගෙදරට ඇවිත් හැම තැනම අවුස්සලා පෙරළලා යන්ට ගියා. අනිත් වතාවේ මාවත් ඇදගෙන ගියා. හාරමාසයකට මා සිපිරිගෙට දැම්මා. ඉඳල හිටල මාව කැඳවල ප්‍රශ්න අහනව, සොල්දාදුවන් එක්ක පාර දිගේ යැව්වා. උන්ට මොළේ නැහැ. තර්කානුකූල නිගමනයන් කිරීමට උන්ට බැහැ. ඔහොම ප්‍රශ්න අහල පසුව ආයෙමත් හිරගෙට යැව්වා. ඔය විධියට එහාට මෙහාට මාව ගෙනගියා. උන් පිනට ලබන පඩිවලට වැඩකුත් තියෙන්න එපායැ! ඊට පස්සෙ නිදහස් කළා, එපමණයි!"

"උඹ හැමදම කතා කරන්නෙ ඔහොමද, අන්ද්‍රෑෂා!"

දණ ගසාගෙන සමෝවාරයේ බටයට කටින් පිඹිමින් සිටි ඔහු පුදුමයෙන් මෙන් හිස ඔසවා ඇය දෙස බැලුවේය. ඔහුගේ කම්මුල් රත් වී තිබිණි. රැවුළ හරි ගස්සා ගත් ඔහු, "කොහොමද එහෙනම් කතා කරන්නෙ?" යැයි ඇසීය.

"හරියට කිසිවෙක් උඹට කිසිදාක හිරිහැර කළේ නැතුවා වගෙ..."

නැගී සිටි ඔහු හිස වනා සිනාසී කතා කළේය:

"හිරිහැරයට පත් නොවූ මනුස්ස ප්‍රාණයක් මෙලොව ඉන්නවද? මට කොතෙක් හිරිහැර කළාදැයි කීවොත් අමනාප වීම නිසා විඩාවට පත් වුණා. මිනිස්සුන්ට හිරිහැර නොකර ඉන්ට බැරිනම් මොනවා කරන්නද? අමනාප වීම අපේ පොදු කාරියට බාධාවක්. එතකොට වෙන්නෙ අමනාප වීම අසල නවතින්නයි, කාලය නාස්ති කරන්නයි. ඔහොම තමා ජීවිතෙ හැටි! ඉස්සර මම මිනිසුන් කෙරෙහි කෝප වුණා, පස්සෙ අවබෝධ කරගත්තා ඉන් පලප්‍රයෝජනයක් නැති බව. හැමදෙනාම බය වෙනවා. අසල්වැසියා ගහාවි යන බය නිසා එකෙක් කල්පනා කරන්නෙ හනිකට අනිකාගෙ කන හරහා ගහන්ටයි. ජීවිතෙ හැටි ඔහොමයි, මගෙ දයාබර නෙන්කො!"

සෝදිසි කිරීමට එහි යන අවදානම මගහරවමින් ඔහු ශාන්තව කතා කළේය. මදක් නෙරා තිබුණු ඔහුගේ ඇස් සිනාසෙන්නාක් මෙනි. ඔහුගේ අතපය උසට සම කරනවිට ප්‍රමාණානුකූල නොවූවද, ඔහු කඩිසර පුද්ගලයෙකි.

ඔහුට අනුකම්පා කළ අම්මා දිග සුසුමක් හෙළුවාය:

''දෙවියෝ උඹට වාසනාව ලබාදේවී, අන්ද්‍රෑෂා!''

හොහොල් පළල් ලෙස අඩි තබමින් සමොවාරය දෙසට විත් දණහිස් නමා ගනිමින් එය ඉදිරිපිට හිඳගත්තේ, සෙමින් තොලමතුරන්ට විය:

''වාසනාව ලැබුනොත්, ප්‍රතික්ෂේප කරන්නෙ නැහැ. හැබැයි ඉල්ලා සිටින්නෙ නැහැ!''

ගෙවත්තේ සිට ගෙට ඇතුළු වූ පාවෙල්, ස්ථිර ලෙස මෙසේ කිය:

''හොයන්ට ලැබෙන්නේ නැහැ!'' පසුව හෙතෙම මූණත්, බෙල්ලත් සෝදන්නට විය..

දැන් ඉතා හොඳින් පිස දමාගත් හෙතෙම කතා කළේය:

''අම්මෙ, බය වෙලා වෙව්ලන්ට ගියාම උන් හිතා ගනීවි මේ ගෙදර මොනවා හරි හොරයක් තියෙනවයි කියල. අපි නරක දේවල් නොකරන බව අම්මා හොඳින් දන්නවා නොවැ. ඇත්ත යුක්තිය අපේ පැත්තෙ. අපි සදහටම ඒ සඳහා සටන් කරනව. එයයි අපේ වරද! බය වීමට හේතු මොනවාද?''

''පව්ලූෂා, මම සංසුන්වී ඉන්නම්'' යැයි පොරොන්දු වූ ඇ නැවත මෙසේ කිවාය: ''උන් ඉක්මනින් ඇවිත් යනවනම්!''

එද ඊ පොලීසිය ආවේ නැත. පසුදින උදෑසන ඇගේ බිය වීම ගැන විහිළු කිරීම වළක්වන අදහසින් ඇ තමා ගැනම උපහාස මුඛයෙන් කතා කරන්ට වූවාය:

''වෙලාවට ඉස්සෙල්ලා බය වුණා!''

X

බියගත් රැයට මාසයකට පසු ඔවුහු ආවෝය. පාවෙල්, නිකොලායි වෙසොව්ෂිකොව් සහ අන්ද්‍රේද එක්වී පත්‍රය ගැන කතා කරමින් උන්හ. මැදියම් රෑ පසු වීමට ඔන්න-මෙන්න කියා තිබිණ. අම්මාට නින්දෙන් මෙන්, කසු කුසු ගාන පහත් හඬක් ඇසිණි. අඩි ශබ්ද නොඇසෙනසේ හෙමින් සිරුවේ පා තබා කුස්සියට දෙසට ගිය අන්ද්‍රේ තමා පිටුපසින් තිබූ දොර වසා දැම්මේය. ඉස්තෝප්පු කාමරය තුළ බාල්දියක් වැටෙන ශබ්දයක් ඇසිණි. සැණෙකින් දොර හැරගෙන කුස්සියට වැදුණු හොහොල් මෙසේ කිය:

''සපත්තු අඩු ගැටෙන ශබ්දෙ ඇහෙනවා!''

ඇදෙන් බිමට පැන නැගී සිටි අම්මා වෙව්ලන අත්වලින් යුතුව



පොරෝනය අල්ලා ගත්තාය. එවිටම වාගේ ඇගේ කාමරයට ආ පාවෙල් සංසුන් ලෙස ඇට කතා කළේය:

''අම්මා, නිදගන්න! අම්මට සනීප නැහැ, නොවැ!''

අඳුරු ආලින්දයේ කසුකුසුවක් ඇසිණි. පාවෙල් දොර ඇර ගෙන කාමරයෙන් පිටතට යමින් ප්‍රශ්න කළේය:

''කවුද ඔතන?''

උසැති අළු පැහැති පුද්ගලයෙක් ඉතා ඉක්මනින් ගෙට ඇතුළු විය. ඔහු පිටුපසින් තව'කෙකි. යුද බටයෝ දෙදෙනා පාවෙල් දෙපස සිරුවෙන් සිටගත්තෝය. උපාහාසාත්මක ලෙස උස් හඬින් එකෙක් කතා කළේය:

''බලාපොරොත්තු නොවූ අය නේද ආවෙ, ආ?'' එසේ කීවේ උස හින්දැරි නිලධාරියෙකි. ඔහුගේ මුහුණේ රැවුළුගස් අතරින් පතර වැඩී තිබිණි. අම්මා වැතිර සිටි ඇඳ ළඟට ආ ජනපදයේ පොලිස්කාරයා වන පෙද්‍යාකින් එක් අතකින් ආචාර කරමින් සහ අනිත් අත අම්මාගේ මුහුණ දෙසට දිගු කරමින්, බියගත් විලාසයකින් හෙබි ඇස්වලින් යුතුව මෙසේ කිය:

''මෙ තමා එයාගේ අම්මා, හාමුදුරුවනේ!'' ඉක්බිති පාවෙල් පෙන්වමින්, ''මේ තමා ඒ මිනිහා!'' යැයි කීවේය.

''පාවෙල් ව්ලාසව්ද?'' නිලධාරියා ඇසුවේ ඇස් හකුළුවා ගෙන බලමිනි. පාවෙල් හිස වැනුවේ පිළිතුරු වශයෙනි. රැවුල් අග තුඩු කරමින් නිලධාරියා උඩඟු ලෙස කිය. ''උඹගේ ගෙදර හෝදිසි කරන්න ඕන. ඒයි නාකි අම්මන්ඩි නැගිටපන්! අතන කව්දෑ?''යි ඇසූ ඔහු දුරින් අඩි තබමින් කාමරය තුළට ගියේය.

''උඹලගේ වාසගම?'' ඔහු උස් හඬින් ඇසිය.

ආලින්දයෙන් මෙවර එළියට ආවේ පැරණි යකඩ උණුකරන්නෙක් වූ ත්වෙර්යාකොව් සහ ඔහුගේ ගෙදර නවාතැන් ගෙන සිටින ගිනි උදුන් මොලවන්නෙක් වූ, සව්බලැති කයකින් හෙබි කළු පැහැති රිබින්ය. ගොරෝසු හඬකින්, රිබින් කතා කළේය:

''ආයුබෝවන්, නිලව්නා!''

හිත තුළ පැන නැගී බියමුසු හැඟීම යටපත් කර දමනු වස් ඇ හැඳ පැළඳ ගත්තී සිහින් හඬකින් ඇසුවාය:

''මොකද මේ ඊ යාමෙට! මිනිස්සුන්ට නිදගන්ට ඉඩ නොදී රෑට එන්නෙ!''

කාමරය තුළ තදබදයක් දැනිණි. එමෙන්ම එහි සපත්තු ආලේප වර්ගයක ගඳක්ද පැතිරෙන්ට විය. යුද්ධ භටයෝ දෙදෙනා සහ පළාතේ පොලිස් මූලාදෑනි රිස්කින්ද කාමරය තුළ ඒ මේ අත යමින් රාක්කවල

තිබූ පොත් ගෙන ඒවා නිලධාරියා අසල තිබූ මේසය මත තැබුවෝය. අනික් දෙදෙනා කාමරයේ බිත්තිවලට තට්ටු කරමින් එහි හිස් තැන්ද, පුටු සහ මේසයටද සොයා බැලුවෝය. එකෙක් උදුන වසා සිටි දුම්, මැස්සටද නැංගේය. හොහොල් සහ වෙසොව්ෂිකොව් එකිනෙකාට ඇලෙන තරම ළං වී එක් මුල්ලකට වී සිටියෝය: කැළැල් සහිත නිකොලායිගේ මුහුණ රතු විය. ඔහුගේ ඇස් නිල්ධාරියා දෙස බලාගත්වනම සිටියේ ඇසි පිය නොහෙළමිනි. හොහොල් රැවුළ අතගාමින් සිටියේ, අම්මා කාමරය තුළට ඇතුළු වෙත්ම උපහාසාත්මක ලෙස හිස වනමින් ඈ දෙස බැලුවේය. ඔහුගේ නෙත් කරුණාවෙන් පිරී තිබිණි.

සිත වසා සිටින බිය දුරුකරගනු වස් අම්මා මෙවර ගමන් කළේ පුරුදු පරිදි එක් උරහිසක් පෙරට කරගෙන නොව ව්‍යිජු ලෙසය. මේ අළුත් ගමන නිසා සිනා උපදවන තරම් බොරු මානයක් ඈ කෙරෙහි දක්නට ලැබිණි. ඈ පා තබන විට හඬක් පිටවුණ අතර ඈගේ ඇස් බැම වෙව්ලන්නට විය...

නිලධාරියා තම සුදු පැහැති ඇඟිලි තුඩුවලින් වේගයෙන් පිටු පෙරලා බලා පොත බිමට හරවා පිටු එකිනෙකට වැදෙන සේ ගසයි. ඉන්පසු වෙනින් පොතක් අතට ගනියි. අඳහිට පොතක් බිමට වැටෙයි. හැම දෙනාම නිහඬ වූහ. දහඩිය පෙරාගෙන හැම මුල්ලක්ම අවුස්සා බලන පොලිස් බටයින් ආශ්වාස ප්‍රශ්වාස කරන සැටි ඇසේ. ඔවුන්ගේ සපත්තු අඩු එකි'නෙක ගැටෙන ශබ්දයද පැතිර යයි. සමහර විට පහත් හඬින් කතා කරන එකෙක් මෙසේ අසයි:

"මෙතන බැලුවද?"

අම්මාද පාවෙල් මෙන් දැත් බැඳගෙන බිත්තියට හේත්තුව් නිලධාරියා දෙස බලාගත්වනම උන්නාය. ඈගේ දණහිස් වෙව්ලන්ට වූ අතර ඇස් අඳුරු විය. නිවිහැටියේ කන් විදගෙන යන හඬක් නිහඬතාව බිඳ හෙලීය.

ඒ හඬ නිකොලායිගේය:

"මොකටද පොත් බිම දන්නෙ? එසේ කළ යුතුමද?"

අම්මා වෙව්ලන්ට වූවාය. ත්වෙර්යාකෝව් හිස වැනුවේ හරියට කිසිවෙක් ඔහුගේ ඔළුවෙන් අල්ලා ඇද්දක් මෙනි. උගුර පාද ගනිමින් කැරූ රිබිත් මහත් වූ ඕනැකමකින් නිකොලායි දෙස බැලුවේය.

හකුළුවා ගත් ඇස් ඇතිව හුන් නිලධාරියා මොහොතකට නිකොලායිගේ කැළැල් සහිත මූණ දෙස බැලුවේය. ඔහුගේ ඇඟිලි පොත්වල පිටු පෙරලන්ට පටන් ගත්තේ තවත් වේගයෙනි. ඉඳහිට ඔහු සිය විශාල බළල් ඇස් දෙක විදහා ගත්තේ, ඉවසිය නොහැකි වේදනාවකින් මෙනි. මේ විඳදරාගත නොහැකි වේදනාව නිසා රොස්වූ ඔහු මහ හඬින් කෑ ගැසීමට වුවද සූදානම් විය.



"සොල්දාදුවා! පොත් ඇහිඳපන්..." යයි වෙසොව්ෂිකොව් කීය.

සියලුම සුදු බටයෝ ඔහු දෙසද නැවත නිලධාරියා දෙසද බැලූහ. ඔහු නැවතත් නිකොලායිගේ පළල් දේහය දෙස විමසිල්ලෙන් බලා නාසය නැටවීය:

"ආයෙමත්... ඇහිඳිනවා..."

පොළොව මත ඒ මේ අත විසිකර දමා තිබුණු පොත් ඇහිඳීම සඳහා පහතට නැමුණු එක් සුදු බටයෙක් හොර ඇසෙන් වෙසොව්ෂිකොව් දෙස බැලීය...

"නිකොලායි නිහඬව සිටියා නම්!" අම්මා පාවෙල්ගේ කනට කොඳුරාය.

පාවෙල් දෙවුර සෙලවූ අතර හොහොල් හිස පාත් කළේය.

"කවුද බයිබලය කියවන්නේ?"

"මම" පාවෙල් පිළිතුරු දුන්නේය.

"මේ පොත් කාගෙද?"

"මගේ" පාවෙල් කීය.

"ඔහෝ!" යැයි කී නිලධාරියා තමා වාඩිවී සිටි පුටු ඇන්දට බරවී දිග හැරුණේය. ඉන්පසු දැතේ ඇඟිලි එකිනෙක පටලවා පිට පැත්තට වාරු කොට තමා ඇද්දේය. ඇඟිලි සන්ධිවලින් 'ඇට කැඩෙන' හඬක් නික්මිණ. රැවුළ අත ගෑ මෙතෙම නිකොලායිගෙන් මෙසේ ප්‍රශ්න කළේය:

"උඹ නේද අන්ද්‍රේ නහෝද්කා?"

"මම තමයි" උත්තර දුන් නිකොලායි වෙසොව්ෂිකොව් ඉදිරියට ගියේය. ඔහු උරහිසින් අල්ලා පස්සට ඇද දැමූ හොහොල් මෙසේ කීය:

"එයාට වැරදිලා! මමයි අන්ද්‍රේ!"

දබරැඟිල්ල දිගු කොට වෙසොව්ෂිකොව් වෙත තර්ජන කළ නිලධාරියා රවා බැලීය.

"උඹ ප්‍රවේසම් වෙයන්!"

ඔහු සිය ලියවිලිවල පිටු පෙරලන්ට විය.

ගෙයින් පිටත, වීදි හා අවට පෙදෙස, උදාසීනව බබලන හඳ හාමිගේ රැස්වලට අසුවිය. ජනේලයෙන් එහා ඇවිදින්නෙකුගේ පාවලට පෑගෙන හිම 'කර කර' යන හඬක් නගයි.

"දේශපාලන වැරදි නිසා උඹ, අන්ද්‍රේ නහෝද්කා, දඬුවම් ලබා තියෙනවා නේද?" නිලධාරියා ඇසුවේය.

"රස්තොව් වලදී දඬුවම් ලැබුවා. ඔව්, සරාතොව් වලදීත්... හැබැයි එහිදී නිලධාරීන් මට කතා කළේ 'තමුසෙ' කියල..."

දකුණෑ'ස අඩවන් කර ගනිමින් දත්මිටි කෑ නිලධාරියා නැවත ප්‍රශ්න කලේය:

''තමුසෙට ආරංචිද, නාහෝද්කා, ඔව්, විශේෂයෙන්ම තමුසෙට ආරංචිද, පැක්ටරිය ඇතුලෙ අපරාධ කාරී පත්‍රිකා බෙදන තක්කඩියන් ගැන?''

දෙපා වැතූ හොහොල් කට පළල් කොට සිනාසෙමින් යමක් කීමට සැරසුණද, නැවත නිකොලායිගේ සිහින් කටහඬ පැතිර ගියේය:

''පළමුවරට තක්කඩියන්ව අපි දැක්කා...''

නිසලබව පැතිරිණි. මොහොතකට සියල්ල නැවතුනාක් මෙනි. අම්මාගේ මුහුණේ තුවාල කැළල සුදුමැලි විය. දකුණු ඇස් බැමය ඉහළට ඇදුනාක් මෙනි. රිබින්ගේ කළු රැවුල වෙව්ලන්නට විය. දෙනෙත් බිමට හරවා ගත් රිබින් ඇඟිලිවලින් පීරන්නාක් මෙන් යටි රැවුළු ගස් අතරින් ඇඟිලි තුඩු යැවීය.

''ඔය හරකාව ගෙනියපල්ලා!'' නිලධාරියා කෑ ගැසීය.

සුදු බටයෝ දෙදෙනෙක් රළු ලෙස ඔහු නිකොලායි කුස්සියට ඇද ගෙන ගියෝය. එහිදී නැවතුණ ඔහු දෙපා පළල් කොට සිට ගනිමින් කෑ ගැසීය:

''නැවතියල්ලා. ඇඳ ගන්ට ඉඩ දීපල්ලා!''

ගෙවත්තේ සිට ආ පොලිස් මුලාදැනි තැන වාර්තා කලේය:

''හැම තැනම සෙව්වා. කිසිවක් සොයා ගන්ට නැහැ!''

''ඒක එහෙම වෙන්ට ඕන. මෙතන පුරුදුකාරයෙක්...'' නිලධාරියා කිවේය.

ඔහුගේ දුර්වල, වෙව්ලන, කැඩෙන සුලු හඬ අම්මාට ඇසිණි. ඇ ඔහුගේ කහ පැහැති මුණ දෙස බැලුවේ ත්‍රාසය මුසු බියෙනි. ජනතාව පිළිකුල් කරන රදළ හැඟීමෙන් යුත් ඒ මිනිහා අනුකම්පා විරහිත සතුරෙකු බව ඇ වටහා ගත්තාය. එවැනි මිනිසුන් ඇ දැක තිබෙනුයේ ස්වල්පයකි. එවැන්නවුන් ඉන්න බවපවා ඇට අමතකූ වූ තරමය.

''ඔන්න බිය වැදුණ අයගේ හැටි!'' යැයි ඇ සිතුවාය.

''අවජාතකයෙකු වන අන්ද්‍රේ ඔනිසිමොවිච් නාහෝද්කා මහත්මයා, මම තමුසෙව සිරභාරයට ගන්නවා!''

''මොනවා-කළාටද?'' සංසුන් ලෙස හොහොල් ඇසුවේය.

''ඒ ගැන මම පසුව දන්වන්නම්'' කෝපය මුසු ඉච්ඡා සහගත ආචාර සම්පන්න ගතියක් පෙන්වූ නිලධාරියා කීවේය. ව්ලාසවා දෙසට හැරුණු ඔහු ඇගෙන් මෙසේ ඇසිය: ''උඹ අකුරු දන්නවද?''

''නැහැ!'' උත්තර දුන්නේ පාවෙල්ය.



''මම උඹෙන් නොවෙයි ඇහුවේ!'' පරුෂ ලෙස කී නිලධාරියා නැවත ඇ වෙත හැරුනේය. ''මැහැල්ල, උත්තර දීපන්!''

ඉබේටම මෙන් ඒ මිනිහාට වෛර කළ අම්මා හිටිහැටියේ සීතල වතුරට පැනගත් කලෙක මෙන් වෙව්ලන්නී විදුව සිට ගත්තාය. ඇගේ මුහුණේ තුවාල කැළල මෙ වර රත් පැහැයක් ගෙන තිබිණි. ඇස් බැම් පහළට වැටිණ.

ඔහු දෙස අතක් දිගු කළ ඇ ''තමුසෙ මට කෑගහන්න එපා! තමුසෙ තවම තරුණයෙක්. දුක ගැන දන්නෙ නැහැ!'' කීවාය.

''අම්මා කලබල වෙන්ට එපා!'' කී පාවෙල් ඇ නැවැත්වීය.

''නැවතියන්, පාවෙල්!'' කෑ ගැසූ අම්මා මේසය අල්ලා ගනිමින්, ''මොකටද තමුසෙ මිනිසුන් අල්ලා ගන්නෙ?'' යැයි නිලධාරියාගෙන් ඇසුවාය.

''ඒක ඔහෙගෙ කාරියක් නෙවි. කට වහ ගන්නවා!'' කී නිලධාරියා නැගිට අණ දුන්නේය: ''සිරබාරයට ගත් වෙසොව්ෂිකොව් මෙහාට ගෙනෙල්ලා!''

හෙතෙම-ලියවිල්ලක් ගෙන මූණට කිට්ටු කරගනිමින් කියවන්ට විය.

එවේලෙහි නිකොලායි ගෙනෙනු ලැබීය.

''තොප්පිය ගළවාපන්!'' යැයි නිලධාරියා කෑ ගැසුවේ කියවීම නවත්වමිනි.

රිබින්, ව්ලාසවා දෙසට වීත් ඇට උරහිසින් සංඥ කොට සෙමින් මෙසේ කීවේය:

''අම්මා, තරහ ගන්ට එපා...''

''මම කොහොමද තොප්පිය ගළවන්නෙ, මගෙ අත්දෙක අල්ලා ගෙන ඉන්න කොට?'' යැයි නිකොලායි බෙරිහන් දුන්නේ ලියවිල්ල කියවමින් සිටි නිලධාරියාගේ හඬ යටපත් කර දමමිනි.

ලියවිල්ල මේසය මත තැබූ නිලධාරියා කෑ ගැසිය:

''අත්සන් කරපියව්!''

ලියවිල්ලට අත්සන් තබන සැටිදකින අම්මා තුළ හටගත් වේගවත් හැඟීම නිවී ගියෙන්, හදවත ගොළු විය. හිරිහැරය නිසා දැසින් කඳුළු කැට කඩා හැලෙන්නට විය. සිය සැමියා ජීවත්ව සිටි කාලය වූ අවුරුදු විස්සක් තුළදී ඇ මෙලෙස නිතර හඬා වැළපුනාය. එහෙත් මෑත අවුරුදු කීපය තුළදී ඒ කඳුළුවල අම්හිරි රසය ඇට අමතක විය. ඇ දෙස බැලූ නිලධාරියා මුණ ඇඹුල් කරගනිමින් මෙසේ කීය:

''ඔබ, වෙලාවට ඉස්සෙල්ලා වැළපෙනවා, නෝනා! පසුව ඔබට කඳුළු මදි වෙන්ට පුළුවනි, බලාගෙන!''

නැවත කෝපයට පත් ඇ කතා කළාය:

''අම්මාට සැම දේටම කඳුළු සැලහෙන්ට තියනව. තමුසෙගෙ අම්මා ඉන්නවානම් එයා දන්නවා ඇති, ඔව්!''

නිලධාරියා ලහිලහියේ ලියවිලි අළුත් අත් බෑගයක දමා එහි දිලිසෙන යතුරු කට වැසුවේය.

''ගමන් කරව්!'' හෙතෙම අණ දුන්නේය.

සගයන් සමග අත'වත දුන් පාවෙල්, ''ආයුබෝවන්, අන්ද්රේ! ආයුබෝවන්, නිකොලායි!'' කියමින් සමු ගත්තේය.

''ඔව්, ඇත්තටම ආයුබෝවන්!'' යැයි නිලධාරියාද අනුකරණය කළෙ උපහාසාත්මක ලෙස සිනාසෙමිනි.

වෙසොව්ෂිකොව් දිග සුසුමක් හෙළිය. ඔහුගේ වටකුරු බෙල්ල රත් පැහැ ගත් අතර දෙනෙත්වලට ආරූඪවූයේ රෞද්‍ර බැල්මකි. හොහොල් දිප්තිමත් ලෙස මඳසිනා පෑවේය. ඔහු අම්මා වෙත ළංවී යමක් කිවේත් හිස වනමිනි. අම්මා ඔහු ඉදිරිපිට කුරුසියේ ලකුණ අදිමින් ආශිර්වාද කරන අතර මෙසේ කීවාය:

''නිවැරදිකාරයන් දෙවියෝ දන්නවා...''

අළු පැහැති නිල ඇඳුම් ලාගත් එවුන් ආලින්දයෙන් පිටතට යත්ම සපත්තු අඩු ගැටෙන ශබ්දයද අතුරුදහන් විය. අවසානයේදී ගෙයින් පිටවැ ගියේ රිබින්ය. ඔහු පාවෙල් දෙස ඉතා ඕනෑකමකින් බලමින් කොඳුළේය:

''හො-දයි, ආයුබෝවන්!''

යටි රැවුල දෙස බලමින් උගුර පාදගත හෙතෙම ගෙයින් පිට වූයේ සෙමිනි.

තුනටියට අත් ගසාගත් පාවෙල් කාමරය තුළ විසි කර දමා තිබෙන පොත් සහ ඇඳුම් ගොඩවල් අතරින් පනි  ් ඒ මේ අත ඇවිද්දේ, අම්මා දෙස බලමින් උදසීන ලෙස කතා කළේය.

''පේනවද, කාරිය කෙරෙන සැටි?..''

උඩුයටිකුරු කොට පෙරළා දමා තිබෙන කාමරය දෙස කම්පාවූ සිතින් බලා සිටින අම්මා දෙම්නසින් කොඳුළාය:

''ඇයි නිකොලායි, අර මිනිහට බැන්නෙ?..''

''බය වුණා වෙන්ට ඕන!'' පාවෙල් කිය.

''ආවා, අල්ලා ගත්තා, ගෙන ගියා'' යැයි අම්මා දෑත් විදහා ගනිමින්කීවාය.

පුතා ගෙදර ඉතිරිවීම නිසා අම්මාගේ හිතට එක්තරා සැනසිමකි. සිදුවූ දේ මොනවාද යන්න අවබෝධ කර ගැනීමට තරම් ශක්තියක් ඇ තුළ නොතිබිණ.



''අර පාංඩු නිලධාරියා අපහාස කළා, තර්ජනය කළා...''

''හොඳයි, අම්මෙ, අපි මෙව අස්-පස් කරල දමු...'' පාවෙල් කීවේ අධිෂ්ඨාන ස්වරයකිනි.

ඇට ඔහු ''අම්මෙ'' යැයි මෘදු ලෙස කතා කරන්නේ, ඇ ඔහුගේ හදවතට ළංවූ අවස්ථාවලදීය. ඇ ඔහුට වඩාත් ළංව ඔහුගේ මූණ දෙස එක එල්ලේ බලා සෙමින් ප්‍රශ්න කළාය:

''උන් නිසා අමනාප වුණාද?''

''ඔව්, බොහොම දරුණුයි! මාවත් ඒ එක්කම ගෙන ගියානම් හොඳා...'' ඔහු කිවේය.

ඔහුගේ දෙනෙත් කඳුලෙන් පිරී තිබෙන බව, ඇට පෙනී ගියෙන් ඔහුගේ හදවත තුළ හටගත් වේදනාව ඇ තුළටද වැදුනේය. ඔහු සනාසනා අවියෙන්, ඇ සුසුමලමින් කතා කළාය.

''නැවතියන්, උඹවත් ගෙනියාවි!''

''ගෙනියාවි!'' ඔහු පිළිතුරු දුන්නේය.

මොහොතක් නිහඬව සිටි ඇ කතා කළේ දුක්බර හදවතකිනි:

''අනේ පාවෙල් උඹ හරි දැඩියි! උඹ කවදාහරි මාව සැනසුවාද! මම මොනවාහරි දෙයක් දරුණුයි කියනවිට උඹ බොහොම දරුණුයි කියනවා.''

ඔහු ඇ දෙස ඕනෑකමින් බලමින් ඇට ළංවිය.

''මට එහෙම බෑ! අම්මා පුරුදු වෙන්ට ඕන.''

දිග සුසුමක් හෙළු ඇ නිහඬව සිට, බිය නිසා උපන් ගැස්ම අමාරුවෙන් නවත්වා ගනිමින් මෙසේ කීවාය:

''උන් මිනිසුන්ට වද දෙනවා ඇති නේද? මස් ඉරා ඇට කඩා දමනවා ඇති. මම ඒ ගැන හිතනවා. පවුලූෂා, මගේ පුතේ, හරි බයයි!..''

''ඔවුන් ආත්මය විනාසනවා... කිලිටි අත්වලින් ආත්මය විනාසනකොට ඊටත් වැඩිය වේදනාවක් ඇතිවෙනවා...''

## XI

සමෝයිලොව්, සෝමොව්, බූකින් සහ තව පස්දෙනෙකු සිරභාරයට ගත් බව පසුවද අනාවරණය විය. සවස් වන විට පියෝද්ර් මාසින් දුවගෙන ආවේ වීරයෙකු ලෙසිනි. පසුගියද රෑ තම ගෙදරට ආ යුද්ධ බටයන් එහිද නීතිවිරෝධි සාහිත්‍ය සොයමින් හෝදිසි කළ බව ඔහු කිය.

''පියෝද්ර්, උඹ බය වුණාද?'' අම්මා ඇසුවාය.

පියෝද්ර් මාසින්ගේ මූණ මැළවී ගොස් තියුණු හැඩයක් ගත් අතර, නාස් පුඩු ගැහෙන්නට විය.

"අර ඔපිසරයා ගහව් කියල බය වුණා! ඔහුගේ මූණ පුරා තිබුණේ කළු රැවුලක්. අතේ තඩි ඇඟිලි මයිල්වලින් වැහිලා. ඇඳල හිටියෙ කළු පාට කණ්ණාඩි කුට්ටමක්. හරියට කණෙක් වගෙ. මිනිහ අඩි පොළොවෙ ගහල කෑ ගැසුවා! හිරබාරෙට ගන්නවා කියල තර්ජනය කළා. අපේ පවුලෙ එකම පුතා මමයි. අම්මා සහ තාත්තා මට කිසි දිනක ගහලා නෑ. ඔවුහු මට ආදරය කළා."

මොහොතකට ඇස් වසාගත් හෙතෙම දෙතොල් තදකර වසාගනිමින් දෑතේ ඇඟිලි හිසකෙස් අතරින් යැවීය. පාවෙල් දෙස බැලූ ඔහුගේ ඇස් රතු වී තිබිණි.

"මට කවුරු හරි ගැහුවා නම් මම පිහියක් වගෙ එයාගෙ ඇඟ ඇතුළට වැදෙනවා, දත්වලින් හපා කනවා. එක පාරටම මරා දමාපුවාවෙ!"

"උඹ හරි කෙට්ටුයි, උඹට ගහගන්ට හයිය-හත්තිය කොයින්ද?"යි අම්මා මායින්ගෙන් ප්‍රශ්න කළාය.

"ගහගන්නවා!" ඔහු උත්තර දුන්නේය.

ඔහු ගියපසු අම්මා පාවෙල්ට කතා කොට මෙසේ කීවාය:

"ඔය හාදයා මක්කොමත්ට ඉස්සෙල්ලා යටත් වේවි!"

පාවෙල් නිහඬව සිටියේය.

විනාඩි කීපයකට පසු සෙමින් දොර හැරගෙන ගෙට ඇතුළු වූයේ රිබින්ය.

"ආයුබෝවන්!" යැයි ගෙට වැදෙමින් ඔහු කීය. "ඔන්න මම ආයෙමත් ආවා. ඊයේ මාව බලෙන් ගෙනාවා. අද මම ඕනෑකමින් ආවා!" පාවෙල්ට දැඩිලෙස අත'වන දී ආචාර කළ හේ අම්මාගේ උරහිසින් අල්ලා කුළුපග ලෙස සෙලවීය:

"තේ කෝප්පයක් ලැබේවිද?"

ඔහුගේ කළෙපෙලු මුහුණත්, කළු රැවුලත්, කළු වන් ඇස් දෙයත් නිහඬව සිටි පාවෙල් බැලුවේ ඕනෑකමකිනි. ශාන්ත පෙණුමකින් හෙබි ඔහු තුළ කිසියම් අදහසක් තිබෙන බව පාවෙල්ට වැටහිණ.

සමෝවාරය රත් කිරීම පිණිස අම්මා කුස්සියට ගියාය. රිබින් වාඩිවී සිය රැවුල දෙස බලා වැළමිටි මේසය මත තබා ගත්තේය. පාවෙල් දෙස ඕනෑකමින් බලා කතාව ඇරඹුවේ හරියට නවත්වනලද කතාවක් නැවත පටන් ගන්නාක් මෙනි.

"මට ඕනා උඹ සමග ඇරුණු හදවතකින් කතා කරන්ට. මම උඹ දිහා බලන්ට පටන් අරගෙන කලක් වෙනව. අපි ජීවත් වෙන්නෙ ළඟ ළඟම. උඹ ළඟට බොහොම මිනිස්සු එනව. බේබදුකම්වලට යටවෙලා නැහැ. නරක වැඩ නැහැ. ඒකයි පළමුවැනි කාරණාව. නරක වැඩ නොකරන එවුන් එකපාරටම සටහන් වෙනවා. මොකද



හේතුව? ඔන්න මම අයින් වෙලා ඉන්න නිසා මගෙ දිහා ඕනෑකමින් බලනවා."

ඔහුගේ කතාව බැරෑරුම්ය. එහෙත් ගොත ගැසීමක් නොමැතිව ඔහු කතා කළේය. කළු පැහැති තම අත්වලින් යටි රැවුල අත ගෑ ඔහු පාවෙල් දෙස බලා සිටියේ ඕනෑකමිනි.

"උඹ ගැන කතා වුණා. මගේ වැඩපොළේ ලොක්කො කීවා උඹ පල්ලි පන්සල් නොයන අධර්මිෂ්ටයෙක් කියල. මමත් පල්ලි යන්නෙ නෑ! ඊට පස්සෙ අර පත්‍රිකා පිට වෙන්ට පටන් ගත්තා. එව ලීවෙ උඹද?"

"මම!"යි පාවෙල් පිළිතුරු දුන්නේය.

"හා උඹයි" තරමක් බියගත් අම්මා කුස්සියේ සිට කෑ ගැසුවාය. "උඹ විතරක් තනිවම නොවෙයි, නෙව!"

පාවෙල් හා රිබින් සිනාසුණහ.

"අන්න හරි" යැයි රිබින් කෑවෙය.

දිග සුසුමක් හෙළූ අම්මා, තමාගේ වචනවලට සවන් නොදීම ගැන මඳක් අමනාප වූයෙන් එතැනින් පිටව ගියාය.

"පත්‍රිකා, එව හොඳට කල්පනාකාරීව කරපු වැඩක්. මහජනයා තුළ ඒ නිසා කුතුහලයක් හටගත්තා. පත්‍රිකා දහනව වාරයක් පිට වුණාද?"

"ඔව්!" පාවෙල් කීය.

"එහෙනම් මම ඒව සියල්ලම කියවල තිබෙනවා! ඒවායේ සමහර තැන් තේරුම් ගන්ට බැහැ, සමහර දේ උවමනාවට වැඩියි. මිනිහෙකුට බොහොම කතා කරන්ට සිද්ද වුණාම, වචන කීපයක් නිකරුණේ නාස්ති කරන්ට වෙනවා..."

රිබින් සිනාසුණේ ඔහුගේ ශක්තිමත් දත් කිරිමෙත් සුදුපාටින් බැබළිණි.

"ඊට පස්සේ යුද හමුදා හෝදිසිය. එය මගේ අනුකම්පාව දිනා ගත්තා. උඹ, හොහොල් සහ නිකොලායි එළිපිට වැඩ කළා..."

තමන්ට උවමනා වචන සොයා ගැනීමට බැරි වූයෙන් හෙතෙම ජනේලය දෙස බලමින් මේසයට තට්ටු කරන්ට විය.

"තමුන්නාන්සේලාගේ තීරණය එළි වුණා. පිං කරන හාමුදුරුවරුනේ උඹලා කොපමණ දඟලුවද අපේ වැඩ දිගටම අපි කරනවා. හොහොල් හොඳ හාදයා. සමහර විට මිනිහගෙ කතාවලට මම සවන් දෙනවා. මිනිහා මළත් වැඩෙ කරාවී. එතම්ර හයිය හත්තිය ඇති යෝදයෙක්. පාවෙල්, උඹ මාව විශ්වාස කරනවද?"

"විශ්වාස කරනවා" යැයි පාවෙල් කීවේ හිස වනමිනි.

"ඔන්න බලපන්, මගේ වයස අවුරුදු හතළිහයි. මම උඹට වැඩිය

දෙගුණයක් වැඩිමල්. විසිගුණයක් වැඩියෙන් නොයෙක් දේවල් දැකලා තියෙනවා. යුද භටයෙක් හැටියට අවුරුදු තුනහමාරක් ඇවිදල තියෙනවා. දෙපාරක් කසාද බැන්ද. පලවැනි ගෑණි මළා. දෙවැනි එකිය අතහැර දැම්මා. කොකේසියාවට ගියා. එහිදී මම දුටුවා ආත්ම ගලවන්නන්ගේ* තාපස නිකායක්. උන්ට බැහැ ජීවිතය වෙනස් කරන්ට!" පිටි කොන්ද මත දෑත් ගසාගත් පාවෙල් කාමරය තුළ ඒ මේ අත ඇවිදින්නට විය.

"ජීවිතය හිසිලෙස ගමන් කරනවා. තමුසෙ මා ළඟට ආවෙ ඇරුණු හදවතක් ඇතිව. මුළු මහත් ජීවිතයම වැඩ කරන අප අතුරෙන් සමහරෙක් දැනට එක්සත් වී ඉන්නවා. සියළු දෙනාම එකම සමගි බැම්මකින් බැඳෙන දවසක් ඒවි! අසාධාරණ ලෙස හා උග්‍ර ලෙස හැඩගැසී තිබෙන අපේ ජීවිත විසින් ඒ කටුක තත්වය වටහා දී, හොඳ අතට හැරවීමේ මග ඉක්මන් කරවන සැටි පෙන්වා දෙනවා" පාවෙල් කීවේය.

"ඇත්ත!" පාවෙල්ගේ කතාවට බාධා කරමින් රිබින් කීය. "මිනියාව අළුත් වැඩියා කරන්ට ඕන. කුණු තැවරුණු මිනිහෙකුගෙ ඇඟපත හෝදල අලුත් ඇඳුමක් අන්දවල ගත්තම පිටත පෙණුම පිරිසිදුයි! එහෙම නේද? මිනිහගේ ඇතුලත කොහොමද පිරිසිදු කරන්නේ? ඕන්න කියනවා!"

කම්හල ගැනත් එහි පාලකයො ගැනත් උණුසුම් ලෙස කතාකළ පාවෙල් පිටරටවල කම්කරුවන් ඉල්ලීම් දිනා ගන්නා සැටි විස්තර කළේය. කතාවට හැඩිමේ ලකුණක් තබන්නා සේ මේසයට ඇඟිල්ලකින් තට්ටු කරන රිබින් හඬ නගා කතා කළේ වරක් දෙවරක් නොවේ.

"අන්න හරි!"

එක් වරක් සිනාසුණු හෙතෙම හෙමින් මෙසේ පැවසිය:

"අනේ, ඉලන්ද්‍රියා, උඹ තවම ළපටියි! මිනිසුන් අඳුනනවා මදි!"

එවැනි අවස්ථාවලදී ඔහු ඉදිරිපිට නවතින පාවෙල් බැරෑරුම් ගතියක් පෙන්වමින් කතා කරයි:

"තරුණ වයස ගැනයි මහළු වයස ගැනයි හෙට්ටු කරන්න ඕන නැහැ. බලමු කාගෙ අදහස්ද වැඩිය හරි."

"හොඳයි, උඹ කියන විදියට දෙයියන් පෙන්නල අප රවටා තිබෙනවා? මමත් හිතනව අපේ ආගම බොරුයි කියල."

---

* ආත්ම ගලවන්නෝ: 18 වැනි සිය වසේ මුල් භාගයේදී රුසියාවේ ඇතිවූ ආගමික තාපස නිකායකි. රුසියානු පූජකයින් හා ඔවුන්ගේ ආගමික චාරිත්‍ර නොපිළිගත් ඔවුහු යුද හමුදාවේ සේවය කිරීමද ප්‍රතික්ෂේප කළහ. අනුවාදක



මෙහිදී අම්මා මැදිහත් වූවාය. දෙවියන් ගැන සහ ඈ තුළ දෙවියන් කෙරෙහි තිබෙන විශ්වාසය ගැන හෝ, ඈ විසින් ඉතා සේ අගේ කොට සලකන ශුද්ධ වූ වස්තුවක් වන දේව භක්තිය ගැන හෝ පුතා කතා කරන විට, ඈ ඔහුගේ දෙනෙත් දෙස එකෙල්ලෙම බැලීමට වෑයම් කළාය. දේව විශ්වාසය පිළිබඳ පරුෂ හා තියුණු වචන පවසා ඈගේ හදවත තුවාල නො කරන ලෙස තම පුතාගෙන් ඉල්ලා සිටීමට ඇට සිත්වූයේ නිහඬව ආයාචනයක් කිරීමෙනි. තම පුතා දෙවියන් විශ්වාස නොකළද කිසියම් විශ්වාසයක් ඔහු තුළ තිබෙන බව ඇට දැනුණෙන් ඉන් අම්මා අස්වැස්මක් ලැබුවාය.

"මට ඔහුගේ අදහස් දැන ගැනීමට හැක්කේ කොහොමද?" ඈ සිතුවාය.

රිබින් වැනි වැඩිහිටි පුද්ගලයෙකුට පවා පාවෙල්ගේ කතාවට සවන් දී සිටීම ප්‍රිය නො වන බව ඇට හැඟේ. එහෙත් රිබින් සංසුන් ලෙස දෙවියන් පිළිබඳ ප්‍රශ්නය පාවෙල් වෙත ඉදිරිපත් කළ විට අම්මා තුළ තිබූ ඉවසීමේ සීමාවන් බිඳීගියෙන් ඈ කෙටියෙන් සහ ස්ථිර ලෙස මෙසේ කීවාය:

"දෙවියන් වහන්සේ ගැන කතා කරන කොට ප්‍රවේසම් වෙයල්ලා! උඹලට ඕන දෙයක්!" ඉහළට ඇදගත් හුස්ම පහත නො හෙළූ ඈ අමාරුවෙන් එය නවත්වා ගනිමින් දිගටම කතා කළාය: "මගේ දෙවියන් වහන්සේව උඹලා උදුරා ගන්නවා නම්, වයසට ගිහින් ඉන්න මට පිහිට වෙන්න කෙනෙක් නැහැ!"

ඇගේ දෙනෙත් කඳුලෙන් පිරී තිබිණි. පිඟන් කෝප්ප සෝදමින් සිටි ඇගේ අත් වෙව්ලන්ට පටන් ගති.

"අම්මා, අපේ කතාව තේරුම් අර ගෙන නැහැ!" පාවෙල් කීවේ පියකරු ස්වරයකිනි.

"අම්මේ, මට සමා වෙයන්!" සෙමින් කී රිබින් පාවෙල් දෙස බලා සිනාසුණේය. "ගතිගුණ වෙනස් කිරීමට තරම් උඹ ළපටි නැති බව මට අමතක වුණා..."

"මම කීවේ, අම්මා, විශ්වාස කරන කරුණාවන්ත, මිහිරි දෙවියන් ගැන නොවේ. පූජකයො පෙන්වමින් තර්ජනය කරන තඩි පොල්ලක් වැනි දෙවියන් ගැනයි. මුළු ජනතාවම නපුරු, දුෂ්ට මිනිසුන් අතලොස්සකට යටත්විය යුත්තේ යැයි කියමින් ඔවුන් පෙන්වන දෙවියන් ගැනයි!" පාවෙල් පැහැදිලි කර දුන්නේය.

"අන්න, ඒක ඇත්ත!" යැයි කී රිබින් මේසයට ඇඟිල්ලකින් තට්ටු කළේය. "උන් අපට දෙවියන් පෙන්වන්නෙ වෙනස් විදියකටයි. උන්ගෙ අතේ තියන හැම දෙයක්ම උන් අපට විරුද්ධව යොදනවා! දෙවියො මිනිහාව මැව්වෙ තමාගෙ රූපෙට සමාන ලෙසටයි. දෙවියො මිනිහට

සමාන නම් මිනිහත් දෙවියන්ට සමානයි. අපි දෙවියන්ට වැඩිය වනේ සතුන්ට සමානයි. පල්ලිය අප බිය කරනවා... දෙවියන් වෙනස් කරල සුද්ද කරල ගන්ට ඕන! බොරුවෙන් සහ මුසාවාදයෙන් දෙවියන් මුවා කරල. දේව රූපය විරූප කරල. මෙව කරල තියෙන්නෙ අපෙ ආත්මය විනාශ කරන්ට...''

රිබින් කතා කළේ සෙමිනි. එහෙත් ඔහුගේ සෑම වචනයක්ම බරැති මිටියකින් ගසන පහරක්සේ දෙකන් බිහිරි කරවමින් අම්මාගේ හිසට නා වැදිණ. ඔහුගේ මුණත් අවම්හුලක සලකුණු කියන ඔහුගේ දූලි කළු රැවුලත් ඈ බිය ගැන්වීමෙහි ලා සමත් විය. කළු පැහැති ඔහුගේ දෙනෙත් බබලන විට ඒවා දෙස බැලීම කොතරම් අමිහිරිදයත්, එම බැල්ම හදවත තුළ වේදනාව මුසු බියක් ඇති කරවයි.

''වඩා හොඳයි මම ඉවත යන්නම්. ඕවා අහගෙන ඉන්ට මා තුළ ශක්තියක් නෑ!'' යැයි කී අම්මා ඔහුගේ කතාව නොපිළිගන්නාක් සේ හිස වනමින් ඉවත් වූවාය.

ඉක්මන් ගමනින් ඈ කුස්සිය දෙසට යත්ම රිබින් මෙසේ කියනවා ඇගේ කන්හි වැකිණ:

''මුල පටන්ගැන්ම මොළෙන් නොවෙයි හදවතෙන්! තේරුණද, පාවෙල්! මිනිහගේ ආත්මය තුළ තිබෙන ඒ අපූරු ස්ථානයෙ වෙන දේවලට ඉඩ නැහැ...''

''බුද්ධියට විතරයි මිනිහාව මුදගන්ට පුළුවන්!'' පාවෙල් කීවේ දැඩි අධිෂ්ඨානයකින් යුතුවය.

''බුද්ධියට හයිය හත්තිය දෙන්ට බැහැ. හදවතයි ශක්තිය දෙන්නෙ. ඔළුව නෙවි, තේරුණද!'' කතාවට හරස් කපමින් රිබින් දැඩි ලෙසකියා සිටියේය.

දෙවියන් යදින්නේ නැතිවම අම්මා ඊ නින්දට සැරසී ඇඳෙහි වැතිර ගත්තාය. ඇට අප්‍රිය ගතියක් සහ සීතලක්ද දැනිණි. මොහොතකට පෙර ස්ථිර බුද්ධිමත් කෙනෙකු සේ අම්මාගේ සිත තුළ ඇදීගිය රිබින් දැන් පෙනෙන්නේ සතුරු ගති කුජපන්නෙකු ලෙසිනි.

''මිත්‍යාදෘෂ්ටියා! කැරලි ගසන්නා!''යි ඔහුගේ හඬ අසා සිටින අම්මා සිතන්නීය. ''එයත් ආවා උවමනාවකට!''

එහෙත් රිබින් කතා කළේ සංසුන් ලෙස සහ දැඩි විශ්වාසයකින් යුතුවය:

''පරිශුද්ධ ස්ථානය පුහු තැනක් වෙන්ට බැහැ. දෙවියො ජීවත් වෙන්නෙ නිතර වේදනාව ඇති වන තැනයි. අධ්‍යාත්මය තුළින් දෙවියො බැහැරව යන්නේ නම් එව්ට ඇති වන්නෙ තුවාලයක්, තේරුනාද! වෙන යම්කිසි



විශ්වාසයක් ඇති කරල දෙවියො ජනතාවගෙ මිතුරෙක් බවට පත් කරන්න ඕන, පාවෙල්!''

''ඔන්න, ක්‍රිස්තුස් වහන්සෙ ගැන බලමු''යි පාවෙල් ගත් කටටම කීය.

''ක්‍රිස්තුස් වහන්සෙ දැඩි ආත්ම ශක්තියක් ඇතිව සිටියේ නැහැ. පාත්‍රය මං වෙතින් ගෙනයන්නැයි කීවා. රෝම අධිරාජ සීසර්ව පිළිගත්තා. දෙවියො සියලු දෙවින්ට විතරයි පුළුවන් ජනතාව පාලනය කරන්ට. දෙවියො තමාගෙ ආත්මය බෙද වෙන්නොට, එකක් දේවම අධිපතියා! දෙවියො තමාගෙ ආත්මය බෙද වෙන්නොට, එකක් දේවාත්මය අනික මනුෂ්‍යාත්මය වශයෙන් හඳුන්වන්නෙ නැහැ. එහෙත් ඔහු වෙළඳාම, විවාහය ආදිය පිළිගත්තා. ගෙඩි එල නොගත් ගහට සාප කළේ වැරදි විදියටයි. ඒ ගහේ ගෙඩි එල නොගත්තේ ගහේ වරදින්ද? ආත්මය සත්පුරුෂ නොවන්නොත් තමාගෙම කැමැත්තෙන් නොවේ. ආත්මය තුළ කෝපය පැල කළේ තමා නොවේද?''

කාමරය තුළ තර්ක කරමින් සිටින මේ දෙදෙනා වරෙක එකහවන සැටිත්, තවත් වරෙක එකකුගේ මතයට අනිකා එදිරිව වාග් සටනක යෙදී සිටින සැටිත්, ඔවුන්ගේ කටහඬවලින් මිණිය හැක. පාවෙල් කාමරය තුළ ඔබ මොබ ඇවිදියි. එව්ට ලීපට්වලින් සාද තිබෙන පොළොව 'කීස්' යන හඬක් පිට කරයි. ඔහු කතා කරන විට සියලුම පිටස්තර ශබ්ද ඔහුගේ කතාවට අසුව ගිලී යන්නාසේය. රිබින් කතා කරන්නේ නැන්පත් ගතියකිනි. ඔහු කතා කරන විට කාමරය තුළ ඔර්ලෝසුවේ 'ටක්', 'ටික්' ශබ්දයද, තුෂාරය නිසා කුඩා ගල්කැට මෙන් මිදෙන දිය සුළඟට අසුව ගෙයි බිත්තියේ තාප්පයට වැදී කැඩී යන හඬද ඇසෙන්නෝය.

''අපේ රස්සාව අනුව උඹට විස්තර කරන්නම්. දෙවියො හරියට ගින්දර වගෙ. ඔන්න! දෙවියො ඉන්නෙ හදවත ඇතුළෙ. දෙවියො කියන්නෙ වචනයටයි. වචනය ආත්මයයි... කියල කතාවක් තියනව.''

''බුද්ධිය'' පාවෙල් දැඩි ලෙස කීය.

''හොඳයි! දෙවියො ඉන්නෙ හදවත සහ බුද්ධිය තුළ හැබැයි පල්ලියෙ නොවෙයි! පල්ලිය දෙවියන්ගෙ සොහොන.''

තද නින්දට වැටුණු අම්මාට, රිබින් ගෙදරින් පිටවී යන හඬ නොඇසිණි.

එහෙත් රිබින් නිතර නිතර පාවෙල් බැලීමට ආ අතර, පාවෙල්ගේ සගයෙක් ගෙදර සිටියේ නම්, ඔහු නිසොල්මන්ව මුල්ලක හිඳ ගත්තේය. එවැනි අවස්ථාවලදී රිබින්ගේ මුවින් වචනයක්, නැතහොත් දෙකක් පිටවේ.

''ඔන්න ඔහොම!''

දවසක්ද මුල්ලක වාඩිවී සිටි ඔහු තමාගේ කළු පැහැති දෙනෙත්වලින් රැස්ව සිටියවුන් දෙස බලමින් සිය අදහස් කියා පෑවේය:

''දැන් තිබෙන තත්ත්වය ගැන කතා කරන්ට ඕන. මොනවා වේද

කියල අපි දන්නේ නැ. ඔන්න! තේරුණද! ජනතාව විමුක්තිය ලබා ගන්තාම තමන්ට ඕන විදියට වැඩ කරාවි. ජනතාව කැමති නැති දේවල් ගොඩක් ජනතාවගෙ ඔළුවලට ඇතුල් කරල තියෙනව. අවශ්‍ය තරම් ජනතාවම කල්පනා කර බලාවි. සමහර විට දැන් තියෙන ජීවිත හැඩ ගැසීම් සහ විද්‍යාවන් හැම දෙයක්ම ප්‍රතික්ෂේප කරාවි. පල්ලියෙ දෙවියො වගෙ මේ හැම දෙයක්ම තමන්ට එදිරිව යොදවන ආවුධ ලෙස ජනතාව දකීවි. ජනතාව අතට සියළුම පොත් දෙන්ට ඕන. එතකොට නිසි පිළිතුරු ලබා ගන්ට පුළුවනි. ඔන්න!''

පාවෙල් හුදකලාව ගෙදර සිටියේ නම්, ඔහු සහ රිබින් අතර ඉමක් නැති විවාදය සැණෙකින් පටන් ගැනෙයි. සැමවිටම සන්සුන් ලෙස පැන නගින මේ විවාදයට අම්මා සවන් දෙන්නී, ඔවුන් කතා කරන වචනවල තේරුම් දැන ගැනීමට වැර වෑයම් දැරුවාය. පළල් උරහිස් සහිත කළු යටි රැවුලක් ඇති මිනිහා සහ සිත්දැරි ශක්තිමත් තරුණ පුතා, යන මේ දෙදෙනාම ඇස් අන්ධවූවන්සේය සමහර විට අම්මාට හැඟී යන්නේ. ඒ මේ අත හැරෙමින් පෙරලෙමින් ගැටළු විසඳීමට උත්සාහ ගන්නා මේ දෙදෙනා ඇස් අන්ධවූවන් මෙන් අඳුරේ අත පත ගාන සැටිත්, තැනින් තැන වාඩි වෙමින් සහ අතට ගන්නා හැම දෙයක්ම වැටෙන්ට හරිමින් තැනින් තැන යමින්, ඒවා බිම දමමින්, වැටුණු දේ පාගන සැටිත් දකින අම්මා ඔවුන් තුළ විශ්වාසය සහ බලාපොරොත්තුව තිබෙන බව ඉවෙන් මෙන් දැන ගත්තාය...

නිර්භීත සහ එඩිතර බව නිසාම බියජනක බවකින් යුත් ඒ වචන ඇසීමට අම්මා පුරුදු කලේ ඔවුන් විසිනි. එහෙත් ඒ වචන පළමුවරට අසද්දී ඇතිවුණු බිය හා කුතුහලය නැවතත් ඇවිස්සීමට තරම් ඒවා දැන් අපොහොසත්ය. එක් කනකින් අසා අනිත් කනින් ඒවා පිටකර දැමීමද ඇට දැන් හුරු පුරුදු කාරියකි. දෙවියන්ට එදිරිව ඔවුන් කතා කළද, ඔහු පිළිබඳ විශ්වාසයක් ඔවුන් තුළ තිබෙන බව ඉදහිට ඇට දැනිණි. එවිට ඈ සිනාසෙන්නී සියලු පව්වලට සමාව දෙන්නියක් වශයෙනි. රිබින් ඈ තුළ පිළිකුලක් ඇති කරවීමෙහි සමත් නමුදු දැන් ඔහු සතුරු හැඟීම නිසා නැවිස්සිණි.

හිරගෙදර සිටින හොහොල් වෙත සතියකට වරක් පොත්පත් සහ ඇඳුම් ගෙනයාම ඇගේ සිරිතකි. දවසක් ද ඔහු දැක කතාබහ කිරීමට ඇට අවසර ලැබිණි. හමුවීමෙන් පසු ගෙදර ආ, ඕ සතුටු සිතින් කතා කළාය:

''එයාට හිරගෙදරත් හරියට ගෙදර වගේමයි. හැම දෙනා සමගම හොඳින් කතාබහ කරනවා විතරක් නෙවි විහිළු තහලු පවා කරනවා.



මිනිහට හොඳටම අමාරුයි. ඒ වුණාට ඒ බව පිටතට පෙන්වන්නෙ නැහැ...''

''එහෙම තමයි හැසිරෙන්ට ඕනා!'' යයි රිබින් කීය. ''අපි දුක් සයුරෙ ගිලී ඉන්නවා. ශරීරය වසාගෙන ඉන්න හම වගෙ දුක අපව වසාගෙනයි ඉන්නෙ. පුරසාරම් දෙඩවන්න වෙලාවක් නැහැ. ඇස් අන්ධ වෙලා තියෙන්නෙ හැමදෙනාගෙම නොවෙයි. සමහරු උවමනාවෙන්ම ඇස් වහගන්නවා. ඔන්න! මෝඩකම නිසා දුක උහුලාගෙන ඉන්ටයි අපට වෙන්නෙ!..''

## XII

විලාසවිලාගේ කුඩා ඇඳිරි ගෙය කම්කරු ජනපද වාසීන්ගේ සැලකිල්ලට වඩ වඩාත් භාජන විය. සැක සහිත ප්‍රවේසම්කාරී බව සහ හැඟීමෙන් තොර වූ හතුරු බව පමණක් නොව එම සැලකිල්ලට හේතු වූයේ. විශ්වාස කටයුතු කුතුහලයක්ද ඒ සමගම උපනි. සමහර අවස්ථාවලදී ප්‍රවේසමින් වටපිට බලමින් පාවෙල් හමුවීමට එන්නෙක් ඔහු අමතා මෙසේ කියයි:

''සහෝදරයා, උඹ පොත් කියවනවා නොවැ. නීති රීති ගැන දන්නවා නෙවද. මෙන්න මේ කාරණය පැහැදිලි කර දීපන්...''

කම්හලේ පාලක පක්ෂය හෝ පොලිසිය හෝ කරන කිසියම් අසාධාරණයක් හෙතෙම පාවෙල්ට විස්තර කරයි. තමාට තේරුම්ගත හැකි දෙයක් නම් කළ යුතු දේ කියාදෙන පාවෙල්, අසීරු, අමාරු කරුණුවලදී නගරයේ සිටින, තමා අඳුනන නීතිවේදියෙකු වෙත යන ලෙස ඔහුට ලිපියක් දෙයි.

කල්යත්ම මේ තරුණ ශාන්ත පුද්ගලයාට මිනිස්සු ගරුසරු දක්වන්නට වූහ. හැමදෙයක් ගැනම වාම් ලෙසත් නිර්භය ලෙසත් කතා කළ අතර හැමදෙනාටම කන් දුන්නේය. හැමදෙයක් ගැනම සැලකිලි දක්වූ හෙතෙම, පුද්ගලයන් වෙන්, වෙන් වශයෙන් පැටලී සිටින දුක් කරදර නැමති නූල්පොටවල්වල පොදු, සමාන අංගලක්ෂණයන්ද දුටුවේය. සැමදෙනාටම පොදු වූ මේ නූල්පොට දහස් ගණන් මිනිසුන් එකට වෙළා තිබෙන සැටිද ඔහු නොදුටුවේ නොවේ.

මඩගොහොරු වේලීම සඳහා කාසි එකතු කිරීමේ සිද්ධියෙන් පසු ඔහුගේ ජනප්‍රියතාවය වඩාත් වැඩි විය.

කම්හල වටා මඩගොහොරු බිමක් විය. මේ බිමට හසුවූ නත්තල් ගස් හා බර්ච් ගස්ද කුණුවී දිරාපත්වී ගියේය. ගිම්හානයේදී කහ පැහැති පෙණ දමා උතුරා යන ගොහොරු බිමේ සිට කම්කරු ජනපදය දක්වා

පැතිරයන මැසි මදුරුවෝ උණ රෝග බෝ කරති. කම්හලේ අළුත් අධ්‍යක්ෂක වරයා ගොහොරු බිම්වල තිබූ පීට් වැනි වටිනා ද්‍රව්‍ය ලබා ගැනීමේ ආසාවෙන්, ඒ මඩ ගොහොරු ප්‍රදේශය ශුද්ධ කොට වේලාගත යුතුයැයි කියා සිටියේය. මෙසේ කිරීමෙන් පෙදෙස්වැසි කම්කරුවන්ට යහපතක් සිදුවන්නේ යැයිද, ඉන් සෞඛ්‍යාරක්ෂාවට සෙත සැලසෙන්නේ යැයිද කී හෙතෙම කම්කරුවන් වැටුප් වශයෙන් ලබාගන්නා සෑම රූබලයකින්ම* කොපෙක් එක බැගින් දිය යුතු යැයි අණ කර සිටියේය. මෙසේ ලබා ගන්නා මුදල් යොදවා ගොහොරු බිම ශුද්ධ කිරීම ඔහුගේ උපාය විය.

කම්කරුවෝ කැළඹුණහ. අනිකුත් සේවකයින්ට මේ බද්ද බලනොපාන බව දුටු ඔවුහු වඩාත් අමනාප වූහ

හැම කම්කරුවෙකුගෙන්ම ගොහොරු බිම් ශුද්ධ කිරීම සඳහා එවැනි මුදලක් අය කරන බව දන්වෙන අධ්‍යක්ෂක ආඥාව නිකුත් කළ සෙනසුරාද පාවෙල් වැඩට නොගියේ අසනීප වූ බැවිනි. ඊට පසු දවසක පාවෙල් හමුවීමට පැමිණි අළුවූ සාදන්නෙකු වන උපශාන්ත සිසෝව් මහල්ලා සහ නිතර කිපෙන යකඩ කම්කරුවෙකු වන උසැති මහෝතින් ද අධ්‍යක්ෂකගේ නියෝගය ගැන ඔහුට කිවෝය.

''අපි, වයසක උදවිය රැස් වුණා'' යැයි වැදගත් ලෙස ඇද-පැද සිසෝව් මහල්ලා කීවේය. ''ඔන්න ඉතින් ඊට පස්සෙ අපේ සගයො එකතු වෙලා අපි දෙන්නව එව්වා උඹ ළඟට. උඹ නීති ගැන දන්න කෙනෙක් නොවැ. ඩිරෙක්ටර්ට බලයක් නීතියෙන් දීලා තියෙනවද අපෙ සල්ලි එකතු කරල මදුරුවො නැති කරන්ට?''

''උඹ කල්පනා කරල බලාපන්'' යැයි මහෝතින් පාවෙල් අමතා කීවේ ඇස් හකුළුවා ගනිමිනි. ''මීට අවුරුදු හතරකට ඉස්සෙල්ලා ඒ පල් හොරු නාන කාමර හදන්ටෙයි කියා අපෙන් තුන්දස් අටසියක් එකතු කරගත්තා. ඒවා කොහෙද? නාන කාමරත් නැහැ!''

එය, නීතිවිරෝධී බව කියා සිටි පාවෙල් එසේ මුදල් එකතු කිරීමෙන් පාලකයින්ට ලාභ ඇති වන සැටි විස්තර කළේය. මුහුණු ඇඹුල් කරගත් ඔවුහු පිටවී ගියෝය. ඔවුන්ට ආයුබෝවන් කියා ඇරලූ අම්මා සිනාසෙමින් පාවෙල් අමතා මෙසේ කීවාය:

''ඔන්න බලපන්, පවුලූෂා, වයසක උදවිය උඹ ළඟට එනව උපදෙස් ලබා ගන්ට.''

---

* රූබලය: කොපෙක් සියයකින් යුත් රුසියානු මුදල් ඒකකයකි. අනුවාදක



ඇගේ කතාවට පිළිතුරු නොදුන් පාවෙල් මහත් වූ උවමනාවකින් යමක් ලියන්ට පටන් ගත්තේය. මිනිත්තු කීපයකට පසු ඇ අමතා කථා කළ ඔහු ඉල්ලීමක් කළේය:

''නගරෙට ගිහිං මේ ලියවිල්ල බාර දෙන්න.''

''ඒක අන්තරාදයක වැඩක්ද?'' යි ඇ ඇසුවාය.

''ඔව්. අපේ පත්තර එහෙ මුද්‍රණය කරනව. මේ මුදල් අය කිරීම පිළිබඳ කතාව මේ වර කලාපයේ පළ කරන්ට ඕන...''

''හොඳයි, මම දැන්ම යන්නම්...''

පුතා විසින් ඇ වෙත පවරන ලද පළමුවැනි කාරිය එය විය. කාරණය පිළිබඳ ඇත්ත ඇට පහද දීම ගැන ඇ සතුටු වූවාය.

''මට තේරෙනවා, පවුලූෂා උන් මිනිසුන්ගෙන් මංකොල්ල කන්නයි හදන්නෙ. නගරෙ, අර මිනිහගෙ නම යෙගෝර් ඉවානවිච් නේද?''

ඇ ගෙදර ආවේ හොඳටම ඇඳිරි වූ පසුවය. ගමන් වෙහෙවටුව නිසා විඩාපත් වුවද ඇ කෙරෙහි ප්‍රීතිමත් බවක් පෙනෙන්ට තිබිණි.

''සාෂෙන්කා හම්බ වුණා! ඇ උඹට ශුභ පැතුම් එව්වා. අර, යෙගෝර් ඉවානවිච් බොහොම වාම්, හරි විහිළුකාරයා! කතා කරන කොට හිනායනවා.''

''අම්මා ඒ ගොල්ලන් ගැන සතුටු වීම මට ප්‍රීතියක්!'' යැයි පාවෙල් සෙමින් කීවේය.

''වාම් මිනිස්සු ඒ ගොල්ල, පවුලූෂා! මිනිස්සු වාම් වීම හොඳයි! හැම දෙනාම උඹට ගරු කිරීමත් බොහොම හොඳයි...'' සඳුද පාවෙල් නැවත වැඩට නො ගියේ, ඔහු හිස රදයෙන් පෙළුණු බැවිනි. එහෙත් දවල් බත් පැයේදී ඔහු හමුවීමට දුවගෙන ආ පියෝදර් මාසින් ප්‍රීතිමත්ව සිටියද, විඩාපත් වූ බැවින් හති දමමින් මෙසේ කීය:

''යමු! මුළු පැක්ටරියම නැගිටලා. උඹට එන්ට කියනවා, සිද්ද වෙන්නෙ මොනවද යන්න හොඳට විස්තර කරල දෙන්ට පුළුවන් උඹට විතරයි කියල සිසෝව් සහ මහෝතින් කියනවා!''

නිහඬව නැගී සිටි පාවෙල් ඇඳගන්ට පටන් ගත්තේය.

''ගෑණු අම්මන්ඩිලා ඇවිත් කෑ ගහන්ට පටන් අරගෙන!''

''මමත් එන්නම්! උන් එතැන මොනවද කරන්ට යන්නෙ? මමත් එන්නම්!'' යැයි අම්මා කීවාය.

''යන්න!'' පාවෙල් පැවසීය.

ඔවුහු නිහඬව, කඩිනමව ගමන් කළහ. කැළඹීම නිසා හුස්ම ගැනීමට අමාරු වූ විටකදී මෙන් හති දැමීමට පටන් ගත් අම්මා වැදගත් යමක් දැන් සිදුවෙය යන කුතුහලයෙන් උන්නාය. කම්හල් ගේට්ටුව අසල රැස්වූ

ගැහැණු කිසිවක් කියමින් කෑ ගැසූහ. කම්හල් ගේට්ටුව තුළට මේ තිදෙනා ඇතුළු වූ විගසම, ඔවුන් පිළිගනු ලැබුවේ, කැළඹී සිටින කළු පැහැති මිනිසුන් ගොඩක් විසිනි. ඔවුහු හඬ නගමින් කෑ ගසන්ට වූහ. මිනිස්සු සියලු දෙනාම තොත් හරවා ගෙන සිටියෝ යකඩ කම්හල දෙසටය. රතු ගඩොලින් බැඳි තාප්පයට හා ගොඩගසා තිබෙන යකඩ ගොඩට පිටදී පෙළගැසී සිටි දක්ෂ එමෙන්ම, ජනප්‍රිය පුහුණු කම්කරුවෝ වන සිසෝව්, මහෝතින්, වයාලව් සහ තවත් දේදෙනෙක් අත් වනමින් සිටියහ.

''අන්න විලාසව් එනවා!'' යැයි එකෙක් කෑ ගැසීය.

''විලාසව්ද? මෙහාට එන්ට කියනවා එයාට...''

''නිශ්ශබ්ද වෙයල්ලා'' යන හඬ කීප තැනකින්ම එක්වර පැන නැංගේය.

අසල තැනකින් රිබින්ගේ තැන්පත් කටහඬ රැව්දෙන සැටි ඇසිණි:

''කොපෙක් එක සඳහා නොව සාධාරණත්වය සඳහා සටන් කරන්ට ඕන. ඔන්න! අපට කොපෙක් එක එතරම් වටින්නෙ නෑ. එය අනිත් ඒවාට වඩා වටකුරුබවෙන් වැඩිවාට නොවේ. අපේ සල්ලි අපට ලැබෙන්නේ ලේ, මස් දහඩිය බවට පෙරලා මහන්සි වුණාම. අපේ කොපෙක් එක තුළ, ඩිරැක්ටර්ගෙ රූබලයට වැඩිය මිනිස් ලේ තියෙනව. ඔන්න! කොපෙක් එක නොවෙයි වටින්නෙ මිනිස් ලේ, ඇත්ත, තේරුණාද. ඔන්න!''

ඔහුගේ කතාව අසා සිටි සෙනඟ ඔහු දිරි ගන්වමින් කෑ ගසන්ට විය:

''හරියට හරි, රිබින්!''

''ඇත්ත, පයර්මැන්!''

''විලාසව් ඇවිල්ලා!''

කම්හලේ යන්ත්‍රවල හඬද, වාෂ්ප බලයෙන් ක්‍රියාකරන යන්ත්‍රවල ඝෝෂාවද, විදුලි කම්බි එකටෙක ගැටෙන ශබ්දයද එක්වී නැගෙන ඝෝෂාකාරී විලාපයද පසුබාමින් මිනිස්සු කෑ කෝ ගසති. එය එකම සුළි සුළඟක් විය. හැම අතින්ම ලඟි ලඟියේ දුවගෙන ආ ඔවුහු අත් වනමින්ද හිස් සලමින්ද වාද කරති. එකිනෙකාට එරෙහිව තියුණු ඇනුම්පද හුවමාරු වීමද කෙරිණ. සිත් තුළ නිදසිටි කෝපය පිට වීම සඳහා මං සොයමින් සිටියේය. දුවැන්ත කළු රාජාලියෙකු සේ යෝධමය පියාපත් විදහා ගනිමින් නැගී සිටි ජනතා කෝපය මිනිසුන් එකිනෙකාට එදිරිව හප්පමින්, කොටවමින්, වෛරය උග්‍ර කරවමින් රජ කළේය. රැසව සිටියවුන් දූලි අළුරු හා ධූලිවලින් තැවරී ගිය අතර ඔවුන්ගේ මුහුණු දහඩියෙන් පිරී ගොස් තිබිණි. කම්මුල් දිගේ ගලා ගිය ඩහදිය කළු පැහැතිය. සුදුපාට දත් සහ දීප්තිමත් ඇස් කළු පැහැති මුහුණුවල බැබලිණි.

සිසෝව් සහ මහෝතින් සිටි තැනට පැමිණි පාවෙල් සෙනඟ අමතා කතා කළේ මහ හඬිනි:



''සහෝදරවරුනි!''

ඔහුගේ මුහුණ සුදුමැලිව ගොස් දෙතොල් වෙව්ලන සැටි අම්මා දුටී. ඇ සෙනඟ පීරාගෙන ඔහු වෙතට යන්ට පටන් ගත්තේ හිතා මතා නොවේ. කෝප වූ සමහරු ඇගෙන් මෙසේ ඇසූහ:

''කොහෙද රිංගන්නෙ?''

ඇය තල්ලු කරනු ලැබුවද, ඉන් ඵලක් නොවීය. වැළමිටින් හා උරහිසින් සෙනඟ පීරා ඉදිරියට ගිය අම්මා පුතා වෙත ළංවූවාය.

ගැඹුරු හා වැදගත් අදහසක් එම වචනයෙන් ඇඟවීමට පුරුදුව සිටි පාවෙල් එය හඬ නගා කීවේය. පාවෙල් තුළ ඇති වූ සටන්කාමී ප්‍රීතිය නිසා ඔහුගේ උගුර හිරවූවාසේ දැනිණි. ඇත්ත-යුක්තිය පිළිබඳ සිහින හා සටන්කාමීත්වය නිසා ගිනි ගෙන දැවෙන සිය හදවත ජනතාව වෙත පුදකිරීමට තරම් උවමනාවකි ඔහු තුළ ඇති වූයේ.

''සහෝදරවරුනි!'' ඔහු යළි පැවසුයේ එම වචනයෙන් මහත් සොම්නසක් හා ශක්තියක් උකහා ගනිමිනි. ''පල්ලි, පන්සල් හා කම්හල් වැඩපලවල් හදන්නේත්,. දම්වැල් කෝවයන් තුළ දමා උණු කොට හදන්නේත්, මුදල් හම්බ කර දෙන්නේත්, අපි. උපන් දා සිට මිනීවළට යන තෙක් හැම දෙනාටම ආහාර පාන දී නලවන්නේත් අපේ ජීවමාන බලය විසිනි...''

''අන්න හරි!'' තමාට පුරුදු පරිදි රිබින් කීවේය.

''හැමදම හැමතැනම වැඩ කරන විට පළමුවැනි පෙළට අසු වන අපි ජීවත් වීමේදී අන්තිම පෙළටයි වැටෙන්නෙ. අපට සැලකිලි දක්වන්නෙ කවුද? අපට සෙත සලසන්නෙ කවුද? කවුරුත් නැහැ!''

''කිසිවෙක් නැහැ''යි එකෙක් කෑ ගැසීය.

මේ වේලාව වන විට තමා මෙල්ල කරගැනීමෙහි සමත්වූ පාවෙල්, වඩාත් පැහැදිලි බසින්ද, වඩාත් සන්සුන් ලෙසද කතා කරන්ට වූයෙන්, රැසව සිටි ජනකාය, හිස් දහසකින් හෙබි දැවැන්තයෙකුසේ හෙමින්, හෙමින් ඔහු වෙත ළංවීය. ඇස් දහසකින් එකවර පාවෙල් දෙස බලන ඔවුහු, ඔහු කියන හැම වචනයක්ම උකහා ගන්නට වූහ.

''අපේ අයිතිය සඳහා සටන් කරන්ට එක් සිත්ව, එක්සත්ව ඉදිරියට විත්, සහෝදර සමගි බැම්මෙන් බැඳී, එකම පවුලක් සේ කටයුතු කරන්නේ නැතිනම්, අපට හොඳ තත්ත්වයක් ලබා ගැනීමට කිසිසේත්ම බැරි වනු ඇත.''

''කාරිය ගැන කතා කරපන්!'' යැයි අම්මා අසල සිටි එකෙක් කෑ ගැසුවේය.

"බාධා කරන්ට එපා!" යැයි දෙතැනක දෙදෙනෙකු එකවර කෑ ගසනවා ඇසිණි.

දලි අඳුරු පෙරා ගත් මූසල මුහුණු කීපයක් ඔහු දෙස බැලුවේ අවිශ්වාසයෙනි. බැරෑරුම් කැප්පනාකාරී බවෙන් යුතුව පාවෙල් දෙස බැලූ ඇස්වල සංඛ්‍යාව දසක කීපයකි,

"සමාජවාදියා — මෝඩයෙක් එහෙම නෙවේ!" කවුදෝ කීවේය.

"ආ! නිර්මිත කතාව!" යැයි අම්මා අසල සිලි සිවි උසැති කම්කරුවෙක් කීවේ, ඈ උරහිසින් තල්ලු කරමිනි.

"අප හැර අපට පිහිට වන්ට කාටවත් බැරි බව වටහා ගන්ට වේලාව ඇවිල්ලා, සහෝදරවරුනි! එකා සැමටත් සැම එකාටත්, එයයි අපේ නීතිය. හතුරා මර්දනය කරන්ට පුළුවන් එවිටයි!"

"කතාව හරියට හරි!" යැයි මහෝතින් කෑ ගැසිය.

පළල් ලෙස අත වැනූ හෙතෙම, අත මිට මොලවා ගත්තේය.

"ඩිරැක්ටරව ගෙන්වන්ට ඕනා!" පාවෙල් යෝජනා කළේය.

රැස්ව සිටියවුන්ට මහා කුණාටුවක් පහර දුන් කලෙක මෙන් නොසන්සුන්තාවයක් ඇති විය. දහස් ගණන් ජනයා හඬ නගා එකවර කෑ ගැසූහ:

"ඩිරැක්ටර් ගෙන්වනු!"

"එයාව කැඳවා ගෙන එන්ට නියෝජිතයින් යවන්ට ඕනා!"

සෙනඟ පිරාගෙන ඉදිරියට ගිය අම්මා ආඩම්බරයෙන් යුතුව පුතා දෙස බැලුවාය. පැරණි ගරු කටයුතු කම්කරුවන් අතර උන් පාවෙල්ට හැමකෙනෙක්ම සවන් දුන් අතර, හැමදෙනාම ඔහු සමඟ එකඟ වූහ. අනිත් අය මෙන් ඔහු බැන වැදී, කෝප නොවෙයි. මේ නිසා අම්මා තුළ ඇති වූයේ ප්‍රීතියකි.

ලොකු හිම කැට වකරන් වහලකට වැටෙන විට ඇති වන සෝෂාව සේ අතරින් පතර ඇනුම් බැනුම්ද පරුෂ වචනද ඇසෙන්ට විය. මිනිසුන් දෙස බලන පාවෙල් යමක් සෙවීමට තැත් කරන්නාක් මෙන් හිස ඒ මේ අත හරවයි.

"නියෝජිතයෝ!"

"සිසෝව්!"

"විලාසව්!"

"රිබින්! එයාගෙ දත් හරි බයානකයි!"

සෙනඟ අතරේ පහත් හඬක් පැන නැගිණි.

"මිනිහාම එනවා!.."

"ඩිරැක්ටර්!.."



දික්වූ මුහුණක් සහ උල්වූ යටි රැවුලක් ඇති උස පුද්ගලයාට මග පාද දෙමින් රැස්ව සිටියහු ඈත්-මෑත් වූහ.

රැස්ව සිටියවුන් තාල්ලා, එහෙත් අතක් ඔසවමින් සෙනඟ පිරාගෙන ඉදිරියට ගිය ඔහු "අවසර දෙන්න!" යැයි කීය. ඔහුගේ ඇස් හැකිළී තිබුණ අතර ඔහු කම්කරුවන් දෙස බැලුවේ පළපුරුදු ස්වාමියෙකු ලෙසය.

ඔහු ඉදිරිපිට කම්කරුවෝ හිස්වැසුම් ගැළවූහ, ආචාර කළහ. ඔහු ගමන් ගත්තේ ඒ ආචාර කිසිදු ගණනකටවත් නොගනිමිනි. කෙමෙන් රැස්ව හුන් සෙනඟ නිහඬ වූහ, සමහරු ලජ්ජාවට පත් වූ විට මෙන් හැසිරෙන්නට වූ අතර, සමහරු වනාකුලත්වයට පත්ව මඳ සිනා පාමින්, 'වරද අප අතේය' යන හැඟීමෙන් යුතුව හඬ නගන ළදරුවන් මෙන් කෑ ගසන්ට වූහ.

ඔහු අම්මා පසු කොට යන්නේ, ඈ දෙස දැඩි බැල්මක් හෙලා යකඩ ගොඩ දක්වා ගියේය. උඩහ සිටි කිසිවෙක් ඔහුට අත දුන් නමුදු එය ප්‍රතික්ෂේප කළ ඔහු, හුරු බුහුටි ලෙසංඑක පිම්මකින් උස් බිමට පැන පාවෙල් විලාසව් හා සිසෝව් ඉදිරිපිට සිට ගත්තේය.

"මොකද මේ කාලගෝට්ටිය? ඇයි වැඩ නැවැත්තුවේ?" යැයි හෙතෙම ඇසිය.

තත්පර කීපයක නිහඬතාවයකි. සුළං පහරට අසුව වැනෙන ගොයම් කරල් සේ මිනිසුන්ගේ හිස් වැනෙන්නට විය. තමාගේ හිස් වැස්ම වැනූ සිසෝව් දෙඋර සොලවා දෙනෙත් බිමට හරවා ගනිමින් හිස පාත් කරගත්තේය.

"මම අහනවා!" යැයි අධ්‍යක්ෂක කෑ ගැසුවේය.

සිසෝව් හා රිබින් පෙන්වමින් උස් හඬින් කතා කළ පාවෙල් මෙසේ කීය:

"සහෝදරවරු අපි තුන්දෙනාට බලය දී තිබෙනවා, අපේ මුදල් කපා හැරීම නවත්වන ලෙස ඔබට දන්වා සිටීමට..."

"මොකවද?"යි අධ්‍යක්ෂක ප්‍රශ්න කළේ පාවෙල් දෙස නොබලමිනි.

"එවැනි බද්දක් අපෙන් අය කිරීම අසාධාරණයි!" පාවෙල් ශබ්ද නගා කීවේය.

"මොකද උඹලට වෙලා තියෙන්නෙ. ගොහොරු බිම වේලන්ට ඉදිරිපත් වීම කම්කරුවන් සුරාකෑමක් ලෙස හැර උන්ගෙ තත්ත්වය උසස් කිරීමක් හැටියට උඹලා ගණන් ගන්නේ නැතිද? එහෙමද?"

"එහෙමයි" පාවෙල් පිළිතුරු දුන්නේය.

"තමුසෙත් එහෙමද?" යි අධ්‍යක්ෂක රිබින්ගෙන් ඇසිය.

"ඔක්කොමල්ලා එක විධියටයි" යනු රිබින්ගේ උත්තරය විය.

''තමුසෙ ලොකු උන්නැහෙ?'' සිසෝව් අමතමින් අධ්‍යක්ෂක ප්‍රශ්න කළේය.

''එහෙමයි. අපේ කොපෙක් එක කපා ගන්ට එපා කියල මම ඉල්ලා හිටිනවා.''

නැවතත් හිස පාත් කරගත් සිසෝව් වැරැද්දක් කළ එකකු සේ යම්තම් සිතාසුණේ දෙකොල් පළල් කරගනිමිනි.

අධ්‍යක්ෂක හෙමින් රැස්ව උන් සෙනඟ දෙස බලා උරිස් හකුළුවා ගත්තේ, පාවෙල් දෙස පරීක්ෂාකාරී බැල්මක් හෙළමින්, ඔහු අමතා මෙසේ කීය:

''තමුසෙ බැලූ බැල්මට පේන්නෙ බුද්ධිමතෙක් හැටියටයි. තමුසෙට තේරෙන්නෙ නැතිද මෙයින් වෙන ප්‍රයෝජනය?''

එවිට පාවෙල් මහ හඬින් පිළිතුරු දුන්නේය:

''ෆැක්ටරිය, තමාගේම මුදලින් ගොහොරු බිම වේලන්නේ නම් සියලු දෙනාටම අවබෝධ වේවි!''

''ෆැක්ටරිය පරිත්‍යාග ශීලී වැඩ කරන්නෙ නෑ. වහාම වැඩට යන ලෙස උඹලාට නියම කරනවා!'' යැයි අධ්‍යක්ෂක කීවේ වියලි හඬකිනි.

ඔහු කෙමෙන් පහළ බැස්සේ යකඩ ගොඩ පාවලින් පරීක්ෂා කරන බවක් පෙන්වමින් වුවද, කිසිවෙකු දෙස නොබැලීමටද වගබලා ගත්තේය.

සෙනඟ අසන්තෝෂව ඝෝෂා කරන්ට විය.

''මොනවා?'' යැයි ඇසූ අධ්‍යක්ෂක නැවතුණේය.

හැම දෙනාම නිහඬ වූහ. ඈත සිට යමෙකුගේ හඬක් ඇසිනි:

''උඹම වැඩ කරගනින්...''

''මිනිත්තු පහළොවක් ඇතුළතදී උඹලා ආපසු වැඩ පටන් ගත්තේ නැතිනම්, සියලු දෙනාටම දඩ ගැසීමට නියම කරනවා'' යැයි අධ්‍යක්ෂක පිළිතුරු දුන්නේ වියලි හඬකිනි.

ඔහු නැවතත් සෙනඟ පිරාගෙන යන්නට වූයෙන්, ඔහු පිටුපසින් අප්‍රසන්නතාවය පළ කෙරෙන ගොළු හඬක් මතු වෙන්නට විය. ඔහු සෙනඟ පිරාගෙන ගැඹුරට යන්ම කෑ ගැසීම වැඩි විය.

''කතා කර බලපන්කො එයා සමග!''

''ඔන්න අයිතියක හැටි! අනේ ඉරණමක හැටි...''

පාවෙල් දෙසට හැරුණු මිනිස්සු කෑ ගසන්ට වූහ:

''ඒයි නීතිවේදියා, දැන් මොනවද කරන්නෙ?''

''උඹ කොපමණ කතා කළත් අර මිනිහා ඇවිත් වැඩේ විනාශ කළා!''

''ඒයි විලාසව් මොනවා කරමුද?''

කෑ ගැසීම වඩාත් මුරණ්ඩු ස්වරූපයක් ගත්තෙන් පාවෙල් මෙසේ කීය:



''සහෝදරවරුනි! අපේ මුදල් කැපීම නවත්වන තුරු වැඩ වර්ජනය කරමුයි මම යෝජනා කරනවා...''

විරුද්ධත්වය නැග එන්ට විය.

''උඹ හිතුවද අපි මෝඩයො කියලා!''

''ස්ට්‍රයික් කරන්ට?''

''කොපෙක් එකේ දඩයට?''

''ඉතින් මොකෝ! ඔව්. ස්ට්‍රයික්!''

''ඔක්කෝමගෙ බෙල්ලෙ වැල තමයි...''

''කවුද වැඩ කරන්නෙ?''

''හොයා ගනීවි!''

''ජුදස්ලා?''

## XIII

බිමට බැස ගත් පාවෙල් අම්මා ළඟින් සිට ගත්තේය.

රැස්ව සිටියහු කෑ ගසන්ටත්, වාද-විවාද කරන්ටත් පටන් ගත්හ.

''වැඩ වර්ජන කරන්ට බැහැ'' යැයි පාවෙල් ළඟට ආ රීබින් කීවේය. ''මිනිස්සු කෑදරයි, ඒවගේම නිවටයි, සියසුලුයි. උඹේ යෝජනාවට තුන්සියක් විතර පක්ෂ වේවි, ඔය තරම් විශාල ගොම ගොඩක් තනියම උස්සා දමන්ට බෑ.''

පාවෙල් නිහඬ විය. ඔහු ඉදිරිපිට සිට ගත් කළු මුහුණුවලින් හෙබි මහජනකාය, ඔහු දෙස බැලුවේ දැඩි ලෙසකිනි. ඔහුගේ හදවත ගැහෙන බවක් දැනෙන්නේ. දිගු කලක් තිස්සේ වැසි නැති නියඟයකට අසුව ඉරිතැලී ගිය වියලි බිමකට වැටුණු වැහි පොද සේ, තමාගේ වචන ජනතාව අතරට වැද සටහන් නොතබා අතුරුදහන්ව ගිය බව පාවෙල් විලාසවට දැනෙයි.

විඩාපත්ව සිටි පාවෙල් ගෙදර ගියේ කනස්සළු සිතකිනි. ඔහු පිටුපස සිසෝව් හා අම්මාද ගමන් ගත්තෝය. ඔහු අසලින් ගමන් ගත් රීබින් හඬ නගා කතා කළේය:

උඹ හොඳට කතා කරනවා. ඔන්න! ඒ වුණාට හදවතට ආයාචනා කරන්නේ නැහැ. හදවත තුළට කා වදින්ට කතා කරන්ට ඕන. බුද්ධියට ආයාචනා කරල මිනිසුන් දිනා ගන්ට බැහැ. ඔය ජාතියෙ සපත්තු කකුලට හරි යන්නෙ නැහැ. බොහොම කුඩයි. පටුයි, තේරුණාද!''

සිසෝව් අම්මා සමග කතාවට වැටිණි.

''අපි වාගෙ මහල්ලන්ට සොහොන් බිමට යන්ට කාලෙ පැමිණිල, නිලවනා! අලුත් මිනිස්සු ඉස්සරහට එනවා! අපි ජීවත් වුණු හැටි? දණ

ගාමීන්, බඩ ගාමීන්, වැද වැටුනා. දැන් හැදෙන උන්ගෙ සිහි-බුද්ධිය හොඳද නැතිනම් වැඩිය වැරදි කරනවාද කියා කියන්ට බැහැ. හැබැයි අපි වගෙ නෙවි. දැන් හැදෙන තරුණයො ඩිරෙක්ටර් එක්ක කතා කරන්නෙ හරියට සමාන ලෙසටයි... ආයුබෝවන්, පාවෙල් මිහායි ලවිච්, උඹ සහෝදරය මිනිස්සු වෙනුවෙන් හොඳට කතා කරනව! උඹට දෙවියන්ගෙ පිහිටයි. උඹට ඇත්ත-යුක්තිය සොයා ගන්ට පුළුවන් වේවි. දෙවියන්ගෙ පිහිටයි!''

සිසෝව් ගියේය.

''ඔව්, මැරෙන වැඩක් නෙව''යි රිබින් කොඳුළේය. ''ඔය, මිනිස්සු නෙවි, මැටි. සිදුරු වහන්ට ගන්න මැටි. තුඹව නියෝජිතයෙකු හැටියට පත් කළ යුතුයැයි කියල කෑ ගසපු එවුන්ව උඹ දුටුවද, පාවෙල්? උඹ සමාජවාදියෙක්, කලබල කාරයෙක් කියල කෑ ගහන එවුන්මයි යෝජනා කළේ. 'අන්න! එවුන්! උන් එහෙම කළේ උඹව වැඩපලෙන් අස්කරන බව දැනගනයි. ඔන්න!''

''උන් හිතන විධියට උන් හරි'' යැයි පාවෙල් පිළිතුරු දුන්නේය.

''වෘකයෝ එක්කාසු වෙලා තවත් වෘකයෙකු මරාගෙන කැමත හරි වැඩක් නොවැ...''

රිබින්ගේ මුහුණ ඇඳිරිව ගොස් තිබුණ අතර, කටහඬ අස්ථිර බවක් දැරිය.

''නිකම්ම නිකම් වචන කෙරෙහි මිනිස්සු විශ්වාසය තියන්නේ නැහැ. දුක් විඳල, ලේවලින් වචන පණපෙවුණ විට තේරෙවි...''

විඩාවට හා කණගාටුවට පත් පාවෙල් මුළු දවසම එලෙස ගත කළේය. කැළඹීමට පත් ඔහුගේ ඇස් රත් පැහැ ගෙන තිබුන අතර නැති වූ යමක් සොයන්නාක් මෙන් ඔහු නිතර නිතර ඒ මේ අත බලන්නට විය. පාවෙල්ගේ සැටි දුටු අම්මා ප්‍රවේසමින් ඔහු අමතා මෙසේ ඇසුවාය:

''පව්ලූෂා, උඹට මොනවද වෙලා තියෙන්නෙ?''

''ඔළුව කැක්කුමක් හැදිලා'' යැයි ඔහු කල්පනා කාරීව පිළිතුරු දුන්නේය.

''හාන්සි වෙයන්, මම දොස්තරට එන්න කියන්නාම්...''

ඈ දෙස බැලූ ඔහු සැණෙකින් පිළිතුරු දුන්නේය:

''නැහැ, ඕන නැහැ!''

හිටිහැටියේම ඔහු දිග සුසුමක් හෙළුවේය:

''තරුණයි, දුර්වලයි. ඕන්න මගේ හැටි! මා කෙරෙහි විශ්වාසය තැබුවෙ නැහැ. මා පෙන්වූ ඇත්ත පිළිගත්තේ නැහැ. එයින් තේරෙන්නෙ මට නියම ලෙස තේරුම් කර දෙන්ට බැරි බවයි!.. මගේ හිතට හරිම දුකයි මා ගැන මම ම අමනාප වුණා!''



දෙම්නයින් පිරි ඔහුගේ මුණ දෙස බලා සෙමින් ඈ කතා කළේ ඔහු සනසන අයුරිනි:

''උඹ කලබල වෙන්ට එපා. අද නොතේරුනද, හෙට තේරුම් ගනීවි...''

''ඔවුන් තේරුම් ගත යුතුයි!'' ඔහු කෑ ගැසීය.

''මට පවා උඹ කියන්නෙ ඇත්ත බව අවබෝධ වුණා...'' යැයි ඈ කීවාය.

පාවෙල් ඇය වෙත ආවේය.

''අම්මේ! අම්ම, හරිම හොඳයි.''

ඔහු සැණෙකින් පිටුපා යමින් ඈත් විය. ඔහුගේ වචන නිසා ඈ තුළ අමුතු ආලෝකයක් හට ගත්තාක් මෙනි. අතක් ළය මත තබා ගත් ඈ කාමරයෙන් පිට වුණේ ඒ ප්‍රියංකර වචන දැකින් වඩා ගෙනයන්නාක් මෙනි.

ඈ නින්දට ගිය පසු ඔහු කියවන්නට විය. රෑ බෝ වූ විට ගෙදරට කඩා පැන්න යුද්ධ භටයෝ, ගෙදරත්, ගෙවත්තත්, අට්ටාලයත් අවුස්සමින් පරීක්ෂා කරන්ට වූහ. සෙංගමාල රෝගියෙක් බඳු යුද නිලධාරියා පෙරමෙන්ම, අමනාපයෙන් යුතුවද, උපහාසාත්මක ලෙසද, අපහාස කිරීම නිසා අමුතු ප්‍රීතියක් ලබමින්ද, අම්මාගේ හදවත රිදවමින්ද හැසුරුණේය. නිහඬව මුල්ලක වාඩි වී සිටි අම්මා පුතා දෙස බලා සිටියේ ඇසිපිය පවා නොහෙළමිනි. තමා කැළඹුණු බව නොපෙන්වීම් වස් දැඩි ප්‍රයත්නයක් දැරූ පාවෙල්, නිලධාරියා උපහාසාත්මක ලෙස සිනාසෙන විට වෙව්ලන්ට පටන් ගත්තේය. ඔහුගේ අත්වල ඇඟිලි වේගයෙන් සැලෙන සැටි අම්මා දුටුවාය. නිලධාරියාගේ කටුක විහිළුවලට පිළිතුරු නොදී සිටීමට ඔහුට බැරි බව ඈට අවබෝධ විය. පළමුවැනි දවසේදී ගෙදරට කඩා වැද පරුෂ ලෙස හැසුරුණ විට ඈ තුළ හටගත් හැඟීමට සමාන බියක් මෙවර නූපණි. එහෙත් මෙවර වෛරය හා පිළිකුල වැඩි විය. අඳුර සහිත සපත්තු හැඳගෙන මැදියම් රෑ ගෙවල්වලට කඩා පනින අඳුරු අමුත්තන් කෙරෙහි ඇති වූ වෛරය විසින් භය ගිල දමිණි.

ඈට කොඳුරා යමක් කීමට පාවෙල් සමත් විය.

''මාව ගෙනියාවි...''

හිස හරවා බැලූ ඈ හෙමින් පිළිතුරු දුන්නාය:

''මට තේරෙනවා...''

අද, කම්කරුවන් අමතා කතා කිරීම නිසා ඔහු සිරභාරයට ගන්නා බව ඈ අවබෝධ කර ගත්තාය. ඔහු කී දේ ගැන හැමදෙනාම එකඟ වූහ. එහෙනම් ඔහු සඳහා හැමදෙනාම ක්‍රියා කළ යුතුය. එසේනම් ඔහුට වැඩි කලක් හිරගෙදර දුක් විඳින්ට ලැබෙන්නේ නැහැ...

ඔහු වැළඳගෙන අඩා වැළපෙන්ට ඈට සිත්වුණේද, ඇස් හකුළුවා ගෙන ඈ දෙස බලාගෙන සිටින නිලධාරියා ඊට බාධාවකි. නිලධාරියාගේ

දෙකොල විවර වී රැවුල නැටවෙන්නට විය. ඒ මිනිහා බලා. සිටින්නේ ඇගේ ඇඩීම, බැගෑපත් ආයාචනය හා වැළපීම බව ඇට වැටහිණ. ශක්තිය හා අධිෂ්ඨානය එක්තැන් කරගත් ඇ තම පුතාට අතදී සමු ගත්තේ ඉහළට ඇදගත් හුස්ම නැවත පහළට නොදමමිනි.

"ආයුබෝවන්, පව්ලූෂා, ඕන දේ සියල්ල ගත්තද?"

"ඔව්. හිතේ දුක් නැතිව ඉන්න..."

"උඹට ජේසුගෙ පිහිටයි..."

යුද බටයන් ඔහු සිරබාරයට ගෙන ගෙයින් පිටත්වූ විට බංකුව මත වාඩි වුණු ඇ සෙමින් විලාප ගසමින් ඇඬුවාය. ඇගේ සැමියා මෙන් පිටි කොන්ද බිත්තියට හේත්තු කරගත් ඇ, තමා තුළ ශක්තිය නැති බව වටහාගත්ති, අමනාපය හා කාන්සිය මුසු වේදනාව නිසා තුවාල ලැබූ හදවතකින් යුතුව වැළපුනාය. ඇගේ මනැස ඉදිරිපිට නොමැකෙන ලපයක්සේ, අතරින් පතර රැවුල්ගස් සහිත නිලධාරියාගේ කහ පැහැති මුහුණ මැවී පෙනිණි. හකුළුවාගත් ඇස් ඇති ඒ මුහුණ ඇ දෙස බැලුවේ මහත්වූ සන්තෝෂයකිනි. සත්‍යය සෙවීමේ වරදට අම්මා වෙතින් පුතා පැහැරගෙන යන නපුරු මිනිසුන් කෙරෙහි ඇ තුළ ඇති වූයේ ඉමහත් වෛරයකි.

සීත වැසි පොද ජනේල වීදුරුවට වැදෙයි. ඇස් රහිත රතු මුහුණු සහ දිගු අත් පා ඇති ඇඳුරු පෙරේතයන් ලග් වටේ යමින් සිටින බවකි, ඇට දැනෙන්නේ. උන් යන විට සපත්තු අඩුවල ශබ්දයක්ද නිකුත් වෙයි.

"අනේ, මාවත් ගෙනගියානම්" ඇ සිතූ සැටිය ඒ.

මිනිසුන්ට වැඩට එන ලෙස දන්වා සිටින නළාහඬ පැතිර යන්නට විය. අද ඒ නළාහඬ පහත්, ගොළු, අස්ථිර බවක් කියා පෑවේය. දොර හැර රිබින් ගෙට ඇතුළු වන සැටි ඇ දුටුවාය. ඇ ඉදිරිපිට සිටගත් ඔහු වැස්සට තෙමී තිබුණු යටි රැවුල පිස ගනිමින් මෙසේ ඇසුවේය.

"ගෙනගියාද?"

"ගෙනගියා, කාලකණ්ණියෝ!" සුසුම් ලමින් ඇ උත්තර දුන්නාය.

"වැඩ ඔහොමයි" රිබින් කීවේ තරමක් සිනාසෙමිනි. "ඔව්, මගේ ගෙදරටත් ආවා, සෙව්වා, බැණ වැදුනා, අමනාප වෙන ලෙස හැසුරුනේ නැහැ. එහෙනම්, ගෙනගියා පාවෙල්ව! ඩිරෙක්ටර් ඇහැක් ගැහැව්වා, යුද නිලධාරියා හිස වැනුවා, මිනිහෙක් අතුරුදහන් වුණා! උන් බොහොම මිත්‍රකමෙන් ජීවත් වෙනවා. එකෙක් ජනතාව නැමති එළදෙනව දෙවනව, අනිකා උගේ අංවලින් අල්ලා ගෙන ඉන්නවා..."

"තුඹලා පාවෙල් වෙනුවෙන් ක්‍රියා කරපල්ලා! එයා වැඩ කලේ සියලුදෙනාම වෙනුවෙන්" යැයි අම්මා හඬ නගා කීවාය.



"කවුද ක්‍රියා කළ යුත්තේ?" යි රිබින් ඇසුවේය.

"සියලු දෙනාම."

"හා, හා, ඒක වෙන වැඩක් නෙවි."

උපහාසාත්මක ලෙස සිනාසෙමින් රිබින් ගෙදරින් පිටව ගියේ තමාගේ බලාපොරොත්තු රහිත දැඩි වචන වලින් අම්මාගේ ශෝකය දෙගුණ කලේය.

"හිටිහැටියේ, ගහව් වධ දේවි?.."

තලාපෙලා, මස් ඇටවලින් තු තු කොට ඉරා දමන ලද පුතාගේ දේහය ඇගේ මනසට හසු වෙත්ම බිය නැමති මහමෙරු පර්වතය ඇගේ ළය මත තබා හිරකළාක් මෙනි, ඇට දැනෙන්නේ. ඇස්වල වේදනාවක් හට ගත්තේය.

ඇ ලිප මෙලෙව්වේ නැත. දවල් කෑම කෑවේ හෝ තේ වතුර බිව්වේද නැත. රෑ බෝවූ පසු පාන් කැල්ලක් කා වතුර උගුරක් බිව්වාය. රෑ නින්දට ගිය ඇට දැනුනේ තද පාළු ගතියකි. ජීවිතය මෙතරම් හුදකලා, පාළුබවක් ගෙනදෙතියි ඇ මීට පෙර නොදත්තාය. පසුගිය අවුරුදු කීපය තුළදී ඇය ජීවත් වුණේ කිසියම් වැදගත්, සතුටක් බලාපොරොත්තු වෙමිනි. ඇය වටා සිටියේ කෑ කෝ ගසන ප්‍රීතිමත් තරුණ පිරිසකි. ඇය ඉදිරිපිට තම පුතාගේ බැරෑරුම් මුහුණ නිතර දක්නට ලැබිණි. ඒ අවදානම් සහිත වුවද යහපත් ජීවිතය නිර්මාණය කළ ඔහු දැන් නැත. ඇත්තේ හිස් බවකි.

## XIV

දවස ගෙවී ගියේ සෙමිනි. ඉක්බිති නිදිනැති දිගු රැයකි. පසුද දවල් කාලය සෙමින් ගෙවී ගියේය. ඇ කිසිවෙකු බලාපොරොත්තුවෙන් සිටි නමුදු කිසිවෙක් ආවේ නැත. කෙමෙන් සවස් වී පසුව රෑ විය. සීතල වැස්ස බිත්තිය දිගේ ගලා යයි. දුම් පිටවන බටය තුළට වැදෙන සුළං හූ හඬක් නගයි. පොළොව යට සහ අහු මුළුවල හඬක් ඇසේ. වහලේ සිට දිය බිංදු වැටෙයි. ඔර්ලෝසුවේ හඬත් දිය බිංදු වැටෙන ශබ්දයත් පුදුම ලෙස එක්වෙයි. ගෙය සෙමින් පැද්දෙන බවකි ඇට දැනෙන්නේ. පාළු ගතිය නිසාම අභාවයට ගිය වටපිටාවෙහි අමතර තුළවමනා දේය...

ජනේලයට තට්ටු කරන හඬකි. ටක්, ටක්, එවැනි තට්ටු කිරීම් ඇට නුහුරු ඒවා නොවේ. ඒවාට පුරුදු වූ ඇ, ඒ නිසා බිය නො වූවාය. එහෙත් මෙවර එම හඬ නිසා ඇ තුළ හට ගත්තේ ප්‍රීතියකි. නොඇහැදිලි

බලාපොරොත්තුවක් විසින් ඇ නැගිටුවන ලදී. සාලුව පොරෙවාත්ගෙ ඇ දොර හැරියාය...

සමෝයිලොව් සහ තවත් එකෙක් ගෙට ඇතුළු වූහ. අමුත්තා කර වැසෙන සේ වැහි කබාය පොරවාගෙන සිටි අතර ඇස්බැම් දක්වා තොප්පියක් පැලඳගෙන සිටියේය.

"අපි ඔබව නැගිට්ටෙව්වාද?" යි ආයුබෝවන් නොකියාම සමෝයිලොව් ඇසුවේ අමුතු බැරෑරුම් ගතියක්, ආරූඪ කර ගනිමිනි.

"මට නින්ද ගියේ නැහැ!" ඇ කීවාය. ඇගේ දෑස් ඔවුන් දෙස බලාපොරොත්තු සහගතව බලාගත්වනම තිබිණි.

සමෝයිලොව් සමග පැමිණි අමුත්තා අසීරු ලෙස හා හඬ නගමින් ආශ්වාස කරන්නේ හිස් වැසුම අතට ගෙන, කොට ඇඟිලි සහිත තමාගේ පළල් අත දෙමින් ආචාර කොට, ඇ සමග කතා කළේ හොඳට හඳුනන, පළපුරුදු එකකු මෙනි:

"ආයුබෝවන්! අම්මේ! අඳුනන්ට බැරිද?"

"ඒ තමුසෙද?"යි ඇසූ අම්මා හිටිහැටියේම සන්තෝෂ වී කෑ ගැසුවාය, "යෙගෝර් ඉවානොවිච්ද?"

"ඔව්, ඒ මම තමයි" යැයි ඔහු කීවේ තමාගේ විශාල හිස පාත් කරමිනි. ඔහුගේ හිසකෙස් වැටිය පුරාණ දේවස්ථානවල ගී ගැයුවන්ගේ කෙස්වැටි මෙන් දිගය. තෙරාගිය කම්මුල් සහිත ඔහුගේ මුහුණේ කරුණාබර සිනාවක් මැවිණි. අළු පැහැති කුඩා ඇස් අම්මා දෙස පැහැදිලි, දයාබර බැල්මක් හෙලිය. ඔහු සමෝවාරයට සමානය. ගෝලාකාර දේහයකින් යෙබී හෙතෙම කුඩාය. තරබාරු බෙල්ලක් සහ කෙටි අත් සහිත මේ පුද්ගලයාගේ මුහුණ තෙල් සහිත දහඩිය නිසා දිලිසෙයි. ඔහු හුස්ම ගන්නා විට අමුතු හඬක් ඇතිවූ අතර පපුව තුළ තිබෙන යමකින් 'ගොර', 'ගොර' ශබ්දයක් නැගී එන්නාක් මෙනි.

"කාමරයට ගිහිං වාඩි වෙන්න. මම ඇඳගන්නාතුරු!" අම්මා යෝජනා කළාය.

"අපි ආවෙ වැඩකටයි!" සමෝයිලොව් කීවේ යටැසින් අම්මා දෙස බලමිනි. ඔහුගේ කටහඬ බැරෑරුම් විලාසයක් කියා පෑය.

කාමරයට ගිය යෙගෝර් ඉවානොවිච් එහි සිට කතා කළේය:

"දයාබර අම්මේ! අම්මා හොඳට හඳුනණ නිකොලායි ඉවානොවිච් අද හිරගෙදරින් එළියට ආවා..."

"එයා හිරගෙදර හිටියද?"යි අම්මා ඇසුවාය.

"මාස දෙකකුත් දවස් එකොළහක් හිරගෙදර හිටියා. එහිදී හොහොල්ව දැක්කා. එයා ඔබට ශුභ පැතුම් එවනවා. පාවෙල් ඔබට ඒවගේම සුබ



පැතුම් එවනවා. පාවෙල් කියා එව්වා කලබල වෙන්ට එපාය කියලා. මිනිහෙකුට නිවාඩු ගන්න පුළුවන් තැනකි හිරගෙදර. යුද-පොලිස් නායකයින්ගෙ කරුණාව නිසා මෙහෙම සංවිධාන කරල තියෙන්නෙ. දැන් ඉතින් අපේ වැඩ ගැන. අම්මා දන්නවද ඊයෙ රෑ කීදෙනෙකු සිරබාරයට ගත්තාද කියල?"

"නෑ. පාවෙල් විතරක් නොවේද?" අම්මා විචාළාය.

"එයා හතළිස්නමවැනියා!" යැයි සන්සුන් ලෙස කී යෙගෝර් ඉවානොවිච් මෙසේද කීය: "යුද-පොලීසිය තවත් දහදෙනෙකු විතර හිරබාරයට ගනීවි යැයි බලාපොරොත්තු වෙනවා! මේ උන්නැහේවත් ඇතුළුව..."

"ඔව්, මාවත්!" යැයි බැරෑරුම් හඬකින් සමෝයිලොව් කීවේය.

තමාට හුස්ම ගැනීමට පහසු බවක් විලාසවාට දැනෙන්නේ...

"පුතා එහි තනි වෙලා නැහැ!" යන අදහස ඇ තුළ ඇති විය.

ඇඳගත් ඇ කාමරයට ගොස් සිනහ මුසුණින් අමුත්තන් පිළිගත්තාය.

"එතරම් විශාල ගණනක් සිරබාරයට ගත්තා නම් වැඩි කල් තියා ගනීවි යැයි හිතන්ට බැහැ..."

"හරියට හරි! අපට පුළුවන් වුණොත් උන්ගෙ ජය පාතය උපක්‍රමයකින් විනාශ කරන්න, එහෙනම් උන් මෝඩයන්ගෙ ගණයට වැටේවි. දැන් තත්ත්වය මෙකයි: අපේ පත්‍රිකා පැක්ටරිය ඇතුළෙ, බෙදාහැරීම නවත්වන්නේ නම්, එවිට උන් හිතාවි ඒවා බෙද හැරියෙ පාවෙල් සහ ඔහුගේ සගයන් බව. යුද-පොලීසිය තීරණය කරාවි, උන්ගෙ නිගමනය හරිය කියල. ඒ අනුව උන් පාවෙල් සහ එයත් එක්ක හිරගෙදර ඉන්න සගයන්ට චෝදනා ඉදිරිපත් කරාවි..." යැයි යෙගෝර් ඉවානොවිච් කීවේය.

"එහෙම කොහොමද." යි අම්මා ප්‍රශ්න කළේ හඬ නගමිනි.

"බොහොම ලෙහෙසියි! සමහරවිට ඔය යුද-පොලිස් කාරයො නිවැරදි ලෙස නිගමනයන් කරනව. ඔබම කල්පනා කරල බලන්න: පාවෙල් ඉන්න කාලෙදී පොත් පත්‍රිකා බෙද හැරියා. පාවෙල් නැති වුණා පත්‍රිකාත් නැතිව ගියා! එහෙනම් පත්‍රිකා බෙද හැරියෙ පාවෙල්. තේරුණද? පොලීසිය හැම එකෙකුවම කන්ට පටන් ගනීවි. පොලීසිය කැමතියි මිනිසුන්ට වද දීලා නැති කර දමන්ට!"

"දැන් මට හොඳට තේරෙනවා! අනේ දෙවියනේ, දැන් ඉතින් මොනවා කරන්ටද?"යි අම්මා ඇසුවේ දුක්මුසු හඬකිනි.

කුස්සියේ සිට කතා කළ සමෝයිලොව්ගේ හඬ ඇසිණි:

"හැම දෙනාම පාහේ සිරබාරයට අරගෙන. පොලීසියට යකා වැහිල! අපේ ව්‍යාපාරය ඉස්සර විදියටම ගෙනියන්ට ඕන, ව්‍යාපාරය සඳහා පමණක් නොවෙයි සගයන් බේරා ගැනීම සඳහාත්!"

''ඒ වුණට වැඩ කරන්ට කවුරුවත් නැහැ. අනර්ඝ පත්‍රිකා අච්චු ගහල තියනව. මමයි ඒවා ලිව්වෙ. ෆැක්ටරිය තුළට ගෙනියන්නෙ කොහොමද කියල දන්නෙ නැහැ''යි යෙගෝර් ඉවානවිච් කීවේය.

''ගේට්ටුව ළඟදී හැම දෙනාවම හෝදිසි කරනවා!'' මෙසේ කීවේ සමෝයිලොව්ය.

තමාගෙන් යමක් ඉල්ලා සිටින බවත් බලාපොරොත්තු වන බවත් දුටු අම්මා නොඉවසිලිමත් ලෙස ප්‍රශ්න කළාය:

''ඉතින් කොහොමද? මොනවද කරන්ට ඕන?''

දෙර අසල සිටගත් සමෝයිලොව් මෙසේ කිය:

''පෙලාගේයා නිලව්නා, ඔබ අර කර්සුනෝවා වෙළෙන්දිව අඳුනනවා නොවැ...''

''අඳුනනවා, ඉතින්?''

''ඈට පත්‍රිකා ගෙනියන්ට පුළුවන්දැයි අසා දැන ගන්න.''

ඒ මතය පිළිනොගත් අම්මා අතක් වැනුවාය.

''අපොයි, බැහැ! ඒ අම්මන්ඩි හරිම වාචාලි. අපේ ගෙදරින් මම දුන්නයි කියල දැන ගනිවි, ඒක හරි නැහැ!'' අම්මා කීවාය.

හිටිහැටියේම අමුතු අදහසක් පැන නැගී කලෙක මෙන්, ඈ සෙමින් මෙසේ කීවාය:

''පත්‍රිකා දෙන්ට මගේ අතට. මට බාර දෙන්ට! බෙද හැර්ම මම යසට කරන්නම්! කර්සුනෝවාගෙ අත් උදව්වට මම යන්නම් කඩෙ-ආප්ප විකුණන්ට. මටත් එදා වේල හොයාගන්ට මාර්ගයක් ඕන නෙව! උදේ කෑමට කඩෙ-ආප්ප ගෙනියන අතර අනිත් එකත් බලා ගන්නම්.''

දෑත් ළය මත තබාගත් ඈ බාර ගන්න කාරිය මැනවින් කිරීමට පොරොන්දු වී, ජයග්‍රාහී ලීලාවෙන් කතා කළාය:

''පාවෙල් නැතුවට, හිරගෙදර සිට එයාගෙ අත වැඩ කරන සැටි උන්ට පෙනේවි.''

තිදෙනා තුළ අමුතු ධෛර්‍යයක් ඇති විය. යෙගෝර් ඉවානවිච් දෑත් මදිමින් සිනහ මුහුණින් යුතුව මෙසේ කීවේය:

''හරිම ඉස්තරම්, අම්මේ! ඔබ දන්නවනම් ඒ වැඩේ කොතරම් ඉහළද කියල. ඇත්තටම අනර්ඝයි.''

''හාන්සි පුටුවේ හාන්සි වෙන විධියට මම හිරගෙදරට යනව ඔය විධියට වැඩේ කෙරුනොත්!'' මෙසේ කී සමෝයිලොව් දෑත් එක් කර ගත්තේය.

''අම්මේ, ඔබ හරි හපනී!'' යැයි යෙගෝර් කෑ ගැසුවේය.

අම්මා සිනාසුණාය. කම්හල තුළ පත්‍රිකා ප්‍රචාරය වුණේත් ඒවා බෙද



හරින්නේ ඇගේ පුතා නොවන බව අධ්‍යක්ෂක දැන ගත යුතු බව ඈට සහතිකය. බාරගත් කාරිය හරිහැටි කිරීමට ඈ සමත් බව දත්තී. ප්‍රීතියෙන් පිනා ගියාය.

''ඔබ පාවෙල් බලන්ට යනකොට කියන්න, එයාගෙ අම්මා ඉතාම හොඳ කෙනෙක් බව'' යෙගෝර් පැවසීය.

''මම කලින්ම මිනිහව දකිනවා!'' යැයි සමෝයිලොව් සිනාසෙමින් කිය.

''ඒ වුණත් එයාට කියන්න කළ යුතු හැම දෙයක්ම කරන බව. එයා දැන ගත්තාවේ!..''

''මෙයාව හිරබාරෙට ගන්නේ නැතිනම්?'' යැයි යෙගෝර් ඇසුවේ සමෝයිලොව් පෙන්වමිනි.

''එහෙනම් මොනවා කරන්ටද!''

ඔවුහු දෙදෙනාම කොක් හඬලා සිනාසුණහ. ඇගේ වැරදී හැඟීම නිසා ඈ සිනාසෙන්නී ලජ්ජා සහගත මෘදු ගතියක් පෙන්වමින් මෙසේ කීවාය:

''තමුන්ගෙ උවමනාවට අනුන්ගෙ දුක වුණත් පේන්නෙ නැහැ!''

''ඒක සොබාවික දෙයක්! පාවෙල් ගැන අම්මා දුක් වෙන්ට එපා. හිරෙන් එළියට එනකොට වඩාත් හොඳ මිනිහෙක්. එහිදී නිවාඩු අරගෙන ඉගෙන ගන්ට පුළුවන්. නිදහසෙ ඉන්න කොට අපේ සගයට ඒවට කාල වේලාවක් නැහැ. මම තුන් පාරක්ම හිරේ වැටුනා. ඒ හැම පාරෙම අසතුටෙන් වුණත් මොළයටයි හදවතටයි ප්‍රයෝජන ලබා ගත්තා...'' යැයි යෙගෝර් කීවේය.

''ඒ වුණාට තමුසෙට හුස්ම ගන්න පවා අමාරුයි!'' අම්මා ඔහුට කීවේ ඔහුගේ වාම් මුණ දෙස කරුණාවන්ත බැල්මක් හෙළමිනි.

''එහෙම වුණේ විශේෂ හේතු නිසා!'' යැයි කී හෙතෙම දබරැඟිල්ල දිගු කරමින්. ''එහෙනම්, අම්මෙ, තීරණය අවසානයි? මම පොත් පත්‍රිකා එවන්නම්. සියවස් ගණන් පැරණි අඳුර කපා හෙළන කියත නැවත වැඩ පටන් ගන්වි. කතා කිරීමේ හා කියවීමේ නිදහසට ජය වේවා! මාතාවගේ හදවතට ජය වේවා! දූනට ආයුබෝවන්''යැයි කීවේය.

''ආයුබෝවන්!'' කියමින් අම්මාගේ අත දැඩිව අල්ලා ගනිමින් අත'ටත දුන් සමෝයිලොව් මෙසේ පැවසීය. ''අපේ අම්මා සමග කිසිම දෙයක් කතා කරන්ට මට බැහැ.''

ඔහුගේ හිත සතුටු කරවන අදහසින් කතා කළ අම්මා ''හැම දෙනාටම අවබෝධ වේවි!''යි කීවාය.

ඔවුන් ගිය පසු දෙර අගුළු ලාගෙන කාමරය මැද දණගසා ගත් අම්මා

නිහඬව දෙවියන් ඇයද සිටියාය. අවට වැස්ස ඇගේ යැදීම මැඩ හඬ නගයි. වචන රහිත යැදීමක් කළ ඇ පාවෙල් විසින් තමා වෙත ගෙනෙන ලද මිනිසුන් ගැන සිතන්නට වූවාය. ඔවුන් ඇ ඉදිරියේ මැවී පෙණුනේ දේවරූප මෙනි. වාමී පුද්ගලයන් වූ ඔවුහු සමාන බවක් හා හුදකලා බවක්ද දරූහ.

පසුද උදැසන ඇ මරියා කර්සුනෝවා හමුවීම පිණිස ගියාය.

ඇඟ-පත පුරා ඉතල් තවරා ගෙන සිටි වෙළෙන්දිය ඇට අනුකම්පා කරමින් ශබ්ද නගා කතා කරන්නට වන්නිය.

"උඹට පාළුයි නේද?" මෙසේ ප්‍රශ්න කළ ඇ, අම්මාගේ උරහිසට තට්ටු කරමින් මෙසේ කීවාය: "අල්ලා දපන්! සිරබාරෙට ගත්තා මහ කෙරුවාවක්! එතරම් දෙයක් නැහැ. ඉස්සර හොරකම් කළාම හිරබාරෙට ගත්ත. දූන් ඇත්ත කියන කොට හිරේට දනව. පාවෙල් කතා කළ හැටි හරි නැතුවා වෙන්ට පුළුවන්, ඒ වුණාට මිනිහ සියලු දෙනා වෙනුවෙන් සටන් කළ බව හැමදෙනාම දන්නවා. හැම දෙනාම කතා නොකරාට, හැම දෙයක්ම තෝරා බේරාගෙන ඉන්නෙ. කව්ද හොඳ බව අපි දන්නව. මම උඹ හම්බවෙන්ට සූදනම් වුණාට වෙලාවක් තිවුනෙ නැහැ. කැම උයනවා. වෙළඳාම් කරනවා. මැරෙන්නෙ හිඟන්නියක් වෙලා. මට ආදරවන්තයො ඉන්නවා. උන් මගෙ සල්ලි කනවා, නාස්ති කරනවා. කැරපොත්තො පාන් කන්නා වගෙ. රූබල් දහයක් විතර අතට ලැබෙන කොට මෙන්න මිත්‍යාදෘෂ්ටියෙක් එනව. මගෙ සල්ලි නාස්ති කරනවා. ගැනියෙක් වෙලා ඉපදීම හරිම පාපයක්. හරිම ගෝත කරුමයක්. තනිවම ඉන්න බෑ. මිනිහෙක් සමග ජීවත් වීමත් ලේසි නැහැ!"

"උඹගෙ අත් උදව්වට මාව වැඩට ගන්න කැමතිදැයි කියල දැනගන්ටයි මම ආවේ." ඇගේ දෙසාබෑමට බාධා කළ අම්මා ඇසුවාය.

"ඒ කොහොමද"යි ප්‍රශ්න කළ මරියා මිතුරියට කන් දීමෙන් පසු එකඟවන්නාක් මෙන් හිස වැනුවාය.

"පුළුවන්! උඹට මතකද උඹ මාව මගේ සැමියාගෙන් ආරක්ෂා කරපු හැටි? දූන් මම උඹ අගහිඟකම්වලින් ආරක්ෂා කර ගන්නම්... උඹට හැමදෙනාම උදව් කරන්න ඕන, උඹේ පුතා පොදු සමාජ වැඩ කරපු නිසා. උඹේ කොල්ලා හොඳ එකෙක් බව හැමදෙනාම කියනවා. හැමදෙනාම එයා ගැන කනගාටු වෙනවා. සිරබාරයට අරගෙන සැනසිම ලබාගන්ට අයිති කාරයන්ට ලැබෙන්නේ නැහැ. පැක්ටරියේ මොනවා වෙනවාදැයි උඹ දුටුවාද? එහි තත්ත්වය හොඳ නෑ. මිනිහෙකුගේ කකුල්වලට දෂ්ට කරල අඩපණ කරන්ට බැහැ! දහදෙනෙකු සිරබාරයට ගත් නිසා සිය ගණනක් තරහ වෙලා!"



කතාව අවසානයේදී මරියා කර්සුනෝවා අම්මා අත් උදව්වට ගත්තාය. පසුද අම්මා මරියාගේ කෑම-ආප්ප පෙට්ටි දෙකකුත් සමග කම්හලට ගියාය. මරියා වෙළදාම් කිරීම පිණිස කඩපළට පිටත්වූවාය.

## XV

අලුත් වෙළෙන්දිය දෙස කම්කරුවෝ ඕනෑකමින් බැලුවෝය.

"වෙළදාම පටන් ගත්තාද, නීලව්නා?" ඇව ධෛර්‍ය දීමක් සේ ඇගෙන් ප්‍රශ්න කළෝය.

පාවෙල් ඉක්මනින්ම හිරගෙදරින් නිදහස්ව එන බව සමහරු කියමින් ඇ සනසන්නට වූ අතර තවත් අය කණගාටුව ප්‍රකාශ කළෝය. තවත් සමහරු අධ්‍යක්ෂකට සහ යුද-පොලීසියට නින්දිත ලෙස බැණ වදිමින් සිත සනසා ගත්හ. ඇ දෙස බලා දුෂ්ට ලෙස ප්‍රීති වන්නෝද ඒ අතර වූහ. කම්හලේ වැඩට එන්නන්ගේ පැමිණීමේ වෙලාව සටහන් කරන්නෙකු වන ඉසායි ගර්බොව් දත් විළිස්සමින් මෙසේ කීය:

"මම ආණ්ඩුකාරයා නම් උඹේ පුතාව එල්ලා මරනවා! මිනිසුන්ව නොමග යැව් නිසා!"

එවැනි දුෂ්ට තර්ජනවලින් අම්මාගේ සිත වඩාත් දැඩි විය. කිසිවක් නොකියා කරබාගත් ඇ කුරුලැවලින් ගහණවූ ඉසායිගේ කුඩා මුහුණ දෙස බලා සුසුමක් හෙලමින් නැවත බිම බලා ගත්තාය.

කම්හල තුළ කලබලයක් හටගත්තාක් මෙනි. කම්කරුවෝ කීපදෙනා බැගින් එක්ව පහත් හඬින් කොඳුරන්ට වූහ. බාස්වරුන් එක්රැස් වූ කාණ්ඩ අතරින් යුහුසුලුව ගමන් ගත් විට ඔවුන්ට බැණ වදින්ටත්, උපහාසාත්මක ලෙස ඔවුන් දෙස බලා සිනාසෙන්ටත් වූහ.

පොලිස් බටයෝ දෙදෙනෙක් සමෝයිලොව් සිරබාරයට ගෙන, ඔහු සමග ගමන් කරති. ඔහු එක් අතක් සාක්කුවේ දමාගෙන අනික් අතේ ඇඟිලි තුඩු කෙස් වැටිය අතරින් යවමින් ගමන් කරයි.

ඔහු පිටුපසින් ගමන් කරන සියයක් පමණ වූ කම්කරු පිරිස පොලිස් බටයින්ට බැණ වදිමින් උපහාසාත්මක කතා කියති.

"ග්‍රීෂා, ඇවිදින්ට යනවද" කිසිවෙක් ඔහු අමතා කීහ.

"අපේ සහෝදරයට ගරු කරනවා! මුරකාරයො සමග ඇවිදින්නෙ..." තව'කෙක් කීය.

පරුෂ වචනවලින් බැණ වැදුනෝය.

"මේ දවස්වල හොරුන් ඇල්ලීම ලාබ නැතිලු අවංක මිනිස්සු අල්ලන්ට පටන් අරගෙන..." කෝපයට පත් උස එකැස් කම්කරුවෙක් කෑ ගැසීය.

''ඒව වත් සිරබාරයට ගත්තානම්. ලැජ්ජා නැතිව දවල් මෙහෙම දේවල් කරනවා නොවැ. වල් උරෝ!''

පොලිස් බටයන් ගුහුපුලුව මෙන් කළේ, කිසිවක් දකින්නෝවත්, ඇසෙන්නෝවත් නැතිවා සේය. ඔවුන්ගේ මුහුණු මුඩල ගතියක් පෑවේය. ඔවුන් ඉදිරියට විශාල යකඩ බාල්කයක් කර තියාගත් කම්කරුවෝ තිදෙනෙක් ආවෝය. යකඩ බාල්කය ඔවුන් දෙසට එල්ල කළ මේ තිදෙනා කෑ ගැසුවෝය:

''බිලි බාන්නෙනි, ප්‍රවේසම් වෙයව්!''

වෙළඳාම් කරමින් සිටි විලාසවා අසලින් ගමන් ගත් සමෝයිලොව් මඳ සිනා පාමින්, හිස පාත් කොට මෙසේ කීවේය:

''මාව ඇදගෙන යනවා!''

නිහඬ වූ ඇ හිස නමා ඔහුට ආචාර කළාය. සිනහ මුහුණින් යුතුව සිපිරිගෙය බලා යන මේ නිර්භය, අවංක තරුණයින් දකින ඇගේ සිත වේගයෙන් සැලෙයි. පුත්‍ර ස්නේහයෙන් වැළපෙන මවක මෙන් ඇ ඔවුන් දෙස බලා දුක් වූවාය.

වෙළඳාමෙන් පසු මරියාට අත් උදව් කිරීමටත්, ඇගේ නන් දෙඩවිලි ඇසීමටත් අම්මාට සිදු වූයේ, ඇ දවල් කාලය එහිම ගත කළාය. සවස්වූ පසු පාළු ඇදිරි මුඩල ගතියක් දරූ සිය නිවෙසට ආවාය. කාමරය තුළ ඒ මේ අත ඇවිදින්නට වූ ඇ කළ යුත්තේ මොනවාදැයි නොදත්තී, ළතවෙන්නට වූවාය. රෑ බෝ වෙගෙන එන නමුදු පොරොන්දු වූ පරිදි යෙගෝර් ඉවානොවිච් පොත් පත්‍රිකා නොගෙනෙන්නේ මන්දැයි ඇ ඉමහත් කැළඹීමකට පත් වූවාය.

ගෙයින් පිට හේමන්තයේ අළු පැහැති හිම වැටෙන්ට පටන් ගති. ජනේල විදුරුවට වැදෙන හිම රොද නිහඬව බිම වැටී දියවී යන්නේ නෙත් සහිත සලකුණු තබමිනි. ඇ පුතා ගැන සිතන්ට වූවාය...

දොරට ප්‍රවේසමින් තට්ටු කරන හඬක් ඇසුනෙන් අම්මා වහා නැගිට දොර හැරියාය. ගෙට ඇතුළු වූයේ සාෂෙන්කාය. බොහෝ කාලයකට පසු ඇ දුටු අම්මා ඇගේ අස්වාභාවික තරබාරු දේහය දෙස ඕනෑකමින් බැලුවාය.

රැයින් කොටසක් හුදකලාව ගත නොකිරීමේ අවස්ථාවක්ලත් නිසා සතුටට පත් අම්මා ඇට ආයුබෝවන් කියා පිළිගත්තාය: ''බොහොම කලකට පස්සෙ දක්ක. දුර බැහැර ගියාද?''

''නැහැ, හිරබාරයට පත් වුණා. නිකොලායි ඉවානොවිච් සමග. මතකද එයාව?'' තරුණිය සිනාමුහුණින් යුතුව ඇසුවාය.

''ඇයි නැත්තෙ! එයාව නිදහස් කරපු බව යෙගෝර් ඉවානොවිච් කිව්ව. ඕය ළමයා ගැන කිසිවක් කීවෙ නැහැ...'' අම්මා පිළිතුරු දුන්නාය.



''ඒ ගැන මොනවා කියන්ට ද?'' යි ඇසූ තරුණිය මෙසේ කීවාය: ''යෙගෝර් ඉවානොවිච් එන්ට ඉස්සෙල්ලා මට ඇඳුම් මාරු කරගන්ට ඕන!''

''ඔය ළමයා තෙතබරි වෙලා...''

''මම පත්‍රිකා, පොත් ගෙනාවා...''

''අනේ හොඳා බාර දෙන්ට!'' අම්මා නෙපළාය.

ඇ වැති කබාය ගැළවූවා විතරයි, ගහකින් කොළ හැලෙන්නා සේ පොත්, පත්‍රිකා හැලෙන්නට විය. සිනාසෙන්නට වූ අම්මා පොත් පත්‍රිකා හා කඩදසි මිටි ඇහිඳ ගනිමින් කතා කළාය:

''මම හිතුවා ඔය ළමය ඔයතරම් මහත් වුණේ කසාදයක්වත් බැන්ද නිසා වෙන්ට ඕනැයි කියල. බබෙක් ලැබෙන්ට ඉන්නවයි කියල මම හිතුවෙ. මදූයි ගෙනාපු පොත්, පත්‍රිකා ගොඩේ තරම්! පයින්මද ආවෙ?''

''ඔව්!'' යැයි සාෂෙන්කා පිළිතුරු දුන්නාය. දුන් ඇගේ රූ සපුව පෙර මෙන්ම සිහින්ය, හැඩය. කොපුල් හැකිලී, ඇස් වලගැසී, කළු පැහැ ලප ඇස් කර වටා තිබෙන බව තරුණියගේ මුහුණ දෙස බැලූ අම්ම දුටුවාය.

''අනේ ළමය, ඔයාව නිදහස් කළේ මේ දැන් නොවැ. පොඩියෑ නිවාඩු ගන්න එපායැ''යි අම්මා කීවේ සුසුම් ලමින් සහ හිස වනමිනි.

''නිවාඩු ගන්ට ඕන! කොහොමද පාවෙල් මිහායිලොවිච් එතර කැළඹුණේ නැහැ නොවෙද?'' සාෂෙන්කා ප්‍රශ්න කළාය.

අම්මා දෙස නොබලා මෙසේ ඇසූ ඇ ඇඟිලි තුඩුවලින් හිසකෙ හරි ගස්සා ගත් අතර, ඇගේ අත්වල ඇඟිලි වෙව්ලන සැටි අම්මා දුක්කා

''කැළඹීමක් නැහැ! පාවෙල් එයාගෙ හැඟීම් පිටතට පෙන්වන්ෙ නැහැ''යි අම්මා කීවාය.

''ඔව්, එයාගෙ ශරීර සනීපය ඉතාම හොඳයි නේද?'' තරුණිය ඇසූ සෙමින්ය.

''එහෙමට ලෙඩක් හැදුනේ නැහැ''යි කී අම්මා, ''ඔය ළමය සීතලෙ වෙව්ලනවා. මම පළතුරු ජෑම් සමග උණු තේ ලෑස්ති කරන්නම්'' කීවාය.

''හොඳ අදහස! ඒ වුණත් මෙ මහ රෑ මහන්සි වෙන්ට එපා. මම උණු කර තේ හද ගන්නම්,'' කියමින්, තරුණිය තේ හැදීමට ඉදිරි වූවාය.

''ඔය ළමය මහන්සි වෙලා ඉන්නෙ'' යැයි කී අම්මා හනික සමෝ පිළියෙළ කරන්ට වූවාය. කුස්සියට වැදුණු සාෂෙන්කා බංකුවක වාඩිවී දෑත් මත හිස ඔබා ගනිමින් පහත් ස්වරයකින් කතා කළාය.

''කොහොම වුණත්, වැඩක් නැතිව හිරගෙදර එක තැන පල් වෙන විට දුර්වල වෙනව. කොපමණ වැඩ කරන්ට ඕනද. එහෙත් හිර කූඩුවෙ සතෙක් වගෙ ඉන්ට වෙන එක තරම් වේදනාව ගෙන දෙන වැඩක් තවත් නැහැ...''

''මේ වැඩවලට කවුද සංග්‍රහ කරන්නෙ?'' යැයි ප්‍රශ්න කළ අම්මා සුසුමක් හෙළමින්, තමාම පිළිතුරු දුන්නාය:

''දෙවියන්ගෙ පිහිට හැර වෙන පිහිටක් නැහැ. ඔය ළමයත් දෙවියන් විශ්වාස කරන්නෙ නැතිද?''

''නැහැ!'' යැයි තරුණිය කෙටි පිළිතුරක් දුන්නාය.

''ඔය ළමය කියන කතාව මම විශ්වාස කරන්නෙ නැහැ!'' යැයි අම්මා කීවේ අමුතු උනන්දුවකිනි. අඟුරු තැවරී තිබුණු දැත් ඒප්‍රනයේ කොණකින් පිස දමාගත් අම්මා ගැඹුරු පැහැදීමකින් යුතුව දිගටම කතා කළාය: ''ඔයාලගෙ විශ්වාසය ගැන ඔයාලට අවබෝධයක් නැහැ! දේව විශ්වාසයකින් තොරව ඔවැනි ජීවිතයක් ගත කරන්ට පුළුවන්ද?''

ආලින්දයේ කිසිවෙකු ගමන් කරන හඬක්ද පහත් හඬින් කතා කරන සැටිද ඇසෙයි. අම්මා බිය ගත්තී,තිගැස්සුණාය. තරුණිය අම්මා වෙනට ළංවී කොඳුරමින් මෙසේ කියන්ට වූවාය:

''දෙර හරින්න එපා! පොලිසිය ඇවිල්ලා නම් අම්මා කියන්ට මාව දැක නැති බව. තැන සොයා ගැනීමට බැරිව ගෙට ගොඩ වැදුණු පසු මට සිහිය නැතිව ගිය බවත්, මට උදව් වීමක් වශයෙන් ඇඳුම් උණන්ට වූ විට මේ පොත් පත්‍රිකා අසුවූ බවත් කියන්ට, තේරුණද?''

''අනේ ළමයො, මොකටද එහෙම කියන්නෙ?'' යැයි අම්මා මුදු ලෙස ඇසුවාය.

''පොඩියකට නවතින්න!'' යැය කී සාෂෙන්කා ඔිනැකමින් සවන් දී සිට මෙසේ කීවාය: ''මට හිතෙන්නෙ යෙගෝර් ඇවිල්ල වෙන්ට ඕන...''

හොඳටම තෙමී සිටි ඔහු විඩාවට පත්ව හුස්ම ගැනීමට පවා නොහැකි තත්ත්වයක, සිටියේය.

''අන්න! සමොවාරය? ජීවිතයේ ඉතාම හොඳ දෙය, අම්මේ! සාෂෙන්කා ඔබ ආවාද?''

උගුරේ සෙම හිරවූ විටෙක මෙන් 'ගොර', 'ගොර' ගාමින් කතා කළ ඔහු කුස්සියට වීත් වැහි කබාය ගලවා දමමින් කතා කරන්ට විය.

''ඔන්න අම්මේ, පොලිසියට අප්‍රිය වුණු ගැණු ළමයා. හිරගෙදර ලොක්කා ඇට සැරවීම නිසා සමාව ඉල්ලා සිටින ලෙස කී ඔය ගැණු ළමයා උපවාසයක් කලා. අට දවසක උපවාසය නිසා යම්තම් නො මැරුණා විතරයි. තරක නැ නේද? බලන්න මගෙ බඩෙ හැටි?''



තමාගේ කෙටි අත්වලින් පිප්පයක් බඳු බඩගෙඩිය අල්ලා ගත් යෙගෝර් ඇ...ර අඟුළුලමින් කාමරයට ගොස් කිසිවක් කියන්ට විය.

''ඇත්තටම ඔය ළමය දවස් අටක් තිස්සේ නිරාහාරව හිටියාද?'' යි අම්මා ඇසුවේ පුදුමයට පත් වීමෙනි.

''මා ඉදිරියේ ඔවුන් සමාව ගත යුතු බව තරයේම කියා සිටියා!'' මෙසේ පැවසූ තරුණිය දෙවුර සෙලවූවාය. ඇගේ නිසලතාවය සහ දැඩි අධිෂ්ඨාන ශක්තිය දුටු අම්මාගේ සිත ඇය දෙස තැතිය.

''මදයි තරම්!..'' මෙසේ සිතන්නී ඈ නැවත විමැසුවාය. ''ඔයා මළානම්?''

''මොනව කරන්ටද! කොහොම හරි උන් සමාව ඉල්ලුවා. තමන්ට වැරදි කරන විට ඒවාට සමාව දෙන්න යුතු නැහැ.'' තරුණිය මේ වදන් කීවේ සෙමිනි.

''මදෑ!'' කී අම්මා සිග හැඟීම් ප්‍රකාශ කරන්නී මෙසේ පැවසූවාය: ''ඒ වුණාට ස්ත්‍රීන්ට හැමදම අපහස කරනව, වැරදි කරනව...''

''මම පොත් පත්‍රිකා ඔක්කොම බැවා' යැයි කී යෙගෝර් දොර හරිමින්, ''සමොවාරය රත් වෙලා, මම එය උස්සා ගෙන එන්නම්'' යැයි කීවේය.

සමොවාරය උස්සා ගෙන එන අතර ඔහු කතා කරන්ට විය:

''මගේ තාත්තා දවසකට තේ වීදුරු විස්සකට නොඅඩු ගණනක් බීවා. ඒ නිසා ලෙඩක් දුකක් නැතිව අවුරුදු හැත්තෑ තුනක් යහතින් ජීවත් වුණා එයාගෙ බර රාත්තල් 204 යි. වස්ක්‍රිසේන්ස්ක් ගමේ අන්තවී රාළ තමයි අපේ තාත්තා.''

''තමුසෙ ඉවාන් අන්තවී රාළගෙ පුතාද?'' අම්මා විචාළාය.

''ඔව්, කොහොමද අම්මා ඒ බව දන්නෙ?''

''මගෙ ගමත් වස්ක්‍රිසේන්ස්ක්.''

''අපේ ගමේ? කාගෙ කවුද?''

''ඔබලගෙ අසල්වැසියො. මම සෙර්යෝගින්ගෙ දුව.''

''නොණ්ඩි නීල්ගෙ දුව? අම්මාලගෙ තාත්තාගේ මුණ මම දැකල පුරුදුයි, දවසක්ද ඔබ නේද මගෙ කන මිරිකුවෙ...''

මූණට මූණලා සිටගත් මේ දෙදෙනා එකිනෙකා අමතා ප්‍රශ්න අසමින් සිනාසෙන්ට වූහ. සිනහ මුහුණින් යුතුව මේ දෙදෙනා දෙස සාෂෙන්කා බලා සිටිමින්, තේ සාදන්ට පටන් ගත්තාය. තේ කෝප්ප හා පිරිසි ගැටෙන ශබ්දය, අම්මා අතීතයෙන් වත්මන් කාලයට ගෙනාවේය.

''අනේ සමා වෙන්න, බොහොම වේලා කතා කළා! ගමේ මිනිස්සු මූණ ගැසුනාම ඔහොම තමයි...''

''සමාව ඉල්ලන්න ඕනා මායි. මම ගෙදර වැඩ සංවිධානය කරනවා රෑ එකොළහත් වුණො. මට දුර පයින් යන්ට තියනවා...'' යැයි තරුණිය කීවාය.

''කොහෙ යන්ටද? නගරයටද?'' අම්මා ඇසුවේ පුදුම වූ කලෙක මෙනි.

''ඔව්.''

''මොනව කියනවද? කළුවරයි, සීතයි. ඔය ළමයත් හෙම්බත් වෙලා! රෑ මෙහෙ නවතින්න! යෙගෝර් ඉවානිච් කුස්සියෙ නිද ගනීවි. අපි දෙදෙනා මෙතන...''

''බැහැ, මම යා යුතුමයි!''.තරුණිය ස්ථිරව පැවසුවාය.

''ඔව්, අපේ තරුණිය පිට විය යුතුයි. ඇ පලාතෙ උදවිය අඳුනනවා. හෙට ඇ වීදි දිගේ යනවා දුටුවොත්, එය එතරම් හොඳ වෙන්නෙ නැහැ.'' මෙසේ පැවසුවේ යෙගෝර්ය.

''ඒ කොහොමද? ඇ යනවාද?..''

''යනවා!'' යෙගෝර් කීවේ සිනාවකින් මුව සරසාගෙනය.

තේ කෝප්පයක් සාදගත් තරුණිය කළු පාන් කැල්ලකට ලුණුපොදක් ඉසගෙන සපමින්, කල්පනාකාරී ලෙස අම්මා දෙස බලාගත්වනම උන්නාය.

''කොහොමද ඔය ළමය මේ මහ රෑ යන්නෙ? ඔයත් නතාෂාත් එහෙමයි? මට නම් යන්න බැහැ, හරිම බයයි!'' ව්ලාසවා කීවාය.

''ඔව්. අම්මා නම් බය හැඩියි? ඔබ බයද, සාෂෙන්කා?'' යැයි යෙගෝර් විමසුවේය.

''ඇත්තකින්ම!'' යනු ඇගේ පිළිතුර විය.

අම්මා ඇ දෙසත් යෙගෝර් දෙසත් බලා මෙසේ කීවාය:

''උඹල හරි තදයි.''

තේ බී අවසාන වූ පසු නිහඬව යෙගෝර්ට අතදී සමුගත් සාෂෙන්කා කුස්සියට ගොස් අම්මාගෙන්ද සමුගත්තාය. අම්මා ඇ සමග එළියට ආ විට, ඇ අම්මාගේ කණට කොඳුරා මෙසේ කීවාය:

''පාවෙල් මිහායිලවිච් හමුවූවිට මගේ ගෞරවාදරය ඔහුට පිරිනමන්න.''

එළිපත්තට වත් විට සැණෙකින් හැරී සිටි තරුණිය සෙමින් කතා කළාය:

''ඔයාව සිපගන්ට අවසර දෙනවද?''

නිහඬව ඇ බදාගත් අම්මා සිපවැළඳ ගත්තේ මහත්වූ සෙනෙහසකිනි.

''බොහොම ස්තුතියි'' කී ඇ හිස පාත් කරගත්ති ගෙයින් පිටව යන්ට ගියාය.



හැරී ආ අම්මා ජනේලය අසලට වී පිටත බලන්නට වූයේ සැලෙන හදවතකින් යුතුවය. අඳුරේ තෙත හිමකැට පාගන හඬ ඇසේ.

''මතකද ප්‍රොසොරොව් පවුල?'' මෙසේ ඇසුවේ යෙගෝර්ය.

කකුල් පළල් කරගෙන වාඩිවී ඔහු උණු තේ කෝප්පයට පිඹිමින් හුන්නේය. රතු පැහැගත් ඔහුගේ මුහුණ පුරා දහඩිය වැගිරුණද, ඔහු සතුටින් සිටින බව පෙනිණි.

''මතකයි, මතකයි!'' කී අම්මා මේසය වෙත ගියේ එක් අංශයක් පෙරටු කර ගනිමිනි. අසල තිබූ පුටුවක් මත වාඩි වුණු ඇ යෙගෝර් දෙස කනගාටුදයක බැල්මක් හෙළා සෙමින් මෙසේ කීවාය. ''අනේ, අයියෝ! සාෂෙන්කා කොහොමද මේ මහ රෑ යන්නේ?''

''ඇට මහන්සියි. හිරගෙට නියම වුණායින් පස්සෙ ඇගේ හයිය-හත්තිය හොඳටම අඩු වුණා. ඉස්සර සවිබල ඇතිව හිටියා. බොහොම සැප ඇතුව ඒ ළමය, හැදුනෙ වැඩුනෙ. පෙණහළු නරක් වෙලා වගෙයි දැනෙන්නෙ.'' අම්මාගේ අදහසට එකඟ වූ යෙගෝර් කීවේය.

''ඔය ළමය කාගෙ කවුද?'' මෙසේ ඇසුවේ අම්මාය.

''ලොකු ඉඩම් හිමියෙකුගෙ දුවක්. එයාගෙ තාත්ත හරි තක්කඩියෙක්ලු. ඒ ගොල්ලො කසාද බඳින්ට යන එක ගැන අම්ම දන්නවා නොවෙද?''

''කවුද?''

''ඒ ගැනු ළමයයි පාවෙලුයි... ඒ වුණාට ඒක මෙතෙක් කෙරුනේ නැහැ. ඒ ළමය හිර අඩස්සියට වැටෙන කොට පාවෙල් නිදහසේ.පාවෙල් හිරගෙට නියම වෙන කොට ඒ ළමය නිදහසේ!''

''මා ඒ ගැන දැන සිටියේ නැහැ'', යැයි අම්මා කීවේ ගොළු වූ විටෙක මෙනි. ''පාවෙල් කිසි දක ඔය ගැන මට කීවෙ නැහැ...''

දැන් අම්මා තුළ තරුණිය නිසා උපන්නේ මහත්වූ දයානුකම්පාවෙකි. අමුත්තා දෙස අහිතකර බැල්මක් හෙළූ ඇ ඔහුගෙන් මෙසේ විචාළාය:

''තමුසෙ ඇව ඇරලන්ට ගියා නම්!..''

''හොඳ නැහැ,'' යොගෝර් පිළිතුරු දුන්නේ සංසුන් ලෙසය. ''මට මෙහෙ වැඩ ගොඩක් තියෙනවා. උදේ හිටන් මට රට පුරාම ඇවිදින්න තියනව. වැඩ මහ ගොඩක්. මගෙ වැඩවලට තියෙන බාධාව මගෙ හතිය...''

යෙගෝර් කී දෙය නෑසුනාක් මෙන් සිටි අම්මා මෙසේ කීවාය: ''හොඳ ගැනු ළමයා!'' පුතා, සිය විවාහ සුදනම ගැන තමාට දැනුම් නොදීම නිසා අම්මා තුළ උපන්නේ අමනාපයකි. පිට මිනිසෙකුගෙන් එය අසන්ට වීම නිසා ඇ තුළ ලජ්ජාවක්ද හටගත්තෙන්, යටිතොල විකා ගත්ති, ඇස් බැම් පහත් කරගෙන තළල රැලි ගසා ගත්තාය.

හොඳ ගැහැනු ළමයා! මට පේනව අම්මා ඇට අනුකම්පා කරන සැටි.
''හොඳ ගැහැනු ළමයා! අප ගැන ඔය විදියට අනුකම්පා කළොත් ඔබෙ
වැදගැම්මකට නෑ! අප ගැන ඔය විදියට අනුකම්පා කළොත් ඔබෙ
හදවත මදි වේවි. ඇත්ත කියනවනම්, අපේ ජීවිත එතරම් ලේසි නැහැ. මේ
ළඟදී අපේ සගයෙක් පිටුවහලින් ආවා. ස්මොලෙන්ස්ක්වල එයාගෙ
පවුලයි ළමයයි හිටියා. මිනිහා එහෙට යනකොට, පවුලයි ළමයයි
සිරබාරයට ගෙන මොස්කව්වලදී. දූන් ඒ මනුස්සයට සයිබීරියාවට යන්ට
වෙලා. මගෙ පවුල ගැන බලන්ට, ඈ ඉතා හොඳ ගතිගුණ ඇති කෙනෙක්.
පස් අවුරුද්දක් ඔය දුක වින්ද නිසා මැරුණා...'' යැයි යෙගෝර් කීවේය.
එක උඟුරට 'ඉඩුස්' ගා තේ කෝප්පය බී හිස් කළ හෙතෙම කතාව
දිගටම කියන්නට විය. හිරගෙට නියමවූවන්ගේ නම් ගම්, කාලසීමාව,
මූණ පෑ අනතුරු, හිරගෙවල්වල පහරදීම්, සයිබීරියාවේ දුර්භික්ෂය ආදිය
ගැන ඔහු කීවේය. විඳින්ටවූ දුක් හිරිහැර, ලුහු බැඳීම, ජනතාවට කළ
පීඩනය ආදී දේ ගැන මේ මිනිසා කරන වාම්, කලබල රහිත විස්තරය
අසා සිටින අම්මා, ඔහු දෙස බලා විස්මය පත් වූවාය...
''හොඳයි, දූන් වැඩ ගැන කතා කර ගනිමු!''
ඔහුගේ කටහඬ වෙනස් විය. මුහුණ බැරෑරුම් බවක් කියා පෑවේය.
කම්හල තුළට පොත් පත්‍රිකා ගෙනයාම සඳහා ඈ ගත්තා වැඩපිළිවෙළ
හා එහි විස්තර ඔහු අසන්නට විය. සෑම කුඩා දෙයක් ගැනම සියුම් දැනීමක්
ඇති මේ පුද්ගලයාගේ සැලකිල්ල දකින අම්මා පුදුමයට පත් වූවාය.
කළ යුතු කාරිය ගැන කතා කර අවසන්වූ පසු, ඔවුහු නැවතත් ගම
කතා කීමට පටන් ගත්හ. ඔහු විහිළු කිරීමට පටන් ගත් අතර ඈ
කල්පනාකාරී ලෙස අතීතයට වැද කිමිදෙන්නට වූවාය. තැනින් තැන
නැඟී සිටින සිහින් ඇස්ප් ගස් හා අතරින් පතර වැවී තිබෙන බර්ච් සහ
නත්තල් ගස්වලින්ද, යන්තම් පා තබා යා හැකි පස් ගොඩලිවලින්ද
ගහන විශාල මඩගොහොරු බිමක්සේ අමාට තම අතීතය සිහි වෙයි.
මඩගොහොරුව මැඩ නැඟී සිටින බර්ච් ගස් හෙමින් වැඩී අවුරුදු පහක්
පමණ ආයුළදා පසුව දිරාපත් වෙති. එම ජවනිකාව දෙස මනැසින් බලන
අම්මා තුළ දෙම්නසක් හටගත්තේ ඇයිදැයි ඈ නොදනී. දූන් ඇගේ මනැස
ඉදිරියේ මුරණ්ඩු තරුණියකගේ රුසපුවකි. තෙතැති හිම රොදවලින් ගහණ
වූ බිමක් හරහා ඈ ගමන් කරයි. හුදකලාව මෙසේ යන ඈ විඩාපත් වී
සිටින්නිය. පූනා සිරගෙදර කාමරයකය. සමහර විට ඔහු නොනිදා කල්පනා
කරමින් සිටිනවා වෙන්ට පුළුවන... ඔහු සිතන්නේ අම්මා ගැන නොව
තරුණිය ගැනය. අම්මාට වඩා කිට්ටු පුද්ගලයෙක් ඔහුට සිටී. නොපැහැදිලි
සිතුවිලි ධාරාවන් සහිත මේ ජවනිකාව තුළින් පැන නගින හැඟීම්ඇගේ
හදවත වෙළාගනී...



''අම්මේ, ඔයාට මහන්සි නෙව, ගිහිං නිදගන්ට!'' යෙගෝර් කීවේ
මඳ සිනා පාමිනි.
ඔහුට සුබ රාත්‍රියක් පැතූ ඈ එක් උරයක් පෙරටු කර ගනිමින් කුස්සිය
දෙසට ගියේ කටුක, දුක්බර හදවතකින් යුතුවය.
පසුද උදෑසන තේ බොන ගමන් යෙගෝර් ඇගෙන් මෙසේ ඇසුවේය:
''ඔබව අල්ලා ගෙන, මේ මිත්‍යාදෘෂ්ටි සාහිත්‍ය කොයින්දැයි ඇසුවොත්,
ඔබ මොනවද කියන්නෙ?''
''ඒව උඹලගෙ වැඩක් නෙවි යැයි පිළිතුරු දෙනවා!'' අම්මා කීවාය.
''උන් ඒ වගෙ උත්තරයකින් සෑහීමට පත් වෙන්නෙ නැහැ. ඒව
උන්ගෙ වැඩ බව උන් තදින්ම විශ්වාස කරනවා. උන් බොහොම තද
ලෙස, බොහෝ වෙලා අම්මාගෙන් ප්‍රශ්න කරාවි.'' මෙසේ කී යෙගෝර්
අම්මාගේ මතයට එකඟ නොවීය.
''මම කිසිවක් නොකියා ඉන්නවා!''
''එතකොට උන් සිරබාරයට ගනීවි!''
''ඉතින් මොකෝ හිරේට ගෙනිච්චාම. ඒකටවත් මාව සුදුසු නම්
බොහොම හොඳා. මගෙන් කාටවත් ප්‍රයෝජනයක් නැහැ. හිරගෙදර
වද දෙන්නේ නැතිලු...''
''හ්ම,'' යැයි යෙගෝර් ඈ දෙස ඉතා ඕනෑකමින් බලා මෙසේ
කීය: ''වද නොදෙනවා වෙන්ට පුළුවනි. හොඳ මිනිස්සු ආරක්ෂා
වෙන්ට ඕන...''
''ඒ පාඩම තමුසෙලාගෙන් නවම ඉගෙනගත නැහැ'' යැයි අම්මා
කීවේ සිනාසෙමිනි.
නිහඬව හුන් යෙගෝර් කාමරය තුළ ඇවිද අම්මා ළඟට ආවේය.
''අමාරුයි, ගමේ නැන්දේ! ඔබට හොඳටම අමාරු බව මට පේනවා!''
''හැමදෙනාටම අමාරුයි'' ඈ කීවේ අතක් ගස්සා දමමිනි. ''තමුසෙලගෙ
වැඩ ගැන අවබෝධයක් ඇති උදවියට ඔය කාරිය වඩාත් ලෙහෙසි වෙන්ට
පුළුවනි... හොඳ මිනිස්සු බලාපොරොත්තු වෙන්නෙ මොනවද කියල
මටත් තරමක් තේරෙනවා...''
''අම්මේ, ඔබටත් ඒ බව තේරෙනවා නම්, ඔබව හැම දෙනාටම ඕනෑවී
තිබෙන බව පේනවා!'' යැයි යෙගෝර් කීවේ බැරෑරුම් ගතියකිනි.
ඔහු දෙස බැලූ ඈ නිහඬව මඳහස පෑවාය.
මද්දහනය වන විට අම්මා ඉතා දක්ෂ ලෙස පොත් පත්‍රිකා ළය මත
තබාගෙන 'ට උඩින් පුරුදු ඇඳුම් ඇඳ ගත්තාය. මේ කාරිය කොතරම්
සූක්ෂම ලෙස ඈ කළාදයත්, එය දුටු යෙගෝර්ගේ සිත ප්‍රීතියෙන්
පිනාගියෙන් දිව ක්‍රියාකාරී විය.

''ජර්මන්කාරයා හොඳ බීර වීදුරු ගණනක් බීවාම 'සේර් ගුට්'* කියල කියනව. පොත් නිසා අම්මේ, ඔබගෙ පෙනුම වෙනස් වුණේ නැහැ. ඔබ කරුණාවන්තයි, උස, තරබාරු ශරීරයක් ඇති මැදවියේ ගැනියක් වගේ. අම්මා වඳින, පුදන දෙවි දේවතාවන්ගේ පිහිටාධාරය ලැබේවා!..''

පැය භාගයකට පසු පොත් පත්‍රිකා සහ ආහාරද, හැඳි, ගැරුප්පු පිහියාදියද රැගත් අම්මා ඒවායේ බර නිසා වක්වූ පිට කොන්දක් ඇත්තී සන්සුන්ව සහ අදිටනකින් යුතුව අමාරුවෙන් ගමන්ගෙන කම්හල් ගේට්ටුව අසලට වන්නිය. කම්කරුවන්ගේ උපහාස කතා නිසා කිපී සිටින මුරකරුවෝ දෙදෙනා කම්හලට ඇතුළු වන හැම එකෙක්ම අතපත ගා පරීක්ෂා කරති. ඔවුන් අසල සිටියේ පොලිස් බටයකු සහ සිහින් කකුල් සහ රත් පැහැති මුහුණකින්ද, කඩිසර නෙත්වලින්ද හෙබියෙකි. අම්මා උරෙන් ගෙනගිය කද කිප වරක්ම උරේ'නුර මාරු කරන ගමන්, ඔත්තුකාරයෙකු සේ ගිනිය හැකි ඒ මිනිහා දෙස කිපවරක්ම යටැසින් බැලුවාය.

කැප් හිස්වැස්මක් පැළඳ සිටි, බොකුටු හිසකෙස් ඇති, උස තරුණයෙක් තමා පරීක්ෂා කළ මුරකරුවන් දෙස බලා කෑ ගැසුවේය:

''ඇයි යකෝ, හොයපිය ඔළුවෙ ඇතුළෙ තියෙන දේ, සාක්කුවල හොයල වැඩක් නැහැ!''

මුරකරුවන්ගෙන් එකෙක් මෙසේ පිළිතුරු දුන්නෙය:

''උඹෙ ඔළුවේ උකුණො හැර වෙන දෙයක් නැහැ, බොල!''

''බිළි බාන්නෙ නැතිව උකුණො වත් අල්ලාපියව්!'' කම්කරුවා කීවේය.

පොලිස් ඔත්තුකාරයා ඔහු දෙස බැල්මක් හෙළා කෙල ගැසීය.

''අනේ මට ඇතුල්වීමට අවසර දෙන්න. කද හරි බරයි. පිට කොන්ද කැඩෙන්ට යනව!'' අම්මා ඇයැද සිටියාය.

''පලයන්, පලයන්! උඹත් එනව කොඳු කඩන්ට!'' මුරකරුවා කෝපයෙන් කෑ ගැසුවේය.

කම්හලට අයත් බිම් පෙදෙසට වන් අම්මා කද බිම තබා දහඩිය පිස දමා ගත්ති පුරුදු පරිදි වෙළඳාම පටන් ගත්තාය.

සැණෙකින් ඇ දෙසට ගුසෙව් දෙබෑයෝ පැමිණියහ. වැඩිමලා, වසිලි තළල රැලි ගසා ගනිමින් හඬ නගා මෙසේ ඇසුවේය:

''පිරගී** ගෙනාවද?''

* සේර් ගුට් — (ජර්මන් බසින්) ඉතාම හොඳයි. අනුවාදක
** පිරොග්: මස් හෝ ගෝවා වැනි ආහාර වර්ගයක් යොදා සාදන රොටි විශේෂයකි. පිරගී — පිරොග් යන්නේ බහු වචනයයි. අනුවාදක



''හෙට ගේන්නම්!'' අම්මා කීවාය.

එය සාහිත්‍ය ගෙනාවේදැයි දැනගැනීමට සහ දැන්වීමට කලින් යොද ගත් 'අවසර පාඨයකි'. දෙබෑයෝ ප්‍රීතියෙන් පිනාගියෝය. සන්තෝෂය ඉවසාගත නොහැකි වූයේ ඉවාන් කෑ ගැසුවේය.

''හරියට හරි!''

ඇණ තිබාගනිමින් හිඳගත් වසිලි කෑම අසුරා තිබූ පෙට්ටිය දෙස එබී බලත්ම, ඔහුගේ කබායට යටින් හා කමිසයට උඩින් තිබෙන කුහරය පොත් හා පත්‍රිකාවලින් පිරී ගියේය.

''ඉවාන්! දවල් බතට ගෙදර නොගිහිං මෙහෙන් කමු'' යැයි බාලයා අමතා වසිලි කීවේ හඬ නගමිනි. මෙසේ කියන අතර ඔහු පත්‍රිකා ගොඩක්, දණහිස දක්වා උසැති සිය සපත්තුවල සඟවා ගන්නට තරම් කඩිසර විය.

''අළුත් වෙළෙන්දිට උදව් කරන්ට ඕන!''

''ඔව්!'' යැයි කී ඉවාන් හඬ ලා සිනාසුණේය.

පරීක්ෂාකාරී ලෙස වටපිට බැලූ අම්මා කෑ ගසන්නට වූවාය:

''ගෝවා සුප්, මැකරෝනි උණු උණුවේ!''

පත්‍රිකා මිටිය බැගින්, එළියට ගත් ඇ ඉවාන්ට සහ වසිලිට දුන්නේ, කිසිවකුට නොපෙනෙන පරිදිය. මෙසේ පත්‍රිකා ගුසෙව් බෑයන් අතට දෙන හැම වාරයකදීම, කළුවර කාමරයක් තුළ ගිනිකූරක් දල්වන විට ඇති වන ආලෝකයක් මෙන් ඇගේ මනැස ඉදිරිපිට ගෙය පරීක්ෂා කිරීමට පැමිණි පාණ්ඩුකාර පොලිස් නිලධාරියා මැවී පෙනේ. එවිට ඇ කෝපය මුසු සතුටකින් යුතුව යටිසිතින් මෙසේ කියා ගත්තාය:

''ඉඳා උඹට, ලොකු උන්නැහෙ!''

තවත් පත්‍රිකා ගොඩක් දෙන ඇ වඩාත් සතුටු වන්නීය.

''ඉඳා ගනිං...''

කම්කරුවෝ කෝප්ප රැගෙන වෙළෙන්දිය වෙත ආවෝය. ඔවුන් ළංවෙත්ම ඉවාන් ගුසෙව් කොක් හඬ ලමින් සිනාසෙන්ට විය. අම්මා පත්‍රිකා බෙදීම නවත්වා ගෝවා සුප් සහ මැකරෝනි බෙදන්නට වූයෙන් ගුසෙව් දෙබෑයෝ විහිළු කරන්ට වූහ:

''නිලව්නා, බෙදන්ට දස්සයි!''

''අග හිඟකම වැඩි වෙන විට, මීයන් අල්ලන්ට වුණත් සිද්ද වෙනවා. කන්ට අදින්ට දීපු පුතාව හිරබාරෙට ගත්තා, වල් උංරො! අම්මේ, කොපෙක් තුනකට මැකරෝනි දීපන්'' මෙසේ කීවේ ගිනි උදුනක වැඩ කරන්නෙකි.

''උඹගෙ කතාව මසුරන් වටිනවා!'' අම්මා කීවේ ඔහු දෙස බලා මඳ සිනා පාමිනි.

ඉවත යන ගමන් ඔහු මුමුණුවේය: ''හොඳ කතා කියන්ට මුදල් වියදම් වෙන්නේ නැහැ නොවැ...''

විලාසවා බෙරිහන් දෙන්නට වූවාය:

''උණු, උණුවේ! ගෝවා සුප්, මැකරෝනි, කැඳ!''

''උණු, උණුවේ! ගෝවා සුප්, මැකරෝනි, කැඳ!'' තමාගේ පළමුවැනි කාරිය සපුරාලූ අන්දම පුතාට කියන සැටි අම්මා සිහියට නගා ගත්තේ, හඬ නගා කෑ ගසන ගමන්ය. නැවතත් ඇගේ මනැස ඉදිරිපිට අර පාණ්ඩුකාර පොලිස් නිලධාරියාගේ සේයාව මතුවී පෙනෙයි. ඔහු කෝපයෙන් ඇ දෙස බලන සැටි වටහා ගැනීම පවා අපහසුය. ඔහු ගේ රැවුළ සෙලවෙයි, උඩු තොල ඉහළට පෙරළී ගොස් පොල් ඉරුවක් බඳු සුදු පැහැති දත් පෙනේ. ඇගේ හදවතට වැදුණු කුරුල්ලෙකු මිහිරි ගීයක් ගයන්නාක් මෙනි. තම කාරිය ඉතා දක්ෂ ලෙස ඉටු කළ අම්මා මෙසේ කියා ගත්තාය.

''ආ මෙන්න! තවත්!..''

## XVI

සවස තේ බොමින් සිටින විට, මඩ සහිත පාරේ ගමන් කරන අසුන්ගේ කුර ගැටෙන හඬත් පුරුදු කටහඬකුත් ඇසුනෙන්, ඇ කුස්සිය මැදින් දිවගොස් දෙර හැරියාය. ඔහු ඉස්තෝප්පු කාමරයට වැදිණි. ඇගේ ඇස් නොපෙනී ගියාක් සේ දැණුනෙන්, ඇ උළුවස්සට හේත්තු වූවාය.

''සුබ සැන්දෑවක් වේවා! නෙන්කො!'' යැයි කී හෙතෙම තමාගේ දිගැති අත්වලින් ඇගේ උරහිස අල්ලා ගත්තේය.

ඇගේ හදවත තුළ කනස්සල්ලකුත්, අන්ද්රේ දැකීම නිසා ප්‍රීතියකුත් උපන්නේය. මේ හැඟීම් දෙකම ඒකට වෙලී දැඩි ලැදියාවක් ඇති විය. එම දයාන්විත හැඟීම ඇ වෙළා ගත්තාක් මෙනි. ඔහුගේ ළය මත ඇ හිස තබා ගත්තාය. අන්ද්රේ පුත්‍ර ස්නේහයෙන් යුතුව ඇ දැඩිකොට අල්ලා ගත්තේය. අම්මා නිහඬව අඬන්නට වූ විට ඔහු ඇගේ කෙස් වැටිය සෙමින් පිරිමැද්දේය. ඔහු කතා කලේ මනහර ගීයක් ගයන්නාක් මෙනි:

''අඬන්ට එපා, නෙන්කො! හදවතට දුක් දෙන්න එපා! එයාව ඉක්මනින්ම නිදහස් කරාවි, මේ කියන්නෙ ඇත්තටමයි. එයාට විරුද්ධ කවුරුත් නැහැ. සියලු දෙනාම තම්බාපු මාළු වගෙ ගොළු වෙලා ඉන්නවා...

ඔහු ඇ වත්තත් කරගෙන කාමරයට ගියේය. ඇ ලේනෙකු මෙන් ඉක්මනින් කඳුළු පිස දමා ගත්තී, ඔහු කී වචන ගිල ගත්තාය.

''පාවෙල් ඔබට ගෞරවාදර සුබ පැතුම් එව්වා. එයා සුවෙන් හා සනීපෙන් ඉන්නවා. එහෙ හරිම තදබදයක්! හිරබාරෙට අර ගෙන තියෙන



යගේ ගණන සියකටත් වැඩියි. අපේ අයවයි, නගරයේ අයවයි. එකෙක් දැමිය යුතු කාමරවල තුන්දෙනා හතරදෙනා බැගින් ඉන්නවා. හිරගෙදර මුලාදැනිවරුත් මහන්සි වෙලයි ඉන්නෙ. යුද-පොලිසියෙ යක්කු උන්ට වැඩ ගොඩක් කරලා! හිරගෙදර මුලාදැනියො එතරම් සැර නැහැ. 'මහත්තුරුනි, කෑ කෝ ගහන්නේ නැතිව හෙමින් කරන වැඩක් කරපල්ලා. අපට පාඩු කරන්ට එපා!' කියල උන් අපට කියනවා. අපේ කවයුතු හොඳින් කෙරෙනවා. පොත් පත් බෙදහරිනවා. කෑම බෙද ගන්නවා. හොඳ හිරගෙදර! හරිම පරණයි, ගඳයි, සැහැල්ලුයි. අපරාධවලට අහු වෙන හොරු, චන්ඩි පවා අපට උදව් කරනවා. මාවයි, බූකින්වයි, තවත් හතර දෙනෙකුයි අද නිදහස් කළා. ඉකමනින්ම පාවෙල්ව නිදහස් කරාවි, ඒක හොඳටම විශ්වාසයි! වැඩිම කාලයක් හිරගෙදර ඉන්ට වෙන්නෙ වෙසොව්ෂිකොව්ටයි. මිනිහා එක්ක හැම දෙනාම තරහයි. මිනිහා ලෝබ නැතුව හැම දෙනාටම බණිනවා. යුද-පොලිසිය එක්කො මිනිහට විරුද්ධව නඩු දැවි. නැතිනම් එයාගෙ ඇටකටු කඩා දමාවි. පාවෙල් මිනිහව පාලනය කරනවා: 'නිකොලායි උඹ උන්ට සැරවෙන පලියට උන් හොඳ වෙන්නෙ නැහැ!' ඒ වුණාට මිනිහ ගොරවනවා: 'කුරුලා පොඩි කරන්නා වගේ උන්ව පොඩි කර දමන්ට ඕන!' කියල වෙසොව්ෂිකොව් කියනව. පාවෙල් හොඳින් වැඩ කරනව. මිනිහ තදයි, නමුත් සමබරව වැඩ කරනව. එයාව ඉක්මනින්ම නිදහස් කරාවි. මම අම්මට සහතික කරන්නම්...''

'ඉක්මනින්ම!'' යැයි කී අම්මා සැනසුන් ලෙස සිනාසෙමින්, ''මම දන්නව, ඉක්මනින්ම!''

''අන්න හොඳයි! මට තේ කෝප්පයක් හදල දීල, මේ දවස්වල ජීවත් වුණු හැටි කියන්න.''

ඔහු ඇ දෙස බලා කට පුරා සිනාසුණේය. ඔහුගේ වටකුරු ඇස්වල තේජාන්විත බවත්, මාතෘ ප්‍රේමය මුසු කණගාටුවත් දකින්නට තිබිණි.

''අන්ද්‍රූෂා, මම උඹට පුතෙකුට වගෙ ආදරෙයි!'' මෙසේ කී අම්මා ඔහුගේ ඇදී ගිය මුහුණ දෙසත්, තළල වසා වැටී තිබුණු කෙස් රොදක් දෙසත් බලා සිනාසෙන්නට වූවාය.

''මට පොඩ්ඩක් තිබුනාම ඇති. මම දන්නවා, අම්මා මට ආදරේ බව. ඔබට පුළුවන් හැම දෙනාටම ආදරේ කරන්ට. එතරම් හොඳ හදවතක් ඔබට තියෙන්නේ!'' හොහොල් මෙසේ කියමින් පුටුව පද්දවන්නට විය.

''නැහැ, මම උඹට මගේ පුතාට වගේම ආදරෙයි. උඹගෙ අම්මා හිටියානම්, ඔය වගෙ රත්තරං පුතෙකු ඉන්න අම්මා දෙස බලා මිනිස්සු ඇස්වහ ගනීවි...'' යැයි අම්මා තෙපළාය.

හිස වනමින් සිටි හොහොල් දෑතින් තම මුහුණ පිරිමදින්නට විය.

''මගේ අම්මා කොහේ හරි ජීවත් වෙනවා ඇති...'' ඔහු සෙමින් කිවේය.

''උඹ දන්නවද අද මම කරපු වැඩක්?'' යැයි ඇසූ අම්මා ඉමහත් සන්තෝෂයකින් යුතුව තමා කම්හලට පොත් පත්‍රිකා ගෙන ගිය සැටි තරමක අතිශයොක්යකින් යුතුව විස්තර කළාය.

පළමුව, විස්මය පත් වූ කලෙක මෙන් ඇස් විදහා ගෙන ඈ දෙස බලා සිට, අනතුරුව කොක් හඬ ලා සිනාසෙමින් තමාගේ හිසට ටොකු ඇන ගනිමින්, හොහොල් කතා කළේ ප්‍රීතියෙනි.

''ඔහෝ! ඒක විහිළුවක් නෙවි ඒක ලස්සන වැඩක්! පාවෙල් හොඳටම සන්තෝෂ වේවි, නේද? හරිම යසයි, නෙන්කො! පාවෙල් සහ සගයන් බේරා ගන්ට සේවයක් කළා...''

අතේ ඇඟිලිවල 'ඇට කඩමින්' සන්තෝෂ වෙමින්, උරුහන් බාමින් ඒ මේ අත පැද්දෙන්ට වූ හෙතෙම ඈ තුළ සෙනෙහෙබර දයාවක් ඇති කළේය.

''මගේ හොඳ අන්ද්‍රෂා පුතේ!'' යැයි ඈ කිවේ උල්පතකින් පැන නැගි දියපහරක් සේ හදවත තුළින් ගලා එන ප්‍රීතිය දසත පැතිර ගිය බැවිනි. ''මම ඒ මගේ ජීවිතය ගැන මතක් කළා. ජේසු ක්‍රිස්තු වහන්සේ ගැන සිහි කළා! මම ජීවත් වුණේ මොන දේකටද? ගුටි කන්ටයි, වැඩපළ කරන්ටයි, කිසිවක් දැක්කේ නැහැ. පාවෙල්ගෙ තාත්තාව හැර කිසිකෙනෙකු දුටුවේ නැහැ. බය මොකක්ද යන්න දැන සිටියා! පව්ලූෂා වැඩුණු කාලෙදි, එයාගෙ තාත්තා හිටි දවස්වල, පව්ලූෂාට දරු,සෙනෙහස දැක්වුවාද කියල වත් මට මතක නැහැ. මෘගයෙක් වගෙ හිටිය ඒ මිනිහට රසට හැහෙන්ට කෑම බීම පිළියෙළ කර දීම මගෙ එකම රාජකාරියයි. ඔහුගේ ඇනුම්, බැනුම්, තර්ජනවලින් බේරී සිටීමටත්, ඔහුගෙ අනුකම්පාව එකවරක් හෝ මා කෙරෙහි යොමු කරවා ගැනීමටත් ධහිරිය ගත්තා. නමුත් ඒ මිනිහ මට ගැහුවෙ කිසිම සමාවක් නොදී. පවුලට තළන හැටියට නොවෙයි ජන්මන්ත හතුරෙකුට තලන හැටියටයි. ඔය විදියට ගුටිබැට කමින් අවුරුදු,විස්සක් දුක් වින්දා. කසාදෙට ඉස්සෙල්ල මොනවා වුණාද කියා කියන්ට මතක නැහැ. මතක් කරන්ට වෑයම් කළා. ඇස් කණ වුණා වගෙ කිසිදෙයක් සිහියට නගා ගන්ට බැහැ. යෙගෝර් ඉවානවිච් මෙහෙ ආවා. අපි දෙන්නම එක ගමේ උදවිය. අපි ගමේ තොරතුරු ගැන කතා කළා. ගමේ හිටි මිනිසුන්ගෙ නම් සහ ගෙවල් මතකයි. නොයෙකුත් සිදුවීම් මතක නෑ! ලොකු ගිනි ඇවිලීම් නම් මතකයි. දෙපාරක්ම ගිනි ඇවිලුනා. මගේ හැඟීම් සියල්ලම මැරිල. මගෙ ආත්මය විනාශ වෙලා, හරියට අඳ බිහිරි ගොළුවෙක් වගෙ...''



එක හුස්මට මෙසේ කියාගෙන ගියෙන් ඈට කතාව නවත්වා හුස්ම ගැනීමට සිදු විය. දියෙන් ගොඩගත් මාළුවෙකු හුස්ම ගන්නාසේ ගිජු ලෙස හුස්ම ගත් ඈ නැඹුරුව, පහත් හඬකින් තම කතාව කරගෙන ගියාය:

''පාවෙල්ලාගෙ තාත්ත මළා. පුතාව හදගන්ට බැලුවා. පුතා මේ වැඩට මැදිහත් වුණා. අන්න එතකොට මට ලොකු සිත් වේදනාවක් ඇති වුණා. පුතා ගැන කනගාටුවක් උපන්නා. එයාට මෙහෙම. මම කොහොමද ජීවත් වෙන්නෙ? කොතරම් දුක් කම්කටොලු මම විඳල තියෙනවද, එයාගෙ ඉරණම ගැන හිතෙන කොට හදවත පැලෙන්ට එනව...''

මඳක් නිහඬව සිටි ඈ තරමක් හිස සලමින් වැදගත් දෙයක් කියන්නාක් මෙන් සිය කතාව නැවත පටන් ගත්තාය:

''අපේ ගෑණු ආදරය පිරිසුදු නැහැ!.. අපට ඕන දේවලට අපි ආදරය කරනව. මං උඹ දිහා බලනව. උඹ අම්මා ගැන නිතර දුක් වෙනව. මොකටද උඹට අම්මා කෙනෙක්? උඹල සියලු දෙනාම මහජනය වෙනුවෙන් දුක් විඳිනව. හිරගෙදරට යනව. තුඹලව සයිබීරියාවට පිටුවහල් කරනවා. අකාලෙ මැරිල යනව... තරුණ ගෑණු ළමයි මහ රෑ මඩ පාරවල් දිගේ හිම ගොඩවල තනිවම ඇවිදිනව. වැස්ස පවා තකන්නෙ නැතිව හැතැප්ම පහක් පයින්ම නගරෙ ඉඳල අපේ දිහාට එනව. කවුද ඒගොල්ලන්ට බල කරන්නෙ? කවුද අණ කරන්නෙ? ඔවුන් ඒ වැඩේට ආදරය කරනව, ආදරය කරනව! මුළු හිතින්ම විශ්වාස කරනව, විශ්වාස කරනව! අන්ද්‍රෂා! මට එහෙම කරන්න බැහැ. මම, මගේ කිට්ටු අයට ආදරය දක්වනවා විතරයි!''

''අම්මාට පුළුවනි!'' කී හොහොල් පුරුදු පරිදි දෑතින් තම නළලත්, කම්මුල්, ඇස් සහ නිකටත් පිරිමදිමින් මෙසේද කීවේය: ''ළඟ අයට හැමදෙනාම ආදරය කරනවා. ඒ වුණාට දයාබර හදවතක් ඇති තැනැත්තා දුර, ළඟ උදවියටත් හැමදෙනාටමත් ආදරය කරනව. ඔබට බොහෝ දේවල් පුළුවනි. ඔබගේ හදවත දයාබර මවකගෙ...''

''අනේ දෙවියනේ!'' ඈ කොඳුළාය. ''මෙහෙම ජීවත් වෙන්ට ඇතිනම්, එයත් හොඳ බවයි මගේ හැඟීම. සමහර විට මගේ පුතා පව්ලූෂාටත් වැඩිය මම උඹට පුත්‍ර සෙනෙහයක් දක්වනවා වෙන්ට පුළුවනි. එයාට තියෙන්නෙ වැයිගිය හදවතක්... එයා සාෂෙන්කාව විවාහ කරගන්ට යනවලු. එහෙත් මට, අම්මාට ඒ බව දැන්නුවේ නැහැ...''

''ඒක එහෙම නොවෙයි!'' හොහොල් කිවේ විරුද්ධත්වය ප්‍රකාශ කරන්ට මෙනි. ''ඒ ගැන මම හොඳට දන්නවා. එහෙම නොවෙයි. ඔහු ඈට ආලය කරනවා. ඈත් ඔහුට ආදරෙයි. කසාද බඳින්නේ නැහැ. ඈ කැමතියි. ඒ වුණාට පාවෙල් කැමති නැහැ...''

"ඒකත් එහෙමද?" යි අම්මා ඇසුවේ කල්පනාකාරී බවකින් යුතුවය. ඇගේ දුක් සහිත බැල්ම හොහොල් දෙසට යොමුවිය. "ඔව්! එහෙමද? මිනිසුන් වෙනුවෙන් පරිත්‍යාග කරනව..."

"පාවෙල් දුර්ලභ වර්ගයක මිනිහෙක්! වානේ කඳක් වගෙ", යැයි හොහොල් කීවේ සෙමිනි.

"දැන් එයා හිරේ වැටිල ඉන්නව!" අම්මා කල්පනාකාරී ලෙස පැවසුවාය: "ඒක අවදානම්, ඒක වගේම බියගෙන දෙන වැඩක්. ඒ වුණත් එතරම් බයානක නෑ! මුළු ජීවිතය ඔහොම නොවෙයි. එහෙත් දැන්, අමුතු විදියෙන බයක්. හැමදෙනාම නිසා අවදානමක් ඇති වෙලා. හදවත වෙනස් වෙලා. ආධ්‍යාත්මය ඇස් ඇර බැලීමට සැලැස්සුවා. මට බොහෝ දේවල් තේරෙන්නෙත් නැහැ. උඹලා දෙවියන් වහන්සේව විශ්වාස කරන්නෙ නැති එක මගෙ හිතට බොහොම ලොකු වේදනාවක් ගෙන දෙනව. මොනව කරන්ටද! ඒ වුණාට උඹල හොඳ මිනිස්සු බව මට පේනව. උඹල ජනතාව වෙනුවෙන් ජීවිතය කැප කරල ඇත්ත යුක්තිය සඳහා සටන් කරනව. උඹලගෙ ඇත්ත මට අවබෝධ වෙනවා. ධනපතියො ඉන්නා තුරු ඇත්ත යුක්තියත් නැහැ, ප්‍රීතියත් නැහැ! ඔන්න දැන් මම උඹලගෙ මැද ජීවත් වෙනව. සමහර දවස්වලට රෑට නැගිට මම හිතන්ට පටන් ගන්නවා. මගේ තරුණවිය, පයින් පාගා දමූ මගේ හදවත මතක් වී විශාල වේදනාවක් ඇති වෙනවා, එහෙත් දැන් ජීවිතය වඩා හොඳයි. මට කාරණා කාරණා අවබෝධ වෙගෙන එනවා..."

නැගිට සිටි හොහොල් අඩි ශබ්ද නොඇසෙනසේ සෙමින් කාමරය තුළ ඇවිදින්නට විය. ඔහු උසය, කෙට්ටුය, කල්පනාකාරීය.

"අම්මේ, ඔබ හොඳ කතාවක් කිව්වා. අගෙයි. කෝර්ච් නගරයේ තරුණ යුදෙව්වෙක් හිටියා. එයා ලිව කවියක මෙහෙම අදහසක් තිබුණා:

"නිරපරාදේ මරා දමුණු අයට

යුක්තිය යළි පණ දෙනවා!.." මෙවැනි අදහස් ඇති කවි ලියපු ඒ තරුණයාව කෝර්ච් නගරයේ පොලිසිය මරා දැමුවා. මා කියන්ට යන්නේ ඒ ගැන නොවේ. එයා ඇත්ත යුක්තිය සොයා දැනගෙන ජනතාවට ඒව බෙද දුන්නා. අම්මා, ඔබත් නිරපරාදේ මරා දමාපු කෙනෙක්..."

"ඔන්න දැන් මා කතාකරන අතර මම, මටම ඇහුම්කන් දෙනවා. මටම විශ්වාස කරන්ට බැහැ. මම ජීවිතය ගත කළේ කොහොම හරි දවස ගෙවා ගන්නයි. අයිනක් අල්ලා ගෙන බේරිලා ඉන්නයි නිතර බැලුවෙ. දැන් මම හැම දෙයක් ගැනම කල්පනා කරනව. මට උඹලගෙ අදහස් නොතේරෙනවා වෙන්ට පුළුවනි. හැම දෙනෙක්ම මගෙ හදවතට කිට්ටු



උදවිය. හැම දෙනාටම මම අනුකම්පා කරනව. හැම දෙනාටම සුව පතනව. උඹට, අන්ද්‍රෑෂා, විශේෂයෙන් සුව, සැප පතනවා!.."

ඔහු ඈ ළඟට විත් මෙසේ කීය:

"ස්තුතියි!"

ඔහු අම්මාගේ අත ගෙන පිරිමැද ඉවත ගියේය. හදවත කැළඹී ගිය නිසා විඩාවට පත් අම්මා කලබල නොවී සෙමින් පිඟන් කෝප්ප සෝදන්ට වූවාය. ඇගේ හදවත තුළ අමුතු ශක්තියක් හා උණුසුම් බවක් ඇති විය.

හොහොල් කාමරය තුළ ඔබ මොබ යමින් කතා කරන්ට විය:

"නෙන්කො, වෙසොව්ෂිකොව් සමග කතා කරලා එයාගෙ හෘදවස්තුව මොළොක් කරන්ට. එයාගෙ තාත්තාත් හිරේ වැටිල ඉන්නව. පුංචි, නරක නාකි මිනිහෙක්. මිනිහ තාත්තට බනිනව ජනේල ළඟට වෙලා හිටගෙන ඒක හොඳ නැහැ! එයා කරුණාවන්තයි. මිනිහා බල්ලන්ට පවා ආදරෙයි. කුඩා සතුන්ට ආදරෙයි. ඒ වුණාට මිනිසුන් කෙරෙහි කරුණාවක් දක්වන්නේ නැහැ. මිනිහා නරක් වෙන තරම කොපමණද!"

"එයාගෙ අම්මා ආ ගිය අතක් නැහැ! තාත්තා හොර දෙටුවා," අම්මා කීවේ කල්පනාවකින් යුතුවය.

අන්ද්‍රේ නිද ගැනීමට සැරසුණු විට ඔහුට නොපෙණෙන ලෙස ඈ ඔහු ඉදිරියේ කුරුසියේ ලකුණ ඇන්දේ පුරුද්ද නිසාය. ඔහු ඇඳෙහි වැතිර පැ බාගයක් පමණ ගියපසු ඈ මෙසේ කොඳුලාය:

"අන්ද්‍රෑෂා, උඹ නිදිද?"

"නැහැ මොකො?"

"සුබ රාත්‍රියක් වේවා!"

"ස්තුතියි, නෙන්කො, ස්තුතියි!" ඔහු කීවේ කෘතඥතාවය පිරි හදවතකිනි.

## XVII

පසුද නිලවනා කෑම බීම පුරවා ගත් කදත් රැගෙන කම්හල් ගේට්ටුව ළඟට ආ විට, මුරකරුවෝ ඇට සැරවී නවතින ලෙස අණ කළෝය. කද බිම තැබූ පසු, එය හොඳ හැටි පරීක්ෂා කරන ලදී.

"කෑම බීම නිවිලා හීතල වේවි, හෙමිහට," අම්මා කී නමුදු මුරකරුවා ඈ හැඳ සිටි වස්ත්‍ර අත ගා බලමින් දිගටම පරීක්ෂා කරන්ට විය.

"කට වහපන්!" මුරකාරයා ගුගුළේය.

අනික් මුරකාරයා ඇගේ උරහිස අල්ලා තල්ලු කරමින් යගයා අමතා මෙසේ කීවේය:

''මම කීවේ වැටෙන් එහා ඉදගෙන විසි කරනවයි කියල!''

ඇ වෙත පළමුවෙන්ම ආවේ මහලු සියෝව්ය. වටපිට බැලූ හෙතෙම සෙමින් මෙසේ විමසුවේය:

' අම්මේ ආරංචිද?''

''මොනවද?''

''පත්‍රිකා ආයිමත් බෙදූ හැරල! හරියට පාන්වලට යුණු දම්මා වගෙ හැම තැනම විසිර ගිහිං. මදයි ගෙවල් හෝදිසි කරල සිරබාරයට ගත්තා. මගේ බෑණා මාසින්ව හිරබාරෙට ගත්තා, ඉතින් මොකද වුණේ? උඹගෙ පුතාවත් හිර අඩස්සියට ගත්තා. පත්‍රිකා බෙදන්නෙ උන් නොවන බව දන් පේනව නේද!''

තමාගේ යටි රැවුළ අත ගාමින් සියෝව් ඇ දෙස බලා සිට ඉවත යමින් මෙසේ කීවේය:

''අපේ දිහාට එන්න. තනියම සිටීම පාළු වැඩක් නෙව්...''

ඔහුට ස්තූති කළ ඇ කැම වර්ගවල නම් කියමින් හඬ නගා කෑ ගැසුවාය. කම්හල තුළ මින් පෙර නොදුටු විරූ කැළඹීමක් ඇතිවී තිබෙන සැටි ඇට නොපෙනෙන්නේ නොවේ. මිනිසුන් අමුතු උනන්දුවකින් මෙන් එක්රැස් වන සැටිත්, නැවත විසිර යන සැටිත්, වැඩහලෙන් වැඩහලට දුවන සැටිත් ඇගේ සූක්ෂම ඇස්වලට හසු වේ. දුම් සහිත සුළගේ ප්‍රීතියෙන් හා ධෛර්යයෙන් පිරි යමක් පාවෙන්නාක් මෙන් හැගේ. තැනින් තැන දිරිගන්වන වචන සහ උපහාසාත්මක වදන්ද ඇසිණ. මහලු කම්කරුවෝ ප්‍රවේසම් සහිතව මඳ සිනා පෑහ. පාලකයෝ කනස්සලු ගතියෙන් යුතුව ඒ මේ අත ඇවිද්දහ. පොලිස් බටයන් දුවන සැටි දකින කම්කරුවෝ විසිර යති, නැතිනම් කතා කිරීම නවත්වා නිහඬ වෙති. කුපිතවූ පොලිස් බටයන් දෙස ඔවුන් නිහඬ බැලුම් හෙළන්නේ, ගොළුවන් මෙනි.

කම්කරුවන් මුණ කට, අත පය සෝදගෙන පිරිසුදුව සිටි සැටියකි. ගුසෙව් බැයන්ගේ වැඩිමලා උසය. ඔහු එන සැටි පෙනේ. බාලයාද ඔහු පිටුපස තාරාවෙකු මෙන් ගමන් කරන්නේ, කොක් හඬලා සිනාසෙන්නට විය.

වඩු මඩුවේ ලොකු බාස් — වව්ලොව් සහ වේලාව සටහන් කරන්නා වූ ඉසායිද් අම්මා අසලින් සෙමින් ගියෝය. කුඩා මිනිහෙකු වූ ඉසායි හිස, උඩුබැලි අතට හරවා ගෙන ලොකු වඩුබාස්ගේ ඉදිමුණු මුහුණ දෙස බලා තම යටි රැවුළ ගස්සමින් මෙසේ කීය:

''බලන්නකො, ඉවාන් ඉවානිච් ඒ ගොල්ල හිනා වෙනව. ඩිරෙක්ටර් තුමා කිව වගෙ දන් ප්‍රශ්නය ආණ්ඩුව විභාග කරන තැනට ඇවිත් තියෙන්නෙ. ඉවාන් ඉවානිච්! බලාගෙන ඉදල බෑ. දන් තියෙන්නෙ වල් පැලෑටි උදුරන එක නොවෙයි, එහෙම පිටින්ම උදුලු ගාන්නයි...''

අත් පිටිතලා කොට බැඳගෙන ගමන් කළ වව්ලොව්ගේ අත්වල ඇඟිලි දුඩි ලෙස වෙලී තිබිණි...

''බැල්ලිගෙ පුතා! උඹට ඕන උලව්වක් උඹ අච්චු ගහපං, හැබැයි මා ගැන ලිව්වොත් උඹ සුං!'' වව්ලොව් මහ හඬින් කෑ ගැසීය. වසිලි ගුසෙව් අම්මා වෙත ආවේය: ''අදත් උඹෙන් දවල් කෑම කනවා. හොඳ රසයි!''

ඉක්බිති ඇස් හකුළුවා ගෙන පහත් හඬකින් කතා කළ හෙතෙම මෙසේ පැවසීය:

''ඉලක්කෙට වැදිල... අනේ අම්මේ, යස වැඩේ!''

අම්මා සුරතල් ලෙස ඔහු දෙස බලා හිස වැනුවාය. කම්කරු ජනපදයේ අතිශයින්ම මුරණ්ඩු ගැටවරයා හැටියට ප්‍රසිද්ධ මේ කම්කරුවා ඇ අමතා ගරු-සරු ලෙස කතා කිරීමත් කම්හලේ පොදු කැළඹීමත් ඇගේ සිත් ගත්තාය. ඇ තමා ගැන සිතන්නට වූවාය:

''මේ වැඩේ කළේ මම නොවේද...''

අම්මා සිටි තැනට නුදුරින් කුලිකරුවෝ තිදෙනෙක් නැවතී හෙමින් කතා කරන්ට වූහ.

''සොයාගන්ට බැරි වුණා...''

''අහගෙන ඉන්ට ඇත්නම්! මට අකුරු කියවන්ට බැහැ. ඒ වුණාට මට පේනවා පත්‍රිකාවලින් උන්ගෙ කන රත් වෙන්ට ගහල තියෙන බව!..'' අනිකා කීය.

තෙවැන්නා වටපිට බලා කොඳුලේය:

''බොයිලේරු කම්මලට යමු...''

''නවම වැඩ සිද්ද වෙනවා'' එක් ඇසක් අඩවන් කළ ගුසෙව් පැවසීය.

නීලව්නා ගෙදර ප්‍රීතියෙන් යුතුවආවාය.

''මිනිසුන් අකුරු දන්නේ නැති නිසා කනගාටු වෙනවා'' යැයි අන්ද්‍රේ අමතා කී අම්මා මෙසේද තෙපළාය: ''තරුණ කාලෙදී මට කියවන්ට පුළුවන්කම තිබුනා, දන් අමතක වෙලා...''

''ඉගෙන ගන්ට'' අන්ද්‍රේ යෝජනා කළේය.

''මගෙ වයසෙ හැටියට ඉගෙන ගන්ට ගියොත් මිනිස්සු හිනාවේවි!''

පොත් රාක්කයෙන් පොතක් අතට ගත් අන්ද්‍රේ එහි කවරයේ තිබෙන අකුරක් පෙන්නා එය කුමක්දැයි ඇසීය.

''ර!'' ඇ කීවේ සිනා සෙමිනි.

''මේ අකුර?''

''ආ...''

ඇ අමනාපයට පත් වූ අතර ඇට අපහසු බවක්ද දැනිණි. අන්ද්‍රේගේ ඇස් තමා දෙස බලමින් රහසේ සිනාවෙන හැටියකි අම්මාට දැනෙන්නේ ඇ ඔහු දෙස නොබලා සිටීමට වෑයම් කළාය. එහෙත් ඔහුගේ කටහඬ ශාන්තය, මෘදුය, විලාසය බැරෑරුම්ය.

''අන්ද්‍රෑෂා, උඹ ඇත්තටම මට අකුරු උගන්වන්ට හදනවාද?'' ඇ ඇසුවේ සිනහ මුහුණින් යුතුවය.

''ඇත්තටම. ඔබ මීට ඉස්සෙල්ලා අකුරු දැනගෙන හිටියා නොවැ. හාස්කමක් නැති වුණාට පාඩුවක් වෙන්නේ නැහැ. හාස්කමක් ඇති වුණොත් එයින් හානියක් වෙන්නෙත් නැහැ!''

''ඒ වුණාට මෙහෙම කතාවකුත් තියනව. දේව රූපය දිහා බැලූ පමණින් ශුද්ධ වන්තයෙක් වෙන්නේ නැහැ!''

'ආ! කට කතා බොහොම තියනව. අඩුවෙන් දැන ගන්න තරමට සැපට නින්ද යනව. ඒ කතාව හරි නැතිද? ආප්තෝපදෙශ, ප්‍රස්තාව පිරුළු සියල්ලම බඩගින්න විහින් හොයාගෙන තියෙන්නෙ. කුසගින්න අධ්‍යාත්මය පාලනය කරන්නෙ හරියට අශ්වයෙකුගෙ කටකලියාවෙන් ඇදල ඌව මෙල්ල කරන විදියටයි. හොඳයි, මේ අකුර මොකක්ද?'' හොහොල් ඇසුවේය.

''ල'', යැයි අම්මා කීවාය.

''ඔන්න ඒ අකුර විහිදිලා ගිහිල්ල තියෙන සැටි. මේ අකුර?''

ඇස් පෙනීම දුර්වල නිසා ඇ නිතර ඇස් බැම් උස් පහත් කරමින් අමතකවූ අකුරු මතක් කිරීමට වෑයම කරන්නී, තමා කියැවීම සඳහා පරිශ්‍රමයක් දරණ බව අමතක කළාය. අක්මනින්ම ඇගේ ඇස් විඩාවට පත් විය. කඳුළු ගැලීම පළමුවෙන්ම පටන් ගත්තේ ඇස් විඩාපත් වූ බැවින් වුවද පසුව සිත් තැවුල නිසා ඇ අඬන්නට වූවාය.

''අකුරු කියවන්ට ඉගෙන ගන්නව! මට අවුරුදු හතලිහක් වෙනව. දැනුයි අකුරු කියන්ට පටන් ගන්නෙ...'' යැයි දිග සුසුමක් හෙළමින් කීවාය.

''අඬන්ට එපා'' හොහොල් කීවේ දයාබර ගතියක් පාමිනි. ''ඔබට වෙන විධියකට ජීවත් වෙන්ට පුළුවන්කමක් තිබුනේ නැහැ. ඒ වුණත් අයහපත් විදියට ජීවත් වුණ බව දැන් තේරෙනවා නොවැ. මිනිස්සු දහස් ගණනකට පුළුවන් ඔබට වැඩිය හොඳට ජීවත් වෙන්ට, ඒ වුණාට හරක් වගෙයි උන් ජීවත් වෙන්නෙ. එහෙම තිබියදිත් තමන් හොඳින් 'ජීවත් වන බව කියමින් උන් පුරසාරම් දෙඩවනවා! මොකක්ද තියෙන හොඳේ? අද වැඩ කළොත් බඩගිනි නිවා ගත හැකි, හෙට වැඩ කළොත් ඒ විධියමයි, මුළු ජීවිත කාලයෙම වැඩ කලත් ඒ ආකාරයට තමයි බඩගිනි නිවා ගන්ට පුළුවන්. ඒ අතර මිනිස්සු දරුවන් බෝ කරනව. කුඩා කාලෙදි දරු හුරතල්



බලනව, උන් ලොකු වෙන විට, වැඩි වැඩියෙන් කෑම ඉල්ලන කොට මිනිස්සු තරහ වෙනව. කෑදරයො වගෙ නොකා ඉක්මනට හැදිලා වැඩිලා වැඩ කරපල්ලා කියල ළමුන්ට බැණ වදිනව! ළමයි ගෙදර හීලෑ සතුන් බවට පත් නොවන්නෙ උන් යම්තම් ලොකු වුණ හැටිය බඩගිනි නිවා ගන්ට හරි හම්බ කරන නිසයි. ඉතින් ඔය විදියට නැවත ජීවිතය ගෙවෙන්ට පටන් ගන්නව; එහෙත් නියම මිනිස්සු, මිනිස් බුද්ධිය යොදවා වහල් බැමි කඩා දමන්ට ඉදිරිපත් වෙනව. දැන් ඔබත්, අම්මෙ, ස්ව-ශක්තියෙන් ඒ කාරිය කරන්ට ඉදිරිපත් වී ඉන්නවා.''

''මම, ඒ වැඩේ?'' ඇ දිග සුසුමක් හෙළුවාය... ''මම කොහින්ද?''

''ඇයි නැත්තෙ? හරියට වැස්සක් වගෙ, හැම වැහි පොදක්ම වී ඇටය පෝෂ්‍ය කරනව. ඔබ කියවන්න...''

සිනාසෙමින් නැගී සිටි ඔහු කාමරය තුළ ඔබමොබ ඇවිදින්ට විය.

''ඔව්! ඉගෙනගන්ට. පුතා පාවෙල් ඒවි, ඔබට එතකොට කියවන හැකි.''

''අනේ, අන්ද්‍රෑෂා, තරුණ කාලෙදි ඔව ලේසි වැඩ. වයසට යන කොට දුක් කරදර වැඩි වෙනව, හයිය හත්තිය අඩු වෙනව, කල්පනා ශක්තිය, නුවණ නැත්තටම නැති වෙලා යනවා...'' යැයි අම්මා කීවාය.

## XVIII

සවස හොහොල් ගෙයින් පිටත ගියේය. අම්මා ලාම්පුව දල්වා මේස් කුට්ටමක් ගොතන්ට සැරසුණාය. එහෙත් නැගී සිටි ඇ ඒ මේ අත ඇවිදිමින් සිට, අනතුරුව දෙර අගුළුලා ඇස් බැමි උස්පහත් කරමින් කල්පනා කරන්ට වූවාය. ජනේල රෙදි තිවෙලින් වසා, පොත් රාක්කයෙන් පොතක් ප්‍රවේසමින් ගෙන කියවන්නට සැරසුණු ඇ නැඹුරුවී මහත් ඕනෑකමකින් අකුරු දෙස බලත්ම, ඇගේ දෙතොල් වෙවුලන්ට විය. ගෙයින් පිටත හඬක් ඇසුනෙත් ඇ පොත අතින් වසාගෙන එයට සවන් දුන්නේ සුපරීක්ෂාකාරී ලෙසය... වරෙක ඇස් විදහා ගනිමින්ද, තවත් වරෙක ඇස් හකුළුවා ගනිමින්ද තොල මතුරන්ට වූවාය...

''පී... යි... යි...''

කවුදෝ දෙරට තට්ටු කරන හඬක් ඇසිණි. හනික නැගී සිටි ඇ අත තිබූ පොත, රාක්කය මත තබා බියවූ කලෙක මෙන් හඬ නගා කතා කළාය:

''කවුද ඔතන?''

''මම...''

රිබින් ගෙට ඇතුළු වූයේ යටි රැවුළ අත ගාමිනි. ඔහුගේ පෙනුම දැඩිය:

''ඉස්සර දෙර හැරියෙ ප්‍රශ්න අහන්නෙ නැතුව. දැන් තනියමද? ඔන්න. මම හිතුවා හොහොල් ගෙදර ඉන්නවයි කියල. මම අද එයාව දැක්ක... හිරගෙදර නිසා මිනිහා නරක් වෙලා නැහැ.''

වාඩි වුණු ඔහු අම්මා අමතා මෙසේ කීය:

''අපි කතා කරමු...''

ඔහු තේරුම් සහිතව රහසක් කියන්නාක් මෙන් සිය කතාව පටන් ගත්තේ අම්මා තුළ නොසන්සුන්තාවයක් ඇති කරවමිනි.

''හැම දේකටම සල්ලි ඕනෑ!'' ඔහු සිය ගෙරෝසු හඬින් කීය. ''පිනට උපදින්නෙත් නැහැ, මැරෙන්නෙත් නැහැ. ඔන්න, පොත් පත්‍රිකා අච්චු ගහන්ටත් සල්ලි ඕන. උඹ දන්නවද කොහෙන්ද ඒවට සල්ලි ලැබෙන්නෙ?''

''මං දන්නේ නෑ'' යැයි අම්මා කීවේ කිසියම් අවදනමක් ළංව එන හැඟීමකින් යුතුවය.

''එහෙමද, මම දන්නෙත් නැහැ. දෙවැනි කාරණය — කවුද ඕව ලියන්නෙ?''

''උගත් අය...''

''මහත්තුරු'' යැයි රිබින් හඬ නැගුවේය. යටි රැවුළක් ඇති ඔහුගේ මුහුණ රත් පැහැ ගත්තේය. ''මහත්තුරු පොත් ලියල ඒව බෙද හරිනව. ඒ පොත්වල ලියල තියෙන්නෙ ලොක්කන්ට විරුද්ධව. දැන් ඉතින් මට පැහැදිලි කරල කියපන්, ඔය විදියට තමන්ට විරුද්ධව මහජනයව කුප්පන්ට සල්ලි වියදම් කිරීමේ ප්‍රයෝජනේ මොකක්ද කියල?''

ඇස් අඩවන් කරගත් අම්මා බිය වූ කලෙක මෙන් කෑ ගැසුවාය:

''උඹ හිතන්නෙ මොනවද?..''

''ඔන්න හොරේ! මම ඔය ගැන හිතුව විතරයි මගේ ඇඟපත කිළිපොළා ගෙන ගියා.'' යැයි කී රිබින් වලසෙකු මෙන් හැරුනේය

''මොනවා හරි දැන ගත්තද?''

''රැවටීම! මුළාකරන බව දැනෙනවා. මම කිසිදෙයක් දන්නෙ නැහැ. ඒ වුණාට බොරුවෙන් මුළාකරන බව හැඟෙනවා. ඔන්න. ලොකු මහත්තුරු මොකක්දෝ සටකපට උපායක් යොදන හැඩයි. මට ඕන ඇත්ත දැන ගන්ට. ලොක්කන්ට මම පක්ස නැහැ. උවමනා වෙලාවට උන් මාව ඉස්සරහට විසි කරාවි. පාලමක් උඩින් යන්නා වගෙ මගෙ ඇඟ උඩින් යාවි...''

මුසල අදහස්වලින් ඔහු ඇගේ හදවත බැඳ දැම්මේය.



''දෙවියනේ! පාෂාට ඒ ගැන අවබෝධක් නැතිද? අනිත් අයට...'' අම්මා කම්පාවූ හදවතකින් යුතුව සිතන්ට වූවාය.

ඇ ඉදිරියේ අවංක පුද්ගලයන්ගේ මුහුණු —යෙගෝර්ගේ, නිකොලයි ඉවානවිච්ගේ, සාෂෙන්කා ආදීන්ගේ සේයාවන් මැවී පෙණුනෙන්, ඇගේ හදවත සැලෙන්නට විය.

''අපොයි නැහැ! මට විශ්වාස කරන්ට බැහැ. ඒ ගොල්ල අවංකව හිතට එකඟව වැඩ කරන්නෙ,'' අම්මා කීවේ වේගයෙනි.

''උඹ කා ගැනද කියන්නෙ?'' කල්පනාකාරී ලෙස රිබින් ඇසුවේය.

''සියලු දෙනා ගැනම. මා දුටු හැම දෙනා ගැනම!''

''එතැනින් නවතින්ට එපා, අම්මේ. දුර බලාපන්. අප ළඟට ඇවිත් වැඩ කරන උදවිය කිසිවක් දන්නේ නැතුව වෙන්ට පුළුවන්. ඔවුන් විශ්වාස කරනව. එවුන්ට පිටුපස්සෙ ලාබ විතරක් ලබා ගැනීමට වැඩ කරන අය ඉන්ට පුළුවනි. මිනිහා තමාට එදිරිව නිකරුණේ වැඩ කරන්නේ නැහැ...'' රිබින් කීවේ හිස සාත් කරගනිමින්ය.

ගොවියෙකුගේ දැඩි විශ්වාසයක් සමග ඔහු වැඩිදුරටත් මෙසේ කීය:

''ලොක්කන්ගෙන් අපට කවරදාකවත් හොඳක් නම් සිද්ද වෙන්නෙ නැහැ!''

''ඉතින් උඹ මොනවද කරන්ට යන්නෙ?'' අම්මා ඇසුවේ සැක සිතිනි.

''මම?'' මෙසේ ප්‍රශ්න කළ රිබින් ඇ දෙස පුදුමව බලා මඳ වෙලාවක් නිසලව සිට කතා කළේය:

''ලොක්කන්ගෙන් ඈත් වෙලා ඉන්ට ඕන. ඔන්න.''

අනාතුරුව කණස්සලු බවකින් යුතුව හෙතෙම මෙසේද පැවසීය:

''මම ගැටවරයින් සමග එක්-වීමට හිතා හිටියා. මට ඒ වැඩ පුළුවන්. ඒව ගැන දන්නව. මහජනයට මොනවද කියන්ට ඕන කියල දන්නව. ඔන්න! දැන් ඉතින් මම යන්නම්. මට විශ්වාස කරන්ට බෑ. යන්ට ඕන.''

ඔහු හිස පාත් කර ගෙන කල්පනා කළේය.

''තනියම යනව ගම් ගානේ, නියම් ගම් ගානේ. ජනතාව ලවා කැරළි ගස්වන්නම්. ජනතාව තම කාරිය ඉටු කළ යුතුය. ජනතාවට තේරුම් ගත හැකි නම් ඔවුන් මග සොයා ගනීවි. ජනතාවට තේරුම් ගත හැකි වන ලෙස මම උත්සාහ දරන්නම්. තමන් මත විනා වෙන කා ගැන හෝ බලාපොරොත්තු ඇතිකර ගන්ට බැරිය. තමන්ගෙ දැනීම හැර වෙන දෙයක් නැහැ. ඔන්න එහෙමයි!''

ඔහු නිසා ඇ තුළ උපන්නේ දැඩි අනුකම්පාවක් සහ බියකි. නිතරම අප්‍රිය ගතියක් ගෙනදුන් ඔහු, හදිසියෙන්ම තමාට ළං වූ පුද්ගලයෙකු බවට පත්වූ සැටි අම්මාට දැනිණි. ඇ සෙමින් කතා කළාය:

"උඹව අල්ලාගනීවි..."

ඈ දෙස බැලූ රිබින් පිළිතුරු දුන්නේ සංසුන්වය:

"හිරේ දමාවි. නැවත නිදහස් කරාවි, ආයෙමත් වැඩ කරනව."

"නුගත් ගොවියො උඹව අල්ලා ගෙන කඹවලින් බැඳලා සිරගෙදරට ගෙනියාවි..."

"සිරගෙදරට ගෙනි යාවි. එළියට ඇවිත් ආපහු හිරේට යන්න සිද්ද වෙවි. නුගත් ගොවියා එක වරක් දෙවරක් එහෙම කළාට පස්සේ ඒ ගොල්ලන්ට අවබෝධ වෙවි. මාව කඹවලින් වෙළනවා වෙනුව උන් මට කන්දේවි. මම උන්ට මෙහෙම කියනව: 'උඹලා මාව විශ්වාස කරන්ට එපා. මට කන් දී අසා සිටපල්ලා.' එහෙම මම කියන දේ අසා සිටියොත් පසුව උන් විශ්වාස කරාවි!"

ඔහු මේ වචන කීවේ සෙනිම්.. හැම වචනයක්ම පරීක්ෂාකාරී ලෙස තෝරා ගත් සැටියකි එයින් පෙනී ගියේ.

"පහුගිය දවස්වල මට බොහොම දේවල් ගැන අවබෝධයක් ඇති වුණා..."

"අනේ මිඛයිල් ඉවානවිච්, උඹ නැති වෙන්ටයි යන්නේ!" හිස වැනූ ඈ දුක්බර හඬකින් තෙපළාය.

ඔහු ඈ දෙස බැලුවේ කළු පැහැති දෙනෙත් විදහා ගෙන ප්‍රශ්නයක් අසා පිළිතුරු බලාපොරොත්තුවෙන් සිටින විලාසයකිනි. සවිබලැති ඔහුගේ දේහය මදක් ඉදිරියට නැමුරු වී තිබුණ අතර දෑත් පුටු ඇන්දට හේත්තු වී තිබිණි. දැලි කළු රැවුළ සමග ඔහුගේ මුහුණ සසඳා බලන විට, එය මලානික ගතියක් හැඟෙවිය.

"පේසු ස්වාමිදරුවො ධාන්‍ය ගැන කිව කතාව දන්නව නේද? මැරෙන්නෙ නැතිව අලුතු වී කරලකට අළුත් ප්‍රාණයක් දෙන්ට බැහැ. මම ලේසියෙන් මැරෙන්නෙ නැහැ. මම උපාය දක්සයි!"

පුටුව මත වාඩි වී සිටි හෙතෙම ඒ මේ අත හැරී පසුව සෙමින් නැගී සිට ගත්තේය.

"හැබෑරුමට ගිනි මිනිස්සු අතරට වෙලා ඉන්නම්. හොහොල් මොකද එන්නේ නැත්තෙ? ආයෙමත් වැඩ කරනවද?"

"ඔව්!" අම්මා පිළිතුරු දුන්නේ මද සිනාවකින් මුව සරසා ගනිමිනි.

"වැඩ කරන්ට ඕන. මා ගැන එයාට කියන්න..."

දෙදෙනාම උරනුර හැටි කුස්සිය දෙසට සෙමින් ගමන් කළෝය. දෙදෙනා අතර හුවමාරු වූයේ වචන කීපයක් පමණකි.

"ආයුබෝවන්!"

"ආයුබෝවන්, උඹ පඩි මුදල් ඔක්කොම ලබා ගන්නෙ කවදද?.."



"ලබා ගත ඉවරයි."

"කවදද යන්නෙ?"

"හෙට උදේ හිමිදිරි පාන්දර, ආයුබෝවන්!"

අකමැත්තෙන් මෙන් පිටි කොන්ද නමාගත් හෙතෙම ඉස්තෝප්පුවෙන් පිට විය. දොර ළඟ සිටගත් අම්මා ඉවත යන රිබින්ගේ අඩි ශබ්දයට මොහොතක් සවන් දී සිටින්නී, මහත් වූ දුක්බර හදවතකින් යුතුව නැඩුනාය. නිසලව කාමරයට ගිය ඈ ජනේල දොරද ඉවත් කොට පිටත බැලුවාය. ජනේල වීදුරුවෙන් එපිට ගොළු අඳුරකි.

"රාත්‍රී ජීවිතය!" ඈ සිතුවාය.

බැරෑරුම් එහෙත් සවිබලැති ඒ යෝධයා නිසා ඈ තුළ උපන්නේ අනුකම්පාවකි.

අන්ද්‍රේ ගෙදර ආවේ සන්තෝෂයෙන් හා ප්‍රීතියෙන් යුතුවය.

ඈ රිබින් පිළිබඳ තොරතුරු ඔහුට කීවාය. හොහොල් වෙගවත් ලෙස කතා කළේය:

"ගියාවෙ ගම්වලට, ගිනි ඇත්ත පහද දීලා කැරළි ඇති කළාවෙ. එයාට අප සමග වැඩ කිරීම අමාරුයි. එයා ගොවියන් ගැන අමුතු අදහස් ඇති කරගෙන ඉන්නව. එයාගෙ ඔළුවෙ අපේ අදහස්වලට ඉඩ නැහැ..."

"එයා ලොකු මහත්වරු ගැන කීවා. ඒ අදහස්වල මොනවාහරි තියෙන බවයි මගේ වැටහීම" ප්‍රවේසමින් එසේ කී අම්මා "උන් උඹලාව රවටනවා වෙන්ට පුළුවනි" යැයිද පැවසුවාය.

"රැවටීමක්?" හොහොල් සිනාසුණේය. "අනේ නොන්නො, සල්ලි අපේ ළඟ සල්ලි තිබුනා නම්! අපි තවමත් අනුන්ගෙ සල්ලිවලින් තමයි ජීවත් වෙන්නෙ. නිකොලායි ඉවානවිච් මාසෙකට රූබල් 75ක් පඩි ගන්නවා. අපට රූබල් 50ක් දෙනව මාස්පතා. අනිත් අයත් ඒ වගේමයි. සමහර වෙලාවට සරසවිවල ඉගෙන ගන්නා ශිෂ්‍යයෝ සුළු මුදලක් එකතු කරල එවනව. මහත්වරු වර්ග කීපයක්. සමහරු රවටනව, අනික් එවුන් පසු බහිනවා. අප සමග එන්නෙ ඉතාම අවංක කොටස් විතරයි..."

දැන් එක්කොට අත් පුඩියක් ගැසූ හෙතෙම දිගටම කතා කළේය:

"අපේ උත්සවයට රාජාලියෝ එන්නේ නැහැ. ඒ වුණාට අපි පොඩි පගේ මැයි දින උත්සවයක් ලෑස්ති කරනවා! හොඳට හිටීවී!"

රිබින්ගේ කතාව නිසා ඇති වූ අන්තරාදයක හැඟීම හොහොල්ගේ ප්‍රීතිදායක ආරංචිය නිසා මදක් තුනී විය. කාමරය තුළ ඔබමොබ ඇවිදිමින් හිය අත ගාමින් සහ බිම බලමින් කතා කළ හොහොල් මෙසේද කීය:

"සමහර වෙලාවට අරුම පුදුම හැඟීමක් හදවත තුළ ඇති වෙනව. කොහේ ගියත් හමුවන්නෙ සහෝදරයින්වයි. එකම හැඟීමකින් යුතුව

කතා කරනව, හැමදෙනාම ප්‍රීතියෙන්, දයාවෙන් පිරිලා. තේජාන්විත උදවිය. එකිනෙකා අවබෝධ කරගන්ට වචන ඕන නැහැ. එකම නඩයක් වගෙ ජීවත් වෙනව. හැමදෙනාගෙම හදවත් තුළ රැව්දෙන්නෙ එකම ගීතයක්. මේ හැම ගීතයක්ම උල්පත් වගෙ ගලා ගෙන ඇවිල්ල එකම විශාල ගංගාවකට එකතු වෙනව. ඒ ගංගාව ගලා ගෙන ගිහිං නිදහස හා යහපත් ජීවිතය නැමති මහා සාගරයට වැටෙනව.''

අම්මා සිටි තැනින් සෙලවෙන්නේ නැතිව හොහොල්ගේ කතාවට කන් දී සිටියේ, ඔහුට බාධාවේය යන සැකයෙනි. අනිත් අයවලුන්ගේ කතාවලට වඩා වැඩි සැලකිලි දැක්වමින් ඈ ඔහුගේ කතා අසන්නීය. හැමදෙනාටම වඩා වාම් ලෙස කතා කරන ඔහු අම්මාගේ හදවත කිලිපොළා යන අන්දමේ වචන බිණීමෙහි සමතෙකි. අනාගතයේ තමා දකින දේ පාවෙල් කිසි දිනෙක කීවේ නැත. එහෙත් මේ පුද්ගලයාගේ හදවතේ කොටසක් අනාගතයේ හැම දම තිබුණු බව අම්මාට හැඟේ. ලෝකයේ සියලුම රටවල ජනතාවගේ සුන්දර අනාගත උත්සවයක් ගැන හෙතෙම විස්තර කළේය. තම පුතාගේ සහ සගයින්ගේ වැඩ පිළිබඳ විස්තරයක් ඔහුගේ මේ කතාවෙන් ඇට ලැබිණි.

''පිබිදෙන්නැ'' යි හොහොල් කීවේ තම හිස වනමිනි. ''වටපිට බලන්න! අපවිත්‍ර බව සහ සීත! හැම දෙනාම විඩා පත්වී කෝපවී ඉන්නා සැටි...''

මහත්වූ දුක්බර ගතියකින් යුතුව හෙතෙම මෙසේද කීය:

''මිනිහා විශ්වාස කරනවා වෙනුවට, ඔහුට බිය වීමට පමණක් නොව, ඔහු පිළිකුල් කිරීමටද සිද්ද වී තිබීම කොතරම් කණගාටුදායකද! මිනිසා දෙයාකාරය! මිනිසා කෙරෙහි දයාව හා ආදරය දක්වන්නේ කෙසේද? ඔහු වන මෘගයෙක් මෙන් ඔබ වෙත පැන පහර දීමට එන විට කෙසේ නම් ඔහුට සමාව දිය හැකිද? එවිට සමාව දිය නොහැකිය! පීඩාකිරීම මා වෙනුවෙන් පමණක් නම්, ඒවා විඳ දරා ගැනීමට මම සූදනම්. එහෙත් මර්දනකාරින්ට හිස පාත් කිරීමට සූදනම් නැත. මට පහර දී, ඒ අනුව අනුන්ට පහර දීමට ඉගෙන ගැනීම සඳහා මගේ පිටකොන්ද පාවිච්චි කිරීමට ඉඩ දීමට මම එකඟ නොවෙමි.''

දැන් ඔහුගේ ඇස් රත්වූ යවට මෙන් දිලිසෙයි. මුරණ්ඩු ලෙස හිස හරවාගත් ඔහු මේ වර සිය කතාව කරගෙන ගියේ දැඩි ගතියකිනි:

''නපුරු ක්‍රියාවලින් මට නපුරක් නොවූවද මා ඒවාට සමාව දිය යුතු නැත. මෙලොව මා තනිවී නැත! එකෙක්, මට පීඩා කරද්දී මා නිහඬව සිට ඒ ගැන සිතමින් සිනාවෙන්නේ නම්, හෙට තවකෙකු හම ගසා දැමීමට පීඩකයාට ඉඩකඩ ලබා දීමකි එයින් සිදු වන්නේ. මිනිසුන්



කෙරෙහි නොයෙක් විධියට බැලීමට සහ ඔවුන් විවිධාකාර මිම්වලින් මැනීමට සිදුවී තිබේ. හදවත දැඩිකර ගනිමින් මිනිසුන් තෝරා ගත යුතුය. මේකා අපේය. අනිකා පිට එකෙකි. සාධාරණත්වය යනු සැනසීම නොවේ!''

අම්මාගේ මතැස ඉදිරිපිට නිලධාරියාත් සාෂෙන්කාත් මැවී පෙනුණි. සුසුම් ලමින් ඈ මෙසේ කීවාය:

''පිටි අඹරන්නේ නැතිව බැහැ නෙව පාන් පුච්චන්ට!..''

''ඒක නොවෙන්නම් වෙලා තියෙන්නෙ!'' හොහොල් කීවේය.

''ඔව්!'' අම්මා පිළිතුරු දුන්නාය. මේ වර ඇගේ සිහියට නැගුණේ මියගිය සැමියාගේ කෝපාන්විත, දැඩි රූපයයි. කළු ගලක් පෙද පාසිවලින් වැසී ගත් කලෙක ඇති වන දර්ශනයට සමානය මතැස ඉදිරියේ නැගී සිටි ඒ රූපය. නතාෂා සමග විවාහ වූ හොහොල් සහ සාෂෙන්කා සමග අත් න'න ගත් සිය පුතාගේ රූ සපු ඇගේ සිහියට නැගේ.

''මොකද හේතුව?'' යැයි හොහොල් ප්‍රශ්න කළේ ගින්නකට අසුව දැවෙන්ට පටන් ගත් කලෙක මෙනි. ''මිනිස්සු අතර අසමාන බවක් තිබෙන සැටිකොතරම් හොඳට කැපී පේනවද? මිනිස්සු අතර නියම සමානත්වයක් ඇති කරන්ට ඕන. මිනිසාගේ බුද්ධියෙන් සහ අත්වලින් නිර්මාණය කරන ලද හැමදෙයක්ම සමාන ලෙස බෙදා දෙන්ට ඕන! එකිනෙකාව වහල් භාවයේ, බියගුළු බවේ, ද්වේෂ බවේ, කැදරකමේ සහ අමනකමේ සිරකරුවන් වශයෙන් තබා ගැනීම නවත්වන්ට ඕන!..''

ඔවුන් දෙදෙනා අතර නිතර ඇති වුණු කතාබස්වල හරය එසෙ විය.

අන්ද්‍රේ නහෝද්කා නැවතත් කම්හලේ සේවයට බඳවා ගන්නා ලදී. ඔහුට ලැබුණු වැටුප් මුළුමනින්ම අම්මා අතට දුන්නේය. තම පුතා — පාවෙල් අතින් මුදල් ලබා ගන්නාක් මෙන්ම සංසුන්තාවකින් යුතුව ඈ ඔහුගේ වැටුප්ද ලබා ගත්තාය.

සමහර දවස්වල අන්ද්‍රේ සිනහ මුහුණින් යුතුව අම්මා අමතා මෙසේ කියයි:

''කියවමුද, නෙන්කො, ආ?''

ඔහුගේ සිනාව නිසා අම්මා තුළ ලජ්ජාවක් හටගනී. ඈ සරදම් කරමින් දැඩි ලෙස ඔහුගේ ඉල්ලීමට එකඟ නොවන්නීය. සමහරවිට මේ නිසා ඈ තුළ අමනාපයක් හට නොගන්නේද නොවේ. එවැනි අවස්ථාවලදී ඈ මෙසේ සිතයි:

''උඹ හිනා වෙන්නෙ නම් මොකටද මම කියවන්නෙ?''

ඈ නොදන්නා වචනවල තේරුම් සහ අමාරු වචන ශබ්ද කළ යුතු ආකාරය ආදිය ගැන ඔහුගෙන් නිතර අසා දැන ගැනීම පුරුද්දක් බවට පත් විය. මෙසේ තේරුම් අසන හැමු වාරයකදීම ඈ ඉවත බලා ගත්තී,

වැඩි උවමනාවක් නොදක්වන බව පෙන්වූවාය. ඔහුටත් හොරෙන් ඇ කියවන බව වැටහී ගියෙන්, වෙනද මෙන් එක්ව පොත් කියැවීමට ඇයට ආරාධනා නොකිරීමට ඔහු වගබලා ගත්තේය. වැඩිකල් නොගොස් ඇ ඔහුට මෙසේ කීවාය:

''මගේ ඇස් පෙනීම දුර්වල වෙලා. අන්දෑෂා, කණ්ණාඩි කුමටමක් ගන්ට ඕන.''

''හොඳයි. ලබන ඉරිදට නගරෙට ගිහිං දෙස්තරට පෙන්නලා හොඳ කණ්ණාඩි කුට්ටමක් මිළදී ගනිමු'' යි හෙතෙම කීය.

XIX

පාවෙල් හමුවී කතා කිරීමට අවසර දෙන ලෙස ඇ නෙවරක්ම ඉල්ලා සිටියාය. ඒ හැම වාරයකදීම පොලිස් පතියෙකුගේ නිල කබායක් හැඳ සිටි කුඩා මහල්ලෙක් ඇගේ ඉල්ලීම ප්‍රතික්ෂේප කළේය. රත් පැහැති කොපුල් සහ ලොකු නහයක්ද, පැසුණු හිසකෙස්ද ඇති ඒ මහල්ලා අම්මා අමතා කතා කළේ සුරතල් බසිනි.

''තව සුමානෙකින්, ඊට ඉස්සෙල්ල බැහැ! තව සුමානෙකින් බලමු. දන් නම් ඉඩක් නැහැ...''

ඔහු ගෝලාකාරය, බඩ කට පුරා කාබී සිටි ඔහු ඉදුණු ප්ලම් ගෙඩියකට සමානය. ඔහු නිතරම තමාගේ කුඩා දත් කහපාට ලී කැල්ලකින් හැරුවේය. කොළ පාටැති ඔහුගේ කුඩා ඇස් සිනාසෙන්නාක් මෙනි. ප්‍රියංකර කුළුපග බවක් දක්වමින්, ඔහු කතා කළේය.

''ආචාර ශීලියෙක්!'' යැයි අම්මා කල්පනා කාරීව හොහොල්ට කීවාය: ''හැම තිස්සෙම හිනාවෙනවා.''

''ඔව්, ඔව්. ඒගොල්ල එහෙම තමයි. හුරතල්, හිනාවෙනව. උන්ට කියනව: 'අර මිනිහා අවංකයි, ඒ වගේම බුද්ධිමතෙක් නමුත් අපට ඒ මිනිහාගෙන් අන්තරාවක් එල්ල වෙලා තියෙනවා. ඒ මිනිහව එල්ලා මරා දමාපල්ලා!' උන් හිනාවෙලා එල්ලා මරා දමනවා. ඊට පස්සෙ නැවතත් හිනාවෙනවා.'' හොහොල් කීවේය.

''අපේ ගෙදර හෝදිසි කරන්ට ආපු නිලධාරියාට වඩා වාම්, එක පාරටම පේනව එයා බල්ලෙක් බව...'' ඔහුගේ කතාවට හරස් කපමින් අම්මා පැවසුවාය.

''උන් සියලු දෙනාම මිනිස්සු නෙවි, මහජනයාව තළා පොඩි කරන්ට හදපු මිටි. උපකරණ. ඒ උපකරණවලින් අපේ සහෝදරයන්ව කපා කොටා ඔප මට්ටම කරල පාලනයට සුදුසු විධියට හදාගන්නව. ඒ ගොල්ලන්ව පාලනයට සුදුසු විධියට දැනටමත් හදාගෙනයි තියෙන්නෙ, කිසිවක් අහන්නෙ බලන්නෙ නැතිව, කල්පනා කරන්නෙ නැතිව උන් වැඩ කරනව.''

අන්තිමේදී පුතා හමුව කතාබහ කිරීමට අවසර දෙනු ලැබුවේ ඉරිද දවසකදීය. හිරගෙදර කාර්යාල කාමරයක මුල්ලකට වී ඇයවාඩි වී සිටියේ වාරය එන තුරුය. දුගඳ හමන ඒ කුඩා කාමරය තුළ සිරකරුවන් දැක ගැනීම සඳහා පැමිණි තවත් කීපදෙනෙක් වූහ. ඔවුන් මෙහි පැමිණි පළමුවැනි වාරය මෙය නොවන බව පෙනී යන්නේ ඔවු නොවුන් දන හැඳිනගෙන කතාබහ කරන බැවිනි. ඔවුන් එකිනෙකා අමතමින් කතාකරන්නේ කම්මැලියන්සේ හෙමින්ය. පහත් හඬින් කෙරෙන මේ ඕපාදූප කතා මකුළු දැලක්සේ ඇලෙන සුලුය.

''ආරංචිද?'' බැගයක් දනහිස් මත තබා ගත් මැලවී ගිය මුහුණක් ඇති තරබාරු ගැහැණියක් ඇසුවාය. ''අද උදේ පූජාව වෙලාවේදි කොල්ලෙක් සින්දුවක් කීවයි කියල පල්ලියෙ සුවාමී උගේ කන මිරිකලා...''

විශ්‍රාම යුද නිල ඇඳුමක් හැඳ සිටි මහල්ලෙක් ශබ්ද නගා කහිමින් මෙසේ කීවේය:

''සින්දු කියන්නෙ රස්තියාදු කාරයො!''

කාර්යාල කාමරය තුළ කලබලයකින් මෙන් ඔබමොබ දුවන කුඩා මිනිහෙකි. ඔහුගේ කකුල් කොටය. එහෙත් අත් දිගය, නිකට ඉදිරියට නෙරා ගොස්ය. ගමන නො නවත්වා ඔහු බිය ගත් සහ තියුණු හඬකින් කතා කළේය:

''මිනිස්සු නපුරු වෙලා තියෙන්නෙ ජීවන වියදම ඉහළයනනිසා. කවුත් සමග හරක් මස් රාත්තලක් කොපෙක් දහහතරයි. පාන් මිළ කොපෙක් දෙකහමාරයි...''

නියමිත වේලාව පැමිණෙත්ම සිරකරුවෝ අළු පැහැති ලෝගු සහිතව, බරැති හම් සපත්තු ලාගෙන කාමරයට ඇතුළු වූහ. අඩ අඳුරෙන් පිරි කාමරයට ඇතුළු වූ ඔවුහු වේගයෙන් ඇසි පිය ගසන්නට වන්හ. එකෙකුගේ දෙපා දම්වැලකින් බැඳ තිබිණි.

හැම දෙනෙක්ම පුදුම ලෙස නිසලව උන්හ. ඔවුන්ගේ පෙනුම අභිතකරය, වාමිය. බොහෝ කලක සිට ඇබ්බැහි වූ පුරුදු නිසා තමන්ගේ තරා තිරම අමතකවැ ගොස් තිබුණාක් මෙනි. සමහරු නිසලව වාඩි වී උන්හ. තවත් සමහරු කම්මැලියන්සේ මුරකරමින් සිටියෝය. ඉතිරි කොටස විඩා පත්වැ සිටියද සිරකරුවන් බැලීමට නොකඩවා ආවෝය. අම්මාගේ හදවත නොඉවසිලිවත් ලෙස වේගයෙන් සැලෙන්නට විය. ඇ

නොසිතා වට පිට බලන්නී, එහි සංඝොටුද්‍යක වාම් බව දැක පුදුමයට පත් වූවාය.

විලාසවා අසල වාඩිවී සිටි කාන්තාවගේ මුහුණ රැළි ගැසී වක්වී තිබුණද, ඇගේ ඇස් තරුණ බවක් දැරීය. සිහින් බෙල්ල ඒ මේ අත හරවමින් වට පිට කෙරෙන කතාවලට කන් දෙන ඇ මහත් ඕනෑකමකින් ඒවා අසාගෙන සිටියාය.

''ඔබේ කවුද මෙහෙ ඉන්නෙ?'' විලාසවා ඇගෙන් ප්‍රශ්න කළේ සෙමිනි.

''පුතා. එයා සරසවි ශිෂ්‍යයෙක්.'' මහළු ස්ත්‍රිය හඬ නගා ඉක්මනින් පිළිතුරු දුන්නාය. ''ඔබේ කවුද හිරේ වැටුණේ?''

''මගේ පුතා. එයා කම්කරුවෙක්.''

''වාසගම කොහොමද?''

''විලාසව.''

''අහල නෑ. බොහොම කල්ද?''

''මේ හත්වෙනි සුමානෙ...''

''මගේ පුතා දහ මාසයක් තිස්සෙ මෙහෙ!'' මැහැලිය කියත්ම ඇගේ කටහඬෙහි එක්තරා ගර්වයක් වැනි යමක් ගැබ්ව තිබෙන බව විලාසවාට දැනිණ.

''අනේ හැබැව!'' යැයි පැළුණු කටවයක් සහිත මහල්ලෙක් කීවේය. ''ඉවසිම හිඳෙනව... හැම එකාම කිපිල, හැම එකාම කෑ ගහනව, බඩු මිළ ඉහළ යනව, ඒ අනුව මිනිස්සු දුක් කරදරවලට මුණ පානවා. එත්වන හඬ ඇහෙන්නේ නැහැ.''

''හරි ඇත්ත!'' යැයි යුද කබාය හැඳ සිටි එකා කීය. ''මහ විකාරයක් නොවැ! නිහඬවෙනු යැයි කෑ ගසා කියන්ට පුළුවන් තද කටහඬක් ඇති එකෙකු ඕනා! අපට අවශ්‍ය තද මිනිහෙක්...''

කතාබහ පොදු ප්‍රාණවත් බවක් දැරීය. හැම එකෙකුම ජීවන තත්ත්වය ගැන තම තමන්ගේ අදහස් කියා පෑමට ලැබිලතියේ ඉදිරියත් වුණද කතා කළේ පහත් හඬිනි. ඒ හැම එකෙකු තුළම තමාට නොරිසි අංග තිබෙන බව අම්මාට හැඟිණ. ගෙදරදී ඔවුහු හඬ නගමින්ද, වඩාත් පැහැදිලි ලෙස හා වාම් ලෙසද කතා කළහ.

තරබාරු මුලාදෑනියෙක් අම්මාගේ වාසගම කියා කෑ ගැසුවේය. රතු පාට හරිතරුස් රැවුළකින් හෙබි ඒ පුද්ගලයා ඇගේ පාදවල සිට හිස දක්වා ඕනෑකමින් බලා මෙසේ කීය:

''මා පස්සේ වරෙන්...''

ඔහු පසුපස ගමන් කරන ඇට, ඔහුගේ ගමන ඉක්මන් කරනුවස්,



ඔහු තල්ලු කිරීමට පවා සිත්විණ. කුඩා කාමරයක සිටි පාවෙල් සිනාහවකින් මුව සරසා ගනිමින් අම්මා වෙත අතක් දිගු කළේය. ඔහුගේ අත තරයේ අල්ලා ගත් ඇ සිනාසෙමින් ඇසිපිය හෙළන්නට වූවා, ටික වේලාවක් යන තුරු කතා නොකර සිටියාය. ඉක්බිති හෙමින් කතා කරමින් මෙසේ තෙපළාය:

''ආයුබෝවන්... ආයුබෝවන්...''

''අම්මා, සංසුන් වෙලා ඉන්න'' යැයි ඇගේ අත අල්ලා ගත් වනම සිටි පාවෙල් කීවේය.

''නෑ, මොකුත් නෑ.''

''අම්මේ!'' මුලාදෑනියා කීවේ සුසුමක් මහලමිනි. ''කොහොම වුණත් උඹලා ඈත් වෙයල්ලා. දෙදෙනා අතර දුරක් තියෙන්ට ඕන...''

ඉන්පසු මුලාදෑනියා හඬ පිටවන සේ ඇනුමක් හැරියේය... ගෙදර තොරතුරු සහ අම්මාගේ සුව දුක් පාවෙල් විචාළේය. වෙනත් ප්‍රශ්නයන් අසන තුරු සිටි ඇ තම පුතාගේ ඇස්වල ඒවා සොයන්නට වූවාය. එහෙත් ඒ ප්‍රශ්න ඔහුගේ නෙත්වල නොතිබිණ. හැමද මෙන්ම ඔහු එදත් ශාන්තව සිටියේය. වෙනසකට තිබුණේ මුහුණේ සුදුමැලි ගතිය පමණකි. වෙනදට වඩා දෙනෙත් පිටතට නෙරා ගිය බවක් පෙනෙන්නට තිබිණ.

''සාෂෙන්කා සුබපැතුම් එව්වා!'' අම්මා කීවාය.

පාවෙල්ගේ ඇසි පිය ඉබේටමෙන් නැටවෙන්නට විය. සිනා රැල්ලකින් මුව ආලෝකමත් වී මුදු මොළොක් ගතියක් ඇති විය. අම්මාගේ හදවත පුරා උණුසුම් බවක් සැණෙකින් පැතිර ගියේය.

''උඹව ඉක්මනින් නිදහස් කරාවිද?'' යි ඇ ඇසුවේ අමනාපයකින් හා මද කෝපයකින් යුතුවය. ''මොනවටද උඹව හිරගෙදරට ගෙනාවෙ? අර පත්‍රිකා ආයෙමත් පැක්ටරියෙ බෙදලා තිවුණා...''

පාවෙල්ගේ ඇස් කාන්තිමත්ව බැබලෙන්නට විය.

''ආයෙමත්?'' ඔහු ඉක්මනින් ඇසුවේය.

''ඒ වගේ දේවල් ගැන කතා කිරීම තහනම්! කතා කරන්ට පුළුවන් පවුලෙ දේ ගැන විතරයි...'' මුලාදෑනියා කීවේ කම්මැලියෙකු සේය.

''හරියට, ඒක පවුලෙ දෙයක් නොවෙයි වගේ'' අම්මා හරස් කපමින් කීවාය.

''ඒ ගැන කියන්ට මම දන්නේ නෑ. නීතියෙන් අවසර නැහැ. එපමණයි.'' මුලාදෑනියා උදාසීන ගතියකින් යුතුව පැවසීය.

''අම්මේ, ගෙදර දොර කටයුතු ගැන කියන්න'' යැයි පාවෙල් අයැද සිටියේය. ''අම්මා දැන් මොනවද කරන්නෙ?''

තමා තුළ තරුණ හැඟීම් පහළවූ කලෙක මෙන් අම්මා සැනෙකින් පිළිතුරු දුන්නාය:

''පැක්ටරියට ඒව සේරම ගෙනියනව...''

ඇ මදක් නිහඬව සිට නැවත කතා කළාය:

''කෝවිං සූප්, කැඳ, මරියා හදන කෑම ජාති ඔක්කොම...''

පාවෙල්ට කාරණය වැටහිණි. ඔහු අමාරුවෙන් සිනාව මැඩ ගත්තේය. සිය හිසේ කෙස් වැටියක් අල්ලාගත් හෙතෙම දයාබර හඬකින් කතා කළේය. මින් පෙර කිසි දිනක එවැනි ස්නේහයක් ඇට ඔහුගෙන් නොලැබිණ.

''අම්මාට වැඩ කවයුතු තියන එක හරි හොඳයි. පාළු ගතියක් දනෙන්නෙ නැහැ නෙව!''

''අර ප්‍රතිකා බෙදපු දවසේ මාවත් හෝදිසි කළා!'' ඈ ඒ වචන කීවේ ආත්ම වර්ණනාවකින් තොරව නොවේ.

''අයෙමත් ඒව ගැන කතාව. මම කිව නොවද ඒවකතා කිරීම තහනම් කියල. මිනිහෙකුගෙ නිදහස නැති කරල තියෙන්නෙ ඒවා ගැන දූන ගන්නෙ නැතුව ඉන්ටයි. උඹ ආයිමත් ඒ ගැනම කියනව. තහනම් දේ ගැන තේරුම් ගන්ට ඕන,'' මුලාදැනියා කීවේ අමනාපයෙනි.

''අම්මේ, වෙන දෙයක් කියන්ට. මත්වෙයි ඉවානොවිච් හොඳ මිනිහෙක්. එයාව තරහ ගස්සන්ට එපා. අපි එයා-සමග හොඳින් මෙහෙ ජීවත් වෙන්නෙ. එයා අද මෙහෙ වැඩට ආවෙ අහම්බෙන්. හැමදම මෙතන වැඩට එන්නෙ හිරගෙදර ලොක්කගෙ දෙවැනියා.'' පාවෙල් කීය.

''දැක බලා ගැනීමට දීපු කාලය ඉවරයි!'' මුලාදැනියා මෙසේ කීවේ ඔරලෝසුව දෙස බලමිනි.

''අම්මේ, බොහොම ස්තූතියි, දුක් වෙන්ට එපා, මාව ඉක්මනට නිදහස් කරාවී'' පාවෙල් කීවේය.

පුතා, මවු වැළඳ ගනිමින් ඇගේ හිස සිඹමෙය. ඉන් මහත් වූ සතුටට පත් ඇ සතුටු කිඳුළු වගුරුවන්ට වූවාය.

''ඇත් වෙයල්ලා!'' යි කී මුලාදැනියා මව කැටුව යමින් මෙසේ කීවේය: ''අඬන්ට එපා! නිදහස් කරාවී! සියලු දෙනාවම නිදහස් කරාවී... හිරගෙදර හරිම තදබදයක් නෙව...''

ගෙදර පැමිණි ඇ සිනාසෙමින් හා ඇස් බැම උස් පහත කරමින් හොහොල් අමතා සිදු වූ දේ ගැන විස්තර කළාය:

''මම පුතාට හින් සැරේ කීවා. එයාට තේරුනා!''

පසුව ඈ දුක්බර සුසුමක් හෙළුවාය.



''තේරෙන්ට ඇති! එහෙම නැතිනම් එයා එච්චර හුරතල් ලෙස කතා කරන්නේ නැහැ!''

''අනේ අම්මේ!'' යැයි කී හොහොල් සිනාසෙන්ට විය. ''කවුරු මොනවා සෙව්වත්, අම්මා හොයන්නෙ දරු හුරතල්...''

''නැහැ, අන්දෘෂා, මිනිස්සුන්ගෙ හැටියි මා කියන්නෙ'' අම්මා හිටිහැටියේම පුදුමයට පත් වූ කලෙක මෙන් කෑ ගැසුවාය. ''පුරුද්දෙද හැටි තමා! දෙමාපියන්ගෙන් පුතුන් වෙන් කරල හිරගෙට දැම්මා. ඒ කොල්ල හිරකාරයො බලන්ට ඇවිල්ල මගේ ඉදගෙන කයිකතන්දර කියනව. උගත් මිනිස්සු එහෙම පුරුදු වෙනවානම්, නූගත් මෝඩයින් ගැන මොනවා කියන්වද?..''

''ඒක තේරුම් ගන්ට පුළුවන්,'' හොහොල් කීවේ මද සිනා පාමිනි. ''ඒ කොල්ලන්ට නීතිය මැඩීය මාදු බවක් පෙන්වනව. අපට වගේ නෙවි. අපව මැඩීය ඒ කොල්ල නීතියෙ පීඩීව සොයනව. නීතිය කම්මුලට ගහන කොට ඒ කොල්ල මූණ ඇඹුල් කරගන්නව, එයත් ඒ තරමම නෙවි. තමුන්ගෙ පොල්ලෙන් වදින පාර රිදෙනව අඩුය කියන කට කතාවත් කියනව නොවැ.''

XX

දවසක් ද සවස් වේලාවක අම්මා මේසය ළඟ වාඩිවී මේස් කුම්ටමක් ගොතමින් සිටි අතර, හොහොල් රෝම වහලුන්ගේ කැරැල්ල ගැන පොතක් හඬ නගා කියවමින් සිටියේය. කිසිවෙකු දොරට තට්ටු කරනවා ඇසුණෙන්, හොහොල් දොර ඇරියේය. කිහිලි ගන්නා ගත් බඩු පොදියක් සමග ගෙට ඇතුළු වූයේ වෙසොව්ෂිකොවය. තොප්පිය හිසෙ පිටුපස කොටස වැසෙන සේ ඇද සිටි ඔහුගේ දෙදණ දක්වා මඩ තැවරී තිබිණි.

''යන ගමන් දක්කා ඔහෙලගෙ ගෙදර ලාම්පු එළිය දල්වෙන සැටි. ආවා ආයුබෝවන් කියන්ට. මේ හිරගෙදර ඉඳල එන ගමන්.'' මෙසේ කී ඔහු අම්මාට අත දී ආචාර කරමින්, යළිත් මෙසේ පැවසීය:

''පාවෙල් සුබපැතුම් එව්වා...''

ඉක්බිති අස්ථිර ලෙස පුටුවක් මත හිදගත් වෙසොව්ෂිකොව් සැක සහිත මිලානික බැල්මක් හෙළමින් කාමරය පිරික්සුවේය.

පෙරදී ඔහු කිසි දිනක අම්මාගේ සිත් නොගත්තේය. ඔහුගේ දණ්ඩාකාර හිසද, කුඩා ඇස්ද දකින අම්මා බිය ගත්තාය. එහෙත් දැන් ඔහු දකින අම්මා ප්‍රීතියට පත්වැ මද සිනා පාමින්, හුරතල් බසින් කතා කළාය:

''අන්ද්‍රූෂා, බලපන්කො මෙයා කෙට්ටු වෙලා. අපි මේ හාදයට තේ හදල දෙමු!''

''මම සමොවාරය රත් කරන්නම්!'' කුස්සියේ සිටි අන්ද්‍රේ කීවේය.

''කොහොමද පාවෙල්ගෙ සැප සනීප? තවත් කාවද නිදහස් කළේ එහෙම නැතුව උඹව විතරක්ද නිදහස් කළේ?''

නිකොලායි පිළිතුරු දුන්නේ හිස පාත් කරගනිමිනි:

''පාවෙල් හැම දෙයක්ම ඉවසාගෙන ඉන්නවා! මාව විතරයි නිදහස් කළේ!'' ඔහු සෙමින් හිස ඔසවා අම්මා දෙස බලා දත් විලිස්සමින් කතා කළේය: ''මම උන්ට කීවා, උඹලා මාව නිදහස් කළේ නැතිනම්, කාව හරි මරලා මමත් පණ නහගන්නවයි කියල ඉතින් නිදහස් කළා.''

''හ්-ම්, ඔව්!'' ඉවත යමින් අම්මා තෙපළාය. ඔහුගේ කුඩා තියුණු ඇස් අම්මාගේ බැල්මට හසු වෙත්ම ඈ ඇසි පිය හෙළුවාය.

''පියෝද්ර් මාසින්ගෙ සැප සනීප කොහොමද'' යි හොහොල් ඇසුවේ, කුස්සියේ සිට හඬ නගා කතා කරමිනි. ''කවි ලියනවද?''

''ඔව්, ලියනව. මට තේරෙන්නේ නැහැ!'' යැයි කී නිකොලායි හිස වැනුවේය. ''හිලෑ කුරුල්ලෙක් වගෙ? හිරකූඩුවෙ ඉඳගෙන සින්දු කියනව! හැබැයි එක කාරණාවක් පැහැදිලියි. මට ගෙදර යන්ට හිත දෙන්නේ නෑ...''

''උඹලෑ ගෙදර මොනවද?'' කල්පනාකාරි ලෙස අම්මා පැවසුවාය. ''ගේ පාළු වෙලා, උදුන රත් කරලා නෑ. හරිම හීතල ඇති...''

ඇස් හකුළුවා ගත් ඔහු නිහඬ විය. සාක්කුවෙන් සිගරැට් පැකැට්ටුවක් ගත් හෙතෙම හෙමින් සිගරැට්ටුවක් ගෙන දල්වා ගත්තේ, තමා ඉදිරිපිට පාවෙමින් තිබෙන දුම් වලා දෙස බලමින්, බලු කුක්කෙකු සේ කට ඇද කර ගත්තේය.

''ඔව්, අපේ ගෙදර හරිම හීතලයි. කාමරය පුරා කැරපොත්තො. මීයො පවා හීතලෙන් වෙව්ලනවා ඇති. පෙලගේයා නිලව්නා, ඉඩදෙන්ට අද රෑ උඹලගෙ ගෙදර නවතින්න, පුළුවන්ද?'' ඈ දෙස නොබැලූ ඔහු කතා කළේ ගොළු හඬකිනි.

''සන්තකින්ම, නැවතියන්! ඉලන්දරියා,'' අම්මා කීවාය. ඔහු නිසා ඇට අපහසුවක් හා අසිරුවක්ද දැනිණි.

''දෙමාපියන් නිසා දරුවෝ ලැජ්ජා වෙන කාලයක් මේක.''

''මොනවා?'' යැයි අම්මා ප්‍රශන කළේ කම්පාවූ කලෙක මෙනි.

ඈ දෙස බැලූ ඔහු ඇස් වසාගත්තේය. කැළැල් සහිත ඔහුගේ මුහුණෙහි දැස් අන්ධවූවාක් මෙනි.

''දරුවෝ, දෙමාපියන් නිසා ලජ්ජාවට පත් වෙලා කියල කීවා! උඹ



නිසා පාවෙල් කිසිදිනෙක ලැජ්ජා වෙන්නේ නෑ. ඒ වුණාට මගේ තාත්තා නිසා මට ලැජ්ජයි. ගේ අයිති එයාටයි. මීට පස්සෙ මම එහෙ යන්නෙ නැහැ. මට තාත්තෙක් නෑ, ගෙයක් නෑ! මාව පොලිසිය බාරේ හද ගත්තෙ. නැතිනම් මටත් සයිබීරියාවට යන්න සිද්ද වෙනවා... එහිදී මම හිරකාරයින්ව නිදහස් කර හරිනවා...''

මේ පුද්ගලයාට අපහසු බව ඇගේ හදවතට වැටහී ගියද ඔහු නිසා අනුකම්පාවක් ඈ තුළ උපන්නේ නැත.

''ඔව්, තත්ත්වය එසේ නම් යන එක තමා හොඳ!'' අම්මා මෙසේ කීවේ නිහඬව සිටියොත් ඔහුගේ හිත රිදේය යන බියෙනි.

කුස්සියෙන් පිටවූ අන්ද්‍රේ සිනාසෙමින් මෙසේ ඇසුවේය:

''උඹ මොනවද දේසනා කරන්නෙ?''

නැඟිට සිටි අම්මා කුස්සිය දෙසට යමින්, ''රෑට කන්න මොනව හරි හද ගන්න ඕන,'' යැයි කීවාය.

හොහොල් දෙස ඉතා ඕනෑකමින් බැලූ වෙසොව්ෂිකොව් මෙසේ තෙපලේය:

''මගේ හැඟීම මේකයි, සමහර මිනිසුන්ව මරාදන්ට ඕන.''

''ඔහෝ! අසවල් කාරණාවටද?'' මෙසේ ඇසුවේ හොහොල්ය.

''උන්ව නැතිකර දමන්ට...''

උසැති වියලි හොහොල් පැදෙමින් පා තබමින් නිකොලායි ඉදිරිපිටට විත් කලිසම් සාක්කුවල දෑත් ඔබා ගනිමින්, ඔහු දෙස බැල්මක් හෙලුවේය. වාඩිවී සිටි නිකොලායි වටෙ සිගරැට් දුම් පාවෙමින් තිබිණි. ඔහුගේ අළු පැහැති මුහුණේ රතු ලප අතරින් පතර දක්ක හැකි විය.

''බලපන්! ඉසායි ගර්බොවගෙ බෙල්ල කඩනවා.''

''මොනවටද?'' යි හොහොල් ප්‍රශ්න කළේය.

''ඔත්තුකාරයෙක් නෙවෙයි නම් කියන්ට එපා. ඌ නිසා මගේ තාත්තා විනාස වුණා. ඌ නිසා තාත්තා දැන් පොලිස් ඔත්තුකාරයෙක් වෙන්ට යනව,'' නිකොලායි මෙසේ කීවේ අන්ද්‍රේ දෙස කෝපාන්විත ලෙස බලමිනි.

''මේ අහපන්! ඒකට උඹට කව්ද චෝදනා කරන්නෙ? මොඩයෝ!..'' හොහොල් කීවේය.

''මෝඩයොයි, නුවණක්කාරයොයි එක සමානයි. උඹ පන්ඩිතයා, පාවෙල්, එයත් ඒ වගේමයි. උඹලා පියෝද්ර් මාසින්ට, සමෝයිලොව්ට සහ උඹලා එකිනෙකාට සලකන විධියට මට සලකනනවද? උඹ බොරු ගොතන්ට එපා. මම විශ්වාස කරන්නෙ නෑ... උඹලා මාව මුල්ලකට තල්ලු කරනව. වෙනින් තැනකට...''

''උඹගෙ හිත තදින්ම රිදිලා, නිකොලායි!'' හොහොල් කරුණාවත් ලෙස කීවේය.

''රිදෙනව. උඹලගෙත් රිදෙනව... හැබැයි උඹලගෙ රිදුම මගේ රුදුවට වැඩිය උතුම් බවයි උඹලගෙ හැඟීම. අපි එකිනෙකා වෙත නැසිරෙන්නෙ වල් ඌරො වගෙ. තේරුණාද? ඉතින් උඹට .මොනවද කියන්ට තියෙන්නෙ?''

අන්ද්‍රේ දෙස තියුණු බැල්මක් හෙළූ හෙතෙම දත් විලිස්සන්ට විය. වසූරිය කැළල් ගහණවූ ඔහුගේ මුහුණ ගල් ගැහුනාක් මෙන් වුවද, දෙතොල් වෙව්ලන්නට වූයේ, රත්වූ යවටයකින් පුලුස්සනු ලැබූ කලෙක මෙනි.

''මං උඹට කිසිදෙත් කියන්නෙ නැහැ!'' වෙසොව්ෂිකොව්ගේ රුදුරු බැල්ම සහිත නෙත් සහළ දෙස සානුකම්පික ලෙස බැලූ හොහොල් තම උපුල් වන් නෙත්වලින් සිනාසුණේය. ''මිනිහෙකුගෙ හදවත තුවාල වෙලා ලේ ගලන විට වාද කරන්ට යාම හොඳ නැහැ. එවිට සිද්ද වෙන්නෙ එයාව කුප්පන එක විතරයි; තේරුණාද, සහෝදරය!''

''මා එක්ක වාද කරන්ට එපා. මම දන්නෙ නැහැ වාද කරන්ට!'' හිස පාත් කර ගත් නිකොලායි සොල මතුලේය.

''අපි හැම එකෙක්ම වීදුරු කැලි ගොඩක් උඩ සපත්තු නැතිව ඇවිද තිබෙන බවයි මගේ අදහස. ඒ මාරක අඳුරු පැයේදී උඹ දුන් හුස්ම ගන්නා වගේ හුස්ම ගත්තා...'' හොහොල් කීවේය.

''උඹට කිසිදෙයක් තේරුම් කර දෙන්ට බැරි හැඩයි. මගේ හදවත වෘකයෙක් වගෙ හූ තඩ තියනව!'' ඒ වචන නිකොලායි කීවේ සෙමිනි.

''මම කැමති නෑ! හැබැයි එකක් මා දන්නව. ඔය හැඟීම ඇරිලා යාවි, එත්තෙකා මුළුමනින්ම, නැතිනම් බාගයක්වත්!''

ඔහු සිනාසී නිකොලායිගේ උරහිසට තට්ටු කරමින් දිගටම කතා කළේය:

''සහෝදරය, ඕක ළදරු රෝගයක්. හරියට පැපොල, සරම්ප වගෙ. අපි හැම දෙනෙක්ම ලෙඩ වෙනව. හයිය ඇති එවුන් තරමක් ලෙඩ වෙනව, දුර්වල එවුන් හොඳටම ලෙඩ වෙනව. සමාජය තුළ තමන්ට රිසි තැන සොයාගන්ට බැරි වුණාම ඔය ලෙඩේ තදින් උත්සන්න වෙනව. උඹට පේන්නෙ, උඹ විතරයි ලෝකෙ ඉන්න එකම හොඳ මිනිහ, අනිත් එවුන් එක්කාසු වෙලා උඹව කන්ට හදනවයි කියල. කල් යන කොට පෙනේවි අනිත් උදවියත් උඹ හිතන තරම් නරක උදවිය නොවන බව, උන්ගෙ පසුවලත් අවංක බව ඉතුරු වෙලා තියෙන සැටි; අන්න එතකොට උඹගෙ හිත සැහැල්ලු වේවි. උඹගෙ බෙරය තනියම ගහන කොට ඇහෙන්නෙ නැති තරම් පුංචියි, එහෙම තියෙද්දී මොකටද උඹ තනියම



ඔය වැඩ කරන්න හදන්නෙ? පස්සෙ උඹට පෙනේවි උගේ බෙරයත් අනිත් බෙර සමග එකට ගහන්න ඕන බව. තනියම ගහන බෙර පරණයි, ඒවයේ හඩ හරියට පැණි හැලියකට වැටුණු මැස්සෙක් වගෙ කෙදිරිගෑම විතරයි. උඹට දැන් තේරෙනවද මම කියන දේ?''

''සමහර විට තේරෙනව, නමුත් විශ්වාස කරන්න බැහැ!'' නිකොලායි හිස වනමින් කීවේය.

හොහොල් සිනාසී හුන් තැනින් නැගිට ශබ්ද කරමින් දිව්වේය.

''මමත් ඉස්සර විශ්වාස කළේ නැහැ. අනේ, බං උඹ හරි බර කරත්තයක්!''

''බර කරත්තයක් වගෙ?'' මුණ ඇඹුල් කර ගනිමින් නිකොලායි ප්‍රශ්න කළේය.

''හරියට ඒ වගෙයි!''

ගිවිහැටියේ නිකොලායි කට ඇර ගෙන හඩ නගා සිනාසුණේය.

''උඹට මොකද?'' ඔහු ඉදිරිපිට සිටගත් හොහොල් විමසුවේ පුදුම වෙමිනි.

''උඹව රිදවන්නෙ මෝඩයො කියලයි මම හිතුවෙ!'' හිස වනමින් නිකොලායි කීවේය.

''අසවල් දේ නිසා මා රිදවනවද?'' හොහොල් ඇසුවේ දෙවුර සොලවමිනි.

''මට කියන්න බැහැ!'' යැයි පිළිතුරු දුන් හෙතෙම දත් විලිස්සන්ට වුවද, දයා පාමින් කතා කළේය. ''උඹගෙ හිත අමනාප කරන මිනිහ එසේ කළායින් පස්සෙ, හොඳටම පසුතැවිලි වෙනවා ඇති.''

''උඹ බොහොම දුර කල්පනා කරනව!'' හොහොල් මෙසේ කීවේ සිනාසෙමිනි.

කුස්සියේ සිටි අම්මා ඔහුට අඩ ගැසුවාය: ''අන්ද්‍රූෂා!''

අන්ද්‍රේ කුස්සියට ගියේය.

තනිවූ වෙසොව්ෂිකොව් වටපිට බලා දිගහැරී, තමා හැද සිට ඉරුණු, දනහිස දක්වා උසැති සපත්තු දෙස බලමින් සිට පාත්වී, කකුලේ මස් ගොබය අත ගාන්නට විය. පසුව දැත් මුණට ළංකර ගනිමින් සැලකිල්ලෙන් පරීක්ෂා කොට, දැත් යටි අතට හරවා ගත්තේය. ඔහුගේ අත් පළල්ය, ඇඟිලි කෙටිය. හමේ මයිල් කහ පැහැතිය. අත ගස්සා දමූ හෙතෙම නැගිට සිටියේය.

අන්ද්‍රේ සමෝවාරය කාමරය තුළට ගෙනෙන විට, නිකොලායි කණ්ණාඩිය ඉදිරිපිට සිට ගෙන සිටියේ, මෙසේ කීවේය:

''බොහොම කලකින් මගෙ මූණ දක්කේ නැහැ... ඒකේ හැටි.''

මූණ ඇඹුල් කර ගෙන ඔහු මෙසේද කීය:

''ඔය කැළෑල් හරිම කැතයි!''

''ඉතින් ඒවා තිබුණට මොකෝ?'' කුතුහලයකින් යුතුව අන්ද්‍රේ ප්‍රශ්නය නැගුවේය.

''සාෂෙන්කා කියනව මූණ හිතේ හැටි පෙන්වන කැඩපතය කියල'' නිකොලායි කීවේ සෙමිනි.

''ඒ කතාව ඇත්ත වෙන්න බැහැ! එයාගෙ නහය බිලි කටුවක් වගෙ, හකු ඇට කතුරක් වගෙ, ඒ වුණාට හිත හරියට තාරකාවක් වගෙ,'' හොහොල් පැවසීය.

ඔහු දෙස බලාගෙන හුන් වෙසොව්ෂිකොව් සිනාසෙන්නට විය.

අනතුරුව තිදෙනාම තේ බීමට වාඩි වූහ.

තැම්බූ අලගෙඩියකට ලුණු ඉහගත් වෙසොව්ෂිකොව් පාන් කැල්ලක් සමග සෙමින් හපන්නට වූයේ හරකෙකු මෙනි.

කටපුරා කෑම ඔබාගත් හෙතෙම මෙසේ ඇසුවේය: ''මෙහෙ වැඩකටයුතු කොහොමද?''

කම්හලේ ප්‍රචාරක වැඩ දියුණු වී තිබෙන සැටි උද්යොගයකින් යුතුව අන්ද්‍රේ විස්තර කරනවිට ඔහු කණස්සලු ගතියක් දක්වමින්, කතා කළේය.

''බොහොම දිගයි, බොහොම හෙමින්, ඉක්මනට ඕනා!''

ඔහු දෙස බැලූ අම්මාගේ සිත තුළ, උපන්නේ සතුරු හැඟීමකි.

''ජීවිතය අශ්වයෙක් නෙවි, කසයකින් තළන්ට බැහැ!'' මෙසේ කීවේ අන්ද්‍රේය.

වෙසොව්ෂිකොව් මුරණ්ඩු ලෙස හිස ගස්සා දැම්මේය:

''දිග වැඩියි, මා තුළ ඉවසීමක් නෑ! මම මොනවා කරන්ටද?''

අත ගසා දැමූ හෙතෙම, නිහඬව හොහොල්ගේ මූණ බලමින්, ඔහුගෙන් පිළිතුරක් බලාපොරොත්තු විය.

''අපි ඉගෙන ගන්ට ඕන. අනිත් අයට උගන්වන්ට ඕනා!'' අන්ද්‍රේ හිස පාත් කරමිනි කතා කළේ.

''හොඳයි, කවදද සටන් කරන්නේ?'' නිකොලායි විමැසුවේය.

''ඊට පෙර අපට කීපවරක්ම තලාවි,'' යැයි හොහොල් පැවසීය. ''කවදද අපිට යුද්ද කරන්ට සිද්ද වෙන්නෙ කියන එක දන්නෙ නෑ. ඉස්සෙල්ලාම කරන්ට ඕන දේ තමයි බුද්ධියට ආවුධ දීම, පස්සෙ ආවුධ අතට ගන්න ඕන...'' වැඩිදුරටත් අන්ද්‍රේ කීය.

නිකොලායි නැවතත් කෑමට පටන් ගත්තේය. අම්මා යටැසින් ඔහු දෙස්බැලුවේ, ඒ පළල් හරි හතරැස් මුහුණේ තමාට තුටුවිය හැකි කිසියම ලක්ෂනයක් සොයා ගැනීමේ අදහසිනි.



කටු මෙන් තියුණු ඔහුගේ ඇස් දකින්ම ඈ ඇසිපිය හෙලමින් ඉවත බැලුවාය. අන්ද්‍රේ හැසිරුණේ කලබලකාරී ලෙසය. වරෙක කතා කරමින්ද, වරෙක සිනාසෙමින්ද සිටි හෙතෙම හිටිහැටියේ උරුහන් බාන්නට විය.

ඔහු තුළ පහළ වී තිබෙන අවදානම තමාට තේරුම් ගත හැකි බව අම්මාට වැටහේ. නිකොලායි නිහඬව සිටියේය. අන්ද්‍රේ ගේ ප්‍රශ්නවලට ඔහු පිළිතුරු දුන්නේ කෙටියෙනි; අකමැත්තෙනි.

ඒ කුඩා කාමරයේ පදිංචිකරුවන් වන අම්මාට සහ හොහොල්ට තදබද ගතියක් සහ අපහසුවක් දැනුනෙන්, ඔවුහු වරින්වර අමුත්තා දෙස යටැසින් බලන්ට වූහ.

අවසානයේදී ඔහු නැගිටිමින් මෙසේ කීය:

''මට නිදිමතයි. ඉඳගෙන උන්නා මදෑ. හිරගෙදරින් නිදහස් කළා. මහන්සියි.''

ඔහු කුස්සිය තුළට ගොස් යමක් කරන්නාක් මෙන් සිට පසුව මළාක් මෙන් නිදන්නට විය. නිහඬතාවය දකින අම්මා අන්ද්‍රේට ළංවී තොල මතුළාය.

''භයානක දේවල් ගැනයි ඒ මිනිහා හිතන්නේ...''

''මුරණ්ඩු ඉලන්දරියා. පස්සෙ හරි යාවි. මටත් ඔය හැඟීම ඉස්සර තිබුනා. හදවත දීප්තිමත් ලෙස දැවෙන්නෙ නැති කොට ඔහොම තමයි. එතකොට වෙන්නෙ අලු ගොඩගැහෙන එකයි. නෙන්කො, ගිහිං නිද ගන්ට. මම තව පොඩ්ඩක් කියවන්නම්.''

අම්මා, තමාගේ ඇඳ තිබූ මුල්ලට ගියාය. මෙයය අසල වාඩි වී සිටි හොහොල් බොහෝ වේලාවක් යනතුරු, ඇය දෙවියන් යදිමින් කන්නලව් කරන සැටිද, සුසුම් ලන සැටිද අසා සිටියේය. ඉක්මනින් පිටු පෙරලන්නට වූ හෙතෙම කුප්පනු ලැබූ කලෙක මෙන් නළල අත ගාන්ටත්, දික්වූ ඇඟිලිවලින් උඩු රැවුලේ කොන් උල් කරන්ටත්, අඩි හප්පමින් ශබ්ද කරන්ටත් පටන් ගත්තේය. බිත්ති ඔර්ලෝසුවේ බට්ටා ඒ මේ අත පැදෙමින් 'ටික්, ටික්' යන හඬ නගයි. ජනේලයෙන් එපිට සුළං හමන්නට විය.

අම්මාගේ මුදු හඬ ඇසේ:

''අනේ, දෙවියනේ! හුල්ලන මිනිස්සු මේ ලෝකෙ කොපමණ ඉන්නවද. හොඳින් ඉන්නවුන් කොහිද?''

''ඔව්, ඒ වගෙ උදවිය දැනටමත් ඉන්නව. තවත් ඒ ගණන වැඩිවේවි. හොහොල් මුමුණුවේය.

# XXI

කාලය වේගයෙනි ගෙවී යන්නේ. දවස් විවිධාකාරය, එකිනෙකට වෙනස්ය. හැම දවසක්ම එක්තරා නවතාවයක් ගෙනාවෙන්, අම්මා බිය නොවීමට පුරුදු වූවාය. සවස් වන විට නොහඳුනන පුද්ගලයෝ පැමිණෙති! ඔවුහු රෑ යාමය වන තෙක් අන්ද්‍රේ සමග රහසින් කසු-කුසු ගාති. කබා කර උස්සා, තොප්පිවලින් නළල් වසා ගෙන, නෙත් බිමට හරවා ගනිමින් අඳුරට වැදෙන මොවුහු ප්‍රවේසමින්, නහඩව, අතුරුදහන් වෙත්. හැම එකෙකු තුළම එක්තරා උද්යෝගයක් පැන නැගී තිබෙන බවකි. හැම එකෙකුම ගැයීමට හා සිනාසීමට ආශාවක් දැක්වූ නමුදු ඒ සඳහා කාලවේලාවක් නොවීය. සමහරු උපහාසාත්මක ලෙස සිනාසුණාහ. තවත් සමහරු බැරෑරුම් ලෙස හැසුරුණු අතර තරුණ ශක්තියෙන් හෙබියනු ප්‍රීතිමත්ව උන්හ. කල්පනාකාරීව ගොළුවන් සේ හැසුරුණු අයද මේ අතර වූහ. මේ හැම එකෙකුම එකිනෙකාට වෙනස් බවක් දරූ අතර, ඔවුන් තුළ එක හා සමාන දැඩි අධිෂ්ඨානයක් හා විශ්වාසයක් තිබෙන බව අම්මාට හැඟේ. ඒ අනුව මේ හැම දෙනාම එකම බලවේගයකි: සිහින්, සංසුන් එහෙත් අදිටන් බලයෙන් යුත් පුද්ගලයෙකුට සමාන ඒ බලවේගය කළු පැහැති ඇස් සහිත ගැඹුරු බැල්මකින් ද, එම්මාවුස් වලට යන ජේසුතුමා මෙන් දයාබර එහෙත් දැඩි බැල්මකින් ද සමන්විතය.

අම්මා ඒ පුද්ගලයන් පිරිය මනැසින් ගණන් කරන්නට වූවා ඔවුන් පාවෙල් වටා රොක් වී සිටින සැටි දකින්නීය. ඒ කට්ටියට මැදිවන පාවෙල් හතුරාගේ නෙත්වලට අසු නොවේ.

දවසක් ද බොකුටු හිසකේ ඇති සටන්කාමී තරුණියක් නගරයේ සිට අන්ද්‍රේ වෙත පාර්සලයක් ගෙනාවාය. හැරී යන ඇ, අම්මා දකින්නී, දිප්තිමත් නෙත්වලින් යුතුව මෙසේ කීවාය:

"ආයුබෝවන්, සහෝදරී!"

"ආයුබෝවන්," සිනාව මැඩ ගනිමින් අම්මා පිළිතුරු දුන්නාය.

ජනේලය ළඟට ආ අම්මා, වසන්තයේ පිපෙන මලක් සේ ප්‍රණීත බව පතුරුවමින් සහ සමනලයෙකු සේ සැහැල්ලුව, කුඩා පාද යුහුසුළුව තබමින් මහ පාර දිගේ ගමන් කරන තම සහෝදරිය දෙස බලා ප්‍රීතියෙන් යුතුව සිනාසුණාය.

"සහෝදරිය!" ඇ නොපෙනී ගිය පසු තමාටම කියා ගත් අම්මා මෙසේ ද තෙපළාය: "අනේ, සුන්දරිය! උඹගෙ මුළු ජීවිතයටම සෑහෙන අවංක සහෝදරයෙකු උඹට ලැබේවා!"

නගරයේ සිට එන හැම කෙනෙකු තුළම ළමා ගතිගුණ තිබෙන බව



දකින අම්මා අනුකම්පා ලෙස සිනාසුණාය. ඔවුන්ගේ නොසැලෙන විශ්වාසය දකින ඇ පුදුමයට පත් වූවද, පහන් සිත් ඇති කර ගත්තාය. එම විශ්වාසයේ ගැඹුර පැහැදිලිව දකින ඇයට සාධාරණත්වය පිළිබඳ ඔවුන්ගේ සිහිවිසින් හුරතල් සහ උණුසුම් කැරිණි. ඔවුන්ට කන් දෙන ඇ නොදකින දුකකහි ගැලී සුසුම් ලෑවාය. ඔවුන් තමන් කෙරෙහි දක්වන නොසැලකිල්ල ද, රමණීය වාම ගති පැවතුම්ද ඇ සිත තදින් අල්ලා ගත්තේය.

ජීවිතය ගැන ඔවුන් කී දේවලින් බොහොමයක් ඇට අවබෝධ වෙයි. සියලුම ජනතාවගේ දුකට මුල මේයැයි ඔවුන් දැනගත් බවකි අම්මාට හැඟී ගියේ. ඇ ඔවුන්ගේ අදහස් සමග එකඟ වීමට පුරුදු වූවාය. එහෙත් සමාජය ඔවුන් සිතන හැටියට වෙනස් කිරීම වස් මුළුමහත් වැඩ කරන ජනතාව පොළඹවා ගැනීමට තරම් ශක්තියක් ඔවුන් තුළ තිබෙන බව ඇ හදපත්ලෙන් විශ්වාස නොකළාය. හැම කෙනෙක්ම හොඳට කා බී ඉන්ට කැමතිය. දැන් ලබා ගත හැකි බත් වේල හෙට දක්වා කල් දැමීමට කිසිකෙනෙක් ඉදිරිපත් නොවෙති. සුරඟනා කතාවලට සීමා වී තිබෙන, ඒ ජනතා — සහෝදර රජය ඇති වීමට තවත් අවුරුදු බොහෝ ගණනක් ගත වෙයි. ඒ සඳහා කළ යුතු අසීරු අමාරු වැඩ බොහෝය. රැවුල් වවාගත් විධාපත් මුහුණු සහිත ඒ යහපත් මිනිස්සු ළමයින් හැටියට අම්මා දුටුවේ ඒ නිසාය.

"උඹලා දයාබර මිනිස්සු!" හිස වනමින් ඇ තමාටම කියා ගත්තාය.

ඔවුන් ජීවත් වූයේ යහපත්, නැණවත්, සමාජයක් සඳහාය. තමන් දන්නා දේ ආත්ම පරිත්‍යාගයෙන් යුතුව අනුන්ට කියා දීම සඳහා කැමැත්ත දැක්වූ ඔවුහු යහපත් දේ ගැන කතා කළහ. අන්තරාවන් ගැන නොතකා එවැනි ජීවිතයකට ආලය කළ හැකි බව ඇට වැටහේ. තම අතීතය දෙස හැරී බලන ඇ එය අඳුරු පටු තීරයක් ලෙස දුටුවාය. අළුත් ජීවිතයට තමා අවශ්‍යය යන හැඟීම ඇ තුළ තැන්පත් වූයේ සංසුන් ලෙසය. ඉස්සර තමා හැමටම එපා වූ එකියක ලෙසය අම්මා සිතාගෙන සිටියේ. එහෙත් දැන් ඇ බොහෝ දෙනෙකුට ඕනෑ වී තිබෙන බව දකින්නී, සන්තෝෂ වූවාය. මේ අළුත් වෙනස් වීම නිසා ඇගේ සිත ප්‍රීතියෙන් පිනා ගියාය...

කම්හලට පත්‍රිකා ගෙනයාම ඉතා හොඳින් කළ ඇ එය වැදගත් කාරියක් සේ සලකා කටයුතු කළාය. පොලිස් ඔත්තුකාරයෝ ඇ නිතර දැක පුරුදු ඇත්තේ, ඇගේ යාම් ඊම් ගැන උනන්දුවක් නොදැක්වූහ. ඇය නිතර පාහේ පරීක්ෂා කළ නමුදු, කිසිවක් සොයා ගත නොහැකි වූයේ, ඒ හැම පරීක්ෂණයක්ම කරන ලද්දේ පත්‍රිකා කම්හල තුළ බෙදූ දවසට පසුද බැවිනි. ඇ, කිසිවක් නොගෙනියන දවස්වලදී, පොලිස් රහස්

ඔත්තුකරුවන්ගේ හා මූරකරුවන්ගේ සැකය අවුස්සා ඔවුන් ලවා තමා පරීක්ෂා කරවා ගැනීමෙහිලා සමත් වූවාය. එවැනි අවස්ථාවලදී ඈ අල්ලා ගන්නා ඔවුහු හැම තැනම පරීක්ෂා කරති. තදින් අමනාපයට පත් වූ බවක් පෙන්වන ඈ ඔවුන් සමග වාද කරයි. පසුව ඔවුන් ලජ්ජාවට පත් කොට තම දක්ෂතාවය ගැන ආඩම්බර වෙමින් ඉවත යයි. මේ මායාකාරී ක්‍රීඩාව ඇට සතුට ගෙන දුන්නේය.

වෙසොව්ෂිකොව්ට කම්හලේ රක්සාව නොලැබිණි. දුව දඩු දෙවළන්දෙකු යටතේ රැකියාවක් ලබා ගත් හෙතෙම ජනපදය ඔස්සේ ලී කඳන්, අතු සහ දර ආදිය ගෙන ගියේය. අම්මා ඔහු දිනපතාම පාහේ දකී. ඔහු දක්කු අස්ව කරත්තය ඇද ගෙන ගියේ, වෙවුලන කකුල් ඇති, බිමට බරවූ හිස් සහිත, කෙට්ටු, කටුගොඩක් යැයි කිවහැකි අශ්ව මාල්ලන් ජෝඩුවක් විසිනි. විඩාපත්ව සිටි උන්ගේ හිස් ඒ මේ අත සෙලවුණේ ශෝකය පළ කිරීමට මෙනි. වේදනාව ඉවසිය නොහැකි නිසාදෝ උහු, සිය මලානික ඇස් නිතර හකුලුවා ගනිමින්, ඇසිපිය හෙලූහ. සමහර විටක දිග විශාල අමු ලී කඳක් ද, තවත් සමහර විටෙක ලී ගොඩක් ද මොවුන් විසින් මෙසේ ඇදගෙන යන ලදී. තෝන්ලනුව පහතට වැටෙන සේ අල්ලා ගත් නිකොලායි වෙසොව්ෂිකොව්, ඉරිගිය කිලිටි ඇඳුමෙන්, හා දණහිස දක්වා වැසිගත් බර සපත්තුවලින්ද සැරසී, හිසේ පිටුපස වැසෙන සේ 'කැප්' තොප්පිය පැළඳගෙන, අමාරුවෙන් පා තබමින් පොළොවෙන් මතු වී එන මුල් සහිත ගස් කොට මෙන් පා තගයි. තමන්ගේ දෙපා දෙස බලා ගත්වනම ගමන් කරන හෙතෙම හිස ඒ අත මේ අත වනයි. ඔහුගේ අශ්වයෝ අන්ධයින්සේ ඉදිරියේ තිබෙන කුඩා කරත්තවල හැපෙමින්ද මිනිසුන් පාගමින්ද ගමන් කරත්. එවිට ඔවුහු, ඔහු අසලට වී කුරුම්භියන්සේ හඬ දෙති, කෝප වූ විට පරුෂ වචන කියමින් බැණවදින්නා සේ මර හඬදී කෑගසති, තප්පුලති. උන්ගේ ඝෝෂාව ගණන් නොගන්නා නිකොලායි හිස ඔසවන්නේ පවා නැතිව තියුණු ලෙස උරුහන් බා, ගොළු හඬින් මෙන් මෙසේ කියයි:

''ඇදපියව්!''

පිටරටවල මුද්‍රණය කරන ලද අළුත් පොත් හෝ සහරා හෝ කියවීමට අන්ද්‍රේ වටා මිනිසුන් රැස්වන විට නිකොලායි වෙසොව්ෂිකොව්ද පැමිණෙයි. කාමරයේ මුල්ලක් අල්ලා ගන්නා හෙතෙම නිසලව පැයක් හෝ දෙකක් හෝ කියවීමට කන් දී සිටී. අනතුරුව තරුණයින් අතර විවාදයන් ඇති වේ. වෙසොව්ෂිකොව් නොවේ විවාදවලට පටලැවෙන්නේ. සියලු දෙනාම විසිර යන තුරු බලා සිටින ඔහු අන්ද්‍රේ සමග කතාවට වැටෙමින් ප්‍රශ්න අසයි:



''කාගේ අතේද ලොකු වැරැද්ද?''

''වැරැද්ද කා අතේ ද කියල අහනව! ඉස්සෙල්ලාම මේක මගේය කියල කියාපු මිනිහ තමයි වැරදිකාරයා. ඒ මිනිහ මැරිල දැනට අවුරුදු දහස් ගණනක් වෙනව. ඉතින් ඒකා සමග කරහ වෙලා ඇති වැඩක් නැහැ නෙව.'' විහිළුවෙන් හොහොල් මෙසේ පැවසුවද, ඔහුගේ ඇස් කලබල ගතියක් දක්විය.

''ධනපතියො, උන්ට පක්ෂපාත උදවිය?''

දැතින් හිස බද ගන්නා හොහොල් රැවුළ් ගස් උඥල්ලමින් ඉතා පැහැදිලි බසින් ජනතාවගේ ජීවිතය ගැන විස්තර කරයි. එහෙත් අන්ද්‍රේගේ කතාව අනුව වැරැද්ද පොදුවේ හැම දෙනාටම අයිති බවකි. එවැනි පිළිතුරකින් වෙසොව්ෂිකොව් සෑහීමට පත් නොවේ. දෙතොල විකා ගන්නා වෙසොව්ෂිකොව්, අන්ද්‍රේගේ අදහසට එකඟ වීමට බැරි බව හඟවමින් හිස වනා, එය එසේ නොවන බව කියමින් පිට වී යන්නේ නොසැහීමට පත්ව මලානික වීමෙනි.

දවසක්ද ඔහු මෙසේ කීය:

''නැහැ! වැරැද්ද උන්ගෙ අතේ! මම උඹට පැහැදිලි කරන්නම්. කුඹුරක ගොයම් පැල උඥල්ලා දන්නා වගේ මුළු සමාජයම උඩු යටිකුරු කොට පෙරලා දමන්න ඕන. අනුකම්පා විරහිතව!''

''ඔන්න ඔය විදියට තමයි එක දවසක් අර වයිම්කිපර — ඉසායි උඹල ගැන කීවෙ,'' අම්මා මතක් කර දුන්නාය.

''ඉසායි?'' නිහඬව උන් වෙසොව්ෂිකොව් ඇසුවේය.

''ඔව්. නපුරු මිනිහා! හැම දෙයක්ම හොයල බලනව, හාරා අවුස්සනව, දන් මේ පාර දිගේ යන්ට පටන් අර ගෙන, අපේ ජනේලය ළඟට ඇවිත් එබිකම් කරනව.''

''එබිකම් කරනව ද?'' නිකොලායි ඇසිය.

රෑ නින්දට ගිය අම්මා, තමා උවමනාවට වඩා යමක් කී බව වටහා ගත්තාය. ඔහුගේ මූණ තමා ඉදිරියේ නොතිබුණද, හොහොල් ඉක්මනින් කෝපය සංසිඳෙන සේ කතා කළ සැටි ඇට මතක් විය.

''ඔහෙ ගිහිං එබිකම් කරල බලපුවාවෙ! එයාට නිදහස් වේලාවක් තියන නිසා ඇවිදිනව වෙන්ට ඇති...''

''නැහැ, නැවතියං! ඔන්න එයත් වැරදිකාරයෙක්!'' නිකොලායි මුමුණුවේය.

''මක්නිසාද?'' හොහොල් සැණෙකින් ප්‍රශ්න කළේය. ''එයා මෝඩයෙක් නිසාද?''

පිළිතුරු නොදුන් වෙසොව්ෂිකොව් පිටවී ගියේය.

විඩාපත් හොහොල් මකුළුවකු සේ පාතබමින් හෙමින් ඇවිද්දේය. විලාසවාට හිරිහැරයක් නොවන පරිද්දෙන් ඔහු හැමදම ශබ්ද රහිතව සපත්තු ගලවා දැමමේය. එහෙත් නොනිද සිටි ඇ නිකොලායි ගිය විගසම බියෙන් මෙන් මෙසේ කීවාය:

''මම ඔහුට බයයි!''

''ඔව්-ඒ! හාදයා තරහෙන් පිරිලා. නොන්කො එයාට ඉසායි ගැන මතක් කරන්ට එපා. ඉසායි පොලිස් ඔත්තුකාරයෙක්.''

''ඒක රහසක් නෙවි. එයාගෙ මස්සිනා පොලිස්කාරයෙක්!'' අම්මා පැහැදිලි කළාය.

''මට හිතෙන්නෙ නිකොලායි එයාගෙ අඩු කඩාවි කියල. අපේ ජිවිතවලට මහ එවුන් ඇතුල් කරන පොඩි මුලාදැනින්ගෙ හැටි ජේනව නේද? නිකොලායි වගෙ මිනිස්සු ඉවසිමෙ සීමාව පන්නල යනකොට මොනව වේවිද? අහස ලේවලින් ඉතිරිල යාවි. මහපොළොවෙ එම ලේ, සාගරයෙ සබන් පෙන ගුලියක් වගෙ පෙනේවි...''

''අනේ, අන්ද්‍රෑතණ, හරි බයයි!'' අම්මා සෙමින් කීවාය.

''මැස්සන්ව ගිල්ලේ නැතිනම් උන්ව මරන්ට බෑ!'' යැයි කී අන්ද්‍රේ නිහඬව සිට යළිත් කතා කළේය: ''උන්ගෙ හැම ලේ බිංදුවකටම ජනතාව කඳුළු ගංගාවල් පූජා කරල තියනව, නොන්කො...''

හිටි හැටියේ සෙමින් සිනා සුණු හෙතෙම මෙසේද කීවේය:

''සාදරණයි, ඒ වුණාට සැනසෙන්ට බැහැ!''

XXII

දවසක් ද අම්මා කඩේ සිට ගෙදර විත් දොර හැරියාය. එළිපත උඩ සිටගත් ඇට දුනුනේ, ගිම්හානයේ වැස්සකට හසුවූ කලෙක මෙන් මුළු මහත් සිරුර ප්‍රීතියෙන් ඔද වැඩී ගිය බවකි. කාමරය තුළින් පාවෙල්ගේ කටහඬ ඇසුනේය.

''අන්න ඇවිල්ලා!'' හොහොල් කෑ ගැසුවේය.

පාවෙල් සැනෙකින් තමා වෙත හැරුණ සැටිත්, ඔහුගේ මුහුණ පුරා කෘතඥතා පූර්වක බැල්මක් පැතිර ගිය සැටිත් අම්මා දුටුවාය.

''අන්න හොඳා ගෙදර ආවා!'' යැයි පහත් හඬකින් කී අම්මා බල බලාපොරොත්තු රහිත ප්‍රීතිය නිසා ක්‍රියා විරහිත වූ කලෙක මෙන් වාඩි වුණාය.

ඇ දෙසට නැඹුරුවූ ඔහුගේ නෙත් කඳුලෙන් පිරි තිබුණේය. දෙතොල් වෙව්ලන්ට විය. තත්පරයක් නිහඬව ඔහු දෙස අම්මා බලා සිටියාය.



සෙමින් උරුහන් බාමින් ඔවුන් අසලින් හොහොල් පා නැගුවේ හිස පාත් කරගනිමිනි. හෙතෙම ගෙවත්තට ගියේය.

''අම්මේ, බොහොම ස්තුතියි!'' ගැඹුරු ස්වරයකින් කතා කළ පාවෙල් වෙව්ලන ඇඟිලිවලින් ඇගේ අත පිරිමදිමින් මෙසේ කීවේය: ''ස්තුතියි, මගේ රත්තරං අම්මේ!''

පුතාගේ දයාබර වචන හා ස්නේහය නිසා ප්‍රීතියෙන් ඔදවැඩීගිය ඇ, ඔහුගේ හිස අත ගාන්නට වූවාය. හදවතේ ගැස්ම අමාරුවෙන් නවත්වා ගත් ඇ මෘදු ලෙස කතා කළාය:

''උඹට ජේසු පිහිටයි, මොනවටද ස්තුති?..''

''අම්මා අපේ ශ්‍රේෂ්ඨ ව්‍යාපාරයට ආධාර දීම ගැන අනේක වාරයක් ස්තුතියි! වැදූ හැදූ පමණින් අම්මා තමන්ගේ වුණා මෙන්ම අදහස් අතිනුත් තමන්ගේ වීම බොහොම විරල වාසනාවක්!'' යැයි පාවෙල් කීවේය.

ඔහුගේ මුවින් පිටවන වචන ගිලගන්ට මෙන් අසා සිටි ඇගේ හදවත සැලෙන්නට විය. ඇ තමාට මේ තරම් කිට්ටු, දයාබර පුතු දෙස බලමින් ප්‍රීතියට පත් වූවාය. ඔහු ඇ ඉදිරිපිට සිටී.

''අම්මේ, අම්මගෙ හදවතට වේදනා ගෙනාවුත් බොහෝ දේවල් මම දක්කා අම්මා වින්ද දුක් බොහොමයි. අප සමග එක්ව සාමයෙන් වැඩ කරාවියැයි මා කවදවත් හිතුවෙ නෑ. මුළු ජීවිතේම ඉවසා හිටියා වගෙ නිහඬව ඉවසාගෙන හිටීවි කියල මම කල්පනා කළේ. ඒක හරිම අමාරු කාරියක්!...''

''අන්ද්‍රෑෂා මට බොහොම දේවල් තේරුම් කර දුන්නා!..'' ඇ කීවාය.

''එයා මට අම්මා ගැන කීවා!'' යැයි පාවෙල් පැවසුවේ සිනාසෙමිනි.

''යෙගෝර් ඒ වගේම කියා දුන්නා. එයා අපේ ගමේ කෙනෙක්. අන්ද්‍රෑෂා මට අකුරු උගන්වන්ට උත්සාහ කළා...''

''ඒ වුණාට අම්මා පස්සෙ කාවත් හොරෙන් රහසේ අකුරු ඉගෙන ගත්තා?''

''අන්ද්‍රෑෂා හොරෙන් බැලුවා!'' අම්මා තෙපලේ, ලජ්ජා වෙමිනි.

සිත කය පුරා ප්‍රීතිය පැතිර ගියෙන්, ඇගේ හදවත ප්‍රමෝදයෙන් උතුරා යන්නට විය. පාවෙල් අමතා ඇ තෙපළාය. ''එයාට අඩගහපන්! අපට බාධාවේය කියා හිතා ගෙන උවමනාවෙන් එයා එළියට ගියා එයාගෙ අම්මා නැහැ...''

''අන්ද්‍රේ!..'' දොර හරිමින් පාවෙල් කෑ ගසන්ට විය. ''උඹ කොහෙද?''

''මම දර පලන්න ලෑස්ති වෙනව.''

''මෙහෙ වරෙන්!''

ඔහු එකවර ආවේ නැත. කුස්සිය දෙසට ගිය හෙතෙම ගෙදර වැඩ ගැන කතා කරන්නාක් මෙන් මෙසේ කීය:

''නිකොලායිට කියන්න ඔන දර ගෙනැවිත් දන්න කියල. අප ළඟ දර බොහොම ටිකයි. ජේනව හෝද, නොත්කො, පාවෙල්ගෙ හැටි? ලොක්කො දඬුවම් කරනවා වෙනුවට කැරළි ගසන්නන්ට කෑම දෙනවා...''

අම්මා සිනාසුණාය. ඇගේ හදවත ප්‍රීතියෙන් පිනා ගොසින්ය. ඇ ප්‍රීතියෙන් මත් වී සිටිය ද, තම පුත්‍රයා ශාන්තව සිටිනවා දැකීමේ ආශාව සෙමින් හද පත්ලෙන් නැගී එන සැටි ඇට දැනේ. ඒ ආශාව ප්‍රවේසම්කාරී කැදර හැඟීමකි. හදවත උවමනාවට වඩා වැඩියෙන් ප්‍රීති වෙයි. තම ජීවිතයේ පළමුවැනි මහා ප්‍රීතිය ඇති වූ සැටියෙන්ම සදකාලිකව හදවත තුළ ජීවමාන බලවේගයක්සේ තැන්පත් වී තිබෙවායි ඈ පැතුවාය. ප්‍රීතිය අතුරුදහන් වෙතියි යන බිය නිසා එය වයා දම්මට ඉදිරිපත් වූයේ, දුර්ලභ වර්ගයේ කුරුළු පැටියෙකු අහම්බෙන් අල්ලා ගත් දඩයම්කාරයෙක් මෙනි.

''දවල් කෑම ගනිමු! පාෂා උඹ තවම කෑම කෑවෙ නැහැ නෙව?'' කලබලකාරී ලෙස ඇ යෝජනා කළාය.

''නෑ! මම ඊයේ මුලාදෑනියගෙන් දැන ගත්ත මාව නිදහස් කරන්ට තීරණය කළ බව. උදේ ඉඳල කෑවෙත් නෑ, බිවෙත් නෑ...'' පාවෙල් කීවේය.

''හිරගෙදර සිට එන ගමන් පළමුවෙන්ම දක්කෙ සිසොව් ලොක්කාව. එයා පාර හරහා ඇවිත් මට අතට'න දුන්නා. මම පුදුම වුණා. මම එයාට කිව්ව ප්‍රවේසම් වෙන්ට කියල. මම හිරබාරයට වැටිච්ච මිනිහෙක්. පොලීසිය මා ගැන සෝදිසි කරනව. එයා කීව ඒකට කමක් නැහැ කියල. එයාගෙ බෑනා ගැන අහපු හැටි දන්නව ද? පියෝදර් හොඳට හැසුරුනාද? මං ඇහුව හිරගෙදර කොහොම ද හොඳට හැසිරෙන්නෙ කියල? එයා කියනව සගයන්ට විරුද්ධව උවමනාවට වැඩි දේ කීව දුයි කියල. එතකොට මම කීව පියෝදර් අවංක බුද්ධිමත් කෙනෙක් බව.'' මහල්ලා රැවුල අත ගාලා රල් බුරුල් ඇරල කියනව: ''අපි සිසෝව්ලා. අපේ පවුලෙ නරක උදවිය නෑ!''

''එයා මොළේ ඇති නාකියෙක්. අපි නිතර කතා බහ කරනව. හොඳ මිනිහ. පියෝදර්ව ඉක්මනට නිදහස් කරාවිද?'' හොහොල් ඇසිය.

''හැම දෙනාවම නිදහස් කරා වී කියලයි මගේ අදහස. ඉසායිගෙ සාක්කි හැර වෙන සාක්කි නැහැ. එයාට කිසි දෙයක් ඔප්පු කරන්ට බෑ.''

අම්මා ඇත් මැත වෙමින් පුතා දෙස බලන්නීය. අන්ද්‍රේ, පාවෙල්ගේ කතාවලට සවන් දෙමින් ජනේලය අසලට වී සිටියේය. පාවෙල් කාමරය



තුළ එහා මෙහා ගමන් කරයි. ඔහුගේ මූණ පුරා වැඩුණු රැවුලකි. දෙකොපුල් වැසිගත් ඒ අළුත් රැවුල ඔහුගේ ත'ලෙලු පාට තුනී කළේය.

''ඉඳගනිල්ලා!'' කියමින් අම්මා පිඟන්වලට උණු සුප් බෙදුවාය.

කෑම ගන්නා අතර අන්ද්‍රේ රිබින් ගැන පාවෙල්ට කීවේය. ඔහුගේ කතාව අවසාන වූ පසු පාවෙල් දුක්මුසු ස්වරයකිනි කතා කළේ.

''මම ගෙදර හිටිය නම් මිනිහට ඔය ගමන යන්ට ඉඩ දෙන්නේ නැහැ! එයා ගෙනගියේ මොනව ද? කෝපාන්විත හැඟීමක් සහ අවුල්වුණු මත විතරයි.''

''හා! එයාට අවුරුදු හතලිහක් වයස. එයා හිත තම ගිනින් වලස්සු එක්ක පොර බදලා තියනව. ඒ පැටලැවුණු මත ලිහන්ට අමාරුයි...'' අන්ද්‍රේ කීවේ සිනාසෙමිනි.

අම්මාට නොතේරෙන වචන පාවිච්චි කරමින් දෙදෙනා අතර වාදයක් පැන නැංගේය. මහ බර පණ්ඩිත වදන් ඇද බාමින් එකිනෙකාට එදිරිව කෙරුණු වාග් සටන දවල් බතින් පසුවද එලෙසම පැවතිණ. සමහර අවස්ථාවලදී පැහැදිලි වචනද කියැවිනි.

''අපි එක අඩියක්වත් වරදවා තබන්නේ නැතිව, පසු නොබැස අපේ මාවත ඔස්සේම යන්ට ඕන,'' පාවෙල් කීවේ දැඩි සිතිනි.

''කෝටි ගණන් මිනිස්සු අපේ හතුරෝ වශයෙන් මුණගැහෙන මාවත ඔස්සේ...''

විවාදයට කන් දෙන අම්මා, පාවෙල් ගොවීන්ට විරුද්ධ අතර අන්ද්‍රේ උන්ට පක්ෂපාත බවත්, උන්ට කරුණාව උගැන්විය යුතු බවත් කියන සැටි අවබෝධ කර ගත්තාය. අන්ද්‍රේ කියන දේ ඇට වඩාත් පැහැදිලි ලෙස තේරුම් ගත හැකි අතර ඔහු නිවැරදි බව ඇගේ වැටහීමය. එහෙත් අන්ද්‍රේ පාවෙල්ට යමක් කියන විට ඇ හුස්ම පවා නොගනිමින් ඔහුගේ පිළිතුර නොඉවසිල්ලෙන් බලාපොරොත්තු වන්නී, අන්ද්‍රේ තම පුතා — පාවෙල්ගේ හිත රිද්දෙව්වේදැයි දැනගැනීමට සුහුසුලු වූවාය. හිත් අමනාපයෙන් තොරව දෙදෙනා එකිනෙකා අමතමින් කෑ ගැසූහ.

සමහර විට අම්මා තම පුතුගෙන් මෙසේ අසන්නීය:

''එහෙමද, පාෂා?''

ඔහු සිනාසෙමින් පිළිතුරු දෙයි:

''එහෙමයි!''

''අනේ දෙයියනේ, බඩ කට පුරා කෑවා, නමුත් හොඳට හපලා නැහැ! උගුරේ හිර වෙලා. උගුර හෝද ගනින්!'' මෙසේ කියන හොහොල් කපටි ලෙස සිනාසේ.

"මෝඩයෙක් වෙන්න එපා!" පාවෙල් උපදෙස් දෙයි.

"ඔව්, මම හරියට දුක් පූජාවට ගියා වගේ.."

මද සිනා පාන අම්මා හිස සලන්නීය...

## XXIII

වසන්තය එළඹෙත්ම, හිම දිය වෙන්ට පටන් ගත් අතර හිම යට තිබූ මඩ සහ දූලි අතුරු මතු වෙන්නට විය. දවස් ගෙවී යත්ම දිය වී යන හිම මැඩ නැගී සිටින මඩ වැඩි වේ. මුළු මහත් කම්කරු ජනපදයම කුණු සහ මඩ තවරාගෙන සිටින සැටි කැපී පෙනෙන්නට විය. දවල් කාලයේදී හිමෙන් වැසී ගත් වහලවලින් දිය බිංදු කාන්දු වීමට පටන් ගනී, තෙත්ව තිබුණු අඩුරු කාප්ප හා බිත්ති දහඩිය දමන්නාක් මෙන් වාෂ්ප පිට කරන්නේ හිරු රැස්වලට හසු වීමෙනි. එහෙත් සවස් වත්ම වහලවල් වගේ මිදුණු දිය කූරල් එල්ලී තිබෙන සැටි දක්ක හැකිය. දවල් කාලය වැඩි වෙයි, හිරු වැඩි වැඩියෙන් බබලයි. කුඩා දියපාරවල් මඩගොහොරු බිම් බලා දුවන්ට ගත්තේ නිරණාත්මක ලෙසය.

මැයි දින උත්සවයට ලක ලැස්ති විය.

මැයි දිනය කුමක්දැයි විස්තර කෙරෙන පත්‍රිකා කම්හල තුළ බෙද හරින ලදී. ප්‍රචාරය ගණන් නොගත් තරුණ පෙළ පවා ඒ පත්‍රිකා කියවා මෙසේ කීහ:

"ඒ කාරිය කරන්ටම ඕන!"

මුණ ඇඹුල් කරගත් වෙසොව්ෂිකොව් ගුගුළේය:

"හැංගි මුත්තන් කෙලින්ට වෙලාව නොවේ!"

පියෝදර් මාසින් ප්‍රීතිවිය. හොඳටම කෙට්ටුවී සිටි ඔහු කූඩුවක දමා සිර කරනු ලැබූ කුරුල්ලෙකු මෙනි. ස්නායු දුර්වලත්වයෙන් පිඩා විඳි ඔහු කතා කළේත්, ඇවිද්දේත් වෙව්ලමිනි. යාකොව් සෝමොව් නිතර ඔහු කැටුව ගමන් කළේය. වයසට වඩා පැසී සිටි, නිශ්ශබ්ද යාකොව් දුන් නගරයේ රක්ෂාවක් කරයි. හිරගෙට වැටීම නිසා තවත් රත් පැහැගත් සමෝයිලොව්ද, වසිලි ගුසෙව් සහ බුකින්ද, ද්‍රගුනොව්ද ඇතුළු කිපදෙනෙක් ආයුධ ගෙන මැයි දින පෙළපාලියට යා යුතු බව කියා සිටියාහ. පාවෙල්, හොහොල් සෝමොව් ප්‍රමුඛ පිරිස ඒ අදහසට විරුද්ධ වූයෙන් විවාදයක් ඇතිවිය.

නිතර විඩාපත්ව, දහඩියෙන් තෙමී, හති දමමින් සිටි යෙගෝර් පැමිණ විහිළු කරන්ට පටන් ගත්තේය:



"දනට පවතින සමාජය වෙනස් කිරීමේ කාරිය ශ්‍රේෂ්ට වැඩකි, සහෝදරවරුනි! ඒ කාරිය සාර්ථක ලෙස කරන්ට නම් මම සපත්තු කුට්ටමක් මිලදී ගන්ට ඕන!" තමාගේ කැඩී ගිය තෙතබරිවූ පරණ සපත්තු කුට්ටම පෙන්වමින් ඔහු කතා කළේ. "මගේ ගලෝෂ් කුට්ටමත් අළුත් වැඩියා කරන්ට බැරි තරමටම ඉරිලා තිබෙනවා. හැමදාම මගේ යටිපතුල් තෙමෙනවා. පැරණි ලෝකය අපි ප්‍රසිද්ධියේ හා ස්ථිර ලෙස වෙනස් කර දැමීමට පෙර පොළෝ තලයෙන් ඉවත්ව යාමට මා තුළ අදහසක් නැත. ඒ නිසා සමෝයිලොව් සහෝදරයාගේ ආයුධගත් පෙළපාලිය පිළිබඳ යෝජනාව ප්‍රතික්ෂේප කර, මට අළුත් සපත්තු කුට්ටමක් අරගෙන දීමෙන්, විශාල වශයෙන් මුණු පොඩි කිරීමට වඩා වැදගත් සේවයක් සමාජවාදයේ ජයග්‍රහණය සඳහා ඉටුවන බව මගේ දැඩි විශ්වාසයයි.."

ලෝකයේ නොයෙක් රටවල වැඩ කරන ජනතාව තමන්ගේ දිවිපෙවෙත සැහැල්ලු කර ගැනීම සඳහා සටන් වැදුණු සැටි ඔහු විස්තර කළේත් එවැනිම බස් වහරකිනි. ඔහුගේ කතා ඇසීමට අම්මා ආශා කළාය. ඒ කතා නිසා ඈ තුළ හටගත්තේ අපූරු හැඟීමකි. ජනතාවගේ සතුරන් අතරෙන් කුසාම කපටි කෛරාටික ඔව්හු ව්‍යාපාරි තරබාරු, කළගෙඩි මෙන් බඩගෙඩි ඇති, රත් පැහැති, හිතක් පපුවක් නැති, ලෝභ, වංචාකාරී, කුරිරු අඟුවු මිටිවෝ වෙත්. මොවුන්ට සාර් රජුගේ පාලනය යටතේ ජීවත් වීම අපහසු වූයෙන්, ජනතාව කුප්පා කැරලි ගස්වා, රාජාණ්ඩුව පෙරලා දමන ලදී. මෙසේ පාලන බලය ජනතාව අතට පත්වූ විට, අරඅඟුවු මිටිවෝ ජනතාව රවටා, පාලන බලය සිය'තට ගත්හ. ජනතාව හිම්ගෙවල්වලට එලවා දමනා ලදී. අඟුවු මිටි පාලනයට අභියෝග කිරීමට පොදු ජනතාව ඉදිරිපත් වූවොත් සියදහස් ගණනින් ඔවුන් සිරගෙවලට දමති.

තමන්ගේ මනැය ඉදිරියේ මැවී පෙනුණු මේ ජවනිකාව දවසක්ද ඈ, ඔහුට විස්තර කළ සැටිය ඒ. ඔහුගේ කතා නිසා මැවී පෙනුණු ඒ පින්තූරය විස්තර කළ ඈ ලජ්ජාවෙන් මෙසේ ඇසුවාය.

"එහෙමද, යෙගෝර් ඉවානිච්?"

සොක්හඩලා සිනාසෙන්ට වූයෙන් ඔහුට හුස්ම ගැනීමට පවා අමාරු විය. දැතින් පපුව බදාගෙන මෙතෙම සිනාසුණේය.

"ඇත්ත වශයෙන්ම එහෙම තමා, අම්මේ! ඉතිහාසය නැමති කුළු හරකාගේ අංවලින් අල්ලා ගෙන තිබෙනවා කියා. ඒ කපාට පසුතලයේ තියෙන ආබරණ තරමක් වෙනස් වෙන්ට ඕන. කොහොම වුණත් පොදු තත්ත්වය ඒ විධියමයි! ඇත්තටම තරබාරු අඟුවු මිටිවෝ, උන් තමා ප්‍රධාන පව්කාරයො, මිනිසුන්ට දෂ්ට කරන විසගෝර සර්පයො. ප්‍රංශ කාරයො උන්ට යස නමක් දීල තියෙනව, බුර්ජුව කියාල. මතක තියා

ගන්ට, අම්මෙ ඒ ධනපතියො අපව හපල සප කරල, අපේ සාරය උරා බොනව..."

"ධනපතින් වෙන්ට ඕන?" අම්මා ඇසුවාය.

"සත්තකින්ම! උන්ගේ අවාසනාව ඒකයි. අන දරුවෙකුගෙ ආහාර වේලට තඹ කවලම් කළොත් ඒ දරුවගෙ ඇටකටු වැඩීම නැවතිලා අකාලෙ මෝරල අඟුටු මිට්ටෙක් වෙනව. මිනිහෙකුට රත්රන් විස වුණාම එයාගේ හදවත පුංචි වෙලා මැලවිලා, අළු පාට, කොපෙක් පහේ රබර් බෝලයක් තරම් කුඩා වෙනව..."

දවසක් ද යෙගෝර් ගැන පාවෙල් මෙසේ කීවේය:

"උඹ දන්නවද, අන්ද්රේ. වැඩියෙන් විහිළු කරන්නෙ හොඳටම හිත රිදිල තියන මිනිස්සු..."

නිහඬව සිටි හොහොල් ඇස් හකුළුවා ගනිමින්, පිළිතුරු දුන්නේ.

"උඹගෙ කතාව ඇත්තක් නම් මුළු රුසියාවම පණ යනකල් හිනාවෙවී..."

වෙනත් නගරයකදී හිරබාරයට ගනු ලැබ, අනතුරුව නිදහස ලබාගත් නතාෂා පැමිණියාය. ඈ තුළ වෙනසක් පෙනෙන්ට නොතිබිණ. ඈ ඉදිරියේදී හොහොල් වඩාත් ප්‍රීතියෙන්, විහිළු තහළු කරමින්, උපහාසාත්මක කතා ගෙතීමෙහි තම දක්ෂතාවය පෙන්වමින්, ඈ සිනා ගැන්වීය. එහෙත් ඈ පිටව ගිය පසු දුක්මුසු බවක් ආරූඪ කරගත් හොහොල්, තමාගේ නිමක් නැති උරුහන් බැම් පටන් ගත්තේ, කමරය තුළ ඔබ මොබ යමින් දෙපා අද්දන්නට විය.

සශෙන්කා නිතර ගෙදර ආවාය. නිතර මූණ ඇඹුල් කරගෙන සිටි ඈ හැමදම කඩිමුඩියේ දිව ගියාය. ඈ වැඩි වැඩියෙන් තුහුරු, දැඩි ගතියක් පෑවාය.

දවසක් ද මෙසේ පැමිණි සාෂෙන්කා හැරලීම පිණිස ඉස්තෝප්පුව දක්වා ගිය පාවෙල් ඇතුළු සාලයේ දෙර නොවසා කතා කරන්නට විය. දෙදෙනා අතර ඇතිවූ කතාව අම්මාගේ කන්හි වැකිණි.

"ඔයා කොඩිය ගෙනියනවද?" තරුණිය කොඳුළාය.

"ඔව්."

"ඒක තීරණයක්ද?"

"ඔව්. ඒක මගෙ අයිතිය."

"ආයිමත් හිරගෙදර?!"

පාවෙල් නිහඬ විය.

"ඔයාට බැරිද..." මෙසේ කී ඕ නිහඬ වූවාය.

"මොනාවද?" පාවෙල් විමැසිය.



"වෙන කාටවත් කොඩිය දෙන්ට..."

"බැහැ!" ඔහු හඬ නගා කීය.

"කල්පනා කරන්ට. ඔයා ඔයතරම් ජනප්‍රියයි. ඔයාට හැමදෙනාම ආදරය කරනව. ඔයයි, අන්ද්රේ නහෝද්කායි කොතරම් කල් නිදහසෙ හැසිරෙන්වද. කල්පනා කරන්ට. ඔය වැඩට දීර්ඝ කාලයක් ඈතට පිටුවහල් කරාවි!"

තමාට සුපුරුදු හැඟීමෙන් හා බියෙන් යුතුව ඒ තරුණිය කතා කරන බව අම්මාට හැඟේ. සාෂෙන්කාගේ වචන කුඩා හිම කැට මෙන් හදවත සිරිගන්වමින් ඇදහැලෙන සැටියකි, ඈට දැනෙන්නේ.

"නැහැ, මම තීරණය කරල ඉවරයි, කීයටවත් එය වෙනස් කරන්නේ නැහැ!" පාවෙල් කීවේය.

"මම ඔයාගෙන් ඉල්ලා සිටියොත්?.."

හිටිහැටියේම පාවෙල් කිසිවක් ඉතා ඉක්මනින් කියන්නට විය. එම කතාවේ විශේෂ දැඩිබවක් පෙනෙන්ට තිබිණි.

"ඔයා එහෙම කීම යුතු නැ, තේරුණ ද ඔයාට? ඒ කීම යුතු නැ!"

"මමත් ප්‍රණ ඇති කෙනෙක්!" ඈ කීවේ ඉතා හෙමිනි.

"ඔව්, ඉතා හොඳ කෙනෙක්!" ඔහු කතා කළේ මෘදු ලෙසය. "මම ආදරය කරන කෙනෙක්. ඉතින් ඒ නිසා... ඒ නිසා එහෙම කතා කරන්ට එපා."

"ආයුබෝවන්!" කී ඈ නික්ම ගියාය.

ඇගේ සපත්තු හඬ ගැවෙන වේගය අනුව, ඈ ඉතා ඉක්මනින්, දුවමින් මෙන් ගෙයින් පිටව ගිය බව අම්මා තේරුම් ගත්තාය. පාවෙල් ඈ පසුපසින් ගොස් ගෙවත්තට වැදුණේය.

අම්මාගේ සිත බියෙන් ඇලිලී ගියේය. කතාවුණේ මොනවා ගැනද යන්න ඈට අවබෝධයක් නැත. එහෙත් අනාගතය දුකින් පිරී තිබෙන බවකි, ඈට හැඟෙන්නේ.

"එයා මොනාව කරන්ටද යන්නෙ?"

පාවෙල් ආපසු ආවේ අන්ද්රේ සමගය. ඔහු කිසිවක් කියමින් හිස වනයි.

"අනේ, ඉසායිකා, ඉසායිකා ඒ මිනිහට මොනාවා කරන්වද?"

"එයාට කියන්න ඕන, එයාගෙ විහිළු නවත්වන්වෙයි කියල!" දැඩිලෙස පාවෙල් කීය.

"පාෂා, උඹ මොනවද කරන්ට යන්නේ?" අම්මා ප්‍රශ්න කළේ හිස පාත් කර ගනිමිනි.

"කවදද? දන්ද?"

''මැ... මැයි පළමෙනිදට.''

''ආ!'' පාවෙල් හඬ පහත් කරමින් කතා කළේය: ''අපේ ධජය මම ගෙනියනව. මම අනිත් අයට ඉස්සරහින් ගමන් කරනව. මේ හන්ද මාව ආයිමත් පාරක් හිරගෙදරට යවාවි.''

ඇගේ දෙනෙත්වල තද උණුසුමක් ඇතිවූ නමුදු උගුර කට වේලී ගියේය. ඔහු ඇගේ අතක් අල්ලා ගනිමින් පිරිමදින්ට විය.

''අම්මේ, ඒක වැදගත්, තේරුණද!''

''උඹට මම කිසිදෙයක් කියන්නෙ නෑ!'' යැයි කී ඇ හිස ඔසවා ගත්තාය. එහෙත් ඇගේ බැල්මට ඔහුගේ මුරණ්ඩු කාන්තිමත් ඇස් හසු වූයෙන්, ඇගේ හිස නැවත පහත වැටිණි.

දිග සුසුමක් හෙලූ හෙතෙම ඇගේ අත මුදා හරිමින් අවලාද ලෙස කතා කළේය:

''අම්මා දුක් වෙන්න එපා. සන්තෝෂ වෙන්ට ඕන. මෙවැනි වැඩවලදී සන්තෝෂයෙන් මරණය සඳහා වුණත් පුතුන් යවන අම්මලා ඉන්නෙ කවදද?''

''වක්, වොක්! ආවා අපේ හාම්පුතා දිග කඩාය උස්සාගෙන'' හොහොල් දෙඩුවේය.

''මං උඹට කිසිදෙයක් කියන්නේ නෑ. උඹගෙ වැඩවලට බාධා කරන්නෙ නෑ. මා තුළ උඹ නිසා අනුකම්පාවක් ඇති වෙනවානම්, එයට හේතුව මාතෘ ස්නේහයයි..'' අම්මා තෙපළාය.

ඔහු ඇගෙන් ඈත් වෙත්ම, කටුක තියුණු වචන ඇගේ කන්හි වැකිණ:

''මිනිහෙකුට ජීවත් වීමට බාධා කරන ආදරයකුත් තියනව..,''

තමාගේ හදවතට වේදනා ගෙනදෙන තවත් යමක් කියතියි බියගත් අම්මා වෙව්ලමින් වේගයෙන් කතා කළාය:

''පාෂා! ඕන නැහැ. මට තේරෙනව වෙනින් විධියක් නැති බව. සහෝදරයන් සඳහා එය කළ යුතුයි..''

''නැහැ! එය මා කරන්නේ මා සඳහාමයි.''

අන්ද්‍රේ දෙර අසල සිට ගත්තේ, එක් දණහිසක් නමාගෙන, උරයක් උළුවස්සට හේත්තු කරගනිමින්ය. උළුවස්සට වඩා උස්වූ හෙතෙම බෙල්ල දිගු කරගනිමින් හා හිස පාත් කරගනිමින් එතැන සිටියේය. හරියට රාමු කරනලද පින්තූරයක් මෙනි.

පාවෙල් දෙස තම ලොකු ඇස්දෙක රඳවාගත් හෙතෙම මුරණ්ඩු ලෙස කතා කළේය:

''මහත්තය, තමුසෙගෙ දෙඩවීම නවත්වනව!'' ගල්ලෙනකට වැදුණු තලගොයෙකුට අන්ද්‍රේ සමාන විය.



අම්මාට ඇඬීමට සිත්විණ. පුතා තමගේ කඳුළු දකිනවාට අකමැති වූ අම්මා කිසිවක් කියමින් කොඳුරන්ට වූවාය.

''අනේ දෙවියනේ මට අමතක වුණා!''

ඇ ඉස්තෝප්පු කාමරයට වැද පිසිමේ අඩන්නට වන්නී, අමාරුවෙන් නවතාගත් කඳුළු ධාරාවන්ට නිදහසේ ගලා යන්නට ඉඩ හැරියාය. ශබ්දය පිටනොවන සේ ඇඬූ ඇට දැනුනේ සිත කය දුර්වලව යන සැටියකි. කඳුළු ධාරාවන් සමග හදවතෙන් ලේ ගලා ගියාක් මෙනි.

තුනී දොර විනිවිදගෙන කාමරයේ නැත පැගී විවාදය ඇට ඇසේ

''උඹ, ඇට වද දෙමින් ප්‍රීති වෙනවද?'' හොහොල් ඇසුවේය.

''එහෙම කතා කරන්ට උඹට අයිතියක් නෑ!'' පාවෙල් කෑ ගැසීය.

''උඹගෙ මෝඩකම් වැඩියි, බුරුවො ගහන්නා වගෙ පිනුම් ගහනකොට බලා හිටිය නම්, මං උඹේ සහෝදරයෙක් නොවී. උඹ ඇයි එහෙම කිවේ? තේරෙනවද?''

''හැමදම ඇති දේ ස්ථිරව කියන්ට ඕන!''

''ඇට?''

''සියලු දෙනාටම. මගේ වැඩවලට බාධා කරන ආදරයෙණුයි, යාළුකමෙණුයි මට පලක් නැහැ...''

''වීරයෙක්! සොටු හුරපන්. ගිහිං ඔය ගැන කියපන් සාෂෙන්කාට. ඇටයි කියන්ට ඕන.''

''මම ඇට කීවා!..''

''එහෙමද? ඒ බොරු! උඹ ඇට ආදරෙන් කතා කළා. මට ඇහුනේ නෑ නමුත් මම දන්නවා! අම්මා ඉදිරිපිට වීරයෙක් වෙලා. දනගනින්, වහු පැටියා උඹේ වීරත්වය තඹ සල්ලියක් වටින්නේ නෑ!''

ව්ලාසවා ඉක්මනින් කඳුළු පිසද ගත්තාය. හොහොල්ගේ ඇනුම් පද නිසා පාවෙල් අමනාපවෙතියි බියගත් ඇ දොර හැරගෙන කුස්සියට යොස් කතා කළාය. බිය හා දුක විසින් ඇ වෙලාගෙන තිබිණි.

''අනේ, හිතලයි! ඒකට මොකද වසන්තය...''

අරමුණක් නැතිව කුස්සියේ බඩු මුට්ටු තැනින් තැන අත්පස් කරමින් හා ශබ්ද ඇති කරමින් පහත් ස්වරයෙන් කෙරීගෙන යන විවාදය නවත්වා දැමීමට අම්මා උත්සාහ දැරුවාය. ඇ කතා කළේ හඬ නගමිනි:

''හැම දේම වෙනස් වෙලා. මිනිස්සු රත් වෙලා. කාලගුණය හිතල වෙලා. මේ කාලෙ වන විට පැහැදිලි අහසකුත්, උණුසුම ගෙනදෙන ඉර අව්වකුත් තියෙන්ට ඕන...''

කාමරය තුළ නිහඬතාවයකි. බලාපොරොත්තුවෙන් ඇද කුස්සිය තුළ වැඩ කිරීම අත්හිටෙව්වාය.

"ඇහුණද?" හොහොල්ගේ නිහඬ පැනය පිළිරැව් දෙයි.

"අවබෝධ කරගන්ට ඕන, යකෝ! උඹට වැඩිය එයාගෙ හිත හොඳයි..."

"තේ බොමුද?" යි වෙව්ලමින් අම්මා ඇසුවාය. පිළිතුරු බලාපොරොත්තු නොවී සිය වෙව්ලීම සඟවා ගන්නා අටියෙන් ඈ හඬ නගමින් කතා කළේය:

"අනේ මන්ද, මට හරි සීතලයි!"

පාවෙල් ඈ වෙතට සෙමින් ළංවිය. යටැසින් අම්මා දෙස බැලූ ඔහු වැරැද්දක් කළ එකෙකු සේ මඳ සිනා පාමින් මෙසේ කීවේය:

"අම්මේ! මට සමා වෙන්න. මම තවම ළපටි කොල්ලෙක්, මෝඩයෙක්."

"උඹ මට අත තියන්න එපා" යැයි ඈ කීවේ ඔහුගේ හිස තම ළයට කිට්ටු කර ගනිමිනි. "කිසිදෙයක් කියන්ට එපා, උඹගෙ ජීවිතෙ, උඹේ වැඩ, ඕන විදියට කර ගනින්. දෙවියන්ගෙ නාමෙට මගෙ හෘද වස්තුව පාගන්ට එපා. අම්මා කෙනෙකුට අනුකම්පා නොකර ඉන්ට පුළුවන්ද? බැහැ! උඹලා හැම දෙනා ගැනම මට ලොකු අනුකම්පාවක් ඇති වෙලා තියෙනවා. මා හැර වෙන කවුද උඹලා නිසා දුක් වෙන්නෙ?.. උඹලා හැම දෙනෙක්ම අවංක උදවිය. උඹට ජේනවද උඹ වෙනුවෙන් හැම කෙනෙක්ම ඉදිරියට ඇවිල්ලා හිරේට පවා ගිය හැටි... පාෂා!"

ඇගේ සිත තුළ වැදගත් උණුසුම් අදහසක් උපණි. උදසිනත්වය සහ දුක මුසු එක්තරා ප්‍රීතියක් හදවත පුරා විහිද ගොස් ආස්වාදයක් ගෙන දුන්නේය. එහෙත් මෙලෙස පිඩා දින අවස්ථාවේදී උචිත වචන සොයා ගැනීමෙහිලා ඈ අසමත් වූවාය. තියුණු දරුණු වේදනා සහිත නෙත්වලින් ඈ සිය පුතා දෙස බලා අතක් ගසා දැම්මාය...

"අම්මේ, සමා වෙන්න, මට ජේනවා!" ඔහු මුමුණුවේය. හිස පාත් කර ගෙන සිනාසෙමින් ඔහු ඈ දෙස බැලුවේ ලජ්ජාවෙන් මෙන් වුවද සන්තෝෂයකිනි.

"මේ පාඩම මා කිසිම දක අමතක කරන්නේ නැහැ. සත්තකින්ම!"

ඔහුගෙන් ඈත් වූ අම්මා කාමරය දෙස විමසුම් බැල්මක් හෙලා සාන්ත ලෙස මෙසේ තෙපලාය:

'අන්ද්‍රෂා! එයාට කෑ ගහන්න එපා! ඇත්ත ඔයා වැඩිමල්..."

ඇට පිටුපා සිටි හොහොල් උපහාසාත්මක ලෙස සිනාසෙන්නේ මෙසේ කීවේය:

"ඕ, හෝ! එයාට කෑ ගහනව විතරක් නෙවි. මං එයාට ගුටි අනිනවා!"

අන්ද්‍රේ වෙතට ළංවූ අම්මා අතක් දිගු කරමින් කතා කළාය.



"උඹ හරිම දයාබර පුද්ගලයෙක්..."

හොහොල් ආපසු හැරී, හිස පාත් කරගෙන, දැතින් තුනටිය බද අල්ලා ගෙන හරකෙකුසේ ඈ අසලින් ගොස් කුස්සියට වැදුණේය. ඔහුගේ උපහාසාත්මක වදන් එහි සිට හඬ දුනි.

"උඹේ බෙල්ල හපා කන්ට ඉස්සෙල්ලා පලයන් යන්ට, පාවෙල්! නෙන්කො, මා විහිළු කරන හැටි තමයි ඒ. විශ්වාස කරන්න එපා. ඕන්න මම සමොවාරය රත් කරන්නම්. අඟුරු තියනව නොවැ! අඟුරු තෙතයි! ඔක්කොම යකාට ගිහිං!"

ඔහු නිහඬ විය. අම්මා කුස්සිය දෙසට එන විට හොහොල් බිම හිඳගෙන සමොවාරයට කටින් පිඹිමින් සිටියේය. ඔහු මෙසේ කීවේ ඇය දෙස නොබලමිනි:

"බය වෙන්ට එපා. මා එයාට අත තියනිනේ නෑ! මගේ හිත වෙඩරු වගෙ ඉක්මනින් උණු වෙනවා! මා කියන්නේ ඇට. වීරයා, උඹ කන් දෙන්ට එපා. එයාට මා ආදරෙයි. ඒ වුණාට එයාගෙ කබාය මගෙ හිතට අල්ලන්නෙ නෑ. එයා ඒකට බොහොම කැමතියි. ජේනවද බඩ පුම්බා ගෙන යන හැටි. ඉතින් ඔය බඩෙන් එයා හැම දෙනාවම තල්ලු කරනව. බලන්නකො මගෙ කබාය හරි හොඳයි. ඒක ඇන්දම තල්ලු කරන්ට තියා හැරෙන්ටවත් ඉඩක් නැහැ."

පාවෙල් සිනාසෙමින් මෙසේ ඇසීය:

"උඹ හුඟක් වෙලා දෙඩවනවද? පාරක් ගහල හිත හදගනින්!"

එරමිණිය ගොතාගෙන වාඩිවී සිටි හොහොල් සමොවාරය දෙස බැලීය. දෙර ළඟ හුන් අම්මා හිඟ නමා ගෙන සිටි හොහොල් දෙස බැලුවේ කඳුලින් පිරි නෙත්වලින් සහ දුක්බර හදවතකින් යුතුවය. පිට කොන්ද නමාගෙන දැත් බිම ගසාගෙන රත් පැහැති නෙත්වලින් අම්මා සහ පුතා දෙස බැලූ හොහොල් මෙසේ කීවේය:

"ඔබලා හොඳ උදවිය, නෙව!"

පාත්වූ පාවෙල් ඔහුගේ අතක් අල්ලා ගත්තේය.

"අත අදින්ට එපා! මාව වැටෙවී..." හොහොල් කීය.

"මොකද උඹලට ලැජ්ජද?" අම්මා දුකෙන් මෙන් ඇසුවාය. "බදගෙන සිප ගනිල්ලා..."

"කැමතිද?" පාවෙල් විමැසීය.

"කැමතියි!" හොහොල් නැගිට සිටිමින් කීය.

ඔවුහු දෙදෙනා එකි' නෙකා තදින් සිප වැළඳ ගත්හ. අවංක මිත්‍ර සෙනෙහසින් වෙළී ගිය මේ සගයින් දෙදෙනාගේ දේහයන් වෙන්ව තිබුණද, අධ්‍යාත්මය එකට වෙළිණ.

අම්මාගේ දෙනෙතින් කඳුළු ධාරා ගලා යන්ට විය. එහෙත් ඈට දැනුණේ සැහැල්ලු බවකි. කඳුළු පිස දමාගත් ඈ කතා කළේ ලජ්ජාවෙන් මෙනි:

''ගැණු අඬන්ට දස්සයි. දුකේදී වගේම සැපේදීත් අඬනවා!..''

හොහොල් පාවෙල් වෙතින් ඉවතට යමින් කඳුළු පිරි දෙනෙත් පිසදගත්තේය.

''වතු පැටියෙයා සන්තෝෂ වුණා මදැ දුන් ඉතින් මස් මඩුවට ගෙනියන්න ඕනා! හරිම මුඩුම අඟුරු වගයක්. පිඹලා ඇස් දෙකෙක් කඳුළු පිරිල, ඒ වුණාට තවම පත්තු වෙලා නෑ...''

ගිය පාත් කර ගනිමින් ජනේලය අසල වාඩි වුණු පාවෙල් මෙසේ කීවේ සෙමිනි:

''ලැජ්ජා නැද්ද ඔහොම අඬන්ට...''

අම්මා ඔහු ළඟට විත් වාඩි වුණාය. උණුසුම් සැහැල්ලු බවක් ඇගේ හදවතට දැනුනෙන්, ඈ සිතෙහි මුදු ප්‍රීතියකි හටගත්තේ. ඈ තුළ ඇතිවූ හැඟීම කණස්සලු වුවද එහි උපශාන්ත බවක් හා පසන් ගතියක් තිබිණි.

''මම පිහන් කෝප්ප ගේන්නම්. නෙන්කො, හිඟිං වාඩි වෙන්ට.'' යැයි කී හොහොල් කාමරය දෙසට යමින් මෙසේද කීය. ''විඩා හරින්න, මදැ හිතට වද දුන්නා...''

හොහොල්ගේ ගීතමය හඬ කාමරය පුරා රැව් පිළිරැව් දිණි:

''ජීවිතයේ ඕජාන්විත පැත්ත, නියම මිනිස් ජීවිතය දූන් අපට දැනුණා!..''

''ඔව්, ඇත්ත!'' පාවෙල් කීවේ අම්මා දෙස බලමිනි.

''හැමදෙයක්ම වෙන විධියටයි හැමෙන්නේ. අමුතු දුකක්, අමුතු සැපක්,'' මෙසේ කීවේ අම්මාය.

''ඒක එහෙම වෙන්ට ඕනා!'' හොහොල් තෙපළේය. ''ඒ මොකද දන්නවද, නෙන්කො, අළුත් හදවතක් ඇති වෙලා තියෙන හන්ද; අළුත් ජීවිතයක අළුත් හදවතක්. බුද්ධියේ ආලෝකය නිසා පැහැදුණු මිනිහෙක් කෑ ගසා ලෝක ජනතාවට මෙසේ කියනවා: 'ඊයි උඹලා හැමදෙනාම එකම පවුලකට එක් වෙයල්ලා, සමගි වෙයල්ලා!' මේ ඉල්ලීම අනුව ලෝකයේ සියලුම රටවල ජනතාවගෙ හදවත්වල නිරෝගී කොටස් එකට එක් වෙලා එකම යෝධ හදවතක් බවට පත් වෙනවා. ඉතින් ඒ හදවඃ හරියට රිදී සීනුවක් වගෙ හඬ පතුරුවා හරිනවා...''

දෙතොල් නොවෙව්ලනසේ තදකර වසාගත් අම්මා දැස් තදින් වසාගත්තේ නොහඬා සිටිනු පිණිසය.



අතක් උස්සාගත් පාවෙල් යම්කිසිවක් කීමට සැරසුණු විට ඊට බාධා කළ අම්මා, ඔහුගේ අතක් අල්ලාගෙන කණට කොඳුළාය:

''බාධා කරන්ට එපා...''

''දන්නවාද?'' යි හොහොල් ඇසුවේ දොර ළඟ සිට ගනිමිනි. ''මිනිසුන්ට ඉදිරියේදී තව දුක් විඳින්ට සිද්ද වේවි, ලේ හලන්ට සිද්ද වේවි. මගෙ හදවතේ සහ මොළය තුළ තිබෙන දේ සමග සසඳා බලන කොට මගෙ දුකයි හලාපු ලේයි ඉතාම පුංචි කොටසක් බව පේනව... තරුවක් දීප්තිමත් ආලෝක ධාරා නිසා පොහොසත් මමත් පොහොසත්. කිසි කෙනෙකුට කිසිදක විනාශ කළ නොහැකි ප්‍රීතියක් මා තුළ තිබෙන හෙයින් හැම දෙයක්ම විඳ දරා ගනිමින් ඉවසා ඉන්නවා. අන්න ඒ ප්‍රීතිය තුළ තමා මගේ හයියහත්තිය රඳා තියෙන්නෙ!''

තේ බී අවසාන වූ පසු මේසය වටා වාඩිවී සිටි ඔවුහු මැදියම් රෑ වනතෙක් මිනිසුන්ගේ ජීවිතය හා අනාගතය ආදිය ගැන කතාබහ කළාහ.

අදහස් තමාට පැහැදිලි වූ පසු අම්මා දිග සුසුමක් හෙළා සිය අතීතයට වැදෙමින් දුක්බර සහ රළු ජවනිකාවක් මවාගත්තී, ඒ හැඟීම් හදවතට ඇතුළු කරගනිමින් නව අදහස් තරයේ ස්ථිර කරගත්තාය.

උණුසුම් සාකච්ඡාවට හසු වන ඇගේ බිය දියවී යන්ම ඈට දැනෙන්නේ පහසුවකි. දූන් ඈ තුළ පහළවී ඇති හැඟීම හරියට තම පියා තමාට දුන් අවවාදයට සමානය. එදා ඔහු ඈ අමතා කීවේ මෙයයි:

''විරිත්තල වැඩක් නෑ! උඹව කසාද බැඳගන්ට තරම් මෝඩයෙක් ඉදිරිපත් වෙලා තියෙන්නෙ. ගනිකට දිගෙ පලයන්! හැම තරුණියක්ම දිගෙ යනව, හැම ගෑණියෙක්ම ළමයි වදනව, දරුවො දෙමාපියන්ගෙ — දුක! උඹ මනුස්ස ප්‍රාණයක් නොවෙයිද?''

දූන් ඈගේ මනැස ඉදිරිපිට නොවැළැක්විය හැකි මාවතකි. එය අඳුරු සිස් තැන් හරහා දිව යයි. ඒ මඟ දිගේ වැළැක්විය නොහැකි ලෙස යාමට ඉවා ගන්නා ඇගේ සිත උපශාන්ත බවකින් පිරී යයි. අළුතින් නැඟ එන ශෝකය ඇගේ සිත බද අල්ලා ගනිත්ම ඈ යටිසිතින් කාටදෝ මෙසේ කිවාය.

''ඉදා, ගනිල්ලා!''

තදින් ඇද තිබෙන වීනාවක තතක් නගන උස් හඬක් මෙන් ඇගේ හිත තුළ පැතිර ගිය සෝකාන්විත ගීතය ඉන් ලැබුවේ සැනසුමකි.

තමා සතුව තිබෙන සියලු දේ උදුරා ගැනීමට බැරිය යන උදර බලාපොරොත්තුව සම්පූර්ණයෙන්ම නිවී නොගොස් සිත තුළ තිබෙන ශෝකය එස්තරා උණුසුම් විශ්වාසයක් ඇති කළේය. මොනවා හරි ඉතුරු වේවි!..

# XXIV

පාවෙල් හා අන්ද්‍රෙයි පිටව ගිය හැටියම වාගේ, හිමිදිරි පාන්දර ජනේලයට තට්ටු කළ කර්සුනෝවා බෙරිහන් දුන්නාය:

"ඉසායිව මරා දමලා! යමු බලන්ට..."

තිගැස්සී ගිය අම්මාගේ හිත තුළ මිණී මරුවාගේ නම දිස්විය.

"කවුද?" ඈ ඇසුවේ සළුව පොරෝවා ගනිමිනි.

"එතන මිණී මරුවා නැහැ. ඉසායිව මරලා ඌං පැනලා ගිහිං!" මරියා කීවාය.

ගෙයින් එළියට විත් ඈ මෙසේ කීවාය:

"දැන් ඉතින් ආයෙමත් හාරා අවුස්සන්වයි, වැරදිකාරයා හොයන්වයි පටන් ගනීවි. උඹලගේ පිරිමි ගෙදර හිටිය එක හොඳයි. මම ඒ ගැන සාක්කි කියන්නම්. රෑ යාමෙට උඹලගෙ ගේ ළඟින් මම යන ගමන් ජනේලයෙන් එබිකම් කරල බැලුවා. උඹල මේස වටේ වාඩි වෙලා හිටියා...'

"අනේ මරියෙ, ඒ ගොල්ල ගැන අවිස්වාස කරන්ට පුළුවන්ද?" යි අම්මා අසන්නී බියවූවාය.

"එහෙනම් කව්ද ඒ මිනිහව මැරුවෙ. උඹලගෙ අය වෙන්ට ඕන" කර්සුනෝවා දැඩි විශ්වාසයකින් යුතුව කීවාය. "ඒ මිනිහ උඹලගෙ වැඩ ගැන නිතර හෝදිසි කළ බව හැම කෙනෙක්ම දන්නව..."

අම්මාට හුස්ම ගැනීම පවා අපහසු වූයෙන් ඈ තම ළය මත අතක් තබ ගත්තාය.

"උඹට මොකද? උඹ බය වෙන්ට එපා! ඌට එහෙම තමා වෙන්න ඕනා. මිණිය ගෙනියන්ට ඉස්සෙල්ල ඉක්මනට යමු!.."

වෙසොව්ෂිකොෆ් ගැන සිහි කළ අම්මාගේ හිත තුළ වේදනාවක් හට ගත්තේය.

"මදැ වෙච්ච දේ!" අම්මා සිතුවාය.

කම්හලට නුදුරු ගිනිගෙන දැවී ගිය ගෙයක් අසල සිටි පිරිසක් අඟුරු සහ අළු අවුස්සමින් රැස් කකා උන්හ. උන් හඬ නැගුවේ හරියට කුරුමිණි රංචුවක් මෙනි. විශාල පිරිසක් ගැළුද, ඊටත් වඩා වැඩි ගණනක් ළමයිද වෙළෙන්දෝද, තැබෑරුමේ සේවකයෝද, පොලිස්කාරයෝ සහ මුණපුරා රිදීවන් රැවුළක් ඇති, පපුව පුරා තඹ පදක්කක් ගොඩම් පැළඳ සිටි මහලු උසැති පොලිස් නිලධාරි පේත්ලින්ද එහි වූහ.

මැරුම්කෑ ඉසායිගේ සිරුර දැවීගොස් තිබුණු ලී කඳකට පිටදී තරමක් ඇලවී, තිබුණ අතර හිස් කබල එක් උරයක් මත වැටී තිබිණි. මළ සිරුරේ



දකුණු අත සාක්කුව තුළ තිබුණ නමුදු වම් අත දැවී ගිය පොළොවේ පස් මිටක් අතින් ගෙන සිටින සැටි පෙන්විය.

අම්මා ඉසායි දෙස බැලුවාය. ඔහුගේ එක ඇසක් දිගහැරී ඇති කතුල මත තිබෙන තොප්පිය දෙස බලන්නාක් මෙනි. කට බාගෙට හැරී තිබිණි. ඔහුගේ තඹ පැහැති යටි රැවුළ පැත්තකට ඇලවී තිබිණි. ඔහුගේ කෙට්ටු ශරීරයද, කටු පැදි තිබුණු මුණ සහ වසුරිය කැළල්ද මරණය නිසා පොඩිවී අඩුරු වී ගොස් තිබෙන්නාසේය. හුස්ම ඉහළ ඇදගත් අම්මා කුරුසියේ ලකුණ ඇඳ ගත්තාය. ජීවත්ව සිටි කාලයේදී ඔහුගේ රූපය ඈ තුළ තෝජය මුසු කළකිරීමක් ඇති කළ නමුදු දැන් ඔහුගේ මළ සිරුර දකින ඈ තුළ සෝකයක් පහළ වෙයි.

"ලේ නැහැ!" යි එකෙක් කීවේය. "මිට මෙලවූ අතින් ගහල වගෙයි..." කිපිණු හඬක් ඇසිණ:

"කේලම්කාරයගෙ කට වැහුවා..."

නිලධාරියා දැන් සොලවමින් හා ගැහැණුන් ඇත් කරවමින් තර්ජනය කළේය:

"කවුද එහෙම කීවෙ?"

ඔහු තල්ලු කරන්ම රැස්කමින් සිටියවුන්ගෙන් සමහරු විසිර ගියහ. සමහරු හනික දුව ගියහ. කවුදෝ එකෙක් නපුරු සිනාවක් පෑවේය.

අම්මා ගෙදර ගියාය.

"කවුරුවත් අනුකම්පා කරන්නේ නැහැ!" ඈ සිතුවාය.

නිකොලායි වෙසොව්ෂිකොව්ගේ පළල් දේහය, කුඩා ඇස්වලින් ඔහු නිසලව නපුරු ලෙස බලන හැටි, සැබැවින්ම කැඩුනාක් මෙන් ඔහු දකුණු අත වනන සැටි ආදී ජවනිකාවන් ඇගේ මනැස ඉදිරියේ මැවී පෙනේ.

පුතා සහ අන්ද්‍රෙයි ගෙදර විත් දවල් බත සඳහා වාඩිවූ විට ඈ ඔවුන්ගෙන් ඇසූ පළමුවැනි ප්‍රශ්නය මෙය ය:

"ඉසායිගෙ මරණෙට කාවත් තවම හිරබාරෙට අරගෙන නැතිද?"

"තවම නැහැ!" හොහොල් උත්තර දුන්නේය.

ඔවුන් දෙදෙනාගේම ධෛර්යය සිඳිගොස් තිබෙන සැටි ඇට පෙනේ.

"නිකොලායි ගැන කවුරුවත් එහෙම කතා කරන්නෙ නැතිද?" යෙමින් අම්මා විමසුවාය.

පුතාගේ දැඩි බැල්ම අගේ නෙත්වලට හසුවිය. ඔහු පැහැදිලි ලෙස කතා කළේය:

"එයා ගැන කතා නෑ. එයාව අවිශ්වාස කරනවයි කියා සිතා ගන්නවත් බැහැ. මිනිහ ඊයේ දවල් ගඟට ගියා, තවම ඇවිත් නැහැ. මම එයා ගැන විපරම් කළා..."

"දෙවියන්ගෙ පිහිටයි!" කී ඇ සැහැසුම් සුසුමක් හෙළමින් යළි මෙසේ කීවාය: "දෙව පිහිටයි!"

ඇ දෙස බැලූ හොහොල් හිස බිමට හරවා ගත්තේය.

"මළමිණිය තිබුණ හැටි" යැයි අම්මා කල්පනාකාරී ලෙස කීවාය. "මූණ හරියට පුදුම වූ විට වගෙ. කිසි කෙනෙක් මිනිහගෙ මරණය ගැන කම්පා වුණේ නැහැ. මිනිහට ලැදිව වචනයක්වත් කතා කළේ නැහැ. පුංචි මළ මිණිය හරියට පේන්නෙවත් නැහැ. හරියට මොකකින්දෝ කඩාගෙන වැටුණු කෑල්ලක් වගෙ. ඔහෙ වැටිල ඉන්නව..."

කෑම ගනිමින් සිටි පාවෙල් හැන්ද විසිකරමින් කෑ ගැසීය:

"මට නම් තේරෙන්නෙ නැහැ!"

"මක්කද" යි හොහොල් ඇසීය.

"සතුන්ව මරනවා කෑමට ගන්න, ඒක එතරම් හොඳ නෑ. භයානක කැලෑ සතුන් මරා දැමීම තේර ගන්ට පුළුවනි. ජනතා හතුරෙකුව මරා දාන්ට මට වුණත් පුළුවනි. ඒ වුණත් ඔය වගෙ පහත් එකෙක්ව මරා දමන්ට අත්, හිත ඉඩ දෙන්න හැටි එක නෙව පුදුමේ!.."

උරහිස් සෙලවූ හොහොල් මෙසේ කීය:

"ඒ මිනිහත් සතෙක් වගේම අනතුරුදායකයි. මදුරුව අපේ ලේ බොනව. අපි උංව මරා දමනවා!"

"ඔව්, ඇත්ත. මා කියන්නෙ ඒ ගැන නෙවි... හරිම හිරිකිත වැඩක් බවයි මගේ අදහස!"

"මොනව කරන්ටද?" යි ඇසූ හොහොල් දෙවුර සෙලවීය.

"උඹට පුළුවන්ද ඔය වගෙ මිනිහෙකුව මරා දමන්ට?" පාවෙල් මෙ ප්‍රශ්නය නැගුවේ සැහෙන වෙලාවක් නිහඬව සිටීමෙන් පසුවය.

හොහොල් සිය වටකුරු ඇස්වලින් පාවෙල් දෙසත් අම්මා දෙසත් බලා ශෝකයෙන් යුතුව, එහෙත් දැඩිලෙස පිළිතුරු දුන්නේය:

"සගයින් වෙනුවෙන්, ව්‍යාපාරය සඳහා මට ඕන දෙයක් කළ හැකි! මගෙ පුතා වුණත් මරා දමනැකි..."

"අපොයි, අන්දෝ!" අම්මා පහත් ස්වරයකින් කීවාය.

ඇ දෙස බලා සිනාසී ඔහු මෙසේ පැවසීය:

"එහෙම නැතුව බෑ! ජීවිතේ හැටි!.."

"ඔව්-ව්!.." යැයි දිග්ගස්වා පවෙල් කතා කළේය. "ජීවිතය. එහෙම තමා..."

හිටිහැටියේ යම්කිසි අදහසක් පහළවී සිත් කැළඹුණාක් මෙන් නැගී සිටි අන්ද්‍රේ අත් වනමින් කතා කළේය.

"මොනව කරන්ටද? ඉක්මනින්ම ජනතාව දෙස බලා ප්‍රීතිවන කාලය



ඇති කර ගැනීම සඳහා, මිනිහාව වෛර කරන්ට සිදු වෙලා තියෙනවා. ජීවිතයේ ඉදිරි ගමනට බාධා කරන දේවල් විනාශ කරන්ට ඕන. සල්ලිවලට ජනතාව පාවා දෙන්නාවුන්, එසේ කරන්නෙ ගරු නම්බු හෝ සැපසුව ජීවිත ලබා ගන්ට. උන්වත් විනාශ කරන්ට ඕන. අවංක මිනිසුන්ට බාධා කරන යුදස්ලා ඉන්නවා නම්, උන් නැති කර දැමීමට ඉදිරිපත් නොවන්නේ නම්, එහෙනම් මමත් යුදස් කෙනෙක්! මට අයිතියක් නැහැ? අපේ ස්වාමිවරු, උන්ට අයිතියක් තියනව සොල්දාදුවන්, මිණීමරුවන්, හිරගෙවල්, ගනිකා මඩම්, ආදිය තබාගෙන ඉන්ට. මේ හැම එකක්ම උන්ගෙ සැප සම්පත් විනෝදය ආරක්ෂා කරනවා? උන්ගෙ දන්ඩ අතට අරගැනීමට මටත් සිද්ද වෙලා තියෙන්නෙ. ඉතින් මොනව කරන්ටද? මම ප්‍රතික්ෂේප කරන්නෙ නෑ. ඒ පොල්ල මම අතට ගන්නව. උන් අපව සියගණනින් මරා දමනව. හතුරන්ගෙන් එකෙකුට පහර දීමට මට අයිතියක් තියෙන්නෙ ඒ නිසයි. මට හොඳටම ළංවී, මගෙ ජීවිතයට නදබල ලෙස හානි කරන හතුරාට පහර දෙන්ට මට අයිතියක් තියෙනව. ජීවිතේ හැටි ඔහොම තමා. එවැනි දෙයක් මට උවමනා නැති නිසා මා එයට විරුද්ධව යනවා. උන්ගෙ ලේවලින් කිසි දෙයක් නිර්මාණය කරන්ට බැහැ. එම ලේවලින් පලක් නෑ!.. නිතර වහින වැස්සක් වගෙ අපේ ලේවලින් පොළොව සරු වෙනව. සත්‍යය අපේට වැවෙනවා. උන්ගෙ ලේ කුණුවෙලා ගිහිං, සලකුණු නොතබා මැකී යනව. මම එය දන්නවා! එහෙත් අවශ්‍ය වුවොත් පව් මා පිට පවරාගෙන මරා දමීමට සූදානම්!.. මා කියන්නෙ මා වෙනුවෙන්. මගේ පව් මා සමග මැරිලා යාවි. එය අනාගතය කිලිටි කරන ලපයක් වන්නේ නෑ. එයින් කිසිදෙයකට හානියක් වෙන්නේ නැහැ. සත්තකින්ම මට හැර!"

තම මූණ ඉදිරිපිට අත් වනමින් හොහොල් කාමරය තුළ ඇවිද්දේ, වාතයෙහි බුරමින් නැගී සිටින යමක් තමා කපා දැමීමට ඉදිරිපත්වී සිටින්නාක් මෙනි. අම්මා ඔහු දෙස බැලුවේ ශෝකයෙන් හා බියෙනි. කිසියම් හැඟීමක් ඔහුට පීඩා ගෙන දෙන බව ඇට දැනේ. මිනීමැරුම පිළිබඳ බියජනක අඳුරු අදහස් ඇගේ සිතෙන් ඉවත් විණි: "වෙසොව්ෂිකොව් නොවේ නම් පාවෙල්ගේ සගයින් අතුරෙන් කිසිවකු එය නොකළ බව" ඇගේ කල්පනාව විය. හිස පාත් කර ගත් පාවෙල් දැඩිලෙස හා වේගයෙන් කතා කරන හොහොල්ට සවන් දුන්නේය.

"ඉදිරිමග යනවිට තමාට එදිරිව යන්ට සිද්ද වෙනව. හැම දෙයක්ම මුළු මහත් හදවතම කැප කරන්ට සිද්ද වෙනව. ව්‍යාපාරය උදෙසා ආත්මය පූජා කරන්ට, ජීවිතය පුදන්ට — ඒක ලේසි වැඩක්. තමාගෙ ජීවිතයට වඩා වැදගත්, උතුම් දේවල් ව්‍යාපාරයට පුද කරන්ට ඕන. අන්න එදට නුඹ විශ්වාස කරන ඇත්ත-යුක්තියේ අගය වැඩි වෙනවා!.."

මළානික වූ හෙතෙම කාමරය මැද සිට ගෙන දෙනෙත් වසා ගත්තේය, අතක් ඔසවා ගනිමින්, ගරු ගම්භීර ලෙස පොරොන්දුවක් දෙන්නට විය:

"මිනිසා එකිනෙකාට ගරු කරන දවස එළඹෙයි. එදට සෑම මිනිසෙක්ම තරු මෙන් දිලිසෙන බව මම දනිමි! සිය නිදහස පෙරටුකර ගනිමින් විවෘත හදවත්ඇතිව, කෝපයෙන් තොරව පිරිසුදු හදවත් ඇතිව, මිනිස්සු ගමන් කරණු ඇත. එදට මිනිස් ජීවිතය මිනිසාට සේවය කරනු ඇත. ඔහුගේ ප්‍රතිමූර්තිය උසස් වනු ඇත; නිදහස් මිනිසාට හැම ජයක්ම ලබා ගත හැකිය. එදට මිනිස්සු නිදහසේ සත්‍ය ගරු කරමින් ජීවත් වනු ඇත. ලෝකය සිතින් බදගෙන, එයට වඩාත් ගැඹුරු ලෙස ආදරය කරන මිනිස්සු ඉතාම හොඳ මිනිස්සු හැටියට ගණන් ගනු ඇත. ඉතාම හොඳ මිනිස්සු නිදහස්කාමීන් වනු ඇත. ඔව්හු ඉතාම සුන්දර අය වෙති! එවැනි ජීවිතයකට පා තබන අය ශ්‍රේෂ්ඨ වනු ඇත..."

නිහඬව සිටි හෙතෙම දිග ඇදී නැවත කතා කළේය:

"අන්න එවැනි ජීවිතයක් සඳහා මම ඕනෑම දේකට මූණ පාමි."

ඔහුගේ මුහුණ ගැස්සිණි දෙනෙක්වලින් ලොකු කඳුළු කැට කඩා හැලෙන්ට විය.

පාවෙල් හිස ඔසවා, දෙනෙත් මහත් කර ගෙන ඔහු දෙස බැලීය. ඔහුගේ මුහුණ සුදු මැලි වෙලාය. අඳුරු බිය දකින අම්මා හුන් තැනින් නැගිට සිටියාය.

"අන්දරේ උඹට මක් වෙලාද?" යි පාවෙල් සෙමින් ඇසුවේය.

හිස ගස්සා දැමූ හොහොල් දුන්නක්සේ දිග ඇදී කතා කළේ අම්මා දෙස බලමිනි:

"මම දුටුවා... දන්නවා..."

ඇ ඉක්මනින් නැගිට ඔහු වෙතට විත්, ඔහුගේ අතක් අල්ලා ගත්තාය. ඔහු අත ගසා දැමීමට උත්සාහ කළද, ඔහුගේ අත තදින් ගෙන සිටි අම්මා කොඳුළාය:

"මගෙ හොඳ පුතේ, නිහඬ වෙයන්! මගේ දයාබර..."

"නැවතියල්ල! මම කියන්නම් ඒක වුණේ කොහොමද කියල...

ඔහු මුමුණුවේය.

"ඕන නැහැ!" ඇ කොඳුළාය. ඇගේ දෙනෙත් කඳුලෙන් පිරී තිබිණි. "එපා, ඕන නැහැ, අන්දෘෂා..."

තෙත්වූ නෙත්වලින් සිය සගයා දෙස බලමින් පාවෙල් ඔහු දෙසට ළංවිය. පාවෙල් මැළවී ගිය මුහුණින් යුතුව ඔහු ළඟට විත් සෙමින් මෙසේ පැවසීය:

"අම්මා බය එච්චි, උඹ මැරුවයි කියල..."



"මම බය නෑ! විස්වාස කරන්නෙ නෑ! සියැසින් දුටුවත් විස්වාස කරන්නෙ නෑ!" ඇ කිවාය.

"නැවතියල්ලා!" යැයි හොහොල් කීවේ ඔවුන් දෙස නොබලමිනි. හිස වනමින් සහ අත නිදහස් කර ගනිමින්, "මම නෙවෙයි, ඒ වුණාට මට ඉඩ නොදී සිටින්ට බැරි වුණා..." යැයි හෙතෙම කීය.

"අන්ද්රේ, නැවතියන්!" පාවෙල් පැවසීය.

එක් අතකින් ඔහුගේ අත මිරිකූ පාවල්, අනින් අතින් උරහිස අල්ලා ගත්තේ ඔහුගේ දේහයේ ගැස්ම නැවැත්වීමට මෙනි. හොහොල් ඔහුගේ හිසට තම හිස ළංකර ගනිමින් සෙමින්, ඉකිගසමින් මෙසේ කීය:

"මට ඒක උවමනා කරල තිබුණේ නෑ. උඹ ඒ ගැන දන්නව, පාවෙල්. උඹ ඉදිරියට ගියා. මම ද්‍රගුනොව් සමග මුල්ලක නැවතුණා. ඉසායි ඒ මුල්ලෙ ඉද්ලා එළියට ඇවිත් අයිනකට ගියා. අප දිහා බලල එයා අමුතු හිනාවක් දැම්ම... ද්‍රගුනොව් මට කියනව, පේනවද? ඌ මුළු රෑම මා පස්සෙ ඇවිදිනව. මම ඕකට පහර දෙනවා. ඉනින් ද්‍රගුනොව් මා හිතන හැටියට ගෙදර යන්ට ඇති... ඉසායි මා ළඟට ආවා.."

හොහොල් හුස්ම ගත්තේය.

"මගෙ ජීවිතයේ ඌ තරම් මට නින්ද කරපු එකෙක් නැහැ, බල්ලා."

අම්මා නිහඬව අන්ද්‍රේ මේසය ළඟටඇදගෙන විත් එහි වූ පුටුවක් මත වාඩි කෙරෙව්වාය. ඇ ළඟම තිබූ පුටුවේ වාඩි වෙමින් ඔහුගේ උරහිස තමාගේ උරහිසට වැදෙන තරම් ළං වූවාය. ඔහු ඉදිරිපිට සිටගෙන සිටි පාවෙල් තම යටි රැවුළ අත ගාන්ට පටන් ගත්තේය.

"අප සියලු දෙනා ගැනම ඔවුන් දන්නා බවත්, අපේ නාම ලේඛණ පොලිස් නිලධාරීන් ළඟ තිබෙන බවත් කී ඉසායි මැයි මාසය වෙන්ට පළමුව අප සියලුදෙනාම සිරභාරයට ගන්නා බව කීවා. මම පිළිතුරු දුන්නේ නැහැ. හිනාවුණා. නමුත් මගෙ හදවත කකියන්ට පටන් ගත්තා. ඌ මට කියන්ට පටන් ගත්තා මම නුවණැති මිනිහෙක් නිසා ඒ මාර්ගෙ යන්ට එපයි කියල. වැඩිය හොඳයි..."

ඔහු කතාව නවත්වා වම් අතින් මුහුණ පිස දමා ගත්තේය. ඔහුගේ නෙත් වියලී ගොස් තිබුණද දිලිසෙන්ට විය.

"මට තේරෙනවා!" පාවෙල් කීවේය.

"වඩා හොඳයි උඹ නීතියට පක්ෂව වැඩ කරපන්, කියල ඌ මට කීවා."

හොහොල් මිට මොළවා ගත් අතක් වැනීය.

"නීතිය, උගේ හිත කුණු වෙලා! ඌ ඒ වචන කීවෙ දත් විලිස්සමින්. ඌ මට කම්මුලට ගැහුවා නම් මගෙ හිතට පාසුවක් දැනේවි. ඌටත්

පාසුවක් දැනෙන්වී. ඌ මගෙ හදවතට උගෙ කුණු කෙල ගැසුවාම මට ඉවසුම් නැතිව ගියා.''

අන්ද්‍රේ පාවෙල්ගේ ග්‍රහණයෙන් තම අත ඉවතට ඇද ගත්තේ වෙව්ලමිනි. ඔහු හිරිකිතක් ඇතිවූ කලෙක මෙන් කතා කළේය:

''මම ඌට කම්මුල් පාරක් දීල පස්ස හැරී බලන්නෙ නැතුව ගමන් කළා. ද්‍රගුනොව් හෙමින් කතා කරනව මට ඇසුණා: 'අහා අහු වුණාද?' කියා එයා ඇහුවා, මට හිතෙන්නෙ මිනිහ මුල්ලට වෙලා බලා හිටිය බවයි...''

තරමක් නිහඬව සිට ඔහු යළිත් මෙසේ පැවසීය:

''පහරක් වැදුණු බව මට ඇහුණ නමුත් මම පස්ස හැරී බැලුවෙ නැහැ... හරියට ගෙම්බෙකුව සකුලෙන් තල්ලු කරල දම්ම වගෙ මම සංසුන්ව ගෙදර' ආවා. උදේ වැඩට යන්ට නැගිච්චටම මට ඇහෙනව ඉසායිව මරා දමල කියල හඬක්. මම විශ්වාස කළේ නැහැ. මගේ අත රිදෙන්ට පටන් ගත්ත. අත මට අයත්ව තිබීම පවා හිතට වදයක්. අත රිදෙන්නෙ නෑ, නමුත් අත කොට වුණා වගෙ...''

ඔහු තමාගේ අත දෙස බලමින් මෙසේ කීවේය:

''ඒ ගඳ ගහන ලපය සෝද හරින්ට මේ ජීවිතෙදි පුළුවන් වෙන්නේ නැහැ...''

''හදවත පිරිසුදු නම් එයයි ප්‍රධාන, මගෙ කොල්ලො!'' අම්මා සෙමින් තෙපලාය.

''මම, මට චෝදනා කරන්නේ නැහැ,'' යි අන්ද්‍රේ දැඩිව කීවේය. ''මට මහ හිරිකිතක් දැනෙනවා! අමතර වැඩක් නෙව.''

''මට උඹව තේරාගන්ට බෑ!'' පාවෙල් කීවේ දෙඋර සොලවමිනි. ''මැරුවෙ උඹ නොවෙයි, එහෙත් උඹ වුණත්...''

''මරණ බව දැනගෙන එය වළක්වන්ට වැඩ නොකිරීම, සහෝදරය...''

පාවෙල් දැඩි ස්වරයකින් කතා කළේය:

''මට උඹ කියන කතාව කොහොමවත් තේරුම් ගන්ට බෑ...''

කල්පනා කළ හෙතෙම වැඩිදුරටත් මෙසේ කීවේය:

''තේරුම් ගන්ට පුළුවන්. ඒ වුණාට හැකීමක් නැහැ.''

කම්හලේ නළා හඬ ඇසිණ. හොහොල් හිස පැත්තකට හරවා ගෙන ගම්භීර නළා හඬට කන් දී හිස ගස්සා දමමින් මෙසේ කීවේය:

''වැඩට යන්නේ නෑ...''

''මාත් යන්නේ නෑ'' පාවෙල්ද කීය.

''මම නාන්ට යනවා!'' යැයි කී හොහොල් නිහඬව ඉක්මනින් සූදනම්වී මඟට බැස්සේ කණස්සලු ගතියකිනි.



පිටවී ගිය ඔහු දෙස සානුකම්පිත බැල්මක් හෙළූ අම්මා පුතා අමතමින් මෙසේ කීවාය:

''උඹට කැමති විදියකට, පාෂා! මිනිහෙකුව මරා දැමීම මහ පවක්. ඒ වුණත් මෙතැනදි වැරදිකාරයක් නැහැ. ඉසායිගෙ මරණය ගැන හරිම කණගාටුයි. එයා හරියට පුංචි ඇනයක් වගෙ. එයා දිහා බැලූ මට මතක් වුණා, උඹව එල්ලා මරණ බවට එයා දවසක් තර්ජනය කරපු හැටි. එයා මළායි කියල මගේ හිතේ ක්‍රෝධයක්වත් සතුටක්වත් පහළ වුණේ නැහැ. අනුකම්පාවක් ඇති වුණා. එහෙත් දැන් අනුකම්පාවත් නැතිව ගිහින්...''

නිහඬව සිටි ඔ තරමක් කල්පනාකාරීව පුදුම වූ කලෙක මෙන් සිනාපාමින් මෙසේ තෙපලාය:

''ජේසුතුමාණෙනි, මම කියන දේ උඹට ඇහෙනවද, පාෂා?..''

පාවෙල්ට නොඇසුණා විය යුතුය. හිස පහතට හරවා ගනිමින් මුළු කල්පනාකාරී ලෙස කාමරය තුළ එහා මෙහා ඇවිද්ද හෙතෙම කතා කරන්ට විය.

''ඔන්න ජීවිතයක හැටි! ජේනවද, එකිනෙකාට එදිරිව මිනිස් ජීවිත යොදවන හැටි? කැමති නැති වුණාට ගහපිය! කාටද? ඒ වගේම අයිතියක් නැති මිනිහෙකුට. ඒ විධියට ගුටි කන මිනිහා අපටත් වැඩිය අවාසනාවන්තයෙක්. මන්ද? ඒකා මෝඩයෙක් හන්ද. පොලිසිය, යුදහමුදාව, ඔත්තුකාරයො -- සියලුදෙනාම අපේ හතුරෝ. ඒ වුණාට ඒ සමගම උනුත් අපි වගේම මිනිස්සු. උන්ගෙ ලේ ඌරා බීලා උන්වත් මිනිස්සු හැටියට ගණන් ගන්නේ නැහැ. හැමදෙයක්ම ඔය වගේමයි! මෝඩකමයි බයයි පාවිච්චි කරල මිනිස්සු එකිනෙකාට එදිරිව කොටවලා තියෙනව. උන්ගෙ අත පය බැඳල තිබෙනව. ගෙල මිරිකා උන්ගෙ ලේ උරා බොනව. එකකුව පාගාගෙන අනික් උන්, ඒකට බැටදෙනව. මිනිසුන්ට තුවක්කු, පොලු, ගල් මුගුරු දීල් කියනව: ඒක තමයි රජය කියල!..''

ඔහු අම්මාළඟට ආවේය.

''ඒක මහ අපරාධයක්, අම්මෙ! දස ලක්ෂ ගණන් මිනිසුන් මරා දැමීම උන්ගෙ අධ්‍යාත්මය විනාශ කර දැමීම... තේරුණද, ආත්ම විනාශය. අපෙයි උන්ගෙයි වෙනස ජේනවද, මිනිහෙක් පාරක් ගැහුවා, එයාට ඒ නිසා ලොකු වේදනාවක්, ඊටත් වැඩිය හිතේ අමාරුවක් එයයි ප්‍රධාන! එවුන් දස දහස් ගණනින් මරා දමනව, කිසිම අනුකම්පාවක් දයාවක් නැතිව, සංසුන් ලෙස, හදවතට දැනෙන්නේවත් නැතිව. සන්තෝෂයෙන් උන් මරා දමනවා! උන් ඒ විධියට මිනිසුන්ව පාගලා මරා දමන්නේ රන්තරන්, රිදී, මුදල් නෝට්ටු වැනි උන්ගෙ පාලන බලය ආරක්ෂා කරන දේවල්

රැක ගන්ටයි. මහජනයාව මරල උන්ගෙ අධ්‍යාත්ම විනාශ කරල උන් තමන් ආරක්සා කරගන්නවා නොවෙයි, උන්ගෙ දේපොල ආරක්සා කරගන්නව. උන්ගෙ අභ්‍යන්තරය රැක ගන්නවා නොවෙයි, පිටත ආරක්සා කර ගන්නවා...''

ඔහු ඇගේ අතක් අල්ලා ගනිමින් පසුව එය මුදා හැර නැවත මෙසේ කීවේය:

''ඒ මහා පොරෝධාව සහ දුහඳ හමන නින්දව ඔබට අවබෝධ වෙනවානම්, ඔබට, අම්මේ, අපේ ඇත්ත අවබෝධ වේවි. අපේ ඇත්ත කොතරම් නිර්මලද කොතරම් ශ්‍රේෂ්ඨද යන්න ඔබ දකිවි!..''

අම්මාගේ සිත කැළඹී ගියේය. ඇගේ හදවත පුතාගේ හදවත සමග එක්ව එකම ගිනි සිළුවක් බවට පත් විය.

''නැවතියන්, පාෂා, නැවතියන්!'' යැයි අමාරුවෙන් ඇ තොල මතුළාය. ''මට හැඟෙනව, නැවතියන්!..''

## XXV

ඉස්තෝප්පු කාමරයේ සිව කාගේදෝ අඩි ශබ්දයක් ඇසිණ. දෙදෙනාම තිගැස්සී එකිනෙකා දෙස බැලූහ.

දොර හැර් ගෙතුළට නුහුරු ලෙස ආවේ රිබින්ය.

''ඔන්න!'' යැයි කී හෙතෙම හිස ඔසවා සිනා පාමින් කතා කළේය: ''ඇසියන් ඉවාන් කැමට කීමට ආයියි, හැමදේටම දස්සයි. ඔන්න එනව පිළිගනිල්ලා සාදරයෙන්!..''

ඔහු හැඳ සිටියේ තාර තැවරුනු අර්ධ හිම කබායකි. ලාපොට්* වැනි සපත්තු දෙකක් ලා ගෙන සිටි ඔහුගේ පටියට යටින් අත් වැසුම් එල්ලා වැටෙමින් තිබිණි. ඔහුගේ හිස ලොමින් කළ තොප්පියකින් වසා තිබිණ.

''කොහොමද සැප සනීප? උඹව නිදහස් කළාද, පාවෙල්! ඔන්න, ඉතින් කොහොමද ජීවිතෙ, නිලව්නා?'' මෙසේ කී රිබින් තමාගේ සුදු පැහැති දත් පෙන්වමින් කට පළල් කර ගනිමින් සිනාසුණේය. ඔහුගේ කට හඩ පෙරට වඩා මොළොක්ය. යටි රැවුළ වඩාත් විශාලව වැඩී තිබිණි.

ප්‍රීතියට පත් අම්මා ඔහු ළඟට විත් ඔහුගේ කළු පැහැති අතට තම

---

* ලාපොට්: ගස් පට්ටාවලින් හෝ ලනුවලින් හෝ සාදනු ලබන පාවහන් වර්ගයකි. පැරණි රුසියාවේ දුප්පත් ගොවීන් විසින් මේ සපත්තු වර්ගය අඳින ලදී. අනුවාදක



අත දෙමින් ආචාර කළාය. ඔහු වෙතින් නික්මුණු තාර සුසුඹ මුසු වාතය ඇ අශ්වාස කරන්නී මෙසේ පැවසුවාය:

අනේ, මම බොහොම සතුටුයි!..''

රිබින් දෙස බැලූ පාවෙල් මඳ සිනාවක් පෑවේය:

''හොඳා ගොවියො!''

රිබින් සෙමින් කබාය ගළවමින් කතා කළේය:

''ඔව්, ආයෙමත් ගොවියන් සමග එකතු වුණා. තමුසෙලා මහත්තුරු ටිකෙන් ටික ලොකු ලොක්කො වෙනව. මම ගොවීන් අතරට-පස්සට යනවා... ඔන්න!''

විවිධ පාට සහිත කමිසය හරි ගස්වාගත් රිබින් කාමරය තුළට ගොස් මහත් ඕනෑකමින් බැලුවේය.

''බඩු මුට්ටු වැඩි වෙලා නෑ. පොත් ගොඩ ලොකු වෙලා. ඉතින් කොහොමද වැඩ කටයුතු?''

දණහිස් අත්ලෙන් අල්ලා ගනිමින් පුටුව මත හිඳගත් හෙතෙම කකුල් පළල් කරගනිමින් පාවෙල් දෙස ප්‍රශ්න කරන්නාක් මෙන් බැලුවේය. ඔහුගේ කළු පැහැති ඇස්වල කාරුණික බවක් පෙනෙන්ට තිබිණි. පාවෙල්ගේ පිළිතුර ඔහු බලාපොරොත්තු වූයේ සිනාමුසු මුහුණෙනි.

''වැඩ ගන සැරේට කෙරෙනවා.'' පාවෙල්ගේ පිළිතුර විය.

''වපුරනවා කපා ගන්නවා, පූච්චානම් කියන්ට කැමති නෑ. අස්වැන්න ලබා ගන්නවා, කැඳ පිහනවා බඩ කට පුර බොනවා, නිද ගන්නවා, එහෙමද්දයි'' රිබින් විහිළු කළේය.

''මිහයිල් ඉවානවිච්, කොහොමද ඔහෙලගෙ සුවදුක්?'' යැයි ඇසූ පාවෙල් ඔහු ඉදිරිපිට අසුනක වාඩි වුණේය.

''නරක නෑ. ඔහෙ ඉන්නව. යෙගිල්දේයෙවො ගමේ පදිංචි වුණා. අහල තියෙනවද යෙගිල්දේයෙවො ගම? අපූරු ගම. අවුරුද්දකට සල්පිල් දෙකක් පවත්වනව. ගම්මු දෙදහකටත් වැඩියි. නපුරු මිනිස්සු! ඉඩම් නෑ. සාර් රජුට අයත් ඉඩම්වල අඳේට වැඩ කරනව. ඉඩම් හොඳ මදි. ලෝක පාලුවෙකු ළඟ මම වැඩ කරන්නෙ. එහෙ අද ගොවියො, කුලී ගොවියො සැහෙන්ට ඉන්නව. මිනියකට වහපු මැස්සො වගෙ. තාර උනු කරනව අඟුරු පුච්චනව. පඩිය මෙහෙ ලැබුණට වඩා හතර පංගුවක් අඩුයි. මහන්සිය දෙගුණයක් වැඩියි. ඔන්න! ඒ ලෝක පාලුව ළඟ මාත් සමග හත් දෙනෙක්. වැඩකාරයො තරුණයො, ගම්මු. අකුරු දන්නව. එකෙක් — යෙපිම් නහයට අහන්නේ නැහැ! හරිම කරුමයක්!''

''ඒ ගොල්ල එක්ක තමුසෙ මොනව ගැනද කතා කරන්නෙ?'' පාවෙල් ප්‍රාණවත් ගතියකින් යුතුව ප්‍රශ්න කළේය.

''මා නිකම් ඉන්නෙ නෑ. මෙහෙ ප්‍රසිද්ධ කරපු පත්‍රිකා සියල්ලම මගෙ ළඟ තිබෙනව. ඒවායෙ ගණන තිස් හතරක්. ඒ වුණාට මම වැඩියෙන් පාවිච්චි කරන්නේ බයිබලය. පොත ලොකුයි මහතයි. ශුද්ධ වූ සිනොඩ සභාවේ මුද්‍රණය කරල තිබෙන්නෙ. විශ්වාසය තියන්ට පුළුවන්!''

පාවෙල් දෙස බලා ඇසක් අඩවන් කරගත් රිබින් සිනාසෙමින් දිගටම කතා කරගෙන ගියේය:

''ඒ පොත් මදි. මම උඹ ළඟට ආවෙ පොත් ලබා ගන්ට. අපි දෙදෙනෙක් නගරයට ආවෙ. යෙපිම් මා සමග තාර ගෙනාවා. අපි එතැනින් මාරු වෙලා මෙහෙ ආවා. උඹ මට පොත් දීපන්. යෙපිම් දන්නෙ නෑ මම පොත් ඉල්ලන්ට ආපු බව. එයාට අමතර දේවල් දන ගන්ට ඕන නැහැ...''

අම්මා රිබින් දෙස බැලුවාය. කබාය සමග ඔහු තවත් යමක් ඉවත් කළ සැටියකි ඇයට දනෙන්නේ. එවිට ඔහු පළලින් අඩුවිය. සැනකින් ඔහුගේ ඇස්වල කපටි බැල්මක් පහළ විය. පෙර මෙන් විවෘත පෙනුමක් ඒවායේ නොවිය.

''අම්මේ'' යැයි පාවෙල් කීවේය. ''ගිහිල්ලා පොත් ගේන්ට. කියන්න ගම්වලට ඕන කරන පොත් කියල. ඒ ගොල්ල දන්නව මොනවද දෙන්ට ඕන කියල.''

''හොඳා, සමොවාරය රත් වුණාම මම යනව'' අම්මා කීවාය.

''ආ උඹත් ඒ වැඩවලට උදව් දෙනවද, නිලව්නා?'' රිබින් සිනාසෙමින් ඇසුවේය. ''ඉතින් අපේ ගමේ පොත්වලට ආසා කරන අය බොහොම ඉන්නව. ගමේ ගුරුවරයෙක් ඉන්නව. එයා පල්ලියෙන් ඉගෙන ගත්තට මොකද හොඳ තරුණයෙක්. හත් ගව්වක් දුර ගමක ඉන්නවා ස්කෝල හාමිනේ කෙනෙක්. ඒ වුණාට ඒ ගොල්ල තහනම් කරපු පොත් බෙද හරින්නෙ නැහැ. මට ඕන, වෙඩි වගේ නීති විරෝධී පොත්. මම ඒව බෙද හරිනව. පොලිස් කාරයො සහ පූජකයො හිතාවි ඒව බෙදන්නෙ ගුරවරු බව. මම දනට පැත්තකට වෙලා ඉන්නව.''

සිය උපාය ගැන සතුටු වන හෙතෙම දත් විලිස්සන්නට විය.

''අනේ, අනේ! බලනකොට වලසෙක් වගෙ හැබැයි මිනිහා නම් නරියෙක්...'' අම්මා සිතූ සැටිය ඒ.

''කොහොමද තමුසෙ හිතන්නෙ? නීති විරෝධී පොත් බෙදන්නෙ ගුරුවරු යන සැකය පිට උන්ව අල්ලා සිරබාරයට ගනීවි?'' පාවෙල් ඇසිය.

''හිරේ දමාවි, ඉතින් මොකද?'' යි රිබින් ප්‍රශ්න කළේය.

''පොත් බෙදන්නෙ තමුසෙ, හිරගෙට යන්න ඕන තමුසෙ නෙව...''

''මල්මාදෙ!'' මෙසේ කී රිබින් අත්ලෙන් දණහිසට සෙමින් තට්ටු කර



ගත්තේය. ''මා වෙනුවට කව්ද කල්පනා කරන්නෙ? සාමාන්‍ය ගොවියෙක් ඒ වගෙ වැඩ කරන්නෙ නැහැ. පොත් මහත්තුරුන්ගෙ වැඩක්. උන් ඒවට පිළිතුරු දෙන්ට ඕන...''

පාවෙල්ට රිබින්ගේ උපාය තේරුම් ගන්ට බැරි බව අම්මා අවබෝධ කර ගත්තේ ඔහු ඇස් හකුළුවා ගත් බැවිනි. පාවෙල් කෝපයට පත් වන සැටි දකින ඈ ප්‍රවේසමින් මෘදු ලෙස මෙසේ කීවාය:

''මිඛයිල් ඉවානව්ච්ට උවමනා කරල තියෙන්නෙ වැඩ කරගෙන යන්ටයි. එයා වෙනුවට වෙනත් උදවිය හිරේට යාවි...''

''ඔන්න!'' යැයි පුරුදු පරිදි කී රිබින් රැවුළ අත ගෑවේය. ''වෙලාව එනතුරු.''

''අම්මෙ! අපේ අය, උදාහරණයක් වශයෙන් අන්ද්‍රේ මට නොකිය යමක් කළැයි හිතමු, ඉතින් ඒකට මාව හිරගෙට දනව. අම්මා කියන්නෙ ඒ වැඩේ හරිය කියලද?'' පාවෙල් දැඩිව ඇසිය.

අම්මා තිගැස්සී පුතා දෙස බලමින් හිස වනමින් කීවාය:

''සහෝදරයෙකුට විරුද්ධව එහෙම වැඩ කිරීම වැරදියි නේද?''

''අහා, පාවෙල් උඹේ අදහස මට තේරෙනවා'' යැයි රිබින් පැවසිය.

උපහාසාත්මක ලෙස ඇසක් අඩවන් කරගත් රිබින් අම්මා දෙස බලමින් කතා කළේය.

''අම්මේ මෙතැන වැඩේ හින් සිරුවෙ කරන්ට ඕන.''

අනතුරුව පාවෙල්ට අනුශාසනා කරන්නාක් මෙන් ඔහු කතාකළේය:

''උඹ බොහොම ළපටි විදියටයි කල්පනා කරන්නෙ, මල්ලි! රහස් වැඩවල අවංකබව නෑ. කල්පනා කරපන්. පළමුවැනි කාරණාව: ඉස්සෙල්ලාම හිරබාරෙට ගන්නෙ පොත අතේ තිබුණ ඉළන්දාරියවයි, ගුරුවරුන්ව නොවෙයි. ගුරුවරු තහනම් නොකරපු පොත් බෙදුවත්, උන් කරන්නෙත් එකම දෙයයි. තහනම් නොකරපු පොත්වල හරය එකයි. වචන වෙනස්, වචන, ඒවාවල ඇත්ත අඩුයි. ඒක දෙවැනි කාරණාවයි. ඒකෙ තේරුම ඒ ගොල්ලන්ට ඕනෑ මට උවමනා කරන දේමයි. හැබැයි උන් යන්නේ අතු පාරක් දිගේ. මම යන්නෙ මහ පාර දිගේ. පොලිසියේ ඉදිරිපිට අපි දෙගොල්ලම එකම මට්ටමක වැරදිකාරයො, හරිද? තුන්වැනි කාරණාව: ඒ ගොල්ල ගැන මට වැඩක් නෑ. දම් කෙළියෙදී, දමට ඉත්තා සගයෙක් නෙවි. ගොවියට එදිරිව මම මොකුත් කරන්නේ නෑ. ඒ වුණාට ඒ ගොල්ල, එකෙක් පූජකයෙකුගෙ පුතෙක්, ඉස්කෝල හාමිනෙ රදළ ඉඩම් හිමියෙකුගෙ දුවෙක්. උන්ට ජනතාව උසිගන්වන්ට තියෙන උවමනාව මොකක්ද කියල මම දන්නේ නෑ. උන්ගෙ අදහස් ලොකු හාම්පුතාලගෙ. මට, ගොවියෙකුට ඔය අදහස් තේරෙන්නෙ නැහැ. මම

කරන දේ මම දන්නව. උන්ට උවමනා දේ ගැන මා දන්නෙ නැහැ. අවුරුදු දහස් ගණනක් තිස්සෙ හාම්පුතාලා ආණ්ඩු කරනව. ගොවියගෙ ඇටෙයි හමයි හූරා ගත්ත. මෙන්න හිටිහැටියෙ හාම්පුතාලා ගොවීන්ගෙ ඇස් පාදදෙන්ට හදනව. මල්ලී, මම ඔය සුරහනා කතා ගැන විශ්වාස කරන්නෙ නෑ. ඒකත් සුරහනා කතාවක්. හාම්පුතාලට බොහොම දුරින් මම ජීවත් වෙන්නෙ. හිමවලින් පිරී තිබෙන බිම හරහා ගමනක් යනකොට දුර පේනව මොකක්දෝ දිලිසෙනව වගෙ. වෘකයෙක්ද, හිවලෙක්ද, නැතිනම් බල්ලෙක්ද පේන්නෙ නැහැ! බොහොම ඈත.''

අම්මා පුතාගේ මුහුණ දෙස බැලුවාය. ඔහුගේ පෙණුම සෝකාන්විතය

රිබින් දීප්තිමත් නෙත්වලින් පාවෙල් දෙස බලමින් ස්වයං තෘප්තියකින් යුතුව රැවුළ අත ගාමින් මෙසේ කීය:

''හුරතල් කරන්ට වේලාවක් මට නැහැ. ජීවිතය බොහොම දැඩියි. බලු කුඩුව බැටළු ගාල නෙවෙයි, හැම කුරුළු රැනක්ම ඉගිලෙන්නෙ එක විදියට නෙවි...''

''ජනතාව වෙනුවෙන් දහදුක් විඳින, ජීවිතය පුද කරන මහත්තුරු, හාම්පුත්ලා ඉන්නවා'' යැයි අම්මා කීවේ අඳුනන අය මතක් කරමිනි.

''ඒ වගෙ අය විශේෂයෙන් ගණන් ගන්නව, විශේෂ ගරු නම්බු දෙනව!'' රිබින් කීය. ''ගොවියා පොහොසත් වෙලා ලොක්කෙක් වෙනව, ඉඩම් හිමියා දුප්පත් වෙලා ගොවියා ළඟට එනව. අකමැති වුණාට ආත්මය ශුද්ධයි හැබැයි පසුම්බිය හිස් වෙලා. උඹට මතකද, පාවෙල්, උඹ මට කිව මිනිස්සු ජීවත් වන විධිය අනුව, තරාතිරම අනුව උන්ගෙ අදහස් වෙනස් වෙන හැටි. කම්කරුව 'ඔව්' කියනවිට, හාම්පුතා 'නැහැ' කිව යුතුයි. කම්කරුව 'නැහැ' කියනවිට හාම්පුතා සොබාවෙන්ම 'ඔව්' කියල කෑගහනව. එවගේම තමයි ගොවියයි ඉඩම් හිමියයි අතර තිබෙන වෙනස. ගොවියා බඩ කට පුරා කනවානම් ඉඩම් හිමියට රෑට නින්ද යන්නෙ නැහැ! ඇත්ත, ගොවීන් අතර බැල්ලිගෙ පුතාලත් ඉන්නව. උන්ව ආරක්සා කරන්ට මම ලෑස්ති නැහැ...''

කළු පැහැති ශක්තිමත් හෙතෙම නැගී සිටියේය. මුහුණ මැළවී ගිය අතර නිකට සහ යටි රැවුළ සෙලවෙන්නට වූයේ නිහඬව දත්මිට කෑවාක් මෙනි. පහත් ස්වරයකින් හෙතෙම දිගටම කතා කරන්ට විය:

''පැක්ටරිවල පස් අවුරුද්දක්ම වැඩ කළා. ගම හුරු නැහැ. ඔන්න! එහෙගිහිං ගොවියො ජීවත් වෙන හැටි බැලුවා. ඒ විධියට මට ඉන්න බෑ, තේරුණද? මට බැහැ! උඹලා එතරම් දුක, වද හිංසා දකින්නෙ නැහැ. ගමේ කුසගින්න හරියට හෙවනැල්ල වගෙ මිනිහගෙ පස්සෙ එනව. බත් වේලක් ලබා ගන්ට බැරුව ලතවෙනව. බලාපොරොත්තු සුන් වෙලා



ගිහිං! කුසගින්න විසින් අධ්‍යාත්මය ගිලදමල. මිනිස් ගතිගුණ මැකිල ගිහිං. අත්‍යාවශ්‍යකම නිසා මිනිහා කුණු වී යනව. ජීවත් වීමක් නැහැ. කපුටො වගෙ හාම්පුතාලා මුර කරනව. ගොවියො ළඟ වැඩිපුර පාන් කෑල්ලක්වත් තිබෙනවද කියල හොයනව. පිට පැන්නොතින් තුවක්කු මිටෙන් පාර දේවි...''

වටපිට බැලූ රිබින් පාවෙල් දෙසට නැඹුරු වී වැළමිටි මේසය මත තබා ගනිමින් මෙසේ කීය:

''ඒ ජීවිතවල හැටි නැවත බලනකොට මට වමනෙ දාන්ට පවා හිතෙනව. එහෙම ජීවත් වෙන්ට මට බැහැ. මගේ හැඟීම් යටපත් කිරීමට මම සටන් කළා, නැහැ. හිතනවා, මගේ අධ්‍යාත්මයට වේදනාවක් දැනුණා! මම එහෙ නවතිනව. මම උඹලට බත් උයන්ට හාල් ගෙනාවෙ නැතුවට, යස කෑදක් පිහන්නම්. මිනිසාට කරන හිංසාවලව සහ මිනිසා වෙනුවෙන් දෙන වදවලට මම වග බලාගන්නම්. ඒ වදහිංසා පිහියක් වගෙ මගෙ හදවතට උඩින් වැනෙනව.''

ඔහුගේ නළල දහඩියෙන් තෙමී ගොස් තිබිණි. පාවෙල් වෙතට ළංවූ හෙතෙම, ඔහුගේ උරහිසට අතක් තැබුවේය. අත වෙව්ලන්නට විය.

''මට උදව් දීපන්! කියෙව්වාම හිතට ලොකු වේගයක් ගෙනදෙන විධියේ පොත් සොයා දීපන්. ඔළු ගෙඩියට යටින් ඉත්තෑවෙක් තියන්ට ඕන, කුරු ඇනෙන්ට! නගරය ගැන ලියන අයට කියාපන් ගම ගැනත් ලියන්වයි කියල! ගම්වල සටන් අරගල පිරිල ඉතිරිල ගිහිං, මිනිස්සු මරණය ගැන නොතකා සටන් කරන තත්වයක් ඇති කරන්ට ඕන!''

අතක් ඔසවාගත් රිබින් වචනයෙන් වචනය වෙන් වෙන්ව පැහැදිලිව කීවේය:

''මරණයට – මරණය, ඔන්න! මිනිසුන් මළවුන්ගෙන් නැගිට්ටවා ගැනීම සඳහා ජීවිතය පුදන්ට ඕන. මහ ජනයාව අඳුරෙන් මුදා ගැනීම සඳහා දස දහස් ගණන් මිනිස්සු ජීවිත පුදන්ට ඕන! ඔන්න. මැරෙන එක ලේසි වැඩක්, මිනිස්සු නැගිට සිටිනවානම්!''

සමොවාරය ගෙනා අම්මා නෙත් කොණින් රිබින් දෙස බැලුවාය. ඔහුගේ වචන නිසා ඇ තුළ පීඩාකාරී හැඟීමක් ඇති විය. රිබින්, මිය ගිය සිය සැමියා සිහි ගන්වන බවක් ඇට හැඟෙයි. ඔහු දත් විලිස්සන සැටිද, අත් සොලවන සැටි හා වැළමිට දක්වා කමිස අත නවනා සැටිද දකින අම්මාට තම සැමියා මතක් වෙයි. රිබින්ද, මිය ගිය සැමියා මෙන් තරහයෙන් උතුරා ගොසිණි, දෙදෙනාම ඉවසිලි රහිතය. එහෙත් ඇගේ සැමියා ගොළු වන රැකි අතර රිබින් සිය කෝපය වචනයෙන් පිට කරයි.

ඒ නිසා රිබින් මිය ගිය සැමියාට වඩා අඩු බියජනක බවක් පෙන්වූයේය.

''ඒක වැදගත්!'' යැයි පාවෙල් කීවේ හිස සලමිනි. ''අපට පුවත්, ආරංචි හොයල දෙනව, අපි තමුසෙලාට පත්තරයක් මුද්‍රණය කරන්නම්...''

පුතා දෙස සිනහ මුහුණින් බැලූ අම්මා හිස සලා, නිහඬව හැඳගෙන ගෙයින් පිටව ගියාය.

''හොඳයි! හැමදේම දෙන්නම්. පැහැදිලිව ලියාපල්ලා. වහු පැටියෙකුට පවා තේරෙන විධියට!'' රිබින් කීවේය.

කුස්සියේ දොර හැරී කිසිවෙක් කාමරයට ඇතුළු වූහ.

''ඒ තමා යෙපිම්!'' කුස්සිය දෙස බැලූ රිබින් පැවසීය. ''යෙපිම් මෙහෙ වරෙන්. ඔන්න, යෙපිම් මේ තමයි පාවෙල්, මම එයා ගැන උඹට කීවා.''

පාවෙල් ඉදිරිපිට සිටගෙන, තොප්පිය දෑතින් අල්ලා ගෙන සිටින ඒ තරුණයාගේ ඇස් අළු පැහැතිය, හිසකෙස් තඹ පැහැතිය, මුහුණ පළල්ය, යටැසින් බලන ඔහු හැඳ සිටියේ කොට කබායකි. හේ සිහින්ය. හැඩය, සවිබල ඇත්තෙකු සේය.

''ආයුබෝවන්!'' යැයි කී හෙතෙම පාවෙල්ට අතදී පසුව දෑතින්ම තමාගේ හිසකෙස් අත ගාන්ට විය. ඔහු කාමරය දෙස ඕනෑකමින් බලා පොත් රාක්කය දෙසට පා නැඟුවේය.

''දුක්කද!'' ඇසක් අඩවන් කරගත් රිබින් පාවෙල් දෙස බලා කීය. පොත් රාක්කය ඉදිරිපිට සිටගත් යෙපිම් පොත් දෙස බලන්නේ, මෙසේ පැවසීය:

''ඔහේලා ගාව කොච්චර කියවන දේ තියනවද. කියවන්ට වෙලාවක් නැති එක නම් ඇත්තයි. ඒ වුණාට ගම්වල ඒව කියවන්ට කාලවේලාව තියනව...''

''ඒ වුණාට ආසාව අඩුයි'' මෙසේ කීවේ පාවෙල්ය.

''නැහැ, ආසාව තියනවා!'' තරුණයා පිළිතුරු දුන්නේ නිකට අත ගාමිනි. ''මිනිස්සුන්ගෙ ඔළු වැඩ කරන්ට පටන් අරගෙන. 'භූගර්භ විද්‍යාව' කියන්නෙ මොනවටද?''

පාවෙල් විස්තර කර දුන්නේය.

''ඒකෙන් අපට වැඩක් නෑ!'' යැයි කී තරුණයා ඒ පොත රාක්කය මත තැබීය.

ශබ්දය පිටවනසේ හුස්ම ගත් රිබින් කතා කළේය:

''මහ පොළොව ඇති වුණු හැටි දැනගන්ට තරම් උවමනාවක් ගොවියා තුළ නැහැ. මහ පොළොව බෙදී ගිය හැටි, හාම්පුතාලා ගොවියගෙ



කකුල්වලට යටින් පොළොව, ඉඩම් අයිති කරගත් හැටි? අන්න ඒ ගැන දැනගන්න ගොවියාට උවමනායි. මහපොළොව කරකැවෙනවද නැද්ද යන්න එතරම් වැදගත් නැහැ. ඔන්න, ලෝකෙ ලනුවකින් එල්ලා දැමුවත්, කමක් නෑ, අපට කෑමබීම ලබා දෙනවනම්, ඒ ඇති. ආකාසෙ දක්වා ඇත ගැහුවත් අපට කමක් නෑ. මිනිසුන්ට කෑම දෙනවනම්!..''

''වහල්බවේ ඉතිහාසය'' පොතක් අතට ගෙන කියැවූ යෙපිම් ''ඒ අප ගැනද?'' යි පාවෙල්ගෙන් ඇසුවේය.

''ප්‍රවේනිදස ක්‍රමය ගැනත් පොත් තියෙනවා'' යැයි කී පාවෙල් වෙනත් පොතක් ඔහු අත තැබුවේය. පොත් පිටු පෙරලා බැලූ යෙපිම් එය පසෙකින් තබමින් තෙපළේය:

''ඒ කාලෙ පහු වුණා!''

''තමුසෙලට ඉඩම් තියනවද?'' යි පාවෙල් ඇසුවේය.

''අපිටද? තියෙනව. අපේ සහෝදරයො තුන්දෙනෙක්. ඒ වුණාට ඉඩම් තියෙන්නෙ දෙස්යාටිනා* හතරයි. වැලි ඉඩම්. තඹ සුද්ද කරන්ට හොඳයි. වගාවට කොහෙත්ම හොඳ නැහැ!..''

නිහඬව සිට හෙතෙම නැවත කතා කළේය:

''මම ඉඩමෙන් නිදහස් වුණා. මොකටද ඒව? ඉඩමට බැහැ අපට බත් වේල හොයල දෙන්ට. හැබැයි ඉඩම නිසා අපේ අත් බැඳලදල. අවුරුදු හතරක් තිස්සෙ කුලී ගොවියෙක් හැටියට රක්සාව කරනව. හේමන්ත ඍතුවේදී යුද්ද හමුදාවට බැදෙනව. මිඛයිල් මාමා කියනව යන්ට එපා කියල! සොල්දාදුවන් යවන්නෙ ජනයට ගහන්ට කියල එයා කියනව. මගේ කල්පනාව හමුදාවට බැඳෙන්ටයි. ස්තෙපාන් රාසින්ගෙ** කාලෙදීත් පුගචොව්ගෙ*** කාලෙදීත් හමුදාව මහජනයට තැලුව. ඒක නවත්වන්ට කාලය ඇවිල්ල. තමුසෙගෙ කල්පනාව කොහොමද?'' යි ඔහු පාවෙල්ගෙන් ඇසුවේ ඇස් හකුළුවා ගනිමිනි.

''කාලය තමා! ඒ වුණාට අමාරුයි. සොල්දාදුවන්ට කතා කරන්නෙ මොනවා ගැනද කියන්නෙ කොහොමද දැනගන්ඩ ඕන. ඒ වගෙ දේවල් අමාරු වැඩ...'' පාවෙල් කීවේ මඳ සිනාහවකින් මුව සරසා ගනිමින්ය.

---

* දෙස්යාටිනා — රුසියානු ඉඩම් මැනීමේදී භාවිතා කළ ඒකකයකි. එය අක්කර 2,7 සමානය. අනුවාදක

** රාසින් — 1670—72 අවුරුදුවලදී රුසියාවේ ගොවි කැරැල්ල මෙහෙයවූ නායකයෙකි. අනුවාදක

*** පුගචොව් — 1773—75 අවුරුදුවලදී රුසියාවේ ගොවි කැරැල්ල මෙහෙයවූ නායකයෙකි. අනුවාදක

''ඉගෙන ගත්තම හැකි වේවි!'' යෙපිම් කීවේය.

''නිලධාරීන්ට අහු වුණොත් උන් වෙඩි තියල මරා දමාවි'' යැයි පාවෙල් කීවේ යෙපිම් දෙස කුතුහලයකින් යුතුව බැලීමෙනි.

''උන් සමාව දෙන්නේ නැහැ!'' සන්සුන්ව මෙසේ කී ගැටවරයා නැවත පොත් රාක්කය අවුස්සන්නට විය.

''තේ බිපන්, යෙපිම්, ඉක්මනට යන්ට ඕන'' රිබින් කීවේය.

''හොඳා, යමු!'' යි පිළිතුරු දුන් යෙපිම් නැවත ප්‍රශ්න කළේය: ''විප්ලවය — කැරැල්ල?''

හම රත් පැහැ වන තුරු උණු වතුරෙන් නාගෙන පැමිණි අන්ද්‍රේගේ පෙණුම කණස්සළුය. නිහඬව යෙපිම්ට අත'වත දුන් හෙතෙම රිබින් අසලින් වාඩිවී සිනාසුණේය.

''මොකද උඹ බුම්මාගෙන?'' මෙසේ ඇසූ රිබින්, අන්ද්‍රේගේ පිටට සෙමින් තට්ටු කළේය.

''නැහැ, නිකම්,'' යනු හොහොල්ගේ පිළිතුර විය.

''එයත් කම්කරුවෙක්ද?'' යෙපිම් පාවෙල්ගෙන් ප්‍රශ්න් කළේ, හිස වනා අන්ද්‍රේ පෙන්වමිනි.

''ඔව්!'' යැයි පිළිතුරු දුන් අන්ද්‍රේ, ''ඉතින් මොකද?'', යි ඇසීය.

''පැක්ටරි කම්කරුවන්ව එයා දකින පළමුවැනි වාරය තමා මේ. කම්කරුවො විශේෂ මිනිස්සු වගයක් කියල මිනිහ කියනව...'' රිබින් පැවසීය.

''මොනව නිසාද?'' පාවෙල් ප්‍රශ්න කළේය.

අන්ද්‍රේ දෙස මහත් ඕනෑකමින් බැලූ යෙපිම් තම අදහස් කියා පෑවේය:

''තමුසෙලගෙ ඇට කටු තියුණුයි, ගොවීන්ගෙ ඇට කටු රවුන්, වටකුරුයි.''

''ගොවියා සංසුන්ව දෙපා බිම ගහල හිට ගන්නවා,'' රිබින් තෙපළේය. ''ගොවියා නිතරම ඉඩම් ගැන හිතනව. එයාට ඉඩම් නැති වුණාට මොකද නිතරම ඉඩම් ගැන හැඟීමක් තියෙනව! පැක්ටරි කම්කරුව හරියට කුරුල්ලෙක් වගෙ. ගමක් නෑ, ගෙයක් දෙරක් නෑ. අද මෙතන. හෙට තව තැනෙක. ගෑණු නිසාවත් එක තැනක නවතින්නේ නැහැ. මොනව හරි වුණ හැටියෙම, ආයුබෝවන් සුන්දරිය! යනව හොඳ තැනක් හොයාගෙන. ගොවියා ඉන්න තැනම ඉඳගෙන අවට තත්වය උසස් කරන්න හදනව. ඔන්න අම්මා ආවා!''

යෙපිම් පාවෙල් වෙත ළංවෙමිනි, ප්‍රශ්න කළේ:



''මට පොතක් දෙන්ට පුළුවන්ද?''

''පුළුවනි!'' යි පාවෙල් එකඟ වූයේ සතුටිනි.

ඔහුගේ ඇස් සතුටින් බැබළෙන්ට විය.

'මම ආපහු දෙනව! අපේ අය මේ ළඟ තාර පටවනව,'' හෙතෙම කීය. ''ඒ ගොල්ලො ගෙනේවි.''

කබාය හැදගත් රිබින් බඳ පටිය තද කරගෙන ගමනට සැරසෙමින් යෙපිම්ට මෙසේ පැවසීය.

''යමු, වෙලාව හරි!''

''ඔන්න, මම කියවනවා'' යැයි යෙපිම් කීවේ පොත පෙන්වමිනි. ඔහුගේ මුහුණ පුරා පළල් සිනාවකි.

ඔවුන් දෙදෙන ගෙයින් පිටව ගිය පසු අන්ද්‍රේ අමතා මහ හඬින් කතා කළ පාවෙල් ප්‍රශ්නයක් ඇසීය:

''උඹ යකුන් දැකල තියෙනවද?..''

''ඔව්-ව්! උන් හරියට වලාකුළු වගෙ...'' අන්ද්‍රේ පිළිතුරු දුන්නේ සෙමිනි.

''මිහයිල් හරියට කිසිම දවසක පැක්ටරියක වැඩ කරල නැහැ වගෙ. සම්පූර්ණ ගොවියෙක් වෙලා. බලන්ටත් බයයි,'' මෙසේ කීවේ අම්මාය.

''උඹ හිටයෙ නැති එක හරිම පාඩුවක්.'' තේ වීදුරුව දෙස බලාගෙන බුම්මාගෙන හුන් අන්ද්‍රේ අමතා පාවෙල් කීවේය. ''උඹ ඔය හැම තිස්සෙම කියන හදවත නටන හැටි දක්කානම්! රිබින් හරි තර්ක ඉදිරිපත් කළා. මාව පෙරලා පාගා දැම්මා!.. ඒ තර්කවලට විරුද්ධ වීමට මට බැරි වුණා. මිනිස්සු ගැන කොතරම් ලොකු අවිශ්වාසයකින්ද එයා කතා කළේ. මිනිසුන්ව එයා මණින්නෙ තුට්ටුවට! ඒ මිනිහ හරිම සවිබල තියෙන එකෙක්. අම්මා කී දේ ඇත්ත!..''

''ඒ ගැන මම දන්නව! මිනිසුන්ට වහ දීල! උන් නැඟී සිටිනදට නීතිය, යුතු - අයුතුකම් නැති වේවි. උන්ට ඕන මහපොළොව විතරයි. අනිත් හැම දෙයක්ම උගුල්ලා විනාශ කරාවි!''

අන්ද්‍රේ මේ වචන කීවේ සෙමිනි. හැම වචනයක් පාසාම ඔහු වෙනත් දෙයක් ගැන කල්පනා කරන බවක් පෙනෙන්ට තිබිණ. අම්මා ඔහුගේ හැඟීම්වලට ආයාචනා කළේ ප්‍රවේසමිනි.

''අන්ද්‍රෑෂා! උඹ හිතට ධනිරිය ගණින්.''

''අනේ, මගෙ හොඳ නෙන්කො! පොඩියකට නවතින්නකො'' ඔහු උණුසුම් ලෙස කීවේය.

හිටිහැටියේ මේසයට ගැසූ හෙතෙම කතා කළේ කුප්පනු ලැබූ කලෙක මෙනි.

''ගොවියා නැගිට සටන් කරන්නේ නම් ඔහුට ඉඩම් ලබා ගන්ට පුළුවනි, පාවෙල්! වසූරිය හැදුනාම ගෙවල් බඩු මුට්ටු ගිනි තබා විනාශ කරනව වගෙ ගොවියා සිය අතෝරවල සටහන් මකාහැරල අළු පා කර හරීවි...''

''ඊට පස්සෙ අපට බාධා කරාවි,'' පාවෙල් සෙමින් පැවසිය.

''අපේ කාරිය ඒක සිදු නොවීමට වග බලා ගැනීමයි! පාවෙල්, අපේ වැඩේ ඒ බලය නතු කර ගැනීමයි! ගොවීන්ට ළඟින්ම ඉන්නෙ අපි. අපව විශ්වාස කරාවි!''

''උඹ දන්නවද, ගම්බද පුවත් පතක් අච්චු ගහන්ට කියල රිබින් අපට යෝජනා කරනවා!'' පාවෙල් හෙළි කළේය.

''කරන්ට ඕනා!''

සිනාසුණු පාවෙල් නැවත කතා කරන්ට විය.

''රිබින් එක්ක තර්ක නොකරපු නිසා මගෙ හිතට අමාරුයි!''

නළල පිස දමාගත් හොහොල් කතා කළේ සන්සුන් ලෙසය:

''ඉදිරියටත් වාද කරමු! උඹට පුරුදු පදය උඹ ගහපන්. පොළෙවට පය නො ගයා ඉන්න අය උඹගෙ තාලෙට නටාවි! රිබින් කිවෙ ඇත්ත. අපට ඉඩම් ගැන, මහ පොළොව ගැන හැඟිමක් නැති බව ඇත්ත. එය එහෙමම විය යුතුය. ඉඩම් පිළිබඳ හැඟිම සොලවා දමන්නේ අපි. එක පාරක් හෙල්ලූ විට මිනිස්සු ඉන් ගැළවේවි. දෙවරක් හොල්ලපුවාම තවත් නිදහස් වේවි!''

අම්මා සිනාසෙමින් තෙපළාය:

''අන්දෘෂා, උඹට හැම දෙයක්ම වාම්!''

''ඔය ඇත්තටමද!'' යි හොහොල් ඇසුවේය. ''වාම්! හරියට ජීවිතය වගෙ!''

විනාඩි කිපයකට පසු ඔහු නැවත කතා කළේය:

''මම පිටියට ගිහිං ඇවිදින්නම්...''

''උණුවතුර නාලා ඇවිදින්ට හොඳ නෑ. හුළං වදීවි'' අම්මා අනතුරු හැඟවීමක් කළාය.

''හුළං වදින එක තමා හොඳ!'' ඔහුගේ පිළිතුර විය.

''බලාගෙන උඹට හෙම්බිරිස්සාව හැදේවි,'' පාවෙල් තෙපළේය. ''හාන්සි වෙයන් වඩා හොඳයි!''

''නැහැ, මම යනව!''

ඇඳගත් හොහොල් පිටව ගියේය.

''මිනිහගෙ හිතට අමාරු ඇති!'' අම්මා ඒ වදන් කිවේ දිග හුස්මක් ගනිමිනි.



''දන්නවද, අම්මෙ, අම්මා කළේ හොඳ වැඩක්. ඒයාට උඹ කියල කතා කිරීම,'' පාවෙල් කීවේය.

පුදුමයට පත් වූ අම්මා තම පුතා දෙස බැලුවාය.

''මම හිතල නෙවි එහෙම කතා කළේ. ඉබේටම කියවුණා! අන්ද්‍රේ මට පුතෙක් තරම් ළං වුණා. ඒ නිසා එයාට උඹ කියල කතා කරනව මිස වෙන මොනවා කියන්ටද!''

''අම්මගෙ හදවත බොහොම පිරිසුදුයි'' පාවෙල් කීවේ සෙමිනි.

''උඹටත්, උඹලගෙ හැම දෙනාටමත්, මට පුළුවන් විදියට උදව් උපකාර කරන්ට ඇත්නම්!..''

''අම්මට පුළුවනි උදව් කරන්ට!..''

සෙමින් සිනාසුණ ඈ මෙසේ කීවාය:

''උදව් වීමට වුණත් වැඩට බයක් ඇති වෙලා තියෙනව!''

''හොඳයි, අම්මෙ, දැනට අපි නිහඬ වෙමු. අම්මාගේ උදව්වලට මම දහස් වාරයක් ස්තූති කරනව!''

කඩා හැලෙන කඳුළු ධාරා නිසා ඔහු ලජ්ජාවට පත් වෙතියි සිතූ අම්මා කුස්සියට වැදුණාය.

රෑ බෝවී ගෙදර ආ හොහොල් විඩාපත්ව සිටියෙන් නිද ගැනීමට සැරසුණේය.

''ගව දහයක් දිවවා කියලයි මට හිතෙන්නෙ...''

''ආධාර වුණාද?'' පාවෙල් ඇසුවේය.

''බාධා කරන්ට එපා, නිදිමතයි!''

ඔහු මළාක් මෙන් නිද ගත්තේය.

ටික වේලාවකට පසු නිකොලායි වෙසොව්ෂිකොව් පැමිණියේය. ඉරීගිය, කිලිටි ඇඳුම්වලින් සැරසී සිටි ඔහු හැමද මෙන්ම අසන්තෝෂ යෙනි.

''ඉසායිව මැරුවෙ කව්ද කියල දන්නවාද?'' යි ඇසූ හෙතෙම කාමරය තුළ ඒ මේ අත ඇවිදින්නට විය.

''නැහැ!'' පාවෙල් පිළිතුරු දුන්නේ කෙටියෙනි.

''මදෑ ඔය වැඩටත් මිනිහෙක් ඉදිරිපත් වුණා. මම නිතර ලැස්ති වුණේ ඔය වැඩේ කරන්ටයි. ඒ මගේ කාරිය. ඒ වැඩේට ඉතාම සුදුසු මිනිහ මමයි!''

''ආ! නිකොලායි ඔය කතාව අතහැර දපන්'' පාවෙල් මිත්‍ර ලීලාවෙන් පැවසිය.

''ඇත්තටම ඔය කතාවලින් පලක් නෑ'' අම්මා කීවේ දයාන්විත ලෙසය. ''හදවත මොළොක්, ඒ වුණාට නපුරු දේ ගැනමයි හිතන්නෙ. මොකද ඒ?''

ඒ මොහොතේදී නිකොලායි දකින අම්මා තුළ ඇති වූයේ ප්‍රීතියකි. ඔහුගේ කැළල් සහිත මූණ පවා අලංකාර බවක් දැරිය.

"ඒ වගෙ වැඩවලට මිසක් වෙන දේවලට නොවෙයි මා ඉපදිල තියෙන්නෙ." උරහිස් සලමින් ඔහු කීවේය. "හැම තිස්සේම මගේ තැන සොයන්ට පටන් ගත්තට මොකද එය හොයා ගන්ට බැරි වුණා! මිනිසුන්ට කතා කරන්ට ඕන, නමුත් මට එය කරන්ට බැහැ! ජනතාවගෙ දුක මට වැඩි වැඩියෙන් ජේනව. ඒ ගැන මට කියන්න බැහැ! මගේ හිත ගොළුවෙක් වගෙ."

පාවෙල් ළඟට පැමිණ, කුඩා ළමයෙකු මෙන් ඇඟිල්ලකින් මේසය හාරන්ට තැත් කළ ඔහු කතා කළේ, තමන්ට නුසුරුදු පැමිණිල්ලක් ඉදිරිපත් කරන්නාක් මෙනි:

"මට මොනව හරි බර වැඩක් බාර දීපල්ල, සහෝදරවරුනි! වැඩක් නැතුව ජීවත් වෙන්ට බැහැ. හැම දෙනාම වැඩ කරනව.වැඩ වැඩි වෙන අතර මම අයින් ගහල ඉන්න හැටි මටම ජේනව! ලී කදන්, ලෑලි ගෙනයනව. ඒ සඳහා පමණක් ජීවත්වෙන්ට පුළුවන්ද? මට බර වැඩ බාර දීපල්ලා!"

ඔහුගේ අතක් අල්ලාගත් පාවෙල් ඔහු තමා වෙතට ඇද ගත්තේය.

"හොඳයි, දෙන්නම්!.."

ඇඳ තිරයට එහා පැත්තේ සිට හඬක් ඇසිණ. ඒය හොහොල්ගේය:

"නිකොලායි, මම උඹට අකුරු අමුණන්ට උගන්වන්නම්. උඹට අපේ අකුරු අමුණන්නෙක් ලෙස වැඩ කරතැකි, හොඳේ?"

"උඹ මට අකුරු අමුණන්ට ඉගැන්නුවොත් පිහියක් තෑගි දෙන්නම්" හොහොල් ළඟට පැමිණි නිකොලායි කීවේය.

"අනේ, උඹ පිහියත් එක්ක යකාට පලයන්!" යැයි හොහොල් කීවේ සිනාසෙමිනි.

"ඉතාම හොඳ පිහියක්!" නිකොලායි කියා සිටියේය. පාවෙල්ද සිනාසෙන්ට විය.

එවිට කාමරය මැද හිටගත් වෙසොව්ෂිකොව් ඇසුවේ කුතුහලයෙනි.

"උඹලා හිනාවෙන්නේ මටද?"

"අපොයි, ඔව්!" යැයි කී හොහොල් ඇඳෙන් පැන සිට ගත්තේය. "මේ අහපන්! යමු පිට්ටනියට ඇවිදින්න. හඳ බබළන රාත්‍රිය. යමු?"

"හොඳයි" පාවෙල් කැමති විය.

"මාත් එනව. හොහොල් හිනාවෙනව බලන්ට මා හරි කැමතියි..." නිකොලායි කීවේය.



"උඹ මට තෑගි දෙන්ට පොරොන්දු වෙනකොට! කැමති නොවී කොහොමද" යි ඇසුවේ හොහොල්ය.

අන්ද්‍රේ කුස්සියට ගොස් හැඳ ගන්නට වූවිට, අම්මා ඔහුට "හොඳට උණුහුම් වෙන්ට ඇඳ ගනින්..." යැයි කීවාය.

තිදෙනාම ගෙයින් පිටව යන සැටි බලාහුන් අම්මා සෙමින් දෙවියන් යැදුවාය:

"දෙවියනේ, උන්ට ආධාර කරන්න!"

## XXVI

මැයි පළමුවැනිද ගැන සිතීමට තරම් ඉඩ කඩක් නොතබමින් දවස් ගෙවී ගියේ වේගයෙනි. දවසේ සෝෂාකාරී, සිත් කැළඹෙන සිද්ධීන්වලින් පසුව ඇ නින්දට යන්නී, ගැහෙන හදවතකින් යුතුව කල්පනා කරන්ට වූවාය:

"ඉක්මනට එනවානම්..."

හිමිදිරි පාන්දර කම්හලේ නළා හඬ පැතිරයත්ම නැගී සිටින පුතා සහ අන්ද්‍රේ හනිකට තේ බී අම්මාට වැඩ කීපයක් බාරදී පිටව යති. දවස තිස්සේම කුඩුවක සිරවී සිටින ලේනෙකු මෙන් කරකැවෙන අම්මා කෑම පිසයි; දැන්වීම් පත්‍ර ඇලවීම සඳහා පාප්ප සහ මුද්‍රණ තීන්ත වලට අතිරේක වශයෙන් සායම් සැදුවාය. නොහඳුනන මිනිස්සු පාවෙල්ට දෙන්ට යැයි කියමින් ලියුම් හා කඩදසි කෑලි භාරදී, කැළඹුණ සිත් ඇතිව ආපසු යාති. ඔවුන්ගේ මේ ගති නිසා අම්මාද කැළඹීමට පත් වන්නීය.

මැයි පළමුවැනිද උත්සවයට සහභාගි වනලෙස ආයාචනා කරන පත්‍රිකා, දැන්වීම් දිනපතා වැටවල්වල අලවන ලදී. පොලිසියේ තාප්පයේද එවැනි දැන්වීම් අලවා තිබිණි. දිනපතාම කම්හල තුළ පත්‍රිකා බෙදහරින ලදී. පොලිස්කාරයෝ බැණ වදිමින් අලවා තිබෙන පත්‍රිකා ගළවා දමමින් උදය කාලය ගතකරත්. එහෙත් දවල් වනවිට නැවත එම පත්‍රිකා අතිනත පැතිරයයි. නගරයේ සිට පොලිස් ඔත්තුකාරයෝ පැමිණියහ. දවල් බත සඳහා කම්හලෙන් පිටව ගොස් ආපසු නැවත වැඩට එන කම්කරුවන් දෙස ඔවුන් බලා සිටින්නේ තියුණු ඇස්වලිනි. පොලිසියට පත්‍රිකා ආදිය අලවන්නන් අල්ලා ගැනීමට බැරිවීම ගැන හැමදෙනාම ප්‍රීති වූහ. මහලු කම්කරුවෝද සිනාසෙමින් එකිනෙකා අමතමින් කතා කළහ:

"කොහොමද වැඩේ, ආ?"

රංචු පිටින් එක්රැස්වන මිනිස්සු මැයි දින ආයාචන පත්‍රිකා ගැන උණුසුම් ලෙස කතා කළෝය. ඒ වසන්තයේදී හැමදෙනා තුළම ඇති වූයේ අමුතු ප්‍රබෝධයකි, ජීවිතය උනන්දුවක් ඇති කළේය. හැමදෙනාගේම

සිත් කිපෙන අළුත් හේතුවක් ඇති විය. සමහරු කැරලි ගැසීමට ඉල්ලා සිටිනවුන්ට බැණ වැදුණු අතර අනිත් අය අඳුරු අන්තරාවක සහ බලාපොරොත්තුවක සේයාවන් ඇති කරගත්හ. එහෙත් ඉතාම කුඩා කොටස වූ අඩු දෙනෙකුගෙන් සමන්විත ජනකායක්, තමන් සියලුදෙනා පුබුදුවා ලීමෙහි සමත් බලවේගය බව දකින්නේ ඉමහත් ලෙස සතුටු විය.

මුළු රැයම පාහේ නොනිද කටයුතුවල යෙදෙන පාවෙල් සහ අන්ද්‍රේ හිමිදිරි පාන්දර කම්හලේ නළාහඬ රැවදීමට ඔන්න මෙන්න කියා තිබියදී ගෙදර එති. විඩාපත්ව සිටි මේ දෙදෙනාගේ හඬ බැරැඩිය, මුහුණු මළානික වී ගොසින්ය. මේ දෙදෙනා රාත්‍රියේදී කැලෑවල රහස් රැස්වීම් සංවිධාන කරන බව අම්මා නොදන්නී නොවේ. අඳුරු වූ විගසම අශ්වාරෝහක පොලිස්භටයෝ ජනපදය වටා පෙදෙස පිරමින් පරික්ෂා කරති. පොලිස් ඔත්තුකාරයෝ තනිව ඇවිදින කම්කරුවන් අල්ලා පරීක්ෂා කරත්, රංචු පිටින් ගමන් කරන කාංඩ විසුරුවා හරිමින් සමහරුන් සිරබාරයට ගනිත්. මේ සියල්ල දකින අම්මා තම පුතා සහ අන්ද්‍රේ කොයි මොහොතේ හෝ සිර අඩස්සියට පත්වන බව වටහා ගත්තාය. එසේ වීම වඩාත් මැනවයි ඇට හැඟී නොගියේ නොවේ.

ටයිම් කිපරයාගේ මරණය පිළිබඳ විභාගය අපූරුලෙස යටපත් විය. පළාතේ පොලිසිය මරණය ගැන මිනිසුන් කීපදෙනෙකු කැඳවා ප්‍රශ්න කළ නමුදු දවස් දෙකක් තුළදී එම විභාගය ගැන තිබූ උනන්දුව අතහැර දමුවේය.

හැමදෙනා සමග මෙන්ම පොලිසිය සමගත් මිත්‍රත්වයෙන් සිටින මරියා කර්සුනෝවා, පොලිසියේ අදහස් පිළිබිඹු කරමින් මිණීමැරුම ගැන මෙසේ තෙපළාය:

''වැරදිකාරයාව හොයාගන්ට පුළුවන්ද? ඔය මරණෙ වුණු ද උදේ ඉසායිව සිය දෙනෙක් විතර දකින්ඩ ඇති. එයින් අනූ දෙනෙක් විතර මිනිහට ගුටි බැට දුන්නත් පුදුම වෙන්ට දෙයක් නැහැ. පහුගිය හත් අවුරුද්ද තුළ ඒ මිනිහ හැම දෙනාවම තරහ කරගත්ත.''

හොහොල් සැහෙන ලෙස වෙනස් විය. ඔහුගේ මුහුණ හැකිළී ගිය අතර ඇසිපිය ඉදිමී තිබුණෙන්, දෙනෙත් වඩාත් ඉදිරියට නෙරා ගොසිනි. ඔහු නිතර ඇස් අඩවන් කරගත් බවකි එයින් පෙනී ගියේ. නාස් පුඩුවල සිට දෙතොල් කෙළවර දක්වා සිහින් රැල්ලක්ද පෙනෙන්නට විය. ඔහු සාමාන්‍ය දේ ගැනත් සාමාන්‍ය වැඩ ගැනත් අඩුවෙන් කතා කිරීමට පටන් ගත්තේය. එහෙත් ඉඳහිට බෙබද්දෙකුගේ ආස්වාදයකින් මෙන් දෙඩවන ඔහු අනාගතය ගැනද, ස්වාධීනත්වයේ හා බුද්ධියේ සුන්දර, දීප්තිමත් උත්සවය ගැනද කතා කළේය.



ඉසායිගේ මරණය පිළිබඳ විභාගය අතහැර දමූ බව ආරංචි වෙත්ම, හොහොල් ඒ ගැන සිය අදහස් දැක්වූයේ පිළිකුල් සහගත දුක්මුසු ස්වරයකිනි:

''පොදු ජනයගෙ විතරක් නෙවි බල්ලා වගෙ අපට වහදෙන මිනිහගෙ පවා අගයක් නෑ, ඔවුන්ට. තමන්ට බැලමෙහෙවර කරපු ජූදස් ගැන අනුකම්පාවක් නැති මුදල් කැදරයො...''

''අන්ද්‍රේ! ඒ ගැන කීව මදෑ,'' පාවෙල් හරස් කැපුවේ ස්ථිර ලෙසය.

''දිරාගිය යමක් තල්ලු කලාක් මෙන් සී සී කඩ විසිර යන්නා වගේ විසිර ගියා!'' අම්මා සෙමින් කිවාය.

''සාධාරණයි, ඒ වුණාට සැනීමට පත් වෙන්ට බැහැ!'' හොහොල් මුරණ්ඩු ලෙස කීවේය.

එම වචන ඔහු නිතර කීමට පුරුදුව සිටියේය. කටුක, කාවදින සුලු, පොදුවේ හැමදෙයකටම බලපානයේ හැඟීමක් ඇති කරවමිනි ඔහු ඒ වචන ඇදබැවේ...

මැයි පළමුවැනිද උදා විය.

නළාහඬ පුරුදු පරිදි සිය අධිපතිබව පළ කරමින් මොර දුන්නේය. මුළු රෑ නොනිදා ඇඳ මත වැතිර ඒ මේ අත පෙරළෙමින් සිටි අම්මා වහාම නැගිට, පසුගිය දවසේ සිට අඟුරු දමා පිළියෙළ කර තිබුණු සමොවාරය රත් කොට, පුරුදු පරිදි පුතා සහ අන්ද්‍රේ කුද්දනු පිණිස සැරසුණද, මඳක් කල්පනා කොට, අතක් ගසා දමා ජනේලය අසල හිඳ ගත්තී, දත් කැක්කුමෙන් පෙළෙන්නියකසේ අත්ල හකුඇටයට තදකර ගත්තාය.

කම්හලේ නළා වාෂ්ප පිට කරමින් නගන හඬට බියගත් හංසයන් රැළක්සේ සුදු සහ රෝස පැහැති වළාකුළු නිල්වන් අහසෙහි ඉක්මනින් පාවෙන්නට විය. වළාකුළු දෙස බලාගත්වනම සිටි අම්මා තම සිතට කන් දුන්නාය. ඇට හිසේ බර ගතියක් දැණුනු අතර රෑ නොනිදා ගතකළ බැවින්දෝ ඇගේ ඇස්වල වියලි ගතියක්ද ඉදිමුණු බවක්ද පෙනෙන්ට තිබිණි. පුදුමයක මහත, හදවත තුළ නිහඬතාවයකි. ඇ කල්පනා කළේ චාම් දේවල් ගැනය...

''සමොවාරය රත් කළේ වෙලාසනින්, උතුරා යාවි! අද ඒ ගොල්ල ටිකක් වැඩියෙන් නිදගත්තුදෙන්. දෙදෙනාටම හොඳට මහන්සි ඇති...''

නව යොවුන් ඉරු රැස් ජනේලය තුළින් කාමරයට වැටේ. ඇ අතක් දිඟු කළ විට ඉරු රැස් ඇගේ අත්ල ආලෝකමත් කළේය. කල්පනා කාරිව, සුරතල් ලෙස, සිනාමුහුණින් යුතුව, ඇ අනිත් අතින් අත්ල පිරිමැද්දේ හිරු රැස් අතගාන්නාක් මෙනි. පසුව නැගී සිටි ඇ සමොවාරයේ බටය ඉවත් කොට, මුහුණ සෝද ගෙන, දෙවියන් යදින්ට වූවා, ශබ්දය

පිටනොවනසේ තොලමතුරන්ට පටන් ගත්තාය. ඇගේ පෙනුම පැහැදිලිය. ඇගේ දකුණු ඇස් බැම කෙමෙන් ඉහළට ඇදී ගොස් නැවත පහත වැටේ...

දෙවැනිවර නළාහඬ පැතිර ගියේ එතරම් විශ්වාසයකින් නොවේ. වෙව්ලන බවක් සහ කැටි ගතියක්ද තෙත් ගතියක්ද එම හඬෙහි ගැබ්ව තිබිණි. අද නළාහඬ වෙනදට වඩා වේලාවක් රැව්දෙන සැටියකි, අම්මාට දැනෙන්නේ.

කාමරය තුළ හොහොල්ගේ දෝංකාරය නික්මෙන පැහැදිලි හඬ ඇසෙන්ට විය.

''පාවෙල්, ඇහෙනවද?''

ඔවුන් දෙදෙනාගෙන් කෙනෙක් පාවහන් නැතිව ඇවිදින්ට වූ අතර අනෙකා කම්මැලි ඇනුමක් හැරියේය...

''සමොවාරය ලැස්තියි!'' අම්මා කෑ ගැසුවාය.

''නැගිටිනවා!'' යැයි පාවෙල් කීවේ ප්‍රීතියෙනි.

''ඉර පායලා! වළාකුළු පාවෙනව. අද වළාකුළු ඕනෑවට වැඩියි...'' හොහොල් පැවසීය.

නින්දෙන් අවුල්ව පොඩ්ඩි ගිය, එහෙත් ප්‍රීතිමත් හොහොල් කුස්සියට ඇතුළු විය.

''සුබ උදෑසනක් වේවා, නෙන්කෝ! කොහොමද හොඳට නිදාගත්තද?''

අම්මා ඔහු ළඟට විත් සෙමින් විතාළාය:

''අනේ අන්ද්‍රෂා, උඹ එයා ළඟින් පලයන්!''

''සත්තකින්ම!'' හොහොල් තොල මතුලේය. ''අප දෙදෙනා එකට ඉන්නා තුරු හැමදම යන්නේ එකවර. අද සිට දැනගන්නකෝ!''

''උඹලා මොනවද කුසු-කුසු ගාන්නේ?'' මෙසේ ප්‍රශ්න කළේ පාවෙල්ය.

''නැහැ, නිකම්, පව්ලූෂා!''

''අම්මා මට කියනව හොඳට මූහුණ හෝද ගන්වලු. එතකොට ලම්ස්සියො මා දිහා බලා හිනාවෙයිලු'' යැයි කී අන්ද්‍රේ මූණ සෝද ගැනීම සඳහා ඉස්තෝප්පුවට ගියේය.

''සාදුකින් පෙළෙනවුන් දූන් ඉතින් නැගිටියව්!'' පාවෙල් සෙමින් ගයන්ට විය.

සුළං පාරින් වළාකුළු පාවී ගියෙන් අහස පැහැදිලි විය. තේ බීම සඳහා කෝප්ප පිරිසි ලැස්ති කරන අම්මා මොනවා වේදැයි නොදන්නී හිස සලන්ට වූවාය: දෙදෙනාම විහිළු තහළු කරමින් උදෑසන සිට සිනාසෙති. දවල් වන විට කුමකින් කුමක් වේදැයි දන්නේ කවුද? ඇගේ සිතද සාන්තබවකින් පිරී ගොස්ය. ප්‍රීතියට පත් කලෙක මෙනි.



බලාපොරොත්තු වේලාව කෙටි කරනුවස් ඔවුහු බොහෝ වේලා තේ බීවෝය. සිරිත් පරිදි පාවෙල් බොහෝ වේලාවක් තේ වීදුරුවේ සීනි දිය කරමින් සිට, පසුව ඉතා ප්‍රවේසමින් පාන් වාටියකට ලුණු ඉහ කන්නට විය. මෙය ඔහු ප්‍රියකරන ආහාරයකි. හොහොල් මේසය යට තම කකුල් ඒ මේ අත වනන්නට විය. තමාට පහසු විධියට කකුල් තබා ගැනීම හොහොල්ට එකවර කළ නොහැකි වැඩකි. වහළේ සිවිලිම අස්සෙන් විනිවිද පෙනෙන හිරු රැස් දෙස බැලූ හෙතෙම කතා කරන්ට විය

''ඒ දවස්වල මගේ වයස අවුරුදු දහයක් විතර ඇති. මට හිතුණ ඉර අල්ලා ගන්ට. වීදුරුවක් ·පාව කරල බිත්තියට දමල ගැහුව! මගෙ අත කැපුනා. මට ගුටිත් ලැබුණා. ඔහොම ගුටි කාලා මම ගෙයින් එළියට ආවා විතරයි, වතුර වළක ඉර තියෙනව දැක්කා. හනිකට වළට පැනල ඉර පාගන්ට පටන් ගත්තා. ඇඟ හැම තැනම මඩ! ආයිමත් මට ගුටි මුරයක් ලැබුණා... මම මොනවා කරන්ටද? මම ඉර දිහා බලමින් කෑ ගහන්ට පටන් ගත්තා: 'මට රිදෙන්නෙ නෑ, රතු යක්සයෝ' කියල කෑ ගහල දිව දික් කරල පෙන්නුව. එයින් සැනසුණා.''

''උඹට කොහොමද ඉර රතු පාටට පෙනුනේ?'' පාවෙල් සිනාපාමින් ඇසීය.

''අපේ ගෙදරට ඉස්සරහ හිටිය යකඩ තළන කම්මල්කාරයෙක්. එයාගෙ මුහුණ රතුයි, යටිරැවුළ තඹ පාටයි. හරි හොඳ මනුස්සයා. මා හිතන හැටියට ඉර ඒ මිනිහට සමානයි...''

අම්මා කතාවට බාධා කළේ නොඉවසීමෙකිනි:

''උඹල පෙළපාලියෙ යන හැටි ගැන කතා කර ගනිල්ලා!''

''තීරණය කර ගත් දේ ගැන නැවත කතා කිරීමෙන් වැඩ පැටලෙනව,'' හොහොල් කීවේ සාන්ත ලෙසය. ''අප හැමදෙනාවම සිරබාරයට ගතහොත්, නිකොලායි ඉවානවිච් ඇවිල්ල අම්මාට කියාවි කළ යුතු දේ ගැන.''

''හොඳා'' යැයි අම්මා කීවේ දිග සුසුමක් හෙළමිනි.

''පාරට බහින්න හිතයි'' බලාපොරොත්තු සහිතව පාවෙල් කීය.

''එපා, වඩා හොඳයි උඹ ගෙදර ඉඳින්!'' අන්ද්‍රේ කීවේය. ''නිකරුනේ මොකටද පොලිසියේ ඇස්වල කරගැට ඇති කරවන්නෙ? පොලිසිය උඹ ගැන හොඳට දන්නව!''

මුහුණේ දිලිසෙන ලප සහිත ජ්‍යෝදර් මාසින් දුව ආවේය. ඔහු ප්‍රීතියෙන් ඔදවැඩී ගියේ, බලාපොරොත්තුවේ කණස්සළු බව තුනී කරමිනි.

''පටන් අරගෙන!'' යැයි ඔහු කීවේය. ''මිනිස්සු ලැස්ති! වෙනව

පාරට බහින්න පටන් අරගෙන. මිනිසුන්ගෙ මුහුණුවල සටන්කාමී ගතියක් පේන්ට තියෙනව. වෙසොව්ෂිකෝව්, වසිලි ගුසෙව් සහ සමෝයිලොව් ෆැක්ටරි ගේට්ටුව ළඟ සිටගෙන කතා පැවැත්වූවා. බොහෝ දෙනා වැඩට නොගිහිං ගෙවල්වලට ගියා. දැන් වෙලාව දහයයි. යමු, වෙලාව හරි!''

''මම යන්නම්!'' පාවෙල් අධිෂ්ඨානයෙන් යුතුව කීවේය.

''බලාගත හැකි'' පියෝදර් පොරොන්දු විය. ''දවල් බතෙන් පස්සෙ මුළු ෆැක්ටරියම පෙළපාලියට ඒවි!''

ඔහු ආපසු දුව ගියේය.

''දල්වෙන ඉටිපන්දමක ගිනි දල්ල හුළඟට අහු වුණා වගේ'' යැයි ඔහු ගිය පසු කී අම්මා, කුස්සියට ගොස් ඇඳ ගන්නට වූවාය.

''තෝන්කො කොහෙ යන්ටද?''යි හොහොල් ඇසුවේය.

''උඹල එක්ක!'' ඈ පිළිතුරු දුන්නාය.

රැවුළ ගස් අදිමින්. අන්ද්රේ පාවෙල් දෙස බැලුවේය. ඉක්මනින් හිස පිරාගත් පාවෙල් අම්මා ළඟට ගියේය...

''අම්මේ, මම කිසිවක් අම්මාට කියන්නේ නෑ, අම්මත් මට කිසිවක් කියන්ට එපා! හොඳේ?''

''හොඳා, හොඳා, උඹලට ජේසුගෙ පිහිටයි!'' ඈ තොල මතුළාය.

තැවුල් සහිත බලාපොරොත්තුවකින් යුත් මිනිසුන්ගේ හඬින් විදිය පිරිගිය සැටි මහ මගට බට අම්මාට පෙනේ. ජනේල අසල උන් මිනිසුන්ද ගෙවැටවල් ළඟ රැස්වූ කංඩායම්ද, තම පුතා ද අන්ද්රේ ද වෙත කුතුහලයෙන් යුතුව බලන සැටි දකින ඇගේ ඇස්වල කළු ඉංගිරියාවෝ පාට වෙනස් කරමින් වරෙක විනිවිද යන කොළපාටින්ද, තවත් වරෙක බොර පැහැති අළුපාටින්ද බැබලෙත්.

පුතාට සහ අන්ද්රේට ආචාර කරන මිනිසුන්ගේ මුහුණුවල අමුතු විලාසයක් පෙනේ. පහත් ස්වරයෙන් කතා කරන්නවුන් පිට කරන වචන වෙන් වෙන්ව අම්මාගේ කන්හි වැකිණ.

''ඔන්න යුද්ද නායකයො...''

''කවුද යුද්දය මෙහෙයවන්නේ, අපි දන්නේ නැහැ...''

''ඔව්, මම නරක දෙයක් නෙවි කියන්නෙ!''

තවත් තැනෙක කිසිවෙක් කෝපයට පත්වූ කලෙක මෙන් කෑ ගැසුහ:

''පොලීසිය උන්ව හිරබාරෙට ගනිවි, අරුන් නැති වෙවි!''

''අල්ලාවිද!?''

බියවූ ගැහැණියකගේ විලාප හඬ ජනේල තුළින් මහ පාරට දිව එයි:

''මතක තියාගනින්! උඹ තනිකඩයෙක් නොවන බව?''

කම්හලේදී තුවාල ලැබ කකුලක් කැඩී ගිය නිසා මාස්පතා ආධාර මුදලක්



ලබාගන්නා සසිමොව් ජනේලය තුළින් හිස එළියට ඔබා ගනිමින් කෑ ගසන සැටි ඇසේ:

''පාවෙල්! නිවයා, උඹේ බෙල්ල කඩාදවී. උඹට වෙන දේ බලපන්!''

තිගැස්සුණු අම්මා නැවතුණාය. ඒ කෑ ගැසීම නිසා ඈ තුළ ඇති වූයේ තියුණු කෝපයකි. අබ්බාගාතයාගේ ඉදිමුණු මුහුණ දෙස ඈ බැලුවාය. බහිමින් ඔහු මුහුණ සඟවා ගනී. ඉක්මනින් පා තබන ඈ පුතාට ළංව ඔහුගෙන් ඈත් නොවීමට වගබලා ගන්නාය.

තමන්ගේ පිටුපසින් නැගී එන හඬ හා කෑ ගැසීම් ආදිය පාවෙල් හා අන්ද්රේ ගණන් නොගත් බවකි. ඔවුහු සන්සුන් සහ නොඉක්මන් ලෙස ගමන් කළහ. ජනපදයේ කාගේත් සැලකිල්ලට හා ගෞරවයට භාජන වී සිටින මහලු මිරෝනව් ඔවුන් දෙදෙනා නැවැත්වූයේය.

''දනිලො ඉවානොවිච් ලොකු උන්නැහෙත් අද වැඩ කරන්නෙ නැතුව වගෙ!'' පාවෙල් විකාළේය.

''මගෙ පවුලට දරුවෙක් ලැබෙන්ට යනව. ඇරත් අද දවස හරිම කලබලයි.'' කී මිරෝනව් සගයන් දෙස මහත් ඕනෑකමින් බලා සෙමින් ප්‍රශ්න කළේය:

''ඩිරෙක්ටර්ට විරුද්ධව ගෝරියක් දන්න යනවයි කියන්නෙ හැබෑද? ජනෙල පොඩි කරන්ට යනවලු?''

''අපි බෙබද්දෝද?''යි පාවෙල් ඇසුවේය.

''අපි, අපේ ධජ, කොඩි අරගෙන මහ පාර දිගේ සින්දු කියමින් ගමන් කරනව. අහන්නකො! අපේ අදහස් ඒ සින්දුවලින් කියා පානවා!'' යැයි හොහොල් විස්තර කළේය.

'''උඹලගෙ අදහස් මම දන්නව. ඒව ෆැක්ටරියෙ බෙදපු පත්තිරිකාවල තිබ්බ කියෙව්වා. අනේ නිලව්නා!.. යැයි අම්මා දෙස බලා බුද්ධිමත් ඇස්වලින් සිනාසුණු 'හෙතෙම, ''උඹත් කැරලි ගහන්ට යනවාද?''යි ඇසුවේය.

''මැරෙන්නෙ ඉස්සෙල්ල වුණත්, ඇත්ත-යුක්තියෙ පැත්ත අරගෙන පෙළපාලි යන්ට ඕන!''

''මදෑ! එහෙනම් ෆැක්ටරියට නීතිවිරෝධී පත්තිරිකා ගෙනාවෙ උඹයි කියන කතාව ඇත්තයි!'' මිරෝනව් කීය.

''කවද එහෙම කීවෙ?'' පාවෙල් ඇසුවේය.

''සමහරු කියනව! උඹල ධහිරිය ඇතුව වැඩ කරපල්ලා! ආයුබෝවන්!''

තමා ගැන එසේ අසන්ට ලැබීම නිසා සතුටට පත් අම්මා සිනාසුණාය. පාවෙල් සිනාසෙමින් ඈට මෙසේ කීවේය.

''අම්මේ! හිරගෙදර යන්ට වෙවි!''

ප්‍රබෝධමත් දවස ප්‍රණීත බවක් ඇතිකළ අතර හිරු වඩාත් බැබලෙන්නට විය. වළාකුළු හෙමින් පියාඹා ගියේ, ඒවායේ සනකම තුනී වීගොස් වඩාත් හොඳට විනිවිද පෙනෙන්නට විය. වළාකුළු කම්කරු ජනපදයේ වීදි උඩින් පාවෙමින් එහි කසල සෝද හැර පවිත්‍ර කළාක් මෙනි; බිත්තිවල හා වහළවලද, ධූලි පිසදමමින් මිනිස් මුහුණුවල මුසලබව මකා හැරියේය; මිනිස්සු වඩාත් ප්‍රීති වූහ. ඈත යන්ත්‍රවල හඬ යටපත් කරමින් ශබ්ද නගා කතා කළ ඔවුන්ගේ හඬ පියකරුය.

ජනේලවලින් හා ගෙවතුවලින් පැමිණි අනතුරුදයක සහ තරහ උපදවන වදන්ද කල්පනාකාරී සහ පියකරු බසද නැවත අම්මාගේ කන්හි වැකේ. විරුද්ධවීමට වරෙක ඇට සිතුණ. තවත් වරෙක ස්තූතිවන්ත වීමට හෝ තේරුම් කර දීමට හෝ ඇට උවමනා විය. මේ අන්දමට එද තිබූ ඒ අපූරු ජීවිත සිද්ධීන්වලට අත ගැසීමට ඇට සිත්විණ.

මහ මගක වංගුවෙන් එහා පටු මගක මිනිසුන් සීයක පමණවූ රැස්වීමක් අමතා කතා කරන වෙසෙව්ෂිකොව්ගේ හඬ ඇසේ.

''පලතුරු මිරිකා ඉස්ම ගන්නා වගේ අපේ ලේ මිරිකා ගන්නවා!'' එම නුහුරු වචන මිනිසුන් වෙත ගලා එන්නේ වේගයෙනි.

''ඇත්ත තමා!'' යැයි රැස්වන්නවුන්ගෙන් කිපදෙනෙක් එකවරම කීහ.

''ඉලන්දරියා මහන්සි ගන්නවා!'' හොහොල් කීවේය. ''ගිහිං මිනිහට උදව් වෙන්නම්...''

බෝතලයක කටවැස්මක් විනිවිද යන ඉස්කුරුප්පුවක් සේ හොහොල් ජනකාය තුළට වැදුනේ පාවෙල් ඔහු නැවත්වීමටත් පෙරය. හොහොල් තමාගේ උස, කඩිසර සිරුර ඒ මේ අත නමමින් රැස්වහුන් සෙනඟ ගොඩට වැද අතුරුදහන් විය. ඔහුගේ ගීතමය හඬ ඇසේ:

''සහෝදරවරුනි! ලොවපුරා නොයෙක් ජාතිවල මිනිස්සු-ජර්මන්නු, යුදෙව්වෝ, ඉංගිරිසි කාරයෝ, ටාටාර්වරු ඉන්නවලු, ඒ වුණාට ඉන්නේ ඇත්ත වශයෙන් ජාති දෙකයි, ගෝත්‍ර දෙකයි. උන් එකිනෙකා ඉවසන්නේ නැහැ. ඒ තමා ධනපතියො සහ දුප්පත්තු! නොයෙක් බාසාවල් කතා කරනවා, නොයෙක් විදියේ ඇඳුම් අඳිනවා. පෝසත් ජර්මන්නු, ප්‍රංශුවෝ, ඉංගිරිසි කාරයෝ කම්කරුවන්ට සලකන්නේ එකම විදියට තමා. උන් ඔක්කොම කම්කරුවන්ගෙ හතුරෝ උන් මක බැ වෙන්ට ඕන!

සෙනඟ අතරින් එකෙකු හිනාවෙනවා ඇසිණ.

''හොඳයි, අනිත් පැත්ත දිහා බලමු. ප්‍රංශ, ටටාර්, තුර්කි කම්කරුවෝ රුසියන් කම්කරුවා වගේම බල්ලන්ටත් අන්ත ලෙසයි ජීවත් වෙන්නෙ!''

රැස්ව සිටිනවුන්ගේ ගණන ක්‍රමයෙන් වැඩි වේ. අළුතෙන් ගොඩට



එක්වන්නෝ පාදවල ඇඟිලිවලින් හිට ගනිමින්, බෙල්ල දිගුකර ගනිමින් කතිකයාට සවන් දෙති.

අන්ද්‍රේ වඩාත් උස් හඬින් කතා කරයි.

''පිටරටවල කම්කරුවෝ දැනටමත් ඒ ඇත්ත යුක්තිය හොඳට අවබෝධ කරගෙන. අද මැයි පළමුවැනිද...''

''පොලිසිය එනවෝ!'' එකෙක් මොර දුන්නේය.

පටුමග දිගේ වේගයෙන් පැමිණි අසරු පොලිස් බටයෝ හතරදෙනෙක් බැටන් පොලු වනමින් සෙනඟ මැදට කඩාපනිමින් කෑ ගසන්ට වූහ.

''විසිර පලයල්ලා!''

රවාබැලූ මිනිසුන් අශ්වයින්ට ඉඩදී පසුබැස්සේ අකමැත්තෙනි.

''ඌරන්ව අස්සයින් පිට නග්ගලා. ඌරෝ කෑ ගහනව — අපි තමයි යුද්ද නායක්යො! කියල'' එකෙක් මහ හඬින් කීවේය.

පටුමග තනිවූ හොහොල් වෙත අසුතු දෙදෙනෙක් හිස් වනමින් දිව ආහ. ඔහු අයිනකට පැන ගැනීමෙහි සමත් වූ අතර අම්මා වින් ඔහුගේ අතින් අදිමින් දොඩවන්නට වූවාය:

''පාවෙල් එක්ක මිසක් තනියම යන්නෙ නෑ කියල පොරොන්දු වුණාට මොකද තනියම ගිනි ගොඩට පනින්ට යන්නේ!''

''මගෙ වැරැද්ද!'' හොහොල් පිළිතුරු දුන්නේ සිනාසෙමිනි.

ඇටමිදුලු කකියවන, අනතුරු හඟවන, විඩාවකින් නිලවනා බොහෝ පිඩාවින්දය. ඇඟ තුළින් පැන නැගි එම විඩාව හිස කකියවමින් පුදුමලෙස වරෙක ප්‍රීතියද තවත් වරෙක දුකද හදවතට ගෙනෙමින් නැගී සිටියේය. දවල් බත් පැලයේ නළාහඬ ඉක්මනින් ඇසීමට ඇය තුළ ඇති වූයේ මහත්වූ ඕනෑකමකි.

පල්ලිය ඉදිරිපිට චතුරශ්‍රයට වැදුණු පන්සියක් පමණවූ තරුණයෝ ගැටවරයෝ ප්‍රීතියෙන් යුතුව එහි ඉඳගෙන උන්හ. සමූහය කලබල වෙමින් හිස් ඒ මේ අත හරවමින් ඉවසිලි රහිත බලාපොරොත්තුවකින් උන්නේය. හැඟීම් උත්සන්න වී තිබෙන සැටියකි. සමහරු අමතක වූ කලෙක මෙන් හැසුරුනාහ. සමහරු අනුන්ට තම වීරකම් පෙන්වීමට මෙන් හැසුරුනාහ. ගැහැණුන්ගේ මුණු මුණුව සෙමින් ඇසේ. මිනිස්සු එය හිරිහැරයක් සේ සලකා බැහැර කළ අතර ඉඳහිට බැණ වැදීමටද අමතක නොකළහ. විවිධ පාටින් යුත් සමූහය සතුරු ගැටීමක ගොළු හඬ විසින් බද අල්ලා ගනු ලැබිය.

''මිත්‍යා!'' ගැහැණියකගේ කට හඬක් වෙව්ලයි. ''නුඹ ගැනම නුඹ අනුකම්පා කරපන්!..''

''නිකං හිටපන්!'' ලැබුණු පිළිතුර මෙයයි.

සිත් ඇද ගනිමින් සාන්ත ලෙස සිසෝව් කතා කළේය:

''තරුණයින්ව අත හැරල යන්ට අපට බැහැ. උන් අපට වැඩිය බුද්ධිමත්. නිර්බය ලෙස ජීවත් වෙන්ට පටන් අරගෙන. මඩගොහොරු වෙලන්ට කොපෙක් එක බැගින් අය කරනවට එදිරිව නැගී හිටියෙ කව්ද? ඒ ගොල්ලෝ! ඒව මතක තබා ගන්ට ඕන. ඒ නිසා උන්ව හිරබාරයට ගත්තා. එයින් සියලු දෙනාටම උනේ ලොකු වාසියක්!..''

මිනිසුන්ගේ කතාබහ බද අල්ලා ගනිමින් දවල් බත් පැයේ නළා හඬ රැව් දුන්නේය. සමූහය සෙලවීනි. හිඳගෙන උන් අය නැගිට සිටි අතර සමූහය මොහොතකට ගල් ගැසිණ. බොහෝ දෙනෙක් මලානික වූහ.

''සහෝදරවරුනි!'' පාවෙල්ගේ කටහඬ ඝණ්ඨාරයක් මෙන් රැව් දුන්නේය. වියලි උණුසුම් පටලයකින් අම්මාගේ ඇස් දැවී ගියාක් මෙනි. අමුතු පණක් ලැබුවා සේ නැගී සිටි ඈ එක් අඩියකින් පාවෙල් පිටුපස සිට ගත්තාය. සමූහය පාවෙල් වටා සිට ගත්තේ කාන්දමක් වටා ඇදී එන යකඩ කැබලි මෙනි.

අම්මා තම පුතාගේ මුණ දෙස බැලුවාය. ප්‍රතාපවත්, නිර්භීත, අභිමානයෙන් පිරි ඔහුගේ දෙනෙත් පමණකි ඈ දුටුවේ...

''සහෝදරවරුනි! අපි කවුද යන්න පැහැදිලි කර දීමට අද තීරණය කර ගත්තා. අපේ ධජය, සත්‍යයේ, බුද්ධියේ, සහ නිදහසේ ධජය අද අපි ඔසවන්නෙමු!''

සුදු පැහැති දිග රිටක් සෙනඟ අතරින් පැන නැංගේය. සමූහයාගේ හිස්වලට උඩින් කම්කරුවන්ගේ ධජය වන රතු කොඩිය විශාල කුරුල්ලෙකුසේ අහසේ ලෙලදෙන්ට විය.

පාවෙල් කොඩි ගහ රැගත් අත ඔසවත්ම කොඩි මිට සෙලවෙන්නොට විය. එවිට දහදෙනෙක් පමණ සුදු පැහැති රිට අල්ලා ගත්හ. අම්මාගේ අතද ඒවා අතර විය.

''කම්කරු ජනතාවට ජය වේවා!'' යැයි ඔහු කෑ ගැසීය.

සිය ගණන් ජනතාව ඔහු අනුව යමින් කෑ ගැසූහ.

''අපේ අධ්‍යාත්මික මව්බිම වන සමාජ ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයට, අපේ පක්ෂයට ජය වේවා, සහෝදරවරුනි!''

සමූහය ප්‍රබෝධමත් වූ අතර ධජයේ වැදගත්කම තේරුම් ගත් අය, සමූහය අතරින්, ධජය වෙත ගියහ. මාසින්, සමෝයිලොව් සහ ගුසෙව් දෙබෑයෝද, පාවෙල් අසල සිට ගත්හ. හිය පාත් කරගෙන සෙනඟ පීරාගෙන එතැනට පැමිණි නිකොලායි සහ නොහඳුනන තරුණයෝ කීපදෙනෙක්ද අම්මා තල්ලු කරන්ට වූහ...

''ලෝකයේ සියලුම රටවල කම්කරු ජනතාවට ජය වේවා!'' පාවෙල් කෑ ගැසීය. සංඛ්‍යාවෙන් හා ගුණයෙන් වැඩි වන දහසක් පමණවූ පිරිස



ප්‍රීතියෙන් ඔද වැඩී ගියෙන්, හදවත දෙදරුම් කැවීමෙහි තරම් බලවත් වේගයකින් යුතුව හඬ නැගූහ.

අම්මා නිකොලායිගේ සහ තවත් කෙනෙකුගේ අතක් අල්ලාගත්තාය. ඇගේ ඇස් කඳුලෙන් තෙත් වී තිබුණද ඈ නොහැඬුවාය. ඇගේ කකුල් වෙව්ලන්ට වූ අතර ගැහෙන තොල්වලින් යුතුව කතා කළාය:

''මගේ රත්තරනේ...''

කැළැල් ගහණ නිකොලායිගේ මුණ පුරා පළල් සිනාවක් පැතිර ගියේය. ධජය දෙස නෙත් රඳවා ගත් හෙතෙම යමක් කියමින් ධජයට අත ගැසීමටස් අතක් දිගුකළේය. පසුව ඒ අතින්ම අම්මාගේ උරහිසෙන් අල්ලා ඈ සිප ගනිමින් සිනාසුණේය.

''සහෝදරවරුනි!'' හොහොල් මුදු හඬින් සමූහය ඇමතුවේය: ''අළුත් දෙවියාගේ නාමයෙන්, ආලෝකයේ සහ බුද්ධියේ දෙවියාගේ නාමයෙන්, බුද්ධියේ හා යුක්තියේ දෙවියාගේ නාමයෙන් කුරුස යුද්ධයක් පටන් ගත්තෙමු! අපේ ඉලක්කය සඳහා තව බොහෝ දුර යා යුතුය. එහෙත් ළඟදීම කටු ඔටුන්නක් බැගින් හැම කෙනෙකුටම ලැබෙනු ඇත! සත්‍යයේ ශක්තිය හා බලය ගැන විශ්වාස නොකරන්නේ නම්, ජීවිතාන්තය දක්වා සත්‍යය සඳහා සටන් කිරීමට තරම් ධෛර්යයක් නැතිනම්, ආත්ම ශක්තියක් නැතිනම්, දුක් ගැහැට විඳීමට බය වන්නේ නම්, අපෙන් ඈත් වී අහකට පලයල්ලා! අපේ ජයග්‍රහණය ගැන විශ්වාසය තබන අයට පමණකි, අපි ආයාචනා කරන්නේ! අපේ ඉලක්කය නොපෙනෙන අයට ලැබෙනේ දුක් කරදර පමණකි. එමනිසා ඔවුන් අප සමග නොආ යුතුය. පෙරමුණ ගන්න, සහෝදරවරුනි! නිදහස්කාමීන්ගේ උත්සවයට ජය වේවා! මැයි දිනයට ජය වේවා!''

සමූහය වඩාත් කැටි විය. පාවෙල් ධජය සෙලවීය. සුළඟට ලෙලදුන් ධජය දීප්තිමත්ව බැබළෙන හිරුගේ රැස්වලට හසුව සිනාසෙයි...

''පැරණි ලොවින් සද හැරෙමු.'' පියෝදර් මාසින්ගේ ප්‍රාණවත් හඬ පැතිර යත්ම දහස් ගණනින් ගයන්ට විය:

''එහි දූවිලි ගසා දමමු!..''

මාසින්ගේ පිටුපසින් උණුසුම් සිනාවකින් මුව සරසාගෙන ගමන් කරන අම්මා ඔහුගේ උරහිසට උඩින් තම පුතා දෙසත් ධජය දෙසත් බලයි. ඈ වටේට ගමන් ගන්නා අයද ප්‍රීතියෙන් සිනාසුණෝය. ඔවුන්ගේ ඇස් විවිධ පාටින් බැබළෙයි. සියළු දෙනාටම පෙරටුව තම පුතා සහ අන්ද්‍රේ ගමන් කරන සැටි ඇට පෙනේ. තෙතැති මුදු අන්ද්‍රේගේ කටහඬ තම පුතාගේ ප්‍රාණවත් කටහඬ සමග එකට වෙලෙන සැටි ඇට ඇසේ:

''කම්කරු සගයෙනි පිබිදෙව්, නැගිටිව්.

''සාදුශ හඳුනන හැමදෙන නැගිටිව්.''

රතු ධජය පිළිගැනීම වස් ජනතාව දිව ආහ. යමක් කියමින් කෑ ගසන ඔව්හු පෙළපාලියට එක් වෙත්. හැමදම අනිත් ගීතයන්ට වඩා පහත් හඬින් ගයන ඒ ගීතය මෙදු හඬ නගා ගැයිණ. මහත් වූ බලයකින් යුතුව ගැයෙන එම ගීය එක එල්ලේ නොපැකිල දිව යයි. අයෝමය අභීතබවෙකි ගීතය පළ කරන්නේ. අනාගතයේ මාර්ගය ඔස්සේ ගමන් කරන ලෙස ආයාචනා කරන අතර ඒ මග දුක්ගැහැටවලින් පිරී පවතින බව අවංක ලෙස කියා පායි. විඳිනු ලැබූ දුක් කරදර කළු පැහැති කුණු රොඩු සේ ගීතය නැමති ගිනිදැල්ලට හසුව පිලිස්සී යයි. පළපුරුදු හැඟීම් කැටිව්, ගුලිගැඩි, අළුත් දේවලට තිබෙන බිය සමග එක්ව දුවී අළුවී ගියේය...

බියවූ එකෙක් ප්‍රීතිමත් මුහුණකින් යුතුව අම්මා ළඟින් ගමන් කරමින් වෙව්ලමින් කෑ ගැසුවේය:

''මිත්‍යා! උඹ කොහෙද?''

අම්මා නොනවත්වා කියාගෙන ගියාය:

''ඔහෙ ගියාවෙ, බය වෙන්ට එපා! මාත් හොඳටම බය වුණා. අන්න ඔක්කොටම ඉදිරියෙන් ගමන් කරන්නෙ, කොඩිය අරගෙන ඉස්සරහින් යන්නෙ මගෙ පුතා තමා!''

''පල් හොරු! උඹල කොහෙ යනවද? එහෙ යුද හමුදාව!''

හිටිහැටියේම අම්මාගේ අත අල්ලාගත් උසැති සිහින් ගැහැණියක් මෙසේ කීවාය:

''අනේ ඔයා හරි අගේට සින්දු කියනාව නොවැ! මිත්‍යාත් ගී කියනවා...''

''ඔයා කලබල වෙන්ට එපා!'' අම්මා මතුළාය. ''මේක ශුද්ධවූ කාරියක්... ජේසු තුමා වෙනුවෙන් මිනිස්සු මැරුණෙ නැතිනම් එයා දෙවියෙක් වෙන්නෙ නැහැ නෙව, ඔයාම කල්පනා කරල බලන්ට!''

ඒ අදහස හිත තුළට කාවැදී ගොස්, ඒ වාමි සත්‍යය ගැන හැඟීම පැහැදිලිව වැටහිණි. තමාගේ අත තරයේ අල්ලාගෙන ගමන් කරමින් සිටි ගැහැණිය දෙස බැලූ ඇ මඳ සිනා පාමින් කතා කළාය:

''ජේසු තුමෙක් නෑ. එයා වෙනුවෙන් මිනිස්සු පණ පිදුවෙ නැතිනම්!''

ඇ ළඟට සිසෝව් ආවේය. තම හිස් වැසුම ගලවා ගීතයේ තාලයට එය වැනූ සිසෝව් තෙපලේය:

''අනේ අම්මේ, එළිපිටම යනවා නේවද? හොඳ සින්දුවකුත් හොයාගෙන. අම්මෙ! හරිම සින්දුවක් නොවැ?''

''හුදයට උසිගන්වන්නට සාර්ට ඕනෑ සෙබලුන් එනිසා ඔහුහට ඕනෑවී ඇත ඔබ දරුවන්...''



''කිසිම දේකට බය නෑ! මගේ පුතා මැරුම් කෑවත...'' [illegible]

අම්මාගේ හදවත වේගයෙන් ගැහෙන්ට වූ නිසා ඇ ගමන් වේගය අඩු කළෙත්, අසල වැටක් දක්වා ඇදී ගියාය. මහා රළවේගයක් මෙන් මිනිස්සු ඉදිරියට ගමන් කරමින් යන සැටි දකින අම්මාගේ හිත තුළ ඇති වූයේ ප්‍රීතියකි.

''කම්කරු සගයිනි පිබිදෙව්, නැගිටිව්!..''

සටනට සූදානම් වන ලෙස ආයාචනා කරමින් නොපෙනෙන යෝධමය පිඳිවන් නළාවක් රණහඬ පතුරු වන නිසා, මිනිසුන්ගේ හිත නොපැහැදිලි ප්‍රීතියකින් පිරී යයි. එහි කිසියම් නවතාවයකින් යුත් හැඟීමෙකි. ප්‍රිය කුතුහලයට වඩා ගැඹුරු හැඟීමෙකි. එකෙකුගේ සිතෙහි ඉමහත් බලාපොරොත්තුවක ජේයාවක් ඇති කරයි. අවුරුදු බොහෝ ගණනක් තිස්සේ ගොඩගැසුණු කෝපය එකම දියපාරක් සේ වේගයෙන් ගලා බැසීමට සැලැස්වූ විවෘත දොරටුවක් වැන්න. අහසේ ලෙලදෙමින් ඉදිරියෙන් ගමන් කළ රතු ධජය දෙස කවරුත් බලමින් ගමන් කළාහ.

''යමු!'' කිසිවෙක් ආශ්චර්යයෙන් යුතුව කෑ ගැසුහ. ''හරි ජයයි, කොල්ලනේ!''

කිසියම් ලොකු දෙයක් හැඟී ගිය නිසාදෝ සාමාන්‍ය වචනවලින් එය ප්‍රකාශ කරන්ට බැරි වූයෙන්, ඔහු බැණ වදින්ට පටන් ගත්තේය. එහෙත් ක්‍රෝධය, නයෙක් පිඹින්නාසේ කෝපාන්විත වචනවලට පරිවර්තනය විය.

''මිත්‍යාද්රෘෂ්ටියෝ!'' මිට මොලවා ගත් එකෙක් කැගැසුවේ කුඩා ජනේලයක් අසල සිටගෙනය.

කවුදෝ සුසුමලමින් කතා කරන සැටි අම්මාගේ කන්හි වැකිණ:

''එම්පුදෝරු-රජතුමාට විරුද්ධව, සාර් මහ රජාණන් වහන්සේට එදිරිව? කැරලි ගසනව?''

අම්මා අසලින් ගමන් ගත් සිය ගණන් ජනතාව — පිරිමි සහ ගැණු වනාකුල මුහුණුවලින් යුතුව ඒ ගීතය මහත්වූ ඇල්මකින් ගායනා කරමින්, ඉදිරියේ තිබෙන හැම බාධාවක්ම මැඩ මාර්ගය පිරිසුදු කරගන්නා සේ ගමන් ගත්හ. රතු ධජය දකින ඇ තම පුතාගේ මුහුණ හොඳකම, ඔහුගේ තලේලූ නළලද, විශ්වාසය නිසා බැබළෙන තියුණු නෙත් යුවළද තම සිත්හි ඇද ගත්තාය.

දැන් ඇ පෙළපාලියේ වල්ගයට වී ගමන් කරයි. මෙහි යන්නෝ වැඩි කලබලයක් නොකර, ඕනෑ එපාවට මෙන් ඉදිරි පස බලමින්, අවට නරඹන්නන්ගේ කුතුහලයකින් යුතුව, අවසානය කුමක් වේද යන්න කල් ඇතිව දන්නා එවුන් මෙන් ගමන් කරති. සෙමින් එහෙත් ස්ථිරව ඔවුහු කතා කළහ.

''එක ශුද්‍ර සේනාංකයක් ඉස්කෝලෙ ළඟ, අනික පැක්ටරිය ළඟ...''

''ආණ්ඩුකාරයා ඇවිල්ලා...''

''ඔය ඇත්තද?''

''මා දැක්කා — ඇවිල්ල!''

කිසිවෙක් සන්තෝෂයෙන් බැණ වදිමින් කතා කළහ:

''කොහොම වුණත් දැන් අපට බය වෙලා! යුද්ද හමුදාවයි, ආණ්ඩුකාරයයි.''

''මගෙ රත්තරනේ!'' අම්මාගේ හදවත අඬ ගැවෙය.

එහෙත් ඇ වටා ඇති වුණු කතාබහ මළමිනියක් මෙන් සීතල වූයෙන්, ඇ ඒ මිනිසුන්ගෙන් ගැළවී යනුවස් ඉක්මනින් අඩි තබන්ට වූවාය. කුසීත කම්මැලියන් සේ හෙමින් ගමන් කරන එවුන් පසුබා යාම එතරම් කාරියක් නොවීය.

හිටිහැටියේම පෙළපාලියේ හිස යම්කිසිවකට හැපුණෙන්, කඳ ආපසු ආවාක් මෙන් උත්සුක දෝංකාරයක් ඇති කරමින් හෙල්ලුනේය. ගීතය වරක් වෙව්ලා නැවත වේගයෙන් හා උස් හඬින් ගැයෙන්ට විය. නැවතත් වරක් කැටිවූ හඬ රළවේගයක් සේ ඉහළ නැග පහළ බැස පස්සට ගියේය. සමූහ ගීතයේ ගායකයින් එකිනෙකා වෙන්ව යන සැටියක් දුනේ. පැරණි විධියටම ගීතයට පණ දීමට තැත් කරමින් තනිව කෑගසනු ඇසිණ:

''කම්කරු සගයිනි පිබිදෙව් නැගිටිව්!''

''සාදුක හඳුනන හැමදෙන නැගිටිව්!..''

මෙවර එම ගීතය පොදු විශ්වාසය ගැන නොවේ ප්‍රකාශ කළේ; අන්තරාය එහි ගැබ්වී තිබුණු බව පෙනිණි.

ඉදිරියේ වෙන්නේ කුමක්දැයි නොදන පස්සට එන මිනිසුන්ගේ ඇඟේ හැපෙමින් අම්මා ඉදිරියට ගමන් කරන්නීය. සමහරු හිස පාත් කර ගනිමින් ඇස් බැම් හකුළුවා ගනිති. තවත් සමහරු ව්‍යාකූලයට පත්ව සිනාසෙති. තෙවැනි කොටස උපහාසාත්මක ලෙස උරුහන් බාති. ඔවුන් දෙස ඇ බැලුවේ පාළු හිතකිනි. එහෙත් ඇගේ ඇස් නිහඬව ඇසීය, විමැසීය, අඬ ගැසීය...

''සහෝදරවරුනි!'' පාවෙල්ගේ හඬ පිළිරැව් දෙන්ට විය.

''සොල්දාදුවොත් අප වගේම උදවිය. ඒගොල්ල අපට ගහන්ට එන්නේ නෑ. මොනවා නිසා අපට ගහන්ටද? සියළු දෙනාටම හිත කරන ඇත්ත අපි ගෙනෙන නිසාද? ඔවුන්ටත් එම ඇත්ත අවශ්‍ය වෙලා තිබෙනවා. දැනට ඒ ගොල්ලන්ට ඒ ඇත්ත තේරෙන්නෙ නැහැ. නමුත් ඒ ගොල්ලන්ට එය අවබෝධ වෙලා අප සමග එකතු වෙලා නැගී සිටින දවසක් ඒවි. එදට ඒ ගොල්ල මංකොල්ල කෑමේ සහ මිනීමැරීමේ කොඩිය යටතේ නොව,



නිදහසේ කොඩිය යටතේ ගමන් කරාවි. අපේ ඇත්ත ඒ අයට ඉක්මනට අවබෝධ කර දීමට නම් අප ඉක්මනින් ඉදිරියට යා යුතුයි. ඉදිරියට, සෝදුරනි! හැමදම ඉදිරියට!''

පාවෙල්ගේ වචනවල දැඩි ගතියක් තිබිණි. ඔහුගේ කතාව සුළඟේ පාවෙන සන්ධ්‍යාර නාදයක් මෙන් පැහැදිලිය, නිරවුල්ය, එහෙත් මිනිස්සු එක එකා වමෙන් හා දකුණෙන් වැටවලට හේත්තු වෙමින් ගෙවල් කරා ඇදී ගියහ. දැන් සමූහය ත්‍රිකෝණයක හැඩය ගත්තේය. ඉදිරිපස උල්වූ කෝණය පාවෙල්ගෙන් සමන්විත විය. ඔහු අත රතු ධජය ලෙලදෙයි. තවත් ඇසෙකින් බලනවිට සමූහය විශාල කළු කුරුල්ලෙකුට සමානය. අත් අඩු විදහා ඉගිලෙන්ට සූදානම් ඒ කුරුල්ලාගේ හොට පාවෙල්ය...

## XXVIII

විදිය කෙළවර චතුරශ්‍රයේ දෙරටුවක් අසල අළු පැහැති බිත්තියක් වැනි මුහුණු රහිත මිනිසුන් පේළියක් අම්මා දුටුවාය. ඔවුන් හැම එකකුගේම උරහිස් මත තිබුණු බයිනේත්තු හිරු රැස් වැටීම නියා දිලිසෙන්ට විය. ඒ මිනිස් ප්‍රාකාරයේ සිට පෙළපාලිය වෙත ආ සීතල සුළං පාර අම්මාගේ සිරුරේ හැපී, හදවත දක්වා විනිවිද ගියාක් මෙනි.

තමා දන්නා හඳුනන මිනිසුන් අතරට, රතු ධජය ලෙලදෙන ස්ථානයට අම්මා ඇදී ගියාය. ධජය ඉදිරිපිට සිටගත් මිනිස්සු ඉන් පිටුපස සිටින නොදන්නා, නොහඳුනන, මිනිසුන් සමග වෙලී ඔවුන්ගේ සහාය ලබා ගනිති. අම්මා උස මිනිහෙකු සමග උරෙන් උර ගැටී සිට ගත්තාය. ඔහු සම සිනිඳු වනසේ රැවුල බා සිටි එකැස් කණෙකි. ඇ දෙස බලනු වස් ඔහු හිස හැරෙව්වේය.

''උඹට මොකද? උඹ කාගෙ කවුද?'' ඔහු ප්‍රශ්න කළේය

''මම — පාවෙල් ව්ලාසව්ගේ අම්මා!'' ඇ පිළිතුරු දුන්නාය තමාගේ දණහිස් එකට ගැටෙන සැටිත්, යටි තොල ඉබේම පහතට ඇද වැටෙන සැටිත් අම්මාට දැනෙත්.

''ඔහෝ!'' එකැස් කණා කීවේය.

''සහෝදරවරුනි!'' පාවෙල් දිගටම කතා කළේය. ''අපට මීට වඩා වෙනස් මඟක් නැහැ. ඉදිරියට යමු!''

හැම දෙයක්ම නිහඬව, ගොළුව ගියෝය. ධජය එසවී, කල්පනාකාරීව වැනී මිනිසුන්ගේ හිස්වලට උඩින් අළු පැහැති මිනිස් ප්‍රාකාරය දෙසට ගමන් ගත්තේය. අම්මා තිගැස්සී ඇස් වසා ගත්තී, 'ඔහ්' කියා කෑ ගැසුවාය.

සමූහයෙන් ඉවත්ව ඉදිරියට ගියේ හතරදෙනකු පමණකි — පාවෙල්, අන්ද්‍රේ, සමෝයිලව් සහ මාසින්ය.

පියෝද්ර් මාසින්ගේ ගීතමය හඬ රැව්පිලිරැව් දෙන්ට විය:

"ඔබ වැටුනත් එය උතුම් මරණයක්..." ඔහු ගයන්ට විය.

"ඒ අපරාජිත සටන් බිමේ..." — ගොරෝසු පහත් හඬින් අනිත් අය ගැයූහ. කඩින් කඩ මහ පොළොව පාගන්නාසේ මිනිස්සු ඉදිරියට ඇදුනාහ. තීරණාත්මක ලෙස අළුත් ගීයක් පටන් ගත්හ:

"ඔබෙ ජීවිතයම කැප කරලා..." — පියෝද්ර් මාසින්ගේ තියුණු හඬ නැඟී සිටියේය.

"නිදහස උදෙසා..." — සගයෝ එක්සිත්ව ගායනා කළාහ.

"ඕ-හෝ!" පැත්තකට වී සිටිනවුන්ගෙන් එකෙක් කෝපාහසයකින් කෑ ගැසිය: "අවමඟුල් සිංදු කියනවා. බැලිල්ලෙ පුත්තු!.."

"උඹව ගහපියව්!" කෝපාන්විතව සමහරු කෑ ගැසූහ.

මොහොතකට පෙර පාර පුරා රැස්ව සිටි පෙළපාලිය, ධජය රැගත් පෙරමුණ බළඇණිය තමාගෙන් වෙන්ව යන හැටි බලා සිටින්නේ අස්ථිර බියසු ගතියකින් බව අම්මාට පෙනේ. ඉදිරියෙන් ගමන් කරනවුන්ගේ ගණන දසක කීපයකි. පෙරට තබන සෑම අඩියක් පාසාම කීප දෙනෙකු මඟ මගින් ඈත්වනුයේ, පාරපුරා පා පුළුස්සන ගිනි අඟුරු තිබෙන්නාක් මෙනි.

"ධනපති අණසක වැනසේවි!.."

— පියෝද්ර් මාසින් ආයාසයෙන් ගයයි...

"ජනතා පිබිදුම් ඇතිවේවි!"

— කීප දෙනෙක් ආත්ම විශ්වාසයෙන් යුතුව මහ හඬින් ගැයූහ.

එහෙත් ගීතයේ තාලයට බාධා කරමින් පහත් හඬින් කිසිවෙක් කීහ.

"අන්න, අණ දෙනවා..."

"ආවුධ ගනිව්!" තියුණු හඬක් ඇසිණ.

බයිනෙත්තු ලෙලදුන්නේ, කපටියන්සේ සිනාපාමින් ධජය පිළිගැනීම වස් ඉදිරියට ආවේය.

"ගමන් කරව්!"

"ශමු යන්ට!" දෑත් සාක්කුවල ඔබා ගත් එකැස් කණා පළල් අඩියක් තබා අහකට පනිමින් කීවේය.

ඇසිපිය නොහෙළා අම්මා බලාගෙන සිටියාය. අළු පැහැති සොල්දාදුවෝ රළවේගයක් සේ මහ මග පිරමින් ඉදිරියට ගමන් කරති. ඔවුන් ඉදිරියෙන් ඇත්තේ දිගැති වෑනේ දත් වැනි දිලිසෙන බයිනෙත්තුය. දුරින් දුර අඩි තබා ගිය ඇය පුතා වෙතට ළංවෙත්ම, අන්ද්‍රේ, පාවෙල් ඉදිරිපිට සිට ගනිමින් සිය උසැති දේහයෙන් ඔහු වසා ගන්නා හැටි දුටුවාය.



"සහෝදරය, මා ළඟින් වරෙන්!" පාවෙල් කෑ ගැසිය.

දෑත් පිටිතලහා කොට ගනිමින්, හිස කෙලින් තබා ගනිමින් හා ගී ගයමින් අන්ද්‍රේ ගමන් කලේය. ඔහු තල්ලු කර දැමූ පාවෙල් නැවත කෑ ගැසිය:

"ධජයට ඉදිරියෙන් උඹට යන්ට අයිතියක් නැහැ! ළඟින් වරෙන්."

"විසිර පලයව්!" සුදු අසිපතක් වැනූ පුංචි නිලධාරියෙක් සිහින් හඬින් කෑ ගැසුවේය. දණහිස් නොනමා සරඹ ගමනින් යන ඔහුගේ යටි පතුල් පොළොවේ හැපෙන්ම හඬක් නැගේ. දිලිසෙන සේ 'පොලිෂ්' කර තිබූ ඔහුගේ සපත්තුවල කාන්තිය අම්මාගේ නෙතට ලක් විය.

පුංචි ඔපිසරයා ළඟින් ගමන් ගත්තේ උසැති මහත නිලධාරියෙකි. දික්ව වැඩුණු උඩු රැවුළක් ඇති හෙතෙම රතු පැහැති යට කවරයක් සහිත අළු පාට කබායක් හැඳ සිටියේය. ඔහුගේ කලිසමේ දෙපැත්තේ කහ පැහැති දිග තීරයකි. ඛොඛොල් මෙන් ඔහුද දෑත් පිටිතලහා කොට ගෙන, පැසුණු කෙසින් වැසිගත් ඇහිබැම උස්සා ගෙන, පාවෙල් දෙස මහත් ඕනෑකමින් බලමින් ගමන් කලේය.

අම්මා නොසිතූ විරූ දේ දුටුවාය. ඇගේ හදවත හඬ නගා කෑ ගසමින් ශබ්දය පිට කිරීමට මං සොයයි. දැතින් පපුව බදගෙන දැඩි ආත්ම ධෛර්යයකින් යුතුව ඕනෑමෝ විලාප ගසමින් නැගින එම ශබ්දයට පිට වීමට ඉඩ නොදුන්නාය. හැම අතකින්ම තල්ලු කරනු ලැබුවද වැනෙමින් ඕ ඉදිරියට යන්නීය. සිහිසන් නැති වූ කලෙක මෙන් යන ඇ පා තතබන්නී කිසිවක් කල්පනා නොකළාය. සීත සුළි සුළඟක් හමා මිනිසුන් විසිකර දමන්නාසේ, තමා පිටුපසින් ගමන් කරන්නවුන්ගේ ගණන ක්‍රමයෙන් අඩු වන බව ඇට දැනේ.

රතු ධජය රැගත් මිනිසුන් හා පෙළගැසී එන අළු පැහැති සොල්දාදුවන් අතර දුරප්‍රමාණය කෙමෙන් අඩු විය. කුණු තවරාගෙන, අංග විකල වූ කලෙක මෙන් පාර හරහා ගමන් කරන භට හමුදාවද, එහි වූ සොල්දාදුවන්ගේ මුහුණුද පැහැදිලිව පෙනේ. උන්ගේ ඇස් විවිධ වර්ණවලට අයත් වූ අතර එහි සමතාවයක් නොතිබිණ. භට කණ්ඩායමට ඉදිරියෙන් දිලිසෙන, තියුණු බයිනෙත්තුය. පෙළපාලි කරුවන්ගේ පපුවලට එල්ලවී ඇති ඒ බයිනෙත්තු තවම ඉලක්කය කරා ළංවී නොමැතිවූවද ජනතාව එකිනෙකා බිය වද්ද එළවා දැමීමෙහි සමත් විය.

තමාට පසුපසින් ආ මිනිසුන් පැන දුවන ශබ්දය අම්මාට ඇසේ. බියගත් සමහරු කෑ ගසන්ට වූහ:

"දුවපල්ලා, හාදයනි..."

"වලාසව්, දුවපන්!.."

''පස්සට පලයන්, පාවෙල්!'

''කොඩිය අහකට දපන්, පාවෙල්!'' වෙසොව්ෂිකොව් ගොරහැඩි ලෙස කීවේය. ''මෙහෙ දීපන්, මම හංගන්නම්!''

ඔහු කොඩි ගහේ මිට අල්ලා ගත්තේ, එය පස්සට ඇදුනේය.

''අත හැරපන්!'' පාවෙල් බෙරිහන් දුන්නේය.

අත පිළිස්සී ගිය කලෙක මෙනි, නිකොලායි වෙසොව්ෂිකොව් තම අත පස්සට ඇද ගත්තේය. ගීතය නිහඬ විය. පාවෙල් වටා සිටගත් මිනිසුන් ඔහු ආරක්ෂා කළද, පාවෙල් ඉදිරියෙන් සිට ගත්තේය. හිටිහැටියේ [illegible] නිහඬතාවයකි. නොපෙණෙන ලෙස ඉහළ ගොස් විනිවිද පෙනෙන සුදු වලාකුළු විසින් මිනිසුන් වැළඳ ගනු ලැබුවාක් මෙනි.

ධජය යටතේ සිටියවුන්ගේ ගණන විස්සකට වැඩි නොවූවද, ඔවුහු දැඩි අධිෂ්ඨානයෙන් යුතුව සිටියාහ. ඔවුන්ගේ දැඩි ගතිය දකින අම්මා බිය ගත්තී, නොපැහැදිලි උවමනාවකින් ඔවුන් අමතා යමක් කීමට මෙන් සැරසුණාය...

''ලයිතන්! අර මිනිහගෙන් ඔය කොඩිය උදුර ගන්නවා!'' මහලු සෙනෙවියා හඬ නගා කීවේය.

අතක් උස්සමින් මහල්ලා ධජය පෙන්වීය.

කුඩා ඔපිසරයෙක් පාවෙල් වෙත කඩා පැන ධජය උදුරා ගනිමින් යටි උගුරෙන් කෑ ගැසිය:

''අත හැරපිය!''

''අත තියන්ට එපා'' පාවෙල් මහ හඬින් කෑ ගැසිය.

රතු ධජය අහසේ ලෙලදෙමින් දකුණට සහ වමට හැරෙමින් නැවත සෘජුව සිට ගත්තේය. පුංචි ඔපිසරයා අහකට විසිවී ගොස් බිම ඇද වැටුණු විගස නිකොලායි වෙසොව්ෂිකොව් නොදුටු විරූ වේගයකින් අම්මා පසු කර ඉදිරියට යමින් අත් විදහා ගත්තේ, මිට මොලවා ගනිමිනි.

''උන්ව සිරබාරයට ගනිව්!'' මහළු සෙනෙවියා පොළොවේ අඩි හප්පමින් ගිගුරුවේය.

සොල්දාදුවෝ කීපදෙනෙක් ඉදිරියට පැන්නාහ. එකෙක් තුවක්කු බටයෙන් ධජයට ගැසිය. ධජය පහතට ඇද වැටෙනවාත් සමගම, එය අළු පැහැති සොල්දාදුවන් අතරට වැදී අතුරුදහන් විය.

''අනේ!'' යැයි එකෙක් අනුකම්පා සහගතව කීවේය.

අම්මා වැලපිහින්නියක මෙන් හඬ නගමින් කෑ ගසන්ට වූවාය. එයට පිළිතුරු වශයෙන් සොල්දාදුවන්ට මැදිව සිටි පාවෙල්ගේ කටහඬ පැහැදිලි ලෙස ඇසිණ:

''අම්මේ, ආයුබෝවන්! දයාබර අම්මේ, ආයුබෝවන්!''



''ජීවතුන් අතර ඉන්නවා! මතක් වුණා!'' අම්මාගේ හදවතට දෙවරක් පහර දී තිබෙනවා.

''ආයුබෝවන්, නෙන්කො''

දෙපයේ ඇඟිලි තුඩුවලින් සිටගෙන සොල්දාදුවන්ට මැදිවී සිටින්නවුන් නැවත වරක් දැක ගැනීම සඳහා මහන්සි දරුවද, අම්මාට දකින්ට ලැබුනේ හොහොල්ගේ මුහුණ පමණකි. අන්ද්‍රේ ඇ දෙස බලා සිනාසී හිස පාත් කරමින් ආචාර කළේය.

''අනේ මගේ... අන්ද්‍රෂා!... පවුෂා!..'' යැයි ඇ කෑ ගැසුවාය.

''සහෝදරවරුනි! ආයුබෝවන්,'' සොල්දාදුවන්ගේ කොටේ සිට හඬක් නැගිණි.

පිළිතුරු දුන්නේ කඩින් කඩ, තැනින් තැන රාවදුන් හඬ විසිනි. ඈත කවුළුවලින්ද, වහළවලින්ද පිළිතුරු ලැබිණි.

## XXIX

ඇගේ පපුවට වැළමිටෙන් අනිනා ලදී. තමා ඉදිරිපිට පුංචි ඔපිසරයා සිටින සැටි නොපැහැදිලි ලෙස අම්මාට පෙනේ. රත් පැහැගත් ඔහුගේ මුහුණ ඉදිමී තිබිණ. ඔහු ඇ අමතමින් බෙරිහන් දී කෑ ගසයි:

''දූවපිය, තොල ගෑණියේ!''

ඔහුගේ හිස සිට පතුල් දක්වා දැඩි බැල්මක් හෙළූ අම්මා කොඩි ගහෙන් කැඩී ගිය කොටසක් ඔහුගේ දෙපා ළඟ තිබෙන සැටි දුටුවාය. රතු ධජයෙන් කුඩා කැල්ලක් එහි වෙළී තිබිණි. පහත් වූ ඇ එය අහුලා ගත්තාය. නිලධාරියා ඇගෙන් එය උදුරා අහකට විසි කර දමා පොළොවේ අඩි හප්පමින් බෙරිහන් දුන්නේය:

''එක පාරක් කිවා, දූවපිය!''

සොල්දාදුවන් විසින් වටලනු ලැබ සිටින සමූහය ගයන්නට විය:

''කම්කරු සඟයෙනි පිබිදෙව්, නැගිටිව්...''

හැම දෙයක්ම කරකැවී, සෙලවී, වෙව්ලන්නාක් මෙනි. සුළි සුළඟට අසුවූ විදුලි කම්බි හඬ නගන විට ඇති වන හඬට සමාන අනාතුරුදායක හඬකින් අහස පිරිණ. නිලධාරියා කෝපයෙන් කෑ ගැසුවේය:

''සින්දු කීම නවත්වාපියව්! කෝපරල් ක්‍රයිනොව්!''

නිලධාරියා විසි කර දැමූ කැඩී ගිය පිට සහිත රතු රෙදි කැල්ල වෙත, වැනෙමින් ගිය අම්මා එය අහුලා ගත්තාය.

''උන්ගේ උගුරු දඩු කඩපන්!..''

ගායනය නැවතිණි. අම්මාගේ උරහිසෙන් අල්ලා එකෙක් ඇ තල්ලු කරමින් මෙසේ කීය:

"පලයන්, පලයන්..."

"මඟ පාර සුද්ද කරපියව්!" නිලධාරියා කෑ ගැසීය.

තමා ඉන්නා තැනින් අඩි දහයක් පමණ ඈතින් කීප දෙනෙක් රැස්වී ඉන්නා සැටි ඇට පෙනේ. ඔව්හු කෑ ගසමින්, උරුහන් බාමින්, දෙඩවමින්, වීදියේ කෙළවර දක්වා පසුබැස යමින් ගෙවතුවලට වැදුණාහ.

"යකින්න, පල යන්ට!" ඇගේ කණට කෑ ගසා කී සොල්දාදුවෙක්, ඇය අල්ලා පදික වේදිකාවට තල්ලු කර දැම්මේය.

අතේ තිබුණු රිට වාරු කර ගනිමින් ඇ යන්තමින් පා තැබුවාය. ඇඳ වැටේය යන බිය නිසා ඇ බිත්තියක් හෝ ගෙවැටක් හෝ අල්ලා ගනිමින් සෙමින් යයි. ඇ ඉදිරිපිට මිනිස්සු ගමන් කරති. ඇ සමඟ හා ඇට පිටුපසින් ගමන් කරන සොල්දාදුවෝ කෑ ගසති:

"පලයන්, පලයන්..."

සොල්දාදුවෝ ඇ පසු කර යමින් චතුරශ්‍රය දක්වා වැටී ඇති මග කෙළවර වසා දමමින් බිත්තියක් සේ සිට ගත් සැටි ඇට පෙනේ. චතුරශ්‍රය පාළුවී ගොසින්ය. ඉදිරියෙන් ගමන් කළ අළු කබා කාරයෝ මිනිස්සුන්ට පහර දීමට ගියහ...

ඇට ආපසු යාමට උවමනා වුවද ඉබේටම ඉදිරියට යමින් යාබද අතුපාරකට හැරුණාය. එයද හිස්ව තිබිණ.

නැවතත් වරක් නැවතී ඇ බලා සිටියාය. අම්මා දිග සුසුමක් හෙළන්නී උවමනාවකින් කන් දී අසා සිටියාය. ළඟ තැනෙක මිනිසුන් කෑ ගසන හඬ ඇසේ.

රිට වාරු කර ගනිමින් පා තබනා අම්මාගේ ඇස්බැම් නැටවිණි, දෙතොල් වෙව්ලන්ට විය. හිටිහැටියේම දහඩියෙන් නැවී ගියේය. අතක් වනමින් ඇ ගමන් කරයි, හදවත තුළ ගිනි පුපුරු සේ කිසියම් අදහසක් පැන නැංගේය. ඒවා වචනවලට පෙරලී හිරවී කැකෑරෙයි, පිටවීමට ඉඩ ඉල්ලා සිටි ඒ අදහස් කෑ ගසා කියාපෑමට ඇ තුළ උපන්නේ බලගතු උවමනාවකි...

අතුපාර වමට හැරෙන තැන බොහෝ දෙනෙකු රැස්වී තෙරපෙමින් ඉන්නා සැටි අම්මා දුටුවාය. කවුදෝ හඬ නගා කතා කරනු ඇසේ:

"මැරකම තිබූ පලියට බයිනෝත්තුවලට පපුව දීමට කිසිවෙක් ලැස්ති නැහැ!"

"ඒ ගොල්ල කොහොමද? උන්ගෙ බයිනෝත්තුවලට බය නැතුව ඉන්නවා! අනේ සහෝදරවරුනි, බය නැතුව ඉන්නව..."



"ඒ ගොල්ලයි, පාෂා ව්ලාසව්.."

"කොහොල් කොහොම්ද?"

"අත්දෙක පිටිතලහා කොට බැඳ ගෙන හිනාවෙනවා, හරිම යකඩයෙක්..."

"අනේ ළමයිනේ! පුතුනේ!" යැයි කෑ ගැසූ අම්මා සෙනඟ අතරට වැදුණාය. බොහෝදෙනෙක් ගරුසත්කාරයෙන් ඇට ඉඩ දුන්නාය. එකෙක් සිනාසෙමින් මෙසේ කීය:

"බලපල්ලා මෙන්න කොඩිය! එයාගෙ අතේ කොඩිය!"

"කට වහ ගනින්!" තවෙ'කෙක් තියුණු හඬකින් කීවේය.

අම්මා දැත් වනමින් කතා කළාය:

"මේ අහපල්ලා, දෙවියන්ගෙ නාමෙට! උඹල සියලු දෙනාම දයාබර, හොඳ හිත ඇති උදවිය. මොනවද වුණේ කියල බය නොවී බලපල්ලා! ඇත්ත යුක්තිය සඳහා අපේ ලේ වැනි, අපේ ළමයි පාරෙ බැහැලා ගියා, සියලු දෙනාම වෙනුවෙන්! උඹලා වෙනුවෙන්, උඹලාගේ ළමා ලපටින් වෙනුවෙන්, අනාගතය සඳහටම අඳුරු වේවි, විනාශ වේවි. උඹලා වෙනුවෙන් හොඳ අනාගතයක් සඳහා. ඇත්ත, යුක්තිය සඳහා සාධාරණ ජීවිතයක් සඳහා, සියලු දෙනාම වෙනුවෙන්!"

හදවත බිඳී ගොස් පපුව හිරවී, උගුර වේලී උණුසුම් වී තිබෙන සැටි ඇට දැනේ. හැම දෙනාමත් හැම දෙයක්මත් බඳ වැළඳ ගැනීමට තරම්වූ ආදරයක් හා දයාවකි ඇ තුළ උපන්නේ. වඩාත් නිදහස් ලෙස හා වේගයකින් යුතුව ඇ කතා කරන්නීය.

තම කතාවට සවන් දී නිහඬව සිටින සමූහය තමා වටා රැස්ව සිටින සැටි දකින අම්මා සිය පුතා සහ අන්ද්‍රේ ඇතුළු පිරිසට ආධාර කිරීමට පිරිසගෙන් උදව් ලබාගත හැකිවේය යන හැඟීම වඩාත් පැහැදිලිව ඇති කර ගත්තාය.

උවමනාවෙන් සවන් දී ගෙන සිටින මිනිසුන්ගේ මුහුණු දෙස බලා ඇ නැවතත් තම කතාව දිගටම කරගෙන ගියාය.

"අපේ දරුවෝ සියලු දෙනාගෙම අනාගත සැපත සඳහා, ජේසු තුමාගෙ ඇත්ත සඳහා අපව යටපත් කරල, පාගාගෙන, බැඳතබා ගෙන ඉන්න දුෂ්ට, නපුරු කැදරයන්ට එදිරිව පෙළපාලි ගියා. අපේ දරුවො ලේ පූජා කළේ අප සියලු දෙනා වෙනුවෙන්! ඒ අයගෙන් ඈත් වෙන්ට එපා. අපේ දරුවන්ව තනි කර දමන්ට එපා! මගෙ දයාබර පුතුනේ! තමන් ගැනම අනුකම්පා කරන්න. ඒ අය කෙරෙහි විශ්වාසය තබන්න. ඇත්ත බිහිකළ ඒ උදවිය ඒ සඳහාම පණ පූජා කරන්ට යනව!"

ඇගේ කටහඬ අතුරුදහන් වුණේ මෙසේය. ඈ බිම ඇද වැටෙන්ට යත්ම, කිසිවෙක් ඈ අල්වා ගත්හ.

"දෙවියන්ගේ ඇත්ත තමයි ඔය කියන්නේ" කලබල වූ එකෙක් කැළඹුණු සිතින් කෑ ගැසීය. "දෙවියන්ගේ ඇත්ත! අනේ මේ අහපල්ලා!"

තවෙ'කෙක් අනුකම්පා කළේය:

"අනේ එයා දුක් විඳිනවා!"

ඔහුගේ කීමට විරුද්ධ වූවෙක් ඇනුම් පදයක් කීය:

"එයා දුක් විඳිනවා නොවේ, අපව මෝඩයන්ට ගණන් අරගෙන මරවන්ට හදනවා, තේරුණේද!"

මෙච්චර සමූහය ඇතුළුවෙ සිහින් වෙව්ලන හඬකි:

"අනේ ක්‍රිස්තියානි සාරයෙනි! මගෙ මිත්‍රයා කොතරම් හොඳ ආත්මයක් තියෙන කෙනෙක්ද! මොකක්ද එයා කළ වරද? එයා සතයක් පමණ උදව්වට තියා. මේ උන්දෑගෙ කතාව හරි. අපේ දරුවන්ව අපි අහක දම්මෙත් මක්කටද? උන් අපට කළ වැරැද්ද මොකක්ද?"

ඒ වචන ඇසූ අම්මාගේ දෙනෙතින් කඳුළු සලන්ට විය.

"නීලව්නා, ගෙදර යන්න! අම්මේ, පලයන්! වද වින්දා මදෑ!" සිසෝව් ලොක්කා හඬ නගා කීය.

මළානිකව සිටි ඔහුගේ නිකට වෙව්ලන්ට පටන් ගත්තේය. ඇස් බැම රැළි ගන්වා ගත් හෙතෙම රැස්ව සිටියවුන් දෙස දැඩි නෙත්වලින් බලා දිගැටි කතාව ඇරඹීය:

"උඹල දන්නව මගෙ පුතා මත්වෙයි මැසිමකට අහු වෙලා මළා. එයා අද ජීවතුන් අතර හිටියානම් මම එයාව පිටත් කරනව එතනට. මත්වෙයි පලයන්, ඒ වැඩේ සාධාරණයි, අවංකයි, ඇත්තයි!"

ඔහු කතාව නැවැත්විය. සියලු දෙනාම නිහඬව උන්හ. කිසියම් අළුත් දැවැන්ත දෙයක් විසින් ඔවුන් අල්ලා ගත් සැටියකි. එහෙත් ඒ බලවේගයට දැන් ඔව්හු බිය නොවෙත්. අතක් ගසා දමූ සිසෝව් නැවත කතා කළේය:

"නාකියෙක් කතා කරන්නෙ. උඹලා මාව දන්නවා නෙව! මම අවුරුදු තිස් නවයක් තිස්සේ මේ ෆැක්ටරියේ වැඩ කරල තියනව. මගේ වයස අවුරුදු පනස් තුනයි. මගේ බෑණා හොඳ නුවණැති ඉලන්දරියාව අද ආයෙමත් සිරබාරයට ගත්ත. ව්ලාසව් ළඟින් එයා ගමන් කෙරුවෙ. ධජය ළඟින්ම..."

අතක් ගසා දමූ හෙතෙම දෙවුර හකුළුවා ගත්තේ, අම්මාගේ අතක් අල්ලා ගනිමින් මෙසේ කීවේය:

"මේ උන්දෑ කීවේ ඇත්ත. අපේ ළමයි අවංකව නුවණක්කාර ලෙස



ජීවත් වෙන්ට හැදුවා. අපි උන්ට අන්තැර දැම්මා. ඔව්! යන්න නීලව්නා, ගෙදර!"

"මගෙ දයාබර ළමයිනේ!" යැයි ඈ පිරිස ඇතුළේ කඳුළු පිරුණු ඇස්වලින් යුතුවය. "ළමයින් වෙනුවෙන්, උන්ගෙ ජීවිත වෙනුවෙන්, මහපොළොව!.."

"නීලව්නා, පලයන්! මෙන්න විට අරගනින්." යැයි කී සිසෝව් පහත් ව බිම වැටී තිබුණු විට එසෙන ඇට දුන්නේය.

හැමදෙනාම අම්මා දෙස බැලුවේ කණගාටුව සහ ගෞරව සහිත ඇස්වලිනි. සිසෝව් නිහඬව මිනිසුන් අයින් කරවමින් ඇට යාමට මග සාද දුන්නේය. ඔවුහු ඇත් මෑත් වෙමින් ඇට යාමට ඉඩ සලසා දුන්හද ඉබේටම මෙන් ඈ පිටුපසින් සෙමින් ගමන් කරමින් පහත් හඬින් සෙමින් කතා කළහ. ඒද වචන දෙක තුනකට වැඩි නොවේ.

ගෙයි වැට අසළට පැමිණි ඈ ආපසු හැරී පිට වාරු කරගනිමින් පිරිසට කෘතඥතාවය පළ කළාය.

"බොහොම ස්තුතියි..."

ඇගේ සිතෙහි උපන් අළුත් අදහසක් සේ හැඟී ගිය එක්තරා හැඟීමක් නැවත ඇයට කල්පනා වූයෙන් ඈ මෙසේ කියන්නට වූවාය:

"ජේසු නුමාගෙ තේජස වෙනුවෙන් මිනිස්සු ජීවිත පූජා නොකළානම්, අද එවැනි කෙනෙක් නැහැ..."

පිරිස නිහඬව ඈ දෙස බැලූහ.

ඈ පිරිසට ආචාර කොට ගෙතුළට ගියාය. සිසෝව්ද හිස පාත් කර ගනිමින් ගෙට ඇතුළු විය.

වැට අසල සිටි පිරිස යමක් කියන්ට වූහ.

අනතුරුව ශාන්ත ලෙස ඔවුහු විසිර ගියහ.

# I

සිත කය දෙකම දැඩි කොට වෙළා ගත් විඩාවකින් පෙළෙමින් සිටි අම්මා දවසේ ඉතිරි හරිය ගත කළේ සිදුවූ දේ පිළිබඳ නොපැහැදිලි චිත්‍රයක් මවා ගනිමිනි. ඇගේ මන්‍ෂස ඉදිරියේ වරෙක කුඩා නිලධාරියාගේ රුව මැවී පෙනෙනුයේ අළු පැහැති ලපයක් සේය. වරෙක පාවෙල්ගේ වාගේ වැනි මුහුණ දිස්වෙන අතර තවත් වරෙක අන්ද්‍රේගේ දයාන්විත දෙනෙත් මද සිනාපායි.

කාමරය තුළ ඔබ මොබ සක්මන් කළ ඕ ජනේලය අසල සිට ගන්නි මහ මග දෙස බලයි. ඇස් බැමි හකුළුවා ගනිමින් නැවත ඒ මේ අත ඇවිදිමින්, යමක් සොයන්නාක් මෙන් තේරුම් රහිතව ඇවිදියි. වතුර බීවද පිපාසය නොසංසිඳිණ. දෙමිනසින් හා නින්ද සහගත අපහාසයන්ගෙන් පිරී තිබුණු හදවත දැවෙන්නට විය. දවස දෙකට කැඩී ගියාක් මෙනි — මුල් කොටස තේරුමක් ගෙනදුන් අතර දැන් එහි හරයක් නොමැත. ඇ උදාසීනත්වයකින් පිරුණු හිස් ගතියකින් යුතුව වියවුල් සහිත ප්‍රශ්නයක් ඉදිරිපත් කළාය:

"මීට පස්සේ මොනවා වේද?.."

කර්සුනෝවා පැමිණියාය. දැන් වනමින් කෑ ගැසූ ඇ හඬා වැළපුනාය. වරෙක ප්‍රීතියට පත්වන මරියා අඩි පොළොවේ හප්පමින් මොනවාදෙ දෙන බව කියමින් පොරොන්දු වෙයි. තවත් වරෙක කිසිවෙකුට බැණ වදිමින් තර්ජනය කරයි. මේ කිසිවකින් අම්මා කැළැඹීමකට පත්නුවාය.

"ඔහෝ!" කෑ ගසමින් කතා කරන මරියාට ඇ සවන් දෙයි. "ඔයවගෙ මිනිසුන් කුලප්පු කළා! පැක්ටරිය නැගිට්ටාම — හැමදෙනාම නැගිට්ටා වගේ!"

"ඔව් ඔව්!" අම්මා හිස වනමින් සෙමින් කීවාය. ඇගේ ඇස්, අන්ද්‍රේ සහ පාවෙල් සමග තමාගෙන් වෙන්වී ගිය මෑත අතීතය දෙස බලන්නාක් මෙන් නොසෙල්වී පවතී. හදවත වියලී ගොස් මිරිකෙන්ට පටන්ගත් නිසාදෝ ඕ ඇඩීමෙහි අපොහොසත් වූවාය. දෙතොල් සහ උගුර කට වියලී ගොස් තිබිණි. දැන් වෙව්ලන්ටද පිටකොන්ද ගැහෙන්ටද විය.

ඊ බෝවූ පසු පොලිස් හමුදා බට පිරිසක් ගෙට කඩා වැදුණද ඈ ඔවුන්ට මුණ දුන්නේ බියෙන් හා පුදුමයෙන් තොරවය. උන් ගෙට වැදුනේ කෑ කෝ ගසමිනි, ප්‍රීතියෙන් පිරි ඔවුන් තුළ සතුටුදයක බවක්ද විය. ගොරහැඩි පාණ්ඩුකාර නිලධාරියා දත් විලිස්සමින් කතා කළේය:

''ඉතින් කොහොමද වාස දේස? තුන්වැනි වතාවටත් මුණ ගැසුනා නොවද?''

ඈ තොල් මතුරමින් නිහඬ වූවාය. නිලධාරියා දැනමුතුකම් දෙන්නාක් මෙන් දෙඩවන්නට විය. කතා කිරීමෙන් ඔහු සතුටක් ලබන බව ඇට දැනේ. ඔහුගේ වචන ඇගේ සිතට ඇතුළු වූයේ නැති නිසා බාධාවක් නොවීය. පසුව ඔහු මෙසේ කීවේය: ''අම්මේ, වැරදිකාරි උඹමයි. දෙවියන්ටයි සාර් රජුටයි ගරු කරන්ට උඹ පුතාට උගැන්නුවේ නැහැ...''

දොර ළඟ සිටි ඈ ඔහු දෙස නොබලාම පිළිතුරු දුන්නාය:

''ඔව්, ළමයි අපේ නඩුකාරයෝ. ඇත්තටම අපි උන්ව ඔය විධියට තනිකර දම්මාට ළමයි අපව විනිශ්චය කරන්ට ඕන.''

''මොනාවා?'' නිලධාරියා කෑගැසීය. ''හයියෙන් කියපිය!''

''මා කියන්නේ නඩුකාරයෝ ළමයි,'' ඈ සුසුම් හෙලමින් නැවත වරක් කීවාය. නිලධාරියා කෝපව කිසිවක් වේගයෙන් කියන්ට වූ නමුදු ඒ කිසිවක් ඇගේ කන්හි නොවැකිණ.

මරියා කර්සුනෝවා සාක්කි කාරිය වශයෙන් ක්‍රියා කළාය. කර්සුනෝවා අම්මා ළඟ සිටි නමුත් ඇය දෙස නොබැලුවාය. නිලධාරියා කිසියම් ප්‍රශ්නයක් ඇගෙන් අසන විට ඈ හිසත් කයත් නමා ආචාර කරමින් එකම හඬකින් කතා කරයි:

''අනේ හාමුදුරුවනේ! මං දන්නේ නෑ. මම කඩේ ආප්ප වෙළඳම් කරන ගෑණියක්. අකුරු ලියන්ට කියවන්ට බැරි මෝඩ ගෑණියක්...''

''කට වහපිය!'' යැයි කෑගසන නිලධාරියා රැවුළ කරකවයි. නැවතත් හිස පාත් කරන ඈ ඔහුට නොපෙණෙන සේ මිට මෙලවූ ඇඟිලි අතරින් පැන නැගී මාපට ඇඟිල්ල සහිත අත දිගු කරමින් අම්මාට පමණක් ඇසෙන සේ කොඳුරයි:

''ඉද විකාපිය!''

විලාසවාගේ ඇඳුම් පරීක්ෂා කරන ලෙස මරියාට අණ කරනා ලදි. තදින් වසාගත් ඇස් පිසදමා ගනිමින් බයාදු ගතියක් පාමින් ඈ නිලධාරියා අමතා මෙසේ කීවාය:

''අනේ හාමුදුරුවනේ! මට ඒ වැඩේ දැනෙන්නේ නැහැ!''

ඔහු අඩි පොළොවේ හප්පමින් කෑ ගසන්ට විය. බිම බලාගත් මරියා අම්මා දෙසට හැරී සෙමින් කතා කළාය:



''මොනවා කරන්ටද, ඇඳුම්වල බොත්තම් ගළවාපන්, පෙලගේයා නිලව්නා...''

ඇගේ ඇඟිලි තුඩුවලින් ඇඳුම් පරීක්ෂාකර බලන මරියා අම්මාගේ කණට කොඳුරමින් මෙසේ කියයි:

''අනේ බලපන් බල්ලන්ගෙ හැටි!''

''මොනවද බොල රහස් කියන්නෙ?'' තියුණු හඬින් කෑ ගැසූ නිලධාරියා ඇය දෙස හැරී බැලීය.

''ගෑනු වැඩ ගැන, හාමුදුරුවනේ!'' කියගත් මරියා තොල මතුළ ය.

පරීක්ෂණය අවසානයේදී ලියවිල්ලකට අත්සන් තබන ලෙස අම්මාට අණ කළ විට, ඈ ලොකු අකුරුවලින් ඇන්දය:

''කම්කරු වැන්දඹුවක් වන පෙලගේයා විලාසවා.''

''උඹ මොනවද බං ලිව්වේ? මක්කටද ඔය හැල්ලක්?'' නපුරු බැල්මක් හෙළූ නිලධාරියා කෝපයෙන් අසා පසුව උපහාසාත්මක ලෙස සිනාසුණේය: ''වල් සත්තු...''

ඔවුහු පිටව ගියහ. අම්මා දෑත් බැඳගෙන, ඇසිපිය නොහෙලා, කිසිවක් නොබලා, නොදැක, අරමුණකින් තොරව හුන්නාය. ඇහි බැම උස්සා ගනිමින්, දෙතොල් සපා ගනිමින් කොතරම් වේගයෙන් දත්මිටි කෑවේද යත් ඇයට වේදනාවක්ද දැනෙන්ට විය. කුප්පි ලාම්පුවේ තෙල් නැතිව ගියෙන් එය නිවී ගියේය. අඳුරු වලාකුළු දෙම්නස සහ පාළු බව ගෙනෙමින් ඇගේ හදවත පුරවාලීය. ඇගේ හදවත ගැහෙන්ට වී. බොහෝ වේලාවක් සිටගෙන සිටීම නිසා දෙපාවල වේදනාවක් හටගත්තේය. ජනේලය අසලට පැමිණි මරියා කර්සුනෝවා වෙරිමත්ව කතා කරනා සැටි ඇට ඇසේ:

''පෙලගේයා! නිදිද? මගේ අවාසනාවන්ත දුක් විඳින්නී, නිදාගනින්!''

ඇඳ සිටි ඇඳුම් පවා ඉවත් නොකරම නින්දට ගිය ඈ ඉක්මනින්ම තද නින්දට වැටී සිහින ලොවට පිවිසියාය.

නගරය දක්වා වැටී තිබෙන මාවතේ ඇති ගොහොරු බිමද ඊට එහා සොහොනක්ද දුන් ඈ සිහෙන් දකී. එහි කඳු බෑවුමක් අසල පාවෙල් සිටින සැටි පෙනේ. අන්ද්‍රේගේ හඬින් පාවෙල් ගී ගයන්නාක් මෙනි.

''කම්කරු සගයිනි පිබිදෙව්, නැගිටිව්...''

ඈ ස්තූපයක් වැනි ඒ කඳුගැටය පසුකර ගොස් නළලෙහි අත තබා ගනිමින් පුතා දෙස බැලුවාය. ඔහුට පසුතලය කොට ඇති නිල්වන් අහස නිසා ඔහුගේ හැඩ රුව කැපී පෙනේ. ඈ ඔහු වෙත යාමට ලජ්ජා වූයේ ගැබ්ගෙන සිටි බැවිනි. හැරත් තවත් දරුවෙකු ඇය අතවිය. තවත් දුර ගිය ඈට පිටියක සෙල්ලම් කරන කුඩා සිඟිත්තන් පෙනේ. ඔවු'නාතර රතු පන්දුවකි. අත දරුවා පංදුව ඉල්ලමින් කෑ ගසා අඩන්ට විය. ඈ ඔහුට

කිරිදි සනසා ආපසු හැරී එත්ම, පිටිය හරහා යුද්ධ හමුදාව එන සැටි දුටුවාය. ඔවුහු රයිපල් තුවක්කු සහ බයිනෙත්තුවලින් සන්නද්ධ වී සිටිත්. ඒ දුටු අම්මා දිව ගොස් පිටිය මැද තිබූ විශාල දෙව්මැදුරකට රිංගා ගත්තාය. මණින්ට බැරි තරම් උසැති ඒ දෙව්මැදුර සාද තිබෙනුයේ වළාකුළුවලිනි. එහි ආදහන කෘත්‍යයෙකි! තදකොට වසා තිබුණු මිනීපෙට්ටිය කළුය, විශාලය. සුදු ඇඳුම්වලින් සැරසී සිටි පූජකයෝ සහ ගෝලයෝද ගීතිකා ගැයූහ:

''ජේසු තුමා මළවුන්ගෙන් නැගී සිටිය සේක...''

පූජක ගොලයෙක් ඇ දෙසට හැරී නැමී ආචාර කළේය. රත් පැහැති හිසකේ ඇති ඔහු සමෝයිලොව්ට සමානය. දෙව්මැදුරේ ගෝලාකාර පියස්සේ සිට හිරු එළිය වැටේ. පූජාසනය දෙපස පෙළගැසී සිටගත් බාලයෝ ගයති:

''ජේසු තුමා මළවුන්ගෙන් නැගී සිටිය සේක...''

පල්ලිය මැද හිටගත් මහ පූජකයා මර හඬදී කෑ ගැසීය: ''උන්ව සිර භාරයට ගනිල්ලා!'' පූජකයාගේ ඇඳුම් අතුරුදහන් විය. පූජක මුහුණේ සුදු පැහැති උඩුරැවුලක් මතු විය. හැම දෙනාම දුවන්ට පටන් ගත්හ. සුවඳදුම් පූජා කරමින් සිටි අන්නව් රාළ පාත්‍රය විසිකර දෑතින් හිය බදගනිමින් දිවගියේ හොහොල් මෙනි. අම්මාගේ උකුළෙහි හුන් දරුවා බිම වැටිණ. දුවගිය මිනිස්සු දරුවා නොපාගමින් ඇත් මැත්වී බියගත් සිත්වලින් යුතුව නිරුවතින් බිම වැටී සිටි දරුවා දෙස බැලූහ. දණගසාගත් අම්මා හඬ නගා විලාප ගැසුවාය:

''මේ ළමයව දලා යන්ට එපා! එයාව අරගෙන පලයල්ලා...''

දෑත් පිටිතලහා කොටගෙන සිටි හොහොල් සිනහ මුහුණින් යුතුව දේවස්තෝත්‍ර ගායනා කළේය:

''ජේසු තුමා මළවුන්ගෙන් නැගී සිටිය සේක...''

පාත්වී දරුවා අහුලා ගත් අම්මා ඔහු කරත්තයක නංවාගෙන නිකොලායි සමග පිටත් වූවාය. කොක්හඬලමින් සිනාසුණු ඔහු මෙසේ කීවේය:

''මට හරි බරක් නොවැ දීලා තියෙන්නෙ...''

දූලි සහිත මග දෙපස ගෙවල්වල ජනයා ජනේලවලින් මහ දෙපස බලමින් කෑ ගැසූහ, උරුවන් බැහ, අත් වණන්ට වූහ, කාලගුණය පැහැදිලිය. හිරු රැසින් නැවී ගිය මිනිසුන්ට සෙවන ගෙනදෙන කිසිවක් සොයා ගැනීමට බැරි විය.

''නෙන්කො! සින්දුවක් කියන්නැ''යි හොහොල් ඉල්ලා සිටියේය.

''යස ජීවිතයක්!''



අනතුරුව සියලුම ගායනයන් පරදවමින් ඔහු මහ හඬින් ගී කීවේය. කෙමෙන් ඔහුගෙන් ඈත් වූ ඇ පතුලක් නැති මහ වළකට ඇද වැටෙත්ම, ඇය පිළිගන්නට මෙන් එහි සිට හූ හඬක් පිට විය...

අම්මා නින්දෙන් පිබිදුණේ වෙව්ලමිනි. මලකඩ බැඳුණු ලෝහමය අතක් ඇගේ හදවත රැගෙන දුෂ්ටලෙස මිරිකන සැටියකි ඇට දැනෙන්නේ. මිනිසුන් වැඩට අඬ ගසන කම්හලේ නළාව දැඩිලෙස හඬ නගයි. එය දෙවැනි වාරයේ නළාහඬ බව ඇ තීරණය කළාය. කාමරය හැම තැනම පොත් පත් විසිකර දමා තිබිණි. හැම දෙයක්ම අවුස්සා පෙරලා දමා තිබුණ අතර ගෙබිම කසල ගොඩක් මෙන් විය.

ඇ, නැගිට දෙවියන් අදහන්නේ නැතිව, මුහුණ අත පය නොසෝදම කාමරය අතු ගා අස්-පස් කිරීමෙහි යෙදුණාය. කුස්සියට ඇතුළු වූ ඇ කොඩියේ කෑල්ලක් සහිත මිට දකින්නී, එය ලිපට දැමීමට සැරසුනාය. යලිත් දිග හුස්මක් හෙළා, කොඩියේ කෑලි ඉතා හොඳින් නමා සාක්කුවේ දමාගෙන, කැඩී ගිය මිට දණහිසට වාරුකොට නැවත කැලිවලට කඩා ලිපට දැම්මාය. ගෙබිම හා ජනේලය සීතල වතුරෙන් සෝද සමෝවාරය රත්කර ඇඳගත්තාය. කුස්සියේ ජනේලය අසල ඉඳගත් ඇ ඉදිරිපිට නැවත මතු වූයේ පැරණි ප්‍රශ්නයමය:

''දූන් ඉතින් මොනවා කරන්ටද?''

දෙවියන් යැදිය යුතු බව මතක් වූයෙන් දේවරූප ඉදිරියේ සිට ගනිමින් ආගම ඇදහීමට සැරසුනාය. තත්පරයක් දෙකක් පමණ වෙලා දෙවියන් යැදීමට නැත් කළද හදවත පාළු වී ගොස් තිබුණෙන් නැවත වාඩි වුණාය.

පාර පුරා ඊයේ කෑගසමින් හැසුරුණු මිනිසුන් අද ගෙවලට වැද, ඊයේ සිදු වුණු දේ ගැන කල්පනා කරන්නාක් මෙනි. අපූරු නිහැඬියාවකි.

තමා තරුණ කාලයේදී දුටු සිද්දියක් හදිසියෙන්ම අම්මාට මතක් විය: සවුසයිලෝව් හාම්පුතුන්ට අයිති වත්තක පැරණි පොකුණකි. එය පුරා සුදු මානෙල් වැවී තිබිණි. හේමන්තයේ අඳුරු දවසක ඒ පොකුණ අසලින් ගිය ඇ එහි මැද ඔරුවක් නවතා තිබෙන සැටි දුටුවාය. පොකුණේ ජලය කළුය. ඔරුව කළුපාට වතුරට ඇලී තිබුණාක් මෙනි. එය වටා තිබූ කහ පැහැති කොළ කණගාටුදායක දර්ශනයක් ගෙන දුන්නේය. පොකුණ අසල බොහෝ වෙලා සිටි අම්මා, ඒ ඔරුව පොකුණ මැදට ගෙනගියේ මන්දැයි කල්පනා කළාය. සවුසයිලෝව්ගේ කඩයක වෙළඳ සේවකයකුගේ බිරිය පොකුණට පැන සිය දිවි හානි කරගත් බව එදින සවස දැන ගන්ට ලැබිණි. වෙළඳ සේවකයාගේ බිරිඳ කඩිසර ගමනින් යුත් නිතර අවුල් කරගත් හිසකේ ඇති කුඩා ගැහැණියකි.

මුහුණ අත ගාමින් ඇ කල්පනා කළේ ඊයේ සිදුවූ දේ පිළිබඳවය.

නිවිගිය තේ කෝප්පය දෙස බලාගත්වනම හුන් ඕ ඊයේ සිදුවූ දේ ගැන සිතන්ට වූවාය. චාම්, බුද්ධිමත් මිනිසෙකු හමුව බොහෝ දේ අසා දැන ගැනීමට ඇය තුළ උපන්නේ දැඩි ආශාවකි

ඇගේ පැතීම සපුරාලමින්දෝ දවල් ආහාරයෙන් පසු ඇය හමුවීමට නිකොලායි ඉවානොවිච් පැමිණියේය. ඔහු දකින ඈ තුළ ඇති වූයේ බිය මුසු අනාතුරු හැඟවීමකි. ඔහුගේ ප්‍රශ්නවලට පිළිතුරු නොදී ඈ සෙමින් මෙමෙස් කීවාය:

"අනේ අප්පෙ, මොකටද තමුසෙ ආවෙ. අවදානම් ඇති වැඩක් නෙව! දක්කොතින් තමුසෙව හිරභාරයට ගනීවි..."

ඇට ආචාර කරමින් අතට'ත දුන් හෙතෙම ඇස් කණ්ණාඩි කුට්ටම හරිගස්සාගෙන ඇය දෙසට නැඹුරුවී ඉක්මනින් කතා කරන්ට විය:

"ඇහුනද, පාවෙල්වයි අන්ද්‍රේවයි හිරභාරයට ගත්තොත් ඊට පසුද ඔබව නගරයට කැඳවා ගෙන යන්ට කලින්ම කතා කරගෙන හිටියා!" ඔහු සිත් තැවුලෙන් තොරව පියකරු ලෙස කතා කළේය: "ගේ සෝදිසි කළාද?"

"ඔව්. හෙව්වා, ඇවිස්සුවා. උන්ට ලජ්ජා නැහැ. හිතක්-පපුවක් නෑ!" අම්මා වේගයෙන් පිළිතුරු දුන්නාය.

"උන්ට ලජ්ජා වෙන්ට උවමනා මොකක්ද?"යි කියමින් දෙවුර වැනූ නිකොලායි ඉවානොවිච්, ඈ නගරයේ ජීවත් විය යුත්තේ මන්දැයි විස්තර කරන්ට පටන් ගත්තේය.

ඔහුගේ දයාන්විත කතාව අසා සිටින්නී, සිනාවකින් මුව සරසාගෙන ඔහු දෙස බලා, ඔහු කෙරෙහි මහත්වූ විශ්වාසයක් තබමින් මෙසේ කීවාය:

"පාෂා එහෙම කැමති වුණා නම්, මම ලැස්තියි. මා නිසා කරදරයක් වෙන්නේ නැද්ද?.."

ඇගේ කතාවට ඔහු හරස් කැපුවේය:

"ඒ ගැන කලබල වෙන්ට එපා. මම ඉන්නෙ තනියම. ඉද හිටලා මගේ අක්කා එනවා."

"පිනට ජීවත් වෙන්ට බැහැ!" ඈ හඬ නගා කීවාය.

"කැමති නම් වැඩක් සොයා දෙන්නම්!" නිකොලායි පැවසිය.

පුතා සහ අන්ද්‍රේ ඇතුළු සගයින්ගේ වැඩ සමග අඛණ්ඩ ලෙස ඇගේ කාර්ය එක්වී තිබේය යන හැඟීමක් ඇය කෙරෙහි විය. ඈ නිකොලායි දෙසට නැඹුරුවී ඔහු දෙස බලමින් මෙසේ ඇසුවාය:

"වැඩ තියෙනව?"

"අපේ ගෙදර වැඩ බොහොම ටිකයි. මම තනිකඩයෙක්..."

"ගෙදර වැඩ ගැන නොවෙයි. මා කියන්නේ" ඈ සෙමින් කීවාය.



ඔහුට ඇයව තේරුම් ගැනීමට බැරිවීම නිසා දුක්වූ ඈ දිග සුසුමක් හෙළුවාය. සිනාසුණු හෙතෙම කල්පනාකාරී ලෙස මෙසේ කීවේය:

"හිරගෙදරට ගිහිං පාවෙල් හම්බවෙලා පත්‍ර ඉල්ලූ ගොවීන් ගැන තොරතුරු දැනගෙන එනවානම් හොඳයි..."

"ඒ ගොල්ලන්ව මම දන්නවා," යැයි ඈ කීවේ ප්‍රීතියෙනි. "මං ඒ ගොල්ලන්ව හොයලා කියන හැම දෙයක්ම කරන්නම්. කාටද හිතන්ට පුළුවන් මම නීතිවිරෝධී පත්‍ර ගෙනියනව කියල? පැක්ටරියට ගෙනගියා නෙව. දෙයියන්ට පිං අයිති වේවා!"

දෙවුරින් ගත් මල්ලක් හා අතේ හැරමිටියක් ඇතිව කැලෑ ඔස්සේ ගම්, නියම් ගම් හරහා යාමට ඇට සිත්විණ.

"ඔබ මාව ඒ වැඩවලට ඈඳා ගන්න. මම හැමතැනම යන්නම්. හැම පළාතකටම යන පාර-තොට හොයා ගන්නම්! ශීත කාලෙ උෂ්ණ කාලෙ කියා නොබලා, මිනිවල දක්වා යාමට වුණත් ලැස්තියි. රටපුරා ඇවිද ගෙන යාම මසුරන් වටින වැඩක් නේද?"

ගම්, නියම් ගම් ගානේ ඇවිදිමින් ජේසු තුමාගේ නාමයෙන් සිඟමන් ඉල්ලමින් ඇවිදින ගැහැණියකගේ රූපයක් සිතින් මවාගත් ඈ දුක්වූවාය.

ඇගේ අතක් ගෙන තමාගේ උණුසුම් අතක් මත, නිකොලායි, තබාගත්තේ ඉතා ප්‍රවේසමිනි. පසුව ඔහු ඔර්ලෝසුව දෙස බලා මෙසේ කිය:

"හොඳයි, අපි ඒවා ගැන පස්සෙ කතා කරමු."

"අනේ අප්පෝ!" යැයි හඬ නගා කීවාය. "ළමයි — හදවතෙන් ඉතාම වටිනා කොටස. තමන්ගෙ නිදහසයි ජීවිතයයි ළමයි වෙනුවෙන් දුකක් නැතිව පුද කරන්ට සූදානම්, මම අම්මා කෙනෙක් නොවේද?"

නිකොලායිගේ මුහුණ සුදුමැලි විය. ඔහු අම්මා දෙස ආදරයෙන් බලා සෙමින් කතා කරන්ට විය.

"දන්නවද? මගේ ජීවිතෙ පළමු වතාවට ඒ වගෙ වචන ඇසුවා..."

"මට මොනවද කියන්ට පුළුවන්?" ඈ කනගාටුවෙන් හිස සලන්ට වූවාය. දෑත් ගසා දැමූ ඈ මෙසේ කීවාය: "අම්මා කෙනෙකුගේ හදවතට දැනෙන දුක හරිහැටි විස්තර කිරීමට මට පුළුවන් නම්..."

වේදනාවෙන් පිරි හදවත පුපුරා යන තරම් කකියන්ට වූයෙන් ඈ නැගිට සිටගත්තී, වෙරිමත්වූ කලෙක මෙන් වේගයකින් කතා කරන්ට වූවාය:

"හුඟාක් දෙනා අඬාවි. නපුරු හිත-පපුව නැති එවුන් පවා අඬාවි..."

නැගී සිටගත් නිකොලායිද අත් ඔර්ලෝසුව දෙස බලා මෙසේ කිය:

"එහෙනම් තීරණය වුණා. අම්මා නගරෙට, අපේ දිහාවට එනවා."

ඈ නිහඬව හිස සැලුවාය.

''කවද ද? ඉක්මන් කරන්ට!'' යැයි ඔහු කීය. ''මට අම්මා හින්ද හිතට බයයි, ඇත්තටම!''

පුදුමයට පත් ඇ ඔහු දෙස බලන්ට වූවාය. ''එයාට මොකද මා ගැන ඇති උවමනාව?'' සිනාපිරි මුහුණින් යුත් ඒ පුද්ගලයා උපැස් යුවළකින් හා කළු කබායකින්ද සැරසී ඇ ඉදිරිපිට සිටී, මදක් වක්වූ පිට කොන්ද නිසා ඔහුගේ කබාය කඩා හැලෙන්ට යන්නාක් මෙනි...

''ඔබ ළඟ සල්ලි තියෙනවද?'' ඔහු ඇසුවේ නෙත් බිමට හරවා ගනිමිනි.

''නැහැ!''

ඔහු හතික සාක්කුවෙන් මුදල් පසුම්බියක් එළියට ඇද ඇ වෙත දිගු කළේය.

''ඔන්න, ගන්ට කරුණා කරල...''

අම්මාට ඉබේටම සිනා ගියේය. හිස සෙලවූ ඇ මෙසේ කීවාය:

''හැම දෙයක්ම අළුත් තාලෙට! මුදල්වලට වටිනාකමක් නෑ! සල්ලිවලට මිනිස්සු ආත්මය පවා විකුණන්ට සූදානම්. ඔයගොල්ලන්ට සල්ලි සාමාන්‍ය දෙයක්! මහ ජනයාට තියන අනුකම්පාව හින්ද ඔයගොල්ල සල්ලි තියාගෙන ඉන්නවා වගෙ...''

නිකොලායි හෙමින් සිනාසුණි.

''සල්ලි මහ කරදර, අප්‍රිය දෙයක්! ගන්ටයි දෙන්ටයි කරදරයි...''

අතට'න දුන් ඔහු නැවත මෙසේ ඉල්ලා සිටියේය:

''එහෙනම් ඉක්මන් කරන්ට!''

පුරුදු පරිදි ඔහු නිහඬව පිට විය.

ඇ ඔහු සමග ගේට්ටුව දක්වා යමින් සිතන්ට වූවාය:

''මිනිහා කරුණාවන්තයි ඒ වුණාට අනුකම්පා කළේ නැහැ...''

එය ඇයට අප්‍රියද නැතිනම් එයින් ඇය පුදුමයට පත්වන්නේදැයි තේරුම් ගැනීමට අම්මාට නොහැකි විය.

## II

නිකොලායි ඉවානොවිච්ගේ පැමිණීමෙන් දවස් හතරකට පසු අම්මා, ඔහු වෙත යාමට ලකලෑස්ති වුණාය. පෙට්ටගම් දෙකක් සහිත කුඩා කරත්තය කම්කරු ජනපදය පසු කොට වෙල හරහා ගමන් කරන්ම පිටුපස හැරී බැලූ අම්මාට, තම ජීවිතයේ අඳුරු, දුක්බර කොටස ගෙවූ, දුකින් හා සැපෙන් පිරි, ඉක්මනින් ගෙවී යන වෙනත් දිවියක් පටන්ගත් එම ස්ථානය සදහටම හැර දමා යන බව හිටිහැටියේම හැඟිණ.

දුමෙන් වැසීගත් කළු පැහැති කම්හල විශාල මකුළුවෙකු සේ දුම් තළයන් අහස දෙසට හරවා ගනිමින් වැතිර සිටී. කම්හල වටා කුඩා කම්කරු ගෙවල් රැසකි. අළු පැහැති මේ කුඩා ගෙවල් හිරවෙමින්, තෙරපෙමින් මඩ ගොහොරු බිම දක්වා පැතිර ගොස් තිබේ. තම අඳුරු ජනේලවලින් එකිනෙකා දෙස දුක්බර බැලුම් හෙළන්නා සේය. ගෙවල් මැඩ-නැගී සිටී අතින් ගොඩනැඟිල්ල රතු ගඩොල්වලින් සාදනු ලැබූ දේවස්ථානය ය. එයද කම්හල් දුම නිසා කළු පැහැ ගෙන තිබිණ. දේවස්ථානයේ සිහු ගහ කම්හලේ දුම් තළවලට වඩා මිටිය.

උඟුර තදවීම වළක්වනු වස් අම්මා හැට්ට කර බුරුල් කළාය.

අශ්වයාට කෙවිටෙන් පහරක් දුන් කරත්ත කාරයා ''දූවපියා!'' කියමින් තොල මතුළේය. කකුලක් කොර ඔහුගේ වයස මෙයැයි කිව නොහැකිය. ඔහුගේ හිසකෙස් පැසී තිබුණ අතර ඇස් පාට රහිත විය. අශ්වයා ළඟින් ගමන් කරන ඔහු හිස වනමින් පා තැබුයේ, දකුණට හෝ වමට හෝ හැරුණද තමාට ඉන් කම් නැතයි කියන්නාක් මෙනි.

කුණු තැවරුණු බර සපත්තු සහිත කොර කකුල අද්දමින්, ''දූවපියා!'' කියමින් යළිත් ඔහු කෑ ගැසුවේය. අම්මා වට පිට බැලුවාය. වෙලද සිත මෙන් පාළු වී තිබිණි...

කුසීතව හිස වනමින් ගැල අදින අශ්වයාගේ පා හිරු රැස්වලින් රත්වී තිබෙන වැලි පොළොවේ එරෙයි, එවිට එයින් 'ෂ්' යන හඬක් නැගෙයි. කරත්ත රෝදවල කඩ-ඇණ විවිධාකාර හඬ පිට කරයි. දූවිලි සමග මුසුවන ඒ හඬ අතුරුදහන් වෙයි...

නිකොලායි ඉවානොවිච් පදංචිවී සිටියේ නගරාසන්නයේ පාළු වීදියක ගරාහැලෙන පැරැණි දෙමහල් බංගලාවකට යාබදව සේවකයන් සඳහා තනා තිබූ කුඩා ගෙයකය. ගේට්ටුවත් ජනේලවලටත් අතරින් තිබූ පෙදෙස පුරා නා නා වර්ගවලට අයත් මල් වැවී තිබිණි. කාමර තුනකින් යුත් මෙහි ජනේලවලට එබිකම් කරන්නාක් මෙනි ළපටි පොප්ලර් ගස්වල ඊදිවත් අතු විහිද ගොස් තිබුණේ. ගෙය ඉතා හොඳින් පිරිසුදු කොට තිබිණි. ජනේල රෙදි අතරින් විනිවිද යන හිරු එළිය කාමර තුළ සෙවනැල්ලක් මවාපායි. බිත්ති දිගට පොත් රාක්කයකි. නිහඬතාවය රජ කරන මේ ගෙයි බිත්තිවල බැරෑරුම් පෙනුමින් යුත් පුද්ගලයන්ගේ ඡායාරූප එල්ලා තිබේ.

''ඔබට මෙහෙ අපහසුවක් නැ නෙවද?'' යි ඇසූ නිකොලායි අම්මා කැඳවා ගෙන කාමරයකට පිවිසියේය. මෙහි එක් කවුළුවකින් බලන විට ඉදිරිපස ගෙවත්තද, අනෙක් කවුළුවෙන් බලන විට සැපට වැඩුණු තණ බිස්සක් සහිත ගෙමිදුලද පෙනේ. මේ කාමරයේද පොත්වලින් පිරී රාක්ක කීපයකි.

''කුස්සිය වඩා හොඳයි!'' ඈ කීවාය. ''අගේ ඇති කුස්සි පොඩිත්තෙ එළිමහනයි, පිරිසුදුයි...''

ඔහු කිසියම් දෙයක් නිසා බිය වන බවක් ඈට දුනේ. කුස්සියේ පදිංචි වන අදහස අත්හැර දමන ලෙස ඔහු, ඇගෙන් ඉල්ලා සිටියේය. ඈ සතුටුව එම අදහසට එකඟ වූ විට ඔහු ප්‍රීති වුණේය.

කාමර තුනම යම්කිසි විශෙෂ වාතයකින් පිරී පැවතිණි. එහි සිට ආශ්වාස – ප්‍රාශ්වාස කිරීම පහසු වූ නමුදු ඉබේටම මෙන් පහත් හඬකින් කතා කිරීමට සිත්විණි. බිත්තිවල සිටි චිත්‍රකයින්ගේ සමාධියට බාධා කිරීමට සිත් නොදේ.

ජනේල පඩිවල තබා ඇති මල් පොච්චි දෙස බැලූ අම්මා, මල්වලට වතුර වත්කරන්ට ඕන නෙව!'' යැයි කීවාය.

''ඔව් ඔව්!'' වැරැද්දක් කළ එකකු සේ ඔහු කීවේය. ''මම මල්වලට බොහොම ආසයි. ඒ වුණාට සාත්තු කරන්ට වෙලාවක් නැහැ...''

සැපපහසු මේ ගෙදර අයිතිකාරයා — නිකොලායි පවා තමාට නුහුරු නොපුරුදු පරිසරයක ඉන්නා සේ ප්‍රවේසමින් හැසිරෙන සැටි ඇගේ නිරීක්ෂණයට හසුවේ. යම්කිසි දෙයක් ඔහු පරීක්ෂා කරන්නේ ඇස් හකුළුවා ගෙන උපැස් යුවළ සිහින් ඇඟිලි තුඩුවලින් අල්ලා ගෙන, ඒ දෙසට නැමී, නිහඬව ප්‍රශ්න අසන්නාක් මෙනි. සමහර විට ඔහු කිසියම් දෙයක් අතින් ගෙන එය මුහුණට වැදෙන-නොවැදෙන සේ ළංකර ගනිමින් බලයි. අම්මා සමග කාමරයට වැදුණු ඔහුටද, ඈට මෙන් කාමරයේ හැම දෙයක්ම නුහුරුය, නොපුරුදුය. ඔහු හැසිරෙන හැටි දකින අම්මා තමාගේ තත්ත්වය මේ යැයි වටහා ගත්තාය. ඔහු පිටුපසින් ගමන් කරන ඈ නොයෙක් දෑතබා තිබෙන ආකාරය දෙස විමසිල්ලෙන් බලන්නී, ගෙදර දොර එදිනෙද ජීවිතය ගැන සිහි කළාය. ඔහු ඇයට පිළිතුරු දුන්නේ, වැඩ කළ යුතු නිසි පිළිවෙත දන්නා, එහෙත් එසේ වැඩ කළ නොහැකි එකකු සේය.

මල් පොච්චිවලට වතුර වත් කොට බිම වැටී තිබූ ස්වර මාලා සටහන් පියානෝව මත තැබූ ඕ සමොවාරය දෙස බලා මෙසේ තෙපළාය:

''සුද්ද කරන්ට ඕනෑ...''

සමොවාරය ඇඟිලි තුඩකින් පිරිමැද නැවත එය මුණට ළංකොට ඔහු ඉතා ඕනෑකමින් බලන්නට විය. අම්මා සුරතල් ලෙස මඳ සිනා පෑවාය.

රෑ නින්දට ගොස් ඈ ගෙවී ගිය දවස ගැන මතක් කරන්ට වූවාය. ඈ මචිනව කොට්ටයෙන් හිස ඔසවා වට පිට බැලුවාය. තම ජීවිතයේ පළමු වැනි වරට ඇය පිට මිනිසෙකුගේ ගෙදර නවාතැන් ගත් නමුදු, එයින් ලජ්ජාවක් ඇති නොවූ බව මෙනෙහි කළාය. නිකොලායි ගැන කල්පනා කළ ඕ ඔහුට ඉතා හිතවත් ලෙස ආධාර උපකාර කිරීමටත්, ඔහුගේ හදවත



උණුසුම් වන සේ දයාබර වචන වලින් ඔහු ඇමතීමටත්, ඉටා ගත්තාය. නිකොලායිගේ අස්වාභාවික බැරි කම සහ ඔහුගේ ආලෝකමත් ඇස්වල ඇති ළමා ගතිය මුසු බුද්ධිමත් විලාසයත් දකින අම්මාගේ හදවත සැලෙයි. පසුව ඇගේ සිහිවිලි දමය තුළ සිය පුතාගේ රූපය මැවී, මැයි පළවැනිද සිද්ධිය නැවත ඉස්මතු විය. මේ වර එම සිද්ධිය නවතාවයක් ගෙන අළුත් අදහස් මවා පෙන්වීය. මිට මොළවාගත් අතකින් පහරක් ගැසූ කලෙක මෙන් හිස පාත් කරගෙන යාමට ඒ සිද්ධිය තුඩු නොදුන්නේය. එදින ශෝකය විශෙෂ එකකි. ඉදිකටුවලින් හදවත තුවාල කරනු ලැබූ කලෙක මෙන් කෝපය උත්සන්න කොට පිට-කොන්ද ඍජුව තබා ගැනීමට එය අනුබල දුන්නේය.

නගර ජීවිතයේ නොපුරුදු හඬට කන් දෙන ඈට ''ලෝකයේ ළමයි ජීවත් වෙති,'' යන හැඟීමක් පහළ විය. නගරයේ රාත්‍රී හඬ, ඇර තිබෙන කවුළුවලට වැද, එහි පඩි මත තිබෙන මල් පොච්චි වල හැපී, විඩා පත්ව, මලානික වී කාමරය තුළට විත් නිහඬව මිය යයි.

උදෙන්ම නැගිට සමොවාරය සුද්ද කොට, තේ උණුකර, ශබ්ද නොඇසෙන සේ පිගන් කෝප්පාදිය මේසයට ගෙනවිත්, නිකොලායි පිබිදෙන තුරු අම්මා බලා සිටියාය. ඔහු කහින සැටි ඇසේ. එක් අතකින් කණ්ණාඩි කුට්ටමද අනිත් අතින් කටද වසාගෙන ඔහු දොර ළඟට ආවේය. ඔහුගේ ආචාරයට පිළිතුරු දෙන අම්මා සමොවාරය කාමරය තුළට ගෙන ගියාය. වතුර බිම හලමින් නිකොලායි මුහුණ සෝදන්ට වූයේ, වරෙක සබන් කැල්ල බිම දැම්මේය. දත් බෙත් ඇඟපුරා ඉහිර යනසේ ශබ්ද කරමින් දත් මදින ඔහුගේ අතින් තවත් වරෙක දත් බුරුසුව බිම වැටේ.

තේ බොමින් නිකොලායි ඈට මෙසේ කිය:

''මා වැඩකරන්නේ ගම් සබා කන්තෝරුවක. ඒක හරිම කනගාටු දයක රස්සාවක්. අපේ ගොවීන් විනාශයට යන හැටි බලා ඉන්නවා...''

වරදක් කළ එකකු සේ මඳ සිනා පාමින් ඔහු මෙසේද කීවේය.

''සාගින්න නිසා ක්‍රමයෙන් වැහැරී යන මිනිස්සු අකාලයේ මිය යනව. ළමයි දුර්වල වෙලා හේමන්ත කාලෙදී සීතට අහුවෙන මැස්සො වගෙ මැරිල යනව. මේ වගෙ මරණවලට හේතුව අපි දන්නවා. ඒවා සොයා බලා පඩි ලබා ගන්නවා. එයට වැඩිය යමක් අපට දැනට කරන්ට නැහැ...''

''ඔබ සරසවි ශිෂ්‍යයෙක්ද?'' අම්මා ප්‍රශ්න කළාය.

''නැහැ. මම පාසල් ගුරුවරයෙක්. මගේ පියා වියට්කා වල වැඩපලක මැනේජර. මම ගුරු රස්සාවට බැස්සා. ගම්බද පාසලක උගන්වන කාලෙදී මම ගම්බද මිනිසුන්ට පොත් පත් දුන් වරදට මාව හිරගෙට යැව්වා. ඊට පස්සෙ මාව යැව්වා සුදු මුහුද අසල ගමකට. එහි මම අවුරුදු පහක් හිටියා.''

ඔහුගේ කතාව, කාමරය ආලෝකමත් කරන ඉරු එළිය මෙන්, පැහැදිලිය, සම්බරය. මෙවැනි ජීවිත පුවත් බොහොමයක් ඈ අසා තිබේ. එහෙත් ඒවා ඇයට නොතේරෙන්නේ එවැනි දුක් ගැහැට විඳි අය ඒ ගැන කිසිදු කම්පා වීමක් නැතිව ශාන්ත ලෙස එවැනි කතා විස්තර කරන බැවිනි. ඔවුහු ඒවා වැළැක්විය නොහැකි දේ ලෙස සලකතිද?

''අද මගෙ සහෝදරිය එනවා'' යැයි ඔහු ඇයට කීවේය.

''එයා කසාද බැඳලද?''

''එයා කසාවැන්දුම් වෙලා. එයාගෙ පුරුෂයාව සයිබීරියාවට පිටුවහල් කළා. එහිදී එයාට සය රෝගය හැදුනා. අවුරුදු දෙකකට උඩදී එයා පිටරටකදී මළා...''

''එයා ඔබට වැඩිමල්ද?''

''ඔව් මට වඩා අවුරුදු හයකට වැඩිමල්. මං එයාට බොහොම ණය ගැතියි. එයා පියානෝව වාදනය කරනකොට බලන්නකො කොහොමද කියලා. මේ ගෙදර බඩු වැඩිහරිය එයාගෙ. පොත් විතරයි මගෙ...''

''එයා කොහෙද ඉන්නෙ?'' අම්මා ඇසුවාය.

''හැම්තැනම'' යැයි ඔහු කීවේ මඳ සිනා පාමිනි. ''නිර්භීත මිනිස්සුන්ගෙ අවශ්‍යතාවය ඇති හැම්තැනකම එයා ඉන්නවා.''

''එහෙනම් මේ ව්‍යාපාරෙද?''

''සත්තකින්ම!'' ඔහු පිළිතුරු දුන්නේය.

ඔහු රක්ෂාව සඳහා ගම් සභා කාර්යාලයට ගියේය. අම්මා, ''ව්‍යාපාරය'' ගැන — දිනපතා මිනිසුන් නිව්හැල්මේ සහ මුරණ්ඩු ලෙස ගෙනයන වැඩ ගැන — කල්පනා කරන්ට වූවාය. ඔවුන් ඉදිරියේදී ඇයට හැඟිගියේ තමා ඒ කාලයේ සත්දක් ඉදිරිපිට සිටින්නාක් මෙනි.

දවල් දොළහට පමණ කළු ගවුමක් හැඳගත් උසැති, හැඩැති කාන්තාවක් පැමිණියාය. අම්මා දොර හැරිය විගසම කාන්තාව ඇගේ කහ පැහැති කුඩා බෑගය පසෙක තබා විලාසවාගේ අත අල්ලා ගනිමින් මෙසේ ඇසුවාය.

''ඔයා පාවෙල් මිහායිලොවිච්ගේ අම්මා, නේද?''

''ඔව්'' යැයි කී අම්මා, ඇගේ වටිනා ඇඳුම් දැක විමතියට පත් වූවාය.

''මම ඔයා ගැන හිතුවා හරි. ඔයා මල්ලී ළඟ නවාතැන් ගන්න බව එයා මට ලිව්වා. මම පාවෙල් මිහායිලොවිච්ගෙ පරණ යාළුවෙක්. එයා මට ඔයා ගැන කියල තියෙනවා,'' යැයි කියමින් ඈ කණ්ණාඩිය ඉදිරිපිටට ගොස් හිස්වැස්ම ගැලෙව්වාය.

ඇගේ කට හඬෙහි ගොරෝසු බවකි. ඇය සෙමින් කතා කළද වේගයෙන් ගමන් කරයි. ඇගේ විසාල අළු පැහැති ඇස් සිනාසෙන බවක් හා තරුණ බවක් පළ කළ අතර නළලේ කෙළවර රැලි කීපයක්



පෙනෙන්නට තිබිණි. දෙකන්වලට ඉහළින් පැසුණු හිසකේ රිදී කෙඳි මෙන් දිලිසිණ.

''මට බඩගිනියි,'' ඈ කීවාය. ''කෝපි කෝප්පයකවත් බොන්ට ඇත්නම්...''

''ඉක්මනින් හදා දෙන්නම්'' යැයි අම්මා කෝපි හැදීමට උවමනා දේ එකතු කරමින් සෙමින් මෙසේ විචාළාය:

''පාෂා මා ගැන කීවද?''

''බොහෝ දේ...''

ඈ කුඩා සිගරට් කේසයකින් සිගරට්ටුවක් රැගෙන උරමින් දුම් පිට කරන්නී කාමරය තුළ ඇවිද්දය.

''ඔයා පුතා නිසා හොඳටම බය වෙනවද?''

කෝපි හැලිය රත් කරන භූමිතෙල් ලිපෙහි දැල්වෙන නිල්වන් ගිනි දළු දෙස බලා සිටි අම්මා මඳ සිනාවක් පෑවාය. නොදන්නා කෙනෙකු ඉදිරිපිට ඇති වූ ලජ්ජාව හදවත තුළ පැන නැඟි ප්‍රීතිය විසින් මකා දමනු ලදී.

''එහෙනම් එයා මා ගැන කියනවා, මගේ හොඳ කොල්ලා,'' අම්මා සිතූ හැටිය ඒ. ටික වේලාවකට පසු සෙමින් කතා කළ අම්මා මෙසේ කීවාය:

''සත්තකින්ම ලේසි නැහැ! ඒ වුණාට ඉස්සර මීට වැඩිය අමාරුයි. දැන් එයා තනිවම නොවන බව දන්නවා.''

පසුව කාන්තාවගේ මුහුණ දෙස බලා ඇගෙන් ප්‍රශ්න කළාය.

''ඔයාගෙ නම කොහොමද?''

''සෝෆියා!'' ඈ පිළිතුරු දුන්නාය.

ඈ දෙස ඉතා පරීක්ෂාකාරී ලෙස බලන අම්මා, ඇගේ කලහකාරී, ඉවසිලි රහිත හැසිරීම දකී.

කෝපි කෝප්පය උගුරට දෙකට බිල දමූ ඈ විශ්වාසයකින් කතා කළාය:

''ප්‍රධාන කාරණාව, මේ අයට වැඩිකල් සිරගෙදර ඉන්නට ඉඩ නොතැබීමයි. නඩුව ඉක්මනින් ඇහෙනවානම්! පිටුවහල් කළ හැටියෙම අපි පාවෙල් මිහායිලොවිච්ට පැනයාමට සලස්සනවා. පස්සෙ එයාව මෙහෙට ගෙන්වා ගන්නවා, එයාව මෙහෙ ගෙන්වා ගැනීම අවශ්‍යයි.''

''අම්මා මෙවර සෝෆියා දෙස බැලුවේ අවිශ්වාසයකිනි. සෝෆියා ඒ අතර, අත තිබුණු සිගරට් කොටය විසිකර දැමීමට තැනක් සොයන්නී, වට පිට බලා ළඟ තිබුණු මල් පෝච්චියට දැම්මාය.

''මල් නරක් වේවි!'' යැයි අම්මාට කියවුණේ ඉබේටමය.

''සමා වෙන්න! නිකොලායි මට හැමදම ඔහොම කියනවා.'' මෙසේ කී ඕ සිගරට් කොටය මල් පෝච්චියෙන් එළියට ගෙන ජනේලයෙන් එහාට විසි කර දැම්මාය.

ලජ්ජාවට පත් අම්මා වෙවර ඇය දෙස බැලුවේ වරදක් කළ එකියක මෙනි.

''මට සමා වෙන්න! ඒක මට නිකම්ම කියවුණා. මට පුළුවන්ද උගත් ඔයාගාල්ලන්ට උගන්වන්න?''

''ඇයි බැරි මම වැරද්දක් කළාතම්?'' සෝපියා කීවේ දෙඋර සොලවමිනි ''කෝපි ලැස්තිද? සතුතියි! මොකෝ මේ එක කෝපයක්? ඇයි ඔයා බොන්නෙ නැත්තේ?''

හිරිහැටියෙම අම්මාගේ උරහිසට අතක් තැබූ ඕ, මහත් ඕනෑකමින් ඇගේ නෙත් දෙස බලා පුදුමයට පත් වෙමින් මෙසේ ඇසුවාය:

''ඇත්තටම ඔයා ලජ්ජා වෙනවද?''

සිනාසුණු අම්මා පිළිතුරු දුන්නාය:

''මේ දැනුයි මං ඔයාට සිගරට් කොටය විසි කිරීම ගැන අවවාද කළේ. ඔයා අහනවා ලජ්ජා වෙනවද කියලා!''

තමාගේ පුදුමය නොසැඟවීමට මෙන් අම්මා කතා කළාය:

''මා මෙහාට ආවෙ ඊයෙ. දැනටමත් මගෙ ගෙදර වගෙ හැසිරෙනව. බය සැක නැතුව හිතට ආ හැම දෙයක්ම කියනව...''

''එසේ කළ යුතුමයි!'' සෝපියා හඬනගා පිළිතුරු දුන්නාය.

''මගෙ ඔළුව කරකැවෙන්ට පටන් අරගෙන, මට, මාව දැනෙන්නේ පිටස්තර කෙනෙකු වගෙ. ඉස්සර කෙනෙකුට හදපත්ලෙන් නැගෙන අදහසක් දන්වන්නෙ බොහොම ප්‍රවේසමෙන්. දැන් හිතා මතා බලන්නෙ නැතුව කටට ආ හැම දෙයක්ම කියනවා,'' යැයි අම්මා කීවාය.

සෝපියා තවත් දුම්වැටියක් දල්වා ගත්තී, සුරතල් ලෙස තම අළු පැහැති ලොකු ඇස්වලින් අම්මා දෙස කරුණාවන්ත බැල්මක් හෙළුවාය

''ඔයා කියනව පුතාට හිරෙන් පැනල යන්ට සලස්සනවා කියල. කොහොමද පැනල ගිහින් ජීවත් වෙන්නෙ.'' තමාට බලපෑ වැදගත් ප්‍රශ්නය අම්මා ඉදිරිපත් කළාය.

''ඒක සුළු කාරණාවක්!'' යැයි කී සෝපියා තවත් කෝපි කෝප්පයක් වත්කර ගත්තාය. ''හිරගෙදරින් පැනල ආ අනික් සිරකරුවන් වගෙ එයත් ජීවත් වේවි... මේ දැනුත් මම එක සිරකරුවෙකු හමුවෙලා එයාව පිටත්කරලයි, ආවේ. එයා අපේ වැඩවලට වටිනා කෙනෙක්. එයාව අවුරුදු පහකට පිටුවහල් කළා. ඒ වුණාට පිටුවහලෙ හිටියෙ මාස තුනහමාරක් පමණයි...''



ඈ දෙස ඕනෑකමින් බැලූ අම්මා හිස වනමින් මෙසේ කීවාය:

''මැයි පළමුවැනිද මාව තලා පොඩිකර දැම්මා. මම හරියට එකවර පාරවල් දෙකක ගමන්කරන්නා වගෙ. හිතට පාසුවක් නෑ. මට හිතෙන්නෙ හැම දෙයක්ම අවබෝධ වෙනවා වගෙ. ඒ වුණත් ඔළුව අවුල් වෙලා. දැන් ඔයා දෙස බලනවා, ඔයා වැදගත් නෝනා කෙනෙක්. ඒ වුණත් ව්‍යාපාරෙ වැඩ කරනව. මගෙ පාෂාව දන්නවා, එයාව අගේ කරනවට ඔයාට බොහොම ස්තුතියි...''

''ඒකට ස්තුතිවන්ත වෙන්ඩ ඕනෑ ඔයාටයි අම්මෙ!'' සෝපියා පිළිතුරු දුන්නේ සිනාසෙමිනි!

''මට මොකටද? මම එයාට ඉගැන්නුවෙ නෑ!'' දිග සුසුමක් හෙළමින් අම්මා කීවාය. සෝපියා සිගරට් කොටය කෝපි කෝප්පයේ පිරිසිය මත තබා හිස ගස්සා දැම්මාය. ඇගේ රන්පැහැති හිසකෙස් පිට සහ දෙවුර වසමින් වැටෙන්ට විය.

''මෙ වටිනා ඇඳුම් ගලවා දමන්ට ඕනෑ,'' යැයි කී ඈ කාමරයෙන් පිට වූවාය.

## III

සවස නිකොලායි ආවේය. ආහාර ගැනීම සඳහා ඔවුහු වාඩි වූහ. හිරගෙදරින් පැන ආ පුද්ගලයා සැඟවීම සඳහා තමා ගත් පරිශ්‍රමය සෝපියා විස්තර කරන්නී, පොලිස් ඔත්තුකාරයින්ගෙන් බේරීම සඳහා දරූ උත්සාහයද පැනයන හිරකරුවා සිනා උපදවමින් හැසිරුනු සැටිද මල්ලීට පැහැදිලි කළාය. ඉතාම අසීරු වැඩක් හොඳින් ඉටු කිරීම නිසා ප්‍රීති වන කම්කරුවකුගේ වහසි බසට සමාන බසකින් ඈ කතා කරන බව අම්මාට හැඟේ.

දැන් ඈ සැරසී සිටින්නේ අළු පැහැති පලල් සැහැල්ලු ගවුමකිනි. ඒ ඇඳුම නිසා ඇගේ උස වැඩිවී තිබෙන බවකි අම්මාට හැඟෙන්නේ. ඇගේ ඇස් වඩාත් කළු පැහැයක් ගත් අතර, ඇගේ ගමන් බිමන් ශාන්ත බවක් ඉසිලිය.

''සෝපියා අක්කේ,'' යැයි නිකොලායි ඈ ඇමතුවේය, උඹ දන්නව නෙව අපි ගම්මුන් සඳහා පත්තරයක් ලැස්ති කළා. ඒ වුණාට පහුගිය දවස්වල සිරබාරයට ගැනීම් නිසා ගමේ අපේ මිනිසුන් සමග තිබූ සම්බන්ධකම් නැති වුණා. ඒ මිනිස්සු සොයා ගැනීමට පුළුවන් අපේ පෙලගේයා නිලව්නාට විතරයි. ඒ අය අපේ පත්‍රිකා ගම්මුන් අතර බෙදා හැරීම බාර ගනීවි. උඹ අම්මා සමග ඉක්මනින්ම එහෙ යන්ට ඕන.''

හොඳා! යමු. පෙලගේයා නීලව්නා?'' සිගරැට්ටුවක් දල්වා ගත් සෝපියා කීවාය.

''හොඳා! අපි යමු...''

''බොහොම ඈතද?''

''හැතප්ම අසූවක් දුර...''

''හරි හොඳයි! දැන් මම පියානෝව වාදනය කරන්නම්. පෙලගේයා නීලව්නා, ඔයාට පුළුවන්ද සංගීත වාදනය ඉවසාගෙන ඉන්ට?''

''ඔයා මා ඉන්න බවක් හිතන්ටවත් එපා,'' යැයි කී අම්මා සැටියේ කොණක වාඩි වුණාය. තමා ගැන සැලකිල්ලක් නොදක්වන අක්කාත් මල්ලීත් හැසිරෙන සැටි අම්මා දකී. එහෙත් ඔවුන්ගේ කතාවලට අම්මා නිතර මැදිහත්වුණේ ඉබේටම මෙනි.

''අහපන් නිකොලායි! ග්‍රිග්ගේ ස්වර මාලා. අදයි ඒවා මා ගෙනාවේ... ජනේලය වහපන්.''

ස්වර මාලා රචනය අනුව ඈ·වමතින් සෙමින් පියානාව වාදනය ආරම්භ කළාය. ගීත නාදය ප්‍රාණවත් බවක් මෙන්ම පියකරු බවක්ද ගෙනදේ. ස්වර මාලා එකිනෙක වෙනස්වේ. විනිවිද යන හඬ පතුරුවන ගීතයකි, දැන් ඇසෙන්නේ. දකුණත අනතුරු හඟවන ස්වර මාලා අනුව වාදනය කරයි. බියගත් කුරුළු රැනක් මෙන් දැන් පියානාව හඬයි.

පළමුව අම්මාට එම ගීතය තෝරා බේරා ගැනීමට නොහැකි වූ අතර, එය එකිනෙකට වෙනස් හඬ එකට කැපී විසිවන ගාලගෝට්ටියක් සේ ඕ සිතුවාය. ස්වර මාලා කීපයක් එකට වෙළෙමින් පිට කරන සංකීර්ණ ගීතමය හඬ ඇට ප්‍රීතිය ගෙන දුන්නේ නැත. නිදිමතින් අඩවන්වූ දෙනෙතින් යුතුව අම්මා නිකොලායි දෙස බලන්නී, සැටියේ අනිත් කෙළවර වාඩිවී හුන් නිකොලායි දෙකකුල් එක්කරගෙන සෝපියාගේ දැඩි බවක් පළකරන මුහුණ දෙසත්, ඇගේ රන්වන් කෙස් කැරැළි දෙසත් මහත් ඕනෑකමින් බලාගෙන සිටින සැටි දුටුවාය. හිරු එළිය මුලදී සෝපියාගේ හිසත් උරහිසත් සිපගත් අතර අනතුරුව ඇගේ ඇඟිලි අතරින් පියානාවේ යතුරු ආලෝක කළේය.

ඇගේ මනැස ඉදිරියේ මෙවර පෙනී සිටියේ, බොහෝ කලකට පෙර අමතකවූ, එහෙත් දැන් නැවත පණ ලබා නැගී සිටින ශෝකාන්විත අනාදරයකි·

දවසක් ද කඹගොන්නක් මත්පැන් බී ගෙන මැදියම් රෑ ගෙදර ආ සැමියා, නිදහුන් ඈ ඇඳෙන් බිමට ඇද දමා අතින් පයින් පහර දී කෑ ගැසුවේය:

''පල අහකට යන්ට, වල් ඊරී කී මට එපා!''



ඔහුගේ පහරවලින් වැළකෙනු වස් අම්මා අවුරුදු දෙකක් තමාගේ වයසැති පුතා අතින් ගෙන, දණගසා ගනිමින්, ඔහුගේ කුඩා ශරීරය පලිහක් සේ අල්ලාගෙන උන්නාය. නිරුවතින් සිටි බියගත් කුඩා දරුවා මරහඬදී කෑ ගසන්ට වූ අතර වෙව්ලන්ටද විය.

''පල යන්ට!'' මිඛයිල් ගුගුළේය.

සැනෙකින් නැගී සිටි ඈ කුස්සියට වැදුණාය. හනික හැට්ටයක් ඇඳ සලුවකින් දරුවා පොරවා ගෙන නොහඬා, කෑ නොගසා, පාවහන් රහිතව මහ මගට බැස්සාය. මැයි මාසයේ රැයක්වූ එද සීත සුළං හැමුවේය. දෙපයේ ඇඟිලි අතරින් සීත වැලි දූලි මතු වෙන්නට විය. දරුවා හඬමින් කෑ ගැසීය. ළයට දරුවා හිර කරගත් අම්මා යන්නේ කොහිදැයි නොදැන පා තබන්නී, සෙමින් දරු නැලවිල්ලක් ගයන්නට වූවාය.

''නාඩන් පුතේ...''

එළිය වැටෙන්ට ළංවිය. අඩ නිරුවතින් සිටි අම්මා අහළ පහළ උදවිය තමා දකිතියි බිය ගත්තී මඩගොහොරුව දක්වා ගොස් එහිවූ ළපටි ඇස්ප් ගස් යට හිඳ ගත්තාය. හිරු උද වන තෙක් එහි සිටි ඕ ළයට දරුවා ළංකර ගෙන උණුසුම් කරමින්, බියගත් සිතින් යුතුව දරු නැලවිලි ගායනා කළාය:

''නාඩන්, පුතේ, නාඩන්...''

එහි තමා ගත කළ මොහොත අම්මාගේ සිතට වැදුනේ අත් අඩු ගසා සෙමින් පියාඹන කළු කුරුල්ලකු සේය. එයින් ඈ පිබිද නැගී සිටියාය. සීතලෙන් වෙව්ලමින් ඈ නැවත ගෙදර ගියේ අළුත් අනාදරයන්ට හා පළපුරුදු බියජනක සිද්ධීන්වලට මුහුණ පෑම සඳහාය...

අවසාන වරට ස්වර මලා රැසක් එක්ව උදුසින හඬක් පතුරුවා නිවී ගියේය.

සෝපියා මල්ලී දෙසට හැරෙමින් මෙසේ ඇසුවාය:

''හොඳද?''

''බොහොම හොඳා!'' ඔහු සංගීතයෙන් මත්ව පිළිතුරු දුන්නේය. ''බොහොම් හොඳා...''

අම්මාගේ හදවත තුළ නැවත යටගියාව රජ කරන්ට විය. ඈ නැවත කල්පනා කළාය:

''මිනිස්සු ජීවත් වෙනවා, මිත්‍ර ලීලාවෙන්, සංසුන් ලෙස. ගහ-බැණ ගන්නේ නෑ. වොඩ්කා බොන්නේ නෑ. පාන් කෑල්ලකට සන්ඩු කරන්නෙ නෑ... කොහොමද මිනිස්සු අතර ඔය වගේ පහන් ජීවිතයක් ඇති වුණේ...''

සෝපියා දුම් වැටියක් උරන්ට පටන් ගත්තාය. ඈ දැන් එක පිට එක දුම් වැටි බොන්නීය.

''ඒ ගීයට මිය ගිය මගේ කෝස්ට්යා බොහොම කැමති,'' යැයි සෝපියා තමා ඉදිරියේ පාවෙන දුම් වළා දෙස බලමින් කීවාය. ''මම එයා වෙනුවෙන් වාදනය කරන්ට බොහොම ආශා කළා. ඔහු සියුම් ඉඳුරන් ඇති, අනුකූලතා දක්වන, සොබාවික පොහොසත්කමින් හෙබියේය...''

''මිය ගිය සැමියා ගැන මතක්කිරීම වටිනවා.'' අම්මා සිතන්නී තමාටම මෙසේ කියාගත්තාය. ''ඒ වුණාට හිනාවෙනවා''

''ඒ මනුස්සය මට විශාල ප්‍රීතියක් ගෙන දුන්නා...'' යැයි කියා පියානාවේ යතුරුවලට සෙමින් තට්ටු කරමින් සිතන්ට වූවාය. ''එයා ජීවත් වන හැටි දනගෙන හිටිය...''

''ඔව් ඔව්'' යැයි කී නිකොලායි යටි රැවුළ කසන්ට විය. ''ගීතමය සිතක් එයාට තිබුනෙ!..''

දල්වා ගත් සිගරැට්ටුව අහක දැමූ සෝපියා අම්මාගෙන් මෙසේ ඇසුවාය:

''මගේ ගාලගෝට්ටිය කරදරයක් නොවේද?''

අම්මා උහුලාගත නොහැකි අමනාපයකින් මෙන් පිළිතුරු දුන්නාය.

''ඔයා මගෙන් අහන්න එපා. මට ඔය කිසිවක් තේරෙන්නෙ නැහැ මං ඉඳගෙන මගේ යටගියාව ගැන කල්පනා කරනව...''

''නැහැ, ඔයා තේරුම් ගන්න ඕන! හැම ගැහැණියක්ම සංගීතය තේරුම් ගන්ට ඕන. විශේෂයෙන්ම එයාගෙ හිත දුකෙන් පිරී තියෙනවනම්...'' සෝපියා කීවාය.

ඈ මෙවර වේගයෙන් පියානාව වාදනය කරන්ට වූවාය. අතිශය කණගාටුදයක පුවතක් ඇසූ කලක මෙන් ඒ වාදනය හදවත දෙදරා යන සේ හඬ නැගුවේය. බියවූ තරුණ යුවළක් කසු-කුසු ගාමින් සුසුසුලුව ගියහ. නැවතත් ගීතය කොපවූ කලක මෙන් හැමදෙයක්ම යටපත්කරමින් කෑ ගැසීය. අශුභ පුවතක් ගෙනාවද එයින් ඇතිවූයේ කණගාටුව නොව කෝපය පමණකි. ඉන්පසු ඇතිවූ ගීතමය හඬ සිදුවූ සියල්ල අමතක කරදමා නැවතත් සුන්දර ගීයක් ගයන්නාක් වැනිය.

ඒ මිනිසුන් අමතා ප්‍රිය උපදවන යමක් කීමට අම්මාට සිත්විණ. ගීතය නිසා ප්‍රීතියෙන් උද්දම වූ සිත් ඇත්තී, අම්මා, ඒ අක්කාට සහ මල්ලීට ආධාර පිණිස යමක් කිරීමට තමාට පුළුවනැයි වටහා ගත්තාය.

තමාට කළ හැක්කේ කුමක්දැයි සොයා බැලූ අම්මා නිහඬව කුස්සිය දෙසට ගොස් සමොවාරය රත්කරන්ට වූවාය.

එහෙත් ඇගේ හැඟීම් එසේම පැවතියේ, තේ පිළියෙල කරමින් ඈ, උණුසුම් සුරතල් බසින් ඔවුන් අමතන ගමන්ම තමාද අමතා ගත්තී, එයින් තම හදවත මදින්නාක් මෙන් මඳ සිනාවෙන් හා ලජ්ජාවකින් යුතුව කීවාය:



''අපි නුගත් උදවිය. අපට හැම දෙයක්ම හැඟෙනව. ඒ වුණාට ඒ අදහස් කියන්ට සක්තියක් නැහැ. අපට තේරෙනව මිස ඒවා කියා පාන්ට බැරිබව අපි දන්නවා. බොහෝ අවස්ථාවලදී අපි අපේ හැඟීම් අනුව කෝප වෙනව. හැම පැත්තෙන්ම හතුරු අන්තරාවන්, පහර දීම්, විඩා හරින්ට හිතෙනව. නමුත් අපේ සිතිවිලි ඒවාට බාධා කරනවා.''

නිකොලායි ඇස් කණ්ණාඩි කුට්ටම පිසදමමින්ද, සෝපියා තම ලොකු ඇස්වලින් ඕනැකමින් බලමින් හා සිගරැට් වැටිය දල්වා ගැනීමට පවා අමතක කරමින්ද අම්මාගේ කතාවට සවන් දුන්හ. පියානාව අසල වාඩිවී සිටි සෝපියා අම්මාගේ කතාවට උචිත වන සේ ඉඳහිට ගීතමය හඬක් නංවයි. එසේ පැන නගින ඒ ගීතය අම්මාගේ වාම් දයාන්විත වචන වසාගනී:

''ඔන්න දූන් මට මා ගැන යමක් කියන්න පුළුවන් සමහර දේ දූන් මට අවබෝධ වෙනවා. සසඳා බලන්ට පුළුවන්. ඉස්සර ජීවිතය සසඳා බලන්ට බැහැ. අපි හැම දෙනාම එක විධියකටයි ජීවත් වුණේ. දූන් පේනවා අනිත් අය ජීවත් වන හැටි. මා ඉස්සර ජීවත් වුණු හැටි — ඒ දුක්බර ජීවිතය මතක්වෙනවා!''

දිගටම කතා කළ ඈ හඬ පහත් කළාය:

''මා සමහර විට උවමනා නැතිදේ කතා කරනව වෙන්ට ඕන. ඔය ගොල්ල ඒ ගැන දන්න හින්ද ඒවා ගැන කීමෙන් පලක් නෑ...''

කඳුළු පිරි දෑසින් යුතු ඇගේ කට හඬ සොම්නස්ය. ඈ ප්‍රීතියෙන් කතා කළාය:

''ඔබලා ඉදිරිපිට විවෘත හදවතකින් යුතුව කතා කිරීමට මට හිතෙනව. මම ඔබලාට සුබ පතනව!''

''අපට ඒවා පේනව!'' නිකොලායි මුදුලෙස කීවේය.

ඉන් සෑහීමට පත්නොවූ අම්මා තමාට ඉතා වැදගත් යයි වැටහෙන දෑ අළුත් දෙයක් සේ සලකා ඔවුන්ට කීවාය. තමාට කරනලද අනාදරයන් ගැනත්, විඳිනු ලැබූ දුක් කරදර නින්ද අපහාස ගැනත් ඈ කීවේ කෝපයෙන් තොර උපහාසාත්මක පෙනුමක් ආරූඪ කර ගනිමිනි. මිය ගිය තම සැමියා කළ දුෂ්ටකම් ගැන විස්තර කළ ඈ ඔහු තමාට පහර දීම පිණිස යොදගත් හේතූන් නම් කරමින්, පුදුමයට පත් වූවාය...

ඔවුහු ඒ ජීවන පුවත — සාමාන්‍ය මිනිහෙකුගේ ඉතිහාසය, ගැඹුරු හැඟීමකින් යුතුව ඇසූහ. හරකෙකු සේ සලකනු ලැබූ ඒ පුද්ගලයාද තමා හරකෙකු බව ප්‍රතික්ෂේප නොකර ජීවත්වූ සැටිද ඒ කතාව කියා පෑවේය. ඇගේ මුවෙන් ඈ පමණක් නොව දහස් ගණන් පුද්ගලයෝද කතා කරති. ඇගේ ජීවිතය අවමානයෙන් හා දුකින් පිරී තිබිණි. මිහිතලයේ ජීවත් වන

කෝටි සංඛ්‍යාත ජනයා එලෙසම දුකින් බර වාම් ජීවිත ගතකරන බව පෙන්වන ඇගේ කතාව දුක්බර ජීවිතයක සංකේතයකි. නිකොලායි වැළමිටි මේසය උඩ තබාගෙන අතුල් මත හිස තබා, නිතර ඇස් හකුළුවා ගනිමින් අම්මා දෙස බලාගත් වනම සිටියේය. පුටුව මත වාඩිවී සිටි සෝපියා ඉදහිට තිගැස්සී, හිස වනයි. ඇගේ මහුණ වඩාත් සුදුමැලිවී ඇදී ගොස් තිබුණු අතර ඇ දුම් බීම නවත්වා තිබිණ.

''කලක් මා අවාසනා වන්තියක්යැයි කල්පනා කළා. මා හිතුවෙ මගෙ ජීවිතය උණ සන්නිපාතයක් හැටියටයි,'' මෙසේ කී සෝපියා හිස පාත්කර ගත්තාය. ''පුංචි නගරයක තමා ගැන හැරුණු විට කල්පනා කරන්ට දෙයක් නැ. මේ සිද්දිය මා පිටුවහල් කරල හිටි කාලෙදී වුණේ. කිසිවක් කිරීමට නොතිබුණු නිසාදෝ මා මගේ අවාසනාවත් ජීවිත සිද්දීන් නැවත නැවත කිරා බැලුවා. බොහොම ආදරය කළ තාත්තා සමග සන්ඩු කරගන්ට සිද්ද වුණා. පාසලෙන්ද අස්කර දමලා මට අපහාස අවමාන කළා. මා ළඟින් ඇසුරු කළ සනයෙක් අපව පාවා දුන්නා. හිර ගෙදර. මගේ මහත්තයවත් හිරභාරයට ගත්තා. නැවත පිටුවහල් ජීවිතය, මගේ මහත්තයගෙ මරණය. ලෝකයේ ඉතාම අවාසනාවන්ත ගැහැණිය මා යැයි සිතුවා. එහෙත් මා සිතන්නේ මා විදිසියලු දුක් කරදර අපවාද අවමානත් ඒවා මෙන් දස ගුණයක්වත් පෙලගේයා නිලවනා ඔයාගේ ජීවිතයෙ එක මාසයක දුක්වලට වඩා අඩුය කියලයි... ඔයාගෙ ජීවිතය අවුරුදු ගණනාවක් තිස්සේ දිනපතාම වදහිංසාවලට ගොදුරු විමයි... මෙතරම් දුක්විදීමට මිනිසාට සක්තිය කොහින්ද?''

''පුරුදු විම!'' දිග සුසුමක් හෙලූ විලාසවා කිවාය.

''මා හිතුවේ මම ජීවිතය දන්නවා කියලයි!'' නිකොලායි කල්පනාකාරී ලෙස කිවෙය. ''එහෙත් ජීවිතය පොත්වලින් සහ මගේ හැගීම්වලින් නෙවී, නියම විදියට දකින විට, එහි බියකරු බව දැනෙනවා! බයානක සුළු දේවල් බියජනක කාලය සමග එක්වෙලා අවුරුදු බවට පත්වෙනවා...''

දුක්බර ජීවිතය දෙස හැම පැත්තෙන්ම බලමින් සාකච්ඡාව කෙරීගෙන ගියේය. අම්මා අතීතයට වැදෙමින්, තම අඳුරු තරුණ කාලය ගිලී ගිය වද හිංසාවලින් පිරි ඒ පිංතූරය වඩාත් ගැඹුරු ලෙස ඇඳ පෙන්වූවාය. අවසානයේදී ඇ මෙසේ කිවාය:

''මදෑ මම දිගටම කතා කළා: ඔයාලට නිදගන්ටවත් ඉඩ දුන්නේ නැහැ! මුළු ජීවිතය නැවත කියන්ට බැහැ...''

අක්කා සහ මල්ලි නිහඬව ඇගෙන් සමු ගත්හ. හැමදට වඩා පහත් වෙමින් ආචාර කළ නිකොලායි වඩාත් දැඩිව අත දුන් බවකි, අම්මාට



හැඟිගියේ. අම්මා සමග නිදන කාමරය දක්වා ගමන් ගත් සෝපියා දොර අසලට වී සෙමින් මෙසේ කිවාය:

''නිදගන්න සුබ රාත්‍රියක් වේවා!''

ඇගේ කටහඬෙහි උණුසුම් බවකි, නෙත්වල බැල්ම මුදුය...

සෝපියාගේ අත අල්ලාගත් අම්මා කොඳුළාය:

''බොහොම ස්තුතියි!..''

# IV

දවස් කීපයකට පසු පහත් මැද පංතියට අයත් ගැහැණුන් මෙන් හැද පැළදගත් අම්මා සහ සෝපියා නිකොලායි ඉදිරියට පැමිණියාහ. කපු රෙදිවලින් මසන ලද ගවුම් හැද සිටි ඔවුන්ගේ උරහිස්වල ගමන් සැහැල්ලුද, අත්වල හැරමිටිද තිබිණ. අළුත් ඇඳුම නිසා සෝපියාගේ උස අඩු වූවාක්සේ දැනෙන අතර ඇගේ මුහුණේ සුදුමැලි ගතිය වැඩි විය.

තම සොහොයුරියට ආයුබෝවන් කී නිකොලායි ඇට අතට'ත දුන්නේය. මේ දෙදෙනා ශාන්තව හා වාම් ලෙස සමුගන්නා සැටි අම්මා නැවතවරක් දුටුවාය. මේ දෙදෙනා එකිනෙකාට තදින් ඇලුම් කරන නමුදු සහෝදර ප්‍රේමයෙන් සිප වැළඳ ගැනීම් හෝ සෙනෙහස ඇතිවන වචන හුවමාරු කරගැනීම් හෝ නොවිණ. එහෙත් අම්මා ජීවත් වූ පරිසරයට අයත් මිනිස්සු නිතර සිප වැළඳ ගනිති, එකිනෙකා අමතමින් හුරතල් බසින් කතා කරති, එමෙන්ම හැමද කුසගින්නෙන් පෙළෙන බල්ලන්සේ සපාකා ගනිති.

නගරයේ විදි ඔස්සේ නිහඬව නොදෙඩා ගිය ස්ත්‍රීන් දෙදෙනා කෙතක් හරහා ගමන් කළෝය. පැරණි බර්ච් ගස්වලින් වැසුණු පටු පාරක් ඔස්සේ යන මොවුහු උරෙ'තුර ගැටී පා තැබූහ.

''ඔයාට මහන්සි නැද්ද?''යි අම්මා සෝපියාගෙන් ඇසුවාය.

''ඔයා හිතනවද මම ඇවිදලා තියෙන්නෙ මෙවැනි දුරක් විතරක්ද කියල? මේ ගමන් මට හොඳට පුරුදුයි...''

අනාතුරුව තම ළමා ජීවිතයේදී කළ කී දේ සහ හපන්කම් ආදිය තම හිතවතුන් සමග කියන්නාසේ සතුටකින් යුතුව සෝපියා තම විප්ලවවාදී වැඩ කටයුතු අම්මාට විස්තර කරන්ට පටන් ගත්තාය. බොරු නම්වලින් පෙනීසිට බොරු බලපත්‍ර ඇතිව වාසය කිරීමට ඇට සිදුවූ වාර අපමණය. පොලිස් ඔත්තුකාරයන් නොමග යැවීම සඳහා නොයෙක් ලෙස හැද පැළද ගත් ඇ නීති විරෝධී පොත් පත්‍රිකා නොයෙකුත් නගරවලට ගෙන ගියාය. සිරගෙදරින් දේශපාලන හිරකරුවන්ට පැනයාමට ඉඩපහසුව සලසන

ඇ සමහර අවස්ථාවලදී ඔවුන් විදෙශවලට හැරලීම සඳහා ගමන් කර තිබේ. ඇගේ ගෙදර නීති විරෝධී මුද්‍රණ යන්ත්‍රාලයක් සවිකොට තිබිණ. මේ බව දැනගත් පෙලිස් නිලධාරීයෝ මුද්‍රණාලය වට කොට ගෙට කඩාපැන්නෝය. මොහොතකින් වෙස් මාරු කරගත් සෝපියා ගෙදර වැඩකාරියක් සේ සැරසී, ගෙවැට අසල සිටි පොලිස් නිලධාරීන්ට ආචාර කොට, තද හිම වැස්ස හා සීත නොතකා හිම කබායක් හැඳ නොගෙන, කඩමාළු ලෙන්සුවකින් හිස වසාගෙන, භූමිතෙල් ටින් එකක් අතින් ගෙන, තුෂාරය නොතකා නගරයේ එක් කෙළවරක සිට අනෙක් කෙළවර දක්වා පයින්ම ගමන් කළාය. වරක් ඇ මිතුරන් හමුවීම සඳහා නොපුරුදු නගරයකට ගොස්, නියමිත ස්ථානය කරා පැමිණ ගෙට ඇතුළුව, එහි තරප්පුව දිගේ යන විට, ගේ තුළ පොලිසිය පරීක්ෂා කරනබව දුටුවාය. එවිට කලබල නොවූ ඇ ඊට පහත තට්ටුවේ ගෙදරක දොරට තට්ටු කොට බඩු බාහිරාදියත් සමග එම ගෙට ඇතුළු වූවාය. ඒ ගෙදර මිනිසුන්ට ඇති තතු සියල්ල වටහා දුන් පසු ඇ මෙසේද කීවාය:

"දැන් ඉතින් ඔය උදවියට පුළුවනි මාව පොලිසියට බාර දෙන්න. නමුත් මා හිතනවා ඔය ගොල්ල එහෙම නොකරයි කියලා."

බියගත් ඒ ගෙදර මිනිස්සු මුළු රෑම නොනිදා, පොලිසිය දැන් දැන් පැමිණෙති යන සිතින් උන්නද, ඇයව පොලිසියට බාර දීමට තරම් ඉදිරිපත් නොවූහ. උදෑසන ඇ සමග එක්ව පොලිසියේ මෝඩකම් සරදමට කළහ. වරක් කන්‍යා සහෝදරියක මෙන් හැඳ පැළඳගත් සෝපියා තමා සොයමින් යන පොලිස් ඔත්තුකාරයා සමග එකම දුම්රිය මැදිරියේ එකම බංකුව මත වාඩිවී ගමන් කළාය. සෝපියා සමග කටමැත දෙඩවන්නට වූ පොලිස් ඔත්තුකාරයා, තාමාගේ දක්ෂතාවය ගැන කියන්ට පටන් ගත්තේය. සෝපියා හෙවත් තමා සොයන ගැහැණිය එම දුම්රියේ දෙවන පංතියේ ගමන් කරන බව දිවුරා කී ඔහු නිතර ඇය බැලීමට එහි ගියේය.

"පෙනෙන්ට නෑ. නිද ගන්නව ඇති. උන්ටත් මහන්සි ඇති නෙව. උන්ගෙ ජීවිතේත් අපේ වගේම අමාරුයි!" ඔහු කීවේය.

ඇ කළ ඒ විස්තරය අසා සිටි අම්මා සිනාසෙමින් ඇ දෙස බැලුවේ දයාබර නෙත්වලිනි. උස්ව වැඩුණු වියලි දේහයකින් හෙබි සෝපියා යහුසුලුව සහ සැහැල්ලු ලෙස පා නගන්නිය. ඇගේ කකුල් ශක්තිමත්ය. ඇගේ ගමනෙහිද, වචනවලද බැරෑඩි කටහඬෙහිද ඇත්තේ ප්‍රිංකර සිත් ඇදගන්නා සුලු බවෙකි. ඇගේ නිර්භය පැවැත්මත්, නීරෝගී, රිජු තුනුසපුවත් දකින කාගේ වුවද සිත් සතන් පිනායයි. ඇගේ ඇස්වල යෞවන බව වඩාත් ඔප්නැගී සිට ගත් අතර හැමතැනම බලමින් ඇ ප්‍රීතියට පත්වූවාය.



"අර බලන්න කොතරම් අපූරු පයින් ගහක්ද!"යි සෝපියා අම්මා අමතමින් කීවාය. ඒ දෙස අම්මා මහත් ඕනෑකමින් බැලුවද, එම ගස අනික් ගස්වලට වඩා මහතින් හෝ උසින් වැඩි නොවීය.

"හරිම අපූරු ගහක්!" යැයි අම්මා කීයේ ඇගේ බසට එකඟ වූවාක් මෙනි. සෝපියාගේ රිදීවන් හිසකෙස් සුළඟට අසුව නැටෙන සැටි අම්මා දකී.

"අන්න පොඩි කුරුල්ලෝ!" සෝපියාගේ ප්‍රියංකරවූ අළු පැහැති ඇස් දීප්තිමත්ව බැබළිණ. ඇගේ තුනුසපුව ගීත නාදයන් වැළඳ ගන්නාක් මෙනි. සැණෙකින් නැමුනු ඇ, සිය දිගැති ඇඟිලි තුඩුවලින් මලක් කඩා ගෙන ආදරයෙන් මල්පෙති අත ගාන්නට වූවා, මනහර ගීයක් සෙමින් ගායනා කළාය.

මේ හැම දෙයක්ම නිසා බැබැළෙන ඇස් ඇති ගැහැණිය වෙතට අම්මා හදවතින් සමීපවූවා, තවත් ළංවෙමින් ඇය සමග පය තැබූවාය. එහෙත් ඉදහිට සෝපියා කලබල ගතියක් පාන්නී තද වචනවලින් කතා කළාය. මෙවැනි තුටුවමනා ගතිගුණ දකින විට අම්මා තුළ ඉබේම කිසියම් අපූරු අදහසක් පහළ වේ:

"මීටයිල්ට ඔය ගතිගුණ අල්ලන්නෙ නැහැ..."

එහෙත් මොහොතකින් ඇ නැවතත් ළයාන්විත බවක් පාමින් වාම් ලෙස කතා කළාය. එවිට අම්මා මුදු සිනා පාමින් ඇය දෙස බලයි.

"ඔයා තවම තරුණියක් නොවැ!" අම්මා දිග සුසුමක් හෙළමින් කීවාය.

"නෑ. මගේ වයස අවුරුදු තිස් දෙකක් වෙනවා!" යැයි සෝපියා හඬනගා පැවසුවාය.

විලාසවා සිනාසුණාය.

ඔයාගේ මුණ දිහා බලන කොට ඊටත් වැඩිය වයස වගෙ. ඒ වුණාට ඔයාගෙ ඇස්වල දීප්තිය දිහා බලන විටත්, කටහඬ ඇසෙන විටත් ඉරියව් දෙස බලන විටත්, ඔයා තරුණ කෙල්ලක් වගෙ. ඔයාගෙ ජීවිතෙ අන්තරාදයකයි, වැඩ අමාරුයි, අසිරුයි, ඒ වුණාට ඔයාගෙ හදවත නිතරම හිනාවෙනවා" යැයි අම්මා තෙපළාය.

"මගෙ ජීවිතය අමාරුය කියල මට හිතෙන්නෙ නැහැ. මෙයට වඩා ලස්සන දැකුම්කළු ජීවිතයක් තවත් තියෙනව කියල හිතන්ට බැහැ... මම ඔයාට නිලවනා කියල කතා කරන්නම්. පෙලගේයා — නම ඔයාට කැපෙන්නේ නැහැ."

"කැමති විදියකට කතා කරන්න. මම හැම තිස්සෙම ඔයා දිහා බලමින් හිතනවා, අහනවා. ඔයා මිනිහෙකුගෙ හදවත තුළට කාවදින්න මාර්ගය දන්නවා. කිසිම හැංගි හොරයක් නැතිව මිනිස් ගතිගුණ ඔයා එළිපිටම

දකිනවා, ඔයාව පිළිගන්ට ඇරුණු හදවතකින් ඉදිරියට එනවා. මම නුඹලා සියලු දෙනා ගැන හිතනවා. නුඹලාට නපුර පරාජය කරන්ට පුළුවනි, ස්ථිර ලෙසම පුළුවනි!''

''අපි ජය ගන්නෙමු සත්තකින්ම අපි වැඩකරන ජනතාව සමඟ සිටින නිසා ජය ගන්නෙමු!'' යැයි සෝපියා කීවේ දැඩි ආත්මවිශ්වාසයකිනි. ''වැඩකරන ජනතාව තුළ හැම බල පුළුවන්කාරකමක්ම තිබෙනව. වැඩ කරන ජනතාවට හැම දෙයක්ම දිනාගත හැකි! ඒ ගොල්ල තුළ තිබෙන වැඩීමට නිදහසක් නැති හැඟීම් නැගිට්ටවලා පුබුදුවලා ගන්ට ඕන...''

ඇගේ කතාව නිසා අම්මා තුළ අමුතු ධෛර්යයක් ඉපදී සංකීර්ණ හැඟීම් මතු විය. සෝපියා නිසා තමා තුළ උපන් දයානුකම්පාවට හේතුව කුමක්දැයි අම්මා නොදත්තී, ඇගෙන් වඩා වැඩි වචන ඇසීමට ආශා කළාය.

''ඔයාගෙ සේවයට කොහොමද ඔයාට තෑගි ලැබෙන්නෙ?'' අම්මා මේ ප්‍රශ්නය ඇසුවේ ශොකාන්විත ලෙසකිනි.

සෝපියා ආඩම්බරයෙන් යුතුව පිළිතුරු දෙන්නේ යැයි අම්මාට හැඟිණ:

''අපට දැනටමත් තෑගි ලැබිලා! අපට ප්‍රීති වෙන්ට පුළුවන් ජීවිතයක් අපි මේ වැඩවලින් හොයාගෙන තිබෙනව. අපි මුළු හිතින්ම සන්තොෂ වෙමින් තමා ඒ වැඩ කරන්නෙ. එයට වඩා ඉහළින් බලාපොරොත්තු වෙන්ට පුළුවන්ද?''

ඇය දෙස බැලූ අම්මා හිස පහතට හරවා ගනිමින් නැවත කල්පනා කළාය:

''එයාගෙ ගතිගුණ මිඛයිල්ට අල්ලන්නේ නැහැ...''

ප්‍රනීත සුළං ආශ්වාස කරමින් කාන්තාවෝ දෙදෙන යහුසුලුව පා තැබූහ. තමා වන්දනා ගමනක යෙදෙන බැතිමතියක ලෙසය අම්මාට හැඟී ගියේ. ඇට සිය ප්‍රීතිමත් ළමාකාලය සිහි විය. උත්සව දිනවල ගමෙන් පිටව හාස්කම් දක්වන දේවරූප තිබෙන දේවස්ථාන කරා ගිය වන්දනා ගමන් ඇට සිහිවිණ.

වරෙක අහස හෝ ආලය ගැන හෝ ලස්සන ගීත සෙමින් ගායනා කරන සෝපියා තවත් වරෙක කෙත් වතු වොල්ගා* නදිය, කැලෑව ගැන කවි කීමටද අමතක නොකළාය. අම්මා තාලය අනුව හිස වනමින් ඇගේ ගීවලට හා කවිවලට කන්දෙමින් ප්‍රීතිවන්නී, මඳ සිනා පෑවාය.

සරත් කාලයේ සැන්දෑ සමයක කුඩා වත්තක මෙන් ඇගේ සිත තුළ උණුසුමද, ශාන්ත බව හා කල්පනාකාරී බවක්ද ඇති විය.

---

* වොල්ගා: සෝවියට් සංගමයේ යුරෝපීය කොටසේ විශාලතම ගංගාවය. අනුවාදක.



# V

තුන්වැනි දින මේ දෙදෙනා බලාපොරොත්තු ගමට පැමිණියාහ. වෙලක වැඩකරමින් සිටි ගොවියෙකු වෙත පැමිණි අම්මා තාර මෝල කොහේදැයි අසා දැනගෙන, සෝපියාත් කැටිව කඳු පාරක් ඔස්සේ ගොස්, අනතුරුව පිට්ටනියකට ආවාය. තාර කැටි හා බිම අඟුරු දූවිලි ඇ කලබලව් වටපිට බලමින් මෙසේ කීවාය.

''ඔන්න අපි ආවා!''

කොළ අතුවලින් සහ ලෑලිවලින් සෑදූ පැලක, යතු නොගා මට්ටම් නොකරන ලද මේසයක් ළඟ, ඇඟ පත පුරා තාර ගෑවීම නිසා කළු පැහැගත් රිබින් ද යෙපිම් සහ තවත් ගැටවරයන් දෙදෙනෙක්ද දවල් බත ගනිමින් උන්හ. ඔවුන් අතුරෙන් පළමුවෙන්ම ස්ත්‍රීන් දෙදෙනා දුටුවේ රිබින්ය. ඔහු නළලට අත තබා බලමින් නිහඬව සිටියේය.

''ආයුබෝවන් මිඛයිල් මල්ලී!'' යැයි අම්මා දුර තබාම ආචාර කළාය නැගී සිටි හේ ශාන්තව ඔවුන් වෙත ගොස් හඳුනාගෙන, මඳ සිනා පාමින් රැවුළ අතගාන්ට විය.

''අපි මේ වන්දනාවෙ යන ගමන්'' යැයි අම්මා තෙපළාය. ''නිකං හිතුනා මල්ලිව දැක බලාගෙන යන්ට! මේ මගෙ යෙහෙලී — ආන්නා...''

තමාගේ උපක්‍රමය නිසා ආඩම්බර වන අම්මා ඇස් කොනකින් සෝපියා දෙස බලන්නී බැරෑරුම් විලාසයක් පෑවාය.

''ආයුබොවන්!'' යැයි අතට'න දී ආචාර කළ රිබින් සෝපියාට හිස නමා මෙසේ කීවේය. ''බොරු දෙඩන්ට එපා. මෙහෙ නගරය නොවේ. ඔක්කොම අපේ මිනිස්සු...''

මේසය අසල ඉඳගෙන හුන් යෙපිම් වන්දනාකාරියන් දෙස ඕනෑකමින් බලා, සෙමින් යමක් කියමින් අසල හුන් දෙදෙන ඇමතුවේය. ස්ත්‍රීන් දෙදෙන මේසය ළඟට ආ විට නැඟිට ආචාර කළ යෙපිම් එතැනින් ඉවත් විය. අනික් දෙදෙනා කිසිවෙකු නොදුටු කලෙක මෙන් ගල් ගැසී බලා සිටියෝය.

''අපි මෙහෙ ජීවත් වෙන්නෙ හරියට තාපසයො වගෙ!'' යැයි කී රිබින් විලාසවාගේ උරහිසට සෙමින් තට්ටු කළාය. ''මෙහාට කිසිවෙක් එන්නෙ නෑ. හාම්පුතා ගමේ නෑ. ගම මහගෙ රෝහලට ගෙන ගියා. මම තමයි කළමනාකාරයා. වාඩිවෙන්න. තේ බොමුද? යෙපිම් කිරි ටිකක් හොයා ගෙන වරෙන්කො!''

යෙපිම් සෙමින් පැල තුළට ගමන් කළේය. සිහින් උසති තරුණයෙක් මේසය වෙතින් නැගිට අමුත්තන්ට ඉඩ දුන්නේය. අනිකා — පළල් උරහිස්

ඇති ගැටවරයා කාන්තාවන් දෙදෙනා දෙස ඕනෑකමින් බලා ගියක් උරුවම බාන්ට විය.

තාර සුසුඹ ඉදුණු වියලි කොළ සමග මුසුවීමෙන් හටගත් සුවඳ නිසා හිස රදය ඇති වූවාක් මෙනි.

"මේකගෙ නම යාකොව්" උස හීන්දෑරි ගැටවරයා පෙන්වමින් රිබින් කිය. "අනිකා — ඉග්නාත්. ඉතින් උඹේ පුතාගේ සැපදුක් කොහොමද?"

"එයා හිරගෙදර!" දිග සුසුමක් හෙලූ අම්මා පිළිතුරු දුන්නාය.

"ආයෙමත් හිරගෙදර, එයාට හිරගෙදර රස වැටිලා වගෙ..." රිබින් කීවේ හඬ නගමිනි.

ඉග්නාත්ගේ උරුවම් බෑම නැවතිණ. යාකොව් අම්මා අත තිබුණ සැරටිය ගෙන, වාඩිවන ලෙස කීවේය:

"ඉඳගන්නා.."

"අනේ ඇත්තටම වාඩි වෙයල්ලා!" රිබින් සෝපියාට කීවාය. රිබින් දෙස මහත්වූ ඕනෑකමකින් බැලූ සෝපියා අසලවූ ගස්කොටයක් මත හිඳගත්තාය.

"කවදද එයාව හිරබාරයට ගත්තෙ?" යැයි ඇසූ රිබින් අම්මා අසල ඉඳ ගනිමින් හිස වනන්ට විය. "අනේ නීලව්නා, උඹේ කල දසාව හරි නෑ!"

"කමක් නෑ!" ඈ කීවාය.

"ඉතින්? පුරුදු වෙනවද?"

"පුරුදුවෙන්නෙ නෑ, දකිනවා, එහෙම නැතුව බැහැ!"

"ඉතින්! කතාව පටන් ගනින්කො" යැයි රිබින් ඉල්ලා සිටියේය.

කිරි බඳුනක් ගෙනා යෙපිම් මැටි කෝප්පයක් සෝද කිරි වත්කොට සෝපියා ළඟ තබමින් අම්මාගේ කතාවට සවන් දුන්නේය. කෝප්පය සේදීම හා කිරි වත්කිරීම ආදිය කළේ ශබ්ද රහිතව, ප්‍රවේසම්කාරී ලෙසය. අම්මා තම කතාව අවසන් කරත්ම ඇතිවූයේ නිහඬතාවයකි. මේසය අසල වාඩිවී සිටි ඉග්නාත් සිය ඇඟිල්ලෙන් ලෑල්ලක යමක් අඳින්ට විය. රිබින්ගේ උරහිස්වලට වැළමිටි තබාගත් යෙපිම් අම්මා දෙස බලා සිටියේය. ගස් කඳකට හේත්තු වූ යාකොව් හිස පාත්කර ගත්තේය. සෝපියා යටැසින් ගොවීන් දෙස බලන්ට වූවාය...

"මදෑ! ඔන්න ඔහොමයි එළිපිටම!.. රිබින් ඇද පැද සෙමින් කීවේය.

"ගමේ එහෙම ඔයවගෙ පෙළපාලියක් ගියොත්, ගම්මුන්ව තලා පොඩිකරල මරා දාවි" යැයි යෙපිම් කීවේ බැරෑරුම් ලෙසය.

"තලාවි! අපොයි බැහැ. මම යනව පැක්ටරියට, එහෙ හොඳ..." හිස වනමින් ඉග්නාත් පැවසීය.



"පාවෙල්ට නඩුදලා තියෙනවද, මොන විදියේ තීන්දුවක් ලැබේවිද?" යි රිබින් විකාළේය.

"බරපතල වැඩ ඇතිව හිරගෙට හෝ ජීවිතාන්තය දක්වා සයිබීරියාවට..." ඈ සෙමින් කීවාය.

ගැටවරයන් දෙදෙනා එකවර අම්මා දෙස බැලූහ. රිබින් හිස පාත් කර ගත්තේ අම්මාගෙන් මෙසේ ඇසුවේය:

"ඔය වැඩේ සංවිධානය කරනකොට ඔයවගේ තීන්දුවක් ලැබෙයි කියල පාවෙල් දැනගෙන හිටියෙ නැද්ද?"

"දැනගෙන හිටියා!" යැයි සෝපියා හඬනගා පිළිතුරු දුන්නාය.

එකම අදහසක් නිසා ගල් ගැසුනාක් මෙන් තිදෙනාම නිහඬ වූහ.

"ඔන්න ඔහොමයි රිබින් කීවේ බරපතල ලෙසය. "මාත් හිතනව මිනිහ දැනගෙන හිටියැයි කියල. පණින්ට පෙර හිතා බලන මිනිහෙක් පාවෙල්. කොල්ලනේ, ඔන්න බලාපල්ලා? බයිනෙත්තු වලට පපුව දිමට සිද්ද වන බව දැනගෙන හිටියා, හිරගෙට නියමවන බව හොඳට දැනගෙන හිටියා. ඒ වුණත් කළ යුතු දේ කළා. අම්මා එයාට විරුද්ධව පාරේ වැතිරිලා හිටියත්, එයාගෙ ඇඟට උඩින් පැනලා වුණත් යාවි. නීලව්නා එහෙම නේද?"

"ඔව් ඔව්!" යැයි දිග සුසුමක් හෙළූ අම්මා කීවේ වෙව්ලන හඬකින් යුතුවය. සෝපියා ඇගේ අතක් ගෙන පිරිමදින්නී, රිබින් දෙස යටැසින් බැලුවාය.

"එයා හරි මිනිහෙක්!" රිබින් තම කළු පැහැති ඇස්වලින් හැම දෙනා දෙසම බැලුවේය. නැවත සියලු දෙනාම නිහඬ වූහ. හිරු තම ආලෝකය වළාකුළු අතරින් පලවා හැරියේ සිහින් රන් කෙඳි සේය. කපුටෙක් තොර තෝංචියක් නැතිව කෑ ගසන්ට විය. මැයි පළවැනිද ගැනද, පුතා සහ අන්ද්‍රේ ගැනද ජවනිකා මනැස ඉදිරියේ මැවී පෙනෙන්ට වූයෙන් අම්මා වට පිට බලන්ට වූවාය. මුලිතුහුලනු ලැබූ ගස් මුල්ද, කුඩා පිටිය පුරා විසිරී තිබුණු තාර පිප්පද අමුතු දර්ශනයකි මවා පෑවේ. ඕක් සහ බර්ච් ගස් පිටිය වටා ළඟින් සිටගෙන සිටින අතර හැම පැත්තෙන්ම ඈ දෙස බලා සිටින්නාක් මෙනි. නිහඬව සිටින ඒ ගස් තම සෙවනැලිවලින් පිටිය මැද කළු පැහැති ලප ඇති කරයි. යාකොව් ගස් මුලෙන් ඈත්ව, හිටි හැටියේම ඉදිරියට විත් හිස වනා, හඬ නගා මෙසේ කීය:

"ඔය වගේ අයට විරුද්ධව නේද අපට සහ යෙපිම්ට යන්ට වෙන්නෙ?"

"උඹ හිතන්නෙ කාට විරුද්ධව කියලද අපව යොදවන්නෙ?" රිබින් දෙමනසින් යුතුව ප්‍රශ්න කළේය. "අපේම අත්වලින් අපේ බෙලි මිරිකා

දමනවා. ඉන්ද්‍ර ජාලම කියන්නෙ ඕවාට තමයි!" තම පශ්නයට රිබින්ම පිළිතුරු දුන්නේය.

"කොහොම වුණත් මම යුද හමුදවට බැඳෙනවා," සෙමින් එහෙත් මුරණ්ඩු ලෙස යෙපිම් කීවේය.

"කවුද උඹට යන්ට එපා කියන්නෙ?" ඉග්නාත් කෑගැසීය. "පලයන්!" යෙපිම් දෙස රවා බලා වියරු ලෙස සිනාසුණේය:

"උඹ මට වෙඩිතියන කොට හරියට ඉලක්කයට වෙඩි තියපන්, වනන්ට එපා, එක පාරටම මරා දමාපන්!"

"ඔය කතාව මීට ඉස්සෙල්ලා අහල තියෙනවා!" යෙපිම් කතා කළේ නිහුණු හඬකිනි

රිබින් පිරිස දෙස බලමින් සෙමින් අතක් වනමින්, "කොල්ලනේ, ඉවසාපල්ලා! මේ ස්ත්‍රිය දෙස බලාපල්ලා!" යැයි කීවේ අම්මා පෙන්වමිනි, "එයාගෙ පුතා සමහරවිට සදහටම නැති වුණා වෙන්ට පුළුවනි..."

"උඹ මොකෝ එහෙම කියන්නෙ?" යැයි අම්මා කාන්සියෙන් හා සෙමින් ප්‍රශ්න කළාය.

"ඕනා! එහෙම කියන්ට ඕනා! මොකවද? උඹගෙ හිස කෙස් අපතෙ නොපැසෙන්ට. ඉතින් මොකො, ඒ හින්ද ඇව මරා දමමද? නීලවනා, පත්‍රිකා ගෙනාවද?"

අම්මා ඔහු දෙස බලාසිට සෙමින් පිළිතුරු දුන්නාය.

"ගෙනාවා..."

"අන්න බලාපල්ලා!" යැයි කී රිබින් මේසයට මිට මොළවා පහරක් ගැසීය. "මම ඒ බව එකපාරටම දැන ගත්තා, උඹව දැකපු හැටියෙම. උඹට මාව හොයාගෙන මේ තරම් දුරක් ගෙවාගෙන එන්ට උවමනාවක් නැහැ. ජේනවද? පුතාව බිල්ලට ගත්තට පුතාගෙ තැනට අම්මා ආවා!"

අතක් ඔසවා තර්ජනය කරමින් හෙතෙම බැණ වදින්ට පටන් ගත්තේය.

ඔහුගේ කෑ ගැසීම් නිසා බියගත් අම්මා ඔහු දෙස බලන්නට වූවා, ඔහුගේ — මිඛයිල්ගෙ මුහුණ හාත්පසින්ම වෙනස්වී තිබෙන බවත්, ඇදීගිය සිහින් මුහුණක් ඇති ඒ මිනිහා තමා ඉදිරියේ ඉන්නා බවත් අම්මා දුටුවාය. නිල්පැහැති සුදු ඉංගිරියාව හරහා රක්ත වර්ණ ලේ නහරයන් දක්නට තිබේ. ඔහු නොනිද සිටි බවක් පෙනී ගිය අතර ඔහුගේ නහය උකුස්සකුගේ මෙන් වක්වී තිබිණි කමිස කර පටිය කාර තැවරීම නිසා කළු පැහැ ගෙන තිබුණ අතර කුලල් ඇටය පෙනෙන සේ කමිසය හැද සිටි රිබින් වඩාත් මළානික බවක් හා දුක්මුසු බවක් දැරීය. ඔහුගේ ඇස්වල රෝගී වියලි බවක් හා දීප්තිමත් ගතියක් පෙනිණි. එහෙත් කළු පැහැති මුහුණ කෝපයෙන් ගැහෙන බව ඔහුගේ ඇස් කියා පෑය. මළානිකව



හුන් සෝපියා ඇසි පිය නොහෙලා ගොවීන් දෙස බලා සිටියාය. ඇස් හකුළුවා ගත් ඉග්නාත් හිස සලන්ට විය. පැලි අසල සිටගෙන හුන් යාකොව් තරහෙන් මෙන් කෝටුවක වියලි පොතු ගලවන්ට පටන් ගති. යෙපිම් මේසය වටේ සෙමින් ගමන් කළේය. රිබින් දිගටම කතා කළේය:

"එද මාව ගම් සභා නඩුකාරයා කැඳවලා අහනවා, ඊයි තක්කඩියා උඹ මොනවද පාදිලි උන්නාන්සෙට කීවෙ කියල? මගේම දඩිය මහන්සියෙන් මම හරි හම්බ කරගෙන ජීවත් වෙනවා නම්, මම පොදු ජනයාට අයහපතක් කරන්නේ නැතිනම්, මම කොහොමද තක්කඩියෙක් වෙන්නෙ කියල? එයාගෙන් මම ඇහැව්වා. ඕන්න බොලේ! මිනිහ ගිරිය පුප්පා කෑගහන්ට පටන් ගත්තා. මගේ කොස්සට ඇනලා දවස් තුනකට හිරගෙට නියම කළා. තොපි මහජනයාට සලකන හැටි ඕහොමයි නේවද? සමාව බලාපොරොත්තු වෙන්ට එපා, යක්ෂයෙ! මා නැතිනම් තවත් එකෙක්, තොගෙන් බැරි වුණොත් තොගෙ ළමයින්ගෙන් හෝ පළි ගන්නවා. මතක තබා ගනිව්! තොපි ජනතාවගේ පපුවලට බයිනෝත්තුවලින් ඇනලා, උන් තුළ කෝපය වගා කර තිබෙනවා. අපෙන් සමාව පමණක් බලාපොරොත්තු වෙන්ට එපා, යක්ෂයිනි ඕන්න."

උතුරා නගින කෝපය නිසා ඔහු ගැහෙන්ට වූයෙන්, අම්මා බිය වුණාය.

"මා පාදිලි තැනට මොනවද කීවෙ?" මෙවර ඔහු තරමක් සන්සුන්ව කතා කළේය. "රැස්වීමෙන් පස්සෙ ගම්මු සමග පාදිලි තැන කතා කරමින් හිටියා. එයා කීවේ මිනිස්සු බැටළු රැළක් නිසා උන්ව පාලනය කරන්ට එඬේරෙක් ඕනෑ බවයි. ඕන්න, මම එයාට කවටකමක් කළා: 'ඒක හරියට නරියට කුකුළු පැටව් බාරදුන්නා වගෙ, ඉතිරි වෙන්නෙ පිහාටු විතරයි' කිව්වා! පාදිලි තැන ඒ කතාව ගණන් ගත්තේ නැති බව හඟවා මිනිස්සු වැඩි වැඩියෙන් දෙවියන් යැදිය යුතු බව කීවා. දෙවියන්ගෙන්, දුක් විඳීමට හයිය-හත්තිය, සහ ඉවසීම ඉල්ලා සිටින ලෙස එයා අවවාද කරපි. මිනිස්සු ඕනෑවටත් වඩා යාච්ඤා කරනවා. එක්කො දෙවියන්ට වෙලාවක් නෑ ඒවට කන් දෙන්ට. එහෙම නැතිනම් දෙවියො බිහිරෙක් වෙන්ට ඕන කියල මම කීවා. ඕන්න! පාදිලි තැන මගෙන් අහපි යාච්ඤා ගැන. මුළු ජනතාව වගේම මමත් එකම යාච්ඤාව හැමදම කරන්නෙ මේ විදියටයි: 'දෙවියන් වහන්ස, අපේ රදළ හාම්පුතාලට ගඩොල් අදින්ට උගන්වන්න, ඔවුන්ට බත් වෙනුවට කළු ගල් කන්ට සලස්වන්න, ලීදඬු, පරාල ගඩොල් වමාරවන්න!' පාදිලි තැන මට කතා කරන්න ඉඩ දුන්නේ නෑ!" යැයි කී රිබින් සෝපියා දෙසට හැරී මෙසේ ඇසුවේය: "මම තෝන්නා කෙනෙක් නේවද?"

''ඒ කොහොමද මම හෝනා කෙනෙක් වුණේ?'' බලාපොරොත්තු රහිත ප්‍රශ්නය නිසා කලබලයට පත් සෝෆියා ඇසුවාය:

''ඇයිද කියල අහනව?'' රිබින් සිනාසුණේය. ''ඉතින් ලබා උපන් හැටි තමා ඒ. ඔන්න අමුරෙදි ගවුමක් ඇඳලා උසස් පෙළපත වහන්ට පුළුවන් කියල හිතනවද? ගොනාගෙ හැටි අංවලින් පේනව නෙව. ඔබ තෙමුණු මේසය උඩ වැළමිටි තියාගෙන හිටියෙ කොතරම් පිළිකුලෙන්ද. වැඩ කරන ගැහැණුන්ගෙ පිට කොන්ද ඔබෙ තරම් කෙළින් නැහැ...''

උපහාසාත්මක වචනවලින් හා ගොරෝසු හඬින් සෝෆියාගේ හිත අමනාප වේය යන බියක් අම්මා තුළ ඇතිවූයෙන්, ඇ තියුණු ලෙය මෙසේ කීවාය:

''මයිකල් ඉවානොවිච්, එයා මගෙ යෙහෙළියක් ඒ වගේම හොඳ කෙනෙක් මේ වැඩ නිසා තමා ඇගේ කෙස් පැහිලා තිබෙන්නෙ. උඹ වැඩිය කලබල වෙන්ට එපා...''

රිබින් දිග සුසුමක් හෙළුවේය.

''මා එයාට නින්ද කළේ නැහැ නෙවද?''

''තමුසෙ මට මොනවාදෙ කියන්ට ලැහැස්ති වුණා නොවැ,'' යැයි ඇසූ සෝෆියා රිබින් දෙස තියුණු බැල්මක් හෙළුවාය.

''මමද? ඔව්! යාකොව්ගෙ ඇවැස්ස නෑයෙක් මේ ළඟදී ආවා. එයාට සය රෝගය හැදිල. එයාව අඬ ගහන්ටද? යි ඔහු ඇගෙන් ඇසීය.

''හොඳයි! එන්ට කියන්න!'' යැයි සෝෆියා කීවාය.

ඇස් හකුළුවා ගත් රිබින්, යෙපිම් අමතා සෙමින් කතා කළේය.

''යෙපිම් උඹ ගිහින් කියාපන්, එයාට රෑ වුණාම මේ පැත්තෙ එන්ටයි කියල, ඔන්න.''

කැප් තොප්පියක් හිස ලා ගත් හෙතෙම හැරී නොබලා බැද්දට වැද නොපෙනී ගියේය. ඔහු පෙන්වමින් හිස වැනූ රිබින් තෙපළේය:

''වද විඳිනවා! එයාටයි යාකොව්ටයි යුද්ද හමුදවට බැඳෙන්න කාල ඕනාව හරි... යාකොව් 'හමුදවට බැඳෙන්න බැරියැ' යි එළිපිටම කියයි. අනිකාවද එහි යන්ට බැරි වුවද ඔහු එහි යන්ට කැමතියි. සොල්දාදුවන් අතර ඇත්ත කියා දීලා නොසන්සුන්කමක් ඇති කරවන්ට මිනිහ කල්පනා කරනව. මට හිතෙන්නෙ තළලෙන් ගහල තාප්පය කඩන්ට බැරි බවයි. බයිනෙත්තු අතට දීල, ඉදිරියට යවාවි. හරි වදයක් විඳින්නෙ! ඉග්නාත් මිනිහගෙ හිත වැඩියෙන් අවුල් කරනව. නිරපරාදෙ!''

''කිසිම තේරුමක් නැතිවා නෙවෙයි!'' රිබින් දෙස නොබලාම ඉග්නාත් කීවේය. ''එහිදී මිනිහව අමුතු කෙනෙක් කරාවි. අනිත් අයට ඉදවැනි නොවන විදියට වෙඩි තියන්ට පුරුදු වේවි...''



''එහෙමත් වේවිද!'' යි කල්පනාකාරී ලෙස ඇසුවේ මෙසේද පැවසීය: ''ඔව්, ඇත්ත වශයෙන්ම එයින් බේරී පැනයාම වඩා හොඳයි. රුසියාව බොහොම ලොකු රටක්. පාස්පෝට් බල පත්‍රයක් හොයා ගත්තම ගමක් ගානෙ යන හැකි...''

''මං කරන්නෙ එහෙම තමා. රදළයින්ට විරුද්ධ නම් කෙළින්ම ඒ විදියට වැඩ කරන්ට ඕන,'' යැයි කී ඉග්නාත් ලී කැල්ලකට කතුලකින් ගැසුවේය.

කතාව ඇණ හිටිණ. මී මැස්සන්ගේ මෙන්ම බමරුන්ගේ නාදයද ඇසේ. කුරුල්ලෝ නාද කළහ. ඈත ගමක ගොවියන් සමූහ ගීයක් ගයන හඬ ඉඳහිට ඇසේ. නිහඬව හුන් රිබින් කතා කළේය:

''ඉතින් අපට වැඩ පටන්ගන්ට ඕනැ... ඔය ගොල්ල පොඩියක් විවේක ගන්නවද? පැල ඇතුළෙ ලී ඇඳන් තියෙනව. වියලි කොල එලා ගත්තම නිදගන්ට ඇහැකි. යාකොව්, කොළ එකතු කරපන්... අම්මෙ, උඹ ගෙනා පොත් පත් දීපන්...''

අම්මා සහ සෝෆියා තමන් ගෙනා පොට්වනි ලිහන්ට වූහ. ඉවසුම් නැති රිබින් ඔවුන්ගේ උරහිස්වලට උඩින් එබී බලන්නේ ප්‍රීතියෙන් යුතුවය. හරි ගොඩක් ගෙනැල්ලා නොව! මේ වැඩ පටන් අරගෙන බොහොම කල් වෙනවද? කොහොමද නම ගම?'' ඔහු සෝෆියාගෙන් ඇසුවේය.

''මගේ නම ආන්නා ඉවානොව්නා! මේ වැඩ කරන්ට පටන් අරගෙන දැනට අවුරුදු දොළහක් වෙනව, මොකෝ අහන්නෙ?''

''නෑ නිකම්, හිරේ වැටිලා එහෙම තියෙනවද?''

''ඔව්!''

''දැක්කාද?'' යි සෙමින් එහෙත් දෙස්පවරන්නාක් මෙන් අම්මා කීවාය. ''උඹ එයා ඉදිරිපිට රළු ලෙස කතා කළා...''

නිහඬව සිටි රිබින් පොත් ගොඩක් අතින් ගෙන දත් විලිස්සමින් කතා කළේය:

''ඔයගොල්ල මා කෙරෙහි අමනාප වෙන්ඩ එපා! ගොවියෙකුයි වංසක්කාර ගැහැණියෙකුයි අතර වෙනස වතුරත්, තාරත් අතර වෙනස වාගෙයි. එකට වැඩ කරන්ට අමාරුයි!''

''මම වංසක්කාරියක් නොවෙයි සාමාන්‍ය ගැහැණියක්.'' ඔහුගේ අදහසට පවහැණිවූ සෝෆියා මුදු ලෙස සිනා පාමින් කීවාය.

''ඒක එහෙම වෙන්ට පුළුවනි! බල්ලා ඉස්සර කාලෙ වෘකයෙක් වෙලා හිටියා කියල කතාවක් තියෙනව නෙව. මම ගිහිං මේ පොත් ගොඩ හංගලා එන්නම්.'' යැයි පැවසූ රිබින් පිටව ගියේය.

ඉග්නාත් සහ යාකොව් රිබින් වෙත පැමිණ අත් දිගු කරමින් පොත් ඉල්ලා සිටියාහ.

"අපට පොතක් දීපන්," යැයි ඉග්නාත් ඉල්ලා සිටියේය.

"ඔක්කොම එක විදියෙ ඒවද?" රිබින් සෝෆියාගෙන් ඇසුවේය.

"නැහැ. වර්ග කීපයක්ම තියෙනව. පත්තරයක් පවා තියෙනව..."

"ආ"

තිදෙනාම වහ වහා පැලට වැදුනාහ.

"ගොවියා ප්‍රබෝධයට පත් වෙලා!" යැයි ඉවත යන ඔවුන් දෙස බලා අම්මා කල්පනාකාරී ලෙස කීවාය.

"ඔව්! මා කිසි දිනක ඔය වගෙ දුක් විඳපු මුහුණක් ඇති මිනිහෙකුව දැකලා නැහැ. අපි පැලට යමු. මා කැමතියි ඒ ගොල්ල කියවනව බලන්ට..."

"ඔයා, ඒ මනුස්සයා ගැන තරහ වෙන්ට එපා..." අම්මා ඉල්ලා සිටියාය.

සෝෆියා සිනාසුණාය.

"අනේ නිලව්නා, ඔයා කොතරම් හොඳද..."

ඔවුහු පැල තුළට ගොඩ වෙත්ම, ඉග්නාත් හිස ඔසවා ඔවුන්දෙස බලා කැරළි ගැසුණු හිස කෙස් අතරින් ඇඟිලි තුඩු යවා නැවත පත්‍රය කියවන්නට විය. පැල තුළට සිදුරු අතරින් වැටෙන හිරු එළිය ප්‍රයෝජනයට ගනිමින් රිබින් සෙමින් පත්‍රය කියෙව්වේය. දණගසා ගෙන හුන් යාකොව්ද පසුව ලී ඇදට හේත්තුකර ගනිමින් පත්‍රය බැලුවේය.

පැලෙහි කොණකට වූ අම්මා වාඩිවී සිටි අතර සෝෆියා ඇගේ උරහිසට හිස තබා ගෙන කියවන්නන් දෙස බලන්නට වූවාය.

"මිහයිල් මාමෙ! මෙන්න අපට — ගොවීන්ට බැණ වදිනවා," යැයි යාකොව් හිස හරවන්නේ නැතිව පැමිණිලි කළේය. රිබින් ඔහු දෙස බලා සිනාසෙමින් පිළිතුරු දුන්නේය:

"අපට ආදරේ නිසා"

දිග හුස්මක් ගත් ඉග්නාත් ඇස් වසාගෙන නිශ්ශබ්දව සිටියේය.

"මෙන්න ලියල තියෙනව 'ගොවියා මිනිසෙක් නොවේ, ඇත්ත වශයෙන්ම මිනිහෙක් නොවේ!"

ඔහුගේ වාම් මුහුණේ අමනාප ගතිය කැපී පෙනෙන්නට තිබිණි.

"හොඳා. උඹ මගෙ කබාය ඇඳ ගනින්, එතකොට බලතැකි උඹ කවද කියල, පංඩිතයා!"

"මම හාන්සි වෙන්නම්! හොඳටම මහන්සියි. හිසේ ඇම්ම තාර ගඳ නින්ද වෙන්ට ඇති. ඔයා කැමති නැතිද හාන්සි වෙන්ට?" යි අම්මා සෙමින් සෝෆියා ගෙන් ඇසුවාය.

"නැහැ."



කොළ අතුරන ලද ලැලි ඇඳක වැතිර සිටි අම්මාට නින්ද ගියේය. සෝෆියා ඇය අසල ඉඳගෙන කියවන්නන් දෙස මහත් ඕනෑකමින් බලා සිටින්නී, අම්මාගේ මුහුණ මත මැස්සෙක් හෝ මදුරුවෙක් හෝ වැසුවේ නම් ඌ සැණෙකින් එළවා දැම්මාය. අඩ නින්දේ සිටි අම්මා සෝෆියා තමාට සලකන අන්දම දැක සතුටට පත් වූවාය.

රිබින් සෝෆියා වෙත ළං ව අම්මා නිදන්නෝදැයි තොල මතුරමින් ඇසුවේය.

"ඔව්"

අම්මා දෙස මොහොතක් බලා සිටි රිබින් සුසුමක් හෙළා මෙසේ කොඳුරා කීවේය:

"පුතා ගත් මග ගිය පළමුවැනි අම්මා එයා විය යුතුය. ඔව්, එයා තමා පළමුවැනියා!"

"අපි අහකට යමු. එයාගෙ නින්දට බාධා කරන්නෙ නැතිව" සෝෆියා යෝජනා කළාය.

"ඔව් කතා කරන්ට නම් බොහෝ දේවල් තියෙනව. ඒ වුණාට වැඩ පටන් ගන්ට වෙලාව හරි. හැන්දෑවට කතා කරමු! යමු කොල්ලනේ..."

සෝෆියා පැල අසල නවතා ඔවුන් තිදෙනාම වැඩට ගිය අතර, පැල තුළ වැතිර හුන් අම්මා තමාටම මෙසේ කියා ගත්තාය.

"අනේ දෙවියනේ! දෙදෙනාම යාළු වෙලා..."

තාර සහ කොළ මිශ්‍ර සුවඳින් මත්වූ අම්මා සැපසේ නිද ගත්තාය.

## VI

දවසේ වැඩ අවසාන කිරීමෙන් පසු තාර කම්කරුවන් ආවේ ප්‍රීතියෙනි. ඔවුන්ගේ හඬ නිසා පිබිදුනු අම්මා ඈනුම් හරිමින් සහ මඳ සිනා පාමින් පැළ තුළින් එළියට ආවාය.

"උඹලා වැඩ කළා මම හරියට ළමාතැනී කෙනෙක් වගෙ නිද ගත්තා!" දයාන්විත බැල්මක් හෙලමින් ඈ කීවාය.

"අපි උඹට සමාව දෙනවා!" රිබින් කීය. රිබින් වඩාත් සංසුන්ව සිටිනවා පෙනිණි. මහන්සිය විසින් ඔහුගේ කෝපය ගිල දමනු ලැබුවා සේය.

"ඉග්නාත්, තේ ලැස්ති කරපන්! අපි වාරය අනුව කෑම පිළියෙල කරන්නෙ. අද ඉග්නාත්ගෙ වාරය. එයා අපට හවස කෑම දෙනව!"

"මගේ වාරය වෙන කාට හරි බාර දීමට මම සූදානම්," යැයි ඉග්නාත් කීවේ ගිනිමැලයක් ගැසීමට උවමනා දර කෝටු ආදිය එකතු කරමින්ය.

''අමුත්තන්ට කවරුත් කැමතියි.'' කී යෙපිම් සෝපියා ළඟින් වාඩි විය.

''ඉග්නාත් මම උඹට ආධාර කරන්නම්!'' යැයි කියමින් යාකොව් පාන් ගෙඩියක් ගෙනවිත් කපන්නට විය.

''ඒ! අන්න කඟිනවා...'' යෙපිම් සෙමින් කීය.

රිබින් ඔහැකමින් කන්දී සිට ''ඔව් එනවා!'' යැයි කීය.

සෝපියා දෙසට හැරෙමින් රිබින් කතා කළේය:

''දැන් එන්නෙ එක්තරා විධියක සාක්ෂි කාරයෙක්. එයා කතා කරන්ට උපන් පුතෙක්. මට පුළුවන් නම් එයාව ගෙන ගොස් ප්‍රසිද්ධ චතුරශ්‍රවල රැස්වීම පවත්වනවා. එයා හැමදම කියන්නෙ එකම දෙයයි. ඒ වුණාට අහන්ට වටින කතාව...''

නිහඬතාවය සහ අඳුර වඩාත් ඝනව පැතිරෙන්ට විය. සෝපියා සහ අම්මා ගොවීන් නිරීක්ෂණය කළෝය. ඔවුහු ප්‍රවේසමෙන් ගමන් කරන්ටත් එක්තරා අපූරු විදියකට හැසිරෙන අතර කාන්තාවන් දෙදෙනාට සත්කාර කිරීමටත් පටන් ගත්හ.

මේ අතර වන රොද පැත්තෙන්, මදක් කුදු, උස මිනිහෙක් හැරමිටි වාරුවෙන් සෙමින් සෙමින් පැමිණියේය. ඔහුගේ හුස්ම ගැනීම ඇහට පවා ඇසෙන තරම්ය.

''ඔන්න මම ආවා!'' යැයි කී හෙතෙම කහින්ට විය.

පතුල් වැසෙන තරම් දිග ලෝගුවක් වැනි කබායක් ඇඳ සිටි හේ පොඩි වුණු තොප්පියක් පැළඳ සිටියේය. ඉත්තෑ කූරු වැනි ඔහුගේ හිසකෙස් නළල වසා සිටියේය. සුදු පැහැති යටි රැවුල කවු ගොඩක් යැයි කිවහැකි ඔහුගේ මුහුණ වසා සිටි අතර, කට යම්තමින් ඇරී තිබිණි. ගිලුණු ඇස් නළලට යටවී තිබෙන සැවියක් කියා පැය. උණ රෝගයෙන් පෙළෙන විට ඇස්වල ඇතිවන ලෙඩ පාටට සමාන බැල්මකි ඔහුට තිබුණේ.

රිබින් ඔහු සෝපියාට හඳුන්වා දෙත්ම, ඔහු ඇගෙන් මෙසේ ඇසුවේය.

''පොත් ගෙනා බව ආරංචි වුණා හැබෑද?''

''ඔව් ගෙනාවා.''

''ජනතාව වෙනුවෙන් ස්තුති වන්ත වෙනවා!.. තවම ජනතාවට ඇත්ත වටහා ගැනීමට සක්තියක් නැහැ... උදාහරණයක් වශයෙන් මා වටහාගෙන තිබෙන්නා වගෙ''

ඔහු වේගයෙන් ආශ්වාස ප්‍රාශ්වාස කළේ, ගිජුලෙස වාතය ගිල ගනිමිනි. මේ වචන කියත්ම ඔහුගේ කට හඬ අතුරුදහන්ව ගියාක් මෙන් විය. සවු පැදී තිබුණු තම ඇඟිලි සහිත අත පපුවට තබාගත් හෙතෙම කබායේ බොත්තමක් වැසීමට මහන්සි ගත්තේය.



''මේ හැන්දෑ යාමෙ එළිමහනෙ ඇවිදින එක හොඳ නෑ නෙව. කැලෑව තෙතමනය වැඩියි, හුස්ම ගන්ට අමාරුයි!'' සෝපියා කීවාය.

''මට ප්‍රයෝජනවත් දේවල් නැහැ. එකම ප්‍රයෝජනවත් දෙය මරණය පමණයි...''

ඔහුගේ හඬ ඇසීම පවා චිත්ත වේගය ගෙන දෙයි. ඔහුගේ දේහය දෙස බලන විට ඇතිවන්නේද දැඩි ශෝකයකි. ඔහුට ආධාර උපකාරයක් කිරීමට බැරි බව පෙනියාම ශොකය තවත් උත්සන්න කරයි. ඔහු පිප්පයක් මත වාඩි වීම පිණිස ප්‍රවේසමින් දණහිස් නැමුවේ, ඒවා දන් දන් කැඩී යාවි යන බියෙන් යුතුවය. නළලෙන් වැගිරෙන දහඩිය පිස ගත්තේය. ඔහුගේ හිස කෙස් වියලී මිය ගිය තණ බිස්සක් වැන්න.

ගිනි මැලය ඇවිලෙන්නට වෙත්ම වටේ සිටි අය සෙලවුණාහ, ගැස්සුනාහ. ගිනි මැලයට උඩින් ඉග්නාත්ගේ වටකුරු මුහුණ සහ රත්පැහ ගත් කොපුල්ද මතු වී පෙනිණ. ගිනි මැලය නිවී ගියේය. දුම් සුවඳ පැතිර ගියේය. වනය අවට නිහඬ නිදගෙන නැඟී සිටියේ රෝගියාගේ ගොරෝසු කටහඬය:

''ජනතාවට ප්‍රයෝජනවත් දෙයක් කිරීමට මම බලාපොරොත්තු වෙනවා. අපරාධයක් කරනවා දුටු සාක්ෂි කාරයෙක් හැටියට... ඔන්න බලාපල්ලා මගේ හැටි!.. මගේ වයස අවුරුදු විසි අටයි ඒ වුණාට මගෙ මරණය ළංවෙලා! මට අවුරුදු දහයකට ඉස්සෙල්ල පුඩ්* 12 ක් බර මිටියක් කරින් අරගෙන මහන්සියක් නැතිව ගියා. ඒ වගෙ හයිය හත්තිය ඇතිව අවුරුදු හැත්තෑවක් ජීවත් විය හැකි යයි කල්පනා කළා ඊට පස්සෙ අවුරුදු දහයයි ජීවත් වුණේ. මරණය ළං වෙලා හාම්පුතාලා මගෙ ජීවිතයෙන් අවුරුදු හතළිහක් කොල්ල කා ගත්තා!''

''ඔන්න එයාගෙ සිංදුව!'' රිබින් සෙමින් කීවේය.

නැවත ගිනි මැලය ඇවිලිණ. එහෙත් මේ වර පැන නැඟි ගිනි දළු පෙරට වඩා පැහැපත් විය. කැළයේ සෙවනැලි බියගත් විලාසයෙන් පැන දුවන්ට වී. ගින්නට අසු වූ දර කෝටු පට පට ගා පුපුරන්ට විය. රත් වූ වාතය නිසා වායු පිඩනය වැඩි වෙත්ම ගස්වල කොළ සෙමින් සැලෙයි. ප්‍රාණවත්, ප්‍රීතිමත් ගිනි දළු නටත්ම, අවට ගස්වල වියලි කොළ සුළඟේ පාවෙයි. අහසේ තරු මද සිනා පාමින් ගිනි දළු තමන් දෙස ඇද ගැනීමට මෙන් ඉඟි බිඟි පාති.

---

* පුඩ: විප්ලවයට පෙර රුසියාවේ භාවිතා කළ බර විශේෂයකි. පුඩ එකක් රාත්තල් 40 කි අනුවාදක

"ඒක මගෙ සිංදුවක් විතරක් නෙවි, දහස් ගණන් පීඩිතයින්ගෙ සිංදුව. උන් එය ගයන්නෙ වැදගත් පාඩම් ඉගෙන ගන්නෙ නැතිව. වැඩ කිරීම නැමැති වද බන්දනයට අහු වෙලා අත පය කැඩිලා කොර වෙලා යන උන් කී දහසක් නිහඬව කුසගින්නෙ මැරී යනවාද...''යි කී හෙතෙම කහින්නට වී, පසුව හුස්ම ගැනීමට අපහසු වූ කලෙක මෙන් හති දමන්නට විය.

යාකොව් ක්වාස්* බඳුනක් මේසය මත තබා එයට අමු ඇඹුල් කොළ දමා, රෝගියාට කතා කොට මෙසේ කීය:

"වරෙන් සවේලි, මං උඹට කිරි ගෙනාවා..."

සවේලි අකමැත්ත පළකරමින් හිස වැනුවද, යාකොව් ඔහු අල්ලා ගෙන මේසය ළඟට කැඳවාගෙන ගියේය.

"මේ අහන්න. ඇයි තමුසෙ මේ මනුස්සය මෙහාට ගෙන්නුවෙ? කොයි මොහොතෙ හරි එයා මැරිලායාවි..." සෝපියා රිබින්ට පමණක් ඇසෙන සේ කීවාය.

"ඔව්!" යැයි කී රිබින් ඇගේ අදහසට එකඟව යළි මෙසේද කීය: "දනට කතා කරපුවාවෙ. ඕන නැති දේවලට ජීවිත හානි වෙලා. ජනතාව සඳහා ඔහෙ කතා කරපුවාවෙ, කමක් නෑ! ඕන්න."

"තමුසෙ එයාගෙ දුක බලා ප්‍රීති වෙනව," සෝපියා කීවෙ වැදෙරනි.

ඇය දෙස බැලූ රිබින් ගොරහැඩි ලෙස කතා කළේය:

"ජේසු තුමා කුරුසියේ ඇණ ගහල ඉන්නව බලමින් ප්‍රීති වෙන උන් ඉන්නව. අප කැමතියි මිනිසුන්ගෙන් ඉගෙන ගන්ට. ඔයගොල්ලන් තරමක් වුණත් ඉගෙන ගන්නව නම් අපි තුටු වෙමු..."

බිය වූ අම්මා ඇස් බැම් උස්සමින් ඔහු ඇමතුවාය:

"ආ උඹ උගතා!.."

මේසය අසල වාඩිවී සිටි රෝගියා නැවත කතා කරන්ට විය:

"වැඩ නිසාම මිනිස්සු මැරිල යනව. ඇයි? මිනිහාගේ ජීවිතය සොරා ගන්නව. මොකද හේතුව? මගේ හාම්පුතා, — මං වැඩ කළේ නෙපේදෙව්ගේ වැඩපළේ. එතැනදී මගෙ ජීවිතය නැතුව ගියා, — මගෙ හාම්පුතා එක ගායිකාවකට මුහුණ සෝදන්න කියල රත්තරන් බේසමක් තෑගි දුන්නා. ඊට පස්සෙ රෑට මුත්‍ර කිරීමට රත්තරන් පෝච්චියක් දීපි! ඒ රත්තරන් භාජනවල මගේ ලේ, මස්, ඇට, නහර මිදුලු තියෙනවා. මගේ

* ක්වාස් : රුසියානු ජාතික බීමකි. රයි පාන් සහ බාර්ලි වතුරෙන් සාදනු ලබන ඇඹුලැති පානයකි. අනුවාදක.



හයිය ශක්තිය සහ ජීවිතය ඒවාවල තියෙනව. ඔන්න ජීවිතයක හැටි. එයාගෙ ආදරවන්තියට රත්තරන් භාජන දෙන්ට මගේ ලේ උරා බීවා. මගේ ලේවලින් ඌ, උගෙ ආදරියට රත්තරන් පොච්චි හද දුන්නා!"

"දෙවියො මිනිහව මැව්වෙ එයාගෙ හැඩහුරුකමටලු, මදූ උන්දගෙ රූපෙට යන කල දසාව," යෙපිම් උපහාසාත්මකව පැවසීය.

මේසයට මිටින් පහරක් දුන් රිබින් "නිහඬව ඉන්ට එපා!" යැයි ගුගුළේය.

"ඉවසන්ට බෑ!" යාකොව් සෙමින් කීය.

ඉග්නාත් උපහාසාත්මක ලෙස සිනාසුණේය.

රිබින් කතා කළ හැම වාරයකදීම තරුණයන් තිදෙනා නොසිදෙන ආශාවකින් හා සැලකිල්ලකින් යුතුව අසා සිටින සැටි අම්මා දුටුවාය. ඔවුන් ඔහු දෙස බැලුවේ දූල්වෙන නෙත්වලිනි. සවේලිගේ කතාව ඔවුන් තුළ උපහාසය නිපුණ කළේය. රෝගියෙකු කෙරෙහි ඇතිවන අනුකම්පාව පෙනෙන්ට නොතිබිණි.

සෝපියා දෙස තැබුරුවූ අම්මා කොඳුළාය:

"එයා කියන ඔය කතාව ඇත්තක්ද?"

සෝපියා පිළිතුරු දෙන්නී, හඬ නගමින් කතා කළාය:

"ඔව්! ඒ කතාව ඇත්ත තමා! එවැනි තෑගි දීමක් ගැන පත්‍ර වල පළ වුණා. ඒ සිද්දිය මොස්කව්වලයි ඇති වුණේ..."

"ඒ මිනිහට කිසිම දඬුවමක් දුන්නෙ නැහැ! ඒ මිනිහට දඬුවම් දිය යුතුව තිබුණා. ජනතාව ඉදිරිපිටට ඔහුව ගෙන්වල ඔහුගේ මස්පිඩු කැලිවලට ඉරා දමල බල්ලන්ට දිය යුතුව තිබුණා. ජනතාව නැගී සිටිය දට මහා නඩු තීන්දුවක් දෙවී. ජනතාවට කරන ලද අපරාධ වලට පළිගැනීමක් වශයෙන් ඔවුහු හාම්පුතුන්ගේ ලේවලින් පව් සෝද හරිනු ඇත. ජනතාවගේ ලේ බොමින් තරවූ හාම්පුතුන්ගේ එම ලේ නැවත ලබා ගනු ඇතැයි," රිබින් වේගයෙන් කීවේය.

"හරි සීතලයි!" රෝගියා පැවසීය.

යාකොව්ගේ උදව් ඇතිව නැගිටි රෝගියා ගිනි මැලය දෙසට ගියේය. දීප්තිමත් ගිනි දලු නංවමින් ගිනි මැලය ඇවිළිණ. ඒ වටා නැගී සෙවනැලි ප්‍රීතියෙන් නටන ගිනි දලු දෙස බලමින් සිනාසිණි. අසල වූ ගසක මුලක් මත හිඳගත් සවේලි තම වියලි අත් ගිනි මැලය දෙසට දිගු කරමින් ගිනි තපින්ට විය. සවේලි දෙසට හැරුණු රිබින් සෝපියා අමතමින් කතා කළේය:

"එයාගෙ කතාව පොත්වලට වැඩිය තියුණුයි, වේගවත්! යන්ත්‍රයකට අහුවෙලා කම්කරුවෙකුගේ අතක් කැපුනොත් නැතිනම් ඔහු මැරිලා ගියාම,

වරද අර අහිංසක කම්කරුවගෙ පිට පවරනව. එහෙත් මිනිහෙකුගෙ ලේ උරාගෙන බිල, හප කරල, විසිකරල දැවම එයට වරද කරුවෙක් ඇත්තෙම නැහැ. මිනී මැරුම් ගැන මට තේරෙනව. වද හිංසාව විහිළුවලට හැරවීම තේරුම් ගන්ට බැහැ! ජනතාවට වද දෙමින් ඔවුන්ව උපහාසයට භාජන කරන්නේ ඇයි? විහිළු තහළු කර, ප්‍රීති සංතෝශ වී ජීවත් වීමටද? මහජනයාගෙ ලේ උරා බී හරි හම්බ කරන මුදල්වලින් හැම දෙයක්ම මිළට ගන්ට පුළුවනි. ගී ගයන නිලියන්, අශ්වයෝ, පිදී පිහි, රත් පිගන් කෝප්ප, දූ දරුවන්ට වටිනා සෙල්ලම් බඩු. උඹලා වැඩි වැඩියෙන් වැඩ කරපල්ලා, මම වැඩි වැඩියෙන් හරි හම්බ කරගන්නම්, උඹෙ ශ්‍රමය සූරාගෙන කන්නම්, මගෙ පෙම්වතියට රත්රන්... පොව්වී තෑගි දෙන්නම්'' යැයි හෙතෙම ගුගුළේය.

ඔහුට සවන් දුන් අම්මාගේ මනැස ඉදිරියෙහි නැවත වරක් පාංවල් සහ ඔහුගේ සගයින්ගේ අලෝකමත් මාවත මැවී පෙනිණ.

රෑ කෑමෙන් පසු ඔවුහු යළිත් ගිනි මැලය වටා රැස්වූහ. ගිනි දළු දර කෝටු පුළුස්සා දමමින් වේගයෙන් ඇවිලේ. අහස සහ අවට කැළය වටා අඳුර පැතිර ගියේය. රෝගියා ගිනි මැලය දෙස බලමින් නැවතත් කහින්ට විය. ජීවිතයෙන් කොටසක් ළය පලාගෙන පිටවීමට දඟලන කලෙක මෙන් රෝගියා වෙව්ලයි. ගිනි දළුවල දීප්තිය නිසා ඔහුගේ අප්‍රාණික සම වෙව්ලන්නේ අමුතු ජීවයක් හොලබමිණි. දූන් දූන් නිවී යන ගිනි දළ සේ ඔහුගේ ඇස් දෙක පමණක් දීප්තිමත්ව බබැලේ.

රෝගියා දෙසට හැඹුරු වූ යාකොව් ඔහු අමතා මෙසේ කීවේය: ''සවෙලි, උඹට පැල ඇතුළට යාම හොඳ නොවේද?''

''මොකටද?'' හති දමමින් හේ ඇසුවේය. ''මට මිනිස්සු සමග ජීවත් වීමට තියෙන්නෙ ටික කාලයක් විතරයි!..''

හැම දෙනා දෙසම බැලූ රෝගියා මලානිකව ගිය මුහුණකින් යුතුව දිගටම කතා කළේය:

''නුඹලා සමග ඉන්නා විට මට සතිපයක් දැනෙනවා. කෑදරකම නිසා ජනතාවගෙන් ලේ කොල්ල කෑ එවුන්ගෙන් පළි ගැනීමට නුඹලාට පුළුවන් වනවා ඇතැයි මා හිතනවා...''

ඔහුට කිසිවෙක් පිළිතුරු නොදුන්හ. හිස පාත්කරගත් ඔහු නිදන්නට විය. රිබින් ඔහු දෙස බලමින් මෙසේ කීය:

''අප සම්බවීමට ඇවිත් කියන්නේ එකම දෙයයි. මිනිස් වර්ගයා උපහාසයට ලක්කරන සැටියි. හැබයි ඒ කතාව එයා කියන්නෙ හිත පුරා ඇවිලෙන කෝපයකින්. කණෙක් මෙන් එතැනින් එහාට ඔහුට පෙනෙන්නේ නැහැ.''



''තව මොනවද ඕනෑ?'' යැයි අම්මා ඇසුවේ කල්පනා කාරී ලෙසය.

''මිනිස්සු පණ පූජා කර වැඩ කරනවා. හාම්පුතාල උන්ගෙ ලේ උරා බිල හරි හම්බ කරගෙන ඒ සල්ලි විනෝදය සඳහා වියදම් කරනවා තවත් මොනවද?..''

''එයාගෙ කතාව අහන්වත් එපා වෙලා,'' යැයි ඉග්නාත් කොඳුළේය. ''එක පාරක් ඇහුවම මුළු ජීවිතේටම එය අමතක වෙන්නෙ නැහැ. ඒ වුණත් මිනිහ හැමදම කියන්නෙ එකම කතාවයි.''

''මුළු ජීවිතයම එක තැනෙක හොඩ ගැහිල. අන්න එය තේරුම් ගනින්!'' යැයි රිබින් කීවේ ඇස් බැම් හකුළුවා ගනිමිනි. ''මම එයාගෙ ඉරණම ගැන දහ පාරකට වැඩිය අහලා තියෙනව. ඒ වුණාට සමහර විට සැක කළා. මිනිහා ගැන වැරදි අදහස් සිතීමට ඉඩ නොදෙන වෙලාවල් තිබෙනවා. මිනිහාගේ පිස්සු විකාර වැඩ ගැන ඇහීමට දුප්පත් පොහොසත් කාගෙන් හිත දෙන්නේ නැහැ... පෝසතා මුළා වෙලා... දුප්පතා කුසගින්න නිසාත් පොසතා රත්රන්වලට ඇති තන්හාව නිසාත් කණුව් සිටිනවා. මිනිස්සු හිතනවා, සියලු මිනිස්සු සහෝදරයො කියල හොඳව කල්පනා කරල බලාපල්ලා!''

නිද උන් රෝගියඇස් හැර බලා බිම වැතිර යළිත් ඇස් පියා ගත්තේය. යාකොව් පැලට ගොස් එහි තුබූ හිම කබායක් ගෙනවිත් රෝගියාට පොරවා සෝපියා ළඟින් වාඩි විය.

ගිනි මැලය තම රත් පැහැති ගිනි දළු වලින් අවට ආලෝක කරමින් ප්‍රීතිමත් සේ සිනා පෑවේය. අවට සිටි මිනිසුන්ගේ කට හඬ ගිනි දළු සමග එකට මුසුවී පැතිර යන්නාක් මෙනි.

ජනතාව තම ජීවිත අයිතිය සඳහා ගෙනයන ලෝක ව්‍යාප්ත විරෝධ අරගලය ගැන සෝපියා විස්තර කරන්ට පටන් ගත්තී, ජර්මනියේ ගොවි හටන්ගැනද, අයර්ලන්ත වාසීන්ගේ දුක්බර තත්ත්වය ගැනද, නිදහස සඳහා අභීත සටන් ගෙනයන විරෝධ ප්‍රංශ කම්කරුවන් ගැනද පැහැදිලි කරමින් කතා කළාය... අඳුරු රැයක, වන රොදක තුඩා පිටියක ගිනි මැලයක් අසල රැස් වූ කීපදෙනෙක් තරහ සිතින් යුතුව බලන සෙවනැලි පළවා හරිමින් දීප්තිමත් ලෙස බැබළෙන ගිනි දළු දෙස බලමින්ද, ලෝකයේ සෑම රටකම තන්හාවට සහ කෑදර බවට එදිරිව ජනතාව ගෙනයන මහ සටන් ගැනද, ස්වාධීනත්වය සහ ඇත්ත-යුක්තිය සඳහා මාරාන්තික සටන් කරමින් විඩාවට පත්ව සිටින වීරයන් ගැනද සිහිපත් කළහ.

ගැහැණියගේ හඬ සෙමින් ඇසේ. අතීතයෙන් පැන නැගී ඇයගේ කතා අනාගතයට වදින්නේ බලාපොරොත්තුව සහ ආත්මවිශ්වාසය ඇති කරවමිනි. තම සහෝදරයින්ගේ වික්‍රමයන් ගැන කරන ලද ඒ කතාවලට

මිනිස්සු නිහඬව සවන් දුන්හ. සිහින් මළානික ස්ත්‍රිය දෙස බැලූ ඔවුන්ට පෙණුනේ ලෝකයේ සියලු ජනතාවගේ ඉද්ධවූ සවන — විමුක්තියේ අසීමිත අරගලය වඩාත් පැහැදිලිව බබළන සැටියකි. අඳුරු පටලයකින් හා බිහිසුණු අතීතයකින් වැසී තිබෙන, තම අභිප්‍රායයන් සහ සිතැගියාවන් නොදනුවත්ම තමන් කිසි දිනෙක දැක නැති විවිධ ගෝත්‍රවලට අයත් මිනිසුන් සමඟ සිතින් හා හදවතින් එක්වී මිහිතලය මත සත්‍ය ගොඩනැගීමට දැඩිව ක්‍රියා කිරීමටද, එම තීරණය තමන් විසින් විඳින ලද කරදර සහ ප්‍රීතිමත් නව දිවියක ජයග්‍රහණය සඳහා පුදනු ලැබූ මල් ගංගාවන් වෙනුවෙන් කැප කිරීමටද ඔවුහු ඉටා ගත්හ. සියලු දෙනා සමග අධ්‍යාත්මික සහෝදරත්වයක් වැඩී වර්ධනය වීමට පටන් ගත් අතර හැම දෙයක්ම දැන ගැනීමේ, සමගි කිරීමේ ආශාවෙන් පිරි උවමනාවක් සහ උණුසුම් හැඟීමක් ඇති හදවතක් බිහිවිය.

"හැම රටකම කම්කරුවෝ හිස ඔසවා නැගිට, ස්ථිර අදිටනකින් යුතුව 'ඔය ඇති නවත්තපල්ලා' යැයි කියන දවසක් එවි. මෙවැනි ජීවිතයක තවත් දුර් උහුලන්ට බැහැ!" යැයි තීරණාත්මක ලෙස සෝෆියා කීවාය. "අන්න එදට උන්ගෙ කැදර කමට වඩා වැඩි බල වේගයක් ඇවිත්, උන් සදහටම බලයෙන් පහ කර දමාවි. එවිට උන්ට එල්ලෙන්ට වැල් පවා නැතිව විනාශවී යනවා. ඇති..."

"ඒ විදියටම සිද්ද වේවි!" යැයි කී රිබින් හිස වැනුවේය. "ඔය නැතිව ඉදිරියට ගියොත් හැම දෙයක්ම මැඩ ජය ලබාගන්න පුළුවනි!"

බැම සහල ඉහළට ඔසවාගෙන මුහුණ පුරා ප්‍රීතියෙන් පිනාගිය සිනා රැල්ලක් සහිතව අම්මා සවන් දුන්නාය. සෝෆියා වෙත තිබූ අමතර දැඩි ගතිගුණද, හඬැති වදන්ද, සංවරයෙන් තොර වූ ගමනද මේ ආදී සියල්ලක්ම ඇගේ උණුසුම් ළයාන්විත සිත් ගන්නා සුලු කතාවට යටවී ගිලී ගිය සැටි අම්මාට යසට පෙනිණි. රාත්‍රී නිහඬතාවයද, ගිනි මැලය හා සෝෆියාගේ මුහුණද ඒ හැමටම වඩා ගොවීන්ගේ සවන්දීමද ඇ සිත් ගත්තාය. නිහඬව ගල් රූ මෙන් වාඩිවී ඔවුහු කතාවට බාධා වේදෝ යන බියෙන් ඇසි පිය පවා නොහෙළමින් සිටියාහ. ඉඳ හිට එකෙක් ගිනි මැලයට දර කෑල්ලක් දමන්නේද ප්‍රවේශමිනි. එවිට ගිනි මැලයේ ගිනි දළු දිප්තිමත් වෙයි, දුම් නගියි. කාන්තාවන් දෙදෙනා වෙත ළංවෙන දුම් වළාවක් තවෙ'කෙක් වළකාලන්නේ අතක් වනමිනි.

එක් වතාවකදී නැගී සිටි යාකොව් කොඳුරමින් මෙසේ කීවේය:

"කතාව පොඩ්ඩකට නවත්වන්න..."

පැලට දුවගිය හෙතෙම කබා හා රෙදි දෙකක් ගෙනවිත් කාන්තාවන් දෙදෙනාගේ දෙපා හා උරහිස් වැසුවේය. ඉග්නාත්ද ඔහුට එය කිරීමට උදව්



දුන්නේය. මිනිසුන් තුළට ආත්මවිශ්වාසය හා වද්දමින්, පුරා කන්නන්ගේ අමන සිතැගියාවන් සපුරාලීම සඳහා ශ්‍රමය වැය කර ජීවිත පුද කරන්නන් සමගිවී නැගිට පොදු සටන් කරන සැටි ඈ විස්තර කළේ සිත් සතන් පුබුදුවා ලමිනි. සෝෆියාගේ වචන අම්මා තුළ හැඟීමක් ඇති නොකළේය. අන්තරාවේදී ශ්‍රමය නැමති යදම්වලින් බැඳ තිබෙන මිනිසුන් වෙත යන විප්ලවවාදී වීරයන් තමන්ගේ අවංක බුද්ධිය හා සත්‍යය දැන ගැනීමේ පිරිසුදු චේතනාව උපයෝගී කර ගිනිමින්. සටන් මෙහෙයවන සැටි මහැසින් දකින අම්මා ඔවුන් වෙත නිහඬව කෘතඥතාවය පළ කළාය.

"දෙවියනේ පිහිට වන්න!" යැයි නොත් වසාගෙන ඇ පැතුවාය.

අරුණෝදය වැටෙත්ම විඩාපත්ව සිටි සෝෆියා කතාව නවත්වා තමාට සවන්දී සිටියවුන් දෙස බලමින් මඳ සිනා පැවාය.

"අපට යෑමට වේලාව හරි!" අම්මා කීවාය.

"ඔව්" යැයි සෝෆියා විඩාපත්ව පිළිතුරු දුන්නාය.

එක් තරුණයෙක් හඬ නගා සුසුමක් හෙළීය.

"ඔයගොල්ල යන එක ගැන කණගාටුයි!" තමාට නුපුරුදු මුදු හඬකින් රිබින් කතා කළේය. "ඔබ හොඳට කතාව කීවා! මිනිස්සු අතර මිත්‍රත්වය ඇතිකිරීම ලොකු දෙයක්! ඔන්න, ලක්ෂ ගණන් මිනිස්සු අප හිතන දේම හිතන කොට හදවත බොහොම කරුණාවන් වෙනව. ඔවැනි කරුණා මෛත්‍රිය මහ විශාලබලයක්!"

"අපි ඔවුන්ට දයාව පෙන්වනකොට උන් අපට අනිවි." යැයි හරස්ව උත්තර දුන් යෙපිම් සිටගෙන මෙසේද කීය: "මේ අයට යන්ට ඕනෑ මිහයිල් මාමේ. අනිත් අයට පේන්ට ඉස්සෙල්ලා යන්ට ඕන. පොත් බෙදන විට ලොක්කන්ට ඒවා ලැබුනාම, කියාවි මතකැ වන්දනා කාරියො දෙදෙනෙක් ආවා කියල..."

"අම්මෙ, උඹට බොහොම ස්තූතියි," රිබින් යෙපිම්ගෙ අදහසට මැදිහත් වෙමින් කීය. "උඹ දිහා බලමින් මම පාවෙල් ගැන මතක් කරනවා, අම්මේ, උඹ හරිමග යනව!"

රිබින් එසේ කියමින් කරුණාබර සිනාවක් පෑවේය. පසුව පෙනෙනා සේ කමිසයක් ඔහු හැද සිටියේ ප්‍රණීත බව විඳිදු වමිනි. ඔහුගේ යෝධමය දේහය දෙස බලන්නී අම්මා ළයාන්විත උපදෙස දුන්නාය:

"සීතල නෙව! මොනවා හරි ඇද ගනින්කො..."

"හිත ඇතුළෙ ගින්දර!" ඔහු කීවේය.

ගිනි මැලය අසල සිටි තිදෙනා සෙමින් සාකච්ඡා කළෝය. රෝගියා හිම කඩායක් පොරවාගෙන නිදයි. අහස මළානිකය, සෙවණැලි අතුරුදහන් වේ. හිරු බලාපොරොත්තුවෙන් ගස්වල කොළ සෙලවේ.

''ආයුබෝවන්!'' යැයි සෝපියට ආචාර කළ රිබින් ඇගෙන් මෙසේ ඇසුවේය: ''කොහොමද ඔයගොල්ලව නැවත නගරෙදි හමුබවෙන්නෙ?''

''උවමනා විටෙක උඹ මාව සොයා වරෙන්!'' යැයි අම්මා පිළිතුරු දුන්නාය.

ගැටවරයෝ පෙළ ගැසී සෝපියා වෙත ගොස් අතට'ත දී ආචාර කොට සමු ගත්හ. ඔවුන් තුළ කෘතඥතාවයත්, තෘප්තියත්, මිත්‍ර සුහද හැඟීමකුත් පහළ වූ නිසාම කුලෑටිකමත් ඉස්මතු වී පෙනෙන්ට විය. කෝඩුකාරයින් වූ ඔවුහු නිදිමැරීම නිසා රත් පැහැගත් තම ඇස්වලින් ඇය දෙස බලමින් ලජ්ජා වූ කලෙක මෙන් මඳ සිනා පා සෙමින් ඇත් වූහ.

''කිරි දුන් බොනවද ගමනට ගෙනියනවද?'' යි යාකොව් ඇසුවේය.

''කිරි ඉතුරුවෙලා තියෙනවද?'' යෙපිම් ප්‍රශ්න කළේය.

ලජ්ජාවට පත් ඉග්නාත් හිස සොලවමින් කොඳුළේය:

''කිරි ටික මගේ අතින් හැලුනා...''

තිදෙනාම එකවර සිනාසුණහ.

කිරි ගැන කතා කළද, ඔවුන් තිදෙනා සෝපියාට සහ තමාට මහත් සේ කෘතඥතාවය පළකරන සැටි අම්මාට පෙනේ. ඔවුන්ගේ හැඟීම් දකින සෝපියා මඳක් ලජ්ජාවට පත්වූවාක් මෙන් සිනාසී, අවංක පිරිසිදු හදවතින් පැන නැගි හැඟීම් කියාපාන්නී, ඔවුන් අමතා මෙසේ කීවාය:

''බොහොම ස්තුතියි, සහෝදරවරුනි!''

ඒ වචන තමන්ගේ හිත තුළට කා වැදී ගියාක් මෙන් ඔවුහු එක්නෙකා දෙස බැලූහ.

රෝගියා කහින ශබ්දය ඇසිණි. ගිනිමැලය නිවී ගියේය.

''ආයුබෝවන්!'' යැයි පහත් හඩින් මිනිස්සු කාන්තාවන් අමතා කීහ. ඒ කණගාටු දයක වචන ඉවත්ව යන කාන්තාවන් සමග බොහෝ දුර ගියාක් මෙනි.

අරුණෝදයේ කණ මැදිරි එළිය පැතිරයත්ම, කැළෑවේ අඩිපාරක් ඔස්සේ කතුන් දෙදෙනා සෙමින් ගමන් කරන්ට වූහ. සෝපියා පස්සෙන් ගමන්ගත් අම්මා මෙසේ කීවාය:

''කොතරම් හොඳද, හරියට ලස්සන සිහිනයක් වගෙ, ඒ තරම් අපූරුයි. මගෙ හොඳ යෙහෙළියේ, මිනිස්සු ඇත්ත දැන ගැනීමට හරි අසාවෙන් ඉන්නවා! හරියට මංගල්ලෙ දවසක උදේ පූජාව පටන්ගන්ට ඉස්සෙල්ල පල්ලියට ඇවිත් ඉන්න ජනයාට සමානයි... තවම සුවාමි ඇවිත් නැහැ. පල්ලිය අඳුරුයි, නිහඬයි, බියජනකයි. මිනිස්සු දෙවමැදුරට එන්ට පටන්අරගෙන... ළඟ තිබෙන ඉටිපන්දම් දල්වාවි. එතකොට උණුසුම් වෙනවා. කෙමෙන් අඳුර එළවා දමලා දේව මැදුර එළිය ලබනවා.''



''ඇත්ත! හැබයි, අපෙ දේව මැදුර තමා මුළු ලෝකය!'' සෝපියා පහන් සිතින් පිළිතුරු දුන්නාය.

''මුළු ලෝකය!'' හිස වනමින් අම්මා සෝපියා අනුකරණය කළාය. ''හිතන්ට බැරි තරම් අමාරුයි, එතරම් හොඳයි... ඔයා, හරිම අගේට කතා කළා. අපූරු කතාව... මම බය වුණා, ඒ ගොල්ල ඔයා කෙරෙහි අමනාප වේවි කියල''.

තරමක් නිහඬව සිටි සෝපියා බැරෑරුම් ලෙස පිළිතුරු දුන්නාය:

''ඒ ගොල්ල එක්ක ලේසියි...''

ඔවුහු රිබින් ගැනත්, රෝගියා සහ තරුණයින් ගැනත් තමන් වෙත දැක්වූ දයාව හා සැලකිලි ගැනත් කෘතඥතා පූර්වකව සිහි කරමින් ගමන් ගත්හ. කැළෑ මග ගෙවා ඔවුන් දෙදෙනා කෙතක් හරහා ගමන් කරත්ම උදැසන හිරු නැගෙන්නට විය. පියවි ඇසින් හිරු නොදුටුවද ඔහුගේ තේජාන්විත රැස් ලා රතු පැහැයෙන් බැබළෙන්ට විය. තණ පිස්සක පිනි බින්දු හිරු රැස් ලැබ වෛවර්ණ පාටවලින් දිලිසිණි. උදය ගීත නාදයෙන් පුරවමින් කුරුල්ලෝ අවදි වූහ. තරබාරු කපුටෝ 'කාක්, කාක්' ගාමින් අත් අඩු විහිද අමාරුවෙන් ඉගිලෙති. ලිහිණියෙක් අනතුරු හඟවන හඬක් පතුරුවා හැරියේය. ඈත කඳුවල සෙවණැලි හිරු රැස්වලට අසුව අතුරුදහන් විය.

''සමහර වෙලාවට කොපමණ කතා කළත්, කියන දේ තේරුම්ගන්ට බැහැ. හිටි හැටියෙ වාම් වචනයක් දෙකක් කී විගසම එක වරම ඔහුගේ අදහස තේරුම්ගන්ට පුළුවනි!'' යි අම්මා කල්පනාකාරී ලෙස තෙපළාය. ''අර ලෙඩාගෙ කතාවත් ඒ වගේමයි. පැක්ටරිවල කම්කරුවො විඳින දුක ගැන. මා දන්නවා. ඒ වගේම අහල තියෙනවා. ඒ හැඟීමට පුරුදු වුණාම හදවතට රිදීමක් නෑ. ඒ වුණාට එයාගෙ කතාව කොතරම් වේදනාවක් ඇති කළාද, දෙවියෝ පිහිට වෙන්ට ඕනා! මිනිස්සු පණ පුදු වැඩ කරන්නෙ හාම්පුතාගෙ අපහාස නින්ද ලබා ගන්ටද? ඒක මහ අපරාධයක් නෙව!''

අම්මා ඒ කතාව ගැන නැවත කල්පනා කරන්ට වන්නී, තමා දැන සිටි එහෙත් අමතකව තිබුණු එවැනිම සිද්ධීන් ගැන, තම නොතියුණු බුද්ධිය මෙහෙයවමින් නිගමනයන් කිරීමට ඉදිරිපත් වූවාය.

හාම් පුතුන් තමන්ගේ බඩ කට පුරවාගෙන සැහීමට පත් වෙන්නෙ නැහැ. එක මුහන්දිරම් කෙනෙක් ගම්මු ලවා එයාගෙ අශ්වයාට ඔළුව නමලා ආචාර කරන ලෙස අණ කළ හැටි මට මතකයි. එහෙම නොකළ අය හිරබාරයට ගත්තා. ඒ මිනිහට එය උවමනා වුණේ කුමටද? ඒ මිනිහා එහෙම කළේ ඇයිද කියල තේරුම් ගන්ට බැහැ!''

උදැසන තරම් ප්‍රණීත ගියක් සෝපියා සෙමින් ගයන්නට වූවාය.

## VII

නීලව්නාගේ දිවිය ගෙවුණේ ශාන්ත ලෙසය. ඒ ශාන්ත බව ඇ පුදුමයට පත් කළාය. හිරේ වැටී සිටින පුතාට ලැබෙන නඩු තීන්දුව ඉතා බරපතල බව ඇ දැන සිටියාය. එහෙත් ඒ ගැන තමා සිතන හැම වාරයකදීම අම්මාගේ මනැස ඉදිරියේ අන්ද්‍රේ, පියෝද්‍ර් ආදීන්ගේ දිගැති නම් පේලිය මැවෙයි, සගයන් සමග එකම ඉරණමකට මුණ පා සිටින පුතාගේ සේයාව ඇය ඉදිරියෙහි මැවී ගුප්ත හැඟීමක් ඇතිකරවා ලයි. කෙමෙන් එම හැඟීම පැතිර ගොස් පාවෙල් ගැන සිතීමට ඇගේ සිත පොළඹවාලයි. ආලෝක ධාරා මෙන් දසත විසිර යන එම හැඟීම, හැම දෙයක්ම කලතා එකට කැටි කොට ගැනීමට ඉඩ දෙන අතර, කිසියම් තැනෙක රැඳී සිටීමට බාධා කරයි. පුතා පිළිබඳ සංකාවන් ඇතිකර ගැනීමට හෝ ඔහුගේ ඉරණම පිළිබඳ බිය ඇතිවීමට හෝ බාධා කරයි.

කොහේදෝ දුර ගමනක් ගිය සෝපියා දවස් පහකට පසු නැවත ගෙදර ආවේ ප්‍රීතියෙනි. එහෙත් පැය කිපයකින් අතුරුදහන් වූ ඇ නැවත ආවේ සති දෙකකට පසුය. ජීවිතයේ පළල් මහ ඔස්සේ ගමන්කරන ඇ ගෙදර එන්නේ, මල්ලි දැක බලාගෙන ගෙදර තුටු බවෙන් හා සංගීතයෙන් පුරවාලීමට මෙනි.

අම්මාගේ හිත සංගීතය වෙත ඇදී ගියේය. නාදයන් වරෙක හදවත තුළට කා වැදෙන සැටි ඇට දනේ. ගීතමය තරංග, පෝරුගා වතුර ද සකස්කරන ලද සරු බිමකට වැටෙන වී ඇටයක් මෙන් ඉක්මනින් වැඩී නැගී සිට රන් වන් කරල් ලබා දෙන්නාක් මෙනි.

තමන්ගේ ඇඳුම්, සිගරැට් කොට, සිගරැට් අළු හැම තැනම විසි කරමින් හා හඬ නගා කතා කරමින් හැසිරෙන සෝපියාගේ දඟකාරී සිරිත්වලට අම්මාට පුරුදු වීම ලෙහෙසි නොවිය. කලබලයෙන් තොරව, ආත්ම ශක්තියෙන් යුතුව මුදු ගුණයෙන් හා බරපතල වචන කීමෙහි චරිතයක් ඇති නිකොලායි සමග සෝපියා සසඳා බලන විට අහසට පොළොව මෙනි. මෙරු ගැහැණියක් ලෙස පෙනී සිටීමට දඟලන, සෙල්ලම් බඩු කෙරෙහි දක්වන කුතුහලයකින් යුතුව මිනිසුන් දෙස බලන සෝපියා ගැවිස්සියක් පමණකැයි අම්මා සිතයි. ශ්‍රමය අපරිමිත ශුද්ධ වූ වස්තුවක් ලෙස සැලකූ ඇ අම්මා තමා නිසා වැය කරන ශ්‍රමය අතිශයෝක්තියෙන් වැනුවාය. නිදහස ගැන බොහෝ දේ කතා කළ ඇ සදකාලික තර්කවලට ඉදිරිපත් වෙමින් අම්මාට පවා හැඟියන සේ ඉවසිලි රහිත වූවාය. ඇගේ චරිතයේ පරස්පර විරෝධී අංග බොහෝය. ඒවා දකින අම්මා ඇ කෙරෙහි දක්වූයේ දැඩි ප්‍රවේසම් කාරී බවකි, විශෙෂ සැලකිල්ලකි. නිකොලායි



වෙත අම්මා දක්වන ළයාන්විත උණුසුම් සැලකිල්ලට මෙය සමාන නොවේ.

තමා ගැන වැඩි සැලකිල්ලක් නොදක්වා දිනපතා ඒකතානමය ජීවිතයක් ගෙවන්නෙකි නිකොලායි. උදේ අටට තේ බොන හේ දිනපතා පුවත් පත් කියවා අම්මාට තොරතුරු දන්වයි. ඒ පුවත් අසන අම්මා මිනිසුන් තලා පෙලා මිරිකා, අනුකම්පා රහිතව මුදල් ගරා ගන්නා සැටි සක්සුදක් සේ පැහැදිලිව දක්නාය. නිකොලායි අන්ද්‍රේට සමාන අදහස් දරන බව අම්මාට පෙනේ. ඔහුද හොහොල් මෙන් කෝපයෙන් තොරව ජනතාව ගැන කියයි. වත්මන් සමාජය පැන නැග තිබෙන්නේ සියලුම මිනිසුන්ගේ මෝඩකම් වල විපාක ඵලයක් වශයෙනැයි සිතයි. එහෙත් නව සමාජයක් ඇතිවේය යන විශ්වාසය අන්ද්‍රේගේ මෙන් ඔහු තුළ උණුසුම්ව හා පැහැදිලිව නොවිය. නිකොලායි කතා කළේ අවංක හැඟීමෙකින් හා සාධාරණ නඩුකාරයකු ලෙස තැන්පත් ගතියකින් යුතුවය. ඉතාම බිහිසුණු දේ ගැන කියන විට පවා ඔහුගේ මුවෙහි නිතර රැඳි සිනාරැල්ල අතුරුදහන් නොවිය. ඔහුගේ ඇස්වල තියුණු බව වෙනස් නොවිය. ඔහුගේ නෙත්වල පැහැය දකින අම්මා, ඔහු කිසි කෙනෙකුට හෝ කිසි දෙයකට හෝ සමාව දෙන මාදිලියේ පුද්ගලයෙකු නොවන බව සිතා ගත්තී, එවැනි තද ගතියක් නිසා නිකොලායි දුක් ගැහැට වලට මුණ පාන බැවින් ඔහුට අනුකම්පා කළාය. ඒ කොයි හැටි වුවද ඔහු ඇගේ සිත් ගත්තේය.

දිනපතා උදේ නවයට නිකොලායි කාර්යාලයට යයි. අම්මා ගෙදර දොර අතුගා පිරිසුදු කොට, දවල් ආහාරයද පිළියෙළ කොට මුහුණ-කට සෝදාඅළුත් ගවුමක් හැඳගෙන, තමාගේ කාමරයට වැද සඟරා සහ පොත්වල තිබෙන පින්තූර බැලීමට පටන් ගනී. ඇයට දැන් අකුරු කියවීමට හැකි වුවද, එය විශාල මහන්සියක් ගෙන දෙන කාරියක් බැවින්ද, අමාරුවෙන් වගන්තියක් කියවූ පසු සියලුම වචන ගැළපීම දුෂ්කර කාරියක් බැවින්ද කියවූ දැය තේරුම් ගැනීම අපහසු කාරියක් විය. දරියක් මෙන් පින්තූර දෙස බලමින් පිටු පෙරලන ඇය ලැබුවේ විශාල සන්තෝෂයකි. තමන් ඉදිරියේ අළුත්, අරුම පුදුම ලෝකයක් පින්තූර මවා පෙන්වන බව ඇගේ අවබෝධය විය. විශාල නගර, මනහර ගොඩනැගිලි, යන්ත්‍ර සූත්‍ර, නැව්, සිහිවටන, ආදී මිනිස් ශ්‍රමය විසින් ගොඩනගන ලද අසීමිත ධනසම්භාරය සහ සොබාදහමේ, බුද්ධිය පරයන සුන්දර නිර්මාණයන්ද ඇ වෙලා ගත්තාය. දිනෙන් දින ඇගේ දැනීම පුළුල් විය. ඇය ඉදිරියේ මින් පෙර නොදුටු විරූ, නොවූ විරූ අපූරු මනහර ධන සම්භාරයක් ඇතිවී, ඇගේ මනදෙල සපුරාලිය. සත්ත්ව විද්‍යාවට අයත් සිතියම්, රූප සහ වස්තුවල පින්තූර බැලීමට, ඇ විශේෂයෙන්ම ආශා

කළාය. ඒ පොත් විදේශීය බසකින් මුද්‍රණය කර තිබුණද මහ පොළොවේ ධනය සහ අලංකාරය පැහැදිලි ලෙස ඉන් බලා ගත හැකිවිය.

"මහ පොළොව හරි විශාලයි!" ඈ නිකොලායිට කිවාය.

අන් හැම දේටම වඩා ඇගේ සිත් ගත්තේ කෘමි සතුන්ගේ සහ සමතල සිත්ගේ රූපය. විස්මය පත්ව ඒවා දෙස බලන අම්මා නිගමනයන් කළාය:

"කොතරම් ලස්සනද, නිකොලායි ඉවානවිච්, ආ! මේ මහ පොළොවේ කොපමණ අපූරුදේවල් තියෙනවද, ඒවා ගැන අපට දැනගන්ට ලැබෙන්නේවත් නැහැ නෙව. මිනිස්සු කොතරම් දුක් විඳිනවද, ඔවුන් කිසි දෙයක් ගැන දන්නේවත් සතුටු වන්නේවත් නැහැ. එක්කෝ ඒ ගොල්ලන්ට ඒවට වේලාවක් නැහැ, නැතිනම් ආසාවක් නැහැ. මහ පොළොවේ පොහොසත්කම ගැනත්, එහි අපූරු ජීවිත ගැනත් දැන ගැනීමෙන් කොතරම් විශාල ප්‍රීතියක් ඇතිවෙනවද. හැම දෙයක්ම හැම දෙනාටම, හැම එකෙක්ම සඳහා! එහෙම නේද?" අම්මා ඇසුවාය.

"සත්තකින්ම!" යැයි සිනාසෙසමින් කී නිකොලායි පසුව තවත් පිංතූර පොත් ගෙනාවේය.

සවස් වෙත්ම නිකොලායි හමුවීමට අමුත්තෝ එති. මළානික මුහුණක්, සහිත කළු පැහැති යටි රැවුලකින් හෙබි අලෙක්සේයි වසිල්යෙවිච් කඩවසම් ය, නිහඬය. වටකුරු හිසක් ඇති රොමාන් පෙට්රෝවිච් නිතරම තොල් උල්කරගෙන තලු මරයි. ඉවාන් දනීලවිච් පුංචිය, සිහින්ය, ඔහුගේ යටි රැවුළ උල්ය. ඉඳිකටුවක් මෙන් තියුණු ඔහුගේ සිහින් කටහඬ ප්‍රකෝපකාරිය. යෙගෝර්, වැඩිවෙමින් පවතින තම රොගය ගැනත්, තමා ගැනත් සගයින් ගැනත් උපහාස කතා ගෙතීමෙහි හපනෙකි. මේ හැර නොයෙකුත් ඈත නගරවලින් පැමිණෙන අයද වූහ. නිකොලායි ඔවුන් සමග දීර්ඝ සාකච්ඡා කළේය. හැම සාකච්ඡාවකම මාතෘකාව එකකි — ලෝකයේ කම්කරුවන් ගැනය. ඔවුහු අත් ඔසවමින් හා සොලවමින් වාද විවාද කරති. සැහෙන්ට තේ බොති. සමහර දවස්වලදී උණුසුම් විවාද සිදුවෙන අතරේදී නිකොලායි දැන්වීමක් හෝ ප්‍රකාශනයක් හෝ ලියයි, පසුව එය සගයින්ට ඇසෙන සේ කියවයි. ඔවුහු ඒවා සැණෙකින් පිටපත් කරගනිති. කටු සටහන් හා මුල් පිටපත ඉතා ප්‍රවේසමින් එකතු කරන අම්මා පරීක්ෂාකාරී ලෙස ඒවා ගිනිබත් කළාය.

කම්කරු ජීවිතය ගැන ඔවුන් කතා කළ උණුසුම් ආකාරයද, කම්කරුවන්ට තේරුම් යන පරිදි සහ ඔවුන්ගේ සිත් ප්‍රමොද වන පරිදි වේගයෙන් වැඩ කළ යුතු ආකාරය ගැනද, තේ සාදමින් සිටි අම්මා



අසාගෙන සිටියා ය. නිතර කෝපවන ඔවුහු එකිනෙකාට එදිරිව දෙස් පවරා ගනිමින් බැන ගනිති, අමනාප වී සිට නැවතත් වාද කරති.

ඒ මිනිසුන්ට වඩා හොඳට තමා කම්කරු ජීවිතය හඳුණන බව ඈට සිතේ. ඒ නිසා ඔවුන් බාරගෙන තිබෙන කාරියේ බරපතල බව ඈට වඩ හොඳින් දැනේ. අම්මා ඔවුන් දෙස බලන්නේ ළමයින් දෙස වැඩිහිටියෙක් බලන ආකාරයටය. ඔවුන්ගේ වැඩ නියම සබඳකම් නොදන්නා ළමා ළපටියන්ගේ 'සැමියා' — 'බිරිඳ' ක්‍රීඩාව මෙන් සෝකාන්විත රඟුමකට සමාන යැයි ඈ සිතයි. ඔවුන්ගේ කතා තම පුතාගේ සහ අන්ද්‍රේගේ කතාවලට ඈ සම කරන්නී, එම කතාවල වෙනස සසඳා බැලුවද මුලදී එහි වෙනස තෝරා ගැනීමෙහි අපොහොසත් වූවාය. කම්කරු ජනපදයේ තම ගෙදර රැස්වූවන් කෑ ගැසුවාට වඩා වැඩියෙන් මෙහිදී කෑ ගසන සැටි දකින ඈ, එසේ වීමට හේතුව මේ යැයි සිතාගත්තාය:

"වැඩියෙන් දන්නවා හයියෙන් කෑ ගහනවා..."

මෙසේ කෑ ගහන උදවිය උවමනාවෙන්ම කෝප වී අනුන් තුළටද එම කෝපය වද්දවා, අනිත් අයට වඩා තමන් සත්‍යයට ළංවී සිටින බව පෙන්වීමට උත්සාහ දරණ බව 'ඈට පෙනී ගිය වාර අපමණය. අනිත් උදවිය එයින් වඩාත් අමනාප වී තමන් වඩාත් ඇත්තට ළංවී සිටින බව ඔප්පු කරමින් තියුණු හා රළු ලෙස වාද විවාද කරති. හැම එකෙක්ම අනිකා පරදවා නැගී සිටීමට උත්සාහ දරන සැටි දකින අම්මා තුළ කනස්සලු බවක් පැන නගී. ඇහි බැම උස්සාගෙන ඔවුන් දෙස අනුකම්පා සහගත බැල්මක් හෙළන ඇය මෙසේ සිතයි:

"පාෂා සහ එයාගෙ සගයින්ව අමතක කරල දමලා..."

තමාට නොතේරුණද වාද විවාදවලට ඈ සවන් දුන්නේ මහත් උවමනාවකිනි. එහි හැඟීම් සොයන ඇයට, කම්කරු ජනපදයේ වාද විවාදවලදී කරුණාව ගැන සඳහන් කළේ සම්පූර්ණ හා අඛණ්ඩ ලෙස වුවද, මෙහිදී එය කැබලිවලට කඩා වෙන් කරන සැටි පෙනී යයි. එහිදී ගැඹුරු හා ශක්තිමත් ලෙස හැඟී ගිය දෙයක් මෙහිදී තියුණු හා බුද්ධිය විනිවිද යන සැටියකින් පෙනේ. මෙහි රැස්වන අය වැඩිය කතා කළේ පැරණි ලෝකය විනාශ කිරීම ගැනය. ඒ නිසාම අන්ද්‍රේගේ සහ පුතාගේ කතා වඩාත් තේරුම් ගත හැකි පැහැදිලි ඒවා විය.

කම්කරුවෙකු නිකොලායි වෙත පැමිණි විට ඔහු ප්‍රීතියෙන් ඉපිල යන සැටි ඈ දකී. ඔහුගේ මුහුණේ සිනා රැල්ලක් මතුවෙයි. හේ වඩාත් රළු ලෙස හෝ වඩාත් පරීක්ෂාකාරී ලෙස කතා කරයි.

"එයාව අවබොධ කරගැනීමට උත්සාහ කරනව වෙන්ට ඇති!" යැයි අම්මා සිතා ගත්තාය.

එයින් ඇ සැහීමට පත් නුවාය. කම්කරු අමුත්තාට උවමනා වචන සොයා ගැනීමට බැරිව ළතැවෙන සැටි ඈ දකී. වාම ස්ත්‍රියක් වූ තමා සමග කතා කරන විටදී මෙන් කම්කරුවා සොබාවික ලෙස ආයාසයකින් තොරව නිකොලායි සමග කතා නොකරයි. නිකොලායි ගෙදර නැති දවසක ගෙදරට ආ තරුණියෙකු අම්මා දුටුවාය:

"මොකෝ උඹ ලජ්ජා වෙන්නෙ? පාඩම් විභාගයට ඉඳගත්ත ළමයෙක් නෙවි..."

ඔහු කට පළල් කර සිනාසුණේය;

"පුරුදු නැති වුණාම ඉස්සා වුණත් ලජ්ජාවෙන් රතු වෙනවා. කොහොම වුණත් එක කුස උපන් සහෝදරයෙක් නොවේ, නෙව..."

සාෂෙන්කා ඉඳ හිට මෙහි ආවද වැඩි වේලාවක් ගත නොකරයි. නිතර තම කටයුතුවලට පමණක් සීමා වෙමින් කතා බහ කරන ඇය පිටත්ව යමින් අම්මා අමතන්නීය:

"කොහොමද පාවෙල් මිඛායිලවිච්, සනීපයෙන්ද?"

'දෙවියන්ගෙ පිහිටයි, එයා හොඳින් ඉන්නවා," අම්මා පිළිතුරු දුන්නාය.

"මගෙ සුභපැතුම් භාර දෙන්න!" යැයි කියන තරුණිය අතුරුදහන්වී යයි.

සමහර විට අම්මා ඇට කතා කරමින්, පාවෙල් නිකරුනේ හිරගෙදර තබාගෙන ඉන්නා බවත් නඩු දැමීම අතපසු කරන බවත් කියයි. බුම්මාගෙන නිහඬව ඉන්නා සාෂෙන්කාගේ අත්වල ඇඟිලි වෙව්ලන සැටි ඇට පෙනේ.

එවිට නිලව්නාගේ හිත තමාටම මෙසේ කියා ගනී:

"අනේ මගේ ලස්සන කෙල්ලෙ, මම දන්නවා උඹ එයාට ආලය කරන බව..."

තරුණියගේ තියුණු මුහුණත්, තදින් වැසුණු දත් පෙළ සහ කටත් තම කාරියට පමණක් සීමා වූ වචනත්, නිසා ඇය අමතා සුරතල් බස් නොකීමට අම්මා තීරණය කළාය. දිග සුසුමක් හෙළන අම්මා නිහඬව, අත දෙන අතර කල්පනා කළාය:

"අනේ හරිම අවාසනාවන්තියක්..."

දවසක් ද නතාෂා පැමිණියාය. අම්මා දුටු ඇය බෙහෙවින් සතුටුව සිප වැළඳ ගනිමින් සෙමින් මෙසේ තෙපළාය:

"මගේ අම්මා මළා, අනේ දුප්පත් මගෙ අම්මා!.."

හිස වනා කඳුළු පිසදමා ගනිමින් ඈ දිගටම කතා කළාය.

"මට හරිම කණගාටුයි. එයා මැරෙණකොට වයස අවුරුදු පනහටත් අඩුයි. ඈ තව කාලයක් ජීවත්විය යුතුව තිබුණා. අනිත් පැත්තෙන් බලන



විට ඇට ජීවත් වනවාට වඩා මරණය ලේසියි. හැමදම තනිවෙලා උන්නෙ. හැම දෙනාම එයාව කොන් කළා. එයා තාත්තට බයවෙලා හිටියෙ. ඒකත් ජීවිතයක්ද? හොඳක් බලාපොරොත්තුවෙන් ජීවත් වුණා නමුත් සිත් රිදවීම හැර අන් කිසිවක් නැහැ..."

"නතාෂා කියනෙ ඇත්ත!" විමසිලිවත් ලෙස බලමින් අම්මා කීවාය. "හොඳක් බලාපොපොරොත්තු වෙමින් ජීවත් වෙනවා, හොඳක් වෙන්නේ නැතිනම්?" තරුණියගේ අත පිරිමදිමින් ඇ මුදු ලෙස ඇසුවාය: "ඔයා දූත් තනි වෙලා නෙවද?"

"ඔව්, තනියම!" නතාෂා ලෙහෙසියෙන් පිළිතුරු දුන්නාය.

මද සිනාවක් පෑ අම්මා නිහඬව සිට මෙසේ කීවාය:

"කමක් නැහැ! හොඳ අය හැමදම තනිවෙලා ඉන්නේ නෑ ඒ අයට මිනිස්සු ඇදී එනවා..."

## VIII

රෙදිමෝල්ක ගුරුවරියක් ලෙස නතාෂා සේවයට බැඳුණාය. නිලව්නා ඇය වෙත තහනම් කළ පොත්, ප්‍රකාශන හා පත්‍රිකාද නිතර ගෙනගියාය.

අම්මාගේ කාරිය එය ය. මාසයකට කිප වරක්ම ඇය වෙස් වළාගෙන මෙ වැඩවල යෙදුණාය වරෙක ඈ ආගමික නිකායක කන්‍යා සොහොයුරියක් මෙන් ඇඳ පැළඳගෙන යයි. තවත් වරෙක වෙළෙන්දියක් මෙන් භාජනයක් අතින් ගෙන ගමන් කරයි. පහළ මැද පන්තියක ගැහැණියක් මෙන්ද, වන්දනාකාරියක් මෙන්ද, මලු, බෑග් ආදිය ගෙන ගම් නියම් ගම් ගානේ ඇවිදියි. දුම්රිය මැදිරි, දුම් නැව්, හෝටල ආදී තැන්වලදී ඈ තැන්පත් ලෙස හැසුරුණාය. නාඳුනන මිනිසුන් සමග නොපැකිල කතා අරඹමින් සල්ලාපයෙහි යෙදුණාය. තමාගේ දයාන්විත වචන නිසාද, විනීත හැසිරීම නිසාද, බොහෝ දේ දැක අසා තිබෙන කෙනෙකු සේ ආත්ම විශ්වසයකින් යුතුව හැසිරෙන නිසාද අම්මා දුටුවන් සිත් දිනා ගත්තාය.

මිනිසුන් සමග කතා කිරීමටද, ඔවුන්ගේ ජීවන පුවත් ගැන කතා ඇසීමටද පැමිණිලි සහ අදහස් දැන ගැනීමටද ඈ ආශා කළාය. තියුණු ලෙස නොසතුටට පත්වී සිටින මිනිසෙකු දකිනවිට ඈ තුළ හටගන්නේ සන්තෝෂයකි. ඉරණමට එදිරිව නැගී සිට බුද්ධිය උපයෝගී කර ගනිමින් පිළිතුරු සොයන මිනිසෙකු දුටු විට ඈ සිත ප්‍රබෝධමත් වෙයි. එවිට ඈ ඉදිරිපිට ජීවන ජවනිකාව — බියාදුකම, අනතුරුදායක හැඟීම, බත්වේලක්

සඳහා ගෙනයන අරගලය ආදී මිනිස් ගති මැවී පෙනේ. මිනිසා රැවටීම සඳහා ගෙනයන නිරුවත්, රළු නින්දිත හැඟීමද, ඔහුගේ ලේ උරා බී තමාගේ වාසිය සඳහා මංකොල්ල කෑමේ අභිප්‍රායද හැම තැනම පෙනෙන්ට තිබේ. ලෝකය සොබාවික සම්පත්වලින් පිරී පවතිද්දී, හැමතැනම බඩසයින් පෙළෙන මිනිසුන් ජීවත්වන හැටි අම්මා දැක්කාය. නගරවල විශාල පල්ලි රත්තරන් හා රිදී ගොඩ ගසා ඇති අතර, පල්ලිවල දොරකඩවලට වී හිඟාකන්නෝ තඹ කාසියක් ලැබෙන තුරු නොඉවසිල්ලෙන් බලා සිටිති. ඒ පල්ලිවල තිබෙන ධන සම්භාරය දෙවියන්ට උවමනා නැත. ධනයෙන් පිරී ඉතිරී ගිය පල්ලි සහ රනින් කළ ඇඳුම්වලින් සැරසී පූජා පවත්වන පූජකයන්ද, වැරහැලි හැඳගෙන බඩ සයින් පෙළෙමින් මොරදෙන හිඟන්නද අම්මා මීට පෙර දැක තිබුණද, එය සොබාවික දර්ශනයන් ලෙස සිතා ගත්තාය. එහෙත් දැන් එය දුප්පතාට නින්ද ගෙන දෙන්නක් බවත් පල්ලිය ධනවතාට වඩාත් අවශ්‍ය හා කිට්ටු බවත් පිළිගත්තාය.

පින්තූරවල පෙනෙන ජේසු තුමා කතාවලින් අසා ඇති පරිදි වාම ඇඳුම ඇඳගත් කෙනෙක් මෙන්ම දුප්පතුන්ගේ මිතුරෙකි. එහෙත් දුප්පතුන් සැනසීම ලබාගැනීමට එන දේවස්ථානවල ජේසුතුමාගේ සුරුවම් සිල්ක් රෙදිවලින් හා රනින් පොරවා දුප්පත්කම පළවා හැර තිබේ. මෙය දකින අම්මාගේ හිත තුළ රිබින්ගේ කියමනක් පැනනගියි:

"දෙවියන්ව පෙන්වා අප රැවටුවා!"

කෙමෙන් ඈ ආගම ඇදහීම අඩුකළ නමුදු ජේසුතුමා ගැන වඩාත් ගැඹුරු ලෙස කල්පනා කරන්ට වූවාය. ඔහුගේ නාමය සඳහන් නොකර ඔහුගේ ප්‍රතිපත්ති අනුගමනය කරන, දුප්පතුන්ගේ රජය පොහොසත් කරවීම සඳහා මහ පොළොවේ ධන සම්භාරය සාධාරණ ලෙස බෙද හැරීමට ඇප කැප වී ජේසුතුමා අනුගමනය කරන කොටසක් ඉන්නා බව ඈට හැඟිණ. ඈ තුළ උපන් මේ අදහස කෙමෙන් ලියලන්ට විය. ඇගේ සිත කය බැඳ අල්ලාගෙන සිප වැළඳ ගත් එම අදහස පැහැදිලි යාඥවක් මෙන්, ලොව අඳුරු දුරු කරන ආලෝකයක් මෙන් මිනිස් ජීවිත ප්‍රබෝධමත් කරන සැටියකි, ඈට සිතෙන්නේ. සංකීර්ණ හැඟිම්කින් හා ආදරයකිනි අම්මා ජේසුස් වහන්සේට ගරු කළේ. බලාපොරොත්තුව සහ සෝකය මුසු බිය ඉදිරියේ ඈ දෙවියන් යැදුවාය. එහෙත් දැන් ඈට පෙණෙන ජේසු තුමා උසස්, වඩාත් කිට්ටු ප්‍රීතිමත්, ආලෝකමත්, තමන්ගේ නාමයෙන් නොමසුරුව ලේ පූජා කළ මිනිසුන් ඉදිරියේ මළවුන්ගෙන් නැගී සිටින කෙනෙකි. තම ගමන් බිමන් වලින් පසු අම්මා ගෙදර එන්නී මගදී හමුවූ මිනිසුන් සමග කළ කතා වලින්ද, දුටු දේ වලින්ද



සතුටට පත් වූවාය. සිය කාරිය සපුරාලීම නිසා සතුටු වන අම්මා නිකොලායි සමග කතා කරමින් මෙසේ කීවාය:

"හැම තැනම ගිහිං බොහෝ දේවල් දැක බලා ගැනීම ඉතාම හොඳයි. ජීවිතයෙ හැටි අවබෝධ වෙනවා. දුප්පත් බවේ අන්තයටම මිනිහාව තල්ලු කරලා දමලා. කැමැත්තෙන් හෝ අකමැත්තෙන් හෝ ඔහුට කල්පනා කරන්ට සිද්ද වෙනවා: ඇයි මාව එළවා දමන්නේ කියල. වවෙට හැම දෙයක්ම තියෙනවා, මම බඩගින්නෙ ඇයි? හැම තැනම දැනීම හා උගත්කම, ඒ වුණාට මම නූගත් මෝඩියෙක්මි? දුප්පත් පොහොසත් බේදය නොහඳුණන, සියලුම දරුවන්ට හදවතින් ඇළුම් කරන ඒ දෙවියෝ කෝ? ජීවන තත්ත්වයට එදිරිව නැගී සිට සටනට ඉදිරිපත් වෙන ජනතාවද ඉන්නවා. තමන් ගැන නොසිතුවොත් අසත්‍යය ගෙල මිරිකා දමන බව හැගේ!"

ජීවිතයේ අසාධාරණත්වය ජනතාවට හඳුන්වා දීමට තමා කතා කළ යුතුය යන හැඟීම නිතර අම්මාට හැඟෙන්ට වූ අතර ඒ හැඟීම යටපත් කර ගැනීම ඈට අමාරු කරුණක් විය...

පිංතූර පොත් ආශාවෙන් බලන අම්මා දකින නිකොලායි මඳ සිනා පාමින් ඈට අරුම පුදුම යමක් කියයි. මිනිසාගේ උත්තම කාරියන් ගැන අසා මවිතයට පත්වන අම්මා අවිශ්වාසයකින් මෙන් ප්‍රශ්න කරයි:

"ඒ වගේ දේවල් කරන්ට පුළුවන්ද?"

දැඩි නොසෙල්වෙන ආත්ම ශක්තියකින් යුතුව ඇත්ත පවසන සාස්තෘවරයෙකු සේ තම උපැස් යුවල විනිවිද අම්මා දෙස දයාන්විත බැල්මක් හෙළන නිකොලායි අනාගතය ගැන විස්තර කරයි:

"මිනිසාගේ ආශාවට, අභිප්‍රායට සීමාවක් නැහැ. මිනිස් ශක්තිය කිසි දවසක සිඳී යන්නේ නැහැ! ඒ වුණාට ලෝකය අධ්‍යාත්මික වශයෙන් වෙනස් වෙන්නේ සෙමින්. හේතුව මිනිහා තම ගැළවීම සඳහා දැනීම ගොඩ ගසනවා වෙනුවට සල්ලි ගොඩ ගැසීමයි. මිනිහා කෑදරකමින් මිදුණු දව, අකමැත්තෙන් කරන වැඩ වලින් මිදුනු දව..."

ඔහුගේ කතාව මුළුමනින්ම ඇයට නොතේරුණද, ඔහුගේ ස්ථිර, උපසාන්ත ලීලාව හා ජීවමය ගතිය නිසා ඈ ඒ කීම විශ්වාස කළාය.

"අද මහ පොළොවෙ අවංක මිනිස්සු ඉන්නෙ ටික දෙනෙක් විතරයි. එය හරිම අවාසනාවක්!" හේ කීවේය.

ඒ කීම ඇයට අවබොධ විය. කෑදරකමෙන් හා ක්‍රෝධයෙන්, විමුක්තිය ලැබූ දට බියකරු අඳුරු ජීවන ක්‍රමය වඩාත් වාම, ආලෝකමත්, දයාන්විත බවක් ගන්නවාට සැක නැත.

''තමන්ගේ හිතට විරුද්ධව මිනිහට නපුරෙක් වීමට සිදුවෙලා!'' යැයි නිකොලායි කීවේ කණගාටු දයක ස්වරයකිනි.

හොහොල්ගේ කතා මෙනෙහි කළ ඇය තම එකඟත්වය පළ කරමින් හිස වැනුවාය.

## IX

දිනපතාම කල් ඇතිව කාර්යාලයෙන් පිටවී ඒමට පුරුදුව සිටි නිකොලායි දවසක් ගෙදර පැමිණියේ බොහෝ ප්‍රමාද වෙලාය. ඇඳුම ගළවන්නේ නැතිව දෑත් පිරිමදිමින් ඔහු කතා කළේය:

''නිලව්නා දන්නවාද? අද අපේ සගයෙක් හිරගෙදරින් පැනලා ගිහිං. ඒ වුණාට කවුද කියා අඳුණගන්ට බැරි වුණා...''

අම්මාගේ සිත කැළඹීමට පත් වූයේ, දෙපා පණ නැතිව ගිය කලෙක මෙන් අසල තිබූ පුටුවක වාඩි වුණාය. ඈ කොඳුරමින් ප්‍රශ්න කළාය:

''සමහර විට පාෂා වෙන්ට ඕන?''

''වෙන්ට පුළුවන්!'' යැයි දෙවුර සොමින් නිකොලායි පිළිතුරු දුන්නේය. ''මිනිහට කොහොමද උදව් කරන්නේ? එයාව හොයාගන්නෙ කොහොමද? මම හැමතැනම, මහ පාරක් ගානෙ ඇවිද එයාව සෙව්වා. ප්‍රයෝජනයක් නැති වැඩක්. මොනවා හරි කළ යුතුයි. මම නැවත ගිහිං බලන්නම්...''

''මාත් එනවා!'' අම්මා කෑ ගැසුවාය.

''ඔබ යෙගෝර් හමුවෙන්ට ගිහිං අහන්ට එයාට මේ ගැන ආරංචිද කියල.''

හිස වැසෙන සේ සළුවක් පොරවා ගත් අම්මා බලාපොරොත්තු සහිතව මහ මඟට බැස්සාය. ඇස් ඉදිරිපිට ඇඳිරි ලප මතුවී පෙනිණ. හදවත සැලෙන්ට විය. ඕ කඩිනමින් දුවන්ට පටන් ගත්තාය. තම පුතා හමුවෙතිය යන හැඟීම ඇතිව හිස බිමට හරවාගෙන වටපිට නොබලා ඕතොමෝ ගමන් කළාහ.

''මම යනව. එයා එහෙ!'' යන බලාපොරොත්තුව අම්මා තුළ උපනි. දැඩි උෂ්ණය නිසා හුස්ම ගැනීමට පවා අපහසු වූයෙන් අම්මා හති දමන්ට වූවාය. යෙගෝර්ගේ ගෙදර පිය ගැට පෙළ දක්වා ගිය අම්මා මහන්සිය නිසා මඳක් නැවතී වට පිට බැලුවාය. ගෙදර ගේට්ටුව අසළ සාක්කුවල දෑත් ඔබාගෙන සිටගෙන උන් නිකොලායි වෙසොව්ෂිකෝව් දුටු අම්මා මවිතයට පත්ව සෙමින් කෑ ගසා මොහොතකට දෙනෙත් වසාගත්තාය. එහෙත් නැවත ඇසි පිය හැර බැලූවිට ඔහු අතුරුදහන්ව ගොසින්ය...



දවල් හීනයක් වෙන්ට ඇති!'' තමාටම කියාගත් ඕ සෙමින් පඩිපෙළ නගින්ට වූවාය. පහළ ගෙවත්තේ සෙමින් පා තබන්නකුගේ අඩි ශබ්දය ඇසේ. අම්මා යළිත් වරක් නැවතී පහත බැලූ විට තමා දෙස බලා මඳ සිනා පාන නිකොලායි වෙසොව්ෂිකෝව්ගේ කැළල් සහිත මුහුණ දුටුවාය.

''නිකොලායි! නිකොලායි...'' ඔහු හමුවීම වස් පහළට බසින්නී ඇගේ හදවත වේගයෙන් සැලෙන්ට විය.

''ඔබ යන්න!'' යැයි ඔහු සෙමින් කීවේ අතක් වනමිනි.

ඉකමනින් පඩිපෙළ දිගේ දුවගිය අම්මා කාමරයට වැද, සෝපාවේ වැතිර හුන් යෙගෝර් අමතා හති දමමින් මෙසේ කීවාය:

''නිකොලායි... හිරගෙදරින් පැන ආවා!''

''කොයි නිකොලායිද? නිකොලයිලා දෙදෙනෙක් ඉන්නවා නෙව...'' යැයි හිස එසවූ යෙගෝර් බැරෑඩි හඬකින් ඇසීය.

''වෙසොව්ෂිකොව්... මෙහෙටයි එන්නෙ!..''

''අපූරුයි!''

කාමරයට ඇතුළු වූ වෙසොව්ෂිකොව් දෙර අඟුලු ලා තොප්පිය ගළවා සෙමින් සිනාසෙමින්, හිස කෙස් අතරින් ඇඟිලි හුඩු යවන්ට විය. වැළමිට ඇඳට වාරුකොට ගනිමින් හිස එසවූ යෙගෝර් හිස හරවමින් කතා කළේය:

''මෙහාට එන්නකො...''

පළල් ලෙස සිනාසුණු නිකොලායි වෙසොව්ෂිකොව් අම්මා ළඟට විත් ඇගේ අතක් අල්ලා ගත්තේය:

''මම අම්මාව දැක්කේ නැත්නම් ආපහු හිරගෙදරට යනව සත්තකයි! මේ නගරෙ කිසිවෙකු අඳුනන්නේ නැහැ. කම්කරු ජනපදයට ගියොත් ආපසු අල්ලා ගනිවී. මම හිතාගත්තා හිරෙන් පැනලා ආපු එක මහ මෝඩ වැඩක් හැටියට. හිටිහැටියෙ මම දැක්ක, ඔන්න නිලව්නා දුවනවා... මම ඉතින් ඔබෙ පස්සෙන් දුවගෙන ආවා...''

''කොහොමද, උඹ හිරගෙදරින් පැනල ආවෙ?'' යැයි අම්මා ප්‍රශ්න කළාය.

ඔහු අපහසු ලෙස සෝපාව අයිනේ වාඩි වී දෙවුර සොලවමින් ලජ්ජා ගතියක් පාමින් කතා කළේය.

''හොඳ අවස්තාවක් ඇතිවුණා! මම ඇවිදින කොට අපරාධවලට අසුවුණ හිරකාරයො මුලාදෑනියට ගහන්ට පටන් ගත්තා. එතන එක පොලිස්කාරයෙක් ඉන්නව. ඌ හොරකම් කළ වරදට, පොලිසියෙන් අස්කරල හිරගෙදර ගාඩ්වැඩක් දුන්නා. මිනිහ දූන් ඔත්තු සොයනව,

ඓක්ලාම් කියනව, හැම එකාටම කරදර කරනව. හිරකාරයෝ ඒ මිනිහට ඉටි අතින්න පටන් ගත්ත. බැලිත්තම් ගේට්ටුව හැර දල. මම හරියට හිතෙන් ඇවිදින්න වගෙ ඇවිදගෙන ගේට්ටුවෙන් එළියට ආවා. කොහෙ යන්වද කියල දන්නේ නැතුව ආපහු හැරී බැලිත්තම්, මෙන්න මහ ගේට්ටුව වහල..."

"හම්! තමුසෙ, මහත්තයා ආපහු දෙරට තට්ටු කළානම් උන් දෙර අරිවී. තමුසෙට කියන්න තිබුනෙ මම නිකම් ඇවිදින්න ගියා කියල..." යැයි යෙගෝර් කීවේය.

"ඔව්!" යැයි කියමින් සිනාසුණු නිකොලායි මෙසේද පැවසීය.

"කොහොම වුණත් සහෝදරවරුන් ඉදිරිපිට එසේ කිරීම යුතු නැහැ. මම කළේ මෝඩ කමක්. අනිත් අයට කිසිවක් කීවේ නැහැ... එනකොට, පුංචි දරුවෙකුගෙ මළ කඳක් අරගෙන එනව. මමත් හනික ඒ මිනිය පස්සෙ ඔළුව පාත්කරගෙන වට පිට නොබලා ආවා. ඔන්න ඉතින් මම මිනී පිට්ටනියෙ ඉඳගෙන ඉන්නකොට මට ඇතිවුණා එක අදහසක්..."

"එක අදහසක් විතරක්ද?" යි ඇසූ යෙගෝර් නැවතත් ප්‍රශ්න කළේය. "ඔය අදහසට උඹේ ඔළුවෙ ඉඩ තිබුණද?"

හිස වැනූ නිකොලායි වෙසොව්ෂිකොව් අමනාප නොවී, සිනාවෙමින් පිළිතුරු දුන්නේය.

"මගේ ඔළුව ඉස්සර වගෙ හිස්එකක් නොවෙයි. යෙගෝර් ඉවානොවිච් උඹට තාම සනීප නැහැ..."

"හැම එකෙක්ම තමාට පුළුවන් දේ විතරයි කරන්නෙ! ඉතින් උඹේ කතාව කියපන්! යැයි යෙගෝර් කතිමින් ඉල්ලා සිටියේය.

"ඊට පස්සෙ කෞතුකාගාරයට ගියා ඒක බලා ඉවර වුණාම එළියට වීත් කල්පනා කළා මොනවා කරන්ටදැයි කියල? දැන් ඉතින් බඩගිනිත් වැඩියි; කේන්තියත් වැඩියි. පාළු හිතින් පාර දිගේ යනව පොලිස්කාරයෝ හැමතැනම කාවදෙ හොයනව වගෙ. හිතා ගත්තා දැන් ඉතින් ඉක්මනින්ම අහුවෙයි කියල!.. ඔහොම යනකොට මෙන්න නිලව්නා දුවනව. දැක්කා. මම ඉතින් ඈය පස්සෙ දුවන්ට පටන් ගත්තා. ඔන්න ඔහොමයි" කී නිකොලායි තම කතාව හමාර කළේය.

"මම උඹව දැක්කේ නැහැ!" වැරැද්දක් කළ එකියක සේ අම්මා තෙපළාය. වෙසොව්ෂිකොව් දැන් පෙරට වඩා මුදු ගුණයෙන් යුක්ත බැව් අම්මාට හැඟේ.

"ඇත්තටම සහෝදරවරු කලබල වෙනවා ඇති..." හිස කසමින් නිකොලායි කීවේය.

"ඇයි උඹට හිරගෙදර ලොක්කෝ ගැන දුක නැද්ද? උනුත් කලබල



වෙලා ඇති නෙව!" යැයි පැවසූ යෙගෝර් කට හැරගෙන දෙතොල් උස් පහත් කරමින් සුළං බීමට මෙන් උත්සාහයක් දැරුවේය. "ඒ වුණත් විහිළු එපා! උඹ වහාම හැංගෙන්ට ඕන. වැඩේ ප්‍රිය වුණාට සාර්ථක කිරීම අමාරුයි. මට නැඟිට හිටින්ට පුළුවන් නම්..." යැයි කී යෙගෝර් ඇතින් පපුව බදගනිමින්, තම දුර්වල අත්වලින් පපුව පිරිමදින්ට විය.

"යෙගෝර් ඉවනොවිච්, උඹ හොඳටම ලෙඩ වෙලා!" යැයි කී නිකොලායි වෙසොව්ෂිකොව් හිස පහතට හරවා ගත්තේය. බිය වූ අම්මා අනතුරු හඟවන ඇස්වලින් යුතුව කුඩා කාමරය විමසිල්ලෙන් නැරඹුවාය.

"ලෙඩවීම මගේ පුද්ගලික කාරියක්!" යැයි යෙගෝර් පිළිතුරු දුන්නේය. "අම්මෙ ඔබ පාවෙල් ගැන තොරතුරු අහන්න. බොරුවට නිහඬව ඉන්න එපා!.."

වෙසොව්ෂිකොව් කට පළල් කොට සිනාසුණේය.

"පාවෙල් සනීපයෙන්! එයා අපේ නායකයා වගෙ වැඩ කරනව. හිර ගෙදර ලොක්කා සමග සාකච්ඡා කරනවා. හැම වැඩකටම නායකත්වය දෙනවා. මිනිහට ගරු කරනවා..."

වෙසොව්ෂිකොව්ගේ කතාවට සවන් දෙන ව්ලාසවා හිස වනා යටසින් යෙගෝර්ගේ නිල්පැහ ගත් මුහුණ දෙස බැලුවාය. ඉදිමී තිබුණු ඔහුගේ මුහුණ ජීවයෙන් තොර පැතලි ලෑල්ලක් මෙනි. ඇස් පමණක් ජීවමාන වස්තූන් බව කියමින් ප්‍රීතිය පළ කළේය.

"මට මොනවා හරි කන්ට දීපල්ලා, අනේ දෙවියනේ මාර බඩගිනියි!" හිටිහැටියේම නිකොලායි කෑ ගැසුවේය.

"අම්මෙ අන්න රාක්කෙ පාන් තියෙනව. කොරිඩෝරයට ගිහිං වම් පැත්තෙ දෙවෙනි කාමරයට තට්ටු කරල එතන ඉන්න කාන්තාවට කියන්න කෑමට තියෙන හැම දෙයක්ම මෙහෙ ගේන්ටයි කියල."

"ඔක්කොම උවමනා නෑ." යැයි නිකොලායි විරුද්ධත්වය පෑවේය.

"උඹ කලබල නොවී ඉඳපන්. කෑම බොහොම ටිකයි..."

අම්මා, කී පරිදි ගොස් දෙරට තට්ටු කර කල්පනාවේ යෙදෙන්නී, යෙගෝර්ගේ තත්ත්වය නිසා දුක් වූවාය:

"මැරිල යාවි..."

කාමරය තුළ කිසිවෙක් "ඒ කවුද?"යි ඇසීය.

"යෙගෝර් ඉවානොවිච් එන්න කීවා!" අම්මා පහත් හඬින් කීවාය.

"ඉක්මනින් එන්නම්!" දෙර නොහැරම ඇ කීවාය. අම්මා තරමක් වේලා බලා සිට නැවතත් දෙරට තට්ටු කරත්ම එය හැරුනේය. උපැස් යුවළකින් සැරසුනු උස ගැහැණියක් කොරිඩෝරයට ආවාය. හැට්ටෙ අත්වල රැලි හරිමින් ඇ අම්මා අමතමින් ප්‍රශ්න කළාය:

''මොකද කාරණය?''

''මම යෙගෝර් ඉවානවිච්ගෙන්...''

''එහෙනම් යමු. ආ! මම ඔයාව දූකල තියෙනවා! ආයුබෝවන්!මෙහෙ කළුවරයි...'' ඇ සෙමින් කීවාය.

ඇය දෙස බැලූ ව්ලාසවා, ඇය ඉඳ හිට නිකොලායි හමුවීමට ඇවිත් තිබෙන බව නිගමනය කළාය.

''ඔක්කොම අපේ උදවිය!'' යන හැඟීම ඇ තුළ ඇති විය.

කළුවරේ ව්ලාසවාගේ කකුලක් පෑගූ ඒ කාන්තාව, අම්මාට පෙරටුව ගමන් කරන ලෙස කියා ඇ පසු පස ගමන් ගත්තිමෙසේ ඇසුවාය:

''එයාට අමාරුද?''

''ඔව් එයා වැතිරී ඉන්නවා කිව කෑමට මොනවාහරි ගේන්ටයි කියල...''

''එය වැඩිපුර ඉල්ලීමක්...''

යෙගෝර්ගේ කාමරයට ඇතුළුවන විට ඔහු කහිමින් උන්නේය.

''මගේ දයාබර ලුද්මිලා වසිල්යෙව්නා මම එලොව යාමට සූදානම් වෙනවා. මෙන්න මේ පුරුෂ තෙමේ ලොක්කන්ගේ අවසර නැතිව සිපිරි ගෙය බිඳ පියා පැන අවුත් සිටී. ඔහු කවා පොවා, ඔහුට සැඟවීමට සුදුසු තැනක්ද සොයා දෙන්න.'' යැයි උපහාසාත්මක ලෙස කියා සිටියේය.

හිස සෙලවූ ස්ත්‍රිය රෝගියා දෙස ඕනෑකමින් බලා තියුණු හඬකින් කතා කළාය:

''ආ විගසම ඒ අය මා වෙත එවීම ඔබගේ යුතුකමක්ව තිබුණා. යෙගෝර්! ඔබ දෙවරක්ම බෙහෙත් නොබී මගහැර තිබෙනවා. එයට හේතුව කුමක්ද? සහෝදරයා මා සමග එන්න. දූන් යෙගෝර් ගෙන යාමට රෝහලෙන් උදවිය එවි.''

''මාව ඉස්පිරිතාලෙට ගෙනියන්න හදනවද?''යි යෙගෝර් ඇසුවේය.

''ඔව් මාත් ඔබ සමග එනවා.''

''අනේ දෙවියනේ එහි ගියත් බේරුමක් නැති හැඩයි!''

''මෝඩ කතා එපා...''

මෙසේ කී කාන්තාව ඇතිරිල්ලෙන් යෙගෝර්ගේ පපුව වසා, නිකොලායි දෙස සුපරික්ෂාකාරී බැල්මක් හෙළා, බෝතලයේ බෙහෙත් ප්‍රමාණය දෙස ද බැලුවාය. ඇ කතා කළේ හඬ උස් පහත් නොකරමිනි. ඇගේ ඉරියව් වල තියුණු බවක් පෙනෙන්ට නොතිබිණි. මළානික ඇගේ මුහුණේ ඇහි බැම් එක'ටෙක ගැටී තිබිණි. ඇගේ මුහුණ අම්මාගේ සිත් නොගත්තේය. ඇස්වල සිනා ගතියක් නැතිය. දීප්තියද නැත. ඇගේ කතාව අණ දීමකට සමානය.

''අපි යනවා! මම ඉක්මනින් ආපසු එන්නම්! ඔයා යෙගෝර්ට මේ



හැන්දෙන් බෙත් වේලක් දෙන්න. එයාට කතා කරන්ට අවසර දෙන්න එපා!'' යැයි ඇ කීවාය.

ඇ නිකොලායි වෙසොව්ෂිකෝව් කැටුව පිටව ගියාය.

''හරිම හොඳ මනුස්සයා! යැයි දිග සුසුමක් හෙළූ යෙගෝර් කීවේය: ''අපූරු සහෝදරිය... අම්මේ, ඔබ ඒ සහෝදරිලගෙ ගෙදරට එන්න. එයාට වැඩ බොහොම වැඩියි. නිතර මහන්සි වෙනවා...''

''උඹ කතා නොකර නිශ්ශබ්ද වෙයන්. ඉඳා මේ බෙත් වේල බීපන්'' යැයි අම්මා මුදු ලෙස කීවාය.

බෙත් උගුර ගිල දූමූ හේ ඇසක් හකුළුවා ගත්තේය.

''කට වහගෙන හිටියත් මැරෙනවා සිකුරුයි...''

අනික් ඇසින් අම්මා දෙස බැලූ හෙතෙම කට කොණකින් සිනා සුණේය. අම්මා හිස බිමට හරවා ගත්තාය. ඇගේ සිත තුළ තියුණු වේදනාවක් ඇතිවූයෙන් ඇ අඬන්ට වූවාය.

''කමක් නෑ ඒක සොබාදහමේ නීතිය. ජීවත්වීමේ ප්‍රීතිය තුළ මැරී යාමේ නීතියද තිබෙනවා...''

යෙගෝර්ගේ හිසට අත තැබූ අම්මා නැවත වරක් මුදු ලෙස කතා කළාය:

''නිහඬවෙයන් හොඳේ?''

පපුව තුළ ගොරොද්දයට ඇහුම් කන් දීමට මෙන් දෙනෙත් වසාගෙන සිටි යෙගෝර් මුරණ්ඩු ලෙස නැවතත් කතා කළේය.

''අම්මේ කතා නොකර ඉඳීමේ ප්‍රයෝජනයක් නැහැ! මොකක්ද මට ලැබෙන වාසිය? පණ ඇදීමේ කාලය තත්පර කීපයකින් දික් වීම විතරයි. හොඳ කෙනෙක් සමඟ කතා කිරීමේ ප්‍රීතිය නැතිකර ගන්නවා විතරයි. එලොව, මෙලොව තරම් හොඳ උදවිය ඉන්නවා කියල මම විශ්වාස කරන්නේ නැහැ...''

අම්මා නොයිවසිල්ලෙන් ඔහුගේ කතාවට බාධා කළාය:

''දූන් ඒවි ළමාතැනී, උඹ කතා කරන නිසා මටත් බනීවි...''

''එයා ළමාතැනී කෙනෙක් නෙවි. විප්ලවවාදී සහෝදරියක්. අපූරු හිතක් ඇති කෙනෙක්. අම්මේ, ඔබට නම් බනීවි. එයා හැම තිස්සේම හැම දෙනාටම බනිනවා...''

සෙමින් දෙතොල් සෙලවූ ඔහු තම අසල්වැසි කාන්තාවගේ ජීවන චරිතය කියන්ට විය. ඔහුගේ ඇස් සිනාසෙන්ට වූ අතර ඔහු උවමනාවෙන්ම කතා කිරීමට උත්සාහ දරණ බව අම්මාට පෙනේ. නිල්පැහැති ඔහුගේ දෙතොල් දකින අම්මා තුළ බියජනක හැඟීම් පහළ විය.

''මැරිල යාවි...''

කාමරයට ඇතුළු වූ ලුද්මිලා දොර අගුළු ලා විලාසවා වෙතට හැරී කතා කළාය:

"ඔයාගේ අමුත්තට වෙනින් ඇඳුම් ඕන කරල තියෙනව. ඔහු මෙතැනින් හැකිතරම් ඉක්මනින් පිට විය යුතුයි. පෙලගේයා නීලව්නා, ඔයා ගිහින් කොහොම හරි ඇඳුමක් හොයාගෙන එන්ට. සෝපියා නැති එක පාඩුවක්. මිනිස්සු සඟවා ගෙනයන්ට එයා විශේෂඥවරියක්."

සළුව පොරවාගත් අම්මා, "සෝපියා හෙට එනවා!" යැයි කීවාය.

තමාට කිසියම් වැඩක් ලැබුණු විට, එය ඉතා හොඳින් සහ ඉක්මනින් කිරීමේ ආශාව ඇගේ සිත තුළ පැතිර යයි. තමා පිට පවරනු ලැබූ කාරිය ගැන මිස අන් කිසිවක් ගැන අම්මා නොසිතුවාය. දූන් ඇ ඇස්බැම් පහත් කරගනිමින් මහත් උවමනාවකින් ඇසුවාය:

"මොන ඇඳුමක්ද ඕන?"

"මොනවා හරි ඇඳුමක්! එයා රෑ පිටත්ව යාවි..."

"රෑ ගමන හොඳ නෑ. මහ පාරෙ මිනිස්සු අඩුයි. පොලිස් සෝදිසිය වැඩියි. එයා එතරම් කඩිසර නැහැ..."

යෙගෝර් අමාරුවෙන් සිනාසුණේය.

"උඹව බලන්ට ඉස්පිරිතාලෙට එන්ට පුළුවන්ද?" යි අම්මා ඇසුවාය.

කහින්ට වූ හේ හිස වනමින් ඉහිමැරුවේය. කළු පැහැති තම ඇස් වලින් අම්මා දෙස බැලූ ලුද්මිලා මෙසේ යෝජනා කළාය:

"රෑට ඇද ළඟ ඉන්න ඔයා සතුටුද? එහෙනම් අප දෙදෙනා මාරුවෙන් මාරුවට මුර කරමු! හොඳේ! දූන් ඉතින් ඉක්මනට ඇඳුම් ගේන්න..."

අම්මාගේ අතක් අල්ලා ගනිමින් දොර ඇරගෙන කාමරයෙන් පිටත ගිය ඇ සෙමින් කොඳුළාය:

"ඔයාට සැර වුණා කියල අමනාප වෙන්ට එපා! ලෙඩාට කතා කරන්ට හොඳ නැහැ... සන්නිප වේය කියා මා තුළ විශ්වාසයක් තියෙනවා..."

ඇ ඇඟිලිවල ඇට කඩන්ට වූවාය. ඇගේ ඇසි පිය ඉදිමී පහතට වැටිලාය...

ඇගේ කතාව නොතේරුණු බැවින් අම්මා කොඳුළාය:

"ඒ මොකද ඔයා?"

"හොඳට බලන්න ඔත්තුකාරයො නැතිද කියල!" ඇ සෙමින් කීවාය. දෑත් ඔසවා ඇ තම හිස අත ගෑවාය. ඇගේ දෙතොල් ගැහෙන්නට විය. පෙනුම වඩාත් මුදු විය.

"මම දන්නවා!.." යැයි අම්මා පිළිතුරු දුන්නේ ආඩම්බරයෙනි.

ගේට්ටුව ළඟට ගමන් කළ අම්මා සළුව පොරවා ගිනිමින් මහපාර දෙස ඉතා ඕනෑකමින් බැලුවාය. මිනිස් ගොඩක් අතර සිටින ඔත්තුකරුවෙකු



සැක හැර දූන ගැනීමට දූන් අම්මා සමත්ය. ඔත්තුකරුවන්ගේ ගමනද ඔවුන්ගේ තියුණු බැලුම්ද, ඉරියව්ද, විඩාවට පත් මළානික මුහුණුද, වැරදි කළවුන් සේ නිතර ඇසි පිය හෙළීමද, නිසිලෙස සඟවා නැති පෙනුම්ද, නපුරු තියුණු නෙත්ද, අම්මා දූන හැඳින ගත්තාය.

තමා දන්නා හඳුණන එවැනි මුහුණක් පිරිස අතර නොවූයෙන්, ඕ සන්සුන් ගමනින් පා නැඟුවාය. අශ්ව කරත්තයකින් කඩ මන්ඩියට ගිය ඇය ඇඳුමක් ගැනීම පිණිස වෙලෙන්ද සමග හෙට්ටු කරන්ට වූවාය. එසේ මිළදී ගන්නා අතර තම බේබදු සැමියාට බැණ වැදීමටද අමතක නොකළාය. බේබදු සැමියාට සැම මාසයකදීම අළුත් ඇඳුම් ගැනීමට සිදුවන සැටි ඇ විස්තර කළාය. ඒ බොරුව වෙළෙන්දන්ගේ සිත් නොගත්තද ඇය සිත සතුටු කළාය. කඩ පිළට එන ගමන් ඇ තුළ හැඟීමක් ඇති විය. හිරගෙදරින් පැනි ගිය වෙසොව්ෂිකෝව්ට අළුත් ඇඳුම් උවමනා බව පොලිසිය දනී. එබැවින් පොලිස් ඔත්තුකාරයෝ කඩ මන්ඩියට වින් සෙවිල්ලේ සිටිනු ඇත. නැවත යෙගෝර්ගේ ගෙදරට ආවේද නොයෙකුත් පාරවලින් යමනි. නගර සීමාව දක්වා වෙසොව්ෂිකොව් ගෙන යාමද ඇට බාර විය. මහ මග දෙපැත්තේ දෙදෙනා ගමන් කළහ. ප්‍රමාණයෙන් තමාට ලොකු කබාය නිසා පැටලී ගාටමින්, නහය දක්වා පහළට ලිස්සා වැටෙන හිස්වැස්ම අතින් හරිගස්සමින් යන වෙසොව්ෂිකොව් දෙස බලන අම්මා හෙමින් සිනාසෙයි. පාළු වීදියකදී ඔවුන් හමුවීමට සාෂෙන්කා පැමිණියා ය. හිස වනා වෙසොව්ෂිකොව්ගෙන් සමුගත් ඇ ගෙදර ගියාය.

"පාෂා හිරගෙදර, අන්ද්‍රෙෂාත් එහෙ..." ඇ කනස්සලු සිතින් කල්පනා කළාය.

## X

නිකොලායි අම්මා පිළිගත්තේ අනතුරු හඟවන හඬක් නගමිනි:

"අම්මා දන්නවද, යෙගෝර්ට හොඳටම අමාරුයි! එයාව ඉස්පිරිතාලයට ගෙනගියා. ලුද්මිලා කිව්වා, අම්මාට එහාට එන්ට කියල..."

"ඉස්පිරිතාලෙටද?"

කඩිනමින් තම උපැස් යුවළ දමාගත් නිකොලායි අම්මාට ස්වීටරය හැඳගැනීමට උදව් කළේය. පසුව ඇට තමාගේ උණුසුම් අත දුන් ඔහු කැළඹුණු ස්වරයෙනි කතා කළේ:

"ඔව්, මේ පාර්සලය ගෙනියන්න. වෙසොව්ෂිකොව්ට තැනක් හොයා දුන්නද?"

''ඔව්, ඒක කළා...''

''මමත් එනව යෙගෝර් බලන්න...''

විඩාපත් වීම නිසා අම්මාගේ හිස කකියන්නට විය. නිකොලායිගේ කැළඹුණු සොබාව දකින ඇ තුළ අනාගත ඉරණම පිළිබඳ කණගාටුදායක හැඟීමකි ඇති වූයේ.

''එයා මැරිල යාවි'' යන අදහස හිස තුළ වද දෙන්නට විය.

එහෙත් ඇ රෝහලේ පිරිසුදු කුඩා කාමරයට විත්, සුදු පැහැති කොට්ට ගොඩක් උඩ වැතිර කොක් හඬ ලමින් සිනාසෙන යෙගෝර් දකින්නී සිත එක්තැන් කරගත්තාය. මඳ සිනාවකින් මුව සරසා ගත් ඕ දෙර ළඟ සිටගෙන රෝගියා දෙස්තර සමග කරන කතාවට සවන් දුන්නාය.

''බෙහෙත් දීම ප්‍රතිසංස්කරණයක්...''

''යෙගෝර්! පිස්සු කතා එපා!'' යැයි දෙස්තර තියුණු හඬකින් සැලකිලිමත් ලෙස පැවසීය.

''මම විප්ලවවාදියෙක්, ප්‍රතිසංස්කරණ මට ජෙන්ට බැ...''

යෙගෝර්ගේ අත ඔහුගේ දණහිස මත ප්‍රවේසමින් තබා සෙමින් පුටුවෙන් නැගී සිටි දෙස්තර කල්පනා කරමින් යටි රැවුල කසා, රෝගියාගේ ඉදිමුණු මුහුණ අතගා බලන්ට විය.

අම්මා දෙස්තර හොඳහැටි දන සිටියා ය. නිකොලායිගේ හොඳම යාළුවෙකු වන ඔහුගේ නම ඉවාන් දනීලවිච් ය. ඕ ලෙඩා වෙත ගියාය. යෙගෝර් දිව දිගුකරමින් ඇ පිළිගත්තේය. දෙස්තර හැරී බැලුවේය.

''නීලව්නා! ආයුබෝවන් ජෙනවද ඔබ ගෙනාවේ?''

''පොත් වෙන්ට ඕන.''

''එයාට කියවන්ට දෙන්ට එපා!'' දෙස්තර කීවේය.

''දෙස්තර මාව මොඩයෙක් කරන්ට හදනවා! යෙගෝර් පැමිණිලි කළේය.

'ගොර, ගොර' ශබ්දයක් රෝගියාගේ පපුව තුළින් ඇ[illegible]ට වී. හෙතෙම දුක් වූ ලීලාවකින් දිග සුසුමක් හෙලුවේය. ඔහුගේ මුහුණ කුඩා ඩහදිය බිංදුවලින් වැසී තිබිණි. අඩ වශයෙන් ක්‍රියාකාරී දැත් සෙමින් එසවූ හෙතෙම අත්ලෙන් නළල පිස දමා ගත්තේය. ඉදිමී තිබුණු කොපුල් ඔහුගේ මුහුණෙහි නිතර විද්‍යමාන වූ කරුණාබරිත පෙනීම විකෘති කර දමමේය. ඔහුගේ මුහුණ මරණීය වෙස් මුහුණක් හැඳගත්තාක් මෙනි. ඉදිමී තිබුණු කොපුල් නිසා ගිලී. වළ ගැසී ඇති දෙනෙත් පමණක් දීප්තිමත්ව දිලිසෙයි.

''විද්‍යාව! මට මහන්සියි, ඇලවෙන්ටද?'' යි හෙතෙම විචාළේය.

''හොඳ නැහැ!'' දෙස්තර කීය.



''දෙස්තර ගියාම මම ඇලවෙන්නාම්...''

''නීලව්නා, එයාට ඇලවෙන්ට ඉඩ දෙන්ට එපා! ඔය කොට්ට හදන්ට. එයාට කතා කිරීම හොඳ නෑ...''

අම්මා හිස වැනුවාය. දෙස්තර ඉක්මනින් ඉවතට ගියේය. දෙඇස් වසාගත් යෙගෝර් මළාක් මෙන් සිටියේය. අතක සෙලවෙන ඇඟිලි පමණකි ඔහුට පණ තිබෙන බව කියා පෑවේ. සුදු බිත්තිවලින් වට වී තිබෙන කුඩා කාමරය ශෝකයෙන් පිරී පැවතිණ. පළල් ජනේලය තුළින් එපිට ලීපා ගස්වල බොකුටු හිසකේ වැනි මුදුන් දකිය හැක. අඳුරු කොළ වල දීප්තිමත් කහ පැහැති ලප බැබළෙමින් ළඟ එන හේමන්තය ගැන අඬ ගා කියයි.

''මාරයා හෙමින් හෙමින් මා ළඟට එනව...'' ඇස් නොහැර නොසෙල් වී වැතිර හුන් යෙගෝර් කීවේය. ''මාරයාට මා ගැන තරමක් කණගාටු හිතිලා වගේ. හැම දෙනාගෙම හිත් දිනාගැනීමට පුළුවන් හාදයා...''

''කතා කරන්ට එපා, යෙගෝර් ඉවානවිච්'' යැයි කී අම්මා ඔහුගේ අතක් සෙමින් පිරි මැද්දය.

''හොඳා නිහඬ වෙන්නාම්...''

මහත් අමාරුවකින් හුස්ම ගනිමින් ඔහු කතා කළේ හතිය නිසා කීප වරක්ම නවතමිනි.

''අම්මේ, ඔබ අප සමග වැඩට ආ එක හොඳයි. ඔබගේ මුහුණ දකීමත් සතුටට කරුණක්. ඒ වුණත් ඒ වැඩවලට ලැබෙන තෑග්ග මොකක්ද? හිරගෙදරත්, ඇනුම් බැනුම් බවත් සිහි වෙන විට මට දුක හිතෙනව. ඔබ හිර ගෙදරට බය නැතිද?''

''බය නැහැ! අම්මා වාම් ලෙස උත්තර දුන්නාය.

''සත්තකින්ම ඇත්ත. කොහොම වුණත් හිර ගෙදර මහ අපායක්. මට මෙහෙම වද දුන්නේ හිර ගෙදර තමා. ඇත්ත කියන්නම් මැරෙන්ට මා කැමති නැහැ...''

''උඹ සමහර විට මැරෙන්නෙ නැහැ'' යැයි ඇට කීමට සිත්විණි. එහෙත් ඔහු දෙස බැලූ ඇ නිහඬ වූවාය.

''මට තවමත් වැඩ කරන්ට පුළුවනි... වැඩකරන්ට බැරිව ජීවත් වීමෙන් පලක් නැහැ, එවිට ජීවත් වීම මෝඩකමක්...''

අන්ද්‍රේගේ ප්‍රසිද්ධ කියමනක් — ''සාධාරණයි එහෙත් සැනසීමට බැහැ,'' මතක් වූයෙන්, අම්මා දිග සුසුමක් හෙළා නිහඬ වූවාය. දවසේ වැඩ නිසා අධික වෙහෙසක් දැනුණෙන් ඇට තද බඩගින්නක්ද ඇති විය. රෝගියාගේ අමිහිරි කෙඳිරිල්ල කාමරය පුරා පැතිර ගොස් පසුව බිත්තිය දිගේ නාගින්ට පටන්ගනී. තුරු මුදුන් දුක්බර කළු වළාකුලක් මෙන් කාමරය

දෙසට තැඹුරුව් තිබේ. හැම දෙයක්ම නිහඬව මුසලයන් සේ රාත්‍රිය බලාපොරොත්තුවෙන් සිටී.

''හරිම අමාරුවක් දැනෙනවා,'' යැයි කී යෙගෝර් දෙනෙත් වසාගෙන නිහඬ විය.

''නිදගනින් සනීප වේවි!'' අම්මා තෙපළාය.

ඔහු හුස්ම ගන්නා හැටි අසා සිටින අම්මාගේ ශෝකය සිත පුරා පැතිර ගියෙන් ඈ ගල් ගැසුණාක් මෙන් මද වේලාවක් වාඩිවී සිට පසුව නිදිකිරා වැටෙන්ට වූවාය.

දොර ළඟ ශබ්දයක් ඇසුනෙන් ඈ තිගැස්සී පිබිදෙත්ම, යෙගෝර් ඇස් ඇරගෙන තමා දෙස බලන හැටි දුටුවාය:

''සමාවෙයන් නිද වැටුනා!'' යැයි අම්මා සෙමින් තෙපළාය.

''උඹ මට සමාවෙයන්...'' ඔහුද කීවේය.

ජනේල තුළට අඳුර පිවිසෙයි. අඳුරු සීත සුළං නිසා කඳුළු කැට කඩා හැලෙයි. රෝගියාගේ මුහුණ වසා අඳුර පැතිර ගියේය.

ලුද්මිලාගේ කටහඬ ඇසේ:

''කළුවරේ ඉඳගෙන කසු කුසු ගානවා. ලාම්පු ඇණය කොහෙද කියලවත් හොයාගන්ට බැහැ.''

සැණෙකින් කාමරය පුරා ආලෝකය පැතිර ගියේය. කළු පැහැති උසති ලුද්මිලා කාමරය මැද සෘජුව සිටගෙන උන්නාය. වරක් කදින් වෙව්ලූ යෙගෝර් දැතින් පපුව බදගත්තේය.

''මොකද?''යි අසමින් ලුද්මිලා ඔහු දෙසට දුව ආවාය.

ඔහු කිසිවක් නොකියා විදහාගත් දෙනෙතින් යුතුව අම්මා දෙස බැලුවේය. ඔහුගේ ඇස්වල අපූරු ආලෝකයකි.

කට පළල් කොට හැරගෙන දැත් විහිදුවමින් මහතෙම හිස ඔසවා නැගිටින්ට උත්සාහ කළේය. ඔහුගේ අත් ප්‍රවේසමෙන් අල්ලා ගත් අම්මා හුස්ම පවා නොගනිමින් යෙගෝර් දෙස බැලුවාය. ඔහුගේ හිස හා බෙල්ල ගැහෙන්ට පටන් ගත්තේ, පසුව එල්ලා වැටුනේය.

''ඉතින් බැ! මං ඉවරයි!..'' ඔහු කීවේය.

තව වරක් වේගයෙන් ඔහුගේ හිස ගැස්සී උරහිස මත වැටිණි. ඔහුගේ ඇස් පළල් ලෙස විවෘත වී තිබුණේය. ඈදට ඉහළින් දැල්වෙමින් තිබූ විදුලි ලාම්පුවේ ආලෝකය මිය ගිය ඇස්වල පිළිබිඹු වුණේය.

''අනේ හොඳ මනුස්සයා!'' ඔහු කීවේය.

ඈදෙන් ඉවත ගිය ලුද්මිලා, ජනේලය අසලට වී, විලාසවා නොදත් ඈත යමක් දෙස බලන්නා සේ සිට නුපුරුදු උස් හඬකින් මෙසේ කීවාය:

''මළා...''



ජනේල පඩිය මත වැලටම් තබාගෙන නැමීගත් ලුද්මිලා, පහරක් වැදුනු කලෙක මෙන්, හිස ඔබාගෙන කෑ ගසා හඬා වැලපෙන්ට පටන් ගත්තාය.

යෙගෝර්ගේ බරැති අත් ඔහුගේ පපුව මත තබා මළ සිරුර නියම ලෙස සතප්පවා, කඳුළු පිසද ගත් අම්මා, ලුද්මිලා ළඟට ගොස් ඇගේ හිස අතගාන්ට වූවාය. හෙමින් හැරී බැලූ, ලුද්මිලාගේ ඇස් ඇඬීම නිසා බොර පැහැ ගෙන තිබිණි. නැගිට සිටගත් ඕ වෙව්ලන දෙතොලින් මෙසේ කීවාය:

''සිටුවහල් ජීවිතේ අපි දෙදෙනාම එකටයි ගත කළේ. එකට හිර ගෙවල සිටියා. මෙහෙ ආවෙත් එකට... සමහර කාල වලදී කියන්ට බැරි තරම් අමාරුකම්වලට මුණ පෑවා. බොහෝ දෙනා අධෛර්යට පත්වෙලා ඇත් වුණා...''

ඇගේ හැඬීම හා වැලපීම නිසා උගුර වේලී ගොස් තිබිණ. ඈ තමාගේ මුහුණ අම්මාගේ මුහුණට ළං කරමින්, මුදු මොළොක් දයාන්විත හැඟීමකින් යුතුව, කඳුළු නොසලා වැලපෙමින් හා සුසුම් ලමින් තොල මතුළාය:

''මේ හැම අවස්ථාවකදීමත් එයා සන්තෝෂයෙන් ප්‍රීතියෙන් හිටියා. විහිළු කළා. තමාගේ දුක පිටතට නොපෙන්වා හිනා වුණා... දුර්වල අයට උදව් දුන්නා. කරුණාවන්ත, සැලකිලිමත්, මිහිරි පුද්ගලයෙක් එයා... සයිබීරියාවේ වැඩකට නැති සිටුවහල් ජීවිතය නිසා මිනිස්සු කාලකණ්ණි වෙලා පස්සෙ නරක පුරුදු වලට ඇබ්බැහි වෙනවා. හැකි තරම් ශක්තිය යොදා ඒවට විරුද්ධව එයා සටන් කළා... එයා කොතරම් අපූරු සහෝදරයෙක්ද කියන එක ඔයා දන්නවනම්!.. එයාගෙ පුද්ගලික ජීවිතය දුකෙන් පිරී තිබුණා. නමුත් එයා කවදාවත් ඒ ගැන පැමිණිලි කළේ නෑ! මම එයාගෙ ළඟම මිතුරිය හැටියට හිටියා එයාගෙ හදවතට මා හොඳටම ණය ගැතියි. ඔහුගේ බුද්ධියට හා ශක්තියට දිය හැකි හැම දෙයක්ම ඔහු මට ලබා දුන්නා. ඒ වෙනුවට කිසිවක් ඉල්ලුවේ නෑ — සැනසිලි වචන, සැලකිලි පවා බලාපොරොත්තු වුණේ නෑ...''

ඈ යෙගෝර්ගේ මළ සිරුර ළඟට වී ආචාර කොට අතක් ගෙන සිප ගනිමින් දුකෙන් පිරී හදවතින් යුතුව මෙසේ කීවාය:

''මගේ ආදරණීය, දයාබර සොයුර, මුළු හදවතින්ම මා උඹට කෘතඥ වෙනවා, සදහටම සමු ගනිමි! උඹ වගේම, මහන්සිය නොබලා, සැක නැතිව අවසානය දක්වා වැඩ කිරීමට පොරොන්දු වෙනවා!.. සදහටම සමු ගනිමි!''

වැලපීම නිසා ලුද්මිලාගේ ශරීරය ගැහෙන්ට විය. අමාරුවෙන් හුස්ම ගත් ඈ ඇඳ මත වූ යෙගෝර්ගේ මළ සිරුර ළඟට වී ඔහුගේ දෙපා අසල හිස තබාගත් වනම උන්නාය. අම්මා කඳුළු වගුරවමින් ඇඬුවාය. කඳුළු

නොවැගිරීමට උත්සාහ දරූ අම්මා, ලුද්මිලා සනසන්නටත්, යෙගෝර්ගේ ගුණ කියන්නටත් ඉටා ගත්තාය. කඳුළු පිරි ඇස් වලින් අම්මා මළ සිරුරේ මුහුණ, ඉදිමුණු කොපුල් සහ ඇසි පිය, මඳ සිනාව නොමැකී තිබෙන දෙතොල් ආදිය දෙස අපරිමිත ශෝකයකින් යුතුව බැලුවාය. නිහඬ තාවය හා කණස්සළු බවකි.

ඉවාන් දනීලවිච් දෙස්තර තමාට පුරුදු කඩිනම් ගමනින් කාමරය තුළට ආවේය. කාමරය මැද හිටගත් හෙතෙම දෑත් සාක්කුවල දමා ගනිමින් බිඳුණු ස්වරයකින් මෙසේ ඇසුවේය.

"හුඟක් වෙලාද?"

කිසිවෙක් ඔහුට පිළිතුරු නොදුන්හ. මළ සිරුර වෙත ගිය ඔහු, අතක් ගෙන ආචාර කොට ඈත් විය.

"එයාගෙ හෘදවස්තුවෙ තත්වය අනුව අඩුම ගණනෙ මීට හය මාසයකට ඉස්සෙල්ලා ඔක වෙන්ට තිබුණ... පුදුමයට කාරණයක් නොවේ..."

ඔහුගේ හිස හඬ හිටි හැටියේ බිඳී ගියාක් මෙනි. බිත්තියට පිටදී සිට ගත් හෙතෙම යටි රැවුල වේගයෙන් අදිමින් හා කරකවමින් මළ සිරුර දෙස බලාගත් වනම උන්නේය.

"තවත් කෙනෙක් මළා!"

ලුද්මිලා නැගිට ජනේලය අසලට ගොස් එය හැරියාය. මොහොතකින් තිදෙනාම ළං ළංව ජනේලය අසල සිටගෙන හේමන්ත රැයේ අඳුර දෙස නෙත් යොමාගෙන උන්හ. කළු පැහැති කොළවලට උඩින් අහසේ තරු දිලිසෙන්ට වූයේ ඉමක් නැති ගැඹුර පෙන්වමිනි...

ලුද්මිලා අම්මාගේ උරහිස තමා වෙත ගෙන තද කරගත්තාය. හිස පහත් කරගත් දෙස්තර තම උපැස් යුවළ ගෙන පිස දැම්මේය. නගරය පිසදමමින් හමන සීත සුළං මුහුණු සිපගනිමින් හිසකේ අවුල්කරමින් හමන්ට විය. ලුද්මිලා තිගැස්සුණාය. ඇගේ කොපුල් දිගේ කඳුළු ධාරා දිව ගියේය. රෝහලේ කොරිඩෝරයේ යන එන්නන්ගේ හඬ සහ අඩි ගබ්දයද, සුසුම්ලෑම් සහ කෙඳිරිම්ද ඇසේ. නිහඬව ජනේලය අසල හුන් මිනිස්සු අඳුර දෙස බැලූහ.

තමා මෙතැන සිටීම නොසුදුසු යැයි කල්පනා කළ අම්මා සෙමින් අත ගෙන, යෙගෝර්ට ආචාර කොට කාමරයෙන් පිට වූවාය.

"ඔබ යනවද?" යි ඇය දෙස නොබලාම දෙස්තර ඇසුවේය.

"ඔව්..."

මඟ මඟ යමින් සිටි අම්මා, ලුද්මිලා මඳ වශයෙන් කඳුළු සලමින් ඇඩූ සැටි මතක් කළාය:

"අඬන්ට ඉගෙන ගෙන නැහැ..."



යෙගෝර් මැරෙන්නට පෙර කී කතාවක් සිහි කළ අම්මා තිගැස්සුණාය. සෙමින් පානබන ඇ ඔහුගේ ජීවමාන නෙත් ගැනද, විහිළු-තහළු ගැනද, ජීවිතය පිළිබඳ කතා ගැනද සිහි කළාය.

"හොඳ මිනිහට ජීවත් වීම අමාරුයි, මිය යාම ලේසියි... මම මැරෙන්නේ කොහොමද?.."

අනාතුරුව ලුද්මිලා ගැනත්, සුදු කබායක් හැඳ කවුළුව අසල සිටි දෙස්තර ගැනත්, උවමනාවට වඩා ආලෝක කර තිබූ කාමරය හා යෙගෝර් ගැනත් සිහි කරමින් ගමන් කළාය. ජනතාව නිසා ඇ තුළ උපන්නේ මහත් වූ දයාවකි. දිග සුසුමක් හෙලූ ඇගේ හැඟීම් විසින් ඉක්මන් කරනු ලැබූ කලෙක මෙන්, ඇ වේගය වැඩි කළාය.

"ඉක්මනට ඔන!" යැයි සිතූ ඇ තුළ ඇති වූ අමුතු බලයක් විසින් ඇය මුදුලෙස ඉදිරියට තල්ලු කරන ලදී.

# XI

පසුවද අවමඟුල් කටයුතු සඳහා දැඩි වෙහෙස මහන්සියක් දරමින් අම්මා වැඩෙහි යෙදුනාය. සවස නිකොලායි, හා සෝපියා සමග තේ බීමට වාඩි වෙත්ම, නොපුරුදු ලෙස ප්‍රීතියකින් හා හඬනගමින් සාෂෙන්කා පැමිණියාය. ඇගේ කොපුල් රත් පැහැ ගෙන තිබුණු අතර දෙනෙත් දීප්තිමත්ව බැබළෙන්ට විය. කිසියම් සුභද බලාපොරොත්තුවකින් පසුවෙන බවකි, ඇය දෙස බලන අම්මාට වැටහී ගියේ. මිය ගිය පුද්ගලයා ගැන කතා කරමින් උන් මේ අයට ඇගේ ප්‍රීතිමත් හැසිරීම නොරිසි විය. අඳුර නැති කෙරෙමින් හදිසියෙන් පැන නගින ගිනි ජාලාවක් සේ, ඇගේ මේ හැසිරීම ඔවුන්ගේ තෘප්තියට හේතු නොවීය. සමහරු ලජ්ජාවට පත්වූහ. කල්පනාකාරී ලෙස මේසයට ඇඟිල්ලකින් තට්ටු කළ නිකොලායි මෙසේ කීය:

"අද ඔබ වෙනද වගෙ නොවෙයි, සාෂා..."

"ඔව් වෙන්ට පුළුවනි," යැයි ඇ කීවේ කොක්හඬලා සිනාසෙමිනි.

අම්මා තරුණිය දෙස නොසතුටු ලීලාවෙන් බැලූ අතරසෝපියා මතක් කරවන අවියෙන් කතා කළාය:

"අපි මේ කතා කරන්නෙ යෙගෝර් ඉවානවිච් ගැන..."

"අනේ එයා කොතරම් හොඳ මනුස්සයෙක්ද, ඇත්ත නේද?" යි සාෂෙන්කා මහ හඬින් තෙපළාය. "විහිළුවක් නොකර, සිනා නොවී ඉන්නවා කිසිදක දැක නැහැ. එයා කොතරම් අපේට වැඩ කරනවද! එයා

විප්ලවයේ චිත්‍ර ශිල්පියෙක්. මහ දක්ෂ සිත්තරෙක් වගෙ එයා විප්ලවවාදී බුද්ධියක් ඇති කෙනෙක්. බොරු, මර්දනය, කුට ක්‍රියා ගැන ඔහු කොතරම් ලස්සන විදියට වේගවත් ලෙස කතා කළාද.''

ඇ මේ හැඟීම් ප්‍රකාශ කලේ කල්පනාකාරී සිනාවකින් යුතුව, සෙමිනි. එහෙත් ඇගේ දෙනෙත්හි කිසිවෙකුට තේරුම් ගත නොහැකි දීප්තිමත් බව එම මඳ සිනාවෙන් වසන්කිරීමට අසමත් විය.

සාෂා ගෙනා ප්‍රීතියට, තම මිය ගිය සොයුරා පිළිබඳ දුක යටපත් කර දැමීමට ඉඩ දීමට ඔවුහු නොසතුටු වූහ. තරුණියද තම සෝකයට සහභාගී කරවා ගැනීමට ඔවුන් ඉදිරිපත් වූයේ උවමනාවෙන්ම නොවේ...

''ඔව්, එයා දැන් ජීවතුන් අතර නැහැ!..'' සාෂෙන්කා දෙස විමසිලි බැල්මක් හෙලූ සෝපියා ස්ථිර ලෙස තෙපළාය.

හැම දෙනා දෙසම විමතියෙන් බැලූ සාෂෙන්කා මූණ බුම්මාගෙන අහිබැමි පාත්කර ගත්තී, හිස බිමට හරවාගෙන නිහඬව තම කෙස්වැටිය අත ගාන්ට වූවාය.

''මළා!'' යැයි හඬ නගා කී ඕ හැමදෙනා වෙතම අභියෝග කරන බැල්මක් හෙළා කතා කරන්ට වූවාය. ''මළා කීමේ තේරුම කුමක්ද මළේ කුමක්ද? යෙගෝර් කෙරෙහි තිබූ මගේ ගෞරවය, ආදරය, සහෝදර ප්‍රේමය, ඔහුගේ වැඩ පිළිබඳ මගේ හැඟීම්, ඔහුගේ සිතුවිලි ආදී දේ මළාද? ඔහු මා හදවතෙහි ඇති කළ හැඟීම් මැරී ගියාද? එඩිතර, අවංක මිනිහෙකු සේ ඔහු මගේ හිත තුළ ඇති කළ හැඟීම් මැරී ගියේද? මා ජීවත්ව ඉන්නා තුරු ඒ හැඟීම් එලෙසම පවතිනු ඇත. මිනිහෙක් මළයි කියා කීමට අපි ඉක්මන් වන හැඩයි මට පේන්නෙ. ඔහු මිය ගියද ඔහුගේ වචන ජීවමානව අපේ හදවත් තුළ සදහටම පවතිනු ඇත!''

කැළඹුණු සිත් ඇති සාෂෙන්කා මේසය අසල වාඩි වී, කල්පනාකාරීව සෙමින් කතා කරන්ට පටන් ගත්තී නොපැහැදිලි ඇස්වලින් සහ සිනාමුසු මුහුණින් යුතුව සගයින් දෙස බලන්නට වූවාය.

''සමහර විට මගේ අදහස් මෝඩ ඒවා වෙන්ට පුළුවනි, ඒ වුණත් මම අවංක සහෝදර වරුන්ගේ අමරණීයත්වය ගැන විශ්වාස කරනවා. මට ඉතා සුන්දර ජීවිතයක් ලබා දුන්, වාසනාව ගෙන දුන් ඒ අය අමරණීයයි. දැනීම හා බුද්ධිය වැඩිවෙත්ම, පැතිර යන ප්‍රීතිය නිසා මා මත්වෙලා. ඒ විධියටයි සංකීර්ණ මේ ජීවිතය දෙස මා බලන්නේ. මේ ප්‍රීතිය මගේ හදවත තරම් වටිනව. අපේ හැඟීම් පාවිච්චි කිරීම ප්‍රවේසම් කරන හැටියයි මට පේන්නෙ. අපි උවමනාවට වඩා ජීවිතය ගැන හිතනවා. ඒ නිසා අපේ චරිත තරමක් විරූපී වෙනවා. අපට හැඟීම් නැහැ, අපි තක්සේරු කරනවා විතරයි...''



''මොකද ඔයාට මොනවාහරි වාසනාවක් සිද්ධියක් වුණාද?''යි සෝපියා මඳ සිනා පාමින් විචාළාය.

''ඔව්!'' යැයි සාෂා හිස වැනුවාය. ''මගේ හැඟීම එහෙමයි! මුළු රෑම මම වෙසොව්ෂිකොව් සමග කතා කළා. මා ඉස්සර ඔහුට කැමැත්තක් දැක්වූයේ නෑ. මා හිතාගෙන හිටියෙ වෙසොව්ෂිකොව් නුගත් රළු මිනිහෙක් කියල. ඇත්ත වශයෙන්ම එහෙම තමයි. ඔහුගේ හිත ඇතළෙ නොසෙල්වෙන අඳුරු ශෝන්තියක් රජ කළා. රළු නපුරු ලෝකයක් මැද හිටගෙන හිටිය. එයා නිතරම මම, මම, මට, මගේ, කියල කෑ ගැහැව්වා. එම හැඟීම් තුළ කුප්පන, පහත් ගතියක් තිබුනා...''

ඇ නැවතත් මඳ සිනා පාන්නී, දීප්තිමත් නෙත්වලින් සගයන් දෙස බැලූවාය:

''ඒ ගොල්ල දැන් අප අමතන්නේ සෝයුරනි කියල! දැන් එයා කතා කරන හැටි බලන්ට ඕන. ලජ්ජා සහිත මෘදු ආදරයකින්. ඒ හැඟීම වචනවලට පෙරලන්ට බැහැ! වාමි අවංක මිනිහෙක් වෙලා. වැඩ කිරීමට එයා තුළ විශාල ආශාවක් තියෙනවා. එයාට තමා ගැනම වැටහීමක් ඇතිවෙලා. තමාගෙ ශක්තිය ගැන හොඳට දන්නවා. තමන්ගෙ අඩු පාඩු ගැන දන්නවා. එයා තුළ අවංක සහෝදරාත්මක හැඟීමක් ඇති වෙලා තිබෙනවා...''

සාෂාගේ කතාවට අම්මා සවන් දෙන්නී, දැඩි තරුණිය මුදු ප්‍රීතියෙන් පිනා යන සැටි දැක සන්තෝෂ වූවාය. එහෙත් ඒ අතර අම්මාගේ හිත තුළ ඊර්ෂ්‍යා සහගත හැඟීමක් පැන නැංගේය:

''එතකොට පාෂාට මක්වේද?..''

''වෙසොව්ෂිකොව්, නිතරම සහෝදරයින් ගැන කල්පනා කරනව. දන්නවද එයා මගේ කැමැත්ත දිනා ගන්ට හදන්නෙ මොනවටද කියල? ඒ ගොල්ලන්ට හිරෙන් පැනල යන්ට වැඩ පිළිවෙළක් යොදන්ට. එයා කියනව ඒක බොහෙම ලේසි වැඩක්ය කියල...'' සාෂා තෙපළාය.

සෝපියා හිස ඔසවා කතා කලේ ප්‍රණවත් ගතියකිනි:

''ඒ ගැන ඔයාගෙ අදහස මොකක්ද, සාෂා? ඒක අදහසක්!''

අම්මාගේ දෑත් වෙව්ලන්ට වූයෙන් කෝප්පයේ තේ හැලිණි. සාෂා ඇහිබැමි පාත් කර ගෙන බැරෑරුම්කමක් මවාගත්තාය. එහෙත් ප්‍රීතිමත් ලෙස සිනාසුණු ඇ නැවත මෙසේ කීවාය:

''එයා කියන විධියට ඒවා සියල්ලම ඇත්ත නම් අපි උත්සාහ ගනිමු! ඒක අපේ යුතුකමක්!..

ඇගේ මුහුණ රතු වී ගියෙන්, ඇ බිම බලා ගත්තී, නිහඬව වාඩි වුණාය.

මඳ සිනා පෑ අම්මා සිතන්ට වූවාය: ''අනේ මගේ රත්තරන්

කෙල්ලේ...'' සෝපියා මද සිනා පෑ අතර නිකොලායි මුදුලෙස සාෂා දෙස බලා හෙමින් සිනාසුණේය. එවිට හිස එසවූ තරුණිය දැඩිලෙස හැම දෙනා දෙසම බලන්නී සුදුමැලිව කෝපවූ හෙයින් යුතුව අමනාප වූ කලෙක මෙන් මෙසේ තෙපළාය.

''උඹලා මා දිහා බලා හිනාවෙනවා... මට දුන් තේරුම් ගන්ට පුළුවනි... ඔය ගොල්ල හිතන්නෙ මට පුද්ගලික උවමනාවක් තියෙනව කියලද?..''

''සාෂා, මොකද එහෙම කල්පනා කරන්නෙ?'' යැයි ඇසූ සෝපියා අසුනෙන් නැගිට ඇය දෙසට ආවාය උවමනා නැති ඒ ප්‍රශ්නය නිසා තරුණිය අමනාප වූ බව අම්මාට හැඟී ගියාය. ඈ සුසුමක් හෙළා බැම සහළ ඔසවා සෝපියා දෙස දෙස් පවරන අටියෙන් බැලුවාය.

''හොඳයි මම ප්‍රතික්ෂේප කරන්නම්!'' යැයි කෑ ගැසූ සාෂා, ''එම කාරණව ගැන මේ සහෝදරවරු සාකච්ඡා කරන්නෝ නම්, මම සහභාගි වෙන්නේ නැහැ''යි තෙපළාය.

''ඔබ ඒ අදහස අත්හැර දමන්න,'' සාන්තව නිකොලායි කීවේය.

අම්මාද ඈ වෙත විත් පහතට නැඹුරුවී ප්‍රවේසමින් ඇගේ හිස අත ගා සැනසුවාය. ඇගේ අත අල්ලා ගත් තරුණිය රත් පැහැ ගත් වත ඔසවා අම්මා දෙස බැලුවාය. මඳ සිනාවක් පෑ අම්මා බර සුසුමක් හෙලුවේ කුමක් කියන්වදැයි නොදන්නාක් මෙනි. සාෂා අසල පුටුවක වාඩිගත් සෝපියා ඇගේ දෙවුර අල්ලාගෙන ඈ දෙස කුතුහලයකින් බැලුවායා.

''ඔයා හරි පුදුම කෙනෙක්!..''

''ඔව්! මම මෝඩ අදහසක් කිවේ...''

''ඔයා කොහොමද එහෙම හිතන්නෙ!..'' යැයි සෝපියා දිග කතාවක් පටන් ගත්තද, නිකොලායි බැරෑරුම් ලෙස එයට බාධා කළේය:

''පැනයාමට ඉඩ කඩ තිබෙනම්, එය ලැහැස්ති කළ යුතු බවට තර්කයක් නැහැ. ඒ හැමටම ඉස්සෙල්ලා අපි දැන ගන්ට ඕන හිරේ ඉන්න සහෝදර වරු එයට කැමතිද කියල...''

සාෂා හිස පහත්කර ගත්තාය.

සිගරැට් වැටියක් දල්වා ගත් සෝපියා සිය සොහොයුරා දෙස බලා අත තිබූ ගිනිකූර මුල්ලකට විසි කළාය.

''ඇයි ඒ ගොල්ල අකමැති වෙන්නෙ!'' සුසුම් ලමින් අම්මා කීවාය. ''ඒ වැඩෙ කරන්ට පුළුවන් කියලනම් විශ්වාස කරන්ට බැහැ...

පැනයාම ගැන තවත් කරුණු ඇසීමට ඇට සිත් වූ නමුදු සියලු දෙනාම නිහඬ වූහ.

''මට ඕන වෙසොවෂිකොව් හමු වෙන්න,'' යැයි සෝපියා කීවාය.



''කොහෙද, කොයි වෙලාවටද යන්න මම හෙට ඔයාට කියන්නම්,'' සාෂා කීවේ පහත් හඬිනි.

''එයා මොනවද කරන්නෙ?'' මේ ප්‍රශ්නය ඉදිරිපත් කළේ සෝපියා කාමරය තුළ ඇවිදිමිනි.

''අළුත් මුද්‍රණාලෙ අකුරු ඇමිණීම එයාට භාර දෙමු. එතකලියෙන් එයා කැලෑ මුරකාරයෙක් ළඟ ඉදිවී.''

සාෂා ඇහි බැම් හකුළුවාගෙන බුම්මා ගත්තී, පරණ පුරුදු දැඩි පෙනුම ආරූඪ කරගත්තාය. තේ කෝප්පය හැදිගාමින් අම්මා වෙත ආ නිකොලායි මෙසේ පැවසීය:

''අනිද්ද අම්මා පුතා බලන්න හිරගෙට යනවා නොවැ. පාවෙල්ට ලියුම් කැබල්ලක් දෙන්ට ඕන...''

''මට තේරෙනවා, තේරෙනවා!'' ඉවසිලි රහිතව අම්මා කීවාය: ''මම ලියුම භාර දෙන්නම්...''

''මම යන්නම,'' යැයි සාෂා හැම දෙනාටම යුහුසුලුව, නිහඬව අත දී ආචාර කර පිටව ගියාය. ඇගේ ගමන බරය, සෘජුය.

සෝපියා, වාඩි වී සිටි අම්මාගේ, දෙවුරට අත තබා පුටුව සෙමින් පද්දවමින් සිනා මුහුණිපා යුතුව මෙසේ ඇසුවාය:

''නීලව්නා ඔයා කැමතිද ඔය වගේ දුවෙකුට?..

''අනේ දෙවියනේ! ඒ දෙන්නා එක දවසක් හරි එකට ඉන්නවා දකින්ට ඇත්නම්!'' යැයි අම්මා කෑ ගැසුවේ අඬන්ට සූදානමිනි.

''පොඩ්ඩක් සැප විඳීමට ඇත්නම් හැම දෙනාටම හොඳයි,'' නිකොලායි පැවසුවේ සෙමිනි. ''පොඩ්ත්තක් සැප විඳීමට අකමැති උදවිය කිසිවෙක් නැහැ. හැබයි වාසනාව ඕනෑවට වැඩි වුණාම ලාබ වෙනවා...''

පියානෝව අසල හිඳගත් සෝපියා දුක්බර ගීතයක් වාදනය කිරීමට පටන් ගත්තාය.

## XII

උදේ සිටම රෝහල අසල රැස්වූ පිරිමි සහ ගැණු සමූහයක් තම සහෝදරයාගේ මළ සිරුර සහිත පෙට්ටිය පිටත ගෙනෙන තුරු බලා සිටියහ. සමූහය අතරට වැදුණු පොලිස් ඔත්තුකරුවෝ රැස්ව සිටියවුන් දෙය ඉතා ඕනෑකමින් බලමින් හා ඔවුන්ගේ කතාවලට සවන් දෙමින්ද හැසුරුණහ. පිස්තෝල බඳ පටිවල එල්ලාගත් පොලිස් හමුදවක් පාරේ එහා පැත්තේ සිට පිරිස දෙස බැලීය. ඔත්තුකරුවන්ගේ අසෝබන හැසිරීමද, පොලිස් බටයින්ගේ උපහාසාත්මක හිනාද නිසා පිරිස තුළ

කෝපාන්විත කැළඹීමක් ඇති විය. පොලිසියේ අපහාසය උසුලා ගත නොහැකි වූ සමහරු කෝපය සඟවා විහිළු තහළු කරන්වත්, අන් සමහරු කල් පනාකාරී ලෙස අපහාස කිරීම ගණන් නොගෙන ඉන්වත්, ඉතිරි අය කෝපය නොසඟවා වචනවලින් පමණක් සන්නද්ධ වී සිටින මහජනයාට බයවී ඇති පාලනය උපහාසයට ලක්කිරීමටත් පටන් ගත්හ. මේමින්තයේ ලා නිල්වන් අහස පැහැදිලිය. කුඩා ගල් කැට වලින් සාදනලද පාරමත වැටී තිබෙන ඉදී හැළුනු කහ පැහැති කොළ සුළඟට අසුව මිනිසුන්ගේ දෙපාවල හැප්පේ.

පිරිස දෙස බැලූ අම්මා හඳුණන මිනිසුන් සොයමින් දෙමනසින් සිතන්ට වූවාය:

''ජනයා බොහෙම අඩුයි. කම්කරුවෝ ඇත්තෙම නැහැ...''

රෝහල් ගේට්ටුව විවෘත විය. රතු පටි සහිත මල් වඩම්වලින් සරසන ලද මිනී පෙට්ටියේ පියන ගෙනෙන ලදී. රැස්ව සිටි ජනකාය හිස් වැසුම් ගළවා ආචාර කළාහ. කළු හිස් වැසුම් ගැළවී ගියේ කළු කපුටන් රැළක් ඉගිලී යන්නාක් මෙනි. කළු උඩු රැවුලකින් හෙබි උස පොලිස් නිලධාරියෙක් පිරිස අතරට වැදෙත්ම, ඔහු පිටුපසින් ගමන් ගත් සෙබළ පිරිස මිනිසුන් හැම අතටම තල්ලු කරමින්, කළු ගලින් තැනූ පොළොවේ අඩි හප්පමින් ගියහ. නිලධාරියා අණ දෙන ලීලාවෙන් කෑ ගැසිය:

''රතු පටි ගළවපියව්!''

ඔහු වටා කවාකාරව සිටගත් පිරිමි සහ ගැහැණු අත් ඔසවමින්, වනමින් එකිනෙකා තල්ලු කරමින් කිසිවක් කීහ. අම්මා ඉදිරිපිට කුප්පනු ලැබූ මළානික මුහුණුද, වෙව්ලන දෙතොල්ද දිස්විය. එක් ගැහැණියක් කඳුළු වගුරුවන සැටිද ඇ දුටුවාය...

''බලාත්කාරකම් හංග වවා!'' යැයි කවුදෝ තරුණයෙකු කෑ ගැසූ නමුදු එම හඬ විවාද කරන පිරිස අතරට වැදී අතුරුදහන් විය.

අම්මාගේ හිතේද ඇති වූයේ දුක මුසු කෝපයකි. තමා අසල දුප්පත් ලෙස හැද පැළඳ සිටි තරුණයෙකු ඇමතූ අම්මා කෝපයෙන් මෙසේ කීවාය:

''මළ මිනිය වළලන්ටවත් ඉඩ දෙන්නේ නැහැ! කොතරම් කැතද?''

මිනී පෙට්ටියේ පියන ඒ මේ අත වැනෙන්ට වී. පිරිස කොපයෙන් වාද කළහ. සුළං පහරට අසුවන රතු පටි ඒ මේ අත ගොස් ළඟ සිටියවුන්ගේ හිස් වටා ගෙතිණ. සමහර රතු පටි සුළඟට අසුව 'කිටි' 'කිටි' යන හඬක් නඟයි.

දූන් දූන් අරගලයක් ඇති වෙයැයි බියගත් අම්මා අවට සිටියවුන්ට කතා කළාය.



''කමක් නැහැ, දෙවියන්ගෙ නාමෙට ඔය පටි ගළවා දන්ට උන්ට ඉඩ හැරපල්ලා!..''

කෑ කෝ ගැසීම මැඩගෙන මහ හඬින් කවුදෝ කෑ ගැසිය:

''නුඹලා විනින් වද දීපු ඒ මනුස්සයගෙ අවසාන ගමනට බාධා කරන්ට එපා...''

තරුණයෙක් සිහින් හඬින් ගායනා කළේය:

''ජනයා වෙනුවෙන් දිවි පිදුවා...''

''රතු පටි ගළවාපිය! යාකොව්ලෙව්, කපාපිය!''

කඩුවක් කොපුවකින් අදින හඬක් ඇසිණ. කෑ ගැසීම් හා පහරදීම් බලාපොරොත්තුවෙන් අම්මා දැස් වසා ගත්තාය. එහෙත් නිහඬ විය. වස කෑ වෘකයින් මෙන් මිනිස්සු ගෙරවූහ; දත්මිටි කෑහ. නිහඬව හිස් පාත්කරගත් පිරිස ඉදිරියට ගමන් කළහ.

අවමඟුල් පෙරහැරේ ඉදිරියෙන් ගෙන ගියේ මිනී පෙට්ටියේ පියනය. එහි තබූ මල්වඩම් තැළී පොඩි වෙලාය. රතු පටි කපා දමා තිබිණි. පොලිස්කාරයෝ අසුන් පිට නැගී ඒ මේ අත පැද්දෙමින් ගමන් ගත්හ. පදික වේදිකාව දිගේ යන අම්මාට මිනී පෙට්ටිය නොපෙනේ, පාර පුරා විසිර ගිය පිරිසෙන් එය වැසී තිබුණු බැවිනි. පෙරහැර පිටුපසින්ද අසරු පොලිස් නිලදරුවෝය. දෙපැත්තෙන් කඩුගත් පොලිස් බටයෝය. පිරිස අතරට වැදුණු ඔත්තුකාරයෝ මිනිසුන්ගේ මුහුණු අමතක නොවන සේ සිත්හි ඇඳ ගැනීම වස් ඔහැකමින් බැලූහ.

''සමු ගනිමු, සෝයුර! සඳහටම සමු ගනිමු!''

මනහර හඬින් දෙදෙනෙක් සෝකාන්විත ලෙස ගායනා කළහ.

''ගායනය නවත්වාපල්ලා!'' යැයි මොරදෙන හඬක් ඇසිණි. ''මහත්වරුනි, නිශ්ශබ්ද වෙයල්ලා!''

ඒ තියුණු කෑ ගැසීම සිත් වශී කළේය. දුක්බර ගීතය නැවතිණි. කතාබහ තොල මැතිරීමට පමණක් සීමා විය. ඉඳහිට කකුලක හැපෙන ගල් කැටයක විසිවී ඝන ශබ්දය පමණකි ඇසිය හැක්කේ. එවැනි ශබ්දයක් විසිර ගොස් ඈත එන විදුලි කෙටීමක හා ගෙරවීමක හඬක් දන්වන්නාක් මෙනි. නගරයේ දූලි, කුණු රොඩු හා වීදි අතු ගා පිරාගෙන නැග එන සීත සුළං සතුරෙකු සේ හිසකේ සහ ඇඳුම් අවුල් කරමින්ද, ඇස්වලට පිඩා ගෙන දෙමින්ද, ළය මත සහ කකුල්වල හැප්පෙමින්ද මිනිසුන් පිළිගත්තේය...

මේ නිශ්ශබ්ද අවමඟුල් පෙරහැර පූජකවරුන්ගෙන් තොරය; ළය කම්පා කරවන ගීතිකා නැතිය. දුකින් පිරි කල්පනාකාරී මිනිසුන්ගෙන් සමන්විතය. මේ සියල්ල දකින අම්මා තුළ පහළ වූයේ ත්‍රාසජනක

හැඟීමකි. තම හැඟීම් දුක්බර වචනවලට හරවමින් ඇය මෙසේ කෙඳිරුවාය.

''ඇත්ත වෙනුවෙන් ඉදිරිපත් වෙලා ඉන්න උදවිය බොහොම අඩුයි...''

හිස පාත් කරගෙන ගමන් කරන ඇයට දැනෙන්නේ, මේ අවමඟුල් පෙරහැර යෙගෝර්ගේ නොවේය යන්නය. තමාට බොහෝසෙයින්ම කිට්ටු ඉතාම අවශ්‍ය කෙනෙකුගේ අවසාන ගමන හැටියටයි ඇට හැඟෙන්නේ. ඇගේ හදවත දුකින් පිරී තිබිණි. යෙගෝර්ගේ අවමඟුල් පෙරහැරේ ගමන් කරන මිනිසුන් සමග එකඟ නොවූ ඇගේ සිත තුළ අනතුරු හඟවන හැඟීමකි පහළ වූයේ.

''සත්තකින්ම යෙගෝර් දෙවියන් විශ්වාස කළේ නෑ. මේ මිනිස්සුත් එයා වගේමයි,'' ඈ සිතුවාය.

එම හැඟීමෙන් ඇති වූ චිත්ත වේදනාව තුනී කර ගැනීමටදෝ දිග සුසුමක් හෙළුවාය.

''අනේ දෙවියනේ, ජේසු ස්වාමි දරුවනේ! මටත් වෙන්නෙ ඔය ටික නේද...''

අවමඟුල් පෙරහැර සුසාන භූමියට ඇතුළු විය. පිරිස කුඩා සුදු පැහැති කුරුස සිටවා ඇති මිනී වළවල් ඔස්සේ විසිර ගමන් කරන්නට පටන් ගත්තේය. යෙගෝර්ගේ මළ සිරුර සඳහා පිළියෙළ කොට තිබූ මිනී වළ වටා සෙනග රොක්වූහ. මිනීවළවල් අතරින් රුස්වූ සෙනඟ නිහඬව සිටිනා සැටි දකින අම්මාගේ හදවත ඉවසුම් නොදෙන වේදනාවකින් පෙළිණි. කුරුස ගස් අතරින් හමාගිය සුළංපාර හඬක් නැගුවේය. මිනී පෙට්ටියේ පියන මත සවිකර තිබූ පොඩිවී මැලවී ගිය මල් ඒ මේ අත වැනේ...

පොලිස් බටයෝ තම ලොක්කා දෙස ඕනෑකමින් බලා සිටිත්. මිනීවළ අසල හීන්දෑරි උස තරුණයෙක් සිට ගත්තේය. මලානික මුහුණකින් සහ කළු පැහැති ඇහි බැමිවලින් හෙබි ඔහුගේ හිසකෙස් වැටිය දිගය. එකෙණෙහිම පොලිස් ලොක්කා මහ හඬින් කෑ ගැසීය:

''මහත්තුරුනි...''

''සහෝදරවරුනි!'' යැයි හීන්දෑරි තරුණයා වේගයෙන් පිරිස ඇමතීය.

''කතාවලට අවසර නොදෙන බව දනුම් දෙනවා...'' පොලිස් ලොක්කා ගිරිය පුප්පා කෑ ගැසීය.

''වචන කීපයක් විතරයි මා කියන්නේ,'' සාන්ත ලෙස තරුණයා කීය. ''සහෝදරවරුනි! අපේ ගුරුවරයාවූත් මිතුරාවූත් මොහුගේ මිනී වළ ඉදිරියේ ඔහු කරගෙන ගිය සටනත්, ඔහුගේ උපදෙසුත් කිසි කලෙක අමතක නොකරන බවට දිවුරා පොරොන්දු වෙමු! අපේ මව්බිමට විනාශය ගෙන දෙන අපරාධකාරී බලවේගය, මර්ධනකාරී නිතුවක්කාර පාලනය වන රාජාණ්ඩුව සුණු විසුණුකර දැමීම සඳහා අඛිත සටන් කරන බවට දිවුරා පොරොන්දු වෙමු!

''හිරභාරයට ගනිවු!'' යැයි පොලිස් ලොක්කා කෑ ගැසූ නමුදු ඔහුගේ හඬ යටපත් කරමින් පිරිස කෑ ගැසූහ:

''නිතුවක්කාර රාජාණ්ඩු පාලනය හංග වේවා!''

සෙනග තල්ලු කරමින් පොලිස්බටයෝ කථිකයා දෙසට කඩා පැන්නාහ. එහෙත් ඔහු වටා සිටගත් මිනිස්සු ඊට ඉඩ නොදුන්හ. කථිකයා මිට මෙළවූ අතක් දිගුකරමින් කෑ ගැසුවේය.

''නිදහසට ජයවේවා!''

අම්මා තල්ලු කර දමන ලදින්, ඈ, ළඟ තිබූ කුරුසියක් අල්ලාගෙන, දුන් දුන් පහර වදී යන සිතින් දෑස් පියා ගත්තාය. කෑ කෝ ගැසීම් හා විලාප ගැසීම් නිසා ඇගේ කන් බිහිරි වූවාක් මෙනි. සුසාන භූමිය දෙදරයි. සුළං හැමීම සහ බිය නිසා ඇයට හුස්ම ගැනීම පවා අමාරුය. පොලිස් නළා අනතුරු හඬ විසුරුවා හැරීය. අණ දෙන රළු කට හඬ අවට වාතය පුරවාලිය. ස්ත්‍රීහු බිය පත්ව මර ලතෝනි දෙමින් කෑ ගැසූහ. වැටවල් කැඩෙන හඬ ඇසිණි. වියලි බිම පාගන සපත්තුවල හඬ කන්හි වැකිණ, මෙසේ බොහෝ වේලාවක් ගතවිණ. දෑස් වසාගෙන සිටීම ඇට ඉවසිය නොහැකි බියක් ගෙන දුන්නේය.

ඇස් හැර බලා දැත් විහිදගත් ඕ ඉදිරියට පැන්නාය. තරමක් ඈත පටු මාවතක හීන්දෑරි තරුණයා වට කර ගෙන සිටින මිනිසුන්ට පහර දෙන පොලිස්කාරයින් ඇට පෙනේ. සීත සුළං හමයි. කඩුපත් ලෙලදෙයි. මිනිසුන්ගේ හිස් ගෙඩි මත පතිත වන කඩුපත් නැවත උස් පාත් වේ. ගස්වල අතු සහ වැටට අයත් ලී කෝටුද ඒ මේ අත වැනෙයි. මිනිස්සු මර හඬ දෙති. තරුණයාගේ මලානික මුහුණ පෙනේ. කුණාටුව මැඩ ඔහුගේ කෝපාන්විත කට හඬ නැගී ආවේය.

''සහෝදර වරුනි! ඇයි විනින් නාස්ති වෙන්ට හදන්නෙ!''

ඔහු පොලිස් බටයා අබිබවා නැගී සිටියේය. පොලු හා කෝටු විසි කර දැමූ මිනිස්සු පසු බසින්ට පටන් ගත්හ. අම්මා කිසියම් බලයක් විසින් ඉදිරියට ඇද දැමූ කලෙක මෙන් නොනැවැතී යන්නී, හිසේ පිටුපස කොටස වැසෙන සේ තොප්පියක් හැද සිටි නිකොලායි දුටුවාය. කෝපව සටනට පැන ඉදිරියට යන මිනිසුන් තල්ලු කරමින් ඔවුන් සංසුන් කරන නිකොලායිගේ වදන් ඇට ඇසේ:

''තමුසෙලාට පිස්සුද? සංසුන් වෙයල්ලා, කරුණා කරලා!..''

ඔහුගේ එක අතක් ලේ පැහැ ගෙන තිබෙන සැටි ඇට පෙනේ.

"නිකොලායි ඉවානොවිච්, අහකට යන්න! යැයි කෑ ගැසූ අම්මා ඔහු බද ගත්තාය.

"කොහෙද මේ? ඔබට ගහවි..."

ඇගේ උරහිස අල්ලා ගෙන ඈ ළඟින් සිටගෙන උන්නේ සෝපියා ය. හිස් වැසුමක් නැතිව සිටි ඇගේ කෙස් කළඹ අවුල්ව තිබිණ. ඈ එක් අතකින් කොලූ ගැටයෙක් යැයි කිව හැකි තරුණයෙකු අල්ලාගෙන සිටියාය. ලේ පෙරෙමින් තිබූ තම මුහුණ අත ගෑ ඔහු වෙව්ලන දෙතොලින් කෙඳිරි ගෑවේය.

"අත හරින්න... කමක් නෑ..."

"මෙයාව අපේ ගෙදරට ගෙනියන්න! මෙන්න ලේන්සුවෙන් මූණ වෙලන්න!" යැයි කඩිනමින් කී සෝපියා කොල්ලාගේ අත අම්මාට අල්ලා ගන්නා ලෙස පවසා ඉදිරියට ගියාය: "ඉක්මනට යන්න, නැතිනම් සිරබාරයට ගනීවි!.."

සුසාන භූමියේ සිට සෑම දෙසකින්ම ජනයා විසිර ගියහ. පොලිස්කාරයෝ මිනීවලවල් අතරින් ගමන්කරන අතර කඩුපත් වනමින් බැණ වැදුනාහ. ගැටවරයා චකිතයෙකු මෙන් ඔවුන් දෙස බැලුවේය.

"ඉක්මනට යමු!" යැයි කී අම්මා ඔහුගේ මුහුණෙන් ගලන ලේ පිස දැම්මාය.

ලේ මුසු කෙළ ගැසූ හෙතෙම ගැස්සෙන හඬකින් කතා කළේය.

"බය වෙන්ට එපා, මට රිදෙන්නේ නැහැ. ඌ මට කඩු මිටෙන් ඇන්නා. මම ඌට දුන්නා පොල්ලකින් පිට හරහට... ඌ කෑ ගැහැව්වා!.."

ලේ පෙරෙමින් තිබූ අත මිට මොළවා ගත් හෙතෙම කොඳුලේය.

"ඉදිරිය ඔහොම නොවෙයි. සටනක් නැතුව අපි උඹලව පාගන්නම්! අපේ කම්කරුවෝ නැගිටී දව!"

"ඉක්මනට!" යැයි කී අම්මා සොහොන් බිමෙන් ඉවත ගොස් කුඩා ගේට්ටුවක් හැරියා ය. සොහොන් බිමෙන් එහා පාළු පිටියේ පොලිසිය සැඟවී සිටින බවත්, එහි ගිය සැණෙකින් පොලිසිය නැවත පහර දෙන බවත් ඈ සිතුවාය. එහෙත් ගේට්ටුව හැර පිටිය දෙස බැලූ අම්මා, එහි පාළු බව සහ හේමන්තයේ අඳුරු පටලය දකින්නී සිත සැහැල්ලු කර ගත්තාය.

"මූණේ තුවාල වෙලන්නම්," යැයි අම්මා කීවාය.

"ඕන නැහැ, මට ලජ්ජාවක් නැහැ. සටන අවංක ලෙස කළා. ඌ මට, මම ඌට..."

ඈ ඉක්මනින් ඔහුගේ තුවාලය වෙලා බැන්දය. ඔහුගේ මුහුණෙන් පෙරෙන ලේ දුටු ඇගේ සිත දුකින් වෙලී ගියේය. ඇගේ අත්වල ඇඟිලිවලට



ඔහුගේ ලේවල උණුසුම් ගතිය දනෙත්ම, ඈ බියෙන් සැළුණාය. ඔහුගේ අතින් අල්ලාගත් අම්මා නිහඬව කඩිනමින් පිටිය හරහා ගියාය. කට වසා තිබූ රෙදි පටිය මුදගත් හෙතෙම සිනා සෙමින් කතා කළේය:

"සහෝදරී, ඔබ කොහෙද මාව ඇදගෙන යන්නේ? මට තනියම යන්ට පුළුවනි!.."

එහෙත් ඔහුට ගමන් කිරීමට බැරි බවත් ඔහුගේ පා එකට ගැටෙන බවත් දැත් වෙව්ලන බවත්, ඈට දනෙයි. දුර්වල හඬකින් ඔහු ප්‍රශ්න අසන්වත් උත්තර බලා නොසිට කතා කරන්වත් පටන් ගත්තේය:

"මම වෙලෙක් කම්කරු — ඉවාන්. ඔබ කවුද? අපි තුන්දෙනෙක් යෙගෝර් ඉවානොවිච්ගෙ දේශපාලන පංතිවල ඉගෙන ගත්තා. මුළු ගණන එකොළොස් දෙනෙක්. එයාට අපි බොහොම ගරු කළා, එයා දිව්‍ය ලෝකයට යාවි. හැබයි මම දෙවියෝ විශ්වාස කරන්නෙ නෑ..."

අශ්ව කරත්තයකට දෙදෙනාම නැගී ගත්හ. අම්මා කොඳුරන්ට පටන් ගත්තාය:

"දැන් ඉතින් නිහඬ වෙන්න!" ඕ ඉතා ප්‍රවේශමින් ඔහුගේ කටෙහි වූ තුවාල ලේන්සුවකින් වෙළුවාය.

ඔහු බැඳ තිබූ කට මුදා හැරීම සඳහා අතක් එසෙව්වද, එය පණ නැතිව ඇද වැටිණ. එහෙත් කෙඳිරීම නොනවත්වා කරගෙන ගියේය.

"මට ගහපු පාරවල් අමතක කරන්නේ නැහැ. යෙගෝර්ට ඉස්සෙල්ලා අපට දේශපාලන ආර්ථික විද්‍යාව ගැන ටිටෝවිච් — සරසවි ශිෂ්‍යයෙක් පාඩම් දුන්නා... එයාව හිරබාරයට ගත්තා..."

තුවාලවලින් පිරි ඉවාන්ගේ මුහුණ දැතින් ගෙන අම්මා තම ළය මත තබා ගත්තාය. වේදනාව නිසා ගැටවරයා හිටි හැටියේම නිශ්ශබ්ද විය. ඈ යටසින් වට පිට බලන්නී, දැන් දැන් පොලිසිය පැමිණ, තුවාල ලබා සිටින ඉවාන් දැක ඔහු අල්ලාගෙන ගොස් මරා දමනු ඇතැයි බිය ගත්තාය.

"බීලද? අශ්ව කරත්තය දක්කන්නා ඇසුවේ, පිටුපස හැරී සුහද සිනාවක් පාමිණි.

"අඩා වැලපෙන්ට තරම් වැඩක් නමා." යැයි කී අම්මා සුසුමක් හෙළුවාය.

"පුතාද?"

"ඔව්, සපතේරු රස්සාව, මම කුස්සි අම්මා කෙනෙකු වගේ රස්සාව කරනවා..."

"වද විඳිනවා නේවද.:."

අශ්වයාට කසයෙන් පහරක් දී නැවතත් හැරුණු රිය කරුවා සෙමින් කතා කළේය:

''දන්නවද මිනි පිට්ටනියෙ මහ අරගලයක් ඇති වුණා!.. එක දේශපාලන කාරයෙකුගෙ මිනිය වළලන්ට ආවා. ඒ ගොල්ල ආණ්ඩුවට විරුද්ධයි.:. ලොක්කො සමග වාද කරනව. මිනිය ගෙනාවෙ එයාගෙ යාලුවෝ. මිනි පිට්ටනියේදි ඒ ගොල්ල කෑ ගහල කිව්වෙ, මහජනයාට වද දෙන ආණ්ඩුව හංග වේවා කියල... පොලිසිය උන්ට ගහල. කීප දෙනෙකුට ගහල මරා දැම්මලු. පොලිසියටත් ගහල තියෙනව...'' නිහඬවූ හෙතෙම හිස වනමින් අමුතු හඬකින් මෙසේ කීය: ''මැරුණු අයට කරදර කරනව, මළ මිනී කුද්දනවා!''

අශ්වයා කරත්තය ඇදගෙන ගල් කැටවල කුර හප්පමින් දුවයි. ඉවාන්ගේ හිස අම්මාගේ ළය සෙමින් තල්ලු කළේය. විය කරුවා කල්පනාකාරීව මුමුණුවේය.

''මහජනයා කිපී ඉන්නවා. කලබල ඇතිවෙන්නෙ මහ පොළොවෙන්. ඊයෙ අපේ අසල්වැසි ගේකට පොලිසිය කඩා වැදිල එළිවන තුරු මොනවදෝ හොයල, පාන්දර යකඩ බාස් කෙනෙකුව අල්ලාගෙන ගියා. ඊට එයාව ගඟට ගෙනියලා හොරෙන් ගිල්ලා දමනවාය කියල ආරංචියි. යකඩ බාස් හොඳ මිනිහ...''

''එයාගෙ නම කොහොමද?''යි අම්මා ඇසුවාය.

''යකඩ බාස්ගෙ නමද? සාවෙල්, වාසගම යෙව්චෙන්කො. එයා හරි තරුණයි. ඒ වුණාට බොහොම දේවල් දැනගෙන හිටියා. දැනගැනීම තහනම් කරල තියෙන්නෙ! 'කරත්ත කාරයිනි, තොපේ ජීවිත කොහොමද කියල ඇහුවොත්,' අපි කියන්නෙ අපේ ජීවිත බල්ලන්ටත් අන්තයි කියල.''

''නවත්වන්න!'' යැයි අම්මා ඉල්ලා සිටියාය.

කරත්තය ගැස්සීම නිසා ඇතිවූ වේදනාව ඉවසාගත නොහී ඉවාන් කෙඳිරි ගෑවේය.

''ඉලන්දරියාට සැහෙන්ට වැදිල තියෙනවා. අනේ වොඩකා! වොඩකා!

අමාරුවෙන් අඩි තබමින් ඉවාන් ගෙවැට දක්වා ගියේය.

''කමක් නෑ, මට පුළුවනි...'' යැයි හේ කීවේය.

# XIII

සෝපියා අම්මා පිළිගැනීමට ඉදිරියට ආවේ සිගරැට් වැටියක් කටේ ඇතිවය. ඈ කැළඹීමට පත්වී තිබෙන බව පෙනිණ.

තුවාල කාරයා සෝපාවෙක සතප්පවා, ඔහුගේ තුවාලය ඉතා හොඳින් ලිහා දැමූ සෝපියා සිගරැට් දුම නිසා ඇස් හකුළුවා ගත්තාය.



''ඉවාන් දනිලවිච්, තුවාලකාරයාව ගෙනාවා! නීලව්නා ඔයාව හුඟක් මහන්සියි නේවද? බය වුණාද? විඩාහරින්ට. නිකොලායි, නීලව්නාට පෝට් වයින් වීදුරුවක් දෙන්න!''

ලැබූ අත්දැකීම් නිසා විඩාපත්ව සිටි අම්මා සුසුම් ලෑවාය. ළය කකියන බවක් ඇට දැනේ. ඈ මුමුණුවාය.

''ඔයා මා ගැන කලබල වෙන්ට එපා...''

මුළු මහත් හද පත්ලෙන්ම තමා වෙත සැලකිල්ලක් හා සැනසිලි බසක් කියන ලෙසය, ඈ ඉල්ලා සිටියේ.

යාබද කාමරයේ සිට නිකොලායි අතක් වෙලාගත එළියට ආවේය. ඉත්තෑවෙකු සේ අවුල් වූ හිස කෙසින් හෙබි දෙස්තර ඉවාන් දනිලවිචද ඔහු සමග ආවේය. ඔහු තුවාලකාරයා දෙස බලා මෙසේ කීය:

''වතුර, වැඩියෙන් වතුර, පුළුන්, පිරිසුදු තුවායක්, රෙදි පටි!''

අම්මා කුස්සිය දෙසට හැරෙත්ම, නිකොලායි වම් අතින් ඇගේ උරහිස අල්ලාගෙන කෑම කාමරය දෙසට ගෙන ගියේය.

''ඒ කීවෙ ඔබට නොවේ, සෝපියාට. දයාබර සොහොයුරිය, ඔබ හොඳටම බය වුණා නේද?''

අම්මා ඔහුගේ සැලකිලි සහගත විඩාපත් විලාසය දකින්නී, ඉවසා ගත නොහී අඬමින් මෙසේ කීවාය:

''අනේ මොකක්ද ඒ වැඩේ! මිනිසුන්ව කැපුවා, පෙතිගැසුවා!''

''මම දැක්කා,'' යැයි අම්මාට වයින් වීදුරුවක් වත් කළ නිකොලායි කීවේ හිස වනමිනි. ''දෙපැත්තම උවමනාවට වඩා රත් වුණා. අම්මා බය වෙන්ට එපා. උන් අපට කඩුවල මොට්ට පැත්තෙන් ගැහැව්වා. බරපතල තුවාල ලැබුවේ එක්කෙනයි. මම බලාගෙන ඉන්නා විටයි එයාට ගැහැව්වෙ, මම මිනිහව පිරිසෙන් ඇදල ගත්තා...''

නිකොලායිගේ මුහුණද, කට හඬද, කාමරයේ ආලෝකයද, උණුසුමද අම්මා සංසුන් කළේය. ඔහු දෙස කෘතඥපූර්වක බැල්මක් හෙලූ ඈ විමසුමවාය.

''ඔබටත් ගැහැව්වද?''

''මා විසිං වුණ දෙයක්. මොකක්දෙ අදින්ට ගිහින් හම සිරිලා ගියා. ඔබ තේ බොන්න, දැන් සීතලයි, සැහැල්ලු ඇඳුමක් තොව ඇඳල තියෙන්නෙ...''

තේ කෝප්පය ගැනීමට අත දිගු කළ විට, තමාගේ ඇඟිලි ලේ නිසා රත් පැහැගෙන තිබෙන සැටි අම්මා දුටුවෙන් ඉබේටම මෙන් අත දණහිස මත තබා ගත්තාය. එවිට තම ඇඳුමද ලෙයින් තෙත්ව තිබෙන සැටි ඇයට

දැනිණ. ඇස් විදහා ගෙන හොරෙන් මෙන් තම ඇඟිලි දෙස ඈ බලත්ම, ඇගේ හිස කකියන්ටත් හදවත ගැහෙන්ටත් විය.

"පාෂාවත් මේ වගෙ වෙන්ට පුළුවන්!"

දෙස්තර ඉවාන් දනිලව්ච් කමිසයේ අත් නවාගනිමින් කාමරයට ඇතුළු වී නිකොලායි නිහඬව ඇසූ ප්‍රශ්නයකට පිළිතුරු දෙනු වස් සිහින් හඬකින් කතා කළේය:

"මූණෙ තුවාලෙ එතරම් ලොකු නැහැ, හිස් කබල පිපිරිලා, ඉලන්දරියට හයිය හත්තිය තියෙනව. ලේ හුඟාක් ගලා ගිහිං තියෙනව. ඉස්පිරිතාලයට යවන එක හොඳයි?"

"මොකටද? මෙහෙ හිටපුවාවෙ!" නිකොලායි කීවේය.

"අදත් හෙටත් ඉඳපුවාවෙ. පස්සෙ ඉස්පිරිතාලෙට එවන්න. මට පහසුයි. හැමදම එන්ට යන්ට වෙලාව නැහැ. මිනී පිටවනියෙ සිද්ධිය විස්තර කරල පත්‍රිකාවක් ලියපන්, හොඳේ!"

"සත්තකින්ම!" නිකොලායි පිළිතුරු දුන්නේය.

අම්මා නිහඬව නැඟිට කුස්සිය දෙසට ගමන් කළාය.

"නිලව්නා කොහෙද යන්නෙ" යැයි ඇසූ ඉහතෙම අම්මා නවත්වමින් "සෝපියා ඒ වැඩේ කරාවි!" යැයි කීවේය.

ඕහු දෙස බැලූ ඈ වෙව්ලා, සිනාසෙමින් මෙසේ තෙපළාය:

"මගේ ඇඳුම් පුරා ලේ..."

අළුත් ඇඳුම් ඇඳගන්නා අතර ගෙහිමියන්ගේ ශාන්ත ලීලාව ගැනත් බියකරු සිද්ධීන්වලට මුණ පෑමට ඔවුන්ට ඇති ශක්තියත් දක ඈ යළි සිතන්නට වූවාය. එය ඇගේ සිතෙහි හටගත් බිය පන්නා දැමීමට සමත් විය. ඈ වෙනත් ඇඳුමක් හැඳ ගෙන තුවාලකරු සිටින කාමරයට යත්ම, සෝපියා ඔහුට කතා කරන සැටි ඇගේ කන්හි වැකිණ:

"සහෝදරයා ඒක මෝඩකමක්!"

"ඔබ ඉන්න නිසා මට ලැජ්ජා හිතෙනවා!" යැයි දුර්වල හඬකින් ඔහු තම විරුද්ධත්වය පෑවේය.

"තමුසෙ කට වහගන්නව තමුසෙට හොඳයි..."

අම්මා සෝපියාගේ උරහිසට අතක් තබා තුවාලකරු දෙස කරුණාබර සිනාවක් පා, ඔහු අශ්ව කරත්තෙන් එන ගමන් කළ ප්‍රවේසම් රහිත කතාව ගැන ඇයට දන්වා සිටියාය. එය අසා සිටි ඉවාන්ගේ ඇස් උණ රෝගයෙන් මෙන් දිලිසෙන්ට විය. ඔහු තලු මරා ලජ්ජාවෙන් මෙසේ කීය:

"අනේ මා වගේ මෝඩයෙක්!.."

ඔහුගේ පොරෝනය හරි ගැස්සූ සෝපියා, "අපි එහා කාමරයට යනවා, සහෝදරයා නිදගන්න." යැයි කීවාය.



කෑම කාමරයට ගිය ඔවුහු දවසේ සිදුවීම් ගැන බොහෝ වේලා කතා කරන්ට වූහ. බොහෝ ඈතදී හටගත් සිදුවීමක් හැටියට එය සලකා බැහැර කොට, ස්ථිර බලාපොරොත්තුවකින් යුතුව ඔවුහු අනාගතය දෙස බලන්ටත්, හෙට වැඩ ගැන විධි විධාන යොදන්ටත් වූහ. ඔවුහු විඩා පත්වී සිටියද තම වැඩ ගැන කතා කරන විට ප්‍රීතිමත් ප්‍රබෝධයක් පෙන් වූ අතර තම කාර්යන් ගැන විවේචනාත්මක ලෙස බැලීමටද නොපසුබට වූහ. කලබල ස්වභාවකින් පුටුවේ පැද්දෙමින් හුන් දෙස්තර කැන තම සිත් කටහඬ උත්සන්න කරමින් කතා කළේය:

"ප්‍රචාරය, ප්‍රචාරය! එය විතරක් මදි, කම්කරු තරුණයො හරි! උද්ඝෝෂණය වඩාත් පළල් කරන්ට ඕන. කම්කරුවො හරි! මම කියනව..."

නිකොලායි කතාවට මැදහත් වෙමින් පිළිතුරු දුන්නේය:

"හැම තැනින්ම ලැබෙන දුක් ගැනවිල්ලක් තමා පොත් පත්‍රිකා මදිය කීම. අපට තවමු බැරි වුණා හොඳ මුද්‍රණාලයක් ගොඩ නගා ගන්ට. ලුද්මිලා හොඳටම මහන්සි වෙනව. අපි ඇයාට උදව් කාරයො දෙන්නෙ නැතිනම් එයා කැඩී වැටේවි..."

"ඇයි, වෙසොව්ෂිකොව්?" සෝපියා ඇසුවාය.

"එයාට නගරය තුළ පදිංචි වෙන්ට බැහැ. එයා අළුත් මුද්‍රණාලෙ බාර ගනීවි. ලුද්මිලාට තව එක්කෙනෙක් සොයාදෙන්ට ඕන..."

"මම ඒ වැඩට හොඳ මදිද? යි අම්මා ඇසුවාය.

තිදෙනාම ඇය දෙස බලමින් මොහොතකට නිහඬ වූහ.

"හොඳ අදහස! සෝපියා කීවාය.

"නෑ, ඒක අමාරු වැඩක්, නිලව්නා!" නිකොලායි කීය. "ඔබට සිද්ද වේවි නගරෙන් පිට පදිංචි වෙන්ට. පාවෙල් බැලීමට යාමට ලැබෙන එකක් නැහැ. ඇරත්..."

සුසුමක් හෙලමින් අම්මා විරුද්ධත්වය ප්‍රකාශ කළාය:

"පාෂාට ඒක එතරම් ලොකු පාඩුවක් නොවී. මට, පුතා බලන්ට යාම පසුව පැලෙන වැඩක්! කිසි දෙයක් කතා කරන්ට බැහැ. කටදිහා බලාගෙන ඉන්නව කොයි වේලාවේද වැඩිපුර වචනයක් දෙඩන්නෙ කියල..."

පසුගිය දිනවල සිද්ධීන් නිසා ඈ හෙම්බත්ව සිටියාය. නගරයෙන් පිට එම සිද්ධීන් වලින් ඈත් වී ජීවත් වීමට ලැබෙන ඉඩ දුටු අම්මා ගිජු ලෙස ඒ අවස්ථාවෙන් ප්‍රයොජන ගැනීමට ඉවා ගත්තාය.

නිකොලායි තම කතාව නැවැත්විය.

"ඉවාන් මොනවා ගැනද කල්පනාව?" යැයි හෙතෙම දෙස්තරගෙන් ඇසිය.

හිස ඔසවාගත් දෙස්තර මෙසේ පැවසීය:

"මිනිස්සු මදි! ඔන්න ගැටළුව. වඩා ධෛර්යමත්ව වැඩ කරන්ට ඕන... පාවෙල්වයි, අන්ද්‍රේවයි කැමති කරව ගන්ට ඕන හිරෙන් පැනල යන්ට. ඒ දෙන්න එතන ඉදිම විශාල පාඩුවක්..."

නිකොලායි ඇහි බැම් හකුළුවා ගනිමින් හා සැක සහිතව හිස වනමින් අම්මා දෙස බැලුවේය. තමා ඉදිරිපිට පුතා ගැන කතා කිරීම අපහසු කාරණයක් බැව් අම්මාට හැඟී ගියෙන් ඇ එතනින් ඉවත්ව ගියාය. තම ඉල්ලීම නොසලකා හැරීම ගැන ඇගේ සිත තුළ ඇති වූයේ මුදු අමනාපයකි. ඇඳෙහි වැතිරගත් ඇ ඇස් ඇරගත්වනම අනතුරුවලින් පිරි මනෝරාජ්‍යයකට පිවිසියාය.

ගෙවී ගිය දවස අඳුරුය, නොපැහැදිලිය, කුප්පන සුලුය. ඒ ගැන තවත් දුර කල්පනා කිරීමට ඇට සිත නොදෙයි. ඇ තම පුතා ගැන සිතන්ට වූවාය. ඔහු නිදහසේ සිටිනවා දකිමට ඇ කැමති නමුදු එම අදහසද ඇට බිය ගෙනුදේ. වට පිටාව උග්‍ර වේගන එයි. තියුණු සටන් ඇවිලෙන බව කියාපායි. මිනිසුන්ගේ නිහඬව ඉවසීමේ සීමාව ඉක්මවා ගොසින්ය. නොසන්සුන් බලාපොරොත්තුවකට ඉඩ දෙමින් කිපී වේගවත්ව නැග එයි. වචන තියුණුය. මිනිස්සු කෝපවී සිටිති... බෙදා හරිනු ලැබූ සෑම පත්‍රිකාවක්ම කියවන වෙළඳ සේවකයෝද, හස්ත කර්මාන්ත කරුවෝද උනන්දුවක් දක්වති. හැම සිරකිරීමක් පාසාම, ඒ ගැන බියෙන් හා අනතුරු හැඟවීමකින්ද නොදනුවත්වම හෝ එම ක්‍රියා හෙළා දකීමද ඇති වේ. ඉස්සර තමා ඇසීමට පවා බය වුණු වචන — කැරැල්ල සමාජවාදියෝ දේශපාලනය ආදී වචන, සාමාන්‍ය මිනිසුන් කියන සැටි ඇට ඇසේ. ඒවා කීවේ උපහාසාත්මක ලෙසය. එහෙත් එවැනි උපහාසයන්ට යටින් කිතිකැවෙන පැනයකි. කෝපය සමග බියද, කල්පනාකාරී බව සහ බලාපොරොත්තුවද, තර්ජනයද එහි ගැබ්විය. ක්‍රමයෙන් අඳුරු ජීවිතය තුළ පැන නැගී අනතුරු හැඟීම් පැතිර යයි. නිදිබර පුරුදු හැඟීම් අවදිව අවුත් දවසේ සිද්ධීන් ගැන සාන්ත ලෙස සිතීමට තුඩු දෙයි. පීඩිත ජීවිතය මේ යැයි හොඳහැටි දන්නා ඇ ඒවා අන් අයට වඩා පැහැදිලිව දක්කාය. පීඩිත දිවිය හැකිළී ඉරී තැලී ගොස් තිබෙන සැටි දකින ඇය කල්පනාකාරීව හා කැළඹීමෙන්ද ඒ දෙස බලයි, වරෙක බිය වූවාය ප්‍රීති වූයේ තම පුතා ගෙනියන සටන් නිසාය. බිය වූයේ ඔහු ඇවිත් නැවතත් වැඩ කළොත් ඉතාම අනතුරු දයක තැනට ඔහු යන නිසාත්, එහි විපාකය — මරණය වන නිසාත්ය.

සමහර විට තම පුතා ඇට පෙනෙන්නේ ජන කතාවක එන වීරයකු සේය. ඒ වීරයා සියලුම අවංක, නිර්භීත, ගති ගුණ වලින් සමන්විතය.



තමා දන්නා සියලුම කතාවල එන වීරයන්ට සමාන ඔහු සියලුම ජනතාවන්ට අයත් වීරයින්ගේ සංකේතයකි. එවැනි හැඟීම් වලින් පිරී ඉතිරී යන්නී, ඇ අභිමානයෙන් හා ආස්වාදයෙන්ද, ආදරයෙන් හා සුහද, දයාවකින්ද බලාපොරොත්තුවකින්ද යුතුව සිතුවාය.

"හැම දෙයක්ම හොඳින් සිදු වේවි! හැම දෙයක්ම!"

ඇගේ ආදරය, මාතෘ සෙනෙහස හදවත පොඩිකරමින් වේදනාව ගෙන දීම තෙක් ඇවිලිණ. අනතුරුව මිනිස් හැඟීම් ඉස්මතු වීමට මාතෘ සෙනෙහස බාධාවක් විය. අර මාතෘ සෙනෙහස එය දැවීය. උදාතර හැඟීම් වෙනුවට අළුගොඩක අනතුරුදයක හැඟීම් පහළ විය. එවිට ඇය තුළ බියාදු හැඟීමක් නැගෙයි.

"මැරිල යාවී... විනාශ වේවි!.."

# XIV

මද්දහන වන විට අම්මා පාවෙල් දක බලා ගැනීම සඳහා හිර ගෙදරට ගියාය. අතේ ඇඟිලි දෙකක් අතර ලියුම් කැල්ලක් සඟවාගත් අම්මා, එය පුතාට දීම සඳහා උචිත මොහොත පැමිණෙන තුරු ඔහුගේ යටි රැවුල දෙසත් මුහුණ දෙසත් බැලුවාය.

"මමත් හැම දෙනාමත් සනීපෙන්!" යැයි හේ කීය. "අම්මාගේ සැප දුක් කොහොමද?"

"වරදක් නැහැ. යෙගෝර් ඉවානවිච් මළා!" ඇට ඉබේම මෙන් කියවිණ.

"ඇත්තද? යි ඇසූ පාවෙල් හිස පාත්කර ගත්තේය.

"මිනිය වළලන්ට ආපු අයට පොලිසිය ගහලා, එක්කෙනෙක්ව සිරභාරයට ගත්තා," හැඟීමකින් තොරව ඇ කීවාය. හිරගෙදර අදවැනි ලොක්කා කෝපයෙන් තලු ගසා, පුන් තැනින් නැගී සිට, තොල මතුළේය:

"ඒව කීම තහනම්, තේරුම් ගන්ට ඕන! දේශපාලනය ගැන කතා කිරීම තහනම්!.."

"දේශපාලනය ගැන නොවෙයි මා කීවේ ගහපු හැටි. එකෙකුගේ ඔළුවත් පැලුවා..."

අම්මාද නැගී සිටගත්තී ඔහු කියන දේ නොතේරෙන බවක් අඟවා වැරැද්දක් කළ එකියක මෙන් තෙපළාය:

"ඒ වුණාවට කට වහගන්නවා. තමාගේ පුද්ගලික ගෙදර වැඩගැන විතරක් කියනව. අනික් දේ ගැන කතා එපා!"

හිස අවුල් කළ බැව් තමාට වැටහී ගියෙන් ලොක්කා සිය ආසනය මත වාඩි වී ලිය කියවිලි පරීක්ෂා කරන්ට විය.

''ඔව් එගකිම මගේ...''

ඔහු දෙස බැලූ අම්මා, අවස්ථාවෙන් ප්‍රයෝජන ගනිමින් ඉක්මනින් ලියුම පාවෙල්ට දුන්නී, සැනසුම් සුසුමක් හෙලුවාය.

''එහෙනම් මම දන්නේ නැහැ මොනවා ගැන කතා කරන්ටදැයි කියල...''

පාවෙල් මද සිනාවක් පෑවේය.

''මමත් දන්නෙ නැහැ...''

''එහෙනම් මොකටද සිරකාරයින්ව බලන්ට එන්නෙ!'' හිර ගෙදර ලොක්කා බැන වැදුනේය. ''කතා කරන්ට දෙයක් නැතිලු, අපට කරදර කරන්ට මෙහෙ එනවා...''

''නඩුව ඉක්මනින් ඇහේවිද?'' යි මදක් නිසසලව සිටි අම්මා විතාළාය.

''ඇටෝර්නි ජනරාල් මේ ළඟදී කීවා...''

ඔවුහු දෙදෙනා නුවුවමනා නො වැදගත් වචන කීපයක් හුවමාරු කරගත්හ. ඔහු තමා දෙස ආදරයෙන් බලන සැටි ඇට පෙනේ. ඔහු හැමද මෙන්ම අදත් නිසලය, සාන්තය. වෙනසකට ඇත්තේ ඔහුගේ යටි රැවුළ විශාල ලෙස වැඩී තිබීමය. ඔහුගේ පෙනුම මහලුය. අත්වල ඇඟිලි පවා සුදු මැලිය. නිකොලායි වෙසොව්ෂිකොව් ගැන ඔහුට දන්වීමට ඇට ආසාවක් ඇති විය. නුවමනා, නොවැදගත් දේ කියන විධියටම, කටහඬ වෙනස් නොකර ඇ කතා කළාය:

''උඹේ යාළුවාව දැක්කා...'' පාවෙල් නිහඬව ප්‍රශ්න අසන්නාක් මෙන් ඇ දෙස ඕනෑකමින් බැලීය. වෙසොව්ෂිකොව්ගේ ලප සහිත මුහුණ මතක් කිරීමට මෙන් අම්මා ඇඟිලි වලින් තම මුහුණ සළකුණු කළාය.

''වැරැද්දක් නැහැ ඉලන්දරියා සනීපෙන් ඉන්නවා. ඉක්මනින් රස්සාවක් ලැබේවි.''

ඇ කී දේ පාවෙල් තේරුම් ගත්තෙන්, ඔහු තම මුහුණෙන් හා නෙත්වලින් පිළිතුරු දුන්නේය.

''ඒක හොඳා!''

පුතාගේ ප්‍රීතිය දැක සතුටුවන අම්මා, සැහැල්ලු සිතින් ''එච්චර තමා,'' යැයි කීවාය.

ඇගෙන් සමුගත් පුතා, අත දෙමින් ආචාර කළේය.

''සතුතියි අම්මේ!''

ඇගේ හදවත ප්‍රීතියෙන් පිනා ගොස්, මත්වූ බවක් දැනිණි. පිළිතුරු ³මට වචන සොයාගත නොහී, අම්මා නිහඬව අත දී පිටව ගියාය.



ගෙදරදී ඇට සාෂා හමු වූවාය. අම්මා පුතා බැලීමට හිරගෙදර යන දවස්වලට ඇ බැලීමට ඒම තරුණියගේ සිරිතකි. ඇ කිසි දිනෙක පාවෙල් ගැන අම්මාගෙන් නොඅසයි. අම්මා ඔහු ගැන කිසිවක් නොකීනම්, ඇ අම්මාගේ මුහුණ දෙස ඉතා ඕනෑකමින් බලා එයින් සෑහීමට පත්වන්නීය. එහෙත් දැන් ඇ නොඉවසිල්ලෙන් ප්‍රශ්න අසයි:

''එයාට කොහොමද?''

''සනීපෙන් ඉන්නව!''

''ලියුම දුන්නද?''

''සත්තකින්ම! මම හින්සැරේ ඒක දුන්නා...''

''එයා කියෙව්වද?''

''එතනදී කියවන්ට පුළුවන්ද?''

''ඔව් මට අමතක වුණා.'' තරුණිය හෙමින් කීවාය. ''තවත් සුමානයක් බලා ඉදිමු. තව සුමානයක්! කොහොමද අම්මා හිතන්නෙ? එයා කැමති වේවිද?''

තරුණිය ඇස් බැම් පහත්කර ගනිමින් දෙම්නසින් අම්මා දෙස බලයි.

''මට කියන්ට බැහැ'' අම්මා කල්පනාකාරී වූවාය. ''පැන යාම හින්ද අනතුරක් නැත්නම් එහෙම කරන එක හොඳ නොවැ.''

හිස ගස්සා දැමූ සාෂා කතාව වෙන අතකට හැරෙව්වාය:

''ඔයා, අර ලොඩාට කන්න දෙන්න ඕන මොනවද? එයාට බඩගිනිලු.''

''හැම දෙයක්ම දෙන්ට පුළුවන්! මම පිළියෙළ කරන්නම්...''

අම්මා කුස්සියට වැදුණාය. සාෂා ඇ පසුපස ගමන් කළාය.

''ඔයාට උදව් වෙන්නද?''යි තරුණිය ඇසුවාය.

''එපා, බොහොම ස්තූතියි.''

අම්මා උදුනක පැසෙමින් තිබූ කෑම භාජනයක් එළියට ගත්තාය. තරුණිය ඇය ළඟට විත් සෙමින් කතා කළාය:

''නවතින්න...''

ඇගේ මුහුණ මළානික විය. දැස් විහිදගත් සාෂාගේ දෙතොල් වෙව්ලයි. ඇ මහත් ආයාසයෙන් තොල මතුළාය:

''මම ඔයාගෙන් ඉල්ලා හිටිනවා. මම දන්නවා පාවෙල් එකඟ නොවන බව! එයාව කැමතිකරවා ගන්න! අපේ වැඩවලට එයා ඉතාම අවශ්‍ය බව එයාට කියන්න. එයා ලෙඩ වේය කියා මම බය වෙනව. තවම නඩුවට දින නියම කරලත් නැහැ...''

ඇට තව දුර කතා කිරීම අපහසුය. සෘජුව සිටගත් ඇ වට පිට බලයි. ඇගේ කටහඬ වෙව්ලයි. ඇගේ ඇසි පිය ඉදිමිලාය. ඇ යටිතොල විකාගත්තී, අත් මිට මොළවා ගත්තාය.

ඇගේ හැඟීම දනෙන අම්මාගේ සිත කම්පා වෙයි. තම පුතාගේ හැටි දන්නා ඇ තුළ ඇති වූයේ චිත්ත සංවේගයකි. සාෂා සිපවැළඳ ගත් අම්මා මෙසේ තෙපළාය.

"අනේ මගේ සුදු දුවේ! එයා තමා හැර වෙන කාගෙවත් අදහස් පිළිගන්න මිනිහෙක් නෙවි!"

එකිනෙකා වැළඳගෙන සිටි ඔවුහු නිහඬ වූහ. පසුව සෙමින් ඈත් වූ සාෂා සුසුම් ලමින් මෙසේ කීවාය:

"ඔව්, ඔයාගෙ කතාව ඇත්ත. මගේ අදහස මෝඩයි. හිත වාවන්නේ නෑ..." හිටි හැටියේම ඇ බැරෑරුම් විලාසයක් පාමින් කතා කළාය:

"අපි තුවාලකාරයට කෑමටික දෙමු..."

ඉවාන්ගේ ඇඳ අසල වාඩි වුණු සාෂා කරුණාබර හඬකින් ඇසුවාය:

"සැරෙන් හිස කකියනවද?"

"හිස එතරම් කකියන්නේ නෑ. කලින්තෙ වගෙ. පණ නැහැ," යැයි පිළිතුරු දුන් ඉවාන් නිකට දක්වා පොරෝනය ඇද, කාන්තිමත් යමක් දුටු කලෙක මෙන් ඇස් හකුළුවා ගනිමින් බැලුවේය. තමා ඉන්නා තුරු තුවාලකරුවා ආහාර ගැනීමට මැලිවන බව දකින සාෂා එතැනින් නැගිට ඉවතට ගියාය.

ඇ යන සැටි බලා සිටි ඉවාන් ඇඳේ හිඳ ගනිමින් ඇසක් අඩවන් කරගෙන මෙසේ කීය:

"ලස්සනයි!.."

ඔහුගේ ඇස්වල ප්‍රීතිමත් බැල්මකි. ඔහුගේ දත් කුඩාය, සුදු පැහැතිය, මනාව පිහිටියේය. ඔහුගේ කට හඬ තවම ප්‍රකෘති තත්ත්වයට ඇවිත් නැත. ඇස් ප්‍රීතිමත්ය.

"උඹේ වයස කීයද?"යි අම්මා ඇසුවේ කල්පනාකාරීවය.

"දහ හතයි..."

"දෙමාපියෝ කොහිද?"

"ඒ ගොල්ල ගමේ. මම අවුරුදු දහයේ ඉඳල නගරෙ. ඉස්කෝලෙ ඉවර කරල මෙහෙ ආව. සහෝදරී ඔබගෙ නම කොහොමද?"

එවැනි වචනයක් අසන විට ඇය ලජ්ජාවට පත්වේ. සිනාසෙමින් ඇ ප්‍රශ්න කළාය.

"මොකද දනගැනීමට ඇති උවමනාව?"

ලජ්ජාවට පත් ගැටවරයා කරුණු පැහැදිලි කළේය:

"අපේ දේශපාලන පංතිවලට ආ එක ශිෂ්‍යයෙක් අපට කීවා පාවෙල් ව්ලාසව්ගේ අම්මා ගැන. පාවෙල් කම්කරුවෙක්. දන්නවද මැයි පළමුවැනිද පෙළපාලිය ගැන?" ඔහු ඇසුවේය.



ඇ හිස වනා ප්‍රවේසම්කාරී වූවාය.

"පාවෙල් තමා පළමුවැනි වරට ප්‍රසිද්ධියේ අපේ පක්ෂයේ කොඩිය එසෙව්වේ," ගැටවරයා ගර්වයකින් කතා කරන හැටි දකින අම්මාගේ හිත සිනා යයි.

"මට ඒ පෙළපාලියෙ යන්ට බැරි වුණා. අපි මෙහෙ පෙළපාලියක් ලෑස්ති කළා. හරි ගියේ නැහැ! ඒ දවස්වල හිටියෙ අපි ටික දෙනෙක් විතරයි. ලබන අවුරුද්දෙ බලන්නකො කොහොමද කියලා!.."

අනාගත පෙළපාලිය ගැන සිතන ඔහු කැළඹී ගොස් දැත් වනා දිගටම කතා කළේය:

"ඔන්න ඉතින් අපට ආරංචි වුණා ව්ලාසව්ගෙ අම්මාත් පක්ෂෙට බැඳුනා කියල. එයා හරි දක්ෂ ගෑනියෙක්ලු!"

ගැටවරයාගේ ප්‍රසංසා ලැබීම නිසා ප්‍රීතියට පත් අම්මා සිනාසුණාය. ප්‍රීතියට කරුණක් නමුදු පහසු නොවේ. "මම තමා ව්ලාසවා," යැයි කීමට ඇට සිත් වුණද, ඇ එය මැඩ ගෙන තමාටම මෙසේ කියාගත්තාය: "අනේ බාං නාකි පුදුමයක හැටි!.."

"උඹ හුඟාක් කාපන්. ඉක්මනට කාලා සුව වෙලා ආයෙමත් වැඩකරන්ට හැකි," යැයි අම්මා ඔහු අමතා කීවේ කැළඹීමකින් යුතුවය.

දොර හැර අලුත් සුවඳ මිසු හේමන්ත පුළං වැදෙන්ම සෝෆියා ප්‍රීතියෙන් ගෙට ඇතුළු වූවාය. ඇගේ මුහුණ රතු පැහැය ගෙන තිබිණි.

"පෝසත් මනමාලියක් පස්සෙන් යන කැදර මනමාලයො වගෙ මට පොලිස් ඔත්තුකාරයෝ සංග්‍රහ කරනවා! ඉක්මනට පිට වෙන්ට ඕන... ආ! ඉවාන් කොහොමද? හොඳද? පාවෙල් මොකෝ කියන්නෙ, නීලව්නා? සාෂා මෙහෙද?"

අම්මාගේ පිළිතුරු බලාපොරොත්තු නොවී ඇ ප්‍රශ්න අසමින් සිගරට් වැටියක් උරමින් අම්මා අමතා ආදරයෙන් කතා කොට, ගැටවරයාගේ ඇස් දෙස ආදරයෙන් බැලුවාය. අම්මා ඇය දෙස යටි සිතින් සිනාසෙමින් මෙසේ සිතා ගත්තාය:

"ඔන්න ඉතින් මාවත් හොඳ අයගෙ තත්ත්වයට වැටිලා!"

ඉවාන් වෙත නැමුරු වූ ඇ ආදරයෙන් මෙසේ කීවාය:

"පුතේ ඉක්මනට සනීප වෙයන්!"

ඇ කාමරයට යත්ම සෝෆියා සාෂා ඇමතුවාය:

"එයා ළඟ පිටපත් තුන්සියක් තියෙනවා. ඒ වගෙ වැඩ නිසා ඇට මැරෙන තෙක් මහන්සියි! ඒක ඇත්තටම වීර ක්‍රියාවක්. ඒ වගෙ මිනිස්සු සමඟ වැඩ කිරීමත්, ඔවුන්ගේ සගයින් වීමත්, විශාල සැපතක්..."

"හැබැවට!" තරුණිය සෙමින් පිළිතුරු දුන්නාය.

සවස තේ බොන අතර සෝපියා අම්මාට කතා කළාය.

''නීලච්නා, ඔයාට නැවත ගමට යන්ට වේවි.''

''හොඳා කවදටද?''

''දවස් තුනකින් පුළුවන්ද?''

''හොඳා...''

''ඔබ යන්න තැපල් අස්ස කෝච්චියෙන් වෙනින් පාරකින්. නිකොල්ස්කි කෝරලය හරහා...'' නිකොලායි කල්පනාකාරීව පැවසිය.

ඔහු නිහඬව බුම්මා ගත්තේය. ඔහුගේ විලාසය මුහුණට නොගැළපේ. උපසාන්ත ඔහුගේ මුහුණ එවැනි අවස්ථාවලදී අවලස්සන වේ.

''නිකොල්ස්කි කෝරලය හරහා යාම බොහොම දුරයි. අස්සයින් පිට යාම වියදම් වැඩියි,'' අම්මා තෙපළාය.

කාරණය මේකයි. මම නම් ඔය ගමනට කොහෙත්ම විරුද්දයි. එහෙ කලබල. භිරබාරයට අරගෙන ගමක ඉස්කොල මහත්තැන් කෙනෙකුව. බොහොම ප්‍රවේසමෙන් කරන්ට ඕන වැඩක්. වෙනින් වේලාවක් අතපසු කිරීම වටිනව...'' නිකොලායි දිගටම කතා කරගෙන ගියේය.

මේසයට ඇඟිලි තුඩුවලින් හෙමින් තට්ටු කළ සෝපියා හිටි හැටියේම මෙසේ විමසුවාය.

''පත්‍රිකා බෙදහැරීම නොකඩවා කිරීම වැදගත්. නීලච්නා, ඔයා මේ ගමන යන්ට බය නැතිද?''

අම්මාගේ හිත අමනාප විය.

''මම කවදද බය වුණේ? පළමුවැනි පාර ගියෙත් බයක් නැතිව... දැන් අහනව...'' යැයි කියමින් ඇ හිස පහත දමා ගත්තාය. ''ඔයා බයද, ඔයාට කරන්ට පුළුවන්ද'' ආදී ප්‍රශ්න අසන විට ඇට සිතෙන්නේ අනිත් උදවිය තමා ඉවතට තල්ලු කර දමන බවකි. අනිත් අයට වඩා වෙනස් විදියකට තමාට සලකන බවකි.

''මම බයද කියා ඇසීම තේරුමක් නැති කතාවක් නොවැ,'' යැයි ඇ කීවේ අමාරුවෙන් හුස්ම ගනිමිනි. ''ඔබලා එකිනෙකාගෙන් අහන්නේ නැහැ බය ගැන, එහෙම නොව.''

නිකොලායි හනික උපැස් යුවළ අතට ගෙන නැවත ලා'ගෙන අක්කා දෙස ඕනෑකමින් බැලුවාය. නිහඬතාවය නිසා ලජ්ජාවට පත් අම්මා වැරැද්දක් සිදුවූ කලෙක මෙන් හුනං තැනින් නැගිට යමක් කීමට සැරසුනාය. එවිට සෝපියා ඇගේ අත පිරිමදිමින් සෙමින් මෙසේ තෙපළාය:

''මට සමා වෙන්න. මීට පස්සෙ එහෙම කියන්නේ නැහැ!''

එයින් සැනසීමකටය අම්මා පත්වූයේ. විනාඩි කීපයකින් තිදෙනාම එකතුව සුහද ලීලාවෙන් ගමන ගැන කතා කරන්ට වූහ.



# XV

හිම්දිරි පාන්දර හේමන්ත වැසි නිසා පිරී ගිය වතුර සහිත පාරක් ඔස්සේ තැපල් අස්ස කෝච්චියක අම්මා ගමන් කරමින් සිටියාය. සුළං හමයි. මඩ සහ කුණු විසි වේ. අම්මා සමග අසුනක වාඩි වී සිටි රිය පදවන්නා ඇය දෙසට අඩක් හැරී පැමිණිල්ලක් කරන්නාක් මෙන් මෙසේ කීවේය:

''මම එයාට කීව, අපේ මල්ලිට, හොඳයි බෙදා ගනිමු කියල! අපි බෙදගන්ට පටන්ගත්තා...''

හිටි හැටියේ හේ වමෙන් ගමන්කළ අසුට කස පහරක් දී මහ හඬින් කෑ ගැසුවේය:

''දුවපිය, යකෝ, දුවපිය!..''

තරබාරු හේමන්ත කාක්කෝ පාලු වී ගිය කුඹුරු ඔස්සේ තැනින් තැන යමින් කෑ ගැසූහ. සීත සුළං හඬ නගමින් හමා යයි. සුළං පාරට ඔරොත්තු දීම සඳහා ඇලයකට හැරී පිහාටු පුම්බා ගන්නා පක්ෂීහු කකුල් ඔසවා ගනිමින් ඉන් වැලකීමට උත්සාහ ගනිත්. ඔවුන් කම්මැලියන් සේ පියාපත් දිගැහැර පියාඹා යන්නේ දැඩි සුළං පහරක් උසුලා ගත නොහැකි වූ විටය.

''මගෙ මල්ලි ඉඩම බෙදපු හැටි! මට පොඩ්ඩක්වත් ඉතුරු වෙල තිබුනේ නැහැ,'' යැයි රියකරුවා කීවේය.

අම්මාට ඔහුගේ කතාව ඇසෙන්නේ සිහිනයක් තුළින් මෙනි. පසු ගිය අවුරුදු කීපය තුළ සිදුවීම් ඇගේ මනස ඉදිරියේ මැවී පෙනෙන්ට වී. ඒ හැම සිදුවීමකම ඇ තමාගේ සේරුව දුටුවාය. ඉස්සර දිවි පෙවෙත හැඩ ගැසුණේ කා සඳහාද කවුරුන් විසින්ද යන්න ඇ නොදන සිටියාය. එහෙත් දැන් තමන්ගේ දැස ඉදිරිපිට තම ආධාරය ඇතිව බොහෝ වැඩ කරන සැටි ඇට පෙනේ. මේ හැඟීම් නිසා ඇය තුළ එක් අතකින් සන්තොෂයකුත් අනිත් අතින් අවිශ්වාසයක් හා දුක්මුසු බවකුත් පහළ විය...

තමා වටා හැම දෙයක්ම සෙමින් ක්‍රියා කරයි. අහසේ අඳුරු වළා එකිනෙක පරයමින් පියාඹති. මග දෙපස තෙතබරිත ගස්ය. කඳු මුදුන් හා බෑවුම්ද එකිනෙක වෙනස් කරමින් ජවනිකා ඇති කරන්නාසේය.

රිය දක්කන්නාගේ අම්හිරි හඬද, ගිගිරි හඬද, තෙතමනය සහිත සුළං පහර කෙත් වතු හරහා හමා යන හඬද එකට එක්වෙයි.

''පෝසතුන්ට දිව්‍යලෝකයෙත් ඉඩ මදිලු — ඔහොමයි වැඩ!.. එයා මිරිකන්ට පටන්ගත්තා. ලොක්කො එයාගෙ යාළුවො,'' හිස වනමින් රිය දක්කන්නා කියයි.

නැවතුම් පලට ආ පසු අශ්වයන් මුදා හරිමින් ඔහු කතා කළේ බලාපොරොත්තු රහිත ස්වරයකිනි.

''උඹ මට පගේ කාසියක් දෙනව නම් අඩියක් ගහන්ට පුළුවනි!''

අම්මා ඔහුට පගේ කාසියක් දුන්නාය. ඔහු එය අත්ල මත තබාගෙන මෙසේ කීය.

''කොපෙක් තුනකට වොඩ්කා බොනවා. ඉතිරි දෙකට පාන් කනවා...''

මද්දහන් වේලාවට පසුව අම්මා නිකොල්ස්කි ගමේ නැවතුම් පලට පැමිණියාය. මහන්සියත් සීතලත් නිසා කඩයකට ගොඩ වැදුණු ඇ තේ කෝප්පයක් ගේන්ටයැයි කියා, තම අත තිබූ බෑගය බංකුව යටින් තැබුවාය. තේ කඩේ ජනේලය අසල සිට බලන්නෙකුට අසල ඉදුණු තණකොළ වලින් පිරි චතුරශ්‍රයද, ගම් සභා කාර්යාලයද, අඳුරු පැහැති ගෙයක්ද පෙනේ. දිග රවුළක් සහිත ගොවියෙක් දුම්කොළ පයිප්පයක් උරමින් කාර්යාල ඉස්තෝප්පුවේ වාඩි වී උන්නේය. ඔහු හැඳ සිටියේ තනි කමිසයකි. අසල තණකොළ පිට්ටියේ ඌරෙක් දෙකන් සොලවමින්, පොළොව හාරයි.

අඳුරු වලාකුළුවලින් අහස වැසී ගොස්ය. අඳුරු නිහැඬියාව කාන්සිය ගෙන දෙයි. ජීවිතය ගුප්ත අදහසක් කියන්නාක් මෙනි.

හිටි හැටියේ පොලිස් නිලධාරියෙක් කාර්යාලය අසල තම අශ්‍ව නවතා, ඉස්තෝප්පුවේ සිටි ගොවියා අමතා කෑ ගැසුවේය. ඔහුගේ හඬ ජනේල වීදුරුවට වැදුනද, තේරුම් ගත නොහැකි විය. ගොවියා අත පෙන්වමින් කිසිවක් කීවේය. අශ්‍ව පිටින් බිමට බට මුලාදෑනියා තෝන් ලනුව ගොවියා අතට දී කාර්යාලයට ඇතුළු විය...

නැවත නිහඬ තාවයකි. අශ්වයාදෙවරක්ම බිමට පයින් ගැසුවේය. තේ කඩයට කෙල්ලක් ගොඩ වැදුනාය. රත් පැහැති ඇගේ කොණ්ඩය කොතලාය. ඇගේ මුහුණ වටකුරුය. ඇස් සිනාසෙන්නාක් මෙනි. යටි තොල විකාගත් ඇ තේ කෝප්පය සහිත ඔත්දේසියක් දෑතින් ගෙනාවාය. නිපර හිස පාත්කරමින් ඇ ආචාර කළාය.

''ආයුබෝවන්, ළමයා!'' යැයි අම්මා සුරතල් බසින් ඇය ඇමතීය.

''ආයුබෝවන්!''

මේසය මත පිඟන් සහ කෝප්ප තැබූ කෙල්ල කැළඹීමෙන් යුතුව කතා කළාය:

''මේ දුන් පල් හොරෙකු ඇල්ලුවා. මෙහාට ගේනවා!''

''මොන විදියේ හොරෙකුවද?''

''දන්නේ නැහැ...''

''එයා මොනවද කළේ?''



''දන්නේ නැහැ! අල්ලපු බව විතරයි දන්නේ! මුරකාරයා පොලිස් ලොක්කාට දනුම්දෙන්ට ගියා,'' යැයි කෙල්ල පිළිතුරු දුන්නාය.

අම්මා ජනේලය තුළින් බලන්ම චතුරශ්‍රයට ගොවීන් එන යැටි දුටුවාය. සමහරු හෙමින් ගමන් කළ අතර සමහරු ඉක්මනින් යමින් කබාවල බොත්තම් වසා ගත්හ. කාර්යාල ඉස්තෝප්පුව අසලට වන් පිරිස එමට හිස් හරවාගෙන බලන්ට වූහ.

කෙල්ලද මහ පාර දෙය බලා එළියට දිව ගියේ දොර වසා දමමිනි. දිග සුසුමක් හෙළූ අම්මා තම බෑගය බංකුව යටට තල්ලු කළාය. සළුවකින් ගෙල සහ හිස වසාගෙන කඩේ දොර දිහාවට ගමන් කළ ඇ තුළ වඩාත් ඉක්මනින් දුවමින් යා යුතුය යන හැඟීමයි පහළ වූයේ...

ඇ ගම්සභා කාර්යාලයේ ඉස්තෝප්පුව වෙත යත්ම සිත සුළං පහරකින් ඇගේ සිත අඩපණ විය. දෙපා දරහෝටු මෙන් අප්‍රාණික විය. චතුරශ්‍රය මැද ගමන් කරන්නේ රිබින්ය. ඔහුගේ දෑත් පිටිතලහා කොට බැඳ තිබිණි. දෙපසින් යුද සොට්ස්කි* වරු දෙදෙනෙක් ගමන් ගත්හ. කාර්යාල ඉස්තෝප්පුව අසල පිරිස රැස්කමින් උන්හ.

අම්මා ගල් ගැසුණක් මෙන් බලාගෙනවනම උන්නාය. රිබින් කතා කරන හඬ ඇසුනද තම හදවතේ ගැස්ම නිසා ඇයට කිසිවක් තේරුම් ගැනීමට අපහසු විය.

ප්‍රකෘති තත්ත්වයට පැමිණි ඇ හුස්ම ගත්තාය. ගම් සභා කාර්යාල ඉස්තෝප්පුවේ උන් සුදු යටි රැවුලක් සහිත නිල් ඇස් ඇති ගොවියෙක් තමා දෙය සිනැකමින් බලන සැටි අම්මාට පෙනේ. දැතින් බෙල්ල අතගා උගුර පාදගත් ඇ ඔහුගෙන් මෙසේ ඇසුවාය:

''මොකද හේතුව?''

''ඔන්න බලන්න!'' යැයි කී සුදු රැවුලා එතැනින් ඉවත ගියේය. තවත් ගොවියෙක් ඇ ළඟට වින් සිට ගත්තේය.

සොට්ස්කි වරු දෙදෙනා පිරිස ඉදිරිපස නැවතුණහ. සමූහය දෙසට තව තවත් ජනකාය ඇදී ආවද ඔවුහු නිශ්ශබ්ද බලා සිටිති. හිටි හැටියේම රිබින්ගේ කටහඬ පැතිර යන්ට විය:

''ක්‍රිස්තියානි කාරයනි! අපේ ගොවි ජීවිතය ගැන ඇත්ත පවසන පොත්,

---

* සෝට්ස්කි — විප්ලවයට පෙර රුසියාවේ සෑම ගම්බද ගෙවල් 100ක ගොවීන් විසින් පොලීසියට උදව් පිණිස තෝරාගත් පුද්ගලයෙකි. සෝට්නයා — යනු සියය යන තේරුම ගෙන දේ. සෝට්ස්කි යනු සෝට්නයා යන්නෙන් බිඳී ආ වචනයකි. අනුවාදක

පත්‍රිකා ගැන තුඹලා අසා තිබෙනවාද? ඔන්න ඉතින් ඒවා නිසා මම දුක් විඳිනව, ඒ පොත් පත්‍රිකා ජනයාට බෙදූ හැරියෙ මමයි!''

මිනිස්සු රිබින් වටා දැඩිව සිට ගත්හ. ඔහු දැන් වඩාත් සාන්ත ලෙස කතා කරයි. එයින් අම්මා ධෛර්යමත් වූවාය.

''ඇහුනාද?'' මෙසේ ඇසූ ගොවියෙක් නිල් ඇස් ඇති ගොවියාගේ උරහිසට තිය පිටින් පහරක් දුන්නේය. පිළිතුරු නොදුන් ඔහු හිස ඔසවා නැවත අම්මා දෙස බැලීය. ළඟ සිටි ගොවියාද ඇ දෙස නෙත් යොමු කළේය. ඔහු තම සගයාට වඩා වයසින් බාලය. ඔහුගේ මුහුණ සිහින්ය. යටි රැවුළ කළුය. දෙකපොල් කුරුලෑවලින් ගහනය. පසුව ඔවුහු දෙදෙනාම ඉස්තෝප්පුවෙන් ඉවත ගියෝය.

''බය වෙලා!'' අම්මාට ඉබේටම කියවිණි.

ඇ මහත් ඕනෑකමින් බලන්ට වූවාය. ඉස්තෝප්පුවේ සිට බලන්නී, මිහයිල් ඉවානිච් රිබින්ගේ තුවාල ලත් කළු පැහැති මුහුණද, දීප්තිමත් දෙනෙත්ද ඇ දුටුවාය. රිබින්ට, තමා දැක ගත හැකි වන පරිදි අම්මා ඇඟිලි තුඩුවලින් සිටගෙන බෙල්ල දිගු කර ඔහු දෙස බැලුවාය.

මිනිස්සු ඔහු දෙස බුම්මා ගෙන බැලූහ. ඔහු කෙරෙහි ඔවුන් තුළ ඇති වූයේ අවිශ්වාසයකි. පිරිසේ පිටුපස කොටසේ පමණක් මැඩගත් කතාබහ ඇසිණි.

''ගොවියෙනි!'' මහ හඬින් රිබින් බෙරිහන් දුන්නේය. ''ඒ පොත් පත්‍රිකා කෙරෙහි විශ්වාසය තබාපල්ලා මේවා බෙදදීම නිසා සමහර විට මට ජීවිතය පවා දීමට සිදු වේවි. මට උන් හොඳටම තැලුවා, වද දුන්නා, පීඩා කළා. කොහෙන්ද පොත් ලැබුණේ කියා අසමින් තවත් ගහවි. මම ඒවා ඉවසා ගන්නම්! මක්නිසාද යත් ඒ පොත් පත්‍රිකාවල ඇත්ත ලියලා තිබෙන නිසාද අපේ බත් වේලට වැඩිය අපට ඇත්ත වටිනවා. ඔන්න!''

''මොනාවටද එයා එහෙම කියන්නෙ?'' එක් ගොවියෙක් ඉස්තෝප්පුවේ සිටගෙන සෙමින් කීය. නිල් ඇස් ඇති ගොවියා පිළිතුරු දුන්නේය:

''දැන් ඉතින් කොහොමත් එකයි. දෙවරක් මැරෙන්නෙත් නැහැ. වරක් මරණය වළක්වන්ටත් බැහැ...''

නිහඬව, යටැසින් ඔහු දෙස බැලූ මිනිස්සු මන්දෝත්සාහී ලීලාවක් පෑහ. ඔවුන් ඉදිරියෙහි බරැති නොපෙනෙන කිසිවක් තිබෙන්නාක් මෙනි.

මත්පැන් බී ගත් සුළු නිලධාරියා කාර්යාල ඉස්තෝප්පුවට ආවේය. බැමෙන හිසින් යුත් ඔහු වෙරිමත් ලෙස කෑ ගැසීය:

''කවුද මං කතා කරන්නෙ?''



හිටි තැනින් පැන රිබින් ළඟට ගිය සුළු නිලධාරියා, ඔහුගේ කෙස් වැටියෙන් අල්ලා හිස ඒ මේ අත ඇද දමා, බෙරිහන් දුන්නේය:

''තෝද බොල දේසනා කරන්නෙ, බැල්ලිගෙ පුතා, තෝ නෙවද?''

සමූහය ඒ මේ අත වැනෙමින් 'සූ' හඬ නැගුවේය. අම්මා වේදනාව ඉවසාගත නොහී බිම බලා ගත්තාය. එහෙත් රිබින් නැවතත් මහ හඬින් ජනතාව ඇමතුවේය:

''ගොවියනි ඔන්න බලන්ඩ...''

''කට වහපියා!'' යැයි කී සුළු නිලධාරියා රිබින්ගේ කන හරහා වැරෙන් පහරක් ගැසීය. රිබින්ගේ දෙපා සෙලවිණි. උරහිස් ගසා හේ නැවත කතා කළේය.

''දැන් බැඳල වද දෙන හැටි පේනව නේද? හරකුන්ට වගෙ...''

''සොටස්කියෙනි, මේකව ගෙනියපල්ලා! ගොවියනි පලයව් යන්ට!'' යැයි කෑ ගැසූ සුළු නිලධාරියා, මස් කැබැල්ලක් දුටු බඩගිනි බල්ලකු සේ රිබින් වෙත පැන ඔහුගේ මුහුණට හා පපුවටද, බඩටද, මිට මොළවූ අත්වලින් පහර පිට පහර දෙන්ට විය.

''ගහන්ට එපා!'' පිරිසෙහි එකෙක් කෑ ගැසීය.

''මොකටද ගහන්නෙ?'' අනෙකා ඇසීය.

''යමු!'' යැයි කී නිල් ඇස් ඇති ගොවියා හිසෙන් සංඥවක් කළේය. අනිකාද ඔහුට එක්විය. ඔවුන් දෙදෙනා සෙමින් ගම් සභාව දෙසට යත්ම අම්මා ඔවුන්ට මුදු බැල්මකින් සංග්‍රහ කොට සැනසුම් සුසුමක් හෙළුවාය. ගම් සභා ඉස්තෝප්පුවට දුව ගිය සුළු නිලධාරියා තර්ජනාත්මක ලෙස දෑත් ඔසවමින් කෑ ගැසීය:

''ඕකව මෙහාට ගෙනෙව්!''

''එපා! ගෙනියන්ට එපා!'' පිරිසෙහි උන් එකෙක් කෑ ගැසීය. එසේ කීවේ නිල් ඇස් ඇති ගොවියා බව අම්මාට වැටහිණි. ''එයාව ඇතුළට ගෙනියන්ට ඉඩ දෙන්න එපා! ගෙන ගියොත් ගහලා මරා දැවී. පස්සෙ කියාවි අපි ගහලා මැරුවාය කියලා! ඒ නිසාද ඉඩ දෙන්න එපා!''

''ගොවියනි'' රිබින් ගිගුම් දුන්නේය. ''උඹලගෙ ජීවිතේ හැටි බලපල්ලා. උඹලව කොල්ල කන හැටි පේන්නෙ නැතිද, රවටන හැටිත්, උඹලාගේ ලේ උරා බොන හැටිත් නොපෙනේද? මහ පොළොවේ පළමු වැනි බලවේගය ගොවියා. හැම එකෙක්ම ගොවියා පිට යැපී ඉන්නවා. ඒ වුණාට උඹලාට තියෙන අයිතිය කුමක්ද? බඩගින්නේ මැරීල යාමට විතරයි උඹලට අයිතියක් තියෙන්නේ..''

ගොවියෝ හැම තැනින්ම කෑ ගැසූහ.

''කතාව ඇත්ත!''

''පොලිස් ලොක්කාට අඩ ගහපිය! කොහෙද එයා!..''

''පූජ නිලධාරියා ගියා අඩ ගහන්ට!..''

''ඒ බෙබද්දූ ද කියෝ!..''

''ලොක්කන්ට අඩ ගැහිම අපේ වැඩ නෙවි...''

සෙනග වඩාත් කිපී කෑ ගසන්ට වූහ.

''කතා කරපන් ගහන්ට ඉඩ දෙන්නේ නැහැ...''

''අත් දෙක ලිහා දාපල්ලා!..''

''බලපන් අමාරුවෙ වැටෙව්!..''

''මගේ අත් දෙක රිදෙනවා!.. යැයි රිබින් අත් අයගේ කෑ ගැසීම් යටපත් කරමින් ඒකතානමය ලෙස මහ හඬින් කෑ ගැසිය. ''මම පැනල යන්නේ නැහ ගොවියෙනි! ඇත්ත හංගන්ට බැහැ. මා තුළ ඇත්ත ජීවත් වෙනව...''

මිනිස්සු කීපදෙනෙක් සමූහයෙන් වෙන් වී ඉදිරියට යමින් සෙමින් තොල් මතුරන්ට වූහ. දුප්පත් ලෙස හා කඩිමුඩියේ හැඳගත් ගොවීන් කීපදෙනෙක් ඉක්මනින් දුවන්ට වූහ. ඔවුහු රිබින් වටකර ගෙන සිටියාහ. වනයක් මැද පිහිටි දේවස්ථානයක් මෙන් රිබින් ඔවුන් මැද සිට ගනිමින් දෑත් ඔසවා හිස වනන්ට වූයේ පසුව නැවතත් කෑ ගැසිය.

''බොහොම සතුතියි, පින්වත්නි! අප එකිනෙකාගේ අත් මුදු හැරිය යුතුය. ඔන්න. වෙන කවුද අපට ආධාර කරන්නෙ?''

ඔහු යටි රැවුළ කසා අතක් ඔසවමින් ලේ පෙරී බේරෙන සැටි ජනතාවට පෙන්විය.

''මෙන්න මගේ ලේ! ඇත්ත-යුක්තිය සඳහා ගලා යන සැටි!''

ඉස්තෝප්පුවෙන් අම්මා පහත බැස්සාය. රිබින්ගෙ මුහුණ නොපෙණෙන බැවින් ඈ නැවත පඩියකට නැඟ ගත්තාය. ඇගේ හදවත උණුසුම් වී නොපැහැදිලි හැඟීමක් ඇති කළේය.

''ගොවියනි! ඇත්ත ලියා ඇති පොත් පත්‍රිකා සොයා ගෙන ඒවා කියවාපල්ලා. රදළයින් ලොක්කන්, පල්ලියේ පූජකයින් විශ්වාස කරන්ට එපා. ඔවුන් කියනවා, කැරලි ගහන්නො, දෙවියන් විශ්වාස නොකරන්නෝ අප ය කියා. ජනතාවට ඇත්ත ගෙන දෙන්නෙ අපි. ඇත්ත රහසේ මහ පොළොවේ ඇවිදිනවා. ඇත්ත ජනතාව සොයනවා. ලොක්කන්ට එය පිහියක් වගේ, ගින්දර වගේ, ලොක්කො ඇත්ත පිළිගත හොත් ඔවුන් පිළිස්සී යාවි, ඇත්ත තමුන්නාන්සෙලාගේ මිතුරා! ඒ නිසයි උන් එයට බය!..''

නැවතත් පිරිසේ උන් අය කෑ ගැසූහ.

''ක්‍රිස්තියානි කාරයිනි අහපල්ලා!..''

''අනේ සහෝදරයා, උඹව නැති වෙවි...''



''කවුද උඹව පාවා දුන්නෙ?''

''පල්ලියෙ ස්වාමි,'' සොට්ස්කියෙක් කීවේය.

ගොවීන් දෙදෙනෙක් තදින් බැණ වැදුනාහ.

''ඔන්න බලාගෙන!'' අනතුරු හැඟවීමේ හඬකින් එකෙක් කෑ ගැසුවේය.

# XVI

පොලිස් ජගතා පිරිස කරා ගමන් ගත්තේය. හේ උසය, මහතය. ඔහුගේ මුහුණ වටකුරුය. ඔහුගේ හිසෙන් අඩක් පමණකි තොප්පියෙන් වැසී තිබුණේ. උඩු රැවුලේ එක් කොනක් උඩු අතට නැවී තිබුණු අතර අනික් කොණ පහතට නැවී තිබිණි. ඒ නිසා දෝ ඔහුගේ මුහුණ විකෘතව අව ලස්සන වී තිබුණ අතර, ඔහුගේ මලානික මද සිනාව ඔහු මෝඩයෙකු බව කියා පෑවේය. වමතින් කඩු පතක් ගෙන, දකුණත වනමින් ඔහු ගමන් කළේ. ඔහු අඩි තබන විට හඬක් නැගේ. ඔහු ඉදිරියේ පිරිස පසු බැස්සේ බයාදු ගතියකිනි. කෝපයත් කනගාටුවත් මිසු හැඟීම් ඔවුන්ගේ මුහුණු වලින් පෙනිණි. පාතාලයට කිඳා බැස්සාක් මෙන් ඔවුන්ගේ කෑ ගැසීම්, අඩු වී නැවතිණි. තම තළලේ හම නටන සැටිද ඇස්වල දැවිල්ලක්ද අම්මාට හැඟේ. සෙනග අතරට යාමට ඈට සිත් වුවද හිටගත් ගමන් ගල් ගැසුනාක් මෙන් නිසල වූවාය.

''මොකද මේ?'' යැයි ඇසූ පොලිස් ජගතා රිබින් ඉදිරිපිට සිට ගනිමින් ඔහු නෙතින් මැන බැලුවේය. ''මොකද දැත් බැඳලා නැත්තේ? සෝට්ස්කියෙනි, දැත් බැඳපල්ලා!''

ඔහු උස් හඬින් කෑ ගැසුවද, එහි සිත් ගන්නා සුලු බවක් නොවීය.

''දැත් බැඳලා තමයි තිබුනේ, මිනිස්සු ගළවා දැම්මා!'' සෝට්ස්කියෙක් කීය.

''මොනවා මිනිස්සු මොන මිනිස්සුද?''

පොලිස් ජගතා මිනිසුන් දෙස ඉතා ඕනෑකමින් බැලුවේය. පිරිස ඔහු වටා අඩ කවාකාරව උන්හ. පුරුදු පරිදි බෙරිහන් දුන් ඔහු මෙසේ ඇසිය:

''මුන්ද මේ මිනිස්සු?''

නිල්වන් ඇස් ඇති ගොවියාගේ පපුවට කඩු මිට තබා මෙහෙම තද .කළේය:

''වුමකෝවද, මිනිස්සු? වෙන කවුද? උඹ මිෂින්ද, මිනිස්සු?''

දකුණතින් ඔහු ළඟ සිටි ගොවියකුගේ යටි රැවුළ ඇද්දේය.

''දූවපියව්, වල් ඌරෝ!.. නැතිනම් මං තොපට පෙන්වනවා!''

ඔහු තුළ කෝපයක් හෝ කැළඹීමක් නොතිබිණ. සංසුන් ලෙස කතා කළ ඔහු පුරුදු පරිදි තම සව් බලැති දිගු අත් වනමින් මිනිසුන්ට ගසත්ම හිස් පාත් කරගත් ඔවුහු බියාදු ලෙස පසු බැස්සාහ.

''ඉතින් උඹල මොකද කරන්නෙ?'' යැයි ඇසූ හෙතෙම ''දෑත් බැඳපියව්!'' කියමින් සෝව්ස්කි වරුන්ට අණ කළේය.

නින්දිත වචන වලින් රිබින්ට බැණ වැදුණු ඔහු කෑ ගැසුවේය:

''අත් පස්සට-තොගෙ!''

''මගෙ දෑත් බඳින්න එපා,'' යැයි රිබින් කිවේය. ''දුවන්ට පැනලා යන්ට ලෑස්ති නෑ. ගහන්ට ලෑස්තිත් නෑ. මොකටද මගෙ අත් බඳින්නෙ?''

''මොකෝ?'' යැයි ඇසූ පොලිස් ලොක්කා ඔහු ළඟට ගියේය.

''ජනතාවට වද දුන්නා ඇති! වන මෘගයෙනි! ඒවටවන්දි ගෙවන කාලය ඉක්මනින්ම ඒවි,'' උස් හඬින් රිබින් කිවේය.

මෙවර පොලිස් ජගතා රිබින් දෙස බැලුවේ උඩු රැවුළ සොලවමිනි. පසුව අඩියක් පස්සට ගත් හෙතෙම උරුවන් බාන හඬින් කතා කළේය:

''අනේ-තෝ-බැල්ලිගෙ පුතා! මොන වචනද!''

හිටි හැටියේම ඔහු රිබින්ට කම්මුල් පහරක් ගැසීය.

''මිට මෙළවූ අත්වලින් ගහලා ඇත්ත විනාශ කරන්ට බැහැ!'' යැයි කෑ ගැසූ රිබින් ඔහු ළඟට ආවේය. ''උඹට කිසි අයිතියක් නැහැ මට ගහන්ට. කණාටු බල්ලා!''

''මට අයිතියක් නෑ! මටද?'' පොලිස් ජගතා හති දමන්ට විය.

ඔහු නැවතත් අතක් වනා පහරක් ගසත්ම රිබින් ඉද ගත්තෙන් ඔහු, වේගයෙන් කරකැවී විසිවී ගියේය. දෙපා වාරුකර ගත් ඔහු නොවැටුනා පමණි. පිරිසේ සිටි එකෙක් හූ හඬක් නැඟීය. මිඛයිල් රිබින් නැවත ගිගුම් දෙමිනි, කෑ ගැසුවේ.

''මට ගහන්ට තොපට අයිතියක් නැහැ, යක්සයා!''

පොලිස් ජගතා වට පිට බැලුවේය. කොප වූ මිනිස්සු නිහඬව අඳුරු කවයක් සේ ඉදිරියට ආහ.

''නිකිතා!'' යැයි හෙතෙම සෙනඟ දෙස බලා කෑ ගැසීය. ''ඒයි, නිකිතා!''

සෙනඟ පිරාගෙන පළල් උරහිස් ඇති තොලුස් මිනිහෙක් ඉදිරියට ආවේය. ඔහු හිම කබායක් ඇඳ සිටියේය. අවුල් වූ කෙස් සහිත ඔහුගේ හිස බිමට හැරී තිබිණ.

''නිකිතා!'' යැයි පොලිස් ජගතා උඩු රැවුළ කරකවමින් සංසුන් ලෙස කිවේය. ''ඌට දීපන්කො කන රත් වෙන්ට පහරක්!''



නිකිතා ඉදිරියට ගොස් රිබින් ඉදිරිපිට සිට ගත්තේය. ඔහු දෙස ගැඹුරු බැල්මක් හෙලූ රිබින් තියුණු ලෙස කතා කළේය:

''ඔන්න බලාපල්ලා! ගොවියනි! මෘගයො අපේම අත්වලින්, අපේම බෙලි මිරිකා දමන හැටි!''

නිකිතා සෙමින් අත ඔසවා කම්මැලියෙකු සේ පහරක් ගැසීය.

''ඔහොමද බොල! ගහන්නෙ බැල්ලිගෙ පුතා?!'' යැයි පොලිස් ජගතා කෑ ගැසීය.

''එයි, නිකිතා!'' යැයි පිරිස තුළින් හඬක් නැඟිණ. ''දෙවියො ඉන්න බව අමතක කරන්න එපා!''

''ගහපිය බොල!'' මෙසේ කී පොලිස් ජගතා නිකිතාගේ බෙල්ලෙන් අල්ලා තල්ලු කළේය.

පැත්තකට වූ ගොවියා හිස පාත් කර ගනිමින් මුමුණුවේය:

''ඔයිට වැඩිය ගහන්ට බැහැ...''

''මොනවා?''

වෙව්ලන්ට වූ පොලිස් ජගතා පොලොවේ අඩි හප්පමින් රිබින්ට පහර දෙන්ට විය. පහරක් වළකනු සඳහා ඔහු අතක් සොලවත්ම, පොලිස් ජගතා දෙවැනි පහර ගැසුවෙන්, රිබින් ඇද වැටුනේය. ගොරවමින් උඩ පනින්ට වූ හෙතෙම රිබින්ගේ පපුවටත්, හිසටත්, ඉලයටත් පා පහර දුන්නේය.

පිරිස කෑ ගසමින් විරුද්ධත්වය ප්‍රකාශ කරමිනි, පොලිස් ජගතා දෙසට ආවේ. එය දුටු ඔහු කඩුව අමෝරාගෙන බෙරිහන් දුන්නේය:

''තොපි එහෙමද? කැරලි ගහන්ට? අ-හා? ඔන්න කෙරුවාව?..''

ඔහුගේ කට හඬ වෙව්ලන්ට විය. වචන සිඳී ගොස් ශක්තියද නැති වී ගියාක් මෙන් ඔහු හිස පාත්කර ගනිමින්, හැම අතටම හැරී, ප්‍රවේසමින් පා තබමින්, පසු බැස්සේ හිටි හැටියේ බැරැඩි හඬකින් කෑ ගැසීය:

''හොඳයි! එයාව බේරාගනිල්ලා මම යන්නම්, — එහෙමද? තොපි මෙලොව හසරක් නොතේරෙන වල් ඌරෝ! තොපි දන්නවද මේකා දේශපාලන අපරාධ කාරයෙක්, සාර්ට විරුද්ධයි, කැරලි ගහන්ට මිනිසුන්ව උසි ගන්වනවා? තොපි මේකාව ආරස්සා කරන්ට හදන්නෙ? තොපිත් කැරලිකාරයෝ නිසාද? ඕ-හෝ!''

ඇසි පිය නොහෙළා නොසෙල්වී අම්මා මේ සියල්ල බලා ගෙන සිටියේ, සිහිනයකින් මෙනි. ඇගේ හදවත බියෙන් හා දුකෙන් පිරී ගියේය. දුෂ්ට මිනිසුන් හඬ නගා කෑ ගසන සැටි ඇසෙන්නාක් මෙනි. පොලිස් ජගතා කෑ ගසයි, මිනිස්සු සෙමින් තොල් මතුරති.

''වැරදි කළා නම් නඩු දනවා!..''

"අනේ හාමුදුරුවනේ, අපරාධයට අනුකම්පා කරන්න..."

"ජීවිත විරෝධී විදියටයි කළුපහ හැසිරෙන්නෙ?.."

"මහෝතමත් පුළුවන්ද ඔය විදියට හැම එකාම හැසුරුවම, මොකාවං වෙව්ද?"

පිරිස දෙකට බෙදිණි. එක් කොටසක් පොලිස් ලොක්කාට ඇවිටිලි කරන්නත් කෑ ගසන්නත් වූ අතර, සංඛ්‍යාවෙන් අඩු අනික් කොටස තුවාල ලබූ විකින් වට කරගෙන ඔහුට සාත්තු කරමින් සිය නොසන්සුන් භාවය පළ කළහ. මිනිසුන් කිහ දෙනෙකු විසින් ඔහු නැගිට්ටවන ලදී. සැනෙකින් සෝර්ජන්ට්වරු ඔහුගේ දෑත් බැඳීමට ඉදිරිපත් වූහ.

"මාරයිනි! නැවතියව්," මිනිස්සු ගිගුම් දුන්හ.

ඊටපසු විකින් යටි රවුලේ රැඳී තිබුණු කුණු රෝසු පිස දමමින් නැගිට්ටේය. කලා යන ලේ පිස දමූ හේ නිසලව පිරිස දෙස බැලීය. ඔහුගේ ඇස්වලට අම්මාගේ නෙත් හමුවෙත්ම, තිගැස්සුණු ඇය දුර දිග නොසිතා අතක් වැනීය. ඔහු එය නොදුටුවාක් මෙන් හැරුණේ විනාඩි කීපයකට පසු නැවත වරක් අම්මා දෙස සිනාසෙමින් බලීය. ඔහු සිට කොහේද කෙළින් කර ගෙන හිස එසවිය. ලේ පෙරෙමින් තිබූ ඔහුගේ කම්මුල් වෙව්ලන්ට වී...

"අඳුනා ගත්තා, ඇත්තටම අඳුනා ගත්තද?.."

ඔහුට සංඥවක් කරමින් හිස වැනූ ඇය තුළ ඇති වූයේ බලවත් බිත් වේදනාවක් මුසු ප්‍රීතියකි. විකින් ලඟ සිටි ගත් තිල් ඇස් ඇති ගොවියාද තමා දෙස සිනාසෙමින් බලන බව අම්මා ටික වෙලාවකට පසු දුටුවාය. ඔහුගේ බැල්ම නිසා ඇ තුළ අනතුරක පෙර ලකුණු පහළ විය.

"මම මෙතන මදැ? මාවත් අල්ලා ගනිව්!"

තිල් ඇස'ත්තා විකින්ට යමක් කීවේය. විකින් හිස වනා පසෝ හඬකින් පැහැදිලිව කතා කළේය.

"කමක් නැහැ! මා තනි වෙලා නැහැ. හැම තැනම පැතිර යන ඇත්ත තොංඩු දලාවත් අල්ලන්ට බැහැ! මා කොහෙ ගියත් ඒ ප්‍රදේශවල මිනිස්සු මාව අමතක නොකරාවී. ඔන්න! අපේ කුරුළු කූඩුව කඩා දැමුවද යාළුවෝ සහ සහෝදරයෝ නැතුවද..."

"ඔය කියන්නෙ මටා!" යැයි අම්මා සිතා ගත්තාය.

"රාජාලියෝ වගේ නිදහසේ ඉගිලී ගොස් ජනතාව නිදහස් කරන දිනයක් එව්!" යැයි විකින් කීවේය.

වතුර බාල්දියක් ගෙනා ගැහැනියක් තුවාල වී තිබුණු විකින්ගේ මුහුණ සෝද පිස දමන්ට වූවාය. කන්නලව් කරමින් වැලපෙන ස්ත්‍රියගේ බැගෑපත්



හඬ නිසා විකින් කියන දේ අම්මාට නොඇසේ. පොලිස් ජගතා ප්‍රධාන පිරිස විකින් ළඟට ආවේය. පිරිස අතරින් හඬක් ඇසිණි.

"හිරකාරයා සඳහා කරත්තයක් දෙන්ට කැමතිද? ආ! කවුද කැමති?"

පසුව පොලිස් ජගතා අමනාපයෙන් මෙන් කෑ ගැසුවේය:

"මට පුළුවන් තොට ගහන්ට! තොට බැහැ මට අත තියන්ට! තේරුණද? තරකා!"

"එහෙමද! උඹ හිතන්නෙ උඹ දෙවියෙක් කියලද?" විකින් ඇහුවේය.

පිරිස සෙමින් නොකඩවා මොනාවදෝ කීයෙන්, විකින්ගේ හඬ නැසිණි.

"මාමේ, වැද කරන්ට එපා! ආණ්ඩුවේ ලොක්කෝ නෙවි.."

"අනේ හාමුදුරුවනේ, සෝත්ති ගන්න එපා, ඒ මිනිහට මිල්මාදෙ..."

"උඹ කට වහපිය, කවටයා!"

"උඹව නගරෙට ගෙනියාවී..."

"එහෙ නීතිය තද වැඩියි!.."

පිරිස සමාව දෙන ලෙස කෑ ගැසිය, සමහරු බියෙන් ලෙස ඇවිටිලි කළහ, සමහරු බලාපොරොත්තු රහිතව කන්නලව් කළහ. සෝර්ජන්ට්වරු විකින් අල්ලාගෙන ගම් සභාවේ ඉස්තෝප්පුව දක්වා ගෙන ගොස් කාර්යාලයට ඇතුළු වී දොරවල් වසා ගත්හ. ගොවීහු සෙමින් සෙමින් විසිර යන්නට වූහ. තිල් ඇස් ඇති ගොවියා තමා දෙස යටැසින් බලන සැටි අම්මා දුටුවාය. ඇගේ දණහිස් වෙව්ලන්ට විය. දුක්මුසු හැඟීම් හදවත මිරිකන්නට වූයෙන්, වමනය දමීමට තරම් අපහසුවක් දැනිණ.

"යන්ට උවමනා නෑ" ඇ සිතුවාය. "ඕන නැහැ!" තදින් ඉස්තෝප්පුවේ වැට අල්ලා ගත් ඇ නැවතුනාය.

ගම් සභා කාර්යාල ඉස්තෝප්පුව මත සිටගත් පොලිස් ජගතා නැවතත් නොරුස්සන කටහඬකින් දෑත් වනමින් කෑ ගැසුවේය.

"තොපි මෝඩයො, බැල්ලිගෙ පුත්තු! කිසි හසරක් දන්නෙ නැතිව රාජ කාරිවලට මැදිහත් වෙනවා! මී හරක් තොපි මට පින් දෙන්න ඕන. මගෙ කකුල් දෙක අල්ලා වඳින්ට ඕන! මට ඕන නම් තොපි සියලු දෙනාවම හිරගෙට යවන්ට පුළුවන්..."

ගොවීන් විසිදෙනෙක් පමණ හිස්වැසුම් ගළවා හිස් පාත් කර ගෙන අසා ගෙන උන්හ. අඳුර පැතිරිණ. වලාකුළු වැඩි විය. තිල් ඇසැ'ති ගොවියා අම්මා ළඟට අවුත් හෙමින් සුසුම් ලමින් මෙසේ කීය:

"ඔන්න ඔහොමයි, වැඩවල හැටි..."

"ඔව්-ව්," අම්මා කොල මතුළාය.

ගොවියා අම්මා දෙස සිනාසෙමින් බලා මෙසේ ඇසිය:

"මොකක්ද රස්සාව?"

''ගම්වල අම්මණ්ඩිලාගෙන් රේන්ද පටි සල්ලිවලට ගන්නව...''

ගොවියා නිකට සොලවමින් ගම් සභා කාරියාලය දෙස බලමින් සෙමින් මෙසේ කීය:

''ඒවා මෙහෙ සොයන්ට බැහැ...''

ඔහුගේ දෙපතුල් සිට හිස දක්වා බැලූ අම්මා කාමරය තුළට යාමට සුදුසු වේලාවක් බලා උන්නාය. ගොවියාගේ පෙනුම කල්පනාකාරීය, කඩවසම්ය, දෙනෙත් දුක්බරය. උසැති, පළල් උරහිස්වලින් හෙබි හෙතෙම කප්ටානයක් හැඳ සිටියේය. කප්ටානයට අන්ඩ දමා තිබිණි. පිරිසුදු කමිසයකින් සහ රතු පැහැති කලිසමකින්ද, මේස් රහිත ගැමි පාවහන්ද හෙතෙම ඇඳ සිටියේය...

අම්මා සැනසුම් සුසුමක් හෙලුවාය. නොපැහැදිලි සිතුවිලිවලට පෙර ඇති වන හැඟීමට ඉඩ දෙමින්, බලාපොරොත්තු රහිත ලෙස ඔහුගෙන් මෙසේ ඇසුවාය:

''උඹලගෙ ගෙදර රෑට නවාතැන් ගන්ට පුළුවන්ද?''

ඇගේ ඇට කටු සහ මස් ගොබ පවා නොසන්සුන් වූවාක් මෙනි. ඈ සෘජුව සිට ගනිමින් ඔහු දෙස බැලුවාය. ඈ සිත තුළ අමුතු අදහස් පහළ විය.

''නිකොලායි ඉවානවිච්ච පාවා දුන්නා. බොහෝ කලකට පාණ බලන්ට ලැබෙන්නේ නැහැ! මට ගහාවි!''

බිම බලා ගත් ගොවියා කලබල නොවී කප්ටානය හරි ගස්වා ගනිමින් පිළිතුරු දුන්නේය:

''රෑට නවතින්නද? පුළුවනි. ඇයි බැරි? මගේ ගෙදර බොහොම පුංචියි...''

''මට ලොකු ගෙවල් ඕන නැහැ!'' ඕනෑ එපාවට මෙන් අම්මා පිළිතුරු දුන්නාය.

''හොඳා, පුළුවනි!'' යැයි කී ගොවියා ඇගේ උස මණින්නාක් මෙන් බැලිය.

අඳුර පැතිරිණ. ඔහුගේ ඇස් තියුණු ලෙස බැබළිණ. මුහුණ මළානිකය. කඳු බැවුමක් ඔස්සෙ යන්නාක් මෙන් අම්මා ඔහු අමතා මෙසේ කීවාය:

''එහෙනම් මම එන්නම්, උඹ මගෙ බෑගය අරන් වරෙන්...''

''හොඳා.''

ගොවියා දෙඋර සොලවා කප්ටානය වසා ගනිමිහ් සෙමින් මෙසේ කීවේය:

''අන්න කරත්තය ගේනවා...''

රිබින් නැවතත් ගම් සභා ඉස්තෝප්පුවට ආවේය. ඔහුගේ දෑත් පිටිතලහා කොට බැඳ තිබිණි. ඔහුගේ හිස සහ බෙල්ල වටා අළු පැහැති පොරෝනයකි.



''ආයුබෝවන්, පින්වත්නි!'' සැඳෑ අඳුර බිඳ ගෙන රිබින්ගේ කටහඬ දසත පැතිර ගියේය. ''ඇත්ත සොයන්න, ආරක්සා කර ගන්න. ඇත්ත ගෙනෙන මිනිසා කෙරෙහි විශ්වාසය තබන්න! ඇත්ත වෙනුවෙන් ජීවිතය දීමට වුවද සූදනම් වන්න...''

''කට වහපිය, බල්ලා!'' පොලිස් ලොක්කා කෑ ගැසුවේය. ''සෝට්ස්කි, අස්වයො එලවාපන්, මෝඩයා!''

''මොකටද බය වෙන්නෙ? මොන ජීවිතද නුඹලා ගත කරන්නේ?''

කරත්තය ගමනට සූදනම් විය. සෝට්ස්කියන් දෙදෙනෙකු මැද වාඩි වී සිටි රිබින් නැවතත් මහ හඬින් කෑ ගැසුවේය:

''ඇයි උඹලා කුස ගින්නේ මැරෙන්ට සතුටු? නිදහස සඳහා සටන් කරපල්ලා. එවිට පාන් ලැබේවි. ඇත්ත දැනගත හැකි වේවි. ආයුබෝවන්, පින්වත්නි!..''

අස් රියේ රෝද කරකැවිණ. අශ්වයෝ කුර ගටමින් දුවන්ට වූහ. පොලිස් ජගතාගේ බැණ වැදීම ඇත ඇසේ.

''ඉවරයි, ඔබ කඩයට ගිහිං ඉන්න. මම තව ටිකකින් එන්නම්...'' යැයි හිස වනමින් ගොවියා කීවේය.

අම්මා තේ කඩයට ගොස් සමොවාරය ඉදිරිපිට වාඩි වී පාන් කැල්ලක් ගෙන කන්ට සැරසුණු නමුදු, ඒ දෙස බලා යළිත් එය පිඟානෙහිම තබා ඉවත බැලුවාය. නැඹුණ වමනය දමීමට මෙන් හැඟීමක් ඇති වූයෙන් ආහාර රුචියක් නොවීය, හිස කකියන්ට පටන් ගත් අතර හදවත තුළ වේදනාවක්ද ඇති විය. ඇගේ මනැස ඉදිරිපිට නිල්වන් ඇස් ඇති ගොවියාගේ මුහුණ මැවී පෙණිනි. ඔහු ඈ තුළ අවිස්වාසය ඇති කළේය. ඔහු තමා පාවාදෙති යන්න එක එල්ලේම සිතීමට ඈ මැලි වූවද, එම හැඟීම, තම හද පත්ලෙහි තිබෙන බව ඇට දූනේ.

''ඔහු මාව ඇඳින ගත්තා!'' ඈ අලස ලෙස සිතුවාය. ''දැක්කා, ඇඳින ගත්තා...''

එතැනින් එහා කල්පනා කිරීමට තරම් ඇට ශක්තියක් නැත. විඩා පත් ඇය වමනය කිරීමට මෙන් සැරසුණාය.

ශබ්දය මැඩ අඳුර පැතිරේ. බය,නැග හුදකලා බව, අඳුර නිසා හදවත පුරවා ලමින් වැඩේ.

අම්මා වෙත පැමිණි කෙල්ල මෙසේ ඇසුවාය:

''බැදපු බිත්තරයක් ගේන්ටද?''

''එපා. මට කන්න බැහැ. කෑ ගැහීම නිසා මම බය වුණා!''

කෙල්ල මේසය ළඟට විත් කැළඹීගත් සිතින් සෙමින් කතා කළාය:

''පොලිස් ලොක්කා ගහපු හැටි! මම ළඟමයි හිටියෙ. එයාගෙ දත්

ගැලිච්ලා වැටුනා. කට පුරාම ලේ උතුරනවා. ලේ කැටි, කැටි. ඇස් ඉදිමිලා! එයා තාර මෝලක වැඩ කළාලු. නිලධාරියා හරිම බෙබද්ද තවත් වයිත් ඉල්ලනවා. ඒ ගොල්ලන්ගෙ කංඩායමක් හිටියලු. රැවුළා—එයා තමා ලොක්කා. තුන් දෙනෙකුව ඇල්ලුවාලු. එක් කෙනක් පැන ගිහිං, ඒ ගොල්ලන්ව උදව් දීපු ඉස්කෝල මහත්තයෙකුවත් අල්ලා ගෙන. දෙවියො නැතැයි කියනවාලු. පල්ලි කඩන්වෙයි කියනවාලු. ඔන්න ඒ ගොල්ලගෙ හැටි! අපේ ගොවියො එයාට අනුකම්පා කළා. සමහරු කිවා එයාව මරා දමන්ට ඕන කියල. අපේ ගමේ ඉන්නාව නපුරු ගොවියො, අපොයි!''

අම්මා ඇගේ නොගැළපෙන වේගවත් කතාව අවධානයෙන් යුතුව අසා ගෙන සිටියාය. අනතුරු හැඟවීමේ ගිනිය අතුරුදහන් වී බියජනක බලාපොරොත්තු නැතිවී යතැයි යන හැඟිමක් ඇති කර ගැනීමට ඇ උත්සාහ දරුවාය. තමාගේ කතාවට කන් දෙන සැටි දක්නා කෙල්ල මහත්වූ සතුටු සිතින් යුතුව වඩාත් ප්‍රාණවත්ව කතා කරමින් මෙසේ කීවාය:

''තාත්තා කියනව මේ ඔක්කොම කරදර අස්වැන්න අඩු වුන හින්ද කියල! අවුරුදු දෙකක් පිට පිටම අපේ කුඹුරුවල අස්වැන්නක් නැහැ. ඒ හින්ද ගොවියො කලබල ඇති කරනවා රැස්වීම වලදී කෑ ගහනවා. ගහ ගන්නවා. ණය මුදල් නොදුන් නිසා ළඟදී වස්යුකෝව් විකිණීමට ඉදිරිපත්වූ විට ඔහු ගම් මුලාදැනියාට කම්මුල් පහරක් දී, ඔය තමා මගේ ණය මුදල යැයි කිව්වා...''

දෙරට එහා අඩි ශබ්දයක් ඇසුණෙන් අම්මා මේසයට අත ගසා නැගිට්ටාය...

නිල්වන් ඇස් ඇති ගොවියා කඩයට ගොඩ වැදී හිස්වැස්ම ගලවන්නෙ නැතිව මෙසේ ඇසුවේය:

''කොහෙද බෑගය?''

ලේසියෙන් බෑගය ඔසවා ගත් හෙතෙම එය සොලවමින් කතා කළේය:

''හිස් බෑගයක්! මාර්කා අමුත්තාව අපේ ගෙදරට කැඳවා ගෙන වරෙන්.''

ආපසු නොබලා ඔහු ගියේය.

''රෑට මෙහි නවාතැන් ගන්වද?'' යි කෙල්ල ඇසුවාය.

''ඔව්! මට බීරලු රේන්ද මිළදී ගන්ටයි මෙහෙ ආවෙ...''

''මේ ගමේ රේන්ද ගොතන්නෙ නැහැ! තින්කොව්වලයි, දරිනොවලයි, තමා බීරලු රේන්ද ගොතන්නෙ.'' කෙල්ල කීවාය.

''හෙට එහෙ යනවා...''

තේවලට මුදල් ගෙවූ අම්මා කෙල්ලට කොපෙක් තුනක් වැඩිපුර දුන්



නිසා ඇ ප්‍රීතියට පත් වූවාය. පාවහන් රහිතව මහ මග දුවමින් කෙල්ල මෙසේ තෙපළාය:

''ඔයා කැමතිනම් මම දරිනොවලට ගිහිං රේන්ද ගොතන ගෑණුන්ට කියන්නම්, රේන්ද ගේන්ට කියල. මෙහෙ ඉඳල එහාට හැතැප්ම අටක් තියෙනව, දන්නවද... ඒ ගොල්ල මෙහෙ ඒවි, ඔයාට එහෙ යන්න ඕන වෙන්නෙ නැහැ.''

''අනේ දයාබර කෙල්ලේ, එපා!'' ඇ සමග ගමන් කරමින් අම්මා කීවාය. ප්‍රණීත සිසිල් සුළං ඇ ප්‍රබෝධයට පත් කරයි. ඇ තුළ අලුත් අදහසක් කෙමෙන් පැන නැංගේය. නොපැහැදිලි වූවද එම අදහස බලාපොරොත්තු ඇති කළේය. සෙමින් වැඩුණු එහි වේගය සීඝ්‍ර කරනුවස් ඇ තමාගෙන් දැඩිලෙස ප්‍රශ්න කළාය:

''මොනවා වේවිද? කෙළින්ම හිතේ අදහස අනුව...''

අඳුර, තෙතමනය සහ සීත. ගොවි ගෙවල්වල ජනෝල තුළින් ඇති වූයේ කණමැදිරි එළියකි. නිහඬ බිඳිමින් ගොන්නු තප්පුලති. ගම පුරා ඇඳිරි, කල්පනාකාරී බවක් පැතිර ගියේය...

''මෙහෙන්'' යැයි කෙල්ල කීවාය. ''ඔයා නවාතැනට තෝරා ගත්තේ දුප්පත් ගෙයක්. ඒ ගොයියා දුප්පතා...''

ඇ දෙර අත ගා හැර ගෙන, හඬදී කෑ ගැසුවාය.

''තතාංකා නැත්දේ!''

ඇ දිව්වාය. අඳුර බිඳ ගෙන ඇගේ කට හඬ ඇසිණි:

''ආයුබෝවන්!..''

## XVII

ගොවි ගෙදර දෙර පඩිය ළඟ නැවතුණු අම්මා අත්ලෙන් ඇස් මුවා කර ගනිමින් බැලුවාය. ගෙය කුඩාය, තදබදය, එහෙත් පිරිසුදුය. උදුනට එහා සිටි තරුණ ගැහැණියක් නිහඬව ආචාර කොට අතුරුදහන් වූවාය. එක් මුල්ලක මේසයක් මත ලාම්පුවක් දැල්වෙමින් තිබිණි.

ගෙදර හාම්පුතා මේසය අසල වාඩිවී අම්මා දෙය ඉතා ඕනෑකමින් බැලුවේය.

''එන්ට!'' යැයි ඔහු ආරාධනා කළේ එකවරම නොවේ. ''තාත්යානා ගිහිං කියාපන් ජයෝතර්ට එන්න කියල!''

ගැහැණිය අම්මා දෙස නොබලාම සැණෙකින් පිට වූවාය. බංකුව මත වාඩිවූ අම්මා තමාගේ බෑගය නොතිබෙන බව දුටුවාය. ගෙතුළ විඩාපත් කරවන නිහැඬියාවකි. ලාම්පුවේ හිරය නගන හඬ පමණකි එම

නිහැඬියාවට බාධා කළේ. ගොවියාගේ විඩාපත් සුදුමැලි මුහුණ අම්මා තුළ ඇති කළේ අමිහිරි හැඟීමෙකි.

''මගේ බැගය කෝ?'' අම්මා හිටි හැටියේම තමාම නොසිතූ පරිදි හඬ නගා එම ප්‍රශ්නය ඇසුවේ හිතා මතා නොවේ.

ගොවියා දෙඋර සොලවා කල්පනා කාරී ලෙස පිළිතුරු දුන්නේය:

''නැතිවන එකක් නැහැ...''

හඬ පාත් කරමින් ඔහු මෙසේද කීය:

''මම අර කෙල්ල ඉදිරිපිට නෝ කඩෙද්දි බැගය හිස්ය කියල කීවේ උවමනාවෙන්මයි. බැගය සැහෙන්ට බරයි!''

''ඉතින්?'' යැයි ඇසූ අම්මා ''ඉතින් මොකද?''යි විතාළාය.

නැගී සිටි හෙතෙම ඇ සමීපයට අවුත් නැමුරු විය.

''සිර බාරයට ගත්තු මිනිහාව අඳුණනවද?''

අම්මා තිගැස්සුණු නමුදු දැඩි පිළිතුරක් දුන්නාය:

''දන්නවා!''

ඒ කෙටි පිළිතුර ඇගේ හදවතේ ආලෝකයක් ඇති කොට පිටත පැහැදිලි කළෙන් සැනසුම් සුසුමක් හෙළමින්, ඇ 'හරි ගැසි' බංකුව මත වාඩි වුණාය...

ගොවියා සිනාසුණේය.

''මම දැන ගත්තා! ඔබ එයාට සංඥවක් කළා. එයත් ඔබට ඉඟියක් කළා. මම එයාගෙ කණට කට තියා ඇහුව ඔබව අඳුණනවාදැයි කියල?''

''ඉතින් එයා මොනවද කීවේ?'' අම්මා ඇසුවේ නොඉවසිල්ලෙනි.

''එයාද? එයා කීවා, අපි හුඟ දෙනෙක් ඉන්නවා කියල...''.

අම්මා දෙස ප්‍රශ්න කරන්නාක් මෙන් බැලූ ගොවියා තම කතාව දිගටම කරගෙන ගියේ මඳ සිනා පාමිනි.

''මහ ආත්ම ශක්තියක් තියෙන මිනිහෙක්. බය සැක නැති නිර්බීතයා. මම! කළැයි කියා බයනැතුව කියනවා. එයාට ගහනව... එයා තමාට ඕන දේ කීවා...''

ඔහුගේ කටහඬ අස්ථිරය, දුබලය, මුහුණ සුදුමැලිය, ඇස් පැහැදිලිය. අම්මා සංසුන් වූවාය. හිතේ පැවති බිය සැක වෙනුවට ඊට කෙරෙහි අනුකම්පාවක් උපණි. කෝපය හා හදිසි කණගාටුව මැඩ ගත නොහී අම්මා ශෝකයෙන් කැ ගැසුවාය:

''මංකොල්ල කාරයො, මිත්‍යා ද්‍රෝහීවිකයො!''

නැවතත් ඇ ඉඟලාය.

ගොවියා ඇය වෙතින් ඉවත ගොස් හිස වනමිනි කතා කළේ:

''ලොක්කො මිතුරන් ඇති කර ගත් හැටි - මදැ!''



පසුව අම්මා දෙසට හැරුණු හේ සෙමින් මෙසේ කීවේය:

''මගේ කල්පනාවෙ හැටියට ඔබේ බැගයෙ පත්තර, හරිද?''

''ඔව්!'' යැයි කඳුළු පිසද ගනිමින් අම්මා කීවාය. ''එයා සඳහා ගෙනාවා.''

බැම සගළ හකුළුවා ගත් ගොවියා යටි රැවුල මිටක් කොට අල්ලා ගත්තේ, නිහඬව සිටියේය.

''පත්තර මීට ඉස්සෙල්ලත් ආවා. පොතුත් ගෙනාවා. අපි ඒ මිනිහව අඳුණනව... තේරුණද!''

මදක් කල්පනා කළ හේ නැවතත් මෙසේ ඇසිය:

''ඔබ දැන් ඒ පත්තරවලට මොනාවද කරන්නෙ?''

ඔහු දෙස බැලූ අම්මා අභියෝග කරන්නාක් මෙන් තෙපළාය:

''තමුසෙලාට දෙනවා!..''

ඔහු විස්මය පත් වූයේ වත්, විරුද්ධත්වය ප්‍රකාශ කළේ වත් නැත. හේ තමාටම මෙසේ කියා ගත්තේය:

''අපට...''

ස්ථිර කරන්නාක් ලෙස හිස වනා මිටින් ගෙන සිටි රැවුළ මුදා හැරිය හෙතෙම ඇඟිලි තුඩුවලින් නිකට කසා වාඩි විය. ඊමින්ට දෙනු ලැබූ වද හිංසා අම්මාගේ මනැස ඉදිරියෙහි දැඩි ලෙස මැවී පෙණේ. ඇගේ සිත තුළ ඔහුගේ රූපය ඇඳී ගියේය. ඔහුට දෙන ලද වද හිංසා ආදිය නිසා ඇගේ හැඟීම් කිපිණි. බැගය ගැන හෝ වෙන කිසිවක් ගැන හෝ සිතීමට ඇයට නොපුළුවන. ඇස්වලින් කඳුළු කැට කඩා හැලෙන්නට විය. මුහුණ මළානික විය. ඇය ගෙහිමි ගොවියා අම්මා කතා කරන විට කටහඬ අස්ථිර ගතියකින් සෙලවුණේ නැත.

''මිනිසුන්ට ගහනවා, පාගනවා, මංකොල්ල කනවා දුෂ්ටයො!''

''සක්තිය, බලය!'' ගොවියා පිළිතුරු දුන්නේ පහත් හඬිනි: ''උන්ගෙ බලය වැඩියි!''

''බලය කොහෙන්ද උන් ලබා ගන්නෙ?'' අම්මා කෝපයෙන් ඇසුවාය.

''අපෙන් තමා උන් බලය ලබා ගන්නෙ, ජනතාවගෙන්. අපෙන් තමා උදුරා ගන්නෙ!''

මිනිසාගේ තේරුම් ගත නොහැකි සුදුමැලි මුහුණ විසින් අම්මා කුපප්ත ලදී.

''ඔව්-ව්!'' යැයි ඔහු ඇද පැද කීවේය. ''රෝදය...''

දෙර දෙසට කන් දී සිට ඔහු පහත් හඬින් මෙසේ කීය.

''එනවා...''

''කවුද?''

"අපේ අය වෙන්ට ඕන..."

ගොවියාගේ බිරිඳ සහ තවත් මිනිසෙක් ගෙට ඇතුළු වූහ. තොප්පිය ගලවා පසෙකින් තැබූ ඔහු ගෙහිමියා වෙත ගියේය:

"ආ-කොහොමද?"

ගෙහිමියා පිළි ගනිමින් හිස වැනිය.

"ස්තෙපාන්" යැයි ගෙහිමියාගේ බිරිඳ සැමියා ඇමතුවාය. "නවාතැන් ගන්න එක්කෙනා රෑට කාලද?"

"මට මොකවත් එපා, ස්තුතියි!" අම්මා කිවාය.

ගෙට ආ මිනිහා අම්මා ළඟට විත් මෙසේ කීවේය:

"එහෙනම් අපි හඳුණගනිමු! මගේ නම ප්යෝතර් යෙගෝරවිච් රිබීනින්, ව්‍යාජ නම කවුවා. තුඹලාගේ වැඩ ගැන මට පොඩි දැනීමක් තියෙනවා. අකුරු කියවන්ට පුළුවන්. මෝඩයෙක් නෙවි..."

අම්මාට අත දී ආචාර කළ ඔහු ගෙහිමියා අමතා මෙසේ කීවේය:

"ඔන්න, බලපන්, ස්තෙපාන්! වර්වාරා නිකොලායෙව්නා ළමාතැනි කරුණාවන්තයි, ඒක ඇත්ත! ඒ වුණාට ඔය වැඩ ගැන එයා කතා කරන්නෙ වැරදි විදියටයි. ඕවා කොල්ලන්ගෙ, විද්‍යාලවල ඉගෙන ගන්නා අයගෙ වැඩලු. ඒ වුණාට අපට පේනවා වැඩේ ස්ථිර බව. අර ගොයියාව හිර බාරෙට ගත්තා, එතකොටම ආවා මැද වයසෙ ගෑණියක්. එයා වංශක්කාරියක් නොවේ. තරහ ගන්ට එපා, එහෙම නේද?"

ඔහු කතා කළේ නොඉවසිල්ලකින් මෙනි. එක තැන නොරැඳෙන ඔහුගේ ඇස් ගැහැණියගේ මුහුණ හා කය දෙසත් බලයි. නිකට වෙව්ලයි. අවුල් වූ හිසක් ඇති ඔහුගේ කටහඬ මේ දත් දත් කා සමග හෝ ගුටි බැට හුවමාරුවක යෙදී සිට ආ බවක් හඟවයි. ප්‍රති මල්ලවයා පරාජය කොට ලබන ලද ජය නිසා ප්‍රීතියක් ඔහුගේ කතාවේ ගැබ්ව ඇති සේය. එක එල්ලේම කතා කිරීම හා සටන්කාමී ගතිය නිසා ඔහු අම්මාගේ සිත් ගත්තාය. ඔහුගේ ප්‍රශ්නවලට අම්මාද එකවරම පිළිතුරු දෙන්නී, පියකරු සිනා පෑවාය. හිස වැනූ ඔහුද සෙමින් සිනාසුණේය.

"වැඩේ පිරිසුදුයි, වැඩේ අනර්ඝයි, ස්තෙපාන්. තේරුණද? මම උඹට කිව්වෙ මහජනය තමන්ගෙම ව්‍යාපාරයක් පටන් ගන්නවයි කියල. ළමාතැනි ඇත්ත කියන්නෙ නැහැ. ඒක එයාට අගුණයි. මම එයාට ගරු කරනව! එයා අපේ වැඩි දියුණුව පතනව. ඒ වුණාට එයාට අලාබ හානි නොවන විදියට මහජනයාට ඕන කෙළින්ම ඉදිරියට යන්ටයි. ජනතාව අලාබ හානිවලට බය නැහැ, තේරුණද? මහජනයට හැම තැනම පාඩු, අලාබ හානි. කොයි පැත්තට හැරුණත් 'හිටපිය' කියල කෑ ගහනව."



"මට පේනවා!" යැයි කී ස්තෙපාන් හිස වනමින්, "මේ උන්දැ බැගය ගැන කලබල වෙනව," යැයි වැඩිදුරටත් කීය.

ප්යෝතර් කපටි බැල්මක් හෙළා අතක් වනමින් සංසුන් ලෙස මෙසේ තෙපලේය:

"බය වෙන්ට එපා! ඒවා සේරම හරි. බැගය මගේ ළඟ, අම්මේ! අපේ අර ගොයියා කිව හැටියට නම් ඔබත් ඒ වැඩවලට සම්බන්දයි වගෙ, ඒ වගේම හිරබාරයට ගත්තු මිනිහාව අඳුණනවා වගෙ. මම යාළුවට කිව 'ස්තෙපාන්, බලපන්' කියල! මේ වගෙ අවස්ථාවල ඇනුම් අරින එක හොඳ නැහැ: අම්මේ ඔබත් අප දිහා ඕනකමින් බලපු හැටි අපට දැනුණා. අවංක මිනිස්සුන්ව අං වලින් අඳුනා ගන්ට පුළුවන්ලු. ඒ ගොල්ල ටික දෙනයි පාරෙ බැහැල යන්නෙ. ඔබගෙ බැගය මගේ ළඟ..."

ඔහු අම්මා අසලින් වාඩි වී ඇගෙන් යමක් අසන්නාක් මෙන් ඇ දෙස බලමින් යළිත් මෙසේ පැවසීය:

"ඔබ කැමති නම් ඒව බෙද දෙන්ට. අපි බොහොම කැමැත්තෙන් ඒව බෙද දෙන්නම්. මෙහෙ අය පොත්වලට සතුටුයි..."

"ඇ සියල්ලම අපට දෙන්ට සූදානම්" යැයි ස්තෙපාන් කීවේය.

"හරි අගෙයි, අම්මේ! හැම දෙයටම ඉඩකඩ සොයා ගනිමු!.."

හිටි තැනින් නැගී සිටි හෙතෙම මහත්වූ සන්තෝෂයකින් යුතුව ගෙතුළ සක්මන් කරමින් තම අදහස් දිගටම කියා පායි:

"පුදුමාකාර සිදුවීමක්! නමුත් එය බොහොම සාමාන්‍ය වාම් දෙයකි. එක තැනක ඉරිල යනකොට අනිත් තැනින් පැස්සෙනවා කමක් නැහැ! පත්තර හොඳ දෙයක්. මිනිස්සුන්ගෙ ඇස් පාදනවා! ලොකු ලොක්කො කේන්ති ගන්නව. මෙතැන ඉඳල හැතැප්ම හතක් දුර ළමාතැනී කෙනෙක් ළඟ මම රක්සාව කරනව. එයා හොඳ නෝනා කෙනෙක්. මම වඩුවෙක්. එයා මට පොත් දෙනව කියවන්ට. නොයෙක් ජාතිවල පොත්. සමහර විට කියවාපුවාම අදහස් උපදිනවා! පොදුවේ එයාට මම කෘතඥ වෙනව. මම දවසක් එයාට අපේ පත්තරයක් නිකමට පෙන්නුව. එයා අමනාප වුණාය, නැහැ. එයා — ළමාතැනි කියනව, පියෝතර්, ඕව අල්ලා විසිකරල දපන් කියල. ඒවා ඔය වගකීමක් නැති කොල්ලන්ගෙ වැඩලු. ඕව නිසා උඹලගෙ දුක වැඩි වන එක විතරයි. හිරගෙදර, සයිබීරියාව. ඒවා හින්ද..."

ඔහු නිහඬව සිට යළිත් කල්පනාකාරීව ප්‍රශ්න කළේය:

"අම්මේ, හිර බාරයට අහු වුණ ඒ ගොවියා ඔහෙලගෙ නෑයෙක්ද?"

"පිට කෙනෙක්!" අම්මා තෙපළාය.

කිසියම් සතුටක් ඇති වූවාක් මෙන් පියෝතර් නිහඬව සිනාසී හිස

වැනුවේය. "මට කෙනෙක්" වශයෙන් රිබින් හැඳින්වීම නිසා ඈ සිත තුළ අමනාපයක් හට ගත්තෙන් ඈ මෙසේ කීවාය:

"එයා මගේ නෑයෙක් නෙවි, මම එයාව බොහෝ කාලයක් තිස්සේ හඳුනනවා, හරියට මගෙ අයියා කෙනෙක් වගෙ!"

උවමනා වචන සිහියට නගා ගැනීමට බැරි වීම නිසා ඇය තුළ ඇති වූයේ අප්‍රසන්නතාවයකි. නිහඬව සුසුම් ලැම නවතා ගැනීමට ඈ අපොහොසත් වූවාය. ගොවි ගෙදර පුරා නිහඬතාවය ඇති විය. ජයෝතර් උරහිස මත හිස නමා ගනිමින් යමක් අසන්නාක් මෙන් උන්නේය. ස්තෙපාන් කල්පනාකාරීව මේසයට නිය පිටින් ගසන්ට විය. ලිපළඟ වාඩි වී ස්තෙපාන්ගේ බිරිඳ අම්මා දෙස බලා ගෙන සිටියාය. අම්මාද ඈ දෙස බැලුවේ මිත්‍රකමකිනි. ඇගේ මුහුණ අණ්ඩාකාරය, තලෙලුය, නහය සෘජුය, නිකට වටකුරුය. කොළ පැහැති ඇගේ දෙනෙත් දීප්තිමත් ලෙසත් සැලකිලි මත් ලෙසත් බැබලිණි.

"එහෙනම් යාළුවෙක්!" ජයෝතර් සෙමින් ඇසුවේය. "එයාගෙ චරිතය නම් හරිම එඩිතරයි! ඔන්න, තතයානා, මිනිහෙක්! ඒ උණාට උඹ කියන්නෙ..."

"එයා කසාද බැඳලද?"යි ඔහුගේ කතාවට බාධා කරමින් තතයානා ඇසුවේ සිනින් යටි තොල විකාගනිමිනි.

"පවුල මිය ගියා" යැයි අම්මා පිළිතුරු දුන්නාය.

"ඒ නිසා ද තමා ඔයතරම් නිර්භීත!" තතයානා ලයාන්විත ලෙස සෙමින් තෙපලාය.

"ගැණියෙක් ඉන්න මිනිහෙක් ඔය වගෙ දේවලට ඉදිරිපත් වෙන්නේ නැහැ... බය වෙනවා..."

"මම ද? කසාද බැඳල!" ජයෝතර් කීවේය.

"අපෝ ඇති!" යැයි තාතායානා කීවේ කට ඇද කර ගෙන ඔහු දෙස පවා නොබලමිනි. "උඹ මොනවද කරන්නෙ, කතා කරයි, කලාතුරකින් පොතක් කියවයි. උඹයි ස්තෙපානුයි එක්කහු වෙලා මුල්ලකට වෙලා කුසු කුසු ගාන එකෙන් ජනයාට ප්‍රයෝජනයක් නැහැ!"

"මට බොහෝ දෙනා ඇහුම් කන් දෙනවා," යැයි තරමක් අමනාපයට පත් ගොවියා කීවේ විරුද්ධත්වය පවසමිනි. "මම මෙතැන මුනුං වගෙ. උඹේ කතාව වැදගැම්මකට නැහැ..."

බිරිඳ දෙස නිහඬව බැලූ ස්තෙපාන් බිම බලා ගත්තේය.

"ගොවියෝ මොකටද කසාද බඳින්නෙ?" තතයානා ඇසුවාය. "ගෙදර වැඩට, කුඹුරෙ වැඩට උදව් කාරියෙක් ඕනැලු. මොකටද වැඩ කරන්නෙ?"



"උඹට තියෙන වැඩ මදිද?"යි ස්තෙපාන් ඇගෙන් ඇසුවේය.

"මේ වැඩ පලවලින් ඇති ප්‍රයෝජනය මොකක්ද?"යි ඈ ඇසුවේ අඩ ස්වරයෙනි. "මේ ජීවිතය හැමදම එක විදියයි. බඩගිනියි. ළමයි උපදිනවා. උන් දිහා බලන්නවත් වෙලාවක් නැහැ. ඒ තරමට වැඩ. කෑම නොදෙන වැඩ."

ඈ අම්මා සමීපයට විත් වාඩි වී, කනගාටුවකින් හෝ පැමිණිල්ලකින් හෝ තොර ස්ථිර ලීලාවකින් කතා කළාය:

"මට දරු දෙදෙනෙකු ලැබුණා. එකෙක් වයස අවුරුදු දෙකේදී උතුරන වතුර හැලියක් ඇගේ හලා ගෙන මළා. අනිත් දරුවා උපන් ගමන්ම මළා. ඒ සියල්ලටම හේතුව මේ වැඩ පළ. මගේ ජීවිතය සැපක්ද? ගොවියන්ට කසාද බැඳීමෙන් පලක් නැහැ. එයින් වෙන්නේ නිදහස නැති වීම පමණයි. තනිකඩයින් වෙලා හිටියානම් තමන්ට උවමනා විදියට සමාජය හද ගන්ට ගොවීන්ට හැකි වෙවි. සිර බාරයට පත්වුණු මිනිසා වගෙ බිය නැතුව එක එල්ලේම ඇත්ත සඳහා සටන් කරන්ට හැකි වෙනවා. මොකද අම්මේ මා කියන්නේ ඇත්ත නොවේද?" යි තතයානා ප්‍රශ්න කළාය.

"ඇත්ත, සත්තකින්ම ඇත්ත, මගේ සුදු දුවේ, එහෙම නැතිව මේ ජීවිතයෙන් ගොඩ එන්ට බැහැ," අම්මා තෙපළාය.

"ඔයාගේ සැමියා ඉන්නවාද?"

"මළා. පුතා ඉන්නවා..."

"පුතා කොහිද? ඔයා ළඟද ඉන්නෙ?"

"එයාව හිරබාරයට ගත්තා!" අම්මා කීවාය.

ඒ සමගම තම සුපුරුදු ශෝකය මුසු ගර්වයද, සංසුන් බවද විසින් ඇය වෙලා ගන්නා ලදී.

"මගෙ පුතාව ඔය දෙවැනි පාරට හිර කළේ. හේතුව එයා දෙවියන්ගේ ඇත්ත දන ගෙන එය වැපිරීම සඳහා වැඩ කළ නිසා... එයා තරුණයි, ලස්සනයි, බුද්ධිමත්! පත්‍ර බෙද හැරීම එයා තමා ඉස්සෙල්ලාම පටන් ගත්තෙ. මිඛයිල් ඉවානොවිච් රිබින්ට ඔය මග පෙන්නල දුන්නේ එයා. රිබින් මගෙ පුතාට වැඩිය දෙගුණයක් වයසයි. මගෙ පුතාගෙ නඩුව ළඟදීම ඇහේවි. එයාව සයිබීරියවට පිටුවහල් කලත් නැවත ඇවිත් වැඩ පටන් ගනීවි..."

ඈ තම හද පත්ලෙන් නැගී ගර්විත හැඟීමෙකින් යුතුව කතා කරන්නී, තම වීරයාගේ චරිතය නිර්මාණය කරනු වස්, වචන සොයමින් හා ආයාසයක් ගනිමින් විස්තර කළාය. තමා අද දුටු ඇඳිරි, මුසල. බිය ගෙන දෙන තේරුමක් නැති, ලජ්ජා රහිත වද හිංසාව පැහැදිලි, බුද්ධිමත් යමකින්

යටපත් කර දැමීමට ඇට වූවමනා විය. නිරෝගී සිත ඉබේටම මෙන් ඒ දෙස ඇදී ගියේ, අවංක පිරිසිදු හැම දෙයක්ම එකම ආලෝකයක් බවට පත් වී, දීප්තිමත්ව බැබළුනෝය...

"ඒ වගෙ අය දැනට බොහොම ඉපදී ඉන්නවා. තවත් ඉපදෙනවා. ඒ ගොල්ල මැරෙන්න ඉස්සෙල්ල මහජනයාගේ නිදහස සඳහාත් සත්‍යය සඳහාත් සටන් කරාවි..."

ඇ ප්‍රවේසම්කම ගැන අමතක කරමින් කැදරකම නැමති යදම්වලට විරුද්ධ විමුක්ති ව්‍යාපාරයේ විස්තර සහ රහස් වැඩ කටයුතු ගැන තමා දන්නා සැම දෙයක්මද, මිනිසුන්ගේ නම් ගම් හැර අනිත් හැම දෙයක් ගැනමද පහද දෙමින් කතා කළාය. තම හදවතට ඉතාම කිට්ටු ගුණයන් අදිමින්, ශක්තිය, ආදරය, ආදි හැඟීම් කවා පණ පොවමින් අම්මා කතා කළාය. මෑතදී ඇතිවූ අනතුරු හඟවන සිදුවීම් සහ තම මතකෙහි සද ඇදී ගිය මිනිසුන්ගේ සහ ඔවුන්ගේ හැඟීම් ඇ මවා පෑවේ, උණුසුම් හා ප්‍රීතිමත් ලෙසය.

"අප රටේ හැම තැනම, හැම නගරයකම, ගමක හා නියම් ගමක මේ විදියේ ව්‍යාපාරයක් ගෙනියනවා. ගුණවත් මිනිස්සු ඒ කරිය බාර අරගෙන තියෙන්නේ. අපේ ජයග්‍රහණය දක්වා ඒ බලය ඉමක් නැතිව වැඩි දියුණු වෙමින් පවතිනවා..."

ඇය කතා කළේ පැකිලීමෙකින් තොරවය. උවමනා වචන අපහසුවක් නැතිව සොයා ගැනීමෙහි ලා අම්මා දක්ෂය. එදින ගලා ගිය ලේ සහ කුණු කසල සෝද හැර සිත පිරිසිදු කර ගැනීමේ දැඩි වේතනාවෙන් යුතුවය ඇය තම කතාව කර ගෙන ගියේ. ගොවිහු ඇසි පිය නොහෙලා ඇගේ කතාවට සවන් දුන්හ. තමා අසල වාඩි වී සිටි ගැහැණිය සෙමින් හුස්ම ගනිමින් නොදුටු වීරු ආසාවකින් යුතුව තමාට කන් දෙන සැටි අම්මාට පෙනේ. මේ සියල්ලක්ම නිසා තම කතාව හා ජනතාවට දුන් පොරොන්දු කෙරෙහි ඇති විශ්වාසය වැඩි දියුණු විය...

"පොහොසත් ලොක්කෝ සහ උන්ගේ සේවකයෝ දුප්පත් ජනතාව මර්දනය කර නීති විරෝධී විධියට පාගනවා. ජනතාව වෙනුවෙන්, ජනතාව සඳහා හිරගෙවල වද හිංසාවලට මුණ දී මරණයට පවා ඉදිරිපත් වන අයට පොදු ජනතාව එකා මෙන් නැගිට ආධාර දෙන්ට ඕන. ආත්මාර්තකාමයෙන් තොරව, සැපත ළඟා කර ගන්නා සැටි ඒ අය ජනතාවට පෙන්වා දෙනවා. රැවටීමක් නැතිව, ඒ සඳහා සටන් කළ යුතු, යා යුතු, මග ඉතාම අසිරු අමාරු මාර්ගයක් බව දැන ගන්ට ඕන. හැබැයි ඒ අමාරු මාවතට යම් කිසි කෙනෙක් ඇවිත් සටන් කළොත්, ඒ මාර්ගය නිවැරදි හින්ද එයින් කිසි දවසක ඈත් වී යන්නේ නැහැ!"



තමා බොහෝ කාලයක සිට සිහින දුටු ඒ කාරිය — ඇත්ත පිළිබඳ ජනතාවට කියා දීම ඇ ඉත සිතින් ඉටු කළාය:

"ඒ වගෙ මිනිස්සු එක්ක ජනතාව අතරට යන්ට පුළුවනි. ඒ අය සුළු දේවලින් සන්තෝස වෙන්නේ නැහැ. පාවා දීම, රැවටීම, කෝපය, කැදරකම, ආදි සියල්ලක්ම නැති කර දමන තුරු සටන නවත්වනේ නැහැ. මුළු මහත් ජනතාවම එකා මෙන් නැගිටලා, එක හඬින් කෑ ගසා, මම තමා මේ සියල්ලන්ගෙම අයිතිකාරයා, සැම දෙනාටම සාදරණ නීතියක් හදන්නේ මමයි කියන තුරු ඒ ගොල්ල සටන් කරනවා සහතිකයි!.."

විඩා පත් අම්මා නිහඬව වටපිට බැලුවාය. ඇගේ වචන අපතේ නොයන බව ඇයට දැනුණෙන්, ඇගේ සිතේ ඇති වූයේ විශ්වාසයකි. තවත් යමක් බලාපොරොත්තු වෙමින් ගොවිහු ඇ දෙස බැලූහ. දෑත් බැඳ ගත් ජ්‍යෝතර් ඇස් හකුළුවා ගනිමින් හා මඳ සිනා පාමින් ඇ දෙස බැලුවේය. මේසය මත අතක් තබා ගත් ස්තෙපාන් ඉදිරියට නැමී තවම ඇසීම නොනැවැත්වූවාක් මෙන් බෙල්ල දිගු කර ගෙන කන් යොමා ගෙන සිටියේය. ඔහුගේ මුහුණ වසා සෙවනැල්ලකි. ඒ නිසාදෝ එහි පිරිපුන් ගතියක් පෙනිණි. දණහිස් මත වැළමිටි තබා ගෙන උන් ස්තෙපාන්ගේ බිරිඳ බිම බලා ගත්තාය.

"ඔන්න හැටි!" යැයි සෙමින් කී ජ්‍යෝතර් හිස වනමින් ප්‍රවේසම් සහිතව බංකුව මත වාඩි වුණේය.

ස්තෙපාන් ඍජුව සිට ගනිමින් බිරිඳ දෙස බලා දෑත් වැනුවේ යමක් අල්ලා බඳ ගන්ට මෙනි.

"ඔය වැඩේට බහිනවානම්, මුළු හිතින්ම අධිෂ්ඨාන කර ගන්ට ඕනෑ..." යැයි ස්තෙපාන් කීවේ කල්පනාකාරී ලෙසය.

ජ්‍යෝතර් දැඩිව මෙසේ කීය:

"ඔව්-ව්! ආපහු යන්ට බෑ!.."

"ඒක බොහොම පළල්!" ස්තෙපාන් පැවසීය.

"මුළු ලෝකය පුරාම!" ජ්‍යෝතර් තෙපළේය.

# XVIII

බිත්තියට පිට තියා ගත් අම්මා හිස ඇද කර ගනිමින්, ඔවුන්ගේ කතාවට සවන් දුන්නාය. තත්‍යානා නැගිට ඇ දෙස බලා නැවතත් වාඩි වුණාය. ඇ අසතුටකින් හා අප්‍රසන්නතාවයකින් යුතුව ගොවීන් දෙස බලනවිට, ඇගේ කොළ පැහැති ඇස් දිලිසෙන්ට විය.

"ඔයා බොහෝ දුක් විඳ ඇති නොව ද?"යි ඇ මවගෙන් ප්‍රශ්න කළාය.

''දුක් වින්ද,'' අම්මා කීවාය.

''හොඳට කතා කරනාව. හිත පැහැදෙනවා ඔයා කතා කරන විට. අනේ දෙවියනේ! ඒ වගෙ මිනිස්සුන් දෙස එක ඇහැකින්වත් බලන්ට පුළුවන්නම් මොක්ක්ද මේ ජීවිතේ? හරියට බැටළුවො වගේ! මට අකුරු කියවන්ට පුළුවන්. පොත් කියවනවා. බොහොම කල්පනා කරනවා. රෑට නින්දක් වත් නැහැ. නොයෙක් දේ ගැන හිතනවා. ඇති පලය මොකක්ද? කල්පනා කිරීමෙන් ඇති ප්‍රයෝජනයක් නැහැ.''

ඇගේ මුහුණේ උපහාසාත්මක ගතියක් පෙනෙන්ට තිබිණි. වරින් වර ඇ තම කතාව නැවැත්වූයේ නූල් පොටක් හපන්නාක් මෙන්ය. ගොවීහු නිහඬ වූහ. සුළං පාර ජනේල වීදුරුවට වැදේ. වහලේ පිදුරු 'සුරු' 'සුරු' හඬක් නගයි. දුම් බටය තුළට වැදෙන සුළං හඬ දෙයි. බල්ලෙක් කෙඳිරි ගෑවේය. ඉඳ හිට වැහි බිංදු ජනේල වීදුරුවට වැටේ. ලාම්පුවේ ගිනිදැල්ල නටා අඳුරු වීමට මෙන් අඩුව ගොස් නැවත පෙර සේම ඇවිලිණි.

''මම ඔබගෙ කතාව අහල දැන ගත්තා කුමක් සඳහා මිනිස්සු ජීවත්විය යුතුද කියල. කතාව අසා හිත පැහැදුනා. මට දැන් හැඟෙනවා! ඔබගෙ කතාවට ඉස්සෙල්ලා මගෙ ඔළුවෙ එහෙම අදහස් තිබුනේ නැහැ...'' තත්‍යානා කීවාය.

''අනේ තත්‍යානා, බඩගිනියි. ඉක්මනට පාන නිවා දන්ටත් ඕන.'' යැයි ස්තෙපාන් ඇඟ මැලි කඩමින් කීය. ''අහල පහල උදවිය හිතාවි මොකද අද වුමකෝව්ලගේ ගෙදර රෑ බෝ වන තුරු පාන පත්තු වෙන්නෙ කියල. අපේ අමුත්තාට එයින් පාඩුවක් වෙන්ට ඉඩ තියෙනව...''

තත්‍යානා නැගිට ලිප ළඟට ගියාය.

''ඔව්-ව්!'' මද සිනා පාමින් සෙමින් ජයෝතර් කතා කළේය. ''දැන් ඉතින් කන් දී අහගෙන ඉන්ට ඕන! මොකද වෙන්නෙ කියල මහජනය අතර පත්‍ර බෙදෙන විට...''

''මම කියන්නේ මා ගැන නොවේ. මාව හිරබාරයට ගැනීම එතරම් ලොකු පාඩුවක් නෙවි!''

බිරිඳ ස්තෙපාන් වෙත පැමිණියාය.

''නැගිටහං...''

ඔහු නැගිට ඉවත යමින්, බිරිඳ කෑම මේසය පිළියෙළ කරන සැටි බලන්නේ උපහාසාත්මක ලීලාවෙන් මෙසේ කීය:

''අපේ සහෝදරවරුන්ගේ වටිනාකම කොපෙක් පහේ කාසි ගොඩක් විතර ඇති. එ ගොඩේ සහෝදරවරු සිය ගණනක්...''

අම්මාට ඔහු කෙරෙහි අනුකම්පාවක් හට ගත්තේය. ගෙහිමි ගොවියා



අන් හැම දෙනාටම වඩා ඇගේ සිත් ගත්තේය. එදින දුටු ව්‍යසනක සිද්ධීන්වලින් විඩාපත්වූ සිත කය දෙකම සංසුන් වූ බවක් සිය කතාවෙන් පසු ඇයට හැඟිණ. දැන් ඇ හැම දෙනාටම දයාවෙන් සැලකීමට සූදානම්ය.

''තමුසෙ බලන විදිය හරි නැහැ, උන්නැහෙ!'' අම්මා කීවාය. ''තමන්ගෙ ලේ උරා බීමට ලැස්ති එවුන් මහින විදියට නොවෙයි, තක්සේරු කරන්ට ඕන. තමුසෙ තමාව අභ්‍යන්තර වසයෙන් තක්සේරු කරගන්ට ඕන. හතුරන්ගෙ ප්‍රයෝජනයට නොවෙයි මිතුරන් සඳහා...''

''අපට කොයින්ද යාලුවෝ?'' ගොවියා සෙමින් කීවේය. පළමුවැනි හපා කෑම දක්වා විතරයි යාළුකම...''

''මා කියන්නේ ජනතාවට යාළු-මිත්‍රයො ඉන්නවා කියලයි...''

''ඉන්නව හැබැයි මෙහෙ නෙවි, ඔන්න ඔතනයි පල හිලව්ව,'' ස්තෙපාන් කල්පනාකාරී ලෙස කීවේය.

''මෙහෙ ඇති කරන්න ඕන.''

ස්තෙපාන් තරමක් කල්පනාකාරීව සිට මෙසේ කීය:

''ඔව්-ව්! ඇති කරන්න ඕන...''

''කෑමට වාඩි වෙයල්ලා!'' තත්‍යානා ආරාධනා කළාය.

අම්මාගේ කතාව නිසා නිහඬව සිටි ජයෝතර් ආහාර ගන්නා අතර නැවත දෙඩමළු විය:

''අම්මේ, ඔබ රෑ පාන්දරින්ම මිනිස්සු දකින්න ඉස්සෙල්ලා යන්ට ඕන. තැපැල් අස්ස කරත්තෙන් අල්ලපු ගමට යන්ට. නගරයට යන්ට එපා...''

''මොකටද? මම කරත්තෙ බැඳ ගෙන එක්කයන්නම්,'' ස්තෙපාන් කීවේය.

''එහොම, එපා! දුටුවොතින් අහවි උඹලැ ගෙදර නැවතුනාද? ඔව් නැවතුණා කොහෙද ගෙන ගියේ?'' මම ගෙනගියා! අ-හා, උඹද ගෙනගියෙ? පලයන් හිරගෙදරට! තේරුණාද? හිරගෙට වැටෙන්ට ඉක්මන් වෙන්ට ඕන නැහැ? හැම දෙයම නියම වෙලාවටයි. වෙලාව ආවාම සාර් රජු පවා මැරිල යනවා. රෑ නවාතැන් ගත්තා උදේ කොහෙද ගියා! කවුරු කොහෙ නැවතුනාම මොකො. නවාතැන් ගැනීමට ගමේ හැම ගෙදරකටම පාහේ මිනිස්සු එනවා...''

''ජයෝතර්, උඹ කොහෙන්ද මේ හැටි බය වෙන්ට ඉගෙන ගත්තෙ?'' තත්‍යානා උපහාසාත්මක ලෙස ප්‍රශ්න කළාය.

''උඹට හැම දෙයක් ගැනම දැන ගන්ට ඕනෑ,'' යැයි ජයෝතර් දණහිසට තට්ටුකොට කෑ ගැසීය. ''බය වීමට දැන ගන්න මිනිහා නිර්භීත වීමටත් දැන ගන්නව! උඹට මතකද පත්තර හින්ද වගානවට වුණ දේ? සල්ලි

ගොඩක් දෙන්නම් කිවත් වගාතව් පොතක් අතින් වත් මීට පස්සේ අල්ලන්නේ නැහැ. ඔව්! අම්මේ, මාව මම හැම දේවම ලැස්තියි. ඒ ගැන හැම දෙනාම දන්නවා. පොත් පත්තර මම ඕනෑ තරම් අගේට බෙද හරින්නම්! අපේ ගම්මු නූගත්, බය උදවිය. එහෙත් සමහර වේලාවට කොතරම් අමාරුවේ වැටෙනවාදැයි කියනවා නම්, මිනිස්සු කල්පනා කිරීමට පෙළඹෙනවා. ඒ වේලාවට පොත එහෙව් මිනිහාට උත්තර සපයනව. කියවල කල්පනා කරපන්! නූගත් මිනිහ සමහර වේලාවට උගතාට වඩා කල්පනා කරනව, විශේෂයෙන්ම උගතාගෙ බඩ කට පිරී තියෙනම්! මම ගම පුරාම ඇවිදිනවා. බොහෝ දේ දකිනවා. මෙහෙ ජීවත් වෙන්ට පුළුවනි. කල්පනා ශක්තියයි, හුරුබුහුටිකමයි තියෙන්ට ඕන, නැතිනම් මඩෙ එරෙනව. ලොක්කො ඉව අල්ලා බලනවා. ගොවියෙක් බොහොම දුප්පත් නම්, එයා ගරු සරු ඇතිව කතා කරන්නේ නැත්නම් ලොක්කන්ගෙන් ඈත් වෙනවානම් ලොක්කා ඉවෙන් මෙන් එයා ගැන සැක කරනවා. ස්මොල්යානොවො කියල ගමක් තියෙනව. තොබෝද රදළයාගේ සේවකයෝ ඇවිත් අයබදු ඉල්ලා හිටියා. ගොවියා පොලු කැති අරගෙන කිවා තොපට යස අයබද්දක් දෙන්නම් කියල. පොලිස් ලොක්කා ඒ ගම්මුන්ගෙන් අහනව - ආ බොලව්, බැල්ලිගෙ පුත්තු! ඒ වැඩේ සාර්ට විරුද්ධයි නේද? කියල. නඩේ හිටිය ස්පිවාකින් කියල ගොවියෙක්. මිනිහ කිවා, 'ආ සාර් එක්ක පලයව් යකාට කියල. ඇගේ තියන අන්තිම කමිසය පවා උදුරා ගන්න කොට මොන සාර් කෙනෙක්ද?..' කියල. ඔන්න සිද්ද වුණු දේ, අම්මේ! ස්පිවාකින්ව 'හිරබාරෙට ගත්තා, ඒ වුණාට ඒ කතාව ගමේ කොල්ලො කුරුට්ටො හිටන් තවම කියනවා!''

ඔහු අසාර ගන්නේ නැති නමුදු සහන් ස්වරයෙන් ඉක්මනින් කතා කළේය. ඔහුගේ කළු පැහැති ඇස් දිප්තිමත්ය, ඔහු අම්මා දෙස බැලුවේ දයාබර සිතකිනි. ගමේ ගොඩේ ජීවිතය ගැන දන්නා නොයෙක් දේ සවිස්තරව කීවේය.

ස්තෙපාන් දෙතුන් වරක්ම ඔහුට ඇවිටිලි කළේය:

''සාෂෙන්, මිනුස්සයො...''

ජෙයෝතර් පාන් කෑල්ලක් එක් අතකින්ද අනික් අතින් හැන්දක්ද ගනිමින් ශී ගයන කුරුල්ලෙකු මෙන් නැවතත් කතා කරන්නට විය. ඔ කෑමෙන් පසු හෙමෙනම නැඟී සිට මෙසේ කීය:

''මම යන්නම්!...''

අම්මා ළඟට විත් අතදී ආචාර කොට හිස වනමින් ඔහු මෙසේද කීය:

''අම්මේ, ආයුබෝවන්! සමහර විට නැවත කිසි දිනක නොදකිනවා



වෙන්ට පුළුවනි! ඔබත් ඔබගෙ කතාවත් ඉතාම අගනේයි. ඔබගෙ බෑග් එකේ පත්තර හැර වෙන මොනවා හරි තියෙනවද? වුලන් සාලුවක්? හරි හොඳා! ස්තෙපාන් මතක තියා ගනින්. දැන් ස්තෙපාන් ඔබගෙ බෑගය ගෙනේවි! ආයුබෝවන්, ජය වේවා!..''

ඔවුන් ගිය පසු පලගැටියන්ගේ හඬ ඇසෙන්නට විය. සුළඟ හමා යයි, ගෙයි වහළද, දුම් බටයද හඬක් නගන්නාක් මෙනි. වැහි පොද නොර තෝංචියක් නැතිව ජනේල වීදුරුවට වැටේ. බංකුව මත රෙදි එලමින් තතියානා අම්මාට නිද ගැනීමට 'ඇඳක්' පිළියෙළ කළාය.

''මිනිහා කඩිසරයි!'' අම්මා තෙපලාය.

ගෙවිලිය යටැසින් ඇ දෙස බලමින් පිළිතුරු දුන්නාය:

''එයාගේ හඬ නොදුරින් ඇහෙනව.''

''කොහොමද ඔයාගෙ ගෙදර උන්දෑ?'' අම්මා ඇසුවාය.

''වරදක් නෑ හොඳ ගොවිරාළ. බොන්නේ නෑ. හොඳින් කල් ගෙවනවා. එහෙත් දුර්වල චරිතයක්...''

තතියානා සෘජුව සිට ගනිමින් ප්‍රශ්න කළාය:

''දැන් මොනවද කරන්ට ඕන, ජනතා කැරලි ඇති කරන්ට ඕනද? සත්තකින්ම! හැම කෙනෙක්ම ඒ ගැන තමා හිතන්නෙ. හැබැයි තනි තනිවම. හැම දෙනාම ඒ ගැන ප්‍රසිද්ධියෙ කතා කරන්ට ඕන... ඉස්සෙල්ලාම එක් කෙනෙක් ඒ ගැන තීරණයක් ගන්ට ඕන...''

ඈ බංකුව මත නිද ගෙන සිටි හැටියේම තවත් ප්‍රශ්නයක් ඉදිරිපත් කළාය:

''හැබෑද තරුණ නෝනාවරු මීවා ගැන කතා කරනවා කියන්නේ? වයස්, පැහැත් නැතුව ගොල්ල කම්කරුවන් සොයා ගිහිං පොත් කියවා දෙනව කියන්නෙ ඇත්තද?''

අම්මාගේ පිළිතුර අවධානයෙන් අසා සිටි ඈ සුසුමක් හෙළුවාය. හිස පාත් කර ගෙන බිම බලා ගත්තී, නැවත කතා කළාය:

''එක පොතක මම කියෙව්වා, තේරුමක් නැති ජීවිතය ගැන! මට එකවරම තේරුම් ගියා. මට එය බොහොම හොඳින් තේරුම් ගියා! එවැනි ජීවිතයක් ගැන මම දන්නවා. අදහස් තිබුණත් එවා එකිනෙකට සම්බන්ධ නැහැ. එඬේරු නැති බැටළුවන් වගෙයි. උන්ව ගාල් කිරීමට කිසිවක් නැහැ, කිසිවෙක් නැහැ... එය තමා තේරුමක් නැති ජීවිතය. එවැනි ජීවිතයක් එපා වෙනවා, අතහැරල දුවන්ට හිතෙනවා. හරිම කාන්සියෙන් ඉන්නෙ, කිසියම් දෙයක් තෝරා ගන්ට පුළුවන් නිසා!''

ඇගේ කොළ පැහැති ඇස්වල විශාලි කාන්තියකුත්, ඇගේ සිහින්

මුහුණෙනුත් ඇගේ කට හඬිනුත් අම්මා එම කාන්සිය දුටුවාය. අම්මා ඈ සනසන හා සුරතල් කරන අයුරින් මෙසේ කීවාය:

''අනේ හොඳ දූවේ! මොනවා කරන්ට ඕනද කියල තේරෙනවා නොවැ...''

තතායානා සෙමින් තොල මතුළාය:

''එය කරන්ට දැනගන්ට ඕන. අද හැදුවා... නිදගන්ට!..''

ලිප ළඟට ගිය තතායානා කල්පනා කරන්ට වූවාය. ඇඳ සිටි ඇඳුම පිටින්ම නින්දට ගිය අම්මා වේදනාවෙන් කෙඳිරි ගාන්ට වූයේ ඇට කටු කකියන්ට වූ බැවිනි. තතායානා පහන නිවා දැමුවාය. ගොවි ගෙදර අඳුර පැතිර යත්ම ඇගේ පහත් කටහඬ පැහැදිලිව ඇසෙන්ට විය. අඳුර නැමති පැතලි මුහුණ සෝද හරින්නාක් මෙන් ඇගේ හඬ පැතිර ගියේය.

''ඔබ යාඥ කරන්නේ නැතිද. මගේ හැඟීමක් දෙවියෙක් නැත, හාස්කම් නැත කියල.''

· අම්මා නොසන්සුන්ව අත් අතකට හැරුණාය. අඳුරු ජනේලයට ඈ මූණ පා සිටී. නිහඬතාවය කොතරම් ද යත් ඈත ගස් වල සෙලවෙන කොළ වල ශබ්දය වෙන් වෙන්ව ඇසේ. අම්මා බිය වූවාක් මෙන් තොල මතුළාය:

''දෙවියො ගැන මම නොදනිමි. හැබැයි, ජේසු තුමා ගැන විශ්වාස කරනව. 'තමාට මෙන්ම අසල් වැසියාටත් ප්‍රේම කරව'යි කීවා නෙව එයා. අන්න ඒ ගැන විශ්වාස කරනව!..''

තතායානා නිහඬ වූවාය. ලිප පසුතලය කොට තිබෙන බිත්තියේ ඇති ඇගේ නොපැහැදිලි සෙවනැල්ල අම්මා දුටුවාය. ඈ නොසැලී සිටියාය. අම්මා කාන්සියෙන් යුතුව දෙනෙත් වසා ගත්තාය.

යළිත් තතායානාගේ දැඩි වචන ඇසෙන්ට විය:

''මගේ ළමයින්ගේ මරණය නිසා කිසි දිනක දෙවියන්ට හෝ මිනිසුන්ට හෝ සමාව දෙන්නේ නැහැ!..''

ඒ වචනවල ගැබ්ව තිබෙන ශක්තිය දන්නා නිලවනා වැළමිට වාරු කොට ගනිමින් නොසන්සුන්ව වාඩි වූවාය.

''උඹ තවම තරුණයි නෙව. ළමයි ලැබෙවි,'' ඈ පසන් ලෙස කීවාය. එයට පිළිතුරු දෙනු වස් තතායානා තොල මතුරන්ට වූයේ සෙමිනි.

''නැහැ! දෙස්තර කීව මීට පස්සේ දරුවො ලැබෙන්නේ නැතැයි කියල...''

මීයෙක් දිව ගියේය. නොපෙනෙන හඬක් නිහඬතාවය බිඳ හෙළිය. හේමන්තයේ වැහි පොද පිදුරු වහලට වැටෙන්ම ඇති වන 'සුරු,' 'සුරු' ශබ්දය නැවතත් වරක් ඇසේ. පිදුරු වහල දිගේ වැහි පොද ගලා යන්නේ, බියගත් ගැහැණියකගේ දෑතේ දිගැති ඇඟිලි එක'ටෙක ගැටෙන විට



ඇති වන හඬක් මෙනි. නොකඩවා වැටෙන හේමන්ත වැස්ස කම්මැලියෙකු සේය...

ඉස්තෝප්පුවට ඇතුළු වූවෙකුගේ අඩි ශබ්දය අම්මාට ඇසුණේ නින්දෙන් මෙනි. දෙර සෙමින් හැරිණ. පහත් ස්වරයකින් කෙනෙක් කතා කළේය:

''තතායානා, නිද ගන්නවද?''

''නැහැ.''

''එයා නිදිද?''

''නින්ද ගිහිං වෙන්ට ඕන.''

ලාම්පු කූප්පිය නිවී ගොස් අඳුර රජ කරයි. ගොවියා අම්මා වෙත අවුත් ඇගේ දෙකකුල් කබායකින් වැසීය. ඒ සැලකිල්ල නිසා අම්මාගේ හදවත පිනා ගියෙන්, ඇස් වසා ගෙනම ඈ මඳ සිනා පෑවාය. ස්තෙපාන් නිහඬව තම ලී ඇඳට නැග නිදන්ට සැරසිණි. නිහඬතාවය ඇති විය.

නිදිබර අඳුර සහ නිහඬතාවයට කන් දෙන අම්මා නොසැලී වැතිර උන්නාය. ඇගේ මනැස ඉදිරියේ රිබින්ගේ ලේ වැගිරෙන මුහුණ මැවී පෙනේ...

නිදන තැනින් තොල මතුරන හඬකි.

''ජේනාවද දුප්පත් මිනිස්සු වෙනුවෙන් වැඩ කරන්ට ඉදිරිපත් වන අයගෙ හැටි? උගුර ළඟට එන තෙක් දුකෙන් පිරි උදවිය. මුළු ජීවිතේම වැඩ පල කරල දන් නිවාඩු ගන්න කාලෙ. එ වුණාට මෙවට ඉදිරිපත් වෙලා! උඹ තරුණයි, මොළේ ඇති කෙනෙක්. අනේ ස්තේපා...''

ගොවියා පිළිතුරු දුන්නේය:

''ඔය වගේ වැඩවලට බහින්ට ඕන හොඳ හැටි කල්පනා කරල...''

''ඔය බණ මීට ඉස්සෙල්ලාත් අහල තියනවා...''

නිහඬතාවය ඇති විය. පසුව නැවතත් ස්තෙපාන්ගේ හඬ ඇසිණ

''ඉස්සෙල්ලා ශ්ගාවින් එක්ක කතා කරල බලන්ට ඕන. මාකොව් අලෝෂා ගැන බලමු. මිනිහ සටන්කාමියා. උගත්, ලොක්කන්ට විරුද්ධයි ෂෝරින් සෙර්ගේයි මොළේ ඇති හාදයා. ක්නායාසෙව් — අවංකයි, එඩිතරයි. දැනට ඇති. එයා කීව මිනිසුන්ව හමුවී බලන්ට ඕන. පොරවක් අරගෙන එද වෙල හොයා ගන්ට නගරයට යනව වගෙ නෙවෙයි. ප්‍රවේසම් වෙන්ට ඕන. එයා කියන කතාව ඇත්තයි: මිනිහෙකුගෙ වටිනාකම එයා කරන වැඩේ අනුවයි. බලමු අර ගොවියා ගැන. දෙවියො ඉදිරීමය වුණත් ඒ මිනිහා පාවා දෙන්නේ නැහැ... ගලක් වගෙ. නිකිතාට පවා හැඟීමක් ඇති වුණා. පුදුමයක් නෙව!..''

''උඹලගෙ ඉදිරිපිට මිනිහෙකුට ගැහැව්වා. උඹල කට හැර ගෙන බලා උන්නා...''

''නැවතියන්. උඹ දෙවියන්ට පිං දිපන් අපි එයාට නොගහපු නිසා!''

ගොවියා වරෙක තොල මතුරමින්ද, වරෙක හඬ නගා කතා කරමින්ද තම හැඟීම් කියා පෑවේය. ඔහුගේ වචන සමහර වේලාවට අම්මාට නොඇසෙන තරම්ය. ඔහු උස් හඬින් කතා කරන විට ගැහැණිය බාධා කළාය:

''එයාට ඇහැරේවි... හෙමින්!''

අම්මා කෙමෙන් තද නින්දට වැටුණාය. ඇඳිරි වළාකුළක් මෙන් නින්ද ඇ වසා දැම්මේය.

හිමිදිරි පාන්දර අරුණෝදයටත් කලින් නතාෂා අම්මා පිබිදෙව්වාය. සිත අඳුර හා නිහඬතාවය බිඳගෙන ඇත දේවස්ථානයක සීනු හඬක් පැතිර යයි.

''මම සමෝවාරය රත් කළා. තේ බොන්න, නැතිනම් හිස්බඩ සීත දැනේවි...''

හිසත් යටි රැවුලත් පීරා ගත් ස්තෙපාන්, නගරයට ආ විටක අම්මා මුණ ගැසෙන්නේ කෙසේදැයි ඇසුවේය. ඔහුගේ මුහුණ පෙරදට වඩා පිරිපුන් ගතියක් දරන සැටි අම්මා දුටුවාය. තේ බොන අතර ඔහු කතා කළේය:

''අපූරු විදියට වැඩේ සිද්ද වුණා!''

''මොකක්ද ?''යි නතාෂා විචාළාය.

''අජ්ජ් හැඳින ගැනීම! ලෙහෙසියෙන්ම...''

කල්පනාකාරී නමුදු ආත්ම විශ්වාසයකින් අම්මා පිළිතුරු දුන්නාය:

''මේ ව්‍යාපාරෙ හැම දෙයක්ම අපූරුයි, ඒ වගේම චාම්.''

ගෙවිලිය අම්මා නගරයට යන සැටි පිළිබඳ වචන කීපයක් කතා කළේ. රථය ඇට සැපපහසු ඇතිවනයේ පිළියෙළ කිරීමට ඔවුහු මහන්සි ගත්හ.

අශ්ව කරත්තයක හිඳ ගත් අම්මා, ගොවියා ශබ්ද නොකර, හෙමින් සීරුවේ වැලි මීයෙකු සේ වැඩ කරන සැටි කල්පනා කළාය. ගෙවිලියගේ කන්දෙස් කිරියාව නොකඩවා පවතිනු ඇත. ඇගේ කොළ පැහැති ඇස්වල කාන්තියද දරුවන්ගේ මරණය ගැන වෘක දෙනක් මෙන් නිතර වැලපීමද එලෙසම පවතිනු ඇත.

රිබින් ඇගේ මනැස ඉදිරිපිට මැවිණි. ඔහුගේ ලේ බේරෙන මුහුණ, යවට මෙන් දිලිසෙන ඇස්, ඔහුගේ වචන ආදිය සිහියට නැගෙත්ම, ඔහුට වධ දුන් මාරයන් පන්නා දැමීමට බැරි වීම නිසා ඇති වන්නේ මහත්වූ සෝකයකි. නගරයට යන තෙක්ම ඇගේ මනැස ඉදිරිපිට කළු පැහැති රැවුළ සහිත මිඛයිල් රිබින්ගේ රුව අතුරුදහන් නොවිය. ඔහුගේ ඉරීගිය කමිසය, පිටිතලහා කොට වෙලා තිබූ දෑත්, අවුල්වූ හිසකේ, සත්‍යය සඳහා ඔහු ගෙනයන අභීත සටන ආදිය අඳුරු මුසල දිනය විනිවිද මැවී පෙනේ.



බෙලහීන ලෙස පොළවට තද කර ඇති ඉමක් නැති ගම් ගැනද, සත්‍යය පැමිණෙන තුරු රහසේ බලා සිටින මිනිසුන් ගැනද, කිසිවක් බලාපොරොත්තු නොවී, තේරුම් රහිතව හා නිහඬව මුළු ජීවිත කාලය තිස්සේම වැඩ කරන දහස් සංඛ්‍යාත මිනිසුන් ගැනද අම්මා සිතුවාය.

ජීවිතය නැවුම් බිමක් මෙනි. මහත්වූ ආයාසයකින් ගොවීන් එන තුරු බලා සිටින ඒ ගොළු නැවුම් බිම අවංකව ඔවුන්ට පොරොන්දු වෙයි:

''සත්‍යය හා බුද්ධිය නැමති බීජවලින් මා පෝෂණය කරපල්ලා! මම තුඹලාට සමෘද්ධිය ළඟා කර දෙන්නෙමි!''

තමාගේ කාර්ය සාර්ථක වීම නිසා ඇ සිත තුළ ඇති වූයේ ඉමහත් ප්‍රීතියකි. එහෙත් ලජ්ජාව එය යටපත් කර දැමීය.

## XIX

අම්මා එනු දුටු නිකොලායි දෙර හැරියේය. අවුල් වූ හිසකින් ගෙඩි ඔහුගේ අත්වල පොත්ය.

''ඉක්මනින්ම ?'' යැයි හෙතෙම ප්‍රීතියෙනි ප්‍රශ්න කළේ. ''ඉක්මනට ආවා!''

ඔහුගේ ඇස්වල කාරුණික බවක් පෙනෙන්ට තිබිණි. අම්මාට කබාය ගැලවීමට උදව් කළ ඔහු කතා කළේ ප්‍රීතියකින් යුතුවය.

''ගෙදරට ඊයේ පොලිසිය කඩා පැනලා හෝදිසි කළා. හේතුව දන්නවද? මා හිතුවෙ ඔබව සිරබාරයට ගත්තායි කියල. මා තුළ බයක් උපන්නා. මාව සිර බාරයට ගත්තේ නැහැ. ඔබව හිරබාරයට ගත්තා නම් මාවත් සිර අඩස්සියට ගන්නවාට සැකයක් නැහැ!..''

ඇ සමග ඔහු කෑම ගන්නා කාමරයට වැදුණේය:

''ඒ වුණත් දැන් මාව රස්සාවෙන් අස් කරාවි. ඒක පාඩුවක් නෙවි. අශ්වයින් නැති ගොවීන් ගණන් කිරීම මට එපා වෙලා!''

ගෙය යකුන් නැටූ පිටියක් මෙනි. බඩු බාහිරාදිය එකට ගොඩ ගැසෙන තුරු කිසිවකු එම ගෙය සෙලෙව්වාක් වැනිය. පොත් හා පින්තූර හැම තැනම විසි කර තිබිණි. බිත්ති කඩදසි ඉරා දමා, ජනේල අසල ලිස්තර කඩා ඇත. ලිපේ අළු අවුස්සා එළියට ඇද දමා තිබිණි. තමාට දක්නා පුරුදු දර්ශනය දෙස බැලූ අම්මා හිස වනමින් නිකොලායි දෙස බැලුවාය. ඔහු තුළ අළුත් වෙනසක් වී තිබෙන බව ඇට දැනේ.

මේසය මත තිබූ සමෝවාරය නිවිලාය. කෝප්ප පිරිසි ආදිය අපවිත්‍රය. ලිංගුස් හා කේජු කඩදසියක ඔතා තිබිණි. පාන් කෑලි හා රොඩුද,

සමොවාරයේ ගල් අඟුරු කැටද පොත්ද මේසය උඩ තැනින් තැනය. අම්මා සිනාසුණාය. නිකොලායිද අවුල් වූ හිතකින් සිනාසුණේය.

''අවුලට මා විසින් එකතු කළ දේ තමා ඒවා. නීලව්නා, ඒකට කමක් නැහැ. මා හිතන්නේ ඒ ගොල්ල ඉක්මනින්ම නැවත වරක් ඒවි කියල. ඒ හින්ද අස් පස් කළේ නෑ. කොහොමද ගමන?''

ප්‍රශ්නය ඇගේ හදවතට බරපතළ ලෙස කා වැදිණි. ඇ ඉදිරිපිට වීබින් ඉන්නා සේය. ඔහු ගැන ආ හැටියේම නොකීම නිසා තමා වරදක් කළේ යැයි අම්මා සිතා ගත්තාය. පුටුව ඇද ගෙන නිකොලායි වෙතට ගිය අම්මා සන්සුන්ව කතාව කීමට ඉටා ගත්තී, සුළු විස්තරයන් පවා කීමට වගබලා ගත්තාය.

''එයාව අල්ලා ගත්තා...''

නිකොලායි තිගැස්සිණ.

''ඇත්තද?''

ඔහුගේ ප්‍රශ්නය වළකන්නට මෙන් අතක් ගස්සා දමූ අම්මා කතා කළේ, වදහිංසා ලබන මිනිසෙක් සාධාරණත්වය සඳහා පැමිණිලි ඉදිරිපත් කරන්නාක් මෙනි. පුටු ඇන්දට පිටදී යටිතොල විකා ගනිමින් කතාව අසන නිකොලායිගේ මුහුණ මලානික විය. උපැස් යුවළ ගළවා මේසය මත තබා ඔහු දැස් පිස දම්මේ නොපෙනෙන මකුළු දැලක් පිස දමන්නාක් මෙනි. ඔහුගේ මුහුණ තියුණු විය. හකු ඇට ඉදිරියට නෙරා ගියේය. නාස් පුඩු ගැහෙන්නට වී. පළමුවෙනි වරට නිකොලායිගේ මේ විලාසය දුටු ඇ තරමක් බිය ගත්තාය.

අම්මාගේ කතාව අවසාන වූ විට ඔහු නැගිට නිහඬව කාමරයේ සක්මන් කළේ, දැත් සාක්කුවල ඔබා ගනිමිනි. පසුව ඔහු තොල මතුළේය:

''සැහෙන හයියක් ඇති මිනිහෙක් වෙන්ට ඕන එයා. ඒ වගෙ අය හිරගෙදර ජීවිතයට ධරොත්තු දෙන්නෙ නැහැ!''

තමාගේ කැළඹීම පිටතට නොදන්වනු වස් හෙතෙම දැත් සාක්කුවල සඟවා ගත්තේය. එහෙත් අම්මාගෙන් එම කැළඹීම සැඟවීමට ඔහුට බැරි විය. උල් පිහියා තුඩු මෙන් ඔහුගේ ඇස් කොන් තියුණු විය. කුප්පනු ලැබූ කලෙක මෙන් ඔහු කතා කළේය:

''බලන්නකො අපරාදයක හැටි! ජනතාව පාලනය කරන මෝඩයින් රැලක්, උන්ගෙ දිරා හැලෙන ආණ්ඩුව රකින පිණිස ගහනවා, බෙලි මිරිකනවා, පාගනවා. රෞද්‍රකම, කෲර බව නීතිය බවට පෙරලී තියෙන හැටි බලන්නකො! උන්ට නීතියෙන් දඬුවමක් නැති නිසා, උන් සතුන් වගෙ මිනිසුන්ට අනිනව. වහල් හැඟීම් හා වනචාරී සත්ව ආශාවන් ඇති පාලකයො මිනිසුන්ට වධ දී එයින් නින්දිත ආස්වාදයක් ලබනවා . සමහරු



පළි ගැනීමට ඉදිරිපත් වෙනවා. ගුටිබැට කෑම නිසා හැඟීම් මොට්ට වී ගිය මිනිස්සු අද බිහිරි ගොළුවන් බවට පත් වෙලා. ජනතාව දූෂණය කරනවා!''

ඔහු නිහඬ වී නැවත දත් මිටි කෑවේය.

''මේ මෘග සමාජය තුළ මිනිස්සු ඉබේම මෘගයින් වෙනවා!''

පසුව සන්සුන් වූ හෙතෙම කඳුළු පිරි දෙනෙතින් යුත් අම්මා දෙස බැලුවේය.

''අපට වෙලාව නාස්ති කරන්ට බැහැ. නීලව්නා සහෝදරිය, කළ යුතු කාරිය දෙස බලමු...''

දෙම්නසින් පිරි සිනාවක් පාමින්, හෙතෙම අම්මා වෙත විත් නැඹුරුවී අතට'ත දුන්නේය.

''කොහෙද ඔබේ බෑගය?''

''කුස්සියෙ!'' අම්මා පිළිතුරු දුන්නාය.

''අපේ ගෙදර ගේට්ටුව අසල පොලිස් ඔත්තුකාරයො. ඔය තරම් ලොකු කඩදසි තොගයක් නොපෙනෙන්ට හංගන්ට බැහැ. අද රෑට පොලිසිය ආපහු ඒවි. කොතරම් කණගාටුවක් ඇති වුණත් අපි ඒවා පුළුස්සා දමු.''

''මොනවාද?''යි අම්මා ඇසීය.

''බෑගයෙ තියෙන පොත් පත්‍රිකා.''

ඔහුගේ කතාව ඇට තේරුම් ගියේය. ඇගෙ හිත දුක් සයුරක ගිලී තිබුණද තමන් කළ හපන්කම නිසා මේ වර සිතට නැගුනේ එක්තරා ප්‍රීතියකි.

''බෑගයෙ මොනවත් නැහැ. එක කොළයක් වත් නැහැ!'' යැයි කී අම්මා තමාට වුමකෝව මුණගැසුණ සැටි විස්තර කරන්ට වූවාය. නිකොලායි ඇහි බැම පහත් කර ගනිමින් නොසන්සුන් ලීලාවකින් ඇසීමට පටන් ගත්තද පසුව විස්මය පත්ව කෑ ගසන්ට වූයේ ඇගේ කතාවටද බාධා කරමිනි:

''අහන්නකො, හරි අනර්ගයි! ඔබ හරිම වාසනාවන්තියක්...''

ඇගේ අතක් අල්ලා ගත් හෙතෙම සෙමින් කතා කළේය:

''ඔබ මිනිසුන් වෙත කොතරම් විශ්වාසයක් තබා දයාව පෙන්වන්නේද... මම මගේ වැදූ අම්මාට මෙන් ඔබට ආදරය කරනවා!..''

ඔහු හිටි හැටියේ ප්‍රීති වීමේ හේතුව අවබෝධ කර ගැනීමට ආසා කළ අම්මා කුතුහලයෙන් යුතුව සිනාසුණාය:

''හරිම අනර්ගයි!'' කී හෙතෙම අත්ල පිරිමදිමින් පහත් හඬින් මුදු ලෙස සිනාසුණේය. ''පහුගිය කාලෙදී මම අගේට ජීවත් වුණා. හැම වේලෙම කම්කරුවන් සමග. කියෙව්වා, කතා කළා, බැලුවා. හිත හොඳට ශක්තිමත්

වුණා වගේම පිරිසුදු වුණා. නීලව්නා! කොතරම් හොඳ මිනිස්සුද! මම කියන්නෙ තරුණ කම්කරුවන් ගැනයි. සවි බල ඇති, හැම දෙයක්ම දත ගැනීමේ ආසාවෙන් පිරි ඉවක් තියන ඉලන්දරි.ඒ අය දිහා බලන කොට රුසියාව ලෝකයේ ඉතාම උසස් ජනසම්මතවාදී රට වනවාට සැක නැහැ!''

දිවරන්නාක් මෙන් අතක් එසවූ හෙතෙම මද වෙලා නිහඬව සිට නැවත කතා කරන්ට විය:

''මම ඉද ගෙන ලියන්ට පටන් ගත්තා. හිතට පාළුවක් දැනුණා, පුස් අල්ලපු ගණන් හිලව් ලියන්ට. ඔය වගේ ජීවිතයක් අවුරුද්දක් ගත කරන කොට ජීවිතය විනාස වෙනවා. කම්කරු ජනතාව අතර වැඩ කරල මට පුරුදුයි. ඉන් තොරවෙලා ඉන්නා විට මගේ හිත කය දෙකම මොට්ට වී යනවා. දන් ආපහු පුළුවනි කම්කරුවො සමග සබඳකම් ඇති කර ගෙන වැඩ කරන්ට. අළුත් සිනිඳිලි මැවෙන කොට්ල්ල අසල ඉන්ට ඉඩ ලැබෙනවා. නිර්මාණාත්මක යෞවන ජීවය සමග ආශ්‍රය කිරීමට අවස්තාව ලැබෙව්. හරිම අගෙයි, වාම්, ලස්සනයි. හරිම සතුටුදයක හැඟීමක් ඇති වෙලා තිබෙනවා. තරුණබව, ස්ථිරබව සහ පොහොසත්බවක් ලැබුණාක් මෙන්!''

ඔහු ලජ්ජා වූ කලෙක මෙන් සොම්නස් සිනින් සිනා පැවෙය. ඔහුගේ ප්‍රීතිය දකින අම්මා තුළද ඇති වූයේ සොම්නස මුසු දයාවකි.

''අනේ ඔබ හරිම හොඳ කෙනෙක්! කොතරම් අපූරු ලෙස ඔබ මිනිස්සුන්ව දකිනවාද. පැහැදිලි ලෙස ඔවුන්ගෙ චරිත විස්තර කළ සැටි!..''

නිකොලායි ඇ ළඟින් වාඩි වී ලජ්ජාවෙන් මෙන් අහක බලා ගත්තද ඔහුගේ ප්‍රීතිය සැඟවීමට අපොහොසත් විය. හිස කෙස් සකස් කර ගැනීමට මෙන් හිස අත ගැ හෙතෙම අම්මාගේ පැහැදිලි වාම් කතාවට සවන් දුන්නේය:

''පුදුමාකාර වාසනාවක්! ඔබව අහු වෙන්ට ඔන්න මෙන්න කියා තිබුණා. හිටිහැටියේම! ගොවියෝ නැඟිට එන සැටියි පේන්නෙ. ඒක සොබාවිකයි. අර ගෙවිලියගෙ හැටි මට හොඳට පේනවා. ගොවි ප්‍රශ්න ගැන විශේෂ මිනිස්සු වෙන් කරන්ට ඕන. ඒ ගොල්ලො මදි... අපට වැඩ සඳහා අත් සිය ගණනක් උවමනා වී තිබෙනවා...''

''පාෂා එහෙම නිදහස් වෙලා එළියට ආවානම් කොතරම් හොඳද, අන්දෘෂෙත්!'' ඇ සෙමින් තෙපළාය.

ඔහු ඇ දෙස බලා හිස පහතට හරවා ගත්තේය:

''නීලව්නා, ඔබට මෙය අහන්ට පවා අමාරු ඇති. මම පාවෙල්ව හොඳහැටි දන්නවා. එයා හිරගෙදරින් එළියට නම් එන්නෙ නැහැ! ඔහු නඩුව



ඉදිරිපිට පෙනීසිට තමාගේ තරම පෙන්වාවී! නඩුව ඇහෙනවා එයා ප්‍රතික්ෂේප කරන්නේ නැහැ. තීන්දුවෙන් පසු සයිබීරියාවෙන් පැනල ඒවි.''

දිග සුසුමක් හෙලූ අම්මා සෙමින් පිළිතුරු දුන්නාය:

''මොනවා කරන්ටද? හොඳ විදිය එයා දන්නවා නෙව්...''

''ඔව්'' යැයි නිකොලායි කීවේ ඇස් කණ්ණාඩි අතරින් අම්මා දෙස බලමිනි. ''අර ගොවියා ඉක්මන් වුණා අප අතරට එන්ට! රිබින් බොහොම නිර්භීත ලෙස සටන් කරපු හින්ද මම එයා ගැන අදම පත්‍රිකාවක් ලියන්නම්. ලුද්මිලා එය ඉක්මනින් මුද්‍රණය කරාවී... හැබැයි ප්‍රශ්නෙ කොහොමද ඒවා ගම්වලට ගෙනියන්නෙ කියන එකයි!''

''මම ගෙනියන්නම්...''

''එපා. බොහොම ස්තූතියි,'' එකවරම නිකොලායි හඬ නගා කීය. ''ඒ වැඩේට වෙසොව්ෂිකොව් හොඳ නෙවද?''

''එයා සමග කතා කරන්ටද?''

''අන්න, එයාට උගන්වන්නකො ඒ කාරිය කරන හැටි.''

''එහෙනම් මම මොනවා කරන්නද?''

''බය වෙන්න එපා!''

ඔහු ලියන්ට විය. ඔහු දෙස බලමින් ඇය මේසය අස් පස් කරන්ට වූවාය. සුදු ලියන කඩදසි මත වේගයෙන් ලියැවෙන කළු වැල් අකුරු ඇයට පෙනෙයි. සමහර විට ඔහුගේ බෙල්ලේ හම නැටවෙයි. නෙත් වසා ගන්නා හෙතෙම හිස හරවා ගනියි. එවිට ඔහුගේ නිකට වෙවලයි. මේවා දකින ඇය තුළ ඇති වූයේ කැළඹීමෙකි.

''ඔන්න ලියවිල්ල ලැස්තියි! මේක හංගා ගන්න. පොලිසිය ආවොත් ඔබවත් හෝදිසි කරාවී.''

''උන් බල්ලන්ට ගියාවෙ!'' අම්මා කීවේ සන්සුන් ලෙසය.

දෙස්තර ඉවාන් දනිලව්ච් හවස පැමිණියේය.

''ඇයි ලොකු ලොක්කො තිට් හැටියේ කලබල වෙලා තියෙන්නෙ?'' ඔහු කාමරය තුළ සක්මන් කරමින් කීය. ''හත් පාරක් ඊයෙ රෑ ගෙවල් හෝදිසි කළා. කොහෙද තුවාලකාරයා, ආ?''

''එයා ඊයේ යන්ට ගියා!'' යැයි නිකොලායි පිළිතුරු දුන්නේය. ''අද හෙනහුරාද ඒගොල්ලගෙ දෙශපාලන පාඩම් පන්තිය තියන දවස. මිනිහා කැමති වුණේ නැහැ ඒක අතපසු කරන්න...''

''හිස් කබල පුපුරා ගිහිං, එයා කොහොමද පන්තිවලට සහභාගි වෙන්නෙ? මෝඩකමක් නෙව්...''

''මම මිනිහට කිව. ඇහුවෙ නෑ...''

''සහෝදරයින් ඉදිරිපිට මිනිහ හරි පුරසාරම් දෙඩවනව. මෙන්න මම ලේ පූජා කළා කියා පෙන්වනව...'' යැයි අම්මා කීවාය.

දෙස්තර අම්මා දෙස බලා දත් විලිස්සමින් කෑ ගැසිය:

''ලේවලට කැදරයි වගෙ!..''

''ඉවාන්, උඹට මෙතන වැඩක් නැහැ. අපි අදත් අමුත්තෝ බලාපොරොත්තුවෙන් ඉන්නවා. නිලව්නා, එයාට දෙන්ට අර ලියවිල්ල...''

''තවත් ලියවිල්ලක්?'' දෙස්තර ඇසුවේය.

''ඔව්! මේක මුද්‍රණාලයට බාර දෙන්න.''

''හොඳා. බාර දෙන්නම්. එපමණද?''

''ඔව්. ගේට්ටුව ළඟ ඔත්තුකාරයො.''

''දුක්කා. අපේ ගෙදර ළඟත් ඉන්නවා. ආයුබෝවන්! ආයුබෝවන්, අම්මේ. දන්නවද මිනී පිටියෙ ඇතිවූ කෝලාහලය බොහොම හොඳා. මුළු නගරෙම ඒ ගැනයි කතා කරන්නෙ. ඒ ගැන උඹ ලියාපු පත්‍රිකාව හරි අගෙයි. හොඳ සටනක් නරක සමාදනයට වඩා අගේය කියල මම හැමදම කිවා...''

''හොඳයි, ඉක්මනට යන්න...''

'එතරම් ආචාරශීලී ලෙස නොවේ. නිලව්නා, අත දෙන්න! තුවාල ලබාපු ඉලන්දරියා මෝඩකමක් කළා. උඹ දන්නවද මිනිහ ඉන්න තැන?''

නිකොලායි ඔහුට ලිපිනය දුන්නෙය.

''හෙට හොයන්ට යන්නම්. අගේ ඇති ඉළන්දරියා නේද?''

''බොහොම...''

''මිනිහව පරිස්සම් කර ගන්න ඕන. මොළේ ඇති හාදයා. ඔය වගෙ තරුණයින් අතරින් තමා නිර්ධන පංති බුද්ධිමතුන් ඇති විය යුත්තෙ. ඒ ගොල්ල අපෙන් පසුව වැඩ බාර ගනීවි. අපි මැරිල ගියාම... එලොව පංති ප්‍රතිවිරුද්ධතාවයක් නැතිව ඇති...''

''ඉවාන්, උඹ බොහොම දෙඩවනව...''

''මගෙ හිතට හරි සැපයි. සමහර විට උඹ හිරගෙදර බලාපොරොත්තු වෙනවද? උඹට එහෙදි යස නිවාඩුවක් ලැබේවි.''

''බොහොම ස්තුතියි. මට මහන්සියක් නැහැ.''

ඔවුන්ගේ කතාවට කන් දෙන අම්මාගේ සිත පිනා ගියේ කම්කරුවා ගැන දුක් වූ සැලකිල්ල නිසාය.

දෙස්තර ගිය පසු නිකොලායි සහ අම්මා තේ බොමින් පොලිසිය බලාපොරොත්තුවෙන් උන්හ. සයිබීරියාවේ වහල් කඳවුරුවලට යවා තිබෙන තම සගයින් ගැනද, ඉන් පැන ගොස් වෙන නම්වලින් පෙනිසිට වැඩ කරන උදවිය ගැනද ඔහු අම්මාට විස්තර කළේය. ලෝකය



ප්‍රකෘතිමත් කිරීම සඳහා දිවි පුද සටන් කරන ඒ වාම වීරයින් පිළිබඳ කතාන්තර නිසා පුදුම වන්නාක් මෙන් සහ අවිශ්වාස කරන්නාක් මෙන් කාමරයේ බිත්ති දෝංකාරයක් නගමින් නිකොලායිගේ වචන පිළිගනී. නොපෙනෙන ඒ මිනිසුන් කෙරෙහි දයාන්විත හැඟීමක් හදවතෙහි ඇතිකළ උණුසුම් සෙවණැලි පුරහල් ලෙස අම්මා වටකරගනී. ඇගේ මනැස ඉදිරියේ ඒ සියලුම මිනිස්සු එක් දවැන්ත පුරුෂයෙක් බවට පත්වූ නොසිඳෙන බලයක් ලබා ගත්තෝය. වාම සහ පැහැදිලි ජීවන සත්‍යය මිනිසුන් ඉදිරිපිට හෙළිකරමින් සියවස් ගණනක් තිස්සේ වපුරන ලද බොරු පිස දමා පොළෝතලය ඉද්ධ පවිත්‍ර කරන ඒ මහා යෝධයාණෝ සත්‍ය වැපිරීම සඳහා හෙමින් වුවද තිර සර ලෙස වැඩ කරති. මුළු ලොවම යටපත් කර, බය කර ගෙන සිටින දුෂ්ට බලවේගත් වූ කෑදරකම, නපුරුකම සහ බොරුව පන්නා හැර හැම දෙනාටම සමාන අයිතියක් පොරොන්දු වන සත්‍යයට පණ පොවන මහා බලවේගය තමා වටා රොක්වන ලෙස ඉල්ලා සිටී... තමන්ට ප්‍රීතිදයකැයි සිතෙන දවස්වලදී දෙවියන් යදින විට ලැබෙන ආනන්දජනක හැඟීමට සමාන සොම්නසක්, මේ සියල්ල සිතන අම්මාට ඇති විය. දැන් එවැනි දවස් අම්මාට අමතක වුවද, ඒවා විසින් ඇතිකළ හැඟීම, පුළුල්වී, වඩාත් පැහැදිලි බවක් හා ප්‍රීතියක් ගෙන දුන්නෝය. එය අධ්‍යාත්මයට වඩාත් ගැඹුරු ලෙස කාවැදී, දීප්තිමත් ලෙස බැබැළෙන්නට විය.

''අද පොලිසිය එන්නේ නැති හැඩයි!'' තම කතාව නැවැත් වූ නිකොලායි කීවේය.

ඔහු දෙස බැලූ අම්මා තරමක් නිහඬව සිට කෝප වූවාය:

''උන් මල්ලන්ට ගියාවෙ!''

''සත්තකින්ම. ඒ වුණාට, නිලව්නා, ඔබට නිදා ගන්ට වෙලාව හරි. ඔබට හොඳටම මහන්සියි. එකක් කියන්ට ඕනා. ඔබ හරිම ශක්තියක් ඇති කෙනෙක්. කොතරම් කැළඹීම්ද, සිදුවීම්ද — ඔබ ඒවා සියල්ලම සන්සුණ් ලෙස ගණන් ගන්නවා! හිස කෙස් විතරක් ඉක්මනින් පැහෙනවා. ගිහින් නිදා ගන්ට!''

## XX

කුස්සියේ දොරට තට්ටු කරන හඬ ඇසී අම්මා අවදි වූවාය. ඉවසිලිමත්ව එහෙත් නොකඩවා දැඩි ලෙස දොරට තට්ටු කරන ලදී. අඳුර හා නිසලතාවය නිසා එම ශබ්දය අනතුරක සලකුණු කියා පෑවේය. හනිකට ඇඳ ගත් අම්මා කුස්සියේ දොර ළඟට ගොස් කොඳුළාය:

"කවුද ඔය?"

"මම!" නාඳුනන කට හඬිනි.

"කවුද?"

"දොර හරින්න!" නාඳුනන පුද්ගලයා බැගෑ පත් ලෙස හා හෙමින් ඉල්ලා සිටියේය.

අම්මා දොර අගුල ගලවා දමා කකුලකින් දොර තල්ලු කළාය. ගෙට ඇතුල්වූ ඉග්නාත් කතා කළේ සොම්නසකිනි:

"තැන වැරැද්දුවේ නැහැ!"

ඔහුගේ ඉහවිය දක්වා මඩ තැවරී තිබිණි. මුහුණ අළු පැහැතිය. ඇස් සිලිලාය. මොකුටු හිසකේ තොප්පිය වටා විහිදී ගොසින්ය.

"අපි විනාස වුණා!" යැයි දොර වැසූ හෙතෙම පහත් ස්වරයෙන් කීවේය.

"මම දන්නවා..."

එම පිළිතුර ඇසූ තරුණයා පුදුම වූයේ මෙසේ ප්‍රශ්න කළේය:

"කොහොමද් දන ගත්තෙ?"

අම්මා තමාගේ ගමන සහ එහිදී සිදුවූ දේ ගැන කෙටි විස්තරයක් කළාය:

"අනිත් දෙදෙනාවත් හිර බාරයට ගත්තාද!" යි ඇ ඇසුවාය.

"ඒ කොල්ල එතන හිටියේ නැහැ. වෙනින් තැනකට ගිහිං තිබුණා. මිඛයිල් මාමාත් ඇතුළුව පස් දෙනෙකුව හිර බාරයට ගත්තා..."

හුස්ම ගත් හෙතෙම සිනා වෙමින් දිගටම කතා කළේය:

"මම බේරුණා. මාව හොයනවා ඇති."

"උඹ කොහොමද බේරුණේ?" අම්මා ඇසුවාය. කාමරයේ දොර සෙමින් ඇරිණ.

"මමද?" යි බංකුව මත වාඩි වුණු ඉග්නාත් ප්‍රශ්න කළේය. "පොලිසිය පැමිණෙන්ට මිනිත්තුවකට ඉස්සෙල්ලා කැලෑ මුරකාරයා දුවගෙන ඇවිත් ජනේලයට තට්ටු කර කීවා, කොල්ලනේ, තුඹලාව අල්ලන්ට එනවා, කියල..."

සෙමින් සිනාසුණු හෙතෙම තම කප්තානයේ කෙළවරකින් මුණ පිස දමා ගත්තේය:

"මිඛයිල් මාමාගෙ ඔළුවට මිටියකින් පහරක් දුන්නත් එයා නොවෙයි කලබල් වෙන්නෙ. එයා මට කතා කරල කීවා: 'ඉග්නාත්, හනිකට නගරයට දුවපන්. මතකද අර වයසක උන්දැ?'' එයා ඉක්මනට මොනවදෝ ලීවා. ඉදා මේකත් අරගෙන පිටවෙයන් කීවා. මම පඳුරු අස්සට රිංගා ගත්තා. යක්කු වගෙ හැම පැත්තෙන්ම ඇවිත් තාර මෝල වටලැවා! මම හැංගිලා හිටිය පඳුර පසු කර ගෙන පොලිස්කාරයො ගියා විතරයි, මම වල පැන දුවන්ට පටන් ගත්තා. රෑ දෙකක් නිදි නැතුව ගමන්කළා."



ඔහු තම හපන්කම ගැන තුටු වන බවක් පෙනිණි. ඔහුගේ දුඹුරු පැහැති ඇස් සිනාසුණු අතර දෙතොල් විවර වී පළල් විය.

"මම උඹට තේ හද දෙන්නම්!" යැයි කී අම්මා සමෝවාරය ගෙන රත් කරන්ට පටන් ගත්තාය.

"මෙන්න ලියුම් කැල්ල බාර ගන්න..."

ඔහු අමාරුවෙන් තම කකුල ඔසවා බංකුව මත තැබීය.

නිකොලායි කාමරයට ඇතුළු විය.

"ආයුබෝවන්, සහෝදරයා!" යැයි හෙතෙම ඇස් හකුළුවා ගනිමින් පැවසිය.

"මම ඔනුවුව* ගලවන්ට උදව් වෙන්නම්." ඔහු පහත්වී කුණුකැවරුණු ඔනුවුව ඉක්මනින් ගලවා දැම්මේය.

"හොඳා" ගැටවරයා කකුල ඔසවමින් විස්මයෙන් අම්මා දෙස බැලුවේය. ඔහුගේ බැල්ම අම්මා නොදුටුවාය.

"එයාගෙ කකුල් වොඩ්කාවලින් තවන්ට ඕන..."

"සත්තකින්ම!" නිකොලායි කීවේය.

ඉග්නාත් ලජ්ජාවෙන් බිම බලා ගත්තේය.

නිකොලායි මැකී-හැකිලී ගිය ලිපි කැබැල්ල සොයා ගෙන මුහුණට ළංකර ගනිමින් කියැවිය:

"අපේ වැඩට දක්වන සැලකිල්ල අඩු කරන්න එපා, අම්මේ. අපේ වැඩ ගැන වැඩි වැඩියෙන් ලියන ලෙස අර උස ළමාතැනීට දන්වන්න. ආයුබෝවන්. මිට, රිබින්."

ලියුම් කැබැල්ල කියවූ පසු නිකොලායි සෙමින් තම හැඟීම් පැවසිය:

"ඉතාම අනර්ගයි!.."

ඉදිමී තිබූ තම කකුල් දෙස බැලූ ඉග්නාත් ඇඟිලි සෙලවීය. අම්මා කඳුලින් තෙමුණු මුහුණ සඟවා ගෙන වතුර බේසමක් ගෙනැවිත් ඉග්නාත් පා මුල තැබුවාය. ඇ බිම වාඩිවී ඔහුගේ කකුල දෙසට දෑත් දිගු කළාය. බංකුව යට කකුල සඟවා ගත් ඔහු බිය ගත්තෙන් කෑ ගැසීය:

"මොකටද?"

"කකුල බේසමට දමාපන්..."

"මම ඉස්පිරිට් ගේන්නම්" යැයි කී නිකොලායි කාමරයට ගියේය.

බංකුව යට කකුල් සඟවා ගත් ඔහු සෙමින් කෙඳිරි ගෑවේය:

"මොකටද, අම්මේ? මේක ඉස්පිතාලයක් නොවෙයි, නේද..."

---

* ඔනුවුව: කකුල් වටා ඔතන ඝන රෙදි වර්ගයකි. ලාපොට් වැනි සපත්තු අඳින විට මෙය පාවිච්චි කරනු ලැබේ. අනුවාදක

එවිට අම්මා අනිත් හිනුවුවත් බලෙන්ම ගළවා දැම්මාය.

වේගයෙන් හුස්ම ගත් ඉග්නාත් අමාරුවෙන් බෙල්ල හරවා හාස්‍ය ජනක ලෙස කට ඇදකර ගනිමින්, හිස සිට දෙපතුල් දක්වා අම්මා දෙස බැලුවේය.

“උඹ දන්නවද මිඛයිල් ඉවානොවිච් රිබින්ට හොඳටම තැළුව...” ඇය කීවේ සැලෙන හඬකින් යුතුවය.

“ඔය ඇත්තද?”යි තරුණයා ඇසුවේ බියගත් විලාසයක් පාමිනි.

“ඔව්. එයාව ගෙනෙන විටත් හොඳටම ගහලයි ගෙනාවෙ. පුළු නිලධාරියා කම්මුලට ගැහැව්වා. පොලිස් ලොක්කා මූණෙටයි බඩටයි මිට මොළවා ඇන්නා. පිටපස්සට පයින් දමා ඇන්නා. ඇඟ පුරාම ලේ!”

“උන් ඒ වැඩවලට හපන්නු!” යැයි හෙතෙම කීවේ ඇස් බැම් හකුළුවා ගනිමිනි. දෙඋර වෙව්ලුවේය. “මම උන්ට යකුන්ට තරම් බයයි. ගොවියො ගැහුවෙ නැතිද?”

“පොලිස් ලොක්කගෙ කීමට එකෙක් පාරක් ගැහුවා. අනිත් අය කීවා ගහන්ට එපාය කියා...”

“ඔව්-ව් ගොවියන්ට තේරෙනවා, කවුද කොයි පැත්තද කියල.”

“කරුණ තේරෙන ගොවියන් ඉන්නවා...”

“උන් කොහෙද නැත්තෙ? අග හිඟකම! ඒ ගොල්ල හැම තැනම ඉන්නවා. හොයන්ට අමාරුයි.”

නිකොලායි වොඩ්කා බෝතලයක් ගෙනැවිත්, සමොවාරය තුළට ගල් අඟුරු දමා යන්ට ගියේය. ඔහු දෙස කුතුහලයකින් බැලූ ඉග්නාත් අම්මා ඇමතීය:

“අර මහත්තය දොස්තර කෙනෙක්ද?”

“අපේ මේ ව්‍යාපාරෙ මහත්තුරු නැහැ. සහෝදරයො පමණයි...”

“මට හරි පුදුමයි!” ඉග්නාත් කීවේ අවිස්වාසයෙන් හා ලජ්ජාවෙන් යුතුවය.

“මොකක්ද පුදුමය?”

“එක පැත්තක ඔළු පලනව, අනිත් පැත්තෙ කකුල් හෝදනව. මේ අතර මොකක්ද?”

කාමරයේ දොර හැර නිකොලායි පිවිසියේය.

“දෙපැත්තට මැද්දෙන් ඉන්න උදවිය ඔළු පලන්නන්ගෙ අත් ලෙව කනව. පැලුණු ඔළුවලින් ගලායන ලේ උරා බොනව. ඔන්න මැද මාවත!”

ඉග්නාත් ගරු ලෙස ඔහු දෙස බලා නිහඬව සිට කතා කළේය.

“ඒ කතාවෙ ඇත්තක් තියෙනව!”



නැගී සිට ගත් තරුණයා තම කකුල් දෙස හොඳින් බලා දෙපා බිම ගසා සංසුන්ව සිට ගත්තේය:

“හරියට අලුතින් ලැබුනා වගෙ, බොහොම ස්තුතියි...”

පසුව සියල්ලෝම වාඩිවී තේ පානය කළෝය. ඉග්නාත් තමා ගැන කියන්ට පටන් ගත්තේය:

“මම පත්තර බෙදන රස්සාව කළා. බොහොම ඇවිද්ද.”

“බොහෝ දෙනෙක් කියවනවද?” නිකොලායි ඇසීය.

“අකුරු කියවන්ට පුළුවන් හැම දෙනෙක්ම කියවනව. පොහොසත්තු පවා කියවනවා. ඒ අය පත්තර ගන්නෙ අපෙන් නෙවි. ගොවියො තම ලෙයින් පොළොව නාවා තිබෙන සැටි ඉඩම් හිමියන්ට අවබෝධ වෙලා. ගොවියො ඉඩම් ලබා ගතහොත් පොහොසතුන්ව එළවා දමා සමාන ලෙස බෙද ගෙන වැඩ කරාවි! පොහොසත්තු ඒ බව දන්නා නිසා ගොවින්ට පහර ගසනවා.”

අමනාප සිතින් යුතුව ඔහු නිකොලායි දෙස බැලුවේ ප්‍රශ්න කරන්නාක් මෙනි. නිකොලායි නිහඬව සිනාසුණේය.

“මුළු ලෝකෙම ගොවියෝ නැගීට සටන් කර ඉඩම් බෙද ගත්තද, හෙට නැවත කොටසක් පොහොසත් වෙනව, කොටසක් දුප්පත් වෙනව. ඒ ක්‍රමයට මම කැමති නැහැ! ධනය එක තැන ගල් ගැහෙන දෙයක් නෙවි. එය හරියට වැලි මල්ලක් වගෙ. හැම තැනම විසිර යනව. මොකටද එහෙම කරන්නෙ!”

“උඹ තරහ ගන්න එපා!” අම්මා කීවේ විහිළු කරමිනි.

කල්පනාකාරී ලෙස නිකොලායි කතා කළේය:

“රිබින් සිරබාරයට ගැනීම ගැන පත්‍රිකාව කොහොමද ගම්වලට යවන්නෙ!”

ඉග්නාත් ප්‍රවේසම්කාරී විය.

“පත්‍රිකා ලියලා ඉවරද?” හෙතෙම ඇසීය.

“ඔව්.”

“දෙන්න. මම ගෙනියන්නම්!” තරුණයා ඉල්ලා සිටියේය.

අම්මා ඔහු දෙස නොබලා සිනා මුහුණින් සෙමින් කතා කළාය:

“උඹ කීවා නෙවද මහන්සියි බයයි කියල?”

කෙස් කැරලි තරින් තම ඇඟිලි තුඩු යැවූ ඉග්නාත් සන්සුන් හා බැරෑරුම් ලෙස මෙසේ කීය:

“බය පැත්තකින් තියල, කාරිය කරන්ට ඕන! ඔබ මට හිනාවෙනවා නෙවද? ඔබත් එකතුවෙලා!”

“අනේ බං, උඹ පොඩි දරුවෙක් නෙව!” ඔහුගේ සොම්නස වැඩි කරමින්

ඉබේටම මෙන් අම්මා කීවාය. අන්දමන්දවූ හෙතෙම කට කොනකින් සිනා සුණේය:

''මදැ! පොඩි දරුවා!''

නිකොලායි තරුණයා දෙස හිතවත් ලෙස බලමින් ඇස් හකුළුවා ගත්තේය.

''තමුසෙව එහෙ යවන්නෙ නැහැ...''

''ඒ මොකද? මම කොහේ යන්නද?'' ඉග්නාත් ඇසුවේ නොසන්සුන් ලෙසය.

''තමුසෙ වෙනුවට වෙනින් කෙනෙක් ඒ ගම්වලට පත්‍රිකා අරගෙන යාවි. එයාට එහි විස්තර හොඳින් කියා දෙන්ට.''

''හොඳා!'' ඉග්නාත් තරමක අසතුටකින් මෙන් කීවේය.

''තමුසෙට අපි හොඳ පාස්පෝට් බල පත්‍රයක් සොයා දීල කැලෑ මුරකාර රස්සාවක් අරන් දොන්නම්.''

තරුණයා හිස ඔසවා ගෙන නැවත නොසන්සුන් වූයේ මෙසේ ඇසිය.

''ගොවියො [illegible] දර කපන්ට එනාවිට මම මොනවා කරන්ටද? උන්ව අල්ලා ගන්ටද? ඒ රැ[illegible]ාව මට හරි යන්නේ නැහැ...''

අම්මාත් නිකොලායිත් දෙදෙනාම සිනාසෙන්ට වූයෙන් තරුණයා කළකිරුණේය.

''කලබල වෙන්ට එපා! ගොවියන්ව හිර බාරයට ගන්න සිද්ද වෙන්නේ නැහැ. මගේ කතාව විශ්වාස කරනව...''

''එහෙනම් හොඳා!'' යැයි කී ඉග්නාත් නැවත සිනා මුහුණින් සන්සුන්ව කතා කළේය: ''මට පැක්ටරියෙ රස්සාවක් හොයා ගන්ට පුළුවන් නම්. එහි කම්කරුවො සිහි මොළේ ඇති උදවියලු...''

අම්මා මේසය අසලින් නැගී සිට ජනේලය දෙස බලමින් කල්පනාකාරී වූවාය.

''ජීවිතයක හැටි! දවසකට පස් පාරක් හිනා වෙනව, පස් පාරක් අඬනව කාලා ඉවරද, ඉග්නාත්? ගිහිං හාන්සි වෙයන්...''

''මට මහන්සියක් නැහැ...''

''පලයන්, පලයන්...''

''ඔබ හරිම තදයි. හොඳයි, යන්නම්... ඔන් වලට සහ කරුණාවන්ත කමට ස්තූතියි...''

අම්මාගේ ඇඳේ වැතිරී ඔහු මුමුණන්ට සහ හිස කසන්ට පටන් ගත්තේය:

''[illegible]න් ඉතින් මේ ඇඳත් තාර ගඳ ගහන්ට පටන් ගනීවි. තේරුමක්



නැති වැඩ... මට නිදි මත නැහැ... මැද මාවත ගැන එයා හොඳට කීවා... යක්කු...''

හිටි හැටියේම වාගේ ඔහු ගොරවමින් කට ඇරගෙන නිදන්ට විය.

## XXI

සවස කුඩා කාමරයක නිකොලායි වෙසොව්ෂිකොව් ඉදිරිපිට වාඩි වූ ඉග්නාත් ඇස් බැමි හකුළුවා ගනිමින් පහත් ස්වරයකින් කතා කළේය:

''මැද ජනේලයට හතර වරක් තට්ටු කරන්න...''

''හතර වරක්?'' නොසන්සුන් ලෙස නිකොලායි ඇසුවේය.

''ඉස්සෙල්ලා තුන් වරක්, මෙන්න මෙහෙම!''

ඇඟිල්ලක් නවා මේසයට තට්ටු කළේය.

''එකයි, දෙකයි, තුනයි. මොහොතකට පසු තව පාරක්.''

''තේරුණා.''

''තඹ පාට හිසකේ ඇති ගොවියෙක් දොර හැරල, වින්නඹු අම්මා හොයා ගෙන ආවද? කියල අහවි. තමුසෙ කියනව ඔව්, කම්මලේ බාස් ගෙන් පණිවිඩයක් ගෙනාවා කියල. එතකොට ඒ ගොල්ලන්ට කාරණය තේරේවි!''

ඔවුන් එකිනෙකාට ළං ව සෙමින් බොහෝ වේලා කතා කළ අතර අම්මා දෑත් බැඳ ළය මත තබා ගෙන මේසය ළඟ සිටගෙන ඔවුන් දෙස බලා සිටියාය. ඔවුන් තට්ටු කරන ආකාරය දෙසත්, කලින් පිළියෙළකරගත් රහස් වචන ආදිය ගැනත් කල්පනා කළ අම්මා යටි සිතින් සිනා සුණාය.

''තවම ළමයි...''

බිත්තියේ එල්වන ලද ලාම්පුවක් දල්වෙමින් තිබිණි. බිම තිබූ පරන බාල්දියක්ද යකඩ කැලි කීපයක්ද පහන් ආලෝකය නිසා මදක් දිස්විය. මලකඩ මුසු තෙල් සායම් ගඳක්ද, තෙතමනය නිසා පැන නැඟි පුස් ගඳක්ද නිසා කාමරය පිරී ගියාක් මෙනි.

ඉග්නාත් රෙදි කඩමාලුවලින් මසන ලද ගොරෝසු හේමන්ත කබායක් හැඳ සිටියේය. ඔහු තම කබාය කෙරෙහි සැලකිල්ලක් දක්වන්නාක් මෙන් එය අත ගාන්ටත් බෙල්ල හරවමින් ඒ මේ අත බලන්ටත් විය. අම්මා මුදු ලෙස සිතුවාය:

''ළමයි! මගේ හොඳ පුත්තු...''

''ඔන්න මතක තබා ගන්ට'' යැයි ඉග්නාත් නැගිටිමින් පැවසීය: ''ඉස්සෙල්ලා මුරාතොව් ළඟට ගිහිං සීයා කොහෙද කියා අහන්ට...''

''අමතක නොකරම්!'' වෙසොව්ෂිකොව් උත්තර දුන්නේය.

ඉන්නාත් ඔහු කෙරෙහි විශ්වාස නොතබන්නාක් මෙන් නැවත වරක් තව්වූ කරන සැටිත් රහස් වචන කියන සැටිත් මතක් කර දුන්නේය.

"මගේ සුබ පැතුම් පිරිනමන්නා! ඒ කොල්ල හොඳ මිනිස්සු!" ඔහු වෙසොව්ෂිකොව්ට අත දෙමින් ආචාර කළේය.

ඔහු සතුටු සිතින් තමා දෙස බලා, කමාය අත ගැවේය.

"යන්නද?" අම්මාගෙන් ඇසුවේය.

"පාර හොයා ගන්ට පුළුවන්ද?"

"හොයා ගන්නම්. සහෝදරවරුනි, එහෙනම් ආයුබෝවන්!"

දෙඋර උස්සා ගනිමින්, පසුව පෙරට නොරා යන සේ සෑජුව ගමන් කළ ඔහු හිස අඩක් වැසෙන සේ හිම තොප්පිය හැඳ සිටියේය. දෙකන්වලට උඩින් පිහිටි ගංවක වැයි යනසේ කෙස් කැරලි වැටී තිබුණේය.

"ඔන්න මම නැවත වැඩට බැස්සා." යැයි අම්මා ළඟට ආ වෙසොව්ෂිකොව් මුදු සිනින් කීවේය. "මට එපා වුණා, හිර ගෙදරින් පැන ඇවිත් හැංගී ඉන්න ජීවිතය. හිර ගෙදරින් පැන ආවෙ හැංගිලා ඉන්නද? හිරගෙදරදී මට ඉගෙන ගන්ට සිද්ද වුණා. පාවෙල් මගෙ මොළයට වැඩ දුන්නා. නිලව්නා! කොහොමද පැන යාම ගැන තීරණය කළාද?"

"දන්නේ නැහැ!" යි ඇ පිළිතුරු දුන්නේ දිග සුසුමක් හෙලමිනි.

අම්මාගේ උරහිසට අතක් තැබූ නිකොලායි වෙසොව්ෂිකොව් ඇය දෙස බලා මෙසේ කීවේය:

"අම්මා කියන්නා! ඒ කොල්ල අම්මාගේ කීම අහවි. පැන යාම බොහොම ලෙහෙසියි. පහන් කණුව ළඟ හිරගෙදර තාප්පය විරුද්ද පැත්තෙ හිස් බිමක්. වම් පැත්තෙ සොහොන් පිටියක්. දකුණු පැත්තෙ නගරය. දවල්ට ගෑස් ලාම්පු සුද්ද කරන්ට මිනිහෙක් එවී. එයා හිණිමගක් තාප්පයට තියල පහන් කණුවට නගිනව. තාප්පය උඩ සිට ලණු හිණි මගක් ඇතුළ පැත්තට විසි කරනව. හිරගෙදර අපේ අය කල් වෙලා ඇතිව ඒ ගැන දැන ගනීවි. අපට උවමනා වෙලාවට අපරාද කාරයෝ බොරු ගෝසාවක් පටන් අරගෙන හිරගෙදර නිලධාරීන්ගෙ සිත වෙන අතකට යොමු කරාවි. අපේ අයට තියෙන්නෙ හිණි මග දිගේ නැගලා එන එක විතරයි!"

ඔහු තමාගේ සැලැස්ම ඇද පෙන්වමින් දෑත් විදහා ගත්තේය. ඔහුගේ මතයේ හැටියට නම් එය ඉතාම පැහැදිලිය, වාමිය. එහෙත් ඇය නිකොලායි දැන සිටියේ සෙමින් වැඩකරන බර පුද්ගලයෙකු ලෙසය. ඉස්සර නිකොලායිගේ ඇස්වල අවිශ්වාසය මුසු ගොරු, රූරු බවක් පෙනෙන්ට තිබිණි. එහෙත් ආත්ම විශ්වාසයෙන් හා උණුසුමෙන් පිරි ඔහුගේ බැල්ම දකින අම්මාට ඇති වන්නේ සොම්නසකි...

"ඇල්පනා කරල බලන්න. ඒ වැඩේ කෙරෙන්නෙ මහ දවල්!.. කවුද



හිතන්නෙ මහ දවල් හිර කාරයො පැනල යාවිය කියල. දෙනෝ දෙක් බලා ඉන්නාවිට පැන යාවි කියා හිතාවිද?.."

"උන් වෙඩි තියාවි!" අම්මා වෙව්ලමින් කීවාය.

"කවුද? යුද භටයො නෑවි. හිරගෙදර මුලාදැනිවරු පිස්තෝල, මිට වගෙ ඇන ගැනීමට පාවිච්චි කරනව..."

"බොහොම ලේසියි නෙව ..."

"බලන්න සත්තකින්ම! හිතං ඒ කොල්ලන් සමග කතා කරල බලන්න. මා ළඟ උවමනා දේ තියෙනව. ලණු හිණිමග, කොකු ආදිය, පහන් සුද්ධ කරන මිනිහගෙන් අපට උදව් ලැබෙවි."

දොරින් එහා කවුදෝ කැස්සේය. යකඩයක් බිම වැටෙන හඬක් ඇසිණි.

"අන්න එයා නම්!" නිකොලායි කීය.

ඇර තිබුණු දොරින් ලොකු යකඩ බාල්දියක් තල්ලු කරන ලදී. මිනිහෙකුගේ බොල් කටහඬ ඇසිණ:

"උලුවස්ස ඉඩ ඇතිද..."

බාල්දියට පිටුපසින් හිස්වැස්මක් රහිත, පැසුණු හිසකෙස් සහිත වටකුරු හිසක් පෙනිණි. බොර ගෙඩි මෙන් ඇස් ඇති ඒ කාරුණික මුහුණ උඩු රැවුලකින් යුක්ත විය.

නිකොලායි බාල්දිය ගෙතුළට ගැනීමට උදව් විය. ගෙතුළට වන් මිනිසා උසය, කුදුය. කොපුල් පුම්බා ගනිමින් ඔහු කැස්සේය. උගුර පාද සෙළ ගැසූ හේ බැරෑඩි ලෙස ආචාර කළේය.

"ආයුබෝවන්!.."

"මෙන්න එයාගෙන් අහන්ට!" යැයි නිකොලායි වෙසොව්ෂිකොව් කීය.

"මගෙන්? මොනවා ගැනද?"

"පැනයාම ගැන..."

"ආ-ආ!" යි හෙතෙම කළු නැවරුණු අතකින් තම රැවුළ අත ගෑවේය.

"බලන්න, යාකොව් වසිල්යෙවිච්, මෙයා අපේ සැලැස්ම ගැන විශ්වාස කරන්නේ නැහැ."

"විශ්වාස කරන්නෙ නැහැ? ඒ කියන්නෙ ඕන නැහැයි කීමයි. අපට ඕන හන්ද අපි ඒ ගැන විශ්වාස කරනව," ඔහු සන්සුන් ලීලාවෙන් කීවේ, හිටි හැටියෙම පහතට නැමී ගෙන කහින්ට පටන් ගත්තේය. පසුව තම පපුව දෑතින් බද ගත් හෙතෙම බොහෝ වෙලාවක් ඉරියව්වකින් සිට දෑස් විදහා ගනිමින් අම්මා දෙස බැලුවේය.

"ඒ ගැන තීරණයක් ගැනීම පාෂා ඇතුළ එයාගෙ සගයින්ට අයිති වැඩක්," යැයි අම්මා කීවාය.

නිකොලායි වෙසොව්ෂිකොව් කල්පනාකාරී ලෙස නෙත් බිමට හරවා ගත්තේය.

''කවුද ඒ පාෂා?'' ගෙහිමියා වාඩිවෙමින් ඇසිය.

''මගේ පුතා.''

''වාසගම කොහොමද?''

''ව්ලාසව්.''

හිස වැනූ හේ දුම්කොළ මල්ල සහ දුම් කෝච්චිය රැගෙන දුම්කොළ පුරවන්ට විය.

''අහල තියෙනව. එයාව මගෙ බෑණා හඳුණනවා. මගෙ බෑණා යෙව්වෙන්කො. අහල තියනවද? මගේ වාසගම ගබූන්. ඉක්මනින්ම හිරගෙවල් තරුණයින්ගෙන් පිරී යාවි. නාකි අපව නිදහසේ හැසිරීමට පුළුවන්! පොලිස් ඔපිසරයෙක් මට කිව මගෙ බෑණාව සයිබීරියාවට පිටුවහල් කරනව කියල. එහෙම කරාවි, බල්ලා!..''

''දුම් බොමින් නිකොලායි වෙසොව්ෂිකොව් අමතා කතා කළ ඔහු වරින් වර කෙළ ගැසුවේය.

''එයා අකමැති නම්, ඒක එයාගෙ වැඩක්. මිනිහා නිදහස්. ඉන්න බැරි නම් යාවි. යන්ට බැරි නම් ඉඳිවි. උඹෙන් මංකොල්ල කෑවා නම් නිහඬවෙයන්; උඹට ගුටි අනිනවානම් ඉවසාගෙන ඉඳපන්; මරාදනවා නම් නොසෙල්වී ඉඳපන්. මම බෑණන්ඩිව කොහොම හරි බේරා ගන්නවා.''

ඔහුගේ කටින් පිටවූ බුරන්නාක් වැනි, කෙටි වගන්ති විසින් අම්මා ව්‍යාකූලයට පත් කරන ලදී, ඔහු අවසානයේදී කී වචන නිසා ඇයගේ සිතෙහි ඊර්ෂ්‍යාවක් ඇතිවිය.

මහ මගට බැස ගමන් කරන අම්මා සීත සුළං පාරට සහ වැස්සට මුහුණ දෙමින් නිකොලායි වෙසොව්ෂිකොව් ගැන කල්පනා කළාය:

''උඹ වෙනස් වුණු හැටි!''

ගබූන් ගැන සිතූ ඇ මෙසේ තමාටම කියා ගත්තාය:

''අලුත් ජීවිත ලබා ගෙන තියෙන්නෙ මා විතරක් නෙවී!..''

තම පුතා පිළිබඳ හැඟීම් නැවතත් ඇ සිතට ආවේය.

''එයා කැමති වන්නේ නම්!''

## XXII

ඉරිද පුතා බැලීමට හිර ගෙදරට ගිය අම්මා අතට ඉලි කරන ලද ලියුමක් ලැබිණ. කඩදසි ගුලිය අතට වැටුණු විගසම අත්ල පිලිස්සී යන බවකි ඇට දැනුණේ. පිළිතුරක් සොයන අවියෙන් ඔහුගේ මුහුණ දෙස ඇ බැලුවද එහි



කිසිවක් නොවීය. පාවෙල්ගේ නිල් පැහැති ඇස් සුපුරුදු ලෙස සිනා පෑවා පමණි. හැමදා දකින දැඩි බව සහ සන්සුන් ගතිය එහි විය.

''ආයුබෝවන්, මම යනවා,'' ඇ සුසුමක් හෙලමින් කීවාය.

අම්මාට ආචාර කරනු වස් අත දුන් පුතාගේ සුරතල් මුහුණේ ගැස්මක් ඇතිවූවාක් මෙනි.

''ආයුබෝවන්, අම්මෙ!''

අත මුදා නොහැර ඇය බලාපොරොත්තුවෙන් සිටියාය.

''කලබල වෙන්ට එපා. තරහ වෙන්ට එපා!'' ඔහු කීවේය.

ඒ වචන සහ ඔහුගේ නළලේ පෙරළිකාර රැළි ඇගේ පැනයට පිළිතුරුය.

''ඉතින් මොකද?'' යි ඇ කොඳුලාය. නෙත් බිමට හරවා ගත්තාය.

''හැමදෙයක්ම පැහැදිලියි.''

කඳුළු පිරී ඇස්වලින් සහ විවරවූ දෙතොලින් පෙනෙන තමාගේ හැඟීම් හා විලාසය ඔහුට නොදන්වනු වස් ඕ ආපසු නොබලාම හනිකට පිටව ගියාය. ඇගේ අතක ඇටකටු වේදනාවෙන් කකියන්ට වූ අතර එහි බර ගතියක්ද දැනිණි. උරහිසේ සිට පහතට–මුළු අතම පණ නැතිව ගියාක් මෙනි. ගෙදර ආ අම්මා ලියුම නිකොලායි අතට දී, නොඉවැසිල්ලකින් සිටියේ, ඔහු එය දිගහැර නැවත කියවන තෙක්ය. පුතා හිරගෙදරින් පැන ඒමට කැමති වනු ඇතැයි යන විශ්වාසයකි, ඇ තුළ රැඳී තිබුණේ. එහෙත් නිකොලායි කතා කළේය:

''සත්තකින්ම! මෙන්න එයා ලියන සැටි: අපි හිරගෙදරින් පැන යාම ප්‍රතික්ෂේප කරමු. අපි ඔක්කොම... එය අපේ ආත්ම ගරුත්වයට කැළලකි. මේ ළඟදී සිරබාරයට ගෙන මෙහෙ එවා තිබෙන ගොවියා ගැන සැලකිලි දක්වන්න. ඔහු ඔබගේ සැලකිල්ල ලැබිය යුතු සේ සටන් කර තිබේ. ඔහුට හිරගෙදර ඉඳීම අමාරුය. හැමදම මුලාදැනින් සමග කලහ කරයි. දැනටම විශේෂ සිර දඬුවම් කාමරයට පවා ඔහු යවා තිබෙනවා. ඔහුට වදහිංසා විඳින්ට වේවි. අපි ඔහුට ආධාර කරන ලෙස ඉල්ලා සිටිමු. අම්මාට පැහැදිලි කර ඇ සනසන්න. ඇ අවබෝධ කර ගනීවි.''

අම්මා හිස ඔසවා බිඳුණු කටහඬකින් මෙසේ කීවාය:

''මොනවද මට කියන්නේ? මට යසට තේරුම් යනවා!''

නිකොලායි ඉක්මනින් පසකට හැරී ලේන්සුවක් ගෙන නාසය සූරන්ට විය:

''පේනවද මට හෙම්බිරිස්සාව හැදිල...''

උපැස් යුවළ හරි ගස්සමින් නිකොලායි කාමරය තුළ ඔබ මොබ ඇවිද්දේය.

''කොහොම වුණත් අපි පමා වුණා වැඩියි...''

නිකොලායි වෙසොව්ෂිකොව් කල්පනාකාරී ලෙස නෙත් බිමට හරවා ගත්තේය.

"කවුද ඒ පාෂා?" ගෙහිමියා වාඩිවෙමින් ඇසිය.

"මගේ පුතා."

"වාසගම කොහොමද?"

"ව්ලාසව්."

හිස වැනූ හේ දුම්කොළ මල්ල සහ දුම් කෝවය රැගෙන දුම්කොළ පුරවන්ට විය.

"අහල තියෙනව. එයාව මගෙ බෑණා හඳුණනවා. මගෙ බෑණා යෙව්වෙන්කො. අහල තියනවද? මගේ වාසගම ගබුන්. ඉක්මනින්ම හිරගෙවල් තරුණයින්ගෙන් පිරී යාවි. නාකි අපව නිදහසේ හැසිරීමට පුළුවන්! පොලිස් ඔපිසරයෙක් මට කිව මගෙ බෑණාව සයිබීරියාවට පිටුවහල් කරනව කියල. එහෙම කරාවි, බල්ලා!.."

"දුම් බොමින් නිකොලායි වෙසොව්ෂිකොව් අමතා කතා කළ ඔහු වරින් වර කෙළ ගැසුවේය.

"එයා අකමැති නම්, ඒක එයාගෙ වැඩක්. මිනිහා නිදහස්. ඉන්න බැරි නම් යාවි. යන්ට බැරි නම් ඉඳීවි. උඹෙන් මංකොල්ල කැවා නම් නිහඬවෙයන්; උඹට ගුටි අනිනවානම් ඉවසාගෙන ඉඳපන්; මරාදනවා නම් නොසෙල්වී ඉඳපන්. මම බෑණන්ඩිව කොහොම හරි බේරා ගන්නවා."

ඔහුගේ කටින් පිටවූ බුරන්නාක් වැනි, කෙටි වගන්ති විසින් අම්මා ව්‍යාකූලයට පත් කරන ලදී, ඔහු අවසානයේදී කී වචන නිසා ඇයගේ සිතෙහි ඊෂ්‍යාවක් ඇතිවිය.

මහ මගට බැස ගමන් කරන අම්මා සීත සුළං පාරට සහ වැස්සට මුහුණ දෙමින් නිකොලායි වෙසොව්ෂිකොව් ගැන කල්පනා කළාය:

"උඹ වෙනස් වුණු හැටි!"

ගබුන් ගැන සිතූ ඇ මෙසේ තමාටම කියා ගත්තාය:

"අලුත් ජීවිත ලබා ගෙන තියෙන්නෙ මා විතරක් නෙවි!.."

තම පුතා පිළිබඳ හැඟීම් නැවතත් ඇ සිතට ආවේය.

"එයා කැමති වන්නේ නම්!"

## XXII

ඉරිද පුතා බැලීමට හිර ගෙදරට ගිය අම්මා අතට ගුලි කරන ලද ලියුමක් ලැබිණ. කඩදසි ගුලිය අතට වැදුණු විගසම අත්ල පිලිස්සී යන බවකි ඇට දනුණේ. පිළිතුරක් සොයන අටියෙන් ඔහුගේ මුහුණ දෙස ඇ බැලුවද එහි



කිසිවක් නොවීය. පාවෙල්ගේ නිල් පැහැති ඇස් සුදුරුදු ලෙස සිනා පැවා පමණි. හැමද දකින දැඩි බව සහ සන්සුන් ගතිය එහි විය.

"ආයුබෝවන්, මම යනවා," ඇ සුසුමක් හෙලමින් කිවාය.

අම්මාට ආචාර කරනු වස් අත දුන් පුතාගේ සුරතල් මුහුණේ ගැස්මක් ඇතිවූවාක් මෙනි.

"ආයුබෝවන්, අම්මේ!"

අත මුද නොහැර ඇය බලාපොරොත්තුවෙන් සිටියාය.

"කලබල වෙන්ට එපා. තරහ වෙන්ට එපා!" ඔහු කීවේය.

ඒ වචන සහ ඔහුගේ නළලේ පෙරළිකාර රැළි ඇගේ පැනයට පිළිතුරුය.

"ඉතින් මොකද?" යි ඇ කොඳුළාය. නෙත් බිමට හරවා ගත්තාය.

"හැමදෙයක්ම පැහැදිලියි."

කඳුළු පිරි ඇස්වලින් සහ විවරවූ දෙතොලින් පෙනෙන තමාගේ හැඟීම හා විලාසය ඔහුට නොදන්වනු වස් ඕ ආපසු නොබලාම හනිකට පිටව ගියාය. ඇගේ අතක ඇටකටු වේදනාවෙන් කකියන්ට වූ අතර එහි බර ගතියක්ද දැනිණි. උරහිසේ සිට පහතට–මුළු අතම පණ නැතිව ගියාක් මෙනි.

ගෙදර ආ අම්මා ලියුම නිකොලායි අතට දී, නොඉවැසිල්ලකින් සිටියේ, ඔහු එය දිගහැර නැවත කියවන තෙක්ය. පුතා හිරගෙදරින් පැන ඒමට කැමති වනු ඇතැයි යන විශ්වාසයකි, ඇ තුළ රැඳී තිබුණේ. එහෙත් නිකොලායි කතා කළේය:

"සත්තකින්ම! මෙන්න එයා ලියන හැටි: අපි හිරගෙදරින් පැන යාම ප්‍රතික්ෂේප කරමු. අපි ඔක්කොම... එය අපේ ආත්ම ගරුත්වයට කැළලකි. මේ ළඟදී සිරබාරයට ගෙන මෙහෙ එවා තිබෙන ගොවියා ගැන සැලකිලි දක්වන්න. ඔහු ඔබගේ සැලකිල්ල ලැබිය යුතු සේ සටන් කර තිබේ. ඔහුට හිරගෙදර ඉදිම අමාරුය. හැමදම මුලාදැනින් සමග කලහ කරයි. දනටම විශේෂ සිර දඬුවම් කාමරයට පවා ඔහු යවා තිබෙනවා. ඔහුට වදහිංසා විඳින්ට වේවි. අපි ඔහුට ආධාර කරන ලෙස ඉල්ලා සිටිමු. අම්මාට පැහැදිලි කර ඇ සනසන්න. ඇ අවබෝධ කර ගනීවි."

අම්මා හිස ඔසවා බිඳුණු කටහඬකින් මෙසේ කිවාය:

"මොනවද මට කියන්නේ? මට යසට තේරුම් යනවා!"

නිකොලායි ඉක්මනින් පසකට හැරී ලේන්සුවක් ගෙන නහය සූරන්ට විය:

"ජේනවද මට හෙම්බිරිස්සාව හැදිල..."

උපැස් යුවළ හරි ගස්සමින් නිකොලායි කාමරය තුළ ඔබ මොබ ඇවිද්දේය.

"කොහොම වුණත් අපි පමා වුණා වැඩියි..."

''කමක් නැහැ! නඩුව අහලා තීන්දුවක් දීපුවාවෙ!'' නළල රැළි ගසා ගනිමින් අම්මා කතා කළේ දුකෙන් පිරි හදවතකින් යුතුවය.

''මෙන්න පීටර් බූර්ගයෙන් අද මට ලියුමක් ලැබුණා...''

''එයා සයිබීරියාවෙන් පැනලා ඇවිත්. පැන ඒවට පුළුවන්?..''

''සත්තකින්ම! ඒ සහෝදරයා ලියනවා. නඩුව ඉක්මනින් ඇසේවි. තීන්දුව දැනටම ස්ථිරයි. කට්ටියම සයිබීරියාවට යවාවි. තේරුනාද? ඒ පුංචි හොරු නඩුව නීව උපහාසයකට හරවාවි. නඩුව ඇහෙන්ට ඉස්සෙල්ලා නඩු තීන්දුව දීලා ඉවරයි. එය කරන්නෙ පීටර්ස්බර්ග් නගරයේ*.''

''ඒ ගැන කතා කිරීමෙන් පලක් නෑ, නිකොලායි ඉවානවිච්!'' තීරණාත්මක ලෙස අම්මා කීවාය. ''මාව සනසන්ට, මට විස්තර කියන්ට එපා. පාෂා තමාට නරකක් කර ගන්ට හෝ එයාගෙ සගයින්ට දුක් ලබා දෙන්ට හෝ ලැස්ති නෑ! එයා මට ආදරෙයි. පේනවද මා ගැන ලියා තිබෙනව. පැහැදිලි කර දෙන්ට කියල...''

ඇගේ හදවත ගැහෙන්ට විය. සිත කැළඹුණේය.

''ඔබගෙ පුතා ඉතාම හොඳ කෙනෙක්! මම එයාට ගරු කරනවා!'' නිකොලායි තමාට නොපුරුදු උස් හඬෙකින් කෑ ගැසිය.

''හොඳයි, එහෙනම් රිබින් ගැන වැඩ පිළිවෙළක් යොදමු,'' අම්මා යෝජනා කළාය.

ඇට යමක් කිරීමට උවමනාය. කොහේ නමුදු යාමට, විඩාපත් වෙන තුරු ඇවිදීමට ඇට සිත්විණ.

''ඔව්! හොඳා,'' යැයි කී නිකොලායි කාමරය තුළ ඇවිදිමින් කල්පනා කළේය. ''සාෂෙන්කාට දන්වන්න ඕන...''

''එයා ඒවි. මම පාවෙල් බලන්ට යන දවස්වලට ඇ එනවා, මාව බලන්ට...'' අම්මා කීවාය

කල්පනා කාරී ලෙස හිස පහත් කරගෙන, යටිතොල විකා ගත් නිකොලායි යටි රැවුළ කරකවමින් අම්මා අසලින් වාඩි වුණේය.

''සෝපියා නැහැ... හරිම කණගාටුයි...''

''රිබින්ව මුදවා ගන්නවා නම් පාවෙල් හිරගෙදර ඉන්න දවස්වලදීම... එයා සන්තෝස වේවි!'' අම්මා තෙපළාය.

මදක් නිහඬ වූ අම්මාට ඉබේටම මෙසේ කියැවිණ:

''එයා අකමැති මන්ද? කියල මට තේරාගන්ට බැහැ!''

---

* පීටර්ස්බර්ග්: විප්ලවයට පෙර රුසියාවේ අගනුවර්ය. දැන් එය ලෙනින් ග්‍රාඩ් ය. අනුවාදක



නිකොලායි නැගී සිටීත්ම, දෙර සීනුව නාදවීය. දෙදෙනාම ඔවුනොවුන් දෙස බැලූහ.

''ඒ සාෂා වෙන්ට ඕන!'' යැයි නිකොලායි තොල මතුළේය.

එයාට කොහොමද අපි ආරංචිය ගැන කියන්නෙ?'' අම්මා සෙමින් ඇසුවාය.

''ඔව්-ඒ! කොහොමද...''

''මට එයා ගැන දුකයි...''

මෙවර සීනු හඬ ඇසුනේ පෙරට වඩා සෙමිනි. දෙරට එහා සිටි තැනැත්තා අස්ථිර ගතියෙකින් සීනුව හඬවන බවකි ඉන් හැඟෙන්නේ. නිකොලායි සහ අම්මද එකවර දෙර දෙසට ගමන් ගත්හ. එහෙත් නිකොලායි නැවතුනේය.

''ඔබ වඩාත් හොඳයි...'' හේ කීවේය.

අම්මා දෙර හැරිය විගසම තරුණිය, ''එයා කැමති නැතිද?''යි දැඩිලෙස ඇසුවාය.

''කැමති නෑ!''

''මම දැන ගෙන හිටියා!'' යැයි ඇ කීවාය. ඇගේ මුහුණ සුදුමැලි වෙලාය. කබායේ බොත්තම් ගැළවූ ඇය නැවත බොත්තම් දෙකක් ලා ගෙන, උරහිසක් පන්නා කබාය ගැළවීමට තැත් කළාය. එම ප්‍රයත්නය සාර්ථක නොවීය.

''වැස්ස, හුළඟ — හරි සැරයි! එයා සනීපෙන්ද?''යි සාෂා ආසුවාය.

''ඔව්.''

''සැපෙන් හා සනීපෙන්.'' සාෂා සිය අත දෙස බලමින් සෙමින් තෙපළාය.

''රිබින්ව හිරගෙදරින් මුදවා ගන්ටයි ලියා තියනවා!'' අම්මා කීවේ ඇ දෙස නොබලමිනි.

''ඔව? අපි ඒ සැලැස්මෙන් ප්‍රයෝජනයක් ගන්ට ඕනෑ!'' යැයි ඇ කීවාය.

''මමත් හිතන්නෙ එහෙම තමා,'' දෙර ළඟට පැමිණි නිකොලායි පැවසිය: ''ආයුබෝවන්, සාෂා!''

සාෂා අතක් දිගු කරමින් මෙසේ ඇසුවාය:

''හැම දෙනාම ඒ සැලැස්ම ගැන එකඟද?..''

''කවුද එය ක්‍රියාවට යොදවන්නෙ? හැම දෙනාම වෙනින් වැඩවල යෙදී ඉන්නවා නොවැ!..''

''මට බාර දෙන්න!'' යැයි කී සාෂා නැගිටවාය. ''මට වෙලාව තියෙනවා.''

''බාර ගන්න! ඒ වුණත් අනික් අයගෙන් අහන්ට ඕන...''

''හොඳයි. මම දැන්ම ගිහින් අහන්නම්.''

ඇ නැවත වරක් විශ්වාසයකින් යුතුව කබාය හැඳ ගනිමින් සිහින් ඇඟිලිවලින් බොත්තම් වසා ගත්තාය.

''පොඩියක් නිවාඩු ගන්න!'' අම්මා යෝජනා කළාය.

ඇ අම්මා දෙස බලා මඳ සිනා පාමින් පියකරු ලෙස කතා කළාය:

''කළබල වෙන්ට එපා. මට තෙහෙට්ටුවක් නැහැ...''

නිහඬව අතදී ඇ ගෙයින් පිටව ගියේ දැඩි ගතියකිනි.

තරුණිය ගේට්ටුව පසු කර නොපෙනී යන සැටි නිකොලායි සහ අම්මාද බලා සිටියාහ. නිකොලායි සෙමින් උරුවම් බාමින් මේසය අසල හිඳ ගෙන යමක් ලියන්ට විය.

''ඒ වැඩේ බාර ගැනීම නිසා ඇට පහසුවක් දැනේවි!'' අම්මා කල්පනාකාරී ලෙස සෙමින් තෙපළාය.

''ඔව්, ඈන්තකින්ම!'' යැයි උත්තර දුන් නිකොලායි අම්මා දෙසට හැරී මඳ ලෙස සිනාසුණේය: ''නීලව්නා, ඔබ ඒ හැඟීම් ඇති කාලය පසු කළා. තම ආදර වන්තයා නැති වියෝ දුක ඔබ දන්නවාද?''

''මොනව අහනවද!'' අතක් වැනූ අම්මා කීවාය. ''මොන ආදරයක්ද, බය මිසක්. අර මිනිහට දේවිද නැතිනම් මේ මිනිහට දේවිද යන බයවිතරයි තිබුණේ!''

''කිසි කෙනෙක් ගැන හිතක් තිබුණෙ නැහැ?''

කල්පනා කළ ඇය පිළිතුරු දුන්නාය.

''මතක නෑ. හිත ගිය කෙනෙක්ද?.. හිටිය. මතක නැහැ කවුද කියල!''

ඔහු දෙස බැලූ ඇ සන්සුන් දෙම්නසකින් මෙසේ කීවාය.

''මගේ පුරුසය මට හොඳටම තැළුවා. වද දුන්නා. කසාදයට පෙර ජීවිත කාලය හිතින් මැකී ගිහිං වගෙ.''

ඔහු මේසය දෙසට හැරෙත්ම ඇ කාමරයෙන් පිට වූවාය. මොහොතකට පසු ඇ නැවත කාමරයට ආ විට නිකොලායි දයාන්විත ලෙස ඇ දෙස බලා ඔහු සිය අත්දැකීම් ගැන සොම්නස් හැඟීමෙකින් යුතුවය කතා කළේ.

''සාෂාගේ කතාවට සමානයි මගේ කතාව. මා ආලය කළ තරුණිය අරුම පුදුම ගෑණු ළමයෙක්. අවුරුදු විස්සකට ඉස්සෙල්ලා මම එයාව දුටුවෙ. එද සිට ආලය කළා. දැනුත් ආලය කරනවා. මගේ ආදරයෙ කිසිම වෙනසක් නැහැ. සදහටම මුළු හිතින්ම මම ඇට ආදරය කරමි...''

ඔහු සමීපයෙහි සිටි අම්මා ආලෝකමත්, උණුසුම්, පැහැදිලි දීප්තිය සහිත ඔහුගේ දෙනෙත් දුටුවාය. පුටු ඇන්දට අත තබා ඒ මත තම හිස තබා



ගත් හෙතෙම කල්පනා සයුරක ගිලෙමින් ඈත බලන්ට විය. තුරු මුදුනක් හිරු දෙසට හැරී ඉදිරියට ඇදෙන්නාසේ සිහින් එහෙත් සවි බලැති ඔහුගේ දෙහය පෙරට ඇදී යන සැටියකි ඇට පෙණෙන්නේ.

''ඉතින් ඇයි කසාද බඳින්නකො!'' අම්මා උපදෙස් දුන්නාය.

''ආ! එයා කසාද බැඳල දැනට අවුරුදු පහක් වෙනව...''

''ඇයි ඊට ඉස්සෙල්ලා?''

මඳක් කල්පනා කොට ඔහු පිළිතුරු දුන්නේය.

''වෙලාවක් ඉඩක් ලැබුනේ නැහැ. මාව හිරබාරයට ගන්න කොට එයා නිදහසේ හිටියා. එයාව හිරගෙට නියම කරන කාලෙදි මම නිදහසෙ, එහෙම නැතිනම් පිටුවහල් කරලා තිබුනා එයාව. හරියටම සාෂාගෙ තත්වයට සමානයි. අන්තිමට එයාව අවුරුදු දහයකට ඈත සයිබීරියාවට පිටුවහල් කරලා දැම්මා. මට හිතුනා ඇ ඉන්න තැනට යන්ට. එහෙම යාම ලජ්ජා සහගත වැඩක් කියා හිතුනා. එහිදී එයාට මුණ ගැසුණා මගේ යාලුවෙකුව. මිනිහා හොඳ හාදයා. දෙදෙනාම සයිබීරියාවෙන් පිටරටකට පැන ගිහිං එහි ජීවත් වෙනවා, ඔව්...''

කතාව අවසන් කළ නිකොලායි ඇස් කණ්ණාඩි කුට්ටම ගළවා පිස දැමුවේය. පසුව වීදුරු දෙස බැලූ හෙතෙම නැවතත් එය පිස දමන්ට පටන් ගත්තේය.

''අනේ පව් අහිංසකයා!'' යැයි අම්මා හිස වැනුවාය. ඔහු නිසා ඇ දුක් වූවාය. ඇගේ සිත තුළ ඔහු නිසා උණුසුම් මාතෘ ඇල්මක්ද උපනි. ඉරියව් වෙනස් කළ ඔහු පැන අතට ගෙන කතා කරන්ට වූයේ තම කතාවේ රිද්මයට අනුව පැන වනමිනි:

''පවුල් ජීවිතය නිසා විප්ලවවාදී වැඩවලට හානි වෙනවා. හැමදම පාඩු වෙනවා! ළමයි, ඒ ගොල්ලගෙ නඩත්තුව සහතික කරන්ට ඕන. ආහාර ලබා ගැනීමට වැඩියෙන් වැඩ කරන්ට ඕන. විප්ලවවාදියා තමාගෙ වැඩ කටයුතු වඩාත් ගැඹුරු හා පළල් ලෙස කිරීම සඳහා මුළු මහත් ශක්තියම යොදවන්ට ඕන. අපි අනිත් අයට මග පෙන්වමින් හැමදම ඉස්සරින් ගමන් කළ යුතුයි. පැරණි ලෝකය විනාශ කොට අළුත් ලෝකය ගොඩනැගීම සඳහා ඉතිහාසය විසින් අපට බාර දී තිබෙන බැවින් අප එසේ ගමන් කළ යුතුය. විඩා පත් වීම නිසා හෝ සුළු ජයක් ලබා ඉන් සෑහීමට පත්වී හෝ අපි අතර මග නවතින්නේ නම් එය පාවා දීමකට සමාන වෙයි! අපේ විශ්වාසයට හානි නොකර අප සමග ඉදිරියට යාමට තවත් සහකාරයෙකු සොයා ගැනීම බැරිය. ඉපේ ඉලක්කය සුළු ජයග්‍රහණයන් ලබා ගැනීම නොව සම්පූර්ණ ජය සඳහා ඉදිරියටම යාමයි.''

ඔහුගේ කටහඬ ශක්තිමත්ය. මුහුණ සුදුමැලිය. පුරුදු උණුසුම හා ශක්තිය ඇස්වල පෙනෙන්ට තිබිණි. නිකොලායිගේ කතාවට බාධා කරමින් ගෙදර සීනුව නාද විය. හේමන්තය නොතකා සැහැල්ලු කබායක් හැඳ සිටි ලුද්මිලා ගෙදර ආවාය. ඇගේ කොපුල් සීත සුළං නිසා රත් පැහැ ගෙන තිබිණි. ඉරිගිය ගෙලෝෂ් ගළවමින් ඇ කතා කළේ කෝපයෙන් මෙනි.

''තව සුමානෙකින් නඩුව ඇසේවි!..

''ඔය ඇත්තද?''යි කාමරය තුළ සිට නිකොලායි ඇසිය.

තම සිත බියෙන් සැලෙන්නේද නැතිනම් ප්‍රීතියෙන් කැළඹී ගොසින්ද යන්න නොදන්නා අම්මා ඔහු වෙත ගියාය. ඇ සමග ගමන් ගත් ලුද්මිලා උපහාසාත්මක ලෙස සිනින් හඬින් කතා කළාය:

''ඇත්ත! දනවම නීන්දුව සූදානම්ලු. මොකක්ද ඒකෙ තේරුම? ආණ්ඩුවෙ හතුරන්ට නිලධාරීන් අනුකම්පා කරාවි යැයි ආණ්ඩුව බය වෙලාද? ඒ තරම් හොඳට ආණ්ඩුවට පක්ෂව රාජකාරි කරලත් නිලධාරීන් දූෂ්‍යයන් නොවේවි යන බය තවම ආණ්ඩුව තුළ තිබෙනවාද?..''

අසුනක වාඩි ගත් ලුද්මිලා තම සිනින් කොපුල් පිරිමැද්දය. ඇගේ දෙනෙත් කෝපයෙන් දිලිසෙයි. කටහඬ ක්‍රෝධයෙන් පිරී ගොසිනි.

''උඹ තේරුමක් නැතිව කෑ ගහනවා ලුද්මිල අක්කේ!'' නිකොලායි සාන්ත ලෙස කීවේය. ''උඹ කියන දේ උන්ට ඇහෙන්නෙ නැහැ නෙව...''

ඇගේ කතාවට නොසන්සුන් ලෙස සවන් දුන් අම්මාට එය නොතේරේ. ඉබේටම මෙන් ඇය පළමු වචන කීපය, කීප වරක්ම තමාටම කියා ගත්තාය:

''නඩුව තව සුමානෙකින් ඇහේවි...''

අමනුෂ්‍ය, දූඩි, අනුකම්පා රහිත යමක් දූන් වේය යන හැඟීමෙකි, ඇගේ සිතෙ හට ගත්තේ.

## XXIII

සිහි විකල වූ හා මුලා වූ කලෙක මෙන් හුදකලාව දවස් දෙක තුනක් ජීවිතය ගෙවූ අම්මා කිසියම් අයහපතක් බලාපොරොත්තුවෙන් සිටියාය. තුන්වැනි දින නිකොලායි හමුවීමට සාෂා පැමිණියාය.

''හැම දෙයක්ම ලෑස්තියි! අද දවල් එකට...''

''ඔක්කොම ලෑස්තියි?'' ඔහු පුදුම විය.

''ඔව්. මොකෝ පුදුම වෙන්නෙ? රිබින්ට සැඟවීමට තැනකුයි, ඇඳුම් කීපයකුයි විතරයි මට සොයා ගැනීමට උවමනා වී තිබුණේ. අනිත් හැම



දෙයක්ම ගබුන් කරන බවට බාර ගත්තා. රිබින්ට යන්න තියෙන්නෙ කෙටි දුරක් විතරයි. අතර මගදී එයාව මුණ ගැහේවි වෙස් වළාගත් ඉවසොව්ෂිකොව්, රිබින්ට කබායක් හා තොප්පියක් දීලා මග පෙන්වාවි. එයා ආ හැටියේම වෙනින් ඇඳුමකින් සැරසී එයාව වෙනින් තැනකට ගෙනියන්නම්.''

''වැරැද්දක් නැහැ. කවුද ඒ ගබුන්?'' නිකොලායි ඇසුවේය.

''ඔබ එයාව දැකල තියෙනව. එයාගේ ගෙදරදී යකඩ වැඩකාරයින්ට පංති තැබුවා.''

''ඔව්. මතකයි. විහිළුකාර නාකියා...''

''එයා හිටපු සොල්දදුවෙක්. යකඩ වැඩ කරන කම්කරුවෙක්. හැම විධියේම මර්දනවලට විරුද්ධ එයාගෙ බුද්ධිය වැඩිලා නැහැ... තරමක දර්ශනිකයෙක්,'' යැයි කල්පනා කරමින් සාෂා කීවේ ජනේලය දෙස බලමිනි. නිහඬව ඇ දෙස බලන අම්මා තුළ එක්තරා අදහසක් ඇති වී මෝරන්නට විය.

''ගබුන්ට ඕනෑ වී තිබෙනවා එයාගෙ බෑණාව නිදහස් කරගන්ට. මතකද අර ජේත්තුවට ඇඳ පැළඳ ගෙන හිටපු යෙව්චෙන්කො?''

නිකොලායි හිස වැනුවේය.

''වැඩ කටයුතු සියල්ල සූදානම්. නමුත් වැඩේ හරියාද කියන එක ගැන මා තුළ සැකයක් පහළ වී තිබෙනවා. ඔක්කොම හිරකාරයො එකට ඇවිදින්නෙ. හිණි මග දකපු හැටියෙ සියලුම හිරකාරයො කැමති වේවි පැනලා යන්ට...''

දැස් වසා ගත් සාෂා නිහඬ වූවාය. අම්මා ඇ වෙත ගියේ සෙමිනි.

''හිණි මහ දිගේ යන්ට ගිහිං කලබල ඇති කර ගනීවි...''

ඔවුන් තිදෙනාම ජනේලය ඉදිරියේ සිට ගත්හ. නිකොලායිට හා සාෂාට පිටුපසිනි අම්මා සිටියේ. ඔවුන්ගේ වේගවත් කතාව අම්මා තුළ නොපැහැදිලි හැඟීමක් ඇති කළේය...

''මම එහි යනවා!'' අම්මා හිටිහැටියේම කීවාය.

''මොකටද?'' සාෂා ඇසුවාය.

''එහාට යන්ට එපා, ඔබට මොනවා හරි වුණොත්! එපා යන්ට!'' එසේ කීවේ නිකොලායිය.

අම්මා ඔහු දෙස නිහඬව බලා දූඩි ලෙස තම අදහස නැවත වරක් කීවාය:

''නැහැ! මම යනවා...''

ඔවුහු ඇය දෙස හැරී බැලූ අතර සාෂා දෙළර සෙලවූවාය.

''එය තේරුම් ගන්ට පුළුවනි...''

අම්මා වෙත නැඹුරු වූ සාෂා ඇගේ අතක් ගෙන දයාන්විත ලෙස කතා කළාය:

''ඔයා නිකරුණේ බලාපොරොත්තු වන බවයි මගේ අදහස...''

''අනේ සුදු ළමයෝ!'' අම්මා කීවාය. ඇගේ වෙව්ලන අත සාෂාගේ ඉහටිය තදින් ගත්තේය. ''මාවත්. කැටුව යන්න. මම උඹලගෙ වැඩවලට බාධා කරන්නේ නැහැ! නමුත් මට විශාල වුවමනාවක් තියනව එතනට යන්න. පැනලා යන්ට පුළුවනියි කියා මම විශ්වාස කරන්නේ නැහැ!''

''එයා අප සමග ඒවි!'' සාෂා නිකොලායිට කීවාය.

''ඒක ඔබේ වැඩක්,'' යැයි නිකොලායි කීවේ හිස වනමිනි.

''අපි දෙන්නම එකට යාම හොඳ නැ. ඔයා යන්න පිටටනිය පාරෙන් එළවලු කොටුව ළඟට. එතැන ඉඳලා හිරගෙදර බිත්තිය පේනව. මොනව කරනවද කියල ඇහුවොත්?''

අනුබලයක් ලත් අම්මා ආත්ම විශ්වාසයකින් පිළිතුරු දුන්නාය:

''මොනවා හරි කියන්ට බැරියැ!..''

''හිරගෙදර මුලාදැනින් අම්මාව හඳුණන බව අමතක කරන්ට එපා,'' යැයි කී සාෂා: ''ඒ ගොල්ල අම්මාව හඳුනා ගත්තොත්...''

''හඳුනා ගන්ට බැරි වේවි!''

ඇගේ සිත තුළ නිතරම පැවැති බලාපොරොත්තුව, හිටි හැටියේම වේදනා කාරි ලෙස, පැන නැංගේය. එය ඇට ප්‍රාණවත් බවක් ගෙන දුන්නේය.

''සමහර විට එයත් ඒවි...'' මෙසේ සිතමින් අම්මා හැඳ ගත්තාය.

පැයක් ඉකුත් වීමට පෙර අම්මා හිරගෙදර අසල පාළු පිට්යට පැමිණියාය. තද සුළං පහරකින් ඇගේ ඇඳුම්ද, අසල එළවුළු කොටුවේ වැටද සෙලවිණි. 'සීතල පොළොවේ කුඩා වැලි කැටද රැගත් කුණාටුව හිරගෙයි කෙටි තාප්පයට වැදෙයි. තාප්පයට එහා කවුදෝ කෑ ගසන හඬක් සුළං සමග මුසුව අහසට නැංගේය. නිල්වන් අහස කඩින් කඩ පෙනෙනසේ සුදු වළාකුළු ඉක්මනින් පාවෙයි.

අම්මා ඉදිරිපිට සොහොනකි, පිටුපසින් එළවළු කොටුවකි. දකුණු පස යාර විසිපහක් අමණ ඇතින් හිරගෙය ය. සොහොන අසල අශ්වයෙකු පුහුණු කරන යුද්ධ භටයෙකි. තවත් යුද බටයෙක් ඔහු අසලින් සිටගෙන කොක් හඬ ලා සිනාසෙයි. හිරගෙය අසල අන් කිසිවෙක් නොවූහ.

ඔවුන් පසු කරමින් අම්මා සොහොන අසලින් ගමන් කරන්නී, යටැසින් වටපිට බැලුවාය. තම දෙපා වෙව්ලා ගොස් බරවී ගල් ගැසුණාක් මෙන් ඇට දැනෙයි. හිරගෙය පැත්තේ සිට ලාම්පු දල්වන්නා හැමද මෙන්ම



සුහුසුළුව ගමන් කරයි. කුදු මිනිහෙක් හිණි මගක් කර තබා ගෙන එයි. අම්මා බියෙන් ඇසිපිය හෙළමින් භනික සොල්දදුවන් දෙස බැලුවාය. ඔවුහු එක තැනම සිට ගෙන සිටියහ. උඩ පනිමින් අශ්වයා ඔවුන් වටේ දුවයි. හිණි මග කරින් ගත් මිනිහා සෙමින් ගමන් කොට, හිණි මග හිරගෙයි තාප්පයට තබා කලබල නොවී නගින්නට විය. හිරගෙයි මිදුලට පෙණෙනසේ අතක් වනා පසුව ඉක්මනින් බැස හෙතෙම වංගුවෙන් හැරී නොපෙනී ගියේය. අම්මාගේ හදවත වේගයෙන් සැලෙයි. තත්පර ගෙවී යන්නේ සෙමිනි. හිරගෙයි තාප්පය කළු පැහැතිය. තුණු සහ මඩ තැවරුණු එහි ගඩොල්ද අතරින් පතර පෙනේ. සිමෙන්ති බදාමේ පතුරු ගැළවී ගොසින්ය. මේ නිසාදෝ එහි හිණි මගක් තිබෙන බව හරිහැටි නොපෙනේ. හිටිහැටියේ තාප්පයට එහා පැත්තෙන් කළු හිසක් මතු විය. පසුව උඩුකය දිස්විය. ඉක්මනින් හිණිමග දිගේ මිනිහෙක් බැස්සේය. කඩමාළු තොප්පියක් හැඳ ගත් මිනිහෙක්ද එහා පැත්තෙන් මතු විය. බිමට බැස ගත් කළු පැහැති මිනිහා වංගුවෙන් හැරී නොපෙනී ගියේය. මිඛයිල් රිබින් පිටිකොන්ද දිග හැර හිස වනා වටපිට බැලිය...

''දුවපන්, දුවපන්!'' යැයි දෙපා බිම ගසමින් අම්මා කොඳුලාය.

ඇගේ දෙකන් ගෝසාව නිසා බිහිරි වූවාක් මෙනි. තාප්පයට එහා තුන්වැනි වරටද මිනිහෙක් දිස්විය. අම්මා දැතින් ළය බද ගනිමින් ඒ මිනිහා දෙස බැලුවාය. තාප්පය උඩට ඉක්මනින් නැග ගත් රත්පැහැති හිසකේ ඇති මිනිහා නැවත තාප්පයෙන් එහා නොපෙනී ගියේය. මහ හඬින් කෑ ගසන සැටි ඇසේ. උරුහන් බාන හඬ මුසු ඝෝෂාව නොනැවතුනි. තාප්පය ළඟින් ගමන් කළ මිඛයිල් රිබින් ඈ අසලින් ගියේය. දූන් ඔහු හිරගෙය පසු කොට නරගය දක්වා වැටී ඇති හිස් බිමට පා තැබීය. ඔහු සෙමින් ගමන් කරන බව ඇයට හැඟෙයි. උවමනාවට වඩා හිස ඔසවා ගෙනය ඔහු ගමන් කරන්නේ. ඔහුගේ මුහුණ දෙස බලන ඕනෑම කෙනෙකුට එය කිසි දිනක අමතක නොවේ. ඈ කොඳුලාය:

''ඉක්මනින්... ඉක්මනින්...''

හිරගෙය තුළින් ශබ්දයක් ඇසිණ. වීදුරු බිඳින හඬක්ද කන්හි වැකිණ. සොල්දදුවා දෙපා බිම ගසා අශ්වයා තමා දෙසට ඇද්දේය. අනිකා කටට අතක් තබා හිරගෙය පැත්තට ඇසෙන සේ බෙරිහන් දුන්නේය. ඉන්පසු යමක් අසන්නාක් මෙන් පැත්තකට හැරී කන් යොමු කළේය.

අම්මා මහත් උවමනාවකින් වටපිට බලන්නට වන්නී, සිදු වූ හැම දෙයක්ම දුටුවද ඒ කිසිවක් විශ්වාස කිරීමට මැලි වූවාය. හිරගෙදරින් පැන යාම අතිශය අමාරු වැඩක් ලෙස විශ්වාස කළ ඇයට ඉතා වාම් ලෙස හා ලෙහෙසියෙන් සිදු වූ දෙය විශ්වාස කිරීමට තම බුද්ධිය ඉඩ නොදෙයි. රිබින්

නොපෙනෙන තරම් දුර ගොසින්ය. දිග කබායක් හැඳ ගත් මිනිහෙක් සහ තරුණියක් දුවන සැටි පෙනේ. හිරගෙය තුළින් දුව ආ මුලාදැනිවරු තිදෙනෙක් දකුණු අත් ඔසවමින් ළං ළංව දුව ආහ. එක් යුද බටයෙක් මුලාදැනිවරුන් වෙත දුව ආ අතර අනිකා අසු මෙල්ල කොට ඌ පිට නැගීමට තැත් කරයි. අශ්වයා ඉඩ නොදෙමින් උඩ පනියි. කුණාටුව හඩ නගමින් හමායයි. ඔවුන්ගේ කෑ කෝ ගැසීම් නිසා බියගත් අම්මා විය හැකි අනතුරකින් වැළකෙනු වස් ඈත් වී සොහොන අයිනේ වැට අසලින් ගමන් ගත්තාය. ඈ මහත් උවමනාවෙන් මුලාදැනින් දෙස බැලුවාය. ඔවුහු යුද බටයින් සමග එක්ව මුල්ලකට ගොස් සැඟවුනාහ. අම්මා හොඳින් අඳුනන හිරගෙදර උප පාලක තැනද එළියට දුව විත් සැඟවී සිටියවුන්ගේ ගොඩට වැදුනේය. අනික් පැත්තෙන් පොලිස් බට පිරිසක් දුව ආවේය. ඔවුන් පිටුපසින් මිනිස්සුය.

සුළං හමා යමින් හඩ නැඟුවේ ප්‍රීති වන්නාක් මෙනි. කෑ කෝ ගසන හඩ සහ උරුවම් බාන හඬද අම්මාට ඇසෙයි... මේ සියල්ල නිසා ප්‍රීතියට පත් අම්මා ඉක්මනින් ගමන් කළාය:

''එයාටත් බේරිලා එන්ට තිබුණා!''

වැට මුල්ලේ සිට පොලිස් බටයෝ දෙදෙනෙක් මතු වූහ.

''හිටපිය!'' කවුදෝ හති දමමින් කෑ ගැසීය. ''යටි රැවුලක් ඇති මිනිහෙක් මේ පැත්තෙන් ගියේ නැද්ද?''

අම්මා එළවළු කොටුව පෙන්වමින් සන්සුන් ලෙස පිළිතුරු දුන්නාය.

''ඒ පැත්තට ගියා, ඇයි මොකද?''

''යෙගෝරව්! තළාව පිඹපන්!''

ඈ ගෙදර ගියාය. ඇගේ හදවත දුකෙන් හා අමිහිරි බවකින් පිරී තිබිණි. පිටිය හරහා ගොස් වීදියට පා තබත්ම මග හරහා අස්රියක් ගමන් ගත්තේය. ඒ දෙස බැලූ අම්මා රිය තුළ වාඩිවී උන් රන් පැහැති උඩු රැවුලක් ඇති තරුණයකු දුක්කාය. ඔහු විඩා පත් වෙලාය මලානිකය. ඔහුද ඈ දෙස බැලුවේය. පැත්තකට ඇළවී වාඩි වී සිටි ඔහුගේ දකුණු උරහිස වම් උරහිසට වඩා උසය. ඔහු පැන ගිය එකෙක් විය හැකිය.

නිකොලායි ඈ පිළිගත්තේ සතුටිනි.

''කොහොමද වැඩේ?''

''හරි ගිය හැඩයි...''

සිදුවූ සැම කුඩා දෙයක්ම සිහියට නගා ගනිමින් ඈ විස්තර කළ නමුදු, ඒවා ගැන විශ්වාස කිරීමට මැලිවූ කෙනෙක් සැක සිතින් කියන කතාවක විලාසයක් පැවාය.

''අපි බේරුනා!'' නිකොලායි දෑත් පිරිමදිමින් කීවේය. ''මම අම්මා



නිසා හොඳටම බය වුණා. කොතරම් බය වුණා දැයි දන්නවා නම්! නිලව්නා, මගේ උපදෙස් පිළිගන්න. නඩුවට බය වෙන්න එපා. නඩු තීන්දුව ඉක්මන් වෙන තරමට පාවෙල්ගේ නිදහස ළංවේවි. විශ්වාස කරන්න. සමහර විට එයා මගෙන් ඉවත් වී යන්ට පුළුවන්. නඩු විසඳීමත් ඒ විධියෙ දෙයක් තමා...''

ඔහු අම්මා ඉදිරියේ නඩු අහන සැටි, නඩු ශාලාව ආදිය ගැන විස්තර කරන්ට වූයේය. ඔහුගේ කතාවට සවන් දෙන ඇයට හැඟී ගියේ, ඔහු කිසියම් දෙයකට බය වන බැවින් ඇය දිරි ගැන්වීම සඳහා දරන වෑයමක් මෙනි.

''ඔබ හිතනවද මම නඩුකාරයින්ට යමක් කියාවි කියල?'' ඈ හිටි හැටියේම ඇසුවාය. ''ඒ ගොල්ලන්ගෙන් යමක් ඉල්ලා සිටීවි කියල?''

ඔහු නැගිට සිට ඈ දෙස දෑත් වනා අමනාපයෙන් කෑ ගැසීය:

''අනේ නැහැ!''

''ඇත්තටම මට බය හිතිලා! මොකට බය වෙනවාදැයි මම ම දන්නේ නැහැ!..'' නිහඬ වූ අම්මා කාමරයේ දෙස බැලුවාය.

''ඒ ගොල්ල පාෂාට හිරිහැර කරයි කියල මට හිතෙනව. එයාට අපහාස කරාවි. උඹ මෝඩ ගමයෙක්. ගමයෙකුගේ පුතෙක්. මොනවා කළාද? පාෂා ආඩම්බරකාරයා. එයා කැපෙන උත්තරයක් දේවි! එහෙම නැතිනම් අන්ද්‍රේ ඒ ගොල්ලන්ට විහිළු කරල හිනාවේවි. ඒ කට්ටියම සැර ඉලන්දරි. මට හිතෙන්නෙ ඒ ගොල්ල නොඉවසා ඉදිවි කියල... එහෙම වුණොත් දඬුවම බරපතල වේවි. නැවත කිසිදක ඒ අය බැලීමට බැරිවේවි!''

නිකොලායි නිහඬව යටි රැවුල අදිමින් බැලුවේය.

''ඒ වගෙ අදහස් ඔළුවෙන් එළවා දමන්ට බැහැ!'' අම්මා සෙමින් කීවාය. ''නඩුව හරිම බයානකයි. හැම දෙයක්ම සොයා කිරා බැලීමට පටන් ගනීවි! හරිම බයානකයි. නඩුව දඬුවම්වලට වැඩිය බයානකයි. කතා කරන්ට පවා බැහැ...''

තම හැඟීම් නිකොලායිට නොතේරෙන බවකි ඇට සිතෙන්නේ. ඇගේ හැඟීම් ප්‍රකාශ කිරීමට එය බාධාවකි.

## XXIV

බිය නිසාම අම්මාට හුස්ම ගැනීම පවා අපහසු විය. පිලිකාවක් සේ එම බිය පපුව තුළ වැඩෙන්නට විය. නඩුව ඇසීමට නියමිත දවසේදී අම්මා උසාවියට පැමිණියේ ඇගේ පිටිකොන්ද හා බෙල්ල නමාදමීමට තරම් සමත් වූ බරැති, ඇඳිරි දුකකිනි.

කම්කරු ජනපද වැසියෝ ඇ දුන හැඳින ගෙන ඇයට ආචාර කළාහ. ඈද ඔවුන්ට හිස නමා ආචාර කරමින් නිහඬව සෙනඟ පිරා ගෙන ගියාය. උසාවියේ ඉස්තෝප්පුවේදී විත්තිකාරයින්ගේ නෑදෑයෝ එකිනෙකා හමුව පහත් ස්වරයකින් කතා කළාහ. හරයක් නැති කතා ලෙස එය ගණන් ගත් ඈ නිහඬව වූවාය. වචන අවශ්‍ය නැති ඔවකි, ඇයට හැඟෙන්නේ. ඒවා ඇයට නොවැටහිණි. හැම දෙනාම සිත් තැවුලෙන් සිටින සැටි දකින අම්මාගේ බිය සැක, ශෝකය හා සිත් තැවුලද වැඩි විය.

''ළඟින් වාඩිවෙයන්!'' යැයි අම්මා වෙත ආ සිසෝව් ලොක්කා පැවසිය.

කී පරිදි වාඩි වුණු ඇය වටපිට බැලුවාය. ඇගේ දෙනෙත් ඉදිරිපිට කොළ පැහැති, රත් පැහැති කිරු සහ ලපද සිත් කහ පැහැති තුල්ද එකට ඇලිව් අමුතු දර්ශනයක් මවා පාන්නාසේය, ඇට හැඟෙන්නේ.

''උඹගේ පුතා මගේ ග්‍රීෂාව විනාශ කළා!'' අම්මා ළඟින් වාඩි වී සිටි ගැහැණියක් කීවාය.

''කට වහගනින්, නතාලියා!'' සිසෝව් ලොක්කා සැර කළේය.

අම්මා ඈ දෙස බලන්නී, ඒ නතාලියා, සමෝයිලොව්ගේ මවු බව හැඳින ගත්තාය. ඇගේ සැමියා මදක් ඈතින් වාඩිවී සිටියේය. හොඳ පෙනුමක් ඇති හෙතෙම රතු යටි රැවුලකින් යුක්තය. පෑ තැටියක් මෙනි ඔහුගේ හිස. මුහුණ කටු ගොඩකි. ඇස් හකුළුවා ගනිමින් ඔහු ඈත බලයි. ඔහුගේ යටි රැවුල සෙලවෙයි.

උසාවි බිත්තිවල කවුළු අතරින් ශාලාව තුළට වැදී පැතිර ගිය එළිය නොපැහැදිලිය. ජනේල වීදුරුවලට එහා පැත්තේ හිම කැට වීදුරු බට මෙන් එල්ලෙමින් තිබේ. ජනේල දෙකට මැද්දෙන් පළල් රත් පැහැති රාමුවක දමූ සාර් රජුගේ පින්තූරයකි. රාමුව දෙපස රතු රෙදි දෙකකින් රැලි පාලම් සාද තිබිණි. සාර්ගේ පින්තූරය ඉදිරිපිට ශාලාව හරහා විශාල මේසයකි. එය වසා කොළ පැහැති රෙද්දකි. දකුණු පස ලී බංකු දෙකකි. ඒවා ඉදිරියේ වැටකි. වම් පසින් දෙපේළියට තැබූ ආසන කීපයකි. උසාවිය තුළ නිහඬව යුහුසුළුව ගමන් කරන සේවකයෝ කොළ පැහැති කරපටි සහ රන් පැහැති බොත්තම් සහිත කබා ඇඳ උන්හ. ශාලව තුළ කසු කුසු ගාන හඬ පවා ඇසේ. බොහෙත් මුසු ගඳක් පැතිර යයි. පාට, දීප්තිය, ගඳ සුවඳ ආදිය මේ හැම දෙයක්ම හිස් හදවත් පුරවා ලමින් බියක් හා සැකයක්ද ඇති කළේය.

හිටි හැටියේ කෙනෙක් ශබ්ද නගා කතා කරත්ම සියල්ලෝම නැගිට සිට ගත්හ. අම්මා තිගැස්සී සිසෝව්ගේ අතක් අල්ලා ගනිමින් නැගිට සිටියාය.



වම්පැත්තේ උස දොර විවෘත විය. ඇස් කණ්ණාඩි කුට්ටමක් පැළඳි මහල්ලෙක් ඇදෙමින්-පැදෙමින් ඇතුළු විය. ඔහුගේ මුහුණ අළු පැහැතිය. කම්මුල් දෙපස රැවුල් ගස් අතරින් පතර වැවී තිබිණි. උඩු තොල කට තුළට වැටිලාය. හකු ඇට සහ නිකට උල්ය. පළල් කර පටියට උඩින් පෙනුණු ඔහුගේ ඔළු ගෙඩියට පහළින් බෙල්ලක් නැතිවාක් මෙනි. පිහෙන් මැටියෙන් සෑදූ මුහුණක් ඇත්තෙකැයි කිව හැකි උසැති තරුණයෙක් අර මහල්ලා වත්තම් කර ගෙන ගමන් කළේය. ඒ පිහෙන් මැටි මුහුණ වටකුරුය, රතුය. ඔහු පසුපසින් රනින් නිම කළ කබා හැඳ ගත් එවුන් තිදෙනෙකි. ඒ තිදෙනා පිටුපසින් ගමන් ගත්තේ සාමාන්‍ය ඇඳුම්වලින් සැරසුණු නිලධාරීන් තිදෙනෙකි.

ඔවුහු බොහෝ වේලාවක් මේසය වටේ ඇවිද පසුව තමන්ට අයත් අසුන්වල වාඩි ගත්හ. කුම්මැලි පෙනුමකින් යුත් එකෙක් මහළු විනිශ්චය කාරයා වෙත නැමුරු වී යමක් කියයි. ඔහු කියන දේ නැසුනද ඔහුගේ දෙතොල් වෙගයෙන් ඒ මේ අත නැමෙයි, පෙරලෙයි. මහල්ලා නොසැලී ඔහුගේ කතාවට සවන් දී සිටියේ ගල් ගැසුණක් මෙනි. ඔහුගේ ඇස් කණ්ණාඩි තුළින් වර්ණ රහිත ලප දෙකක් අම්මා දුටුවාය.

මේසය අයිනක සිටි උස තට්ටයෙක් කඩදසි ලිපි ගොනුවක් පෙරළමින් වරින් වර කැස්සේය.

මහල්ලා ඉදිරියට නැමී කට හැරියේය. ඔහුගේ කටින් පිටවූ පළමුවැනි වචනය පැහැදිලිය. ඔහු දිගටම තම දුර්වර්ණ දෙතොල් ඇද කරමින් මොනවාදෝ කියයි. එහෙත් ඒ කිසිවක් අධිකරණ ශාලාවේ හුන් අයට නෑසෙයි.

''ආරම්භ කරමි.., ගෙනෙල්ලා...''

''බලා ගනින්!'' යැයි අම්මාට ඇසෙන සේ සෙමින් කී සිසෝව් නැගිට්ටේය.

වැටට එහා දොර හැරිණි. කඩුවක් අතින් ගත් යුද බටයෙක් ශාලාවට ඇතුළු විය. ඔහු පිටුපසින් පාවෙල්, අන්ද්‍රේ, පියෝදර් මාසින්, ගුසෙව් දෙබෑයෝ, ග්‍රීෂා සමෝයිලොව්, බුකින්, සෝමොව් සහ අම්මා නොහඳුනන තවත් තරුණයෝ පස්දෙනෙක්ද ඇතුළු වූහ. පාවෙල් සුරතල් සිනාවක් පෑවේය. අන්ද්‍රේ දත් විරිත්තා හිස වැනීය. ඔවුන්ගේ මඳ සිනා, ඉරියව් හා ජීවයෙන් පිරි මුහුණු ශාලාවේ මුසල නිහඬතාවය බිඳ දමමින් ආලෝකයක් ඇති කළේය. කබාවලට ඔබ්බ ඇති රන් පදක්කම්, පටි හා බොත්තම් ආදියෙහි ඔපය අඩු වී ගියාක් මෙනි. අම්මාගේ හදවතට අමුතු පණක් ලැබුණු අතර ඇගේ ආත්ම විශ්වාසය දියුණු විය. අම්මා

පිටුපසින් බංකුවල වාඩි ගත් මිනිසුන්ගේද බිය සැක දුරුවී ගොස් ධෛර්යයක් ඇති විය.

''බය වෙලා නැහැ!'' යැයි සිසෝව් කොඳුරා කීවේය. දකුණු පැත්තේ වාඩි වී උන් සමෝයිලොව්ගේ මවු සුසුම් ලෑවාය.

''නිශ්ශබ්ද වෙයල්ලා!'' තියුණු හඬකින් කෑ ගැසිය.

''අවවාද කරනවා!'' මහල්ලා කීවේය.

පාවෙල් සහ අන්ද්‍රේ ළංව වාඩි ගත්හ. පළමුවැනි බංකුවේ මාසින්, සමෝයිලොව් හා ගුසෙව් දෙබෑයෝද වාඩි වූහ. අන්ද්‍රේ යටි රැවුල බූ ගා දමාතිබිණි. ඔහුගේ උඩු රැවුල උල්ය, දෙකොණ පහතට වැටී තිබිණි. මේ නිසා ඔහුගේ මුහුණ බළල් මුහුණක හැඩය ගත්තේය. ඔහුගේ මුහුණේ කිසියම් තියුණු බවක් ‍පෙනෙයි. මුව ළඟ රැළි වැටිලාය. ඇස් වාඩාත් කළු පැහැතිය. මාසින් තම උඩු තොල වසා ගත්තේ කළු පැහැති රැවුලකිනි. ඔහුගේ මුහුණ පිරී ගිය ගතියක් පායි. පෙර මෙන් බොකුටු හිසකේ ඇති සමෝයිලොව්ගේ මුහුණේ වෙනසක් නොතිබිණි. ඉවාන් ගුසෙව් පුරුදු පරිදි කට පළල් කොට සිණාසුණේය.

''අනේ! පියෝද්‍ර්, පියෝද්‍ර්!'' යැයි කී සිසෝව් බිම බලා ගත්තේය.

මහළු විනිශ්චයකරුගේ නොතේරෙන ප්‍රශ්නවලට අම්මා සවන් දුන්නාය. විත්තිකරුවන් දෙස නොබලා ප්‍රශ්න අසන මහල්ලාගේ හිල කබා කර උඩ නොසැලී තිබේ. සන්සුන් ලෙස පුතා කෙටි පිළිතුරු දෙන සැටිද ඇයට ඇසේ. ප්‍රධාන විනිශ්චයකරු සහ ඔහුගේ සගයන් දුෂ්ට කෲර මිනිසුන් නොවන බවය අම්මාගේ අදහස. ඔවුන්ගේ මුහුණු දෙස විමසිල්ලෙන් බලන අම්මා අනාවැකි කියන්ට මෙන් තැත් කළාය. ඇගේ සිත අළුත් බලාපොරොත්තුවකින් පිරී යන සැටි ඇට දූනේ.

පිහන්මැටි මුහුණා නැගිට උදාසීන ලෙස හඬ නගා කිසිවක් කියවන්නට වූයේ පාළු කපමිනි. එය අසා සිටි මිනිස්සු මත්වූ කලෙක මෙන් නිහඬවූහ. නීතිවේදීහු හතර දෙනෙක් සෙමින් ඒහෙත් උනන්දුවකින් විත්තිකරුවන් සමග කතා කළාහ. ඔවුහු ශක්තිමත් ලෙසත්, ඉක්මන් ලෙසත් ජංගම ශීලී වූහ. ඔවුහු විශාල කළු කුරුල්ලන් සමූහයක් සිහියට නැංවූහ.

මහළු විනිශ්චයකරුගේ එක් පැත්තකින් අසුන් ගෙන සිටියේ තරබාරුවෙකි. බාගෙට වැසී තිබුණු ඔහුගේ කුඩා මුහුණ ඉදිමිලාය. අනික් පැත්තේ සිටියේ කුදෙකි. ඔහුගේ මුහුණ මළානිකය. උඩු රැවුල තඹ පාටය. විඩාපත් කලෙක මෙන් පුටු ඇන්දට හිස තබා ඇස් අඩවන් කර ගත් හෙතෙම කල්පනා සයුරක ගැලී සිටියේය. රජයේ නීතිවේදියාගේ මූසල පෙණුමද විඩාපත් ගතියද පැහැදිලිය. තරබාරු විශාල දේහයක් ඇති පුරපතියා විනිශ්චයකරුට පිටුපසින් අසුනක වාඩි ගෙන කම්මුලක් අත



ගෑවේය. රදළ නායකයා පැසුණු රැවුලකින් යුත් පුද්ගලයෙකි, ඔහුගේ මුහුණ රතුය, ඇස්වල කරුණාවන් පෙනුමකි. ඔහු පුරපති ළඟින්ම අසුන් ගෙන උන්නේය. පුංචි කබායක් හැද ගෙන අසුන් ගෙන හුන් ජනපද නායකයා තම අති විශාල බඩගෙඩිය වසා දැමීම සඳහා දැඩි උත්සාහයක් දැරුවේය. ,කබායේ බොත්තම් වසා දැමීම ඉවරවූ සැටියම වාගේ නැවතත් ඔහුගේ බඩගෙඩිය දොට්ට පනී. ඔහු එය වසා දැමීම වස් නැවත දැඩි උත්සාහයක් දරයි.

''මෙතැන විත්තිකාරයෝත් නැත, නඩුකාරයෝත් නැත. මෙතැන ඉන්නේ සිරකාරයෝත් ජයග්‍රාහකයිනුත් පමණකි...'' පාවෙල් මහ හඬින් කීවේය.

- හැම තැනම නිසලතාවයකි. අම්මාට තම හදවතේ ගැස්මත්, ලියැවෙන පෑන් තලයක හඬත් පමණකි ඇසෙන්නේ.

මහ විනිශ්චයකරු යමක් ඇසීමට බලාපොරොත්තුවෙන් කන් යොමා උන්නේය. ඔහුගේ සගයෝ ඔහු පුබුදුවාලූහ. එවිට අග්‍ර විනිශ්චයකරු හිස වනා කතා කළේය:

''හ්ම්, අන්ද්‍රේයි නහෝද්කා! යුෂ්මතා පිළිගන්නවාද...''

. සෙමින් නැගී සිටි අන්ද්‍රේ ඇඟ මැලි කඩා උඩු රැවුල කරකවමින් විනිශ්චයකරු දෙස යටැසින් බැලුවේය.

''මා කළ වැරද්ද මොකක්ද?'' යි හොහොල් තමාට සුපුරුදු හඬින් අසා සන්සුන්ව දෙඋර සෙලවීය. ''මම මිනී මැරුවේ නැහැ, හොරකම් කළේත් නැහැ. මිනිසුන්ට මංකොල්ල කෑමට බල කරන, එකිනෙකා මරා දැමීමට බල කරන සමාජ ක්‍රමයට මම විරුද්ධයි...''

''කෙටියෙන් උත්තර දීපන්...'' යැයි මහල්ලා ආයාසයකින් නමුදු, පැහැදිලි ලෙස පැවසිය.

තමාට පිටුපසින් වාඩි වී හුන් අය ක්‍රියාශීලිවුණු බවකි අම්මාට හැඟෙන්නේ. පිහන් මැටි මුහුණාගේ උදාසීන කතාව නිසා ඇති වූ පාළු මූසල ගතිය එළවා දමන්නාක් මෙනි.

''ඇහෙනවද, උන්ගෙ තරම?'' සිසෝව් කොඳුළේය.

''පියෝද්‍ර මාසින්, පිළිතුරු දීපන්...''

''පිළිතුරු නොදෙමි!''යි නැගී සිටි මාසින් පැහැදිලි ලෙස කීවේය. කැළඹීම නිසා ඔහුගේ මුහුණ රත් පැහැ ගත්තේය, ඇස් දීප්තිමත්ව බැබළිණි. කුමක් නිසාදෝ හෙතෙම දැන් පිටිතලහා කොට තබා ගත්තේය.

සිසෝව් ඇනුම් හැරියේය. අම්මා විස්මය පත්ව නෙත් විදහා ගත්තාය.

''නිදහසට කරුණු නොකියමි. නිදහසට කරුණු කීම ප්‍රතික්ෂේප කරමි, යුෂ්මතුන්ගේ විනිශ්චය නීති විරෝධීය! යුෂ්මතුන් කවුද? නඩු

ඇසීමට යුෂ්මතුන්ට බලය දුන්නේ ජනතාවද? නැහැ. ජනතාව එවැනි බලයක් දී නැහැ! මම යුෂ්මතුන්ව අඳුනන්නේ නැහැ!''

ඔහු වාඩි විය. කැළඹීම නිසා රත් පැහැ ගත් මාසින්ගේ මුහුණ අන්ද්‍රේගේ දෙළරට මුවා වී ගියේය.

තරබාරු විනිශ්චයකරු මහල්ලාට නැඹුරුවී යමක් කොඳුළේය. සුදුමැලි විනිශ්චයකරු ඇසිපියහෙළා විත්තිකරුවන් දෙස බලා පැන්සලයක් ගෙන කුරුටු ගාන්නට විය. ජනපද නායකයා හිස වනා දැතින් බඩ වසා ගත්තේය. මහලු අග්‍ර විනිශ්චයකරු බෙල්ල හැරවීමට බැරි නිසාදෝ මුළු උඩු කයම හරවා රතු රැවුලාට යමක් කීවේය. කන් යොමා අසා සිටි රතු රැවුලා හිස වැනීය. රදළ නායකයා රජයේ නීතිවේදියා සමග සතර කන් මන්ත්‍රණයක යෙදුනේය. පුර පති එයට කන් දීමට තැත් කරමින් කම්මුල් අත ගෑවේය. නැවතත් අග්‍ර විනිශ්චයකරු මහල්ලා උදසීන ලෙස කතා කරන්ට පටන් ගත්තේය.

''කොහොමද කතා! කෙළින්ම වැඩ කිරීම ඉතාම හොඳයි!'' සිසෝව් නැඹුරුවී අම්මාගේ කණට කොඳුරා කීවේය.

විමතියට පත් අම්මා මද සිනා පෑවාය. මෙතෙක් කෙරුණු වැඩ සියල්ලක්ම නුවමනා දේවල්ය. මේවා සියල්ලක්ම වඩාත් බියජනක ජවනිකාවක් මවා පෑමට අදල විය හැකි මුල පිරීමක් බව ඇට වැටහිණ. පාවෙල්ගේ හා අන්ද්‍රේගේ කතා බියෙන් තොරව දෑඩි සංසුන් බවක් පළ කළේය. විනිශ්චයකරුවන් අමතා කළ දේශනයන් නොව ඒවා කම්කරු ජනපදයේ කුඩා ගෙයක රැස්වූවන් ඉදිරියේ කළ කතා මෙනි. ජේද්‍යා මාසින්ගේ උණුසුම් කතාව නිසා ඇය තුළ ප්‍රබෝධයක් ඇති විය. ඔහුගේ කතාව මුළු නඩු ශාලාවටම අමුතු පණක් ලබා දුන්නාක් මෙනි. තමාට පිටුපසින් වාඩි ගෙන සිටින්නන් තුළ පවා එම ප්‍රබොධය ඇ දුටුවාය.

''යුෂ්මතාගේ අදහස?'' මහල්ලා ඇසුවේය.

තට්ට හිසකින් හෙබි රජයේ නීතිවේදියා නැගිට උසැති මේසයේ කොනක් අල්ලා ගනිමින් වේගයෙන් කතා කරන්ට විය. සංඛ්‍යා ලේඛණ ගෙනහැර දක්වමින් තර්ක කළ ඔහුගේ කටහඬෙහි නම් කිසිදු බියගතියක් නොතිබිණි.

එහෙත් අම්මාගේ හදවතෙහි වේදනාවක් හා ගැස්මක්ද ඇති විය. තමාට හතුරු කිසියම් බලපෑමක් ඇති වේගන එන බැව් ඇට හැඟෙයි. එම බලපෑම තර්ජනය කළේවත් කෑ ගැසුවේවත් නැති නමුදු අල්ලා ගත නොහැකි ලෙසත්, අවිද්‍යමාන ලෙසත් දියුණු තියුණු වෙයි. මොවට කම්මැලියෙකු සේ නැඟී සිටි එය විනිශ්චයකරුවන් වටා වළාකුළක් මෙන් ඝන පිටින් පැමිණිය හැකි බාධාවන් වළක්වන පලිහක් සේ හැඩ ගැසී තිබේ. අම්මා



විනිශ්චයකරුවන් දෙස බැලුවද ඔවුන් තේරුම් ගැනීමට නොහැක. පාවෙල්ගේ හා පියෝදර්ගේ පිළිතුරු නිසා ඇය බලාපොරොත්තු වූ පරිදි ඔවුහු නොකිපුනාහ, අමනාප නොවූහ. එහෙත් ඔවුන් තමන්ට නුවමනා ප්‍රශ්න ඇසූ බවක් ඇගේ අදහස. ප්‍රශ්න ඇසීමට කිසිදු උවමනාවක් නොදක්වන ලදී. ඒවාට පිළිතුරු දෙන විට අසා සිටියේද ඉතා අමාරුවෙනි. විය යුතු දේ කලින් දන්නා එවුන් මෙන් කිසිවක් ගැන උනන්දුවක් නොදැක්වූහ.

පොලිස් නිලධාරියෙක් නඩුකාරවරුන් ඉදිරිපිට සිට ගෙන ගොරෝසු හඬකින් කතා කරයි.

''පාවෙල් විලාසව් මේ නඩේ ප්‍රධානියා බව හැමදෙනාම කීවා...''

''ඇයි අන්ද්‍රේ නහෝද්කා?'' මෙසේ ප්‍රශ්න කළේ තරබාරු නඩුකාරයාය. ඉහතෙම කම්මැලියෙකු සේ හෙමින් කතා කළේය.

''එයත් නායකයෙක්...''

එක් නීතිවේදියෙක් නැගිට සිට ගත්තේය.

''මට අවසරද?''

අග්‍ර විනිශ්චයකරු මහල්ලා කාගෙන්දෝ මෙසේ ඇසිය:

''විරුද්ධ නැතිද?''

සියලුම නඩුකාරවරු ලෙඩුන් ලෙසය අම්මාට පෙනෙන්නේ. ඔවුන් වාඩි ගෙන ඉන්නා සැටි, ඔවුන්ගේ කටහඬ, බැල්ම ආදී මේ හැම දෙයකම රෝගී බව, උදසීන බව සහ අප්‍රිය උපදවන ගති පිරි තිබෙන සැටි ඇට පෙනේ. නිල ඇඳුම්, නඩු ශාලාව, පොලිස් බටයින්, නීතිවේදීන්, ආසනවල වාඩි ගෙන සිටීම ආදියද ප්‍රශ්න ඇසීම සහ පිළිතුරු අසා ගෙන සිටීමද නඩුකාරවරුන් හෙම්බත් කොට විඩා පත් කරවයි.

තමා හඳුනන පාණ්ඩු පැහැති පොලිස් නිලධාරියා වචන ඇද පැද කියමින් පාවෙල් ගැනත් අන්ද්‍රේ ගැනත් විස්තර කරන්ට පටන් ගත්තේය. ඔහුගේ කතාවට අම්මා සවන් දෙන්නී කිසියම් දෙයක් ගැන කල්පනා කළාය:

''උඹ දන්නේ බොහොම ටිකයි.''

යකඩ වැටෙන් එහා වාඩි ගෙන හුන් විත්තිකරුවන් දෙස ඇ බැලුවේ බියෙන්, සැකයෙන් හා අනුකම්පාවෙන් තොරවය. ඔවුන් උදෙසා ඇගේ හදවත තුළ පුදුම ආදරයක් උපනි. ඔවුන් නිසා හටගත් මවිතය උප සාන්ත බවක් දරු අතර ආදරය ප්‍රීතියක් ඇති කළේය. ඔවුන් ශක්තිමත්ය, තරුණය. විත්තිකරුවෝ සාක්කිකරුවන් හා නඩුකාරවරුන් අතරද නීතිවේදීන් සහ රජයේ නීතිවේදියා අතරද ඇතිවූ විවාදවලට බාධා නොකර උන්හ. හිටි හැටියේ එක් විත්තිකරුවෙක් උපහාසාත්මක ලෙස සිනාසෙයි. තව'කෙක් තම සගයෙකුට යමක් කියයි. එවිට ඔහුගේ දෙතොල් නැමී

උපහාසාත්මක සිනාවක් මැවෙයි. පාවෙල් සහ අන්ද්‍රේ එක් නීතිවේදයෙකු සමග සෙමින් නිතරම කතා කළාහ. නිකොලායිගේ ගෙදරදී ඒ නීතිවේදියා අම්මා දැක තිබේ. එම කතාවට මායින් සවන් දෙයි. ඔහු අනිත් අයට වඩා උනන්දුය. සමෝයිලොව් ඉදහිට ඉවාන් ගුසෙව්ට යමක් කියයි. ඉවාන් ළඟ හුන් තම සගයාට වැළමිටෙන් ඇනිමින් සිනහ මැඩ ගන්නේ අතා අමාරුවෙනි. එවිට ඔහුගේ මුහුණ රතුවී, කොපුල් නෙරා ගොස් පිම්බෙයි. සිනහ මැඩ ගනු වස් හේ බිම බලා ගනී. වරක් දෙවරක් ඔහුට සිනහ ගියේය. පසුව ඔහු වඩාත් බැරෑරුම් බවක් පෙන්වීමට මෙන් නිහඬ විය. මේ සා නන් අයුරින් තරුණ බව පැන නැංගේ ජීවමය බව නවත්වා ලීමට බැරි බව කියා පාමිනි.

සිසෝව් සෙමින් ඇගේ වැළමිට අල්ලා ගත්තේය. ඇ ඔහු දෙසට හැරුණාය. ඔහුගේ මුහුණෙහි ප්‍රීතිමත් හා සැලකිලි ගතියක් පෙනෙන්ට තිබිණි. හේ මුමුණුවේය:

''බලපන්කො, උන් ශක්තිමත් වෙලා තියෙන හැටි. හරියට සිටුවරයො වගෙ?''

සාක්කිකරුවෝ කලබල ගති පාමින් උවමනාවකින් තොරවද නඩුකාරවරු නොසැලකිලිකමින් හා පහත් හඬින්ද කතා කළහ. තරබාරු නඩුකාරයා නිතර ඇනුම් හරියි, තම අතින් කට වසා ගනියි. රතු රැවුලාගේ මුහුණ වඩාත් මළානිකය. සමහර විට ඔහු අතක් ඔසවා මුහුණේ හකු ඇටයක් ඔබා බලයි. අන්ධයකු සේ නඩු ශාලාවේ සිලිම දෙස බලයි. රජයේ නීතිවේදියා ඉදහිට පැන්සලයකින් යමක් ලියා නැවත රදළ නායකයා සමග කතාව පටන් ගනී. ඔහු සුදු යටි රැවුළ අතගා අලංකාර ඇස්වලින් බලා සිනාසෙයි. පුරපති තෙමේ කකුලක් මත කකුලක් දමා ගනිමින් ශබ්දය පිට නොවනසේ අතක ඇඟිලිවලින් දණහිසට තට්ටු කරයි. ඒ අතර ඔහු ඇඟිලි දෙස බලා ගෙන සිටියි. ජනපද නායකයා තම මහ බඩ ගෙඩිය දණහිස් මත තබා ගෙන දෑතින් ප්‍රවේසමින් එය අල්ලා ගෙන කන් යොමා ගෙන සිටී. ඔහු උදසීන ලෙස කෙරෙන කතාවලට සවන් දෙන්නාක් මෙනි. අග්‍ර විනිශ්චයකරු මහල්ලා ගල් රූපයක් මෙනි. කුණාටු රහිත දවසක හුළං පෙත්තක් මෙන් ඔහු මහත් ආයාසයෙන් හැරෙයි. උසාවියේ වැඩ බොහෝ වේලා දිගටම කෙරී ගෙන ගියේය. මිනිස්සු නැවත නැවතත් උදසීනයන් වූහ.

''පවසනවා...'' යැයි මහල්ලා කීවේය. ඔහු කී අන්තිම වචනය කිසිවකුට නෑසුනාද ඔහුගේ තොල් නැමී පෙරළිණ.

හුස්ම ඉහළ ඇද ගන්නා හඬ, කැරිම්, කැහිම්, සපත්තු බිම ඉලීම් ආදිය නිසා ගෝසාවක් ඇති විය. විත්තිකරුවන් ගෙනයන්ට පෙර ඔවුහු නැඟ



හිත මිතුරාදීන් දෙස බලා සිනා පෑහ. ඉහි මැරූහ. ඉවාන් ගුසෙව් කාටදෝ ඇසෙන සේ කතා කළේය:

''යෙගෝර්, දුර්වල වෙන්ට එපා!..''

අම්මා සහ සිසෝව් බරාදයට ගියහ.

''ඉත් බොන්ට තැබෑරුම අසල කඩයට යමුද?''යි සිසෝව් මහත් ලැදිකමක් දක්වමින් ඇසුවේය. ''අපට පැය එක හමාරක විවේක කාලයක් තියෙනවා!''

''මට බැහැ.''

''මමත් තේ බොන්නේ නැහැ. බලපන්, අපේ කොල්ලන්ගෙ හැටි උන් හිටියෙ හරියට ඒ ගොල්ල තමා නියම මිනිස්සු. අනිත් අය තුට්ටුවකටවත් ගණන් ගන්නේ නැතිවයි! කොහොමද පියෝදර්-ආ?''

හිම තොප්පියක් අත'තිව ඔවුන් වෙත සමෝයිලොව්ගේ පියා විත් අමාරුවෙන් සිනාසී කතා කළේය.

''මගේ පුතා — ග්‍රිෂා? එයාගෙ ආරක්සාවට අද්වකාත් කෙනෙක් අල්ලන්ට දායි කියල ඇහුවම, කතා නොකර හිටිය. අද්වකාත්වරු එපා කියල පළමුවෙන්ම කිවේ මගේ පුතා. පෙලගේයා, උඹේ කොලූ, අද්වකාත්වරු අල්ලනවට කැමති වුණා. මගේ කොල්ලා එපා කිවා. හතර දෙනාක්ම එකවර අද්වකාත්වරු එපා කිවා...''

සමෝලොව්ගේ අම්මා අසල සිට ගෙන උන්නාය. ඇ නිතර ඇසි පිය හෙළමින් ඔවුන් දෙස බලයි. නිතර ලේන්සුවකින් නහය පිස දමයි. සමෝයිලොව්ගේ පියා යටි රැවුළ අල්ලා ගෙන බිම බලා ගත්තේය.

''ඔන්න වැඩේ හැටි! උන් දිහා බලන කොට පේන්නෙ හරියට ඒ වැඩේ කිසිම වැදගැම්මකට නැති දෙයක් හැටියටයි. උන් තමන්ගේ විනාසය ළංකර ගත්තු බවයි. ඒ වුණාට හිටිහැටියෙම හිතෙනව, ඒ ගොල්ල හරි වෙන්ට බැරිද? ෆැක්ටරියේ උන්ගෙ ගණන එන්ට එන්ටම වැඩි වෙනවා. හරියට ගහක මාළුවො වගෙ. නැති කරන්ට බැහැ. සත්තකින්ම! බලවේගය ඔවුන්ට පක්සපාතය යන හැඟීම නැවත ඇති වෙනවා?''

''ඔය වැඩ අවබෝධ කරගැනීම අපට බොහොම අමාරුයි, ස්තෙපාන් පෙට්රෝව්!'' මෙසේ කීයේ සිසෝව්ය.

''ඇත්ත, අමාරු තමා!'' සමෝයිලොව් එකඟ විය.

සමෝයිලොව්ගේ බිරිඳ හුස්ම ගෙන කතාවට මැදිහත් වූවාය:

''ඉලන්දුරි හැම එකාම මුරංඩුයි...''

කට පළල් කොට සිනාවූ ඇය දිගටම කතා කළාය:

''නීලව්නා, උඹගෙ පුතා තමයි ඔය වැඩේට මුල් වුණේ කියල මම උඹට අද බැණ වැදුනාට, උඹ තරහ ගන්ට එපා. ඇත්ත කියනවානම්

කවුද වැරදිකාරය කියල කාට කියන්ට පුළුවන්ද! අපේ ග්‍රිගෝරි ගැන පොලිසියෙ ලොක්කො, ඔත්තුකාරයො නරක දේ හුඟක් කීවා. එයා හරිම හපනෙක්!''

ඈ තම පුතා නිසා ආඩම්බර වුණාය. එසේ වුවද ඇට තම හැඟීම ගැන නිසි අවබෝධයක් නැතිවා සේයි. එහෙත් ඇගේ සිතැඟියාවත් අම්මාඩ වැටහෙයි. ඕ ඇගේ කතාව ස්ථිර කරමින් සිනා මුහුණින් හිස වැනුවාය.

''තරුණ හිත හැමදම ඇත්තට ළඟයි...''

උසාවියේ ඉස්තෝප්පුවට ගොඩ වැදුණු මිනිස්සු කැළඹීමෙන් යුතුව කතාබහ කරති. කිසිවෙකු හුදකලාව නොසිටි අතර, හැම'කෙක්ම ප්‍රශ්න ඇසීමටත්, පිළිතුරු අසා සිටීමටත් මහත් ආසාවක් දක්වූහ. බිත්ති දෙකකට මැදිවූ පටු කොරිඩෝරයේ මිනිසුන් එහා මෙහා ගමන් ගත්තේ දූවිලි සුළං පහරක් නිසා ඇති වන පීඩාවන්ගෙන් මිදීම පිණිස කිසියම් ස්ථිර රැකවරණයක් සොයන්නාක් මෙනි.

බුකින්ගේ වැඩිමහල් සොහොයුරා උසය. හිරු රැස්වලට අසුව පිලිස්සී ගිය රත් පැහැති මුහුණක් ඔහුට තිබෙනුයේ. දැත් වැනූ හෙතෙම කිසියම් අදහසක් ස්ථිර කිරීමට මෙන් කතා කළේය:

''අර ජනපද නායකයාට මෙතැන සුදුසු තැනක් නොවෙයි...''

''කොන්ස්තන්තින්! කට වහපිය.'' ඔහුගේ පියා කීවේය. මහලු, කුඩා සිරුරකින් හෙබි හෙතෙම බිය ගත් ඇසින් බැලුවේය.

''නැහැ. මා කියන්නේ, එයා ගැන පැතිරිලා තිබෙන කතාවක් ගැනයි. එයා ළඟ සිටි සේවකයෙකුව මරා දමලා ඒ මිනිහගෙ බිරිදව බලෙන් තියා ගත්තා. දැන් ඒ ගෑනි එක්ක ජීවත් වෙන්නෙ. කොහොමද ඒක තෙරුම් ගත යුත්තේ? ඒ විතරක්ද ඒ මිනිහ ලෝක ප්‍රසිද්ධ හොරෙක්...''

''අනේ දෙවියනේ... කොන්ස්තන්තින්, කට වහපිය!''

''ඇත්ත! කතාව ඇත්ත! නාඩු ඇසීම එතරම් හරි නැහැ...'' මෙසේ කීවෙ සමෝයිලොව්ගේ පියාය.

ඔහුගේ කටහඬ ඇසුණු විගස ඔහු දෙසට පැමිණි බුකින් දැත් වනමින් කතා කළේය. කැළඹීම නිසා ඔහුගේ මුහුණ රත් පැහැ ගෙන තිබිණි.

''මංකොල්ල කෑවාට, හොරකම් කළාට ඇහෙන නඩුවලට ජූරි සභාවක් පත් කරනවා. එවැනි 'ජූරි සභාවලට ගොවියන්ව, මැද පන්තියෙ අයවලුන්ව පත් කරනව. ආණ්ඩුවෙ ලොක්කන්ට විරුද්ධ මිනිසුන්ගෙ නඩු අහන්නෙ ඒ ලොක්කොමයි. ඒ කොහොමද? උඹ මට හිරිහැර කළාම මම උඹේ හොම්බට අනිනව. ඉතින් උඹම ඒ නඩුව අහනව. නඩුත් රාළහාමිගෙ, බඩුත් රාළහාමිගෙ. මම වැරදිකාරයා වෙන එක කියන්ට ඕනය. ඒ වුණාට උඹ නෙව ඉස්සෙල්ලාම මට හිරිහැර කළේ?''



ගිරා හොටක් වැනි නාහයක් ඇති, පදක්කම් රාශියක් පැළඳ ගත් මහලු මුර සෙබලෙක් බුකින් දෙස බලා තර්ජනාත්මක ලෙස ඇඟිල්ලක් දිගු කළේය:

''ඇයි බං මිනිහෝ! කට වහගනින්. මෙතන තැබෑරුමක් කියල හිතුවද!''

''මේ අහනාව පදක්කම් දිනාගත් වීරයා.'' යැයි බුකින් මුර සෙබලා ඇමතීය. ''මම තමුසෙට පහරක් ගහල, ඒ නඩුව මම ම අහපුවාම මොනවා වෙයිද...''

''මම උඹව මෙතැනින් පන්නා දමනවා, ඒකයි වෙන්නෙ!'' මුර සෙබලා පිළිතුරු දුන්නේය.

''කොහාටද? මොකටද?''

''මහ පාරට. උඹේ කෑ ගැසීම නවත්වන්ට...''

බුකින් වට පිට බැලිය.

''ප්‍රධාන දේ නිශ්ශබ්දව ඉඳීමයි...''

''උඹ හිතන්නෙ මොකක් කියලද?!'' මුර සෙබලා බෙරිහන් දුන්නේය.

බුකින් දැත් වනා සෙමින් කතා කළේය:

''හොඳයි, මොකද මහ ජනයට නඩුව බලන්ට අවසර දීල නැත්තේ? මොකද නෑදැයින්ට විතරක් අවසර දීලා තියෙන්නෙ? නඩු ඇහීම සාධාරණ නම් හැමදෙනාම ඉදිරිපිට නඩු අහන්ට ඕන. බය වෙන්නෙ ඇයි?''

සමෝයිලොව් තම අදහස නැවත කියා පැවෙ උස් හඬිනි:

''නඩුව සාධාරණ නැති බව ඇත්ත!..''

නිකොලායි මේ නඩුව අසාධාරණ බව කී සැටි ඔහුට පැහැදිලි කර දීමට අම්මාට උවමනාවක් ඇතිවූ නමුදු එද ඔහු කී වචන අඩ වශයෙන් අමතක වූ බැවින් නිහඬ වූවාය. එද නිකොලායි තමාට කී වචන නැවත සිහියට නගා ගනු වස් පැත්තකට වී කල්පනා කරන්ට වූ අම්මා තමා දෙස උවමනාවෙන් බලන තරුණයෙකු දුටුවාය. ඔහුගේ උඩු රැවුළ රන් පැහැතිය. එක් අතක් කලිසම් සාක්කුවට ඔබා ගෙන සිටි ඔහුගේ උරහිසක් උසය. ඔහු හොඳහැටි දක්ක පුරුදු පුද්ගලයෙකු බව ඇගේ වැටහීම වුවද, ඔහු පිටුපා ගියෙන් අම්මා ඔහු අමතක කර දැමුවාය.

විනාඩියකට පසු පැනයක් නගනු ඇයට ඇසිණි:

''එයාද?''

කවුදෝ ඉතා සතුටෙන් පිළිතුරු දුන්නේය:

''ඔව්!''

ඈ හැරී බැලුවාය. ඇද වී ගිය උරහිස් ඇති එකා අඩ වශයෙන් තමාට පිටුපා සිට ගනිමින් අසල සිටින එකෙක් සමග කතා කරයි. ඔහු කළු ඇස්

බැමි ඇත්තෙකි. කෙටි කබායක් ඇඟලා සිටි හෙතෙම දණහිස් තෙක් උස 'බූට්ස්' දෙකක් පැළඳ සිටියේය.

නැවත ඇගේ සිත ගැස්සී ගොස් කැළඹීමක් ඇතිවූ නමුදු පැහැදිලි කිසිවක් මතක් කර ගැනීමට ඇ අපොහොසත් වූවාය. තම පුතා පිළිබඳ ඇත්ත ජනතාවට කියා දිය යුතුය යන හැඟීම ඇගේ සිත් සතන් පුබුදුවා ළමින් නැඟී සිටියේය. එම සත්‍යයට එදිරිව ජනතාව මොනවා කියාවිද්දැයි අසා දැන ගැනීමේ අසාවකි, ඇ තුළ උපන්නේ. ඔවුන්ගේ හැඟීම් අනුව නඩු තීන්දුව ගැන අනුමාන වශයෙන් යමක් තීරණය කිරීම ඇට උවමනා විය.

''මෙහෙමත් නඩු අහන සිරිතක් තියනවද?''යි ඇ සිසෝව්ට ඇසෙන සේ කීවාය. ''අරක කවුද කළේ, කොහොමද කළේ යන්න අහනව මිසක් මක්නිසාද එය කළේ කියල අහන්නේ නැහැ. නඩුකාරයො හැමදෙනාම හද්ද නාකි. තරුණයින්ගෙ නඩු අහන්න ඕන තරුණයො...''

''ඔව්!'' යැයි සිසෝව් ඊට එකඟ වෙමින් හිස වැනීය. ''ඔය වැඩ අපිට තේරුම් ගැනීම අමාරුයි,'' කීවේය.

උසාවි ශාලාවේ දෙර හැර දැමූ මුර සෙබලා මහ හඩින් කෑ ගැසීය:

''නැදෑයෝ නම් උඹලගෙ ටිකට් පෙන්නා පල්ලා!..''

නැයෙක් සන්සුන් ලෙස මෙසේ කීය:

''ටිකට්, හරියට සර්කස් පෙන්වන්ට වගෙ!''

හැම දෙනා තුළම ඇති වූයේ හදවත් කුප්පන හැඟීමෙකි, කැළඹීමෙකි, ඔවුහු වඩාත් නිදහස් ලෙස හැසිරෙමින් කෑ ගසමින් මුර සෙබලා සමග වාද විවාද කරන්ට වූහ.

## XXV

බංකුව මත වාඩි ගනිමින් සිසෝව් මොනවාදෝ දෙඩවීය.

''උඹ මොනවාද කීවේ?'' අම්මා විතාළාය.

''නැහැ, නිකම්! මිනිස්සු මෝඩයො...''

සීනුව නාද විය. කවුදෝ උදාසීන හඬකින් කතා කළේය:

''නඩුව පටන් ගනී...''

සියල්ලෝම නැගිට සිටියාහ. පෙරසේම නඩුකාරවරු පෙළ ගැසී අවුත් වාඩිවූහ. විත්ති කාරයෝ ගෙනෙන ලදහ.

''අහගනින්! රජයේ නීතිවේදියා කතා කරන්ට යනව,'' මෙසේ කීවේ සිසෝව්ය.

අම්මා හිතියට පත් වූවා බෙල්ල දිගු කර ගනිමින් ඉදිරියට නැඹුරුවෙමින් ත්‍රාසජනක යමක් ඇසීමට බලාපොරොත්තු වූවාය.





නැගිට සිට ගත් රජයේ නීතිවේදියා තම වැළමිටක් උස මේසයක් මත තබා ගෙන විනිශ්චය මණ්ඩලය දෙසට හිස හරවා, දකුණු අත වනමින් සිය දේශනය ඇරඹුවේය. ඔහුගේ කතාවේ මුල කොටස අම්මාට තේරුම් ගැනීමට බැරි විය. ඔහු කතා කළේ බර වචන වලිනි. වරෙක හඬ නගා කතා කරන හෙතෙම තවත් වරෙක සෙමින් යමක් කියයි. එකාකාර අදහස් ඇති වචන වැලකි ඔහු ඇද බානුයේ. සීනි කැටයක් මත වැසූ කළු මැස්සන් සේ වරෙක නොඉවසිල්ලෙන්ද තවත් වරෙක කරකැවෙමින්ද ඔහුගේ වචන ඇද වැටේ. එහෙත් ඔහුගේ කතාවේ ත්‍රාසජනක, බියමුසු, තර්ජනාත්මක කිසිවක් ඇ නොදුටුවාය. හිම මෙන් සීතල අඳුරු, අළු ගොඩක්සේ නඩු ශාලාව පුරා ඔහුගෙ වචන විසිර ගියේය. අසා සිටින්නවුන්ගේ සිත් උදාසීන ගතියකින් පුරවා ලිය. තේරුම් රහිත එම වචන පාවෙල් සහ ඔහුගේ සගයින් තුළ කිසිදු හැඟීමක් ඇති කිරීමෙහි අපොහොසත් විය. කිසිවෙක් ඔහුගේ වචන ගණනකටවත් නොගත්හ. පෙර මෙන්ම වාඩි ගෙන සිටි ඔවුහු ශබ්ද පිට නොවන සේ කතා බහ කළාහ. සමහරු මඳ සිනා පෑහ. සමහරුන් මුහුණු පැහිරි කර ගත්තේ සිනාසීම සඟවනු පිණිසය.

''බොරු කියනවා!'' සිසෝව් මුමුණුවේය.

ඇයට එසේ කිව නොහැක. ඔහුගේ දේශනය ඇයට ඇසේ. ඔහු පාවෙල් ගැන කියන අතර පියෝදර් මාසින් ගැනද කියයි. සියල්ලන්ටම චෝදනා කරයි. පාවෙල්ට එදිරිව චෝදනා ඉදිරිපත් කරන රජයේ නීතිවේදියා බූකින්ටද එම චෝදනාවම එල්ල කරයි. විත්තිකරුවන් සියළුදෙනාවම එකම මල්ලක් තුළට ඔබා, අසුරා, එහි කට මසා දමන්නාක් මෙනි ඔහු කතා කරනුයේ. ඔහුගේ වචන හා අදහස් නිසා ඇ බිය නොවූවාය. ඔහුගේ තර්ක අසතුටුදායකය. ඒවා නිසා ඇ කෙරෙහි හැඟීමක් ඇති නොවිය. එහෙත් ඔහුගේ වචනවලද, කටහඬෙහිද, මුහුණේද, ඇස්වලද, සුදු පැහැති අතේද සැඟවී ඇති බියජනක යමක් සෙවීමෙහි නිරතවූ අම්මා ත්‍රාසය මුසු අවසානය එන තුරු බලා සිටියාය. කිසියම් බියජනක දෙයක් පටන්ගෙන තිබෙන බව ඇයට හැඟී ගියද එය බඳ අල්ලා ගැනීමට ඇ අපොහොසත් වූවාය. නැවතත් එම හිතිය හදවත පුරවාලිය.

ඇ විනිශ්චයකරුවන් දෙස බැලුවාය. ඔවුන්ද ඔහුගේ කතාවට කන් දෙන්නේ ඕනෑ-එපාවට මෙනි. අප්‍රාණික කහ සහ අළු පැහැති ඔවුන්ගේ මුහුණු කිසිදු හැඟීමක් පළ කළේ නැත. ඇසට නොපෙණෙන අඳුරු වළාකුළක් සේ ඔහුගේ කතාව පාවෙන්ට විය. නඩුකාරවරු වටා කැටි දූම් පටලයක් මෙන් එය වැඩිණි. ඔවුන්ගේ උදාසීන බව හා විඩාපත් බව බලාපොරොත්තුව නැමති මේ දූම් පටලය විසින් ගිලදමන ලදී. අඟ

විනිශ්චයකරු නොසෙල්වී ගල් ගැසී බලාගෙන සිටියේය. ඔහුගේ ඇස් කණ්ණාඩිවලට යටින් කළු ලප මතුවී ඒවා මුහුණ පුරා විහිද ගියේය.

ජීවය රහිත ක්‍රියා විරහිත බවද කෲරත්වයෙන් තොර, උදසීන බවද දකින අම්මාගේ සිත තුළ නිරායාසයෙන්ම පැන නැඟුණු ප්‍රශ්නයකි.

''නඩු අසන හැටිද?''

එම ප්‍රශ්නය හදවත විනිවිද යමින් බියජනක බලාපොරොත්තුව පිටත ඇද දැමුවේය. අමනාපය තියුණු විය.

බලාපොරොත්තු රහිත ලෙස රජයේ නීතිවේදියාගේ කතාව අවසන් විය. ඔහු විනිශ්චයකරුවන් දෙස බලා හිස පාත් කරමින් දෙඅත් පිරිමැද වාඩි ගත්තේය. රදළ නායකයා කතිකයා දෙස බලා හිස වැනුවේ. ඔහුගේ කතාව අනුමත කළාක් මෙනි. පුරපති අත දි පැසසූ අතර ජනපද නායකයා තම උදරය දෙස බලමින් මඳ සිනා පෑවේය.

එහෙත් නඩුකාරවරු ඔහුගේ දේශනයෙන් සතුටු නොවූවාක් මෙන් නොසෙල්වී උන්හ.

''පෙදෙසියෙව්, මාර්කොව් සහ සභාරව් වෙනුවෙන් පෙනී සිටිනා නීතිඥතැනට කතා කිරීමට අවසර දෙමි,''යි අග්‍ර විනිශ්චයකාර මහල්ලා කඩදසි කැබැල්ලක් නහයට ළංකර ගෙන තතන තතනා කීවේය.

නිකොලායිගේ නිවසේදී අම්මා දැක පුරුදු නීතිවේදියෙකි, මේ වර නැගී සිටියේ. ඔහුගේ මුහුණ කරුණාවෙන් පිරිලාය. හේ දැකුම්කලුය. ආලෝකධාරා විහිදුවන ඔහුගේ කුඩා ඇස් මඳ සිනා පායි. හෙතෙම ඉවසිලිමත්ව පැහැදිලිව හඬ නගා කතා කරයි. එහෙත් අම්මාට ඔහුගේ කතාව අසා ගැනීමට බැරි විය. සිසෝව් ඇගේ කනට කොඳුරයි:

''එයා කී දේ තේරුණාද? මිනිස්සුන්ට මොළේ නැති නිසා කැළඹීම්වලට පත් වෙලා. ඒ පියෝදර් ගැනද?''

බලාපොරොත්තු සුන්වීම නිසා ඇ ගත සිත ගොළු වී ගියාක් මෙනි. ඇ පිළිතුරු නොදුන්නාය. සිත පාගා දමමින් අමනාපය වැඩෙයි. තමා සාධාරණත්වය බලාපොරොත්තු වූයේ ඇයිද යන්න දැන් ඇට වැටහේ. තම පුත්‍රයා සටන් කරන සත්‍යය ඉතා දැඩි ලෙස සාධාරණ අධිකරණයක් මඟින් විසඳන්නේය යනු ඇගේ හැඟීම විය. තම පුතු කැඳවා බොහෝ වෙලාවක් ඔහුගෙන් ප්‍රශ්න අසනු ඇතැයි ඕ සිතුවාය. ඔහුගේ හැඟීම් තියුණු ඇසින් පිරික්සන නඩුකාරවරු ඔහුගේ සිතැඟියාවන් හා වැඩ කටයුතු දැඩි පරීක්ෂාවට භාජන කරනු ඇතැයි ඇ කල්පනා කළාය. ඔහු නිවැරදි බව එවිට ඔවුන්ට පැහැදිලි වනු ඇත. ඔහුගේ වැඩවල සාධාරණත්වය දකින විනිශ්චයකාරවරුන් හඬ නගා කතාකරනු ඇති:

''ඒ මිනිහා නිවැරදිය!''



එහෙත් සිදු වූයේ තමා නොසිතූ විරූ දෙයකි. විත්තිකාරයින් නඩුකාරයින්ට නොපෙනෙන දුරක සිටින්නාක් මෙනි. නඩුකාරවරු අතිරේක නුවමනා මිනිසුන් මෙනි. විඩාපත් අම්මා නඩුව කෙරෙහි තිබූ සැලකිල්ල අතහැර දමා අමනාපව සිතන්ට වූවාය:

''මෙහමත් නඩු අහනවද?''

''උන්ගෙ හැටි ඔහොම තමා!'' අම්මා උනන්දු කරවමින් සිසෝව් තොල මතුලේය.

වෙනත් නීතිවේදියෙක් කතාව පටන් ගත්තේය. හේ ප්‍රමාණයෙන් කුඩාය. ඔහුගේ බැල්ම තියුණුය. උපහාසාත්මක ඔහුගේ මුහුණ සුදුමැලිය.

ඔහුගේ කතාවට විනිශ්චයකාරවරු බාධා කළෝය. කිසිවක් කීවේ කෝපයෙනි. ඉන් පසු මහලු අග්‍ර විනිශ්චයකාරයාද යමක් කිය. විත්තියේ නීතිවේදියා හිස නමා ඔවුන්ගේ බසට සවන් දී සිය කතාව කරගෙන ගියේය.

''භාරාපත්! භාරා අවුස්සාපත්!..'' යැයි සිසෝව් කොඳුලේය.

නඩු ශාලාව තුළ හුන් අය අතර අමුතු ප්‍රාණවත් ගතියක් දක්නට ලැබිණි. සටන්කාමී බවකින් ශාලාව පිරිණි. නීතිවේදියාගේ තියුණු කතාව අග්‍ර විනිශ්චයකරු මහල්ලාගේ කොරසැඩි හමට දහසක් ඉඳිකටු තුඩුවලින් අනින්ට විය. නඩුකාරවරුන් හරිබරි ගැසී වාඩිවී බුම්මාගෙන සිටියේ විත්තියේ නීතිවේදියාගේ කටින් ඇද හැලෙන හිසැර වැනි තියුණු වචනවලින් ආරක්ෂා වීමට මෙනි.

පාවෙල් නැගී සිටිත්ම ශාලාව පුරා පැතිර ගියේ නිහඬතාවයකි. අම්මා ඉදිරියට නැඹුරුවූවාය. පාවෙල් සන්සුන් ලෙස කතාව ඇරඹීය.

''පක්සයේ සාමාජිකයෙකු වන මම, මගේ පක්සයේ තීරණය පමණක් පිළිගනිමි. මා නැගිටලේ මගේ ආරක්සාව සඳහා කතා කිරීමට නොවේ. මා වගේම තම නිදහසට කරුණු ඉදිරිපත් නොකොට නීති වේදීන් ප්‍රතික්ෂේප කළ අනෙක් සගයින්ගේ ඉල්ලීම පිට තමුන්නාන්සේලාට නොතේරුණු කරුණු පමණක් විස්තර කර දීමට මම වෑයම් කරමි. සමාජ ප්‍රජාතන්ත්‍රවාදයේ ධජය යටතේ අප පැවැත්වූ පෙළපාලිය ශ්‍රේෂ්ඨ පාලනයට එදිරිව ගෙනගිය කැරැල්ලක් හැටියට රජයේ නීතිවේදියා හැඳින්වූවා. සාර්ට එදිරිව කැරලි ගැසූවන් හැටියට අප දෙස බලන මෙන් ඔහු ඉල්ලා හිටියා. සාර්ගේ හිතුවක්කාර පාලනය අප රට බැඳ දමා තිබෙන එකම දම්වැලයැයි අපි කියන්නේ නැහැ. එහෙත් අප විසින් පළමුව විනාශ කර දැමිය යුතු දම්වැල එයයි. ජනතාව නිදහස් කර ගැනීම සඳහා හදිසියෙන්ම කළ යුතු කාරිය එයයේ...''

පාවෙල්ගේ දැඩි කතා විලාසය නිසා ශාලාව තුළ ඇතිවූ නිහඬතාවය එහි බිත්ති පළල් කරන්නාක් මෙනි, පැතිර ගියේ. ඔහු තමාගේ කතාව නිසා ජනතාව අතර කැපී පෙනෙන්නටත්, වඩාත් පැහැදිලිව, ඉස්මතුව පෙනෙන්වටත් විය.

නඩුකාරවරු කලබලවී ඒ මේ අත බැලුවෝය. රදළ නායකයා මූසල නඩුකාරයාගේ කනට කොඳුරා යමක් කීය. ඔහු හිස මුහුණකින් හෙබි නඩුකාරයාගේ කනට කොඳුරා මොනවාදෝ කියන්ට සලා අග්‍ර විනිශ්චයකාර මහල්ලාගේ කනට කොඳුරා මොනවාදෝ කියන්ට විය. රෝගී පෙනුමක් ඇති තවත් නඩුකාරයෙක් මහල්ලාගේ අනික් කනට කොඳුරා යමක් කීවේද මේ වේලාවේදීය. තම අසුනේ ඒ මේ අතට පෙරළුණු මහල්ලා පාවෙල් අමතා කිසිවක් කී නමුදු, පාවෙල්ගේ වේගවත් කතාවට යටවී ගිය ඒ වචන කිපය කිසිවකුට නැසිණි.

''අපි සමාජවාදීන් වෙමු. එයින් තේරුම් යන්නේ පුද්ගල සතු ධන හිමි ක්‍රමයට විරුද්ධ බවයි. ජනතාව බෙද වෙන් කොට, එකිනෙකට පටහැනි උවමනාවන් ඇති කොට, එම බේදය හා සතුරු බව වසා දැමීම හා සාධාරණයැයි පෙන්වීම පිණිස බොරු කීම ධනපති සමාජයේ පොදු අංගයකි. අපි මේ ධනපති සමාජ ක්‍රමයේ හතුරෝ වෙමු. ධනය සැපයීම සඳහා උපකරණයක් ලෙස මිනිහා දෙස බලන එම සමාජ ක්‍රමය පොදු මිනිස් සංහතියට විරුද්ධව නැගී සිටින බව අපි කියමු. එවැනි ධනපති සමාජය අපි ප්‍රතික්ෂේප කරමු. එහි දෙබිඩි, ව්‍යාජ, ප්‍රතිපත්තිය අපි හෙළා දකිමු. මිනිසා නින්දවට භාජන කරන ඒ දූෂ්ට සමාජය අපට සතුරුය. ද්‍රව්‍යමය හා අධ්‍යාත්මික වශයෙන් මිනිසා වහල්බාවයට ඇද හෙලන සමාජ ක්‍රමයට එදිරිවද ආත්මාර්ථකාමීත්වය සඳහා මිනිසා වෙන් කර කැබලි කිරීමට හදන සමාජයට විරුද්ධවද අපි සටන් කරමු. යෝධමය යන්ත්‍ර සූත්‍ර සහ සිඟිත්තන්ගේ සෙල්ලම් බඩු පවා නිර්මාණය කරන පංතිය අපි වෙමු. සිය මිනිස් අයිතිය උදෙසා සටන් කිරීමේ නිදහස අප වෙතින් පැහැර ගෙන තිබේ. හැම එකෙක්ම අප තමන්ගේ උපකරණයක් කර ගැනීමට මාන බලයි. නියමිත කාලසීමාවක් තුළදී මුළු මහත් රාජ්‍ය පාලනයම කම්කරු පංතිය සතු වනසේ ක්‍රියා කිරීමට හැකි නිදහසක් අප සතු විය යුතුය. අපේ උද්යෝගපාඨ අතිශයින්ම පැහැදිලිය. පුද්ගලික ධන හිමි ක්‍රමය භංග වේවා! නිෂ්පාදන ක්‍රම සැම එකක්ම ජනතාව සතු විය යුතුය. රටේ පාලන බලය ජනතාව අතට පත් විය යුතුය. හැම කෙනෙකුම වැඩ කළ යුතුය. අපි කැරලිකරුවන් නොවන බව දැන් ඔබට ජේනවා නොවැ!''

මඳ සිනා පැ පාවෙල් ඇඟිලි තුඩු හිස කෙස් අතරින් යැවීය. උපුල් වන් [illegible]ග් ඇස්වල තේජාන්විත බව වඩාත් වැඩිවිය.



''නඩුවට අදල කරුණු කියනවා,'' යැයි මහලු විනිශ්චයකරුවා ඔහුට දන්විය. ඔහු පාවෙල් දෙස හැරී ඕනෑකමින් බැලුවේය. ඔහුගේ වම් ඇස හැකිලී ගොස් කෝපය පළ කරන බවකි අම්මාට දැණුනේ. නඩුකාරවරුන් හැමදෙනාම තම පුතා දෙස රවා බලන්නේ ඔහුගේ ලේ උරා බී තමන්ගේ අබල-දුබල ශරීරයන් ශක්තිමත් කර ගැනීමේ ගිජු ආශාවකින් යැයි අම්මාට හැගේ. පාවෙල් උසය, හීන්දෑරිය, කඩවසම්ය, සෘජුය. නඩුකාරවරුන් දෙසට අතක් දිගු කොට ගෙහෙම සිය දේශනාය කරගෙන යයි:

''අපි විප්ලවවාදීහු වෙමු. කොටසක් වැඩ කරන අතර තවත් කොටසක් අණ දෙන තුරු අපි විප්ලවවාදීන් ලෙස ක්‍රියා කරමු. තමුන්නාන්සේලට ආරක්සා කරන ලෙස නියම කර ඇති එම සමාජයට එදිරිවය අප නැගී සිටින්නේ. එම සමාජය හා තමුන්නාන්සේලාත් අපත් අතර ඇත්තේ සමාදාන කළ නොහැකි අරගලයකි. එම අරගලය අවසන් වන්නේ අපේ ජය ස්ථිර වීමෙනි. එතෙක් අප දෙපස අතර සාමයක් නැත. කම්කරුවන් වන අපි ජය ලබන්නෙමු! තමුන්නාන්සේලාගේ නායකයෝ විශ්වාස කරන තරම් ඔවුහු ශක්තිමත් නොවෙත්. දස ලක්ෂ සංඛ්‍යාත ජනගහනයක් වහල්බාවයට ගෙන ඔවුන් බිලිකරගන්නා ධනපති සමාජය ජනතාව පාගා ගෙන ඔවුන් අතර සතුරුබව වර්ධනය කොට ශාරීරික හා අධ්‍යාත්මික අතින් ඔවුන් විනාශකර දමයි. පුද්ගල ධන හිමි ක්‍රමයේ ආරක්සාව සඳහා විශාල පරිත්‍යාග තම සේවකයින්ගෙන් බලාපොරොත්තු වෙයි. ඇත්ත වශයෙන්ම, මහත්වරුනි, තමුන්නාන්සේලා අපටත් වඩා වහල්ලුය. තමුන්නාන්සේලා අධ්‍යාත්මික වශයෙන් වහලුන් බවට පත්වී තිබේ. අප වහලුන් වී සිටිනුයේ ශාරීරික වශයෙන් පමණකි. නැවත අමුතු ලෙස කල්පනා කිරීමට තමුන්නාන්සේලාට ශක්තියක් නැත. පැරණි අවුවන් බැසගත් මර්දන ක්‍රමය විසින් තමුන්නාන්සේලා පාගා දමා තිබේ. අධ්‍යාත්මික වශයෙන් මරා දමා තිබේ. අපේ සිත් නිදහස්ව තබා ගැනීමට කිසිදු බාධාවක් නැත. තමුසෙලා අපට දෙන වස-විස, තමුසෙලා විසින් නොදනුවත්ම අපේ හිස්වලට ඇතුල් කරන විෂ විරෝධී අදහස්වලට වඩා අඩුය. එම විෂ විරෝධී යහපත් අදහස් නොනැවති සීඝ්‍ර වේගයෙන් වැඩෙමින් පවතී. තමුන්නාන්සේලා අතර තිබෙන යහපත් අදහස් ආදිය හැමදෙයක්ම අප විසින් උකහාගනු ලැබේ. බලන්න! ඔබලාගේ රජය ආරක්සා කරනු වස් ද්‍රෘෂ්ටිමය වශයෙන් තර්ක විතර්ක ඉදිරිපත් කිරීමට සමත් ඔලු ඔය පැත්තේ නැත. ඓතිහාසිය සාධාරණත්වය වටා වැටවල් බැඳීම පිණිස ඔබලා විසින් ඉදිරිපත් කරනලද තර්ක සියල්ල ගෙවී කඩතොලුවී ගොසිනි. අදහස්, සිතුවිලි හා ද්‍රෘෂ්ටිමය වශයෙන් වඳ බව ලබා තිබෙන තමුන්නාන්සේලාට අළුත් අදහස් කිසිවක් ඉදිරිපත් කිරීමට බැරිය. අපේ

අදහස් හා සිතුවිලි වැඩෙමින් දස දහස් ගණන් ජනතාව පුබුදුවා ලමින් නිදහස සඳහා ඔවුන් සංවිධානය කරමින් දීප්තිමත්ව බැබලෙමින් නැගී එයි. කම්කරු පංතියේ ශ්‍රේෂ්ඨතම කාරිය පිළිබඳ හැඟීම නිසා ඔවුන් අතර අන්තර්ජාතික සමගියක් ඇති වී තිබේ. කෲරත්වය සහ නින්ද කිරීම හැරුණුවිට අන් කිසිවකින් වැඩී එන ඒ නව ජීවය තාවකාලිකව හෝ නැවැත්වීමට අපොහොසත් වෙයි. නින්ද කිරීම විසින් කෲරත්වය කුප්පනු ලබයි. අද අපේ ගෙල මිරිකන අත් හෙට සෝයුරන් සේ අප සමග අත්වැල් බැඳගනු ඇත. තමුසෙලාගේ බලය රත්රන්වල බලය මෙන් යාන්ත්‍රිකය. එහි බලය විසින් කාංඩවලට ගොඩ ගැසෙන ධන පති පංති කොටස් එකිනෙකා ගිල ගනු ලැබේ. අපේ බලය ජංගම ශිලි ජීවමය ශක්තියකි. එය සියලුම කම්කරුවන් අතර සහයෝගිතාවය තහවුරු කරයි. තමුසෙලා අපරාධ කාරි ක්‍රියා කරති. ජනතාව වහල් බවට ඇද දමති. තමුසෙලා විසින් මවන ලද බොරු, නපුරුකම, කැදරකම ජනතාව බිය වද්දන දුෂ්ට ගති නැමති භූතයන්ගෙන් ලෝකය නිදහස් කර ගැනීම අපේ කාරියයි. මිනිස් ජීවිතයට වස දී එය විනාශ කර දමන ලද්දේ ධනපති සමාජය විසිනි. ධනපති සමාජය විසින් විනාශ කර දමනු ලැබූ ලෝකය නැවත සමගි කර එක් කරන්නේ සමාජවාදය විසිනි. ඔව්, එය සිදු වෙනවා සහතිකයි.

මොහොතකට නැවතුණු පාවෙල් නැවත වරක් සෙමින් එයම කීවේය.

''එය සිදු වෙනවා සහතිකයි!'' විනිශ්චයකාරවරු කසු කුසු ගාන්නට වූහ. පාවෙල් දෙස රවා බැලූ ඔවුහු තම මුහුණු ඇද කර ගත්හ. පාවෙල්ගේ සිහින් කඩවසම් කය ඔවුන්ගේ රැවුම් නිසා දූෂණය වන්නේයැයි අම්මාට සිතෙයි. අනිකුත් විත්තිකරුවෝ තම සගයාගේ කතාවට සවන් දුන්නේ මලානික මුහුණුවලින් සහ දීප්තිමක් නොත්වලිනි. අම්මා ඔහුගේ වචන ගිල ගත්තී, ඒ හැම වචනයක්ම අවබෝධ කර ගැනීමට යුහුසුලු වූවාය. අග්‍ර විනිශ්චයකාර මහල්ලා කීප වරක්ම පාවෙල්ගේ කතාවට බාධා කොට වරක් දුක්මුසු සිනාවකින්ද සංග්‍රහ කළේය. නිහඬව ඒවා අසා ගෙන හුන් පාවෙල් නැවත සිය කතාව පටන් ගත්තේ දැඩිවය. එහෙත් සන්සුන් බව එලෙසම පැවතිණ. පාවෙල් තම දැඩි ආත්මශක්තිය මෙහෙයවා නඩුකාරවරුන්ගේ අභිප්‍රායයන් යටපත් කර දැම්මේය. මහල්ලා අන්තිමේදී ඉවසා ගත නොහී කෑ ගැසුවේ, පාවෙල් වෙත අතක්ද දිගු කළේය. එයට පිළිතුරු වශයෙන් උස් හඬින් කතා කළ පාවෙල් උපාහාසාත්මක ලෙස සිනා සුණේය.

''මගේ කතාව අවසන් කරන්නම්. තමුන්නාන්සේලාට පුද්ගලිකව නින්ද කිරීමට මා අදහස් කළේ නැහැ. තමුසෙලා කියන මේ නඩු විසඳීම නැමති විකට රැඟුමට සහභාගි වීමට තරම් අවාසනාවකට තමුන්නාන්සේලා



ගොදුරු වීම ගැන මගේ අනුකම්පාව හිමි වෙනවා. මාද එයට සහභාගි වන්නේ අකමැත්තෙනි. කෙසේ වුවත් තමුන්නාන්සෙලාත් මිනිස්සු. අපට හතුරු වුවද මර්දනයට පක්සව මෙතරම් නින්දනීය ලෙස සේවය කිරීම නිසා මිනිස් සංහතියේ ගෞරවයට පවා තමුන්නාන්සේලා විසින් කැළලක් ඇති කර තිබේ. එවැනි මිනිසුන් දකින විට අප තුළද ඇති වන්නේ චිත්ත සන්තාපයකි...''යි කියමින් තම දීර්ඝ දේශනය අවසන් කළ පාවෙල් නඩුකාරවරුන් දෙස නොබලාම වාඩි වූණේය.

හුස්ම පවා නොගත් අම්මා නඩුකාරයින් දෙස බලාගෙන උන්නාය.

ප්‍රීතියෙන් ඉපිල ගිය අන්ද්‍රේ පාවෙල්ට අත දෙමින් සතුට පළ කළේය. සමෝයිලොව් හා මායින්ද අනිකුත් සගයින්ද අත දෙමින් පාවෙල්ට ප්‍රශංසා කළාහ. සහෝදරවරුන්ගේ ප්‍රශංසා නිසා තරමක් ලජ්ජාවට පත්වූ පාවෙල් ඇත වාඩි ගෙන හුන් අම්මා දෙස බැලුවේ යමක් අසන්නාක් මෙනි:

''කොහොමද?''

දිග හුස්මක් ඉහළට ඇද ගත් අම්මා පුතා දෙස බැලුවේ සෙනෙහස මුසු ප්‍රීතියෙන් යුතුවය.

''නඩු විසඳීම පටන් ගන්නේ දැන් තමා!'' සිසෝව් කොඳුළේය.

''කොහොමද මිනිහා දීපු බැටේ!''

පුතා මෙතරම් නිර්බීත ලෙස කතා කළ නිසාදෝ නැතිනම් ඔහු සිය කතාව අවසාන කළ නිසාදෝ, අම්මා හිස වැනුවාය. ඇගේ හිත තුළ පැන නැගී ප්‍රශ්නය මෙයයි:

''හොඳා, දැන් ඉතින් මොනවද කරන්නේ?''

## XXVI

පුතා කළ කතාවේ අම්මා නොදන්නා අළුත් දේ කිසිවක් නොවීය. ඒ අදහස් මීට පෙර ඈ දැනසිටියද එහි ඇති අරුම පුදුම සිත් ඇද ගන්නා සුලු ශක්තිය ඇට වැටහුනේ දැන්ය. පාවෙල්ගේ උප සාන්ත බව දුටු අම්මා විස්මය පත් වූවාය. ඔහුගේ කතාව ඇගේ හදතුළ තැන්පත් වූයේ දීප්තිමත් තරු ගොඩක් මෙනි. ඔහුගේ අදහස් නිවැරදි බවත් ඒවා ස්ථිරවම ජය ගන්නා බවත් ඇයට සහතිකය. විනිශ්චයකාරවරු දුෂ්ටලෙස තර්ක විතර්ක පටන් ගෙන තමන්ගේ අදහස නිවැරදි යැයි ඔප්පු කිරීමට මහන්සි ගන්නවාට සැක නැතැයි ඈ සිතුවාය. එහෙත් අන්ද්‍රේ නැගී සිට යවැසින් නඩුකාරයින් දෙස බලා කතා කළේය:

''විත්තියේ මහත්වරුනි...''

''යුෂ්මතා ඉදිරිපිට විනිශ්චය මණ්ඩලයක් මිස විත්තියක් නොවේ!'' යැයි ලෙඩ මුහුණක් ඇති නඩුකාරයා කෝපයෙන් බෙරිහන් දුන්හෝය. එහෙත් අන්ද්‍රේගේ විලාසය දකින අම්මා, ඔහු විනිශ්චයකරුවන් 'මෝඩයින් කිරීමට' යන බව කල් ඇතිව වටහා ගත්තාය.

අන්ද්‍රේගේ උඩු රැවුල නැටවිණ. බළලෙකුගේ කපටි පෙනුමක් ඔහුට ආරූඪ විය. තම දිගු අතින් හේ හිස පිරි මැද්දේය. පසුව දිග හුස්මක් ගත්තේය.

''ඒකත් එහෙමද?'' හිස වනා ඔහු කීවේය. ''මගේ අදහස තමුසෙලා නඩුකාරවරුන් නොවේ. විත්තිකාරයින් බවයි...''

''නඩුවට අදාල දේ විතරක් කතා කරපන්!'' අග්‍ර විනිශ්චයකරු මහල්ලා කීවේය.

''අදාල දේද? හොඳා! මම ඉස්සෙල්ලා හිතුවා තමුන්නාන්සේලා ඇත්ත වශයෙන්ම නිදහස් අවංක නඩුකාර හාමුදුරුවරු කියල...''

''යුෂ්මතාගෙ රෙකමදුරු විනිශ්චය මණ්ඩලයට අවශ්‍ය නැහැ!''

''අවශ්‍ය නැද්ද? හ්ම්! මම දිගටම කතා කරන්නම්... තමුන්නාන්සේලාට අජේය, පිටස්තරය කියා පුද්ගලයින් නැත. නිදහස් මත ධාරීන්ය ඔබ තුමන්ලා. ඔබ ඉදිරිපිට පක්ෂ දෙකක්. මගේ ඉන ඉහ අත ගාගෙන, මංකොල්ල කා, හොම්බට ඇන්නාය කියලා එක පැත්තක් පැමිණිලි කරනවා. එවිට අනික් පැත්ත කියනවා මට එසේ මංකොල්ල කෑමට සහ පහර දීමට අවසර තිබෙන්නේ මා අත තුවක්කුවක් තියන නිසා යැයි කියල...''

''නඩුවට අදල යමක් තිබෙනවාද?'' උස් හඬින් කතා කළ අග්‍ර විනිශ්චයකාර මහල්ලා ඇසුවේය. ඔහුගේ අතක් වෙව්ලන්ට වූයෙන්, ඔහු කෝපවූ බව අම්මා දුටුවාය. එයින් ඈ සන්තෝෂයට පත් වූවාය. එහෙත් අන්ද්‍රේගේ හැසිරීම ඈ සිත් නොගත්තාය. පුතාගේ කතාව සමග අන්ද්‍රේගේ හැසිරීම නොගැලපෙයි. බරපතල උණුසුම් විවාදයකි ඇය බලාපොරොත්තු වූයේ.

හොහොල් මහල්ලා දෙස බැරෑරුම් ලෙස බලා හිස කසා මෙසේ කීය:

''අදල කරුණු? මම මොකටද අදල කරුණු ගැන කියන්නෙ? ඔබ තුමන්ලා විසින් දැනගත යුතු කරුණු දැනටම අපේ සගයා පැහැදිලි කළා. ඉතිරි දේ අනිකුත් අය විසින් ඔප්පු කර පෙන්වාවි...''

මහල්ලා නැගිට්ටේය:

''යුෂ්මතාට වැඩිදුර කතා කිරීම තහනම්! ග්‍රිගෝරි සමෝයිලොව්!''

දෙතොල් තද වන සේ කට වසා ගත් හොහොල් බංකුව මත වාඩි වෙත්ම, සමෝයිලොව් නැගිට සිටියේ තම කෙස් කැරලි ගසා දමමිනි.



''රජයේ නීතිවේදියා අප අභිලාචාරීන් හැටියට හඳුන්වා දුන්නා. සභ්‍යත්වයේ හතුරන් හැටියට පෙන්වා දුන්නා...''

''යුෂ්මතුන්ගේ නිදහසට පමණක් කරුණු කිව යුතුය!..''

''මේක එයට අයිති දෙයක් නමා. අවංක මිනිසුන්ට සම්බන්ධ නැති දේවල් ඇත්තේ නැහැ. මගේ කතාවට බාධා කරන්ට එපා කියා මම ඉල්ලා සිටිනවා. තමුන්නාන්සේලාගේ සභ්‍යත්වය කුමක්ද?යි මම අසනවා.''

''අප මෙතැන රැස්වී ඉන්නේ වාද කරන්ට නෙවි. නඩුව විසඳන්ටයි!'' මහල්ලා මෙවර කෑ ගැසුවේ දත් විලිස්සමිනි.

අන්ද්‍රේගේ හැසිරීම විසින් විනිශ්චකාරවරුන් කුජපත ලදි. ඔහුගේ කතාව හි සැර මෙන් ඔවුන්ගේ අළු පැහැති මුහුණුවල ලප ඇති කළේය; ඇස්වලින් කෝපය පිට කළේය. පාවෙල්ගේ කතාව නිසාද ඔවුන් තුළ හට ගත්තේ කෝපයකි. එහෙත් පාවෙල්ගේ දැඩි ආත්ම ශක්තිය හා වේගවත් කතා විලාසය ඉදිරියේ ඔවුන්ට හිස නැමීමට සිදු විය. අන්ද්‍රේ සිය හැඟීම් අනාවරණය කළේය. විනිශ්චයකාරවරු මුහුණු ඇද කර ගනිමින් කසු කුසු ගැහ. තමන්ට නොපුරුදු වේගයකින් ඔවුහු ක්‍රියාකාරී වූහ.

''තමුසෙලා වර පුරුෂයින්ව ඇති දැඩි කරනවා. ස්ත්‍රීන් හා තරුණියන් දූෂණය කරනවා. මිනිසුන්, හොරුන් හා මිනීමරුවන් බවට පත් කරනවා; වොඩ්කා විසවලින් මිනිසුන් විනාශ කරනවා. අන්තර්ජාතික වශයෙන් මිනී මැරීම්, ලෝක ජනතාව මුලා කරන බොරු කීම, දූරාචාරය, වනචාරීන් ලෙස හැසිරීම, එයයි තමුන්නාන්සේලාගේ සභ්‍යත්වය! ඔව්, එවැනි සභ්‍යත්වයක සතුරෝ අපි වෙමු!''

''විනීතව හැසිරෙන්න'' යැයි නඩුකාර මහල්ලා කෑ ගසත්ම ඔහුගේ නිකට වෙව්ලන්ට විය. එහෙත් කතාව නොනවත්වා කර ගෙන ගිය සමෝයිලොව්ද කෝපයෙන් රත් පැහැගත් මුහුණක් ඇත්තේ මහල්ලා අබිබවා කෑ ගැසීය:

''තමුසෙලා විසින් සිරගෙවලට දැමූ පිස්සන් බවට පත් කළ අය නිර්මාණය කළ සංස්කෘතියට, සභ්‍යත්වයට අපි ගරු කරමු...''

''කතා කිරීම තහනම්! මීළඟට පියෝදර් මාසින්!''

පුංචි මාසින් නැගිට සිටියේ, මේ දැන් මල්ලක් තුළින් එළියට ඉදි කටුවක් පැන්නාක් මෙනි. ඔහු සිහින් හඬින් මොර ගැවේය:

''මම දිවුරා කියන්නම්, දැනටමත් මට තීන්දුව දීලා ඉවර බව.''

ඔහු හුස්ම ගත්තේය: මුහුණ සුදුමැලි විය. සුදුමැලි මුහුණේ දෙඇස් පමණකි ප්‍රාණවත් බවක් ඉසුළුවේ. අත දිගුකරමින් හෙතෙම ගුගුලේය:

''මා කියන්නේ අවංකව, සම්පූරණ ඇත්ත. මොන දඬුවමක් දුන්නත්

පැන ගිහිං අන්තිම හුස්ම දක්වා මේ ව්‍යාපාරයේම වැඩ කරනවා. සම්පූර්ණ ඇත්ත!''

සිසෝව් ඉබේටම මෙන් කෑරුවේය. බංකුව මත ඒ මේ අත පැද්දිණ. විත්තිකරුවන්ගේ දෙමව්පියවරු සහ නෑයෝ කුපිතව නොසන්සුන් වූහ. ගැහැණියක් හඬා වැටුණාය. එකෙක් කහින්ට විය. පොලිස් බටයෝ විත්තිකරුවන් දෙස විස්මය පත්වද ඔවුන්ගේ දෙමාපියන් ඇතුළු පිරිස දෙස කෝපයෙන්ද බැලූහ. විනිශ්චය කාරවරු ඒ මේ අත පැදුනාහ.

මහල්ලා ගුගුළේය:

''ගුසෙව් ඉවාන්!''

''කතා කරන්නේ නෑ!''

''වසිලි ගුසෙව්!''

''ප්‍රතික්ෂේප කරනව!''

''බූකින් පියෝද්‍රර්!''

සුදු පැහැති ගැටවරයෙක් සෙමින් නැගිටවේය, හිස වැනුවේය.

''ලජ්ජා නැතිද! මම හෙමින් කාරණා අවබෝධ කර ගන්නා මිනිහෙක් වුණත් මටත් සාධාරණත්වය ගැන යමක් තේරෙනෙවා!'' ඉන්පසු අත උස්සා ගත් හෙතෙම ඇස් හකුළුවා ගනිමින් ඇත කිසිවක් බැලීමට මෙන් නැත් කළේය.

''යුෂ්මතාට මක් වෙලාද?''යි කෝපයට පත් මහළු විනිශ්චයකාර තැන ඇසුවේ ආසනයේ පිටි ඇන්දට හේත්තු වෙමිනි.

''යකාට පළයව්...''

බූකින් බුම්මා ගෙන බංකුව මත වාඩි විය. ඔහුගේ නොපැහැදිලි අඳුරු වචනවල කිසියම් එශාල වැදගත් දෙයක් තිබිණි. එහි කණගාටුදයක දෙස් පවරන සහ ළාමක අදහස්ය. හැමදෙනාටම ඔහුගේ කතාව අවබෝධ වූයේ එකාකාර ලෙසය. එම කතාවේ අදහස්වලට වඩා පැහැදිලි යමක් එහි දෝංකාරය විසින් හෙළි කරාවි යන සැකය ඇත්තේ නඩුකාරවරු පවා එයට සවන් දුන්හ. නඩුව බැලීමට පැමිණි අය වාඩි වී හුන් බංකුවල නිහඬතාවය මළගෙයක සිරි ඉසිලීය. එකකු හෝ දෙදෙනෙකු හෝ වැලපෙන. හඬ යම්තමින් ඇසේ. රජයේ නීතිවේදියා දෙළුර හකුළුවා සිනාසුණේය. රදළ නායකයා කහින්ට විය. නැවත ශාලාව තුළ කසු කුසුව ඇසෙන්නට විය.

අම්මා සිසෝව් දෙසට නැඹුරුවී කොඳුළාය:

''නඩුකාරවරු කතා කරාවිද?''

''සියල්ල අවසානයි... දැන් තියෙන්නෙ තීන්දුව දීම·විතරයි...''

''වෙන කිසිවක් නැතිද?''



''නැහැ...''

අම්මා ඔහු විශ්වාස නොකළාය.

සමෝයිලොව්ගේ මව් වැළම්ටෙන් හා උරහිසෙන් අම්මා තල්ලු කරමින් තම සැමියාට ඇසෙන සේ මුමුණුවාය.

''එහෙම කොහොමද? එහෙමත් පුළුවන්ද?''

''පේනව නෙව, පුළුවනි!''

''අපේ ග්‍රීෂාට මොනවා වේද?''

''කරබාගෙන ඉඳහං!..''

හැම දෙනාගේම සිත් තුළ බිඳිගිය චංචල ස්වභාවයක් පැන නැංගේය. තමන් ඉදිරිපිට කිසියම් පැහැදිලි, තේරුම් ගත නොහැකි එහෙත් සිත් ඇදගන්නා සුලු බලයක් ඇති යමක් මතුවූවා සේ මිනිස්සු ඇස් හකුළුවා ගත්හ. ශ්‍රේෂ්ඨ කිසියම් දෙයක් තමන් ඉදිරියේ මතුව් තිබෙන බව වටහා ගැනීමෙහි අපොහොසත්වූ ඔවුහු තමන් දන්නා සුළු දේ ගැන කල්පනා කිරීම වස් මුළු ශක්තියම යෙදවූහ. බූකින්ගේ පියා මැලි නොවී හඬ නගා ප්‍රශ්න කළේය:

''කතා කරන්ට ඉඩ දෙන්නේ නැත්තේ ඇයි? රජයේ නීතිවේදියාට ඔන තරම් වෙලා කතා කිරීමට අවසර තියෙනව...''

බංකුව අසලට පැමිණි නිලධාරියෙක් පහත් හඬින් කතා කළේය:

''නිශ්ශබ්ද වෙයල්ලා! නිශ්ශබ්ද වෙයල්ලා...''

බිරිඳ අසලින් වාඩිවී හුන් සමෝයිලොව්ගේ පියා පස්සට නැඹුරුවී කනාට කොඳුරා කීවේය. ඔහුගේ කටින් පිට වූයේ බිඳී ගිය වචන රැසකි.

''සත්තකින්ම උන් වැරදිකාරයො තමා. ඒ වුණත් නුඹලාට විස්තර කිරීමට අවසර දීපන්! ඒ ගොල්ල කඩ කළ නීතිය මොකක්ද කියා පැහැදිලි නොකරන්නේ ඇයි? මා කැමතියි දැන ගන්ට! මට මගේම සැලකිල්ලක් තිබෙනවා...''

''නිශ්ශබ්ද වෙයන්!'' යැයි ඔහු වෙත දබ'රැගිල්ල දිගු කළ නිලධාරියා තර්ජනය කළේය.

සිසෝව් රවා බලමින් හිස වැනීය.

නඩුකාරවරුද කුප්පනු ලැබූ කලෙක මෙන් කසු කුසු ගාමින් එක්නෙකා දෙස බලන සැටි අම්මා දුටුවාය. ඔවුන්ගේ කසු කුසුව හා ඉරියව්ද දකින අම්මාගේ හිත දෙදරී ගොස් කම්මුල් වෙව්ලන්ට පටන් ගත්තාය. ඔවුන් කතා කරන්නේ තම පුතා ඇතුළු සගයින්ගේ ශරීර ගැනත්, අත් පා සහ මස් ගොබ ඇතුළු තරුණ ලේ ගැනත් යැයි අම්මාට හැඟෙන්නේ මන්දැයි ඇ නොදන්නීය. තම පුතා ඇතුළු පිරිසගේ යෞවන සිරුරු දකින නඩුකාරයින් තුළ ඇති වී තිබෙනුයේ සිඟන්නන්ගේ සිත්හි පැන නගින

ද්වේෂයක් හා රෝගීන්ට ඇති වන හැඟීම වැනි කෑදරකමකුත් බව ඇයට වැටහේ. එවැනි ශරීර ධනය, සුඛෝපභෝගී සම්පත්, නිර්මාණයන් කිරීම සහ වැඩ කිරීමෙහි සමත් බව සඳහා යෙදවිය හැකි බව සිතන නිසාදෝ නඩුකාරයින් තලු මරන බව ඇගේ හැඟීමය. දැන් ඒ ශරීර ප්‍රයෝජන ගැනීමේ කවයෙන් ඉවත් වී ගොසිනි. ඒවා පාලනය කිරීම හා එහි ශ්‍රමයෙන් තරවීමට ඇති අවස්ථා අහෝසි වී යයි. මහලු කොටියෙක් ප්‍රණීත ගොදුරක් දැක, එය කෑමට අල්ලා ගැනීමට බැරිව කෝපයෙන් ගැහෙන්නාසේ තරුණයින් දකින කෙලතොලු මහලු නඩුකාරයින් ඔවුන් කෙරෙහි වෛරයෙන් පසු වන බව ඇයට පෙනේ. එවැනි ප්‍රණීත ගොදුරක් තමන් වෙතින් ඈත් වන බව දකින අර කොටි මාල්ලා ගොරවමින් බිම දිගා වන්නා සේය.

නඩුකාරයින් දෙස වඩාත් සැලකිල්ලෙන් බලත්ම ඒ අවිනීත අපුරු හැඟීම අම්මාගේ හිතට වැදෙයි. මීට ඉස්සර බොහෝ ආහාර ලබාගැනීමට හැකියාවක් තුබූ ඔවුන් දැන්, කුසගින්නෙන් සිටින්නන්ගේ කෑදර කමින් සහ බෙලහීනවූ නපුරු බවක් නොසඟවන බව ඇයට හැඟෙයි. සිතැඟියාවන්ට වඩා තම පුතුගේ දේහය අගේ කරන මව කෙනෙකු හා ස්ත්‍රියක් වශයෙනි, ඇ ඔවුන් දෙස බලන්නේ. නඩුකාර මහල්ලන් තම පුතු දෙස බලන සැටිත්, ඔහුගේ පපුව, අත්, උරහිස් හා උණුසුම් හම දෙස අඳුරු ඇස්වලින් බලා සුසුම් ලන සැටිත් දකින අම්මා බිය ගත්තාය. තරුණ මස් පිඩුවලින් තම කණාවූ ලේ නහර පණ ගන්වා ගැනීම් වස් උෂ්ණත්වය ලබා ගැනීමට මෙන් ඔවුහු ඔහු දෙස බලති. කෑදරකම හා වෛරය නැමති දුර්ගුණවලින් ආස්වාදය ලබා ගත් නඩුකාර මහල්ලෝ දැන් ඒ යෞවන සිරුර හෙළා දැකීමට සූදානම් වෙත්. අඳුරු කෙලතොලු මහල්ලන් තමා දෙස බලමින් 'ඇස් වහ කටවහ ගන්නා සැටි' පාවෙල්ට පවා දැනෙන බවකි අම්මාට සිතෙන්නේ.

පාවෙල් අම්මා දෙස බැලුවාය. ඔහුගේ ඇස්වල විඩාපත් ගතියකි. එහෙත් ඔහුගේ බැල්ම මුදුය, දයාන්විතය, සුරතල්ය. ඉඳහිට ඔහු ඇ දෙස බලා හිස වනා මඳ සිනා පායි.

''ඉක්මනින් නිදහස!'' ඔහුගේ එම බැල්ම ඇගේ හදවතට කොඳුරා කියයි.

හිටිහැටියේ විනිශ්චයකාරවරු නැගී සිටියාහ. අම්මාද නැගී සිටියේ හිතා මතා නොව ඉබේටමය.

''ඔන්න ගියා!'' යැයි සිසෝව් කීය.

''තීන්දුව දෙන්වද්ද?''යි අම්මා ඇසුවාය.

''ඔව්...''



ඇගේ නොසන්සුන්තාවය අතුරු දහන් විය. ඇඟ පත, විඩාව විසින් පොඩි කර දමන ලදී. ඇඟි බැම් නැටවුණු අතර නළලෙන් දහදිය වැගිරෙන්නට විය. බලාපොරොත්තු කඩවීමේ දුක්බර හැඟීම් හා අමනාපය හදවත බද ගත්තේය. නඩු විභාගය සහ විනිශ්චයකරුවන් කෙරෙහි ඊර්ෂ්‍යා සහගත සිතිනි ඇය බැලුවේ. තම හිය කකියන්ට වූයෙන් ඈ අතක් ඔසවා අත්ලෙන් නළල පිරිමැද්දය. විත්තිකරුවන්ගේ මව්පියවරු හා නෑදෑයෝ ඔවුන් වෙත ගියහ. නඩු ශාලාව පුරා කතාබහ කරන හඬ පැතිර යයි. අම්මාද පාවෙල් වෙත ගොස් ඔහුගේ අත තදින් අල්ලා ගනිමින් හඬා වැළපුනාය. දුක්බර හැඟීම් මුසු ප්‍රීතියද බලාපොරොත්තු කඩවූ හැඟීම් සමග වෙලෙමින් නැගී සිටියේය. පාවෙල් ඇය අමතා සුරතල් බසින් කතා කළේය. හොහොල් විහිළු කතා කියමින් සිනා සුණේය.

හැම ගැණියක්ම හඬා වැලපුණේ තමන්ට ඇබ්බැහි වුණු පුරුද්ද නිසා මිස කනගාටුව නිසාම නොවේ. වැහි නැති හෙන මෙන් හිටි හැටියේ හිස මත පතිත වනු දුක් කනගාටුවක් දකින්ට නොතිබිණි. තම පුතුන්ගේ වෙන් වීමේ දුක්ඛදායක හැඟීම නැගී සිටි නමුදු මේ දිනවල හටගත් සිදුවීම් නිසා එය ඈත් වුණේය. පියවරු සහ මව්වරු සංකීර්ණ හැඟීම් වලින් යුතුව තම පුතුන් දෙස බැලූහ. තමන්ගේ වැඩිහිටි අත්දැකීම්වල උසස් බව, යෞවනත්වය දෙස බැලුවේ අවිශ්වාසයකින් වුවද මේවර එම හැඟීම පුදුම ලෙස අභිකූත් හැඟීම් සමග මුසු විය. තම පුතුන් කෙරෙහි එක්තරා ගෞරවයක්ද, මින් පසු ජීවත් වන්නේ කෙසේද යන හැඟීමද පළ කළාහ. අළුත් ජීවිතයක් ගැන අභීත ලෙස කියා පාන යෞවනත්වය ගැන බිය මුසු කුතුහලයකින් යුතුවද ඔවුහු බලති. තමන්ගේ සිත තුළ පැන නගින සංකීර්ණ හැඟීම් වචනවලට පෙරලීමෙහි අසමත්වූ ඔවුහු බොහෝසේ කතා කළාහ. වාම් දේ ගැන උපදෙස් දුන් ඔවුහු යට ඇඳුම් සහ ඇඳුම් පැළඳුම් ගැනද, සෞඛ්‍ය තත්ත්වය ආරක්ෂා කර ගැනීමේ අවශ්‍යතාවය ගැනද කීහ.

වැඩිමහල් බූකින් තම මල්ලිට කතා කරමින්, ඔහුට ඒත්තු ගැන්වීම් වස් දෙඅත් වැනිය:

''ඇත්ත වශයෙන්ම සාධාරණත්වය! එයට වැඩිය කිසිවක් එපා!''

''බූකින් බාලයා පිළිතුරු දුන්නේය:

''උඹ කුරුල්ලාව ආරක්සා කර ගනිපන්...''

''ඌව බලා ගන්නම්!..''

සිසෝව් තම බෑණාගේ අතක් අල්ලා ගනිමින් සෙමින් කතා කළේය:

''ඉතින්, පියෝදර්, උඹ එහෙනම් යනව...''

පියෝදර්, සිසෝව්ගේ කණට කොඳුරා රහසක් කියා මදක්

සිනාසුණේය. අසල සිටි සොල්දාදුවෙක්ද ඔහු දෙස බලා මඳ සිනා පෑ නමුදු සැනෙකින් රවා බලා කට ඇද කර ගත්තේය.

අම්මා අනිත් අය මෙන් පාවෙල් සමග සනීපාරක්ෂාව ගැනද, ඇඳුම් ගැනද කතා කළාය. එහෙත් ඇගේ සිතේ සාෂා ගැනද, පුතු ගැන සහ තමා ගැනද ප්‍රශ්න රාශියක් මතු විය. එහෙත් ඒ හැම ප්‍රශ්නයකටම යටින් පුතා කෙරෙහි ඇති අසීමිත ආදරය සහ ඔහුගේ සිත් දිනා ගෙන, ඔහුගේ හදවතට ළංව වැඩ කිරීමට ඇති ඉමහත් ආශාවද පැසෙමින් තිබිණි. බියජනක අවසානයක බලාපොරොත්තුව මිය ගියේය. නඩුකාරවරුන් ගැන කතා කරන විට පමණක් අප්‍රිය සහගත හැඟීමක් මතු වී ආවේය. තම සිත්හි විශාල ප්‍රීතියක් ඇති වුණද එහි හරය අවබෝධ කර ගැනීමට ඇ අපොහොසත් වූවාය. හොහොල් හැම දෙනා සමගම කතා කරන සැටි දකින අම්මා, ඔහුට පාවෙල්ටත් වඩා සැනසිලි බස් අවශ්‍ය බව වටහා ගත්තී, ඔහු සමග කතාවට වැටුනාය:

"නඩුව ඇහුන හැටි මගෙ හිතට අල්ලන්නේ නැහැ!"

"ඇයි නෙන්කො එහෙම කියන්නෙ. මෝල පරණ වුණත් තිදි කිරන්නෙ නැතෙයි කියල කතාවක් තියෙනව නෙව..." යැයි හොහොල් කීවේ සිනාසෙමිනි.

"බියජනක නැත්ව වගේම මහ ජනයට ඇත්ත කොයි පැත්තේ දැයි කියල තෝරා ගන්ටත් බැරි වෙලා තියෙන්නෙ," අම්මා කීවේ වැනෙන ගතියකිනි.

"මදැ අම්මාටත් උවමනා වෙලා තියෙන දෙයක හැටි! මෙතැන පුළුවන්ද ඇත්ත සොයා බලන්න?.."

දිග සුසුමක් හෙලූ ඇ මඳ සිනා පෑවාය.

"මා හිතුවෙ හරිම බයක් ඇති වේවි කියල..."

"නඩු තීන්දුව දීම ආරම්භවේ!" යන හඬ ඒ සමගම වාගේ පැතිර ගියෙන් හැම දෙනම තම තමන්ගේ ආසනවල වාඩි ගත්හ.

මේස කොණකට අත ගසා ගත් මහ නඩුකාර තැන කඩදසි කොළයක් තම මුහුණ වැසෙන සේ අල්ලා ගනිමින් දුර්වල හඬින් නඩු තීන්දුව කියැවිය.

"නඩු තීන්දුව දෙනවා!" යැයි සිසෝව් කොඳුලේය.

නිසලතාවය පැතිර ගියේය. සියල්ලෝම නැගිට සිට ගත්හ. හැම දෙනාම මහලු නඩුකාරයා දෙස බැලූහ. කුඩා වියලි සිරුරක් ඇති මහල්ලා කෙළින් සිට ගත්තේය. අවිද්‍යමාන අතක් විසින් ඔහු අල්ලා සිටින්නාක්මෙනි. විනිශ්චයකාරවරුද නැගී සිටියාහ. ජනපද නායක තැන උඩ බලා ගෙන වහලේ උළු ගණන් කරන්ට විය. පුරපති තෙමේ දෑත් බැඳගෙන සිටියේය. රදළ නායක තෙමේ යටි රැවුළ අත ගෑවේය. ලෙඩ



මුහුණක් ඇති නඩුකාරයා සහ ඔහුගේ තරබාරු සගයාත් රජයේ නීති වේදියාත් චිත්‍රකරුවන් දෙස බැලූහ. නඩුකාරවරුන්ට පිටු පසින් සාර් රජුගේ පින්තූරයකි. එහි උන් සාර් රතු ඇඳුමකිනි සැරසී සිටියේ. ඔහුගේ ඇස්වල උදාසීන බවකි. කැරපොත්තෙක් ඒ කිසිවක් ගණන් නොගෙන ඔහුගේ මුහුණ මත ගමන් කළේය.

"සියලු දෙනාවම පිටුවහල් කරනවා!" යැයි කී සිසෝව් සැහැල්ලු සිතින් සුසුම් ලෑවේය. "අනේ දෙවියනේ! දෙවියන්ට පින් සිද්ද වේවා. කිව්වා නොවැ බරපතල වැඩ ඇතිව සිරගෙට දමාවි කියල! දූන් ඉතින් කමක් නැහැ, අම්මෙ! නරක නැහැ!"

"මාත් දන ගෙන හිටියා," යැයි අම්මා විඩාපත් හඬින් කීවාය.

"මෙනවා වුණත් දූන් ඉතින් ස්ථිරයි. නැතිනම් මොනව වේදැයි කවුද දන්නෙ?" මෙසේ කී සිසෝව් චිත්‍රකරුවන් දෙස හැරී කෑ ගැසීය:

"පියෝද්‍ර්, ආයුබෝවන්! සියලු දෙනාටම දෙවි පිහිටයි!"

අම්මා නිහඬව පුතා හා අනිත් චිත්‍රකරුවන් දෙස බලා හිස වැනුවාය. ඇයට හැඬීමට සිත් වුවද, ලජ්ජාව එයට ඉඩ නොදිනි.

## XXVII

උසාවියෙන් පිටත ගිය ඇ, රෑ වී තිබෙන සැටි දකින්නී පුදුමයට පත් වූවාය. වීදිවල පහන් දල්වේ. අහසේ තරු බැබළේ. උසාවිය අසල සෙනඟ රැස් කමින් සිටියාහ. දැඩි ශීතල හා තුෂාරය නිසා හිම කැට පොඩි වන විට ශබ්දයක් පිට වෙයි. එකිනෙකාට බාධා කරමින් තරුණයෝ හඬ නගති. අළු පැහැති බෂ්ලිකයක්* පැළඳ සිටි මිනිහා සිසෝව් දෙස බලමින් කලබලයෙන් ප්‍රශ්න කළේය:

"මොකක්ද තීන්දුව?"

"පිටුවහල් කළා."

"හැම දෙනාවමද?"

"හැම දෙනාවම."

"ස්තුතියි!"

මිනිසා ඉවත් විය.

---

* බෂ්ලිකය: ඝන රෙදි වර්ගයකින් සාදන හිම තොප්පි වර්ගයකි. කවරයක් වැනිවූ එම හිස්වැස්ම දෙපසේ දිග පටි දෙකකි. අනුවාදක

"ජේනවද?"යි සිසෝව් ඇසුවේය. "අහනවා..."

ඔවුන් දෙදෙනා මෙ වර තරුණ තරුණියන් දසදෙනෙකු විසින් වට කරන ලදී. මිනිසුන් අද ගැනීමෙ කතාබහ ඇසිණ. අම්මා සහ සිසෝව් නැවතුණාහ. නඩු තීන්දුව ගැනත් විත්තිකරුවන් හැසුරුණු ලීලාව ගැනත් ඔවුන් කළ කතා ගැනත් ඇසූහ. ඒ හැම විමැසිල්ලක්ම කැදර කුතුහලයක් අවංකබව සහ උණුසුමත් ගැබ්ව තිබිණි. ඒ ඉල්ලීම සතුටු කරවීම සඳහා පෙළඹීමකි ඔවුන් තුළ ඇති වූයේ.

"මහත්වරුනි! ඒ පාවෙල් ව්ලාසව්ගේ අම්මා!" එකෙක් සෙමින් කිවේය. එකවර නුවූවද හැම එකෙක්ම ඉක්මනින් නිහඬ වූහ.

"ඔබට අත දී ආචාර කිරීමට අවසර දෙන්න!"

කිසිවෙකුගේ ශක්තිමත් අතක් අම්මාගේ අත ගෙන ආචාර දක්විය. කැළඹී ගිය කටහඬකින් කතා කරනවා ඇසිණ:

"ඔබගෙ පුතා අප හැමගෙම එඩිතර බවේ ආදර්ශයකි..."

"රුසියානු කම්කරුවාට ජය වේවා!" යන හඬ ගිගුම් දුන්නේය.

කෑ ගැසීම් වැඩි විය. දියුණු විය. අම්මා සහ සිසෝව් වටා මිනිස්සු රැස් වූහ; එකිනෙකා තල්ලු කරමින් පොර කෑහ. පොලිසියේ නළා හඬ පැතිර ගියේය. එහෙත් කෑ කෝ ගැසීම් ඒවාට යට නොවිය. මහල්ලා සිනාසුණේය. අම්මාට නම් සියල්ල මිහිරි සිහිනයකි. ඇයද සිනාසුණාය; අතට'ත දුන්නාය; ආචාර කළාය; සතුටු කඳුළු වැගුරුවාය. විඩාපත්වීම නිසා ඇගේ කකුල් ගැහෙන්ට විය. ප්‍රීති සන්තෝෂයෙන් පිරී ගිය ඇගේ හදවත සැම දෙයක්ම ගිල ගනිමින් පිරිසුදු ජලයෙන් පිරි පොකුණක සිරිය පෑවේය. ඈ අසල සිටියෙක් කැළඹීගත්, එහෙත් පැහැදිලි හඬකින් කතා කළේය:

"සහෝදරවරුනි! රුසියානු ජනතාව ගිල ගන්නා දුවැන්ත රාක්ෂයා අද නැවතත් ඉමහත් කැදරකමින් යුතුව මිනිසුන්ව, ගිල්ලේය..."

"අම්මේ, අපි යමු!" මෙසේ කිවේ සිසෝව්ය.

මේ වේලාවේදී කොහේදෝ සිට පැමිණි සාෂා අම්මාගේ අතින් අල්ලා ගෙන විදියේ එහා පැත්තට ඇය ගෙනගියාය:

"යමු හනික. පොලිසිය ගහවි. නැතිනම් සිරබාරයට ගනීවි. පිටුවහල් කළාද? සයිබීරියාවටද?"

"ඔව්, ඔව්!"

"එයා කොහොමද කතා කළේ? මම ඒ ගැන දන්නවා. එයා හැම දෙනාටම වැඩිය ශක්තිමත්, ඒ වගේම චාම්. හැම දෙනාටම වැඩිය දැඩි බව සහතිකයි. ඔහු නිහතමානිය, මුදුය. එහෙත් තමාගේ හැටි හෙළි කිරීමට එයා ලජ්ජයි."



ඇගේ උණුසුම් තොල මැතිරීම, ඔහු කෙරෙහි ඇති ඇගේ ආලය අම්මාගේ සිත් කැළඹීම තුනී කොට විඩා ගති පහකොට ශක්තිය ලබා දුන්නාය.

"එහෙනම් එයා ළඟට යන්නේ කවදද?" යැයි අම්මා සාෂාගෙන් ඇසුවේ සුරතල් බසින් හා පහත් හඬින්. අම්මා ඇගේ අත ගෙන තම ළයට කිට්ටු කර ගත්තාය. විශ්වාසයෙන් යුතුව අනාගතය දෙස බලන තරුණිය පිළිතුරු දුන්නාය:

"මගේ වැඩ කොටස ඉටු කරන්න පුළුවන් කෙනෙකු සොයා ගත් විගසම මම එය කරනවා. මමත් නඩු තීන්දුව බලාපොරොත්තුවෙන් තමා ඉන්නේ. සමහර විට මාවත් සයිබීරියාවට පිටුවහල් කරාවි. එතකොට මම කියනවා එයා ඉන්න තැනට මාව යවන්නෙයි කියලා."

පිටුපසින් ගමන් ගත් සිසෝව්ගෙ කටහඬ ඇසිණ:

"එහෙනම් එයාට මගෙ සුබපැතුම් පිරිනමන්න! සිසෝව්ගෙන් කියන්න. එයා මාව දන්නවා. පියෝදර් මාසින්ගේ මාමාගෙන් කියන්න..."

හැරී බැලූ සාෂා නැවතී අත දුන්නාය.

"මම ජේද්යාව අඳුණනවා. මගේ නම සාෂා."

"පියාගෙ නම අනුව?"

ඈ ඔහු දෙස බලා පිළිතුරු දුන්නාය:

"මට පියෙක් නැහැ."

"මළාවෙන්ට ඇත..."

"නැහැ. එයා ජීවත් වෙනවා!" කුප්පනු ලැබූ තරුණියගේ පිළිතුර විය. මුරණ්ඩු දැඩි ගතියක් ඇගේ කටහඬෙහි සහ මුහුණේ පෙනෙන්ට තිබිණි. "එයා ඉඩම් හිමියෙක්. දැන් ගම්බාර නායකයෙක්. ගොවියන්ගෙන් සොරකම් කරනවා..."

"ඔහෝ!" යැයි සිසෝව් කිවේ උදසීනත්වයෙන් යුතුවය. තරුණිය අසලින් ගමන් කළ හෙතෙම ඈ දෙස ඇස් කොණින් බැලුවේය.

"අම්මේ, ආයුබෝවන්! මට වමෙන් හැරී යන්ට තියෙනව. ආයුබෝවන්, නෝන මහත්තය. තාත්තා ගැන ඔය ළමය තදින් කතා කරනව! සත්තකින්ම ඒක ඔය ළමයගෙ වැඩක්..."

"ඔබේ පුතා නරක මිනිහෙක් නම්, ජනතාවගෙ හතුරෙක් නම්, ඔබට විරුද්ධ නම්, ඔබ මොනවා කියාවිද?" බලවත් හැඟීමෙකින් යුතුව සාෂා කෑ ගැසුවාය.

"මදෑ, කියන්නම්!" මහල්ලා පිළිතුරු දුන්නේ එකවර නොවේ.

"එහෙනම් සාධාරණත්වය ඔබට පුතාට වැඩිය වටිනවා, මටත් එය තාත්තාට වැඩිය අගෙයි..."

සිසෝව් මද සිනා පාමින් හිස වැනුවේය. පසුව හුස්ම ගනිමින් කතා කළේය:

''මදෑ-තරම! හරි දක්සයි! උඹලගෙ හයිය ඇතිනම් මහල්ලන්ව පෙරලා දමාවි. උඹලාගෙ වැර වැයම ඒ තරම් විසාලයි!.. ආයුබෝවන්, ඔබලට හැම අතින්ම ජය පතනව. මහජනයා වෙත වඩාත් කරුණාවෙන්, හොඳේ? නිලව්නා, ආයුබෝවන්! පාවෙල් දකපු වේලාවක කියන්ට එයාගෙ කතාව ඇසුවයි කියල. හැම දෙයක්ම තේරුම් ගැනීමට බැරි වුණා. සමහර දේ ඇසීමට පවා බයයි. නමුත් කියන්ට ඒ කතාව ඇත්ත බව!''

ඔහු තොප්පිය ගළවා ආචාර කරමින් ගාම්බීර ලෙස වංගුවෙන් හැරුණේය.

''ඒ මනුස්සය හොඳ කෙනෙක් වෙන්ට ඕනා!'' ඈත යන ඔහු දෙස සිය විශාල නෙත් වලින් මද සිනා පෑ සාෂා අවධාරණය කළාය.

තරුණියගේ මුහුණ වෙනදට වඩා අද මුදු දයාන්විත බවකින් පිරී ගොස් තිබේ යැයි අම්මාට සිතෙයි.

ගෙදර පැමිණි මේ දෙදෙනා එකිනෙකාට ගැටෙන තරම් ළං ළංව සැටිය මත වාඩි වූහ.. සන්සුන්ව නිද විවේක ගත් අම්මා නැවත පාවෙල් වෙත යන සාෂාගේ ගමන ගැන කතා කළාය. තම ඇස් බැම් ඔසවමින් තරුණිය ඈත බැලුවේ ලොකු ඇස්වලිනි. එහි බලාපොරොත්තු සහිත සිහිනයක් ගැබ්වී තිබිණි. ඈ ඇගේ සුදුමැලි මුහුණ නිරීක්ෂණය කළාය.

''උඹලට දරුවො ලැබුනට පස්සෙ මම උඹලා ළඟට ඇවිත්, ඒ දරු පැටව් බලා ගන්නම්. මෙහෙට වඩා අඩුවෙන් තොරව එහෙ අපට ජීවත් වෙන්ට පුළුවනි. පාෂාට රස්සාවක් හොයා ගැනීමට හැකි වේවි. එයා වැඩට හරි හපනා...''

සාෂා ප්‍රශ්න කළේ අම්මා දෙස පරීක්ෂාකාරී බැල්මක් හෙළමිනි:

''ඔබට හිතෙන්නේ නැතිද දැන්ම එයා ළඟට යන්ට?''

සුසුමක් හෙළමින් පිළිතුරු දුන්නාය:

''මොකක්ද එයාට මගෙන් ඇති ප්‍රයෝජනේ? එයාගෙ පැනයාමට බාධා කිරීම විතරයි. ඇරත් එයා එයට එකඟ වෙන්නේ නැහැ...''

සාෂා හිස වැනුවාය.

''එකඟ වෙන්නේ නැහැ.''

''ඒ විතරක්ද මමත් ව්‍යාපාරෙ වැඩ කරනව නෙව!'' අම්මා කීවේ තරමක ආඩම්බරයෙනි.

''ඔව්!'' කල්පනාකාරී ලෙස සාෂා පිළිතුරු දුන්නාය. එයා හරි හොඳයි...'' තමා සතු දෙයක් විසි කර දමන්නාක් මෙන් හිටිහැටියේ ඈ චාම් තොළස් හඬකින් කතාකළාය.



''එයා එහෙ පදිංචි වෙන එකක් නැහැ. එතනින් පැනලා යාවි සත්තකින්ම...''

''එතකොට උඹට මොනවා වේද?'' ළමයි එහෙම ලැබුනොත්?..''

''එතකොට බලා ගත හැකි වේවි. එයා මාව ගණන් නොගත යුතුයි. මම එයාට බාද කරන්නෙ නැහැ. එයාගෙන් වෙන්වීම මට දුක්බර දෙයක් වේවි. එහෙත් මට එය කළ හැකියි. මම එයාට බාධා කරන්නේ නැහැ, නැහැමයි,''

සාෂා කී විදිහට වැඩ කිරීමෙහි සමත් තරුණියක් බව අම්මා දකින්නී දුක් වූවාය. ඇය වැළඳ ගත් අම්මා මෙසේ තෙපළාය:

''මගේ ආදරණීය කෙල්ලේ, උඹට අමාරු දනේවි!''

ඇය වැරයෙන් වැළඳ ගත් තරුණිය මුදු සිනාවක් පෑවාය.

නිකොලායි ආවේ විඩාපත්වය, ඔහු කබාය ගළවමින් ඉක්මනින් කතා කළේය.

''සාෂෙන්කා, ඉක්මනින් පිටවී යන්න! උදේ ඉදල මා වටේ පොලිස් ඔත්තුකාරයො දෙදෙනෙක් එළිපිට ඇවිදිනව. මාව සිරබාරයට ගන්ට පුළුවනි. මොනවා හරි දෙයක් සිද්ද වී තිබෙන බව මට ඉවකින් වගෙ දැන ගැනීමට පුළුවන්. මෙන්න පාවෙල්ගෙ කතාව. එය මුද්‍රණය කිරීමට තීරණය කර තිබෙනවා. මේ කතාව ලුද්මිලා වෙත ගෙනයන්න. ඉක්මනින් වැඩ කිරීමට ඉල්ලා සිටින්න. පාවෙල්ගෙ කතාව හරිම අනර්ඝයි, නිලව්නා!.. ඔත්තුකාරයින්ගෙන් බේරෙන්න, සාෂා...''

දැඩි සීතලෙන් පිඩා ලැබූ අත් පිරිමදිමින් කතා කළ හෙතෙම මේසය ළඟට ගොස් ලාච්චු හැර කඩදසි හා ලියවිලි තෝරා විසි කරන්ට පටන් ගත්තේය. සමහර ලියවිලි ඉරා දැම්මේය. කැළඹීමට හා විඩාවට පත් ඔහු සමහර ලියවිලි පැත්තක ගොඩ ගැසුවේය.

''මෙ ළඟදි මම කුණු ගොඩ සුද්ද කරල දැම්මේ. මදෑ ඒ විකට එකතුවුණ කුණු ගොඩේ තරම! නීලව්නා ඔබට ගෙදර රෑ ගත කිරීම ඒ තරම් හොඳ නැහැ. නේද? ගෙවල් පරික්සා කරන්ට එන විට ඉඳීම එතරම් සිත් ගන්නා කාරියක් නොවෙයි. සමහර විට ඔබවත් සිරබාරයට ගනීවි. පාවෙල්ගෙ කතාව අරගෙන එහා මෙහා යාම ඔබේ කාරිය නෙව...'

''මාව මොකට අල්ලාවිද?''යි අම්මා ඇසුවාය...

නිකෝලායි මුහුණට එදිරිව අත ගස්සා දමමින් කතා කළේ විශ්වාසයකිනි:

''මට ඉව තියෙනවා. ඇරත් ඔබට පුළුවනි ලුද්මිලාට උදව් කරන්න, එහෙම නේද? මේ කුණු ගොඩින් ඉක්මනින් ඈත් වෙන්න...''

තම පුතුගේ කතාව මුද්‍රණය කිරීමේ කාරියට සහභාගී වීමට ඉඩ ලැබීම පිළිගත් ඈ පිළිතුරු දුන්නාය:

''එහෙම නම් මම යන්නම්.''

තමා බලාපොරොත්තු නොවූ පරිදි විශ්වාසයෙන් යුතුව ඈ කියා ගත්තේ නොඋස් හඬිනි:

''දැන් ඉතින් මම කිසි දෙයකට බය නැහැ. ජේසුගෙ පිහිටයි!''

''හරි අපූරුයි!'' නිකොලායි කෑ ගැසුවේ ඈ දෙස නොබලමිනි.

''මට කියන්න මගෙ බෑග් එකයි යට ඇඳුම් ආදියයි කොහෙද තියෙන්නෙ කියල. ඔබේ මුරණ්ඩු අත්වලට ඒවා අසු වුණායින් පස්සෙ මගෙ පුද්ගලික ජීවිතයට පවා නිදහස නැතිව ගියා...''

ඉරා දමන ලද ලියවිලි සාෂා ලිපට දැම්මාය. ගිනි දළුවලට අසුව අලු බවට පත්වී යන ඒ කඩදාසි කැබලි දෙස ඈ බලා සිටියේ නිහඬවය.

''සාෂා, ඔයා යන්න!'' යැයි කී නිකොලායි අත දිගු කළේය.

''ආයුබෝවන්! හොඳ පොතක් පිට වුණොත් ගෙන ඒමට අමතක කරන්න එපා. හොඳා, ආයුබෝවන්, ආදරණීය සහෝදරිය! ප්‍රවේසම් වන්න...''

''ඔබ බොහෝ කාලයක් බලාපොරොත්තු වෙනවද?'' සාෂා ඇසුවාය.

''කාටද ඒ ගැන කියන්ට පුළුවන්! මට විරුද්ධ චෝදනා තියෙන්ට පුළුවනි. නීලව්නා, එයා සමග පිටවී යන්න. දෙදෙනෙකු පස්සේ එකවර ලුහු බැඳීම අමාරුයි. තේරුනාද?''

''යන්නම්!'' අම්මා පිළිතුරු දුන්නාය. ''දැන්ම ඇඳ ගන්නම්...''

අම්මා නිකොලායි දෙස මහත් සැලකිල්ලෙන් යුතුව බලන්ට වූවාය. ඔහුගේ සොබාවික දයාන්විත මුදු ගතිය කැළැඹීම නිසා යට පත්වී තිබෙන සැටි ඈ දුටුවාය. අන් අයට වඩා තම හදවතට කිට්ටු ඒ පුද්ගලයාගේ හැසිරීමෙහි බියාදු ගතියක් හෝ කලබල ගතියක් හෝ පෙනෙන්ට නොතිබිණි. ඔහු හැම දෙනා කෙරෙහිම ඒකාකාර සැලකිල්ලක් දක්වයි. හැම දෙනා වෙතම සමාන දයාන්විත බවක් පෙන්වයි. හැමදම ශාන්ත බවක් දරණ හේ තනිය. තම අභ්‍යන්තරයට පමණක් සීමාවූ රහස් ජීවිතයක් ගත කළ ඔහු පෙර මෙන්ම වෙනස් නොවී ජනතාවට ඉදිරියෙන් ගමන් කළේය. ඔහු අන් හැම කෙනෙකුටම වඩා ඇයට ළංවූ බව ඈ දනී. තමාටම විශ්වාස කළ නොහැකි සෙනෙහසකිනි ඈ ඔහු පිදුවේ. දැන් ඔහු නිසා ඈ තුළ ඇති වී තිබෙනුයේ විඳ දරා නොගත හැකි කණගාටුවකි. එහෙත් ඈ තම හැඟීම යටපත් කර දැමුවාය. බුරමින් නැගී එන තම හැඟීම්වලට ඉඩ දුන්නොත් ඔහු කලබලයට පත්වී වැඩ අවුල් ජාලාවක් කර ගනිමින් තරමක උපහාසයට භාජන වන බව ඈ දනී. නිකොලායි එවැනි අඩියකට වැටී සිටිනු දක්මට ඈ අකමැතිය.



අම්මා නැවත කාමරයට ඇතුළු වූවාය. ඔහු සාෂාට අත දෙමින් ආචාර කරයි.

''හරි හොඳයි! එයින් එයාටත්, ඔබටත් දෙන්නාටම සිදු වෙන්නෙ යහපතක්. පුද්ගලික සැපත පොඩියක් බලා ගැනීම එතරම් නරක නැහැ. නීලව්නා, ඔබ ලැස්තිද?'' ඔහු ඈ වෙත අවුත් සිනා පාමින් තම කණ්ණාඩි කුට්ටම හරි ගැස්සුවේය.

''හොඳා ඉතින්, ආයුබෝවන්. මා හිතන්නේ මාස තුන, හතරක් සමහර විට හයමාසයක් විතර යාවි කියලයි! හය මාසයක් එය දිගු කාලයක්... ඔබ අම්මේ ආරක්සා වෙන්න. තේරුණද? වෙන්ව යාමට ඉස්සෙල්ලා සිප වැළඳ ගනිමු...''

හින්දැරි කඩවසම් හෙතෙම තම අත්වලින් ඇගේ ගෙලබද ගත්තාය. ඇගේ ඇස් දෙස බැලූ ඔහු සිනා සෙමින් කතා කළේය:

''මට හිතෙන්නේ මම ඔබට ආලය කරනවාය කියා. මම ඔබව වැළඳ ගන්නා සැටි!''

ඈ නිහඬව ඔහුගේ නළල හා දෙකොපුල් සිම්බාය. එහෙත් ඇගේ අත් වෙව්ලන්ට විය. ඒ බව නොදැණෙන ලෙස ඈ අත් මුදු ගත්තාය.

''හෙට දවස ගැන ප්‍රවේසම් වෙයල්ලා! හෙට අර කොල්ලාව එවා මෙහි තොරතුරු දැන ගන්න. ඒ කොල්ලා ලුද්මිලාගෙ ගෙදරයි ඉන්නෙ. හොඳා, ආයුබෝවන්, සහෝදරියනි! ජය වේවා!..''

වීදිය ඔස්සේ ගමන් කළ සාෂා අම්මාට ඇසෙනසේ තොල මතුළාය:

''එයා මරණයට වුණත් මූණ පාන්නෙ ඔවැනි චාම් ලෙසකින් තමා. ඒ විදියටම තරමක් කලබල වේවි. මරණ මංචකයේදි වුණත් කණ්ණාඩි කුට්ටම ලාගෙන හරි අපූරුයි! කියලා මිය යාවි.''

''මා එයාට ආදරෙයි,'' අම්මා මුමුණුවාය.

''මම පුදුම වෙනවා. ආදරය කරන්නෙ නැහැ! හැබැයි හොඳටම ගරු කරනවා. එයා දයාන්විතයි. සමහර දට මුදුයි. ඒ වුණාට හෝද පාළු වුණු කෙනෙක් වගෙ ඒ හැම දෙයක් තුළම මිනිස් ගති අඩුයි... මට පේන්නෙ පොලිස් ඔත්තුකාරයො අපේ පස්සෙ එන හැඩයි? වෙන්වී යමු. ඔත්තුකාරයෙක් පස්සෙන් එනවා නම් ලුද්මිලාගෙ ගෙදරට යන්ට එපා.''

''මම දන්නවා!'' යැයි අම්මා තෙපළාය. එහෙත් සාෂා දැඩි ලෙස කතා කළාය:

''එහෙම වුණොත් එහි යන්ට එපා! මගේ ගෙදරට එන්න. ආයුබෝවන්!''

ඇය ඉක්මන් ගමනින් වංගුවෙන් හැරී ගමන් කළාය.

# XXVIII

විනාඩි කීපයකට පසු ලුද්මිලාගේ කුඩා කාමරයට වැදුණු අම්මා ගිනි තපිමින් ලිප අසල වාඩි වුණාය. ගේ අයිතිකාරිය කළු පැහැති ගවුමක් ඇඳ, බඳ වටා හම් පටියක් බැඳගෙන කාමරයේ ඔබ මොබ ඇවිදී. අණ දීමකට සමාන ඇගේ කට හඬ කාමරය පුරවා ලයි.

උදුන තුළ ගින්න හඬ පිට කරමින් ඇවිලෙයි. කාමරයේ වාතය ඇද ගන්නා එම ගිනි මැලය ගැහැණියකගේ කතාවට සමානය.

''මිනිස්සුන්ගෙ මෝඩකම නපුරුකමට වඩා වැඩියි. උන්ට පේන්නෙ තමන් අවට ඇති දේ සහ වහාම කළ හැකි දේවල් විතරයි. ළඟ තිබෙන හැම දෙයක්ම පහත්ය. වටිනා දේ තිබෙනුයේ ඈතය. ජීවිතය යහපත් ප්‍රීතිමත් සැහැල්ලු දෙයක් වී මිනිස්සු වඩාත් බුද්ධිමත් වන්නේ නම් එයින් හැම දෙනාටම යහපතකි ඇති වන්නේ. ඒ සඳහා මහන්සි විය යුතුය...''

හිටිහැටියේ අම්මා ඉදිරිපිට නැවතුන ඇය සෙමින් කතා කළේ සමාව ඉල්ලන්නාක් මෙනි:

''මිනිසුන්ව දකින්නේ කලාතුරකින්. කවුරු හරි ගෙට ඇතුළු වුණාම මම කතා කරනව. හරිම විහිළුවක් නේද?''

''ඇයි එහෙම කියන්නෙ?'' අම්මා ප්‍රශ්න කළාය. මේ ගැහැණිය මුද්‍රණය කරන්නේ කොහෙදැයි අවබෝධ කර ගැනීමට ඇ උත්සාහ ගත්තාය. සැක කටයුතු කිසිවක් සොයා ගැනීමට බැරිය. මහ පාරට මුණ ලා ඇති කවුළු තුනකින් යුත් ඒ කාමරය තුළ සැටියක් හා පොත් රාක්කයද, මේසයක් හා පුටු කීපයක්ද, බිත්තිය අසල ඇඳක් සහ එක් මුල්ලක මුණ සෝදන බේසමක්ද තිබිණි. තවත් මුල්ලක උදුනක්ද බිත්තියේ එල්ලා ඇති ඡායාරූප කීපයක්ද විය. හැම දෙයක්ම අළුත්ය පිරිසුදුය. තාපසියක් වැනි ගේ අයිතිකාරියගේ සෙවනැල්ල තෙත ගතියක් ඇති කරයි. කිසියම් ගුප්තමය දෙයක් තිබෙන බව හැඟී ගියද එය කොහි සඟවා තිබේදැයි තේරුම් ගැනීම අපහසුය. අම්මා දොර දෙස බැලුවේ පිරික්සුම් ඇසකිනි. එක් දොරක් පටු කොරිඩෝරයක් දක්වා වැටී තිබේ. අනික් දොර ලිප අසල පිහිටා තිබේ. එය පටුය. උසය.

''මම ආවේ වැඩකටයි!'' ගේ අයිතිකාරිය තමා පිරික්සන බව දකින අම්මා ලජ්ජාවෙන් කීවාය.

''මා දන්නවා! එහෙම නැතුව නිකමට කිසිවෙක් මෙහෙ එන්නේ නැහැ...''

ලුද්මිලාගේ කටහඬෙහි යම්කිසි අමුතු ගතියකි අම්මාට දැනෙන්නේ. ඇ ලුද්මිලාගේ මුහුණ දෙස බැලුවාය. ලුද්මිලා සිත් තොල් සහලින්



සැදිගත් කට කොණකින් මද සිනා පෑවාය. උපැස් යුවළට යටින් බොර පැහැති ඇගේ ඇස් බැබළිණ. අහක බලා ගත් අම්මා පාවෙල්ගේ කතාව ඇය අත තැබුවාය.

''ඔන්න, ඉක්මනින් මුද්‍රණය කරන්ට යැයි කීවා...''

නිකොලායි සිරබාරයට පත්වීම සඳහා ලක ලෑස්ති වෙන සැටි ඈ විස්තර කළාය.

නිහඬව කඩදාසිය බඳ පටියෙහි රුවා ගත් ලුද්මිලා පුටුව මත වාඩි වූවාය. උදුනේ රත් පැහැති එළියේ පිළිබිඹුව ඇගේ උපැස් යුවළ මත දිලිසිණ. උණුසුම් එළියෙන් ඇගේ සන්සුන් මුහුණ වරින්වර බැබැළිණි.

''උන් මාව අල්ලන්ට ආවොත් මම උන්ට වෙඩි තියනවා!'' තොළස් හඬින් එහෙත් තීරණාත්මක ලෙස ඈ කීවේ අම්මාගේ විස්තර කතාවට සවන් දුන් පසුවය. ''බලයට එදිරිව ආත්මාරක්ෂාව සඳහා සටන් කිරීමට මට අයිතියක් තිබෙනවා, පිට අය ඒ සඳහා අභියෝග කරනවිට.''

ගිනි ගත් පැහැය ඇගේ මුහුණෙන් අතුරුදහන් වීමත් සමගම එහි දැඩි බවක් සහ මද උඩඟු ගතියක් මතු විය.

''උඹේ ජීවිතය හොඳ නැති හැඩයි!'' අම්මා දයාන්විත ලෙස හිටිහැටියේ කල්පනා කළාය.

පාවෙල්ගේ කතාව ලුද්මිලා කියවන්ට පටන් ගත්තේ වැඩි සතුටකින් නොවේ. පසුව කතාවේ සටහන් පිටු තුළට හිස ඔබා ගනිමින් කියවන්නට පටන් ගත්තී, කියැවූ පිටු පැත්තක තැබුවාය. කියවා අවසානවූ පසු නැඟී සිටි ඈ අම්මා ළඟට ආවාය.

''ඒක හොඳයි!''

හිස පහතට හරවා ගනිමින් ඈ මොහොතක් කල්පනා කළාය.

''මම ඔබ සමග ඔබේ පුතා ගැන කතා කිරීමට සූදානම් වන්නේ නැහැ. මට එයා මුණගැසිලා නැහැ. කණගාටුදායක කතාවලට මම කැමති නැහැ තමන්ට කිට්ටු කෙනෙක් පිටුවහල් කරන විට ඇති වන හැඟීම මම දන්නවා. නමුත් මම කැමතියි ඔබෙන් එක ප්‍රශ්නයක් අසන්ට. ඔය වගෙ පුතෙක් ඇති වීම හොඳද?''

''ඔව්, හොඳයි!'' අම්මා තෙපළාය.

''ඒ වගේම බයානකයි නේද?''

අම්මා පිළිතුරු දුන්නේ සන්සුන්ව සිනා පාමිනි.

''දැන්නම් බයක් නැහැ...''

දුඹුරු පැහැති අත්වලින් තම හිසකේ සකස් කළ ලුද්මිලා කවුළුව දෙස බැලුවාය. ඇගේ කොපුල් මත සැහැල්ලු සෙවනැල්ලක් නටන්නට විය. යටපත් කර දැමූ සිනාවක සෙවනැල්ලක් විය හැකිය එය.

''මම හනික අකුරු අමුණන්නම්. ඔයාට මහන්සි ඇති නෙව. අමාරු දවසක් ගත කළා. ඔයා හාන්සි වෙන්න. මෙන්න මේ ඇඳේ නිදි ගන්න. මම අද රෑ නිදි ගන්නේ නැහැ. සමහර විට උදව් වුවමනා වුණොත් රැට අවදි කරන්නම්... නිදන්ට යන විට ලාම්පුව නිවා දමන්න...''

ලිපට දර කොට දෙකක් දමා නැගී සිට, උඳුන අසල ඇති පටු දෙර හැරගෙන ඇතුළු වී අඟුළු ලෑවාය. පිටුපා යන ඇ දෙස බැලූ අම්මා ඇඳුම් උනා දමමින් ගේ අයිතිකාරිය ගැන සිතන්ට වූවාය.

''එයා කා ගැනදෝ ලතැවෙනවා...''

විඩා පත්වීම නිසා ඇගේ හිස කකියන්ට විය. හිත තුළ පුදුම නිසලතාවයකි. ඇයට පෙනෙන හැම දෙයකම මුදු සුරතල් බවකි ඇ දුටුවේ. එය ඇගේ සිත සෙමින් පුරවාලයි. එවැනි නිසලතාවයක් ගැන ඇය දනී. විශාල සිත් තැවුල්වලට පසුවය, ඒ නිසලතාවය ඇට දැනෙන්නේ. ඉස්සර එවැනි හැඟීම් නිසා ඕ තරමක කැළඹීමට පත් වන්නීය. එහෙත් දැන් ඒ වෙනුවට අධ්‍යාත්මය ශක්තිමත් වී හැඟීම ප්‍රබලවෙයි. ඕ පහන නිවා දමා සීතල ඇඳ මත වැතිර ගත්තාය. පොරෝනය යටට වී සැනෙකින් නිදන්නට වූවාය...

ඇ නින්දෙන් අවදි වූවා, හිමෙන් පිරි දවසේ ආලෝකය නිසා,කාමරය තුළ පැහැදිලිතාවය දුටුවාය. ගෙදර අයිතිකාරිය සෝපාවක් මත වැතිරගෙන පොතක් කියවයි. නොපුරුදු සිනාවකිනි ඇ අම්මාට සංග්‍රහ කළේ.

''අනේ දෙවියනේ!'' යැයි අම්මා තෙපළාය. ''මදෑ මම නිදි ගත්තා. වෙලාව කීයද, ආ?''

''ශුභ උදෑසනක් වේවා!'' යැයි ලුද්මිලා ආචාර කළාය. ''වෙලාව දහයයි. නැගිටින්න, තේ බොමු.''

''ඇයි ඔයා මාව කුද්දෙව්වෙ නැත්තෙ?''

''මට කුද්දන්ට හිතුනා. මම ඔයා ළඟට ආවා. ඔයා නින්දෙන් හොඳට හිනා වුණා...''

පුරුබුහුටි ලෙස සෝපාවෙන් නැගී සිටි ඇ ඇඳ ළඟට විත් අම්මා වෙත නැඹුරු වූවාය. ඇගේ බොර පැහැති ඇස්වල තමන්ගේම, කිට්ටු අවබෝධ කර ගත හැකි කිසිවක් අම්මා දුටුවාය.

''ඔයාව කුද්දන්ට මට හිත දුන්නේ නැහැ. ඔයා වාසනාවන්ත සිහිනයක් දකිමින් සිටිනවා වෙන්ට ඇතැයි සිතුනා...''

''කිසිදෙයක් දුටුවේ නැහැ!''

''කොයි හැටි වුණත් මට ඔයාගෙ සිනාව හිතට ඇල්ලුවා. දයාවෙන් පිරි... ලොකු සිනාව...''



ලුද්මිලා සිනා පෑවාය. නොළුස් හඬක් පිට කළ එහි සොම්නස් බවකි ගැබ්වී තිබුණේ.

''මම ඔයා ගැන හිතුවා... ඔයාගෙ ජීවිතෙ අමාරුද!''

අම්මා ඇහි බැම් නටවමින් නිහඬව කල්පනා කළාය.

''සත්තකින්ම, අමාරුයි!'' ලුද්මිලා තෙපළාය.

''කියන්ට දන්නේ නැහැ!'' අම්මා ප්‍රවේසමිනි ඒ වදන් පැවසුවේ.

''සමහර විට හිතෙනව අමාරු කියල. බොහෝ දේවල්, හැම දෙයක්ම බැරෑරුම්, පුදුම සහගතයි. එකිනෙකට ඇදී ගෙවී යන සැටි. වේගයක මහත...''

තමාට සුපුරුදු පියකරු කැළඹීමකි හිත පුරා පැතිර ගියේ. හිත තුළ නොයෙකුත් සේයාවන් මැවිණ; හැඟීම් පහළ විය. ඇ ඇඳෙන් නැගී වාඩිවී සිය අදහස් කියා පෑවාය:

''යනවා, යනවා, හැම දෙයම එක තැනකට... දන්නවද දුක්ඛර දේවල්! මිනිස්සු දුක් විඳිනවා, උන්ට ගුටි බැට දෙනවා, කෲර ලෙස ගහනව, සැප විඳීම බොහොමයක් තහනම් කරලා. එය ඉතාම දුක්ඛර තත්ත්වයක්!''

ලුද්මිලා හිස හරවා ඇ බද ගැනීමට මෙන් බැල්මක් හෙලුවාය:

''ඔයා කියන්නෙ ඔයා ගැන නොවෙයි!''

මෙවර නැගී සිට ගත් අම්මා ඇඳ ගනිමින් කතා කළාය:

''කොහොමද කාවදෝ පැත්තකට තල්ලු කරන්නෙ. හැම දෙනාටම දයා පානවා. හැම දෙනෙක්ම මට අගෙයි. හැම දෙනා නිසාම බියක් ඇති වෙලා. හැම දෙනා කෙරෙහිම අනුකම්පාවකි පැන නැගී තිබෙන්නේ... කොහොමද පැත්තකට තල්ලු වෙන්නෙ?''

අඩ වශයෙන් හැඳ පැළඳ ගත් ඇ කාමරය මැද සිට ගෙන මොහොතක් කල්පනා කළාය. පුතා නිසා බියෙන් වෙව්ලමින් සිටි කාලය ගෙවී ගොසිනි. ඔහුගේ සිරුර ආරක්ෂා කිරීම සඳහා වෙහෙසුණු මව දැන් නැත. ඇ එයින් ඈත්වී කොහෙදෝ වෙනත් දිසාවකට ඇදී ගියාක් මෙනි. කැළඹීම නම්වූ ගිනිජාලාවට හසුවී දැවී ගොසිනි. එයින් හිත පිරිසුදුවී පහසුවක් දැනේ. හදවත පුනර්ජීවයක් ලබා ගත් සැටියකි. තම හදවත තුළට එබී බලන්නාක් මෙන් ඇ හදවතෙහි ගැස්මට සවන් දෙයි. පැරණි බියමුසු හැඟීම ඇවිස්සේය යන බියකි ඇ තුළ පැන නගින්නේ.

''මොනවා ගැනද කල්පනා කරන්නේ?'' ඇය දෙසට එන ගෙදර ස්වාමි දුව දයාන්විතව විතාළාය.

''මා දන්නේ නැහැ!'' යැයි අම්මා පිළිතුරු දුන්නාය.

නිහඬව එකිනෙකා දෙස බලා ගත් යෙහෙලියන් දෙදෙනා සිනා සුණහ. කාමරය දෙසට පා තබමිනි ලුද්මිලා කතා කළේ:

''මගෙ සමොවාරය මොනවා කරනවද?''

අම්මා කවුළුව තුළින් මහ මග දෙස බැලුවාය. දවස තද ශීතය. ඇගේ හිත තුළ ආලෝකයකි. එමෙන්ම උණුසුම්ය. හැම දෙයක් ගැනම කතා කිරීමට ඇට සිත්විණ. සිදු වූ හැම දෙයක් ගැනම නොදන්නා යමෙකුට ස්තුති වන්ත විය යුතුයැයි ඇයට හැඟෙන්නේ, තම සිත බැස යන හිරු මෙන් රත් පැහැගෙන බැබළෙන නිසාය. දෙවියන් වැඳීම බොහෝ කලක් තිස්සේ අමතක කර සිටීම නිසා මේ වර ඇය සිත තුළ කැළඹීමක් පැන නැගිණි. කාගේදෝ යෞවන මුහුණක් ඇගේ මනැස ඉදිරියේ මැවී පෙනිණ: 'ඒ තමා පාවෙල් ව්ලාසව්ගේ අම්මා!..' සාෂාගේ පෙම්බර, මුදු ඇස් ඇගේ මනැසට හසු වෙයි. රිබින්ගේ කළු පැහැති සිරුරද, වානෙන් වාත්තු කළ පුතුගේ මුහුණෙහි සිනාරැල්ලද, ලජ්ජා වන නිකොලායි ඉහිමරන සැටිද මැවී පෙනේ. හිටිහැටියේම ඒ ජවනිකා සියල්ලක්ම එකට එක්වී සැහැල්ලු සුළං සමග කැලතී, විනිවිදයයි. සාන්ත පිවිතුරු හැඟීම් සියල්ල වෛවර්ණ වලාකුළක් මෙන් බද වැළඳ ගනී:

''නිකොලායිගෙ නිගමනය හරි!'' යැයි කාමරයට ඇතුළු වෙමින් ලුද්මිලා කීවාය. ''එයාව සිරබාරයට අරගෙන. ඔයා කිව විධියට මම එහාට කොල්ලෙකුව යැව්වා. ගෙවත්ත පුරා පොලිස්කාරයො. එක පොලිස්කාරයෙක් දොරට පිටිපස්සෙ සැඟවුණ හැටි කොලුවා දැකල තියෙනවා. පොලිස් ඔත්තුකාරයොත් ඉඳල තියෙනව. කොල්ලා උන්ව හඳුනනවා.''

''එහෙමද!''යි අම්මා ඇසුවාය. ''අනේ දුප්පතා...'' සුසුම් ලෑවාය. එහෙත් තමා තුළ දෙම්නසක් ඇති නොවීම ගැන ඕ පුදුම වූවාය.

''මෑත කාලෙදි එයා නගරයේ කම්කරුවන් අතර බොහොම දෙශපාලන පංති පැවැත්වූවා. පොදුවේ එයාව අසු වීමට කල් වෙලා ඇති වුණා!'' මුහුණ ඇඹුල් කර ගත් ලුද්මිලා ශාන්තව පැවසුවාය.

''සහෝදරවරු කිව එයාට වෙන දිහාවකට යන්ට කියල! එයා ඇහුවෙ නැහැ! ඔය වගෙ අවස්තාවලදී කැමත්ත ගැනීම නොව බල කරන්ට ඕන කියල මම අදහස් කරන්නෙ...''

දෙර අසල පෙනී සිටියේ කළු හිස කෙස් ඇති කොල්ලෙකි. ඔහුගේ මුහුණ රතුය. ඇස් නිල් පැහැතිය; ලස්සනය. නහය වක්ය.

''සමොවාරය ගේන්වද?''යි ඔහු හඬ නගා ඇසුවේය.

''සෙර්යෝෂා කරුණාකරල ගේන්න! එයාව මම හද ගන්නව.''

අද ලුද්මිලා අමුතුය. වඩාත් වාම්ය, තමාට කිට්ටුය; අම්මාට සිතෙන සැටිය ඒ. ඇගේ ගමන පියකරුය. ඇගේ සුදුමැලි මුහුණ මුදු බවක් දැරිය. ඇස් වටා තිබෙන කළු පැහැති ලප පසු ගිය රාත්‍රිය තුළදී විශාල වූවාක් මෙනි.



ඇගේ සිත නැමති වීණාවේ තත ඇද තිබෙන බැවින්දෝ ඇය කෙරෙහි නොසන්සුන්තාවයක් පෙනෙන්නට තිබිණ.

කොලුවා සමොවාරය ගෙනාවේය.

''සෙර්යෝෂා හඳුනා ගනින්! ඊයේ පිටුවහල් කළ කම්කරුවාගේ අම්මා, පෙලගේයා නීලව්නා තමා මේ.''

සෙර්යෝෂා නිහඬව අම්මාට අත දී ආචාර කොට කාමරයෙන් පිට විය. පසුව පාන් ගෙඩියක් ගෙනා හෙතෙම මේසය ළඟ වාඩි විය. පොලීසිය කා බලාපොරොත්තුවෙන් පසු වෙන්නේදැයි ස්ථිර ලෙස දැන ගන්නා තුරු ගෙදර නොයන ලෙස අම්මාට ලුද්මිලා අවවාද කළාය.

''සමහර විට.බලාපොරොත්තුවෙන් ඉන්නවා ඇති! ප්‍රශ්න අහන්නත් පුළුවනි...''

''ප්‍රශ්න අහපුදෙන්!'' අම්මා තෙපළාය. ''සමහර විට හිරබාරයට ගනීවි. එතරම් ලොකු පාඩුවක් නෙවි. පාෂාගෙ කතාව ඉස්සෙල්ලා බෙද හැරීමට ඉඩ ලැබෙනවානම්.''

''කතාව මුද්‍රණය කිරීමට සූදනම් කරල ඉවරයි. හෙට නගර හා ජනපදවල බෙද හැරීමට පුළුවනි... ඔයා නතාෂාව හඳුනනවාද?''

''සත්තකින්ම!''

''එයා ළඟට ගෙනියන්න...''

කිසිවක් නැසුන පරිදි කොල්ලා පුවත් පතක් කියවමින් සිටියද, ඉඳ හිට පත් පිටුව අතුරෙන් ඔහු අම්මා දෙස බැලුවේය. කොල්ලාගේ බැල්මට හසු වන අම්මා ප්‍රීතියට පත්ව පිළිතුරු සිනාවක් පායි. නිකොලායි ගැන ලුද්මිලා නැවත මතක් කළේ ඔහු සිරබාරයට ගැනීම නිසා දුක් නොවෙමිනි. ඇගේ හැඟීම සොබාවිකයැයි අම්මා සිතන්නීය. අතීත් දවස්වලට වඩා වේගයෙනි කාලය ගෙවී ගියේ. උදේ තේ බී හමාර වන විට වේලාව දවල් දොළහට ළංවී තිබිණි.

''ඒ වුණත්!'' යැයි ලුද්මිලා හඬ නැගුවාය. සැණෙකින් කිසිවෙක් නොඉවසිලිමත් ලෙස දොරට තට්ටු කරන හඬක් ඇසේ කොල්ලා නැගිට දෑස් හකුළුවා ගනිමින් ප්‍රශ්නයක් අසන ලීලාවෙනි ගෘහිනිය දෙස බැලුවේ.

''සෙර්යෝෂා දොර හැරපන්. කවුද ඒ?''

කලබලයෙන් තොරව ගවුමේ සාක්කුවකට අතක් ඔබා ගත් ඇය අම්මාට කතා කළාය:

''පොලීසිය ඇවිල්ලා නම්, පෙලගේයා නීලව්නා, ඔයා අර මුල්ලට යන්න. උඹ සෙර්යෝෂා...''

''මම දන්නවා!'' යැයි සෙමින් පිළිතුරු දුන් කොල්ලා නොපෙනී ගියේය.

අම්මා මඳ සිනා පෑවාය. මේ සුදනම් වීම නිසා ඇ කැලඹීමට පත් නොවූවාය. අනතුරක පූර්ව හැඟීමක් ඇට නොදැනිණ.

ගෙතුළට පැමිණියේ මිටි දෙස්තරය: ඔහු ඉක්මනින් කතා කළේය:

''පළමුවැන්න, නිකොලායිව සිරබාරයට ගත්තා. ආ, නීලව්නා, ඔබ මෙහෙද? සිරබාරයට ගන්නා විට ඔබ හිටියේ නැතිද?''

''එයා මාව මෙහෙ එව්වා.''

''හ්ම්. මම හිතන්නේ නැහැ එයින් ප්‍රයෝජනයක් තියෙනවයි කියල!..'' දෙවැන්න, ඊයේ රෑ තරුණ කට්ටිය පාවෙල්ගෙ කතාව ගල් අච්චුවක මුද්‍රණය කර තියෙනව. පිටපත් පන්සියක් විතර. මම දැක්කා. වැඩේ නරක නැහැ. කෙටියි, පැහැදිලියි. ඒ ගොල්ලන්ගෙ අදහස එය නගරය තුළ බෙද හැරීමටයි. මම එයට විරුද්ධයි. මුද්‍රණය කළ පත්‍රිකා බෙද හැරීම නගරයේ කිරීම පහසුයි. ගල් අච්චු පිටපත් වෙනින් පළාත්වල බෙදන්ට ඕන.''

''හොඳා, මම ඒවා නතාෂා වෙත ගෙනියන්නම්!'' අම්මා ප්‍රාණවත් ලෙස කිවාය. ''මෙහාට දෙන්න!''

පාවෙල්ගේ කතාව බෙද හැරීමට ඇට ඇති උවමනාව කිව නොහැකි තරම්ය. මුළු මහත් පොළෝ තලය පුරාම පුතා කී වචන වපුරා හැරීමට ඇට උවමනාය. පිළිතුරු බලාපොරොත්තු වන්නාක් මෙන් ඇ දෙස්තර දෙස බලන්නී, එය කිරීමට තමාට අවසර දෙන ලෙස ඉල්ලා සිටීමට සැරසුණාය.

''ඔබ මේ වැඩවලට පැටලවීම නිසා මොනවා වේදැයි කාට කියන්ට පුළුවන්ද!'' දෙස්තර අස්ථිර ලෙස කියා ඔර්ලෝසුව ගෙන බැලුවේය.

''දැන් වේලාව එකොළහයි හතලිස් තුනයි. දුම්රිය දෙකයි විනාඩි පහට. ගමන් වියදම්, පහයි පහළොවයි. ඔබ එහෙට සේන්දු වෙන කොට එතරම් අඳුර වැටිලා නැහැ. කාරණාව එය නොවෙයි...''

''එය නොවෙයි!'' ගෙහිමි කාන්තාවද කීවේ ඇස් බැම හකුළුවා ගනිමිනි.

''එහෙනම් මොකක්ද?''යි අම්මා ඇසුවේ ඔහු වෙත එමිනි. ''වැඩේ හොඳින් කිරීම නොව කළ යුත්තෙ...''

ලුද්මිලා ඇ දෙස ඉතා ඕනෑකමින් බලමින් නළල පිස දමා ගත්තාය:

''ඔයා ඒ වැඩේ කිරීම අනතුරුදායකයි...''

ඒ ඇයිද?''යි අම්මා ඇසුවේ උණුසුම් ලෙසය. ඇගේ ප්‍රශ්නය තද ඉල්ලා සිටීමකි.



''මෙන්න මේ නිසා!'' දෙස්තර ඉක්මනින් කීවේය. නිකොලායි සිරබාරයට ගැනීමට පෙර ඔබ ගෙදරින් අතුරුදහන් වුණා. ගුරුවරියගේ නැන්ද හැටියට හඳුණන වැඩපලට ඔබ ගියා. ඔබේ පැමිණීමෙන් පස්සෙ එම වැඩපල තුළ හතුරු පත්‍රිකා බෙද හරිනු ලැබුවා. මේවා සියල්ල හන්ද ඔබේ බෙල්ල වටේ ඇති තොන්ඩුව හිරවෙනවා.''

මාව හොයා ගන්නේ නැහැ!'' අම්මා කතා කරමින් ඔප්පු කිරීමට ඉදිරිපත් වුණාය. ''ආපසු ආවායින් පස්සෙ හිරබාරයට ගනීවි. අහවි කොහෙ ගියාද කියල...''

මොහොතකට නැවතී ඇ නැවත කෑ ගැසුවාය:

''මම දන්නවා කියන්ට ඕන දේ! එහෙ ඉඳල කෙළින්ම යනවා කම්කරු ජනපදයට. එහෙ ඉන්නව අඳුනන උදවිය, සියෝව්. ඉතින් මම කියනවා කෙළින්ම උසාවියෙ ඉඳල ආවයි කියලා. දුක වාවගන්ට බැරිව ආවයි කියල, කියනව. එයාටත් ඒ වගේම දුකක්. එයාගෙ බෑණාවත් සිවුවහල් කරලා. එයත් ඒ විදියටම හැසිරේවි. ජේනවද?''

ඇගේ උවමනාව නමැති බලවේගයට ඔවුන් ඉඩ දෙන සැටි ඇ දකින්නී, ඔවුන්ගේ හිත් ගැනීමවස් ඇ දැඩි ලෙස කතා කරමින් තර්ක කළාය. ඔවුහු ඇ ඉදිරියේ පසු බැස්සාහ.

''එහෙම නම් යන්න!'' දෙස්තර එකඟ වූයේ කැමැත්තෙන් නොවේ.

කල්පනා කරමින් කාමරය තුළ සක්මන් කළ ලුද්මිලා නිහඬ වූවාය. ඇගේ මුහුණ කළු පැහැ ගෙන ඇදී ගියාක් මෙනි. එහෙත් ඇ තම හිස සෘජුව තබා ගත්තාය. හිස බරවී උරහිස මත කඩා වැටීම වළක්වා ගනු වස් ඇය තම බෙල්ලේ මාංශ පේශීන් පුම්බා ගෙන සිටින සැටි පෙනේ. එයද අම්මාගේ ඇසට හසු විය.

''ඔය ගොල්ල මාව ප්‍රවේසම් ාරන්ට හදනව!'' අම්මා කීවේ සිනා පාමිනි. ''තමන් ප්‍රවේසම් වෙන්නේ නැහැ...''

''එය ඇත්ත නොවේ!'' යැයි දෙස්තර පිළිතුරු දුන්නේය. ''අපි ප්‍රවේසම් වෙනවා. ප්‍රවේසම් විය යුතුයි! ප්‍රයෝජන රහිතව තමන්ගේ ශක්තිය යොදවන අයට සැහෙන්ට බණිනවා, ඔව්-ව්! දැන් මෙයයි කළ යුතු. කතාවේ පිටපත් ඔබට දුම්රිය පළේදී ලැබේවි...''

එය කරන සැටි ඔහු ඇයට විස්තර කළේය. පසුව ඇ දෙස බලමින් කතා කළේය:

''හොඳා වැඩේ සාර්ථක වේයැයි පතම්!''

ඔහු පිටව ගියේ කිසියම් දෙයක් නිසා අසතුටු වූවාක් මෙනි. දොර වැසුණු පසු අම්මා වෙතට ආ ලුද්මිලා හඬ නොනගා සිනා සුණාය.

''මට ඔයාව තේරුම් ගන්ට ඇහැකි...''

ඈ අම්මාගේ අතක් ගනිමින් නැවත කාමරයේ සෙමින් ගමන් කරන්ට වූවාය.

''මට පුතෙක් ඉන්නවා. එයාගෙ වයස අවුරුදු දහතුනයි. එයා තාත්තා ළඟ ඉන්නෙ. මගේ සැමියා රජයේ නීතිවේදියෙකුගෙ සහකාරයෙකි. පුතා එයා ළඟ. එයා මොන විදියෙ කෙනෙක් වේදැයි මම නිතර හිතනවා...''

ඇගේ දුක්මුසු කටහඬ දෙදරුම් කෑවේය. පසුව නැවත කල්පනාකාරී ලෙස සෙමින් කතා කරන්ට වූවාය:

''මට ඉතාම කිවවු, මේ ලෝකයේ අතාම හොඳ මිනිසුන් ලෙස මා ගණන් ගන්නා උදවියගේ පරම හතුරෙක් තමා මගේ පුතාව ඇති දැඩි කරන්නේ. මගේ පුතා මට හතුරෙක් වෙන්ට ඉඩ තියෙනව. මා සමග එයාට ජීවත් වීම අපහසුයි. මම වෙස් වළාගෙනයි ජීවත් වෙන්නෙ. අට අවුරුද්දක් තිස්සේ මා ඔහුව දැක්කේ නැහැ. අට අවුරුද්දක් යන්න ලොකු කාල සීමාවක්!''

කවුළුව අසල නැවතුන ඈ සුදුමැලි හිස් අහස දෙස බලමින් දිගටම කතා කළාය:

''මගේ පුතා මා සමග සිටියානම් මගේ ශක්තිය මීට වැඩියි. එහෙනම් මගෙ හිත පලුදු වෙන්නේ නැතුවා වගේම වේදනා ගෙනදෙන්නේත් නැහැ. එයා ජීවතුන් අතර නැතිනම් මට වාවගෙන ඉන්ට ඇහැකි...''

''අනේ මගේ දයාබර නංගියේ!'' යැයි අම්මා මුදු ලෙස තෙපලේ, ඇගේ දුක නිසා තම හදවත දැවී ගියාක් මෙනි.

''ඔයා හරි වාසනාවන්තියක්!'' ලුද්මිලා කීවේ මද සිනා පාමිනි.

''අම්මා සහ පුතා උරෙනුර ගැටී සිටීම හරිම ලොකු දෙයක් වගේම, විරල සිද්දියක්!''

තමා නොසිතූ විරු පරිදි අම්මා බලාපොරොත්තු රහිතව කෑ ගැසුවාය:

''ඇත්තටම, හොඳයි!'' කී අම්මා රහසක් කියන්නාක් මෙන් පහත් හඬින් කතා කළාය: ''ඔය ගොල්ල හැම දෙනාම, නිකොලායි ඉවානවිච්, ඇත්ත වෙනුවෙන් ක්‍රියා කරන උදවිය. ඔය ගොල්ල එකටයි ඉන්නෙ! හැමදෙයම තේරුම් ගන්ට පුළුවන් කිවවු තමන්ගේම උදවිය බවට පත්වී ඉන්නවා. වචන තෝරා ගැනීමට බැරි වුණාට අදහස් තේරුම් ගන්ට පුළුවනි!''

''ඔන්න එහෙමයි!'' ලුද්මිලා තෙපළාය. ''අන්න එහෙමයි...''

අම්මා ඇගේ ළය මත අතක් තබා සෙමින් තල්ලු කරමින්, තමා කියන දෙයින් දැහැනට සම වැදුණාක් මෙන් තොල මතුරන්ට වූවාය.

''මහ පොළව මත ළමයි ගමන් කරනව. ලෝකයේ හැම දිසාවකින්ම එකම අරමුණක් කරා ළමයි යමින් ඉන්නා බවයි, මගේ කල්පනාව! ඉතාම



හොඳ හදවත් සහ බුද්ධිය ඇති උදවිය එහෙම යනවා. ඒ ගොල්ල දුෂ්ටත්වයට එදිරිව ආක්‍රමණයක යෙදී ඉන්නවා. හයිය හත්තිය ඇති පාවලින් බොරු පාගා දමනවා. තරුණ, ශක්තිමත් අය තමන්ගේ මහා අපරාජිත බලය එකම අරමුණක් කරා යොදවනවා. ඒ අරමුණ තමා සාධාරණත්වය! ජනතාව තම දුක නැති කර දැමීම පිණිස, ලොව ඇති අවාසනාව අතු ගා දැමීම පිණිස සේනාවක් මෙන් ඉදිරියට යනවා. නින්දව නැති කිරීම සඳහා පෙරමුණ ගන්නවා. ඔවුන් එය කරනු ඇත! කෙනෙක් මට කීවා අළුත් ඉරක් ඇති කරනවාය කියල. ඇති කරාවි! බිඳී ගිය හදවත් සියල්ල එක් කරන බව කීවා. සත්තකින්ම එක් කරාවි!''

අමතක වී ගිය යාච්ඤා ඇගේ සිහියට නැඟිණි. ඈ එහි වචන උච්චාරණය කළේ ගිනි පුපුරු පිට කරන්නාක් මෙනි.

''සත්‍යය හා යුක්තිය සඳහා ඉදිරියට යන ළමයි ආදරය ගෙනයති. ඔවුහු අළුත් ජය ලබා ගනිති. නිවිය නොහැකි ආලෝකයක් පතුරුවා හරින්නෝ ඉත සිතිනි. මුළු ලෝකයටම ආදරය කරන ළමයින් විසින් අළුත් ජීවිතයක් ගොඩ නගාවි. ඒ ආදරය නැති කර දැමිය හැක්කේ කාටද? එයටත් වඩා වැඩි බලයක් තිබේද? එය පාගා දැමීමට පුළුවන් කාටද? එය ජනිත කළේ මහ පොළවය. මුළු මහත් ජීවිතයම එහි ජයග්‍රහණය අපේක්ෂා කරයි. මුළු මහත් ජීවිතයම!''

ඈ ලුද්මිලාගෙන් වෙන්වී, අහසට විසි වී ගියාක් මෙනි. කැලඹී ගත් අම්මා විඩා පත්ව වාඩි වූවා, හති දැමීමට පටන් ගත්තාය. යමක් විනාශ කිරීමට බියවූ කලෙක මෙන් ලුද්මිලා ඈ වෙතින් ඈත් වූයේ ප්‍රවේසමිනි; නිහඬවය. ඈ කඩිසර ලෙස කාමරය තුළ ඇවිද්දය. බොර පැහැති ඇස්වලින් ඈ බලයි. ඇගේ බැල්ම ගැඹුරුය. එවිට ඈ වඩාත් උසය, සිහින්ය. සිහින් දැඩි මුහුණ කිසියම් අරමුණක යොදවා ඇති සේය. දෙතොල් තදින් වැසී තිබේ. කාමරයේ නිහඬතාවය නිසා අම්මා සන්සුන් වූවාය. ලුද්මිලාගේ නිසල බව දුටු ඈ වැරද්දක් කළ එකියෙක සේ තොළුස් හඬින් ප්‍රශ්න කළාය:

''සමහර විට මගෙන් නොකියවිය යුතු දෙයක් කියවුණා වෙන්ට පුළුවනි?..''

ලුද්මිලා සැණෙකින් හැරී ඈ දෙස බැලුවේ බිය ගත් විලාසයකිනි. අම්මා දෙසට අතක් දිගු කළ ඈ ඉක්මනින් කතා කළේ කිසිවක් නැවැත්වීමට මෙනි.

''සියල්ලම ඒ විදියට තමා! අපි වැඩිදුර කතා නොකරමු. අවබෝධ වුණු ලෙසම එය පැවතියාවෙ,'' වඩාත් සන්සුන්ව ඕ මෙසේ කීවාය:

''ඔව් ඉක්මනින්ම! මා කොතරම් සතුටට පත්වී ඉන්නෝදැයි ඔබ දන්නෝ

නම් මගේ පුතාගෙ කතාව ගෙනියනවා හරියට මගේම ලේ වගෙ! එය හරියට තමාගේ අධ්‍යාත්මය. වගෙ!''

ඈ සිනාසුණාය. එහෙත් ඇගේ සිනාව ලුද්මිලාගේ මුහුණේ පිළිඹිබු වූයේ නොපැහැදිලි ලෙසකිනි. ලුද්මිලා සිය හැඟීම් පිට නොකිරීමෙන්, තම ප්‍රීතිය නිවා හරින බව අම්මාට හැඟිණි. ඒ දූඩි සිතට තම හදෙන් පිටවන ගිනි ඇතුළු කිරීමට තරම් මුරණ්ඩු අභිලාෂයකි, ඇය තුළ පැන නැංගේ. ඇයද හදවත ඉල්ලා සිටින පරිදි සම්පූර්ණයෙන්ම ප්‍රීති විය යුතුය. ඈ ලුද්මිලාගේ දෑත ගෙන තදින් මිරිකමින් කතා කළාය:

''මගේ දයාබර යෙහෙළිය! සියලුම ජනතාවට සෑහෙන ආලෝකයක් තිබෙනබව දැන ගත්තාම කොතරම් විශාල ප්‍රීතියක්ද! ඔවුන් ඉත සිතින් එය වැළඳ ගැනීමේ කාලයක් එනවා නියතයි!''

ඇගේ පියකරු ලොකු මුහුණ ගැස්සිණ. ඇස්වල රශ්මි ධාරා පැතිර යන ගිනාවකි. ඇස් බැම් ඒ කාන්තිය නිසා වෙව්ලන්ට වූයේ පියාපත් ගසන්නාක් මෙනි. උසස් සිතුවිලි නිසා ඈ මත් විය. ඇගේ හදවතේ දූවීමද, විඳිනාලද සියළු හැඟීම්ද, ඒ අදහස්වලට ගොඩ ගැසී ඒවා වචනවලට පෙරලී ආවේ දිලිසෙන ගල්කැට මෙනි. නිර්මාණාත්මක සූර්යාලෝකය නැමති වසන්තය වයසට පත් ඒ හදවත තුළ පැන නැංගේ වඩාත් පැහැදිලි ලෙසය, මනහර ලෙසය;.

''බලන්නකො හරියට මිනිසුන්ට අළුත් දෙවියෙක් මැවුනා වගෙ නෙව! හැම දෙනාම හැම දෙනා සඳහා! හැම දෙයම හැම දෙනාටම! ඔයගොල්ලන්ව මට තේරුම් ගත හැක්කේ ඒ විදියටයි. ඇත්ත වශයෙන්ම ඔහෙලා සියළුදෙනාම සහෝදර සහෝදරියො, හැම දෙනාම තමාගෙම උදවිය, සත්‍යය නැමති මාතාවගෙ දූ දරුවො!''

තම කැළඹීමට ඇය නැවත යටපත් වෙයි. ඈ නැවතී සුසුමක් හෙළා දෑතින් බද අල්ලා ගැනීමට මෙන් දෑත් විදහා ඉඟියක් පාමින් කතා කළාය:

''සහෝදරයා කියන වචනය මා කියන විට, මගේ හද පතුල දක්වා එය කා වදින සැටි මට දැනෙනවා!''

ඈ තම අභිලාෂය මුදුන් පමුණුවා ගත්තාය. ලුද්මිලා පුදුමයට පත් වූවාය. ඇගේ දෙතොල් වෙව්ලන්ට විය. විනිවිද පෙනෙන ලොකු කඳුළු කැට කඩා වැටිණි.

අම්මා ඇය වැළඳ ගනිමින් හඬ නොනගා සිනා සෙන්නී, තම හදවත ලැබූ ජය නිසා ගර්වයෙන් ප්‍රීති වූවාය.

ඔවුන් එකිනෙකාගෙන් සමු ගනිද්දී ලුද්මිලා ඈ දෙස බලමින් සෙමින් ප්‍රශ්න කළාය:

''ඔයා සමග ඉන්න විට හිතට සැපක් බව ඔයා දන්නවද?''



# XXIX

මහ මග තද සීත වියලි සුළං හමයි. ඇඟ පත වෙලා ගන්නා වියලි සීත සුළඟ උගුර විද ඇතුළු වෙයි; නහය කිතිකවයි; මොහොතකට හුස්ම ගැනීමට නොහැකිවනසේ ළය හිර කරයි. අම්මා නැවතී හැරී බැලුවාය. කබල් තොප්පියක් හැඳ සිටි රියකරුවෙක් ඇගේ නෙතට හසු විය. මිනිහෙක් දෙළුර තුළට හිස ඔබා ගනිමින්, නැමී ඇතින් ගමන් කරයි. ඈ ඉදිරිපිට දෙකන් අතුල්ලමින් සොල්දාදුවෙක් දුව ගියේය.

''සොල්දාදු පූංචාව කඩේට යැව්වා වෙන්ට ඕන!'' එසේ සිතූ ඈ ගමන් කළාය. තම සපත්තුවලට පෑගෙන ළපටි හිම කැට 'ක්‍රික්' හඬක් පිට කරන සැටි ඇට ඇසේ. ඇය ඒ හඬට සතුටුය. ඈ දුම්රිය පළට ආවේ කල් වෙලා ඇතිවය. ඈ ගමන් කරන දුම්රිය තවම වේදිකාවට පැමිණ නැත. එහෙත් කුණු තැවරුණු දුමෙන් වැසී ගත් තුන්වැනි පංතියේ මගීන්ගේ කාමරය ජනයාගෙන් පිරී ගොස් තිබිණ. දුම්රිය මගෙහි වැඩ කරන කම්කරුවන් මෙහි ආවේ තද සීතලෙන් බේරීම සඳහාය. රියකරුවෝද, වැරහැලි හැඳ ගත් අනාතයෝද මෙහි ආවෝ උණුසුම් වනු පිණිසය. මගීන්ද, ගොවීන් කීපදෙනෙක්ද, රැකුන් හමෙන් සැදූ හිම කබායක් පොරවා ගත් තරබාරු වෙළෙන්දෙක්ද, මූණ පුරා කැළල් ඇති දැරියක් සමග පූජකයෙක්ද, සොල්දාදුවෝ පස්දෙනෙක් සහ තිකරුනෝ දුව ඇවිදින පුද්ගලයෝද එහි වූහ. මිනිස්සු දුම් බීවෝය; කතා කළාහ; තේ පානය කළෝය; වොඩ්කා බීවෝය. අවන් හල තුළ සිටි එකෙක් හඬ නගා සිනාසුණේය. දුම් වලා මිනිසුන්ගේ හිස්වලට උඩින් පාවෙයි. දොර ඇරෙන විට අමිහිරි 'කීස්' හඬකි. වේගයෙන් දොර පළු වැසූ විට, විදුරු සෙලවී හඬක් මතු වේ. දුම්කොළ හා ලුනු මාළු සුවඳ නාස් පුඩු තුළට වදී.

අම්මා, ඇතුළු වන තැන, ඇසට හසු වන සේ වාඩි වී උන්නාය. දොර හරින හැම වාරයකදීම සීත සුළං රොත්තක් කාමරයට ඇතුළුවන්නේ ඇයට සතුට ගෙනදෙමිනි. ළය පුරා පැතිර යනසේ ඕ දිග ආශ්වාසයක් කළාය. බර ඇඳුම්වලින් සැරසුණු මිනිස්සු ගමන් මලු රැගෙන ඇතුළු වෙත්. නිරායාසයෙන්ම ඔවුහු දොර අසල එකිනෙකාගේ ඇඟේ හැපුණාහ; බැණගත්හ. ගමන් මලු බංකු මත විසි කොට, හිම කබාවල හා කරවල්වල කැටි ගැසී තිබුණු හිම පිස දැමූහ. පසුව උඩු හා යටි රැවුළුවල රැඳී තිබූ හිම කැට සූරා දමමින්, කෑරුහ.

කහ පැහැති අත් බෑගයක් රැගත් තරුණයෙක් ඇතුළුව, වට පිට බලා කෙළින්ම අම්මා ළඟට ගියේය.

''මොක්කව් වලටද?'' ඔහු නොඋස් හඬිනි ප්‍රශ්න කළේ.

''ඔව්, නාන්යා වෙනව.''

''මෙන්න!''

ඔහු අත් බෑගය ඈ අසල බංකුව මත තබා, සිගරැට්ටුවක් හානික දල්වා ගත්තේය. නොප්පිය හරි ගස්සා ගත් හෙතෙම නිහඬව අනිත් දෙරින් පිටව ගියේය. අම්මා බෑගයේ සීතල හම් කවරය අත ගෑවාය. බෑගය මහ වැළමිටි තබා ගත් ඈ සන්තෝෂයට පත් වූවා රැස්ව හුන් සෙනඟ දෙස බලන්ට වූවාය.

විනාඩියකින් ඈ නැගිට, දුම්රිය වේදිකාව ළඟ පිහිටි අනිත් බංකුව වෙත ගමන් කළාය. විශාල නොවූ බෑගය එක් අතකින් ගත් ඈ, හිස ඔසවා ගනිමින්, තම ඇසට හසු වන මුහුණු දෙස බලමින්, ගමන් ගත්තාය.

කෙටි හිම කබායක් හැඳ ගත් තරුණයෙක් ඇගේ ඇගේ හැපී නිහඬව පසු බැස අතක් වනා හිස අත ගෑවේය. ඔහුගේ හිම කබායේ කර උස්සා තිබිණ. ඔහු දැක පුරුදු කෙනෙක්ය යන හැඟීමක් ඈ තුළ බිහිවිය. හැරී බැලූ ඇයට, උස්සා ගත් හිම කබා කර පටිය අස්සෙන් එක් ඇසකින් ඔහු බලන සැටි පෙනේ. විමැසිල්ලෙන් දිස්ටි හෙලන ඒ ඇස ඇයට සැරයක් විද්දක් මෙනි. බෑගය ගත් අත වෙව්ලන්නට විය. ඒ බෑගය බර වූවාක් මෙනි.

''කොහේ නමුදු මා ඔහු දැක තිබෙනවා!'' ඈ සිතුවාය. අප්‍රිය, අඳුරු හැඟීම හා සිතුවිලි වෙනත් අදහස්වලට ඉඩ නොදෙමින් ඇගේ ළය තද කළේය. සෙමින් එහෙත් බලගතු ලෙස හදවත සීතලෙන් මිරිකිණ. ඒ අම්හිරි හැඟීම කෙමෙන් වැඩී ගොස් උගුර දක්වා පැතිරිණ. කට තුළ වියලි පිත මුසු අප්‍රිය රසයකි. නැවත වරක් හැරී ඔහු දෙස බැලීමට ඇට සිත්විණ. ඈ එසේ කළාය. ප්‍රවේසමින් එකම තැන කට වී කල් බලමින් තමාට යමක් වුවමනා නමුදු එගැන තීරණයක් ගැනීමට අසමත්ව ඔහු ළතැවෙන සැටි අම්මාට පෙනේ. ඔහුගේ දකුණු අත හිම කබායේ බොත්තමක් අල්ලා ගත් ගමන්ය. වම් අත සාක්කුවක් තුළට රිංගා උන්නේය. ඒ නිසාදෝ ඔහුගේ දකුණු උරහිස වම් උරහිසට වඩා උස බවකි, පෙනෙන්නේ.

නොඉක්මන් ගමනින් බංකුව අසලට ගිය ඈ එහි වාඩි වූයේ, ප්‍රවේසමිනි; සෙමිනි; යමක් ඉරිතැලී යතිය යන බියකිනි. විපතක පෙර සලකුණු කියන හැඟීම නිසා යටගියාව මතක් විණි. මීට පෙර දෙවතාවක්ම ඒ පුද්ගලයා අම්මාට මුණ ගැසී තිබේ. රිබින් පැන ගිය පසු නගර සීමාවෙන් එහා පාළු පිටියේදිද, ඉන් පසුව උසාවියේදිද, ඔහු ඇය දුටු බව ඇයට මතක් විය. ඔහු සමඟ තවත් සොල්දදු වෙක් විය. එද රිබින් පැන ගිය දවසේදී, ඔහු පැන ගිය මඟ වරදවා අම්මා විසින් පෙන්වන ලද්දේ මේ සොල්දදුවාටය. ඔහු ඇය හඳුණයි. ඇගේ ගමන් බිමන් පිරික්සුමට භාජන වී තිබේ. දැන් එය පැහැදිලිය.



''අසු වුණාද?'' ඈ තමාගෙන්ම ඇසුවාය. මොහොතකින් තිගැස්සී ස්වකීය පැනයට පිළිතුරු සපයා ගත්තාය:

''සමහර විට තවම නැහැ...''

එහෙත් සැණෙකින් පරිශ්‍රමයක් දරා දැඩිලෙස තමාටම කියා ගත්තාය:

''අසු වුණා!''

වට පිට බැලූ නමුදු ඇයට කිසිවක් නොපෙනේ. ගිනි පුපුරු සේ පැන නගින සිතුවිලි ධාරා ඇවිල නැවත නිවී යයි.

''බෑගය තියලා පැනලා යමුද?''

එහෙත් වඩාත් දීප්තිමත් ලෙස වෙනත් අදහසක් මතු විය:

''පුතාගෙ කතාව අහක දමා පැන යන්ටද? කාගෙ අත්වලටද...''

ඈ බෑගය තුරුළු කර ගත්තාය.

''බෑගයත් සමග යන්ටද?.. පැන දුවන්ටද...''

ඒ හැඟීම් පිටස්තර ඒවා සේය ඇයට දැනෙන්නේ. පිටත එකෙකු විසින් ඒවා තම හිස තුළට ඇතුල් කරන ලද්දක් මෙනි. ගිනිගෙන දැවෙන යවුල්වලින් හදවත සිදුරු කළා සේය. වේදනාව උත්සන්න කොට ස්ත්‍රිය අමනාපයට පත් කළ ඒ වේදනාව තමන් වෙතින්ද, පාවෙල් වෙතින්ද, හදවතට ළංවූ දේවල් වෙතින්ද, එළවා දමන ලදී. හතුරු බලය ඇගේ ළය සහ උරහිස් මිරිකා පාගන බව ඇට දැනිණ. එය ඇට නින්ද ගෙන දෙමින් ඇය මරණීය බියකට හෙළා දමයි. නළල දෙපස ලේ නහර පිම්බී රුධිර ධාවනය වේගවත් වෙයි. හිස කෙස්වල මුල් රත් වූ බවකි දැනෙන්නේ.

මුළු මහත් හදවත තුළම තුබූ ධෛර්යය ගොනු කර ගත් ඈ තොමෝ, ඒ කුඩා, පහත්, දුර්වල හැඟීම් සියල්ල මැඩ මහත් වූ ආයාසයකින් යුතුව තමාටම මෙසේ කියා ගත්තාය:

''ලැජ්ජයි!''

ඇයට සැණෙකින් සුවයක් දැනිණ. ඈ ශක්තිමත් වූවාය.

''පුතාට නින්ද ගෙන දෙන්ට එපා! කාටවත් බය නැහැ.''

නිවට, බයාදු බැලුම් ඇගේ දෙනෙතට හසු විය. ඉන්පසු ඇගේ මතක පටයට පිවිසියේ රිබින්ගේ මුහුණය. තත්පර කීපයක චලනය ඇගේ හැඟීම් දැඩි කළේය. හදවත සන්සුන් විය.

''දැන් ඉතින් මොනවා වේද?'' නිරීක්ෂණය කරමින් ඇය සිතුවාය.

ඔත්තුකාරයා මුරකරුවා කැඳවා, ඇය ඇසින් පෙන්වමින් කොඳුරා යමක් කීවේය. මුරකරුවා ඔහු දෙස බලමින් පස්සෙන් පස්සට ගියේය. තවත් මුරකරුවෙක් පැමිණ කසු කුසුවට කන් දී ඇස් බැම හකුළුවා ගත්තේය. ඒ මහලු මුරකරුවා දැවැන්තයෙකි, ඔහුගේ හිස පැසුණු හිසකෙස් වලින් පිරී තිබිණ, ඔහුගේ රැවුළ වැඩිලාය. හෙතෙම වරපුරුෂයා දෙස

බලා හිස වනා, අම්මා වාඩි වී සිටි බංකුව වෙත ගියේය. වරපුරුෂයා අතුරුදහන් විය.

එහෙයු මුරකරුවා තොළක්මන් ගමනින් ඇ වෙත යමින්, කෝපය පිරි ඇස්වලින් ඇගේ මුහුණ පිරික්සුවේය.

''නොගැසුවොත්, ඒ ඇති...''

ඔහු ඇය අසල නැවතී, මදක් නිහඬව සිට, දූඩිලෙස ඇසිය:

''මොනවද බලන්නේ?''

''මොකුත් නැහැ.''

''එකත් අතකට හෙරක් වගේ! ඒ වුණාට නාකි ගෑණියක්!''

ඔහුගේ කතාව ඇයට ගැසූ කම්මුල් පහරක් මෙනි. නපුරු, බොල් කටහඬ ඇගේ කම්මුල් ඉරා ඇස් උගුල්ලා දැමුවාක් මෙනි...

''මමද? මම හෙරක් නෙවි, බොරුකාරයා!'' යැයි ඇ ගිගුම් දුන්නාය. කුප්පනු ලැබූ ඇය ඉදිරියේ සැම දෙයක්ම පාවෙන්නාක් මෙනි. හදවත අමනාපයෙන් පිරී, ඉතිරී ගියේය. ඕ බැගය හැරියාය.

''බලන්න! හැමදෙනාම බලපල්ලා!..'' කෑ ගසමින් නැගිට සිටි අම්මා කතාවේ මුද්‍රිත පිටපත් මිටක් ගෙන හිසට උඩින් වැනුවාය. දෙකන් තුළ හටගත් 'හෝ' හඬ මැඩ ගෙන හැම පැත්තකින්ම මිනිස්සු දුව එන ශබ්දය ඇට ඇසේ. ඔවුහු හැම දෙසකින්ම වේගයෙන් දුව ආහ.

''මොකද කලබලය?''

''ඔන්න ඔත්තුකාරයෙක්...''

''ඔය මොනවද?''

''හොරකම් කළාලු...''

''වැදගත් ගෑනියෙක්, මදෑ කළා!''

''මම හෙරක් නෙවි!'' අම්මා උස් හඬින් කීවාය. හැම පැත්තකින්ම තමා වටා රොක්වී සිටින ජනතාව දකින ඇ සන්සුන් වූවාය.

''ඊයේ දේශපාලන හිරකාරයන්ට විරුද්ධව නඩුවක් තිබුණා. මගේ පුතා — ව්ලාසව්ද එහි විත්තිකාරයෙක්. මෙන්න එයා කළ කතාව! මම ඒ කතාව මිනිසුන්ට බෙද දෙන්ට ගෙනයනව. ඔවුන් ඇත්ත කියවා දැන ගෙන කල්පනා කළාවෙ...''

ඇය අතින් පත්‍රිකාවක් ප්‍රවෙසමින් කෙනෙක් විසින් ගන්නා ලදී. රැස්ව හුන් පිරිස දෙස පත්‍රිකා මිටියක් ඇ විසි කළාය.

''ඔය වැඩේට ප්‍රශංසා ලැබෙන්නේ නැහැ!'' බියගත්තෙකුගේ හඬක් ඇසෙයි.

මිනිසුන් පත්‍රිකා අහුලාගෙන, ඒවා සාක්කුවල සහ කබා අස්සේ සඟවා ගන්නා සැටි අම්මා දුටුවාය. එයින් ඇගේ දෙපාවලට ලැබුණේ අමුතු



පණකි. ගර්වය පිබිද නැග එන සැටිද, සන්සුන් ගතිය සහ ශක්තිය වැඩි වන සැටිද, හැඟීම් උත්සන්න වන සැටිද ඇට දැනේ. පාගනු ලැබූ ගර්වය ගිනිගෙන ඇවිලෙයි. පත්‍රිකා මිටි බැගින් ගෙන වමට හා දකුණට විසුරුවා හරිමින් ඇ කතා කරයි. කෑදර අත් විසිනි ඒ පත්‍රිකා අල්ලා ගනු ලබන්නේ.

''මගේ පුතාට සහ අනිත් අයට එදිරිව නඩු විභාග කළේ ඇයිදැයි තමුන්නාන්සේලා දන්නේද? මම ඔබට කියන්නම්, අම්මා කෙනෙකුගේ හදවත විශ්වාස කරන්න. ඇගේ පැසුණු හිස කෙස් කෙරෙහි විශ්වාසය තබන්න. තමුන්නාන්සේලා වෙත ඇත්ත ගෙනා බැවින් ඒ අයට එදිරිව නඩු විභාග පැවැත්තුවා! මම ඒ ඇත්ත ඊයේ දැන ගත්තා. එවැනි ඇත්ත සමග තර්ක කිරීමට කාටවත් බැරිය, ඔව් කාටවත් බැරිය!''

අම්මා අවට රැස් කමින් උන් ජනකාය නිහඬව වැඩි වෙයි. ඔවුහු අම්මා වටා දැඩි කවයක් සෑදූහ. එම කවය මිනිස් සිරුරින් අඹන ලද වළල්ලක් වැන්න.

''වැඩ කිරීම නිසා ලැබෙන දයාදය — ලෙඩරෝග, කුස ගින්න සහ දුගී දුප්පත් බවයි. හැම දෙයක්ම අපට එදිරිව නැගී සිටී. එදිනෙද කටුක වැඩ නිසා අපේ ජීවිත අවසාන හුස්ම හෙළයි. හැමදම අපව රවටනු ලැබ නින්දවට හෙළනු ලැබේ. අපේ මහන්සියේ නියම පලය භුක්ති විඳින්නේ වෙනත් එවුන්ය. ඔවුහු අපේ ශ්‍රමය කා දමති. බල්ලන්ව දම්වැල්වලින් බැඳ තිබෙන්නා වාගේ අපව බැඳ දමා දුගී බවේ ගිල්වා තිබේ. අපි හැමදම බිය බිරාන්ත වී ජීවත් වෙමින් සිටිමු. අපේ ජීවිතය මහ රෑ වගේය. මහ රෑ වගේ අඳුරුය!''

''එහෙමයි!'' බොල් හඬක් පිළිතුරු දුන්නේය.

''ඇගේ උගුරු දණ්ඩ මිරිකපන්!''

රැස්කමින් උන් පිරිස පිටුපස වරපුරුෂයා සහ පොලිස් බටයින් දෙදෙනෙකු සිටින බව අම්මා දුටුවාය. අන්තිම පත්‍රිකා මිටිය බෙද දීම් වස් සූහුසුලු වූ ඇ හනික බැගයට අත ඔබන්ම, තව'කෙකුගේ අතක් ඇගේ අත සමග ගැටිණි.

නැමී ගත් ඇ ''ගනිල්ලා, ගනිල්ලා!'' යැයි කීවාය.

''විසිර පලයව්!'' පොලිස්කාරයෝ කෑ ගසමින් පිරිස තල්ලු කරන්ට වූහ. ඔවුන් අකමැත්තෙන් පසුබසින්ට වූ අතර තම ජන බලය යොද පොලිස්කාරයින් තල්ලු කරන්ටත්, ඔවුන්ට බාධා කරන්ටත් වූයේ, සමහර විට එවැන්නක් කිරීමේ අභිලාෂයෙන් තොරවය. පැසුණු හිසකේද දයාබර මුහුණක් සහ ලොකු නෙත්ද ඇති ඒ කාන්තාව ඔවුන්ගේ සිත් දිනා ගත්තාය. ජීවිතය විසින් බෙද වෙන් කරනුලැබ, එකිනෙකාගෙන් ඈත්

කරනුලැබ, සිටි ඔවුන් දුන් ඇගේ කතාව නැමති ගිනි පුපුරුවලින් අමුතු උණුසුමක් ලැබ එකට එක්වී කැටි ගැසුණාක්මෙනි. අසාධාරණ ජීවිතය විසින් ගෙන දුන් වේදනාවන් තුනී කර ගනු වස් බොහෝ හදවත් එවැනි අස්වැසිල්ලක් සොයා ගියා වෙන්ට පුළුවන. අසල වූවන් නිහඬව සිටිනා සැටි අම්මාට පෙනේ. ගිජුලෙස ඇ වෙත නෙත් යොමා ගෙන සිටි ඔවුන්ගේ උණුසුම් සුසුම් ඇගේ වතෙහි ස්පර්ශවන්නාක් මෙන් දැනිණි.

''මැහැල්ල, පලයන් යන්ට!''

''දූන් උඹව අල්ලාගනීවි!..''

''අනේ මුරණ්ඩු ගැණියේ!''

''අහක පලයව්! විසිර පලයව්!'' පොලිස් බටයින්ගේ සටහඬ ළං ළංව ඇසේ. අම්මා වටා සිටි මිනිස්සු එකිනෙකා අල්ලා ගනිමින් රැළක් මෙන් ඒ මේ අත වැනුනාහ.

හැමදෙනාම තමා අවබෝධ කැර ගැනීමට හා විශ්වාස කිරීමට සූදනම් බවකි, ඇයට දැනෙන්නේ. තම හද තුළ පැන නැගී සියළුම අදහස් කියා පෑමට, තමාගේ හදවතට බලපාන සියළු දේ විස්තර කිරීමටත් ඇ සුහුසුලු වූවාය. ඒ අදහස් හද පත්ලෙන් පැන් නැගී මනහර ගීතයකට ඉතා ලෙහෙසියෙන්ම පෙරලී පිටවන නමුදු, සැහෙන තරම් උස් හඬක් නොමැතිවීම ගැන ඇ දුක් වූවාය. ඇගේ කටහඬ බැරැඩිය; ගැස්සෙයි; අඩ පණවෙයි.

''මගේ පුතාගේ වචන, කම්කරුවෙකුගේ හදවතින් නැග එන පිරිසුදු වචන නොවිකුණු ආත්මයක හැඬීමය! බියක් නැතිව කතා කරන්නාගේ හිත-කය විකුණා නැති බව දැන ගන්න!''

තරුණ නෙත්යුවළක් ඇ දෙස බැලුවේ ආස්වාදය මුසු බියෙනි.

ඇය තල්ලු කර දමන ලදින් විසි වී ගොස් බංකුව මත වැටිණි. මිනිසුන්ගේ හිස් ගෙඩිවලට උඩින් පොලිස් බටයින්ගේ අත් වැනේ. කර පටිවලින් හා උරහිස් වලින් මිනිසුන් අල්ලා ගන්නා පොලිස් බටයෝ, ඔවුන් පසකට ඇද දමති; ඔවුන්ගේ හිස් වැසුම් ඉරා දමති; ඒවා ඈත විසි කරති. හැම දෙයක්ම කළු පැහැගැන්වී වූ කලෙක මෙනි, අම්මාට දැනෙන්නේ. තම විඩාපත් බව මැඩ ගනිමින් ශේෂව තිබූ ශක්තිය යොද ඇ තවත් කෑ ගැසුවාය'

''ජනයිනි, තමුන්නාන්ලාගේ ශක්තිය එක් බලවේගයකට කැටි කර ගන්න!''

රත් පැහැති ලොකු අතකිනි, පොලිස් බටයා අම්මාගේ කරෙන් අල්ලා වැරෙන් සෙලවූයේ.

''කට වහපිය!''



ඇගේ හිස බිත්තියේ හැපුණි. හදවත පුරා බිය - පැතිර ගියේ නිමේෂයකිනි. දැවෙන දුමක් වැනිවූ ඒ බිය අතුරුදහන් වී පැහැදිලි බවක් ඇති විය.

''පලයන්!'' යැයි පොලිස් බටයා කීවේය.

''කිසි දෙයකට බය වෙන්ට එපා. මුළු මහත් ජීවිතය තුළම විඳින ඒ දුක්වලට වඩා බියජනක දේ තවත් නැතිය...''

''කට වහන්ටයි කිවේ!'' පොලිස් බටයා ඇගේ අතක් අල්ලා වැරෙන් සෙලවීය. අනිකා ඇගේ අනික් අත තදින් ගත්තේය. දෙදෙනාම ඇ කැටුව ගමන් කරන්ට වූහ.

'' .. හැමදම අපේ හදවත් ගොළු කොට පසු වෙලා දමන්නේ ඔය දුක තමා!'' අම්මා ගුගුලාය.

වරපුරුෂයා ඉදිරියට දුවැවිත් මිට මෙළවූ අතක් ඇගේ මුහුණට ළංකොට යටි උගුරෙන් කෑ ගැසිය:

''කට වහපිය, වල් බිරි!''

ඇගේ ඇස් ගෙඩි මහත් විය, දිලිසෙන්ට විය. හීකට වෙව්ලා ගියේය. ලිස්සනා සුලු ගල් මත දෙපා ඔබා සිට ගත් ඇ ගිගුම් දුන්නාය'

''මළවුන්ගෙන් නැගී සිටි ආත්මය මරා දමන්ට බැහැ!''

''බැල්ලි!''

වරපුරුෂයා ඇට වැරෙන් කම්මුල් පහරක් ගැසුවේය.

''ඔය නාකි ගැනිට හොඳටම ගහපියව්!'' පහර කන ඇය දැක ප්‍රීතියට පත් එකෙක් කෑ ගැසුවේය.

අම්මාගේ ඇස් ඉදිරිපිට කළු රතු සංඥ මැවී පෙනී, ඇස් මොහොතකට නොපෙනී ගියාක් මෙනි. ලේවල ලුණු රසෙන් කට පිරී ගියේය.

දයාබර පැහැදිලි කෑ ගැසීම් නිසා ඇයට ලැබුණේ අමුතු පණකි.

''ඇට ගහන්ට එපා!''

''කොල්ලනේ!''

''ආ තෝ, කපටියා!''

''ගහපිය ඔකට!''

''බුද්ධිය ලේවල ගිල්වා දමන්ට බෑ!''

බෙල්ලෙන් හා තුනටියෙන් අල්ලා ඇය තල්ලු කර දමන ලදී. ඇගේ උරහිසට හා හිසට පහර පිට පහර දෙන ලදී. හැම දෙයක්ම කරකැවී පෙරළී අඳුරු සුළි සුළඟක් මෙන් හඬ නගමින්, කෑ ගසමින්, හූ තබමින්, කන් බිහිරි කරවන හඬක් ඇසිණ. උගුර හිර විය. දෙපා යට පොළව ගිලා බසින කලෙක මෙනි. දණහිස් නැමී. කකුල් වෙව්ලා ගිනි තුඩක් සේ වේදනාව විනිවිද යයි. දෙපා පණ නැතිව ගොස්, වෙව්ලා ගල් ගැසෙයි.

එහෙත් ඇගේ ඇස්වල ආලෝකය නොනිවී අනිකුත් අයගේ නෙත් සමග ගැටිණි. තමන් දක පුරුදු නිර්භය තියුණු ආලෝකයෙනි ඇගේනෙත් බැබළුනේ. ඒ ආලෝකය ඇගේ හදවත තුළ පැන නැගි ගිනි දැල්ලට සමානය.

ඇය දෙර වෙතට තල්ලු කළාහ. දැත් මුදගත් ඇ උළුවස්ස තරයේ අල්ලා ගත්තාය.

"ලේ සාගරයක ගිල්වා හෝ සත්‍යයේ ආලෝකය ගිල්වා දැමිය නොහැක..."

ඇගේ අත් වලට පහර දුන්හ.

"වෛරය ගොඩ ගසනවා විතරයි, මොට්ටයිනි! තොපට වන්දි ගෙවීමට සිද්ද වේවි!"

පොලිස් බටයා ඇගේ බොටුව මිරිකන්ට විය.

ඇගේ උගුර බැරැඩිය.

"කාලකණ්ණියෙනි..."

පිළිතුරු වශයෙන් කිසිවෙක් උස හඬින් සුසුම් ලෑහ.





## අඩෝ ලිපි වෙනුවට

මක්සිම් ගෝර්කිගේ "අම්මා" නවකතාවේ වීරයින්ට ඉතාම අසිරු අවධිකදී අපි ඔවුන්ගෙන් වෙන් වෙමු. පාවෙල් ව්ලාසව් ඉදිරියේ ගව් දහස්ගණනක අසිරු මගකි, ඔහු ජීවිතාන්තය දක්වා සයිබීරියාවට පිටුවහල් කැරිණි. අධිකරණය අමතා තම පුතා කළ කතාව සහිත පත්‍රිකා මුද්‍රණය කොට ඒවා බෙද හැරීම නිසා පාවෙල්ගේ මව් නීලව්නා පොලිසියට අසුවෙයි. ඇයට පහර දෙති, නින්ද කරති. තමා වටා රැස්වී සිටින ජනතාව අමතන නීලව්නා ජීවිතය පිළිබඳ සත්‍යය පහද දෙයි... ඇ තමා ඉදිරියේ සිටින මිනීමරුවන් අමතා මෙසේ පවසන්නිය: "ඇත්ත ලේ වලින් යටපත් කරන්ට බැහැ(... වෛරය ගොඩ ගසනවා විතරයි, මොට්ටයිනි!..)

මක්සිම් ගෝර්කිගේ "අම්මා" නවකතාවේ ප්‍රධාන චරිතයන්ට වස්තු බීජ වූ ප්යොතර් සලෝමොව්ගේ හා ආන්නා කිරිලොව්නාගේ අනාගත ඉරණම කෙසේ හැඩ ගැසුණේද?

ප්යොතර් සලෝමොව් තවත් අවුරුදු බොහෝ ගණනක් ආයු වළඳා 1955 දී මිය ගියේය. එවකට ඔහුගේ වයස අවුරුදු 78 ක් විය. ඔහුගේ මව් ආන්නා කිරිලොව්නා සලෝමොවා ද දිගු කලක් මෙලොව ජීවත් විය. ඇය ගැන ගෝර්කි මෙසේ ලියුවේය: "1902 මැයි 1 ද සෝර්මව* කම්කරු

* සෝර්මව — නීෂ් නිනොව්ගොරොද් නගරයේ කම්කරුවන් වාසය කළ දිස්ත්‍රික්කයකි. අනුවාදක

ජනපදයේදී පැවැත්වූ මැයි දින පෙළපාළිය නිසා සිරබාරයට ගනු ලැබූ ජයොතර් සලෝමොව්ගේ මව්, නිලව්නාගේ චරිතයට වස්තු බීජ විය. ඇ සංවිධානයේ වැඩ කළාය, චන්දනා කාරියක ලෙසින් වෙස් වළාගෙන සාහිත්‍ය බෙදු හැරියාය.

1849 දී ආන්නා කිරිලොව්නා සපතේරුවකුගේ පවුලක උපන්නාය. ඇගේ ජීවිතය ලෙහෙසි නොවිය. ඇගේ සැමියාගේ මරණයෙන් පසු වූ දරුවන් හත් දෙනෙකුගේ පවුලක් නඩත්තු කිරීමට ඇයට සිදුවීම නිසා තත්ත්වය වඩාත් බරපතළ විය... "වැන්දඹු නිවසක" බිම් ගෙයකට සමාන ඇඳිරි, සීත කාමරයක ඔවුහු ජීවත් වූහ. දූ දරුවන් බේරා ගැනීමට හැකි වූයේ අම්මාගේ ස්ථිර ගුණයත්, ශ්‍රමකාමී ගතියත් නිසාය. කෙමෙන් දූ දරුවෝ හැදී වැඩුණහ. වැඩිමල් පුත්තු රැකියාවල් සොයාගත්හ. බාලයෝ සිප් සතර උගත්හ. ජයොතර් විප්ලවවාදී කවයකට බැඳුනේය. "අපේ ජීවිතයට පුණිත, ප්‍රාණවත් බවක් ඇතුළු වී" යැයි ජයොතර්ගේ නැගණිය වන වර්වාරා සලෝමොවා පැවසුවාය. අනතුරුව සලෝමොව් පවුලේ හැම දෙනෙක්ම විප්ලවවාදී ව්‍යාපාරයේ ක්‍රියාශීලි වූහ.

ශ්‍රේෂ්ඨ ඔක්තෝබර් විප්ලවයෙන් පසු ආන්නා කිරිලොව්නා සිය ළමයින් සමග — වරෙක ලෙනින්ග්‍රාඩ් නගරයේ පදිංචි වී සිටින දූව සමගද තවත් වරෙක සෝර්මව් හි පුතුත් සමගද කල් ගෙවූවාය.

මීට මැදැල්ලක වූ ඇගේ දෙනෙත් ජීවන බවකින් පිරී තිබිණි, ඒවා නිතර මදහස පෑවේය. ඇගේ පැසුණු හිස කේ පැරණි පන්නයේ ගෙත්තම් සළුවකින් වැසී තිබිණි. ලෙනින්ග්‍රාඩ් නගරයේ උරිට්ස්කි නමින් පිහිටුවා ඇති කම්හලෙන කම්කරු කතුන්වද, නිෂ්නි නොව්ගොරොද් හි පාසල් සිසුන්වද, සෝර්මව් හි කම්කරුවන්වද, ඇය දුටුවන් හා ඇසූවන්වද, මතක ඇත්තේ එලෙසටය. චාම් හා සරල බසකින් සිය අතීතය ගැනද, තම විප්ලවවාදී වැඩ ගැනද තම පුතු ගැනද ඈ කී කතා අසා සිටියවුන්වද ඇය මතක ඇත්තේ ඒ ආකාරයෙනි.

ආන්නා කිරිලොව්නා 1938 දී මිය ගියාය.

අපි දැන් ජයොතර් සලෝමොව්ගේ ඉරණම ගැන සොයා බලමු... සාර් ආණ්ඩුවේ අධිකරණ තීරණය අනුව ජයොතර් සලෝමොව් 1903 දී සයිබීරියාව බලා පිටත් කළේය. අවුරුද්දකට පසු ඔහු යෙනිසි ගඟ අසබඩ තොස්, ඒ අසල මිත්ලාකොව්කා ගමෙහි පදිංචි විය. මෙය ක්‍රාස්නොයාර්ස්ක් වලට කිලෝමීටර් තුන්සියයක් ඈතින් පිහිටියේය... "මෙහි පිටුවහල් සිර දඬුවම අවුරුදු දෙකත් ගත කළ මම ගොවීන් අතර ප්‍රචාරක වැඩ කටයුතු කළෙමි. ගම් සභා ලිපිකරුවා සහ ඔහුගේ සහායකයින් දෙදෙනා අපේ ව්‍යාපාරයට හාම්බා ගතිමි. ඇලෙක්සේයි



මක්සිමොවිච් ගෝර්කි විසින් මා වෙත මාසපතා එවන ලද රූබල් අට සිරකරුවන් භාර නිලධාරියා සොරා ගත්තේය. මා කුසගින්නේ පෙළෙන්නට වූ බැවින්, බෙරි බෙරි (විටමින් 'බී' පදාර්ථය නැතිකමින්) රෝගයෙන් පෙළෙන්නට වීමි." ජයොතර් සලෝමොව් සිය, පිටුවහල් ජීවිතය මතක් කරමින් පැවසීය.

1904 මාර්තු මස හිරු රැස් සහිත උදෑසනක ජයොතර්ගේ ජීවිතයේ සුපැහැදිලි දවසක් උදාවිය. එදින ඔහු තම කුඩා කාමරයට වී පයින් ලියෙන් ලිෂි* පිළියෙල කරමින් සිටියේය. "මගේ හදවත සංසුන් ලෙස සහ ශාන්ත ලෙස ස්පන්දනය වෙමින් තිබිණි. බලාපොරොත්තු රහිත ලෙස දෙර හැරිණි. හැතැප්ම් දහස් ගණනක් මග ගෙවා ගෙට ඇතුළු වූයේ ජොසපිනා එදුආර්දෙව්නාය. හාවුන්ගේ හමින් කළ පැරණි හිම කබායක් හැඳ . සිටි ඇගේ දෙකොපුල් දැඩි සීත නිසා ලා රත් පැහැගෙන තිබිණි."

විප්ලවවාදී වැඩ වෘත්තියක් වශයෙන් තෝරගත්, සැබෑ වැඩ කරන විප්ලවවාදීන් දෙදෙනෙකුගේ ප්‍රේමය දැඩි විය. මොස්කව් නගරවැසි තරුණ ගැරුවරියක් වන ජොසපිනා ගාෂෙර් (ඇය ප්‍රංශ ජාතික කතකි.) 1901 දී ජයොතර් හමු වූවාය. ඔවුහු කම්කරු රැස්වීම්වලදීද, සාකච්ඡාවලදීද නිෂ්නි නොව්ගොරොද් නගරයේ වීදිවලදීද හමුවූහ. එහෙත් ඔවුහු සිය හැඟීම් ප්‍රකාශ කිරීමට තරම් එඩිතර නොවූහ. ජයොතර් සලෝමොව් සිරභාරයට ගෙන, මොස්කව් බුතිර්ස්කය සිරකුටුවේ සිය නින්දුව ලැබෙන තුරු සිටි කාලයේදී ජොසපිනා ගාෂෙර්, ආන්නා කිරිලොව්නාත් සමග ඔහු බැලීමට පැමිණියේ ඔහුගේ "මනාලිය" ලෙසිනි...

ගෝර්කිගේ ආධාරය ඇතිව, සලෝමොව්ට පිටුවහලින් පැනයාමට සංවිධාන කැරිණි. සලෝමොව් බොල්ෂෙවික් පක්ෂයේ පීටර්බුර්ග් නගරයේ රහස් සංවිධාන වැඩ කළේය. 1905 විප්ලවය කාලයේදී හෙතෙම මොස්කව්හි කම්කරු හමුද සංවිධානය කිරීමෙහි යෙදුනේය.

ජයොතර් සලෝමොව් ඇලෙක්සේයි මක්සිමොවිච් ගෝර්කි පළමුවැනි වරට හමුවූයේ 1905 ගිම්හානයේදී පීටර්බුර්ග් නගරය අසල කුක්කාලා හි පිහිටි ගත්කරුවාගේ බංගලාවේදීය.

ගෝර්කි නිර්මාණය කළ පාවෙල් ව්ලාසව්ගේ චරිතයට වස්තු බීජ වූ ජයොතර් සලෝමොව් හා ගත්කරුවා අවුරුදු තිහයක් තිස්සේ එකිනෙකා දන හැඳිනගෙන සිටියහ. එසේ වුවද ඔවුහු එකිනෙකාට මුණ නොගැසුනහ.

* ලිෂි — හිම මත ගමන් කිරීම සඳහා පාවහන්වලට සවිකරන ලැලි දෙකක් වැනි උපකරණයකි. අනුවාදක

සෝර්මව හි මැයි දින පෙළපාළියට්ර පෙර ගෝර්කි සලෝමොව් හමුවීමට උත්සාහ ගත්තේය. ''පොලිසියේ ලේඛන වල භයානක මිනිහකු හැටියට සටහන් වී සිටි'' ජ්යොතර් සලෝමොව් ගෝර්කි හමුවූවොත්, එයින් ගත්කරුවාට බාධා විය හැකි බැව් දැන සිටි හෙයින්, එවැන්නකට ඉදිරිපත් නොවීය; විප්ලවවාදී ගත්කරුවාට චෝදනා කිරීමට පොලිසිය මං සොයමින් සිටින බව ඔහු දැන සිටියේය. සෝර්මව හි මැයි දින පෙළපාළියෙන් පසු පොලිසිය ජ්යොතර් සලෝමොව් ඇතුළු සොහොයුරන් සිරභාරයට ගත් පසු ගෝර්කි ඔවුනට ආධාර කළේය. ජ්යොතර්ගේ මව ආන්නා සලෝමොවා මගින් නිෂ්නි නොව්ගොරොද් හි සිය නගරවැසියන්ට ආධාර පොරොන්දු විය. මසක් පාසාම ''ජීවත්වීම සඳහා'' සයිබීරියාවේ පිටුවහලේ සිටි සලෝමොව්ට මුදල් යැවීමට ගෝර්කි අමතක නොකළේය. සලෝමොව් පවුලේ අමාරුකම් ගැන දැනගත් විට ගත්කරුවා ආධාර මුදල් යැවීම දෙගුණ කළේය. ජ්යොතර් සලෝමොව්ට පිටුවහලේ සිට ''පැනයාමට'' ඔහු අවසානයේදී රූබල් තුන් සියක් යැවීය.

පිටුවහලින් පැන ආ සලෝමොව් පිටර්බුර්ග් නගරයට පැමිණියේය. ඔහු මුලින්ම හමුවීමට ගිය අය අතර ගෝර්කි ද විය.

දුම්රිය පොළ දක්වා නොගිය සලෝමොව් (ඔත්තුකරුවන් පිටු පසින් පැමිණීම වැළැක්වීමට) දුම්රියෙන් පැන කැලෑවට ගියේය. ගෝර්කිගේ නිවෙස අසල වැට ළඟ ඔහු නැවතිණි. ඔහු ඉතා හොඳින් ඡායාරූප මගින් දැක ඇති උසැති කෙට්ටු මිනිසා දුටුවේය.

''ඇලෙක්සේයි මක්සිමොවිච්!..'' ගෝර්කි ඇමතූ ඔහු තමා හඳුන්වා දුන්නේය.

ගෝර්කි අමුත්තා පිළිගැනීමට ඉදිරියට යන්නේ සිත් ඇදගන්නා සුළු මදසිනා පෑවේය. එකම පුරයක වැසියන් වූ මේ දෙදෙන සහෝදරයන් සේ බද වැළඳ ගත්හ. ගත්කරුවා ප්‍රීතියෙන් සලෝමොව් දෙස බැලිය.

''ආ ඒ ඔබද!''

දෙදෙන සැප පුටුවල වාඩි වී කතාකිරීමට පටන් ගත්හ. ගෝර්කි සිය ගත්කරු කුසලතාවය මෙහෙයවමින් ජ්යොතර්ගේ ජීවිතය ගැනත්, මව සහ පියා ගැනත්, විප්ලවවාදී වැඩ සහ සෝර්මව හි පෙළපාලිය ගැනත් තොරතුරු විමසිය. කම්කරු විප්ලවවාදී ප්‍රචාරකයා විෂය බද්ධ ලෙස ඇති තතු දැන්විය. හැඟීම් ගැන අඩුවෙන් කිය, බලාපොරොත්තු ගැන කිසිවක් නොකිය. දෙදෙන මිතුරන් සේ අනාගත හමුවීම් ගැන තීරණය කර ගනිමින් විසිර ගියහ. ගෝර්කි ජ්යොතර් සලෝමොව් ගැන තම



මිතුරකුට මෙසේ ලියා යැවීය. මා හමුවීමට සෝර්මව වැසියෙක් එනවා. ඔහු කොතරම් පුදුම කෙනෙක්දැයි ඔබ දන්නේද!''

ජ්යොතර් සලෝමොව් වගකිව යුතු පක්ෂ කාර්යයන් කීපයක්ම සපුරාලයි: ''මොස්කව්හි සටන්කාමී කම්කරු හමුදාවල සංවිධායකයකු ලෙස මා පත්කරන ලදී. මොස්කව්හි අවිගත් කැරැල්ල ඇති වීමට ටික දිනකට පෙර, සිය බිරිඳ වන ජොසපිනා එදුආර්දෙව්නා සලෝමොවාගේද සහාය ඇතිව අත් බෝම්බ සඳහා කවර සෑදීමෙහි නියුක්ත වීමි. ඈ සයිබීරියාවේ සිට මොස්කව් පැමිණියේ දසමාසයක් වයසැති දුවත් සමගය. 1905 මොස්කව් නැගිටීම සමයේදී කපොලු සටන්වලට සහභාගි වීමි. 1906 ගිම්හානයේදී, ලේ සහිත කැස්ස ඇතිවීම හා බොහොසෙයින්ම දුබලවීම නිසා නීත්‍යානුකූල වැඩ කිරීමට මට සිදුවිය,'' යි ජ්යොතර් සලෝමොව් පවසයි.

නීත්‍යානුකූල ලෙස වැඩකිරීමට පටන්ගත් සලෝමොව්, මොස්කව් නගරයෙන් පිටව කුර්ස්ක් ගුබෙර්නියාවේ කුඩා නගරයක් වන සුඩ්ජි නගරයේ පදිංචියට ගියේය. නිෂ්නි නොව්ගොරාද් හි ශිල්පියාවන ජ්යෝතර් සලෝමව් සහ ඔහුගේ පවුල සුඩ්ජිහි වීදිවල දක්නට ලැබිණ. සුඩ්ජි නගරයේ ඔහුගේ ජීවිතය දෙවැනි පිටුවහල් සිර දඬුවමකට බෙහෙවින් සමාන විය. නගරයෙන් පිටයාමද, නගරයේ කිසිම තැනක වැඩ කිරීමද ඔහුට තහනම් කරන ලදී. පොලිසිය ඔහුගේ හැම පියවරක්ම සොයා බැලීය. සත්‍යග්‍රහ සිරගෙදර සහ පිටුවහල් ජීවිතය නිසා ජ්යොතර් සලෝමොව්ගේ අයහපත් සෞඛ්‍යය තවත් නරක අතට පැරිණි. සුඩ්ජි නගරයේ විදුහලක ගුරු තනතුරක් ලැබූ ජොසපිනා එදුආර්දෙව්නා, පවුල නඩත්තු කළාය. සලෝමොව් ඒ කාල පරිච්ඡේදය ගැන මෙසේ මතක් කළේය: ''1917 පෙබරවාරි විප්ලවය දක්ව, පොලිස් ඔත්තුකරුවන්ගේ හා පොලිස් කරුවන්ගේ දැඩි පරීක්ෂණයට භාජන වීමි. පෞද්ගලිකව ගොවීන් අතර දේශපාලන කටයුතු කිරීම පමණකි මට පුළුවන් වූයේ.''

1917 පෙබරවාරි විප්ලවයට පසුව 1917 මහා ඔක්තෝබර් සමාජවාදී විප්ලවය එළඹිණි. සෝර්මොවෝහි පතාක යෝධයා, අප්‍රතිහත ධෛර්යයෙන් යුත් විප්ලවවාදියා නැවත විප්ලවීය කටයුතුවලට සහභාගි විය. පිටර්බුර්ගයේ හටගත් සමාජවාදී විප්ලවය පිළිබඳව විස්තර කරමින් ඔහු ගොවීන් හා හස්ත කර්මාන්ත කරුවන් අමතා සටන්කාමී කතාවක් පළමුවැනි මහා සභා රැස්වීමේදී කළේය.

සිය සොහොයුරා වන ඇලෙක්සාන්දර්ට විප්ලවීය හා සිවිල් යුද්ධ කාලයේදී තම ජීවිතය ගැන විස්තර කරමින් ඔහු මෙසේ ලියුවේය:

''1917 දී උයෙස්ද් වල... සෝවියට් පාලනය සංවිධානය කිරීම සඳහා

මම නිරතවීමි. එහිදී මා කම්කරු කොමසාරිස් හැටියට පත් කරනු

ලැබීය.

ප්‍රති විප්ලවවාදී හමුද සුඩ්ජි නගරය අල්ලා ගෙන සිටි කාලයේදී

කීපවරක්ම මා එල්ලා මැරීමට සූදානම් වුණද, තෙවරක්ම මට බේරීමට

පුළුවන් විය. අවසාන වරට මා ඩෙනීකින්ගේ හමුද විසින් අල්ලා ගනු

ලැබීය. සිරගෙදර භාරව සිටි භටයෝ මට නින්ද කළහ. මා එල්ලා මරා

දමන බවට හෝ වෙඩි තබා මරා දමන බවට තර්ජනය කළහ... රතු හමුද

තොපැමිණියේ නම්, සත්තකින්ම ඔවුන් එසේ කරනු ඇත.''

රතු හමුදව සලෝමොව් බේරා ගත්තේය. එහෙත් ඔහු බෙහෙවින්ම අබල, දුබලව සිටියේය. මොස්කව් නගරයට ගිය ඔහු දිගු කලක්ම රෝහලක නැවතී ප්‍රතිකාර ගත්තේය. කෙමෙන් ඔහුට ශක්තිය ලැබිණි. පැරණි මිත්‍ර සම්බන්ධකම් (සුප්‍රසිද්ධ විප්ලවවාදී ලෙනින් වාදී ග්ලෙබ ක්‍රිෂිෂ්තොවස්කි පවුල සමග) නැවත ඇතිවිය. ගෝර්කිගේ වීරයා යළි පණ ලබා නව අවධියකට පා තබයි.

ස්වභාවයෙන්ම දේශපාලන උද්ඝෝෂකයකු වන ප්යොතර් සලෝමොව් ගොවීන් අතර විශාල වශයෙන් දේශපාලන වැඩ කළේය. ඔවුන්ට පුවත්පත් කියැවිය, සෝවියට් පාලනයේ ඉඩම් හා ගොවි ප්‍රතිපත්ති ගැනද, ආණ්ඩුවේ නව පනත් හා තීරණ ගැනද ඉතා චාම් හා පැහැදිලි බසින් කියා දුන්නේය.

සමූහ ගොවි ව්‍යාපාරය පටන්ගත් කාලයේදී ප්යොතර් සලෝමොව් සුඩ්ජි පළාතේ ගොවීන් එකතු කොට, ''රතු ඔක්තෝබරය'' නම්වූ සමූහ ගොවිපලක් සංවිධාන කළේය. අවුරුදු කීපයක්ම ඔහු එහි සභාපති හැටියට ක්‍රියා කොට, පසුව එහි පාලක මණ්ඩලයේ සාමාජිකයෙකු ලෙස වැඩ කළේය.

නිදන් ගත අසාධ්‍ය රෝගයකින් පෙළුණද, වෛද්‍යන්ගේද තහනම නොතකා ප්යොතර් සලෝමොව් නොකඩවා වැඩ කළේය. සිය විප්ලවවාදී තරුණ කාලය ගැනද, ගෝර්කි සමග හමුවීම් ගැනද, මතක සටහන් ලියූ ඔහු, ගෝර්කිගේ ''අම්මා'' නවකතාව කියැවූ පාඨකයින් සමග විශාල වශයෙන් ලිපි හුවමාරු කරගත්තේය. ක්‍රිෂිෂ්තොවස්කි පවුලට යැවූ එක ලිපියක ඔහු මෙසේ කියයි: ''තමාගේ පහත් ජීවිතය නිසා බයවීම අතහැර දමූ, ස්වාධීනත්වය සඳහා සටන් කිරීමට තීරණය කළ වහලා ගේ දැත් තවමත් යදම්වලින් බැඳ තිබුණද, ඔහු දැනටමත් ස්වාධීන මිනිහකු වීමට පටන් ගෙන ඇත. වහලුන් නොසිටිනවාට මා කැමතිය, මම වහලුන්ට කැමැති නොවෙමි, ස්වාධීන මිනිහකුගේ නිර්භත්වය ඇති මි‍ර් තිය.''



එද ගෝර්කිගේ සිත්ගත්, විප්ලවයේ සෙබළා වන ප්යොතර් සලෝමොව් සිය උතුම් හැඟීම් අධ්‍යාත්මික පිරිසුදු බව මගින් අපගේද සිත් ඇදගනී. විසිවැනි සිය වසෙහි යවිභ්‍යානක රුසියානු කම්කරු විප්ලවවාදියාගේ ඉතා හොඳ ගති ප්යොතර් සලෝමොවගේ ජීවිතයෙන් හා ඉරණමෙන් පිළිබිඹු වෙයි.